# MAHARUPASIDDHI

by

**Ven. Choliya Buddhapriya Maha Thera**

THE HEAD OF

*the Maha Vihara sect in Ceylon.*

With

# SANDEHAVIGHATANI

A SINHALESE PARAPHRASE

by

AN ANCIENT GREAT SCHOLAR.

---

*Revised & Edited by*

**Rt. Rev. B. K. Sri Dhammaratana**

CHIEF HIGH PRIEST

*Principal of Agrabodhi Pirivena*

WELIGAMA.

---

PRINTED AND PUBLISHED

by

Mr. M. M. SOMAPALA

AT

SATHMINA PRESS

WELIGAMA.

**1936.**

---

පූජ්‍යාචාර්‍ය්‍ය පණ්ඩිතාග්‍රගණ්‍ය චොලිය බුද්ධප්‍රිය මහාස්ථවිරවර ප්‍රණීත

# මහාරූපසිද්ධිය.

ප්‍රාච්‍යාත්‍යතම පණ්ඩිතවරේණ්‍ය විරචිත

# සන්දේහවිඝාතනී

නම් වූ

විස්තරාර්ථ ව්‍යාඛ්‍යානයෙන් සමුපලක්ෂිත යි.

වැලිගම අග්‍රබෝධිවිහාරපරිවෙණාධිපති

**බද්දේගම කීර්ත්තිශ්‍රී ධම්මරතනාභිධාන**

මාතර හම්බන්තර දෙපළාතේ

ප්‍රධාන සඞ්ඝනායකස්ථවිරපාදයන් වහන්සේ විසින්

ප්‍රතිසංස්කරණය කරන ලදි.

**ඇම්. ඇම්. සෝමපාල මහත්මයා විසින්**

වැලිගම

සත්මිණ යන්ත්‍රාලයෙහි මුද්‍රාපිත යි.

1936.

# ප්‍රස්තාවනාව.

ශ්‍රී ශාක්‍යමුනීන්ද්‍රයන් වහන්සේ ධර්මය දෙසූ භාෂාව මූලභාෂා නමිනුදු මාගධභාෂා නමිනුදු පූර්වාචාරීන් විසින් ව්‍යවහෘත බව පොතපතින් පැනේ. මෙකල පාලිභාෂා නමිනුදු ව්‍යවහාර කරනු ලබන මෙය දෛවීභාෂාපර නාමධෙය සංස්කෘතභාෂාව මෙන් සාහිත්‍යසංගීතකලාදියෙන් සම්පූර්ණ නො වතුදු පදලාලිත්‍යාදියෙන් ලොවැ ඇති හැම භාෂාවන් ම පරදවතී සිතේ. මහාසාඞ්ඝිකාදි නිකායාන්තරමත යෙන් අසංකර වූ ශුද්ධ වූ බුද්ධධර්මය මේ භාෂායෙන් පැවැත්ම ද භාෂාව පිළිබඳ සංභාව්‍යත්වයට ප්‍රධාන හෙතුවෙකි. කවිසම්මත ෂඩ්භාෂාවන්ට ඇතුළත් වූ "මාගධී" යයි ප්‍රසිද්ධ අනික් භාෂාවක් ඇති නමුදු එය මෙතරම් රමණීය නො වේ. විභක්තිප්‍රත්‍යයාදි යෙන් හා අක්ෂරවින්‍යාසාදියෙන් විසදෘශ ද වේ.

මේ මාගධභාෂාව පිළිබඳ ප්‍රාචීනසාහිත්‍යය ත්‍රිපිටකපාලිය යි. යම් හෙයකින් ත්‍රිපිටකපාලිය අන්තර්හිත වී නම් මාගධභාෂාව ද එය සමඟ ම අන්තර්හිත වනු ඒකාන්ත යැ. මෙසේ හෙයින් ත්‍රිපිටකපාලිය නිසා මාගධභාෂාව සුරක්ෂිත සුගොපිත වී යයි කීම වරදෙක් නො වේ. වැළිදු, ව්‍යඤ්ජනසම්පත්තියෙන් හා වාග් රීතීන්ගෙන් අනූන වූ මාගධභාෂාව නිසා ත්‍රිපිටකපාලිය ද අර්ථ විප්‍රතිපත්තියට නො පැමිණැ චිරස්ථායිනී වී යයි කීම ද වරදෙක් නො වේ. මෙසේ පරස්පරසම්බන්ධහෙතුයෙන් විසහස්‍රවර්ෂාධික කාලයක් මුළුල්ලෙහි සුරක්ෂිත වැ පැවත ආවා වූ ත්‍රිපිටකපාලිය හා මාගධභාෂාව සිංහලයන්ගේ ගෞරවයට ඒක ම හෙතුව වේ. කවර හෙයින යත්? දැනට ලොකයෙහි නානාදෙශයන්හි ප්‍රචලිත වැ පවත්නා වූ මාගධභාෂායෙන් ලියූ ත්‍රිපිටකපාලියට අයත් යම් යම් ග්‍රන්ථයෙක් වේ නම් ඒ සියල්ල ම ලක්දිව අලුවිහාර යෙහි දී ලියූ පොත්වලින් ලබාගන්නා ලද පිටපත් හෙයිනි. ඒ පොත් ලියූවෝ සිංහලභික්ෂූහු යැ. ඒ භික්ෂූන්ට සිවුපසයෙන් සඞ්ග්‍රහ කළෝ සිංහල උපාසකයෝ යැ. මෙසේ හෙයින් ත්‍රිපිටක පාලිය හා මාගධභාෂාව සිංහලයන්ට පරම්පරායෙන් උරුම වැ පවත්නා මාහැඟි ධනයෙකැ යි කිය යුතු යැ.

## මාගධව්‍යාකරණය.

පූර්වාචාර්යමතානුකූල වැ සලකා බලන කලැ ප්‍රථමයෙන් ම මාගධභාෂාවට ව්‍යාකරණයෙක් රචනා කරන ලද්දේ **ප්‍රභින්න ප්‍රතිසම්භිදාප්‍රාප්ත මහාකාත්‍යායන** **රහතන්වහන්සේ** විසිනැ යි කියයුතු යැ. ඒ ව්‍යාකරණය **මහානිරුක්ති** නමින් ප්‍රසිද්ධ වැ තුබූ බව ග්‍රන්ථාන්තරයෙන් දතහැකි යැ* එය දැන් පවත්නා කාත්‍යායන ව්‍යාකරණය ද නැතහොත් තදන්‍යයෙක් දැ? යි නිශ්චය කිරීම දුෂ්කර යැ. එතකුදු වුවත් **කාත්‍යායනව්‍යාකරණය** මහාකාත්‍යායන මහරහතුන් වහන්සේ විසින් නො කරන ලදැ යි කියූ පුරාතනාචාර්යයෙකු හෝ පුරාතන ග්‍රන්ථයක් ද නැති හෙයිනුත්, කාත්‍යායනව්‍යාකරණය කරන ලද්දේ කාත්‍යායන නමින් ප්‍රසිද්ධ තදන්‍ය වූ තෙරකෙනකුන් විසිනැ යි කියූ තැනක් ද නැති හෙයිනුත්, එම ව්‍යාකරණය කරන ලද්දේ පූර්වෝක්ත මහරහතුන් විසිනැ යි කියූ තැන් ම ඇති හෙයිනුත්, අවුරුදු දහසකට පමණ පෙර විසූහ යි සිතිය හැකි න්‍යාසකාරාදි උතුමන් හා රූපසිද්ධිකාර† රූපසිද්ධිසන්න්‍යකාරාදි පාදජීවිත කුශාග්‍රබුද්ධි මතුන් කාත්‍යායන මහරහත් තෙරණුවන් විසින් කාත්‍යායන ව්‍යාකරණය කළ බැව් නිශ්ශඞ්ක වැ කියන හෙයිනුත්, **කාත්‍යායන ව්‍යාකරණය** කාත්‍යායන මහරහත් තෙරණුවන් විසින් රචනා කරන ලදැ යි කීමෙහි විරොධයක් නො වේ ම යැ. මෘෂාවාද යෙක් ද නො වේ ම යැ. මෙහි මහාකාත්‍යායන කාතීෘක කාත්‍යායන යයි කියන ලද්දේ සූත්‍රපාඨය සඳහා යැ. **සඞ්ඝනන්දි** නම් තෙරකෙනකුන් විසින් වෘත්තිය ලියන ලදැ යි පුරාතනාචාර්යයෝ ම කියත්.

වැළිදු, කාත්‍යායනය මහකාසයින් මහරහත් තෙරණුවන් විසින් නො කරන ලදැ යි අනුමාන කරන ඉදානීන්තන පණ්ඩිතවරයෝ ස්වමතය සමර්ථනය කිරීමට දක්වන යුක්තීහු බොහෝ

---

* "ප්‍රභින්නප්‍රතිසම්භිදාවෙන් යුක්ත වූ මහාශ්‍රාවක කාසයින් මහතෙරුන් වහන්සේ විසින් **මහානිරුක්තියෙහි** "හොති සබ්බා" යී එකවචනයෙහි ආකාරාන්තරූපය නිර්දිෂ්ට බැවින්"—යනු තොටගමුවේ ශ්‍රී රාහුල සඞ්ඝරාජ වචන යි.

† **"ආගමාධිගමෘමසනෙනා මහාකච්චායනත්ථෙරෙ** එක චත්තාලීසත්ති ඉම්නා සුත්තෙනාපකාරාන්තමක්ඛරාතං ගණනපරිචෙඡදවච නෙන"—යනු බුද්ධප්‍රියාචාර්ය වචන යි.

වෙත්. ඉන් එකක් වශයෙන් මාගධශබ්දලක්ෂණය හදාරන්නවුන් විසින් සංස්කෘතව්‍යාකරණය අනුගමනය කිරීමට "පරසමඤ්ඤා පයොගෙ"—යි සූත්‍රයක් ගොතා තිබීම කාත්‍යායනය සකුවියරණින් පසු වැ ඇති වූ බවට නිදර්ශනයක් කොට කසයින්වියරණ **කාතන්ත්‍රව්‍යාකරණ** රචනායෙන් පසු වැ කාත්‍යායන **නමින්** ප්‍රසිද්ධ මහතෙර කෙනකුන් විසින් රචිත යයි කියති. දැනට මුද්‍රිත වැ පවත්නා සංස්කෘතව්‍යාකරණග්‍රන්ථයන් අතුරෙන් **කාතන්ත්‍රය කාත්‍යායනය**ට ඉතා සමාන හෙයින් කාතන්ත්‍රය මූලාශ්‍රය කොට ගෙනැ කාත්‍යායනය රචිත යැ යනු ඔවුන්ගේ අනුමානය යි. ග්‍රන්ථවයෙහි සාම්‍යය නම් පිළිගතයුතු යැ. එතකුදු වුවත් කාතන්ත්‍රය මූලාදර්ශ කොට ගෙනැ කාත්‍යායනය රචිත වී යැ යනු ලෙශමාත්‍රහෙතුක අනුමාන මාත්‍රයක්මුත් ඉතිහාසයෙන් හෝ පුරාතන ග්‍රන්ථයකින් එයට පිහිටෙක් නො ලැබේ. යම් හෙයකින් කාතන්ත්‍රරචනාවට ද මූලාශ්‍රය කරගත්—පාණිනීය ව්‍යාකරණයට ද වඩා පැරණි වූ—**ශබ්දපාරායණාදි** ව්‍යාකරණ ග්‍රන්ථයන්හි ද මෙබඳු වූ ම සාම්‍යයෙක් පැනෙත හොත් පූර්වෝක්ත අනුමානය මිථ්‍යාවෙක් වේ ම යැ.

පුරාතනාචාරීන්ගේ වචනයන් උල්ලඞ්ඝනය කරන්නට නො කැමැති වූ ඇතම් කෙනෙක්—කාත්‍යායනය මහානිරුක්තිය මූලාදර්ශ කොට ගෙනැ රචනා කරන ලද්දක් බවත් එහෙයින් න්‍යාසකාරාදීන් මහාකාත්‍යායන කර්තෘකත්වය එයට ආරොපණය කරන බවත්, කියති. මේ මතය ද පිළිගත යුත්තක් සේ පෙනෙතු දු ඉතිහාසාදි ප්‍රමාණයක් නැති හෙයින් එතරම් ආදරණීය නො වේ. කෙසේ හෝ වේවා!!! කාත්‍යායනය නම් දැනට පවත්නා මාගධව්‍යාකරණයන් අතුරෙන් මධුර කොමල වාග්වින්‍යාසාදියෙන් හා ශාස්ත්‍රොක්ත ව්‍යාකරණාඞ්ගයෙන් ද අනූන වූ ග්‍රන්ථයෙක් ම යැ. පුරාතනයන් විසින් කරන ලද **සබ්බගුණාකරව්‍යාකරණ බොධිසත්තව්‍යාකරණාදි** අතික් මාගධව්‍යාකරණ ග්‍රන්ථකතිපයක් ද තුබූ බැව් "භදන්ත බොධිසත්ත මහාථෙරො:—නරවරවචනොපකාරානි චත්තාලීසක්ඛරානී" ති ආහ. සබ්බගුණාකරමහාථෙරො:—"සිද්ධක්කමාදද්දයො වණ්ණාක්ඛරා තිතාලීසා"ති ආහ—යන පුරාතනාචාර්‍ය්‍යවචනයෙන් හැඟෙන නමුත් ඒ ග්‍රන්ථයෝ දැන් නැත්තාහ.

**ශබ්දනීතිය මෞද්ගල්‍යායන** යයි කාත්‍යායනය හැර දැනට පවත්නා මාගධව්‍යාකරණ දෙකෙකි. එයින් ශබ්දනීතිය හවුරුදු අටසියයකට පමණ පෙර බුරුමරට **අරිමද්දන** නගරයෙහි විසූ

"**අග්ගපණ්ඩිත**" යන අභිඛ්‍යොපාධි ලත් **අග්ගවංශාචාර්ය්‍යයන්** විසින් කරන ලද්දෙකි. කාත්‍යායන මතය උල්ලඞ්ඝනය නො කොට අමුතුවෙන් සූත්‍ර ගොතා කරන ලද එය අමුතු ව්‍යාකරණයක් වුව ද මත වශයෙන් කාත්‍යායනය ම යයි කියයුතු යැ. ත්‍රිපිටක ධර්මයෙහි නිස්සන්දෙහාවබොධය ඇති කරගනු කැමැත්තවුන් විසින් ශබ්දනීතිව්‍යාකරණය අවශ්‍යයෙන් හදාළ යුතු ම යැ. මෞද්ගල්‍යායනය වනාහි "**අල්පාක්ෂරමසන්දිග්ධම්**"—යනාදි **විෂ්ණුධර්මොත්තර**යෙහි කී සූත්‍රලක්ෂණයෙන් අනූන වූ ග්‍රන්ථයක් වුව ද කාත්‍යායනය මෙන් විද්‍යාර්ථීන්ගේ සිත් ගන්නේ නො වේ. කාත්‍යායනය මැනවින් හදුරු මෞද්ගල්‍යායනය හැදෑරීමෙන් සැලකිය යුතු ප්‍රයොජනයක් ලබාගන්නට හැකි වනු මිස මෞද්ගල්‍යායනය පමණක් හැදෑරීමෙන් එතරම් ඉෂ්ටාර්ථ ලාභයෙක් වන්නේ යැ යනු සන්දෙහයට කාරණ යැ.

## පරිවාර ග්‍රන්ථ.

කාත්‍යායනයට කරන ලද පරිවාර ග්‍රන්ථයෝ බොහෝ වෙත්. එයින් ඉතා පැරණි වූයේ **සඞ්ඝනන්දි** නම් තෙරකෙනකුන් විසින් කරන ලද වෘත්තිය හා **විමලබුද්ධි** නම් තෙරකෙනකුන් විසින් කරන ලද න්‍යාසග්‍රන්ථය යි. දැනට මුද්‍රිත වැ පවත්නා න්‍යාසයෙහි ඒ ඒ පරිච්ඡෙදයන්ගේ අවසානයෙහි "**මුඛමත්තදීපනී**" යන නාමය පැනෙන නමුත් බුද්ධප්‍රියාචාර්ය්‍යපාදයන් විසින් ද, රූපසිද්ධි සන්නකාර ආචාර්ය්‍යයන් විසින් ද, තොටගමුවේ ශ්‍රීරාහුලසඞ්ඝරාජයින් විසින් ද ව්‍යවහාර කරන ලද්දේ **න්‍යාස**නාම යයි. මෙයට **න්‍යාසප්‍රදීපිකා** නම් ටීකාවක් ද, **නිරුක්තිසාරමඤ්ජූසා** නම් ටීකාවක් ද තුබූ බව පැරණි පොතපතින් පෙනේ. **කච්චායනවණ්ණනාය**, **සුත්තනිද්දෙසය** යි කාත්‍යායනවෘත්තියට ම කරන ලද අතිකුදු ටීකා දෙකෙක් වේ. **බාලාවතාරය** ද ඇතැම් කාත්‍යායන සූත්‍රයන් හැර ලක්ෂ්‍යානුසාරයෙන් සූත්‍ර ගළපා සංක්ෂෙපයෙන් කරන ලද ප්‍රශස්ත ග්‍රන්ථයෙකි

## පදරූපසිද්ධිය.

මහලු පැරකුම්බා රජතුමන්ගේ රාජ්‍යොදයටත් පූර්වයෙහි විසූහ යි සැලකිය හැකි **චොළිය බුද්ධප්‍රිය*** නම් මහතෙර කෙනකුන් විසින් කාත්‍යායනයට ප්‍රශස්තවිවරණයෙක් කරන

---

* **දීපඞ්කර ශ්‍රීඥාන** නමින් දඹදිව බෞද්ධ ඉතිහාසයෙහි සඳහන් වනුයේත් මූන්වහන්සේ ම යයි ඇතැම් ඉතිහාසඥයෝ කල්පනා කෙරෙති.

ලද්දේ යැ. එය නම් **පදරූපසිද්ධි** යයි. ත්‍රිපිටකධර්ම විෂයෙහි හසළා වූ බුද්ධි ඇති—පාණිනීයාදි ව්‍යාකරණයන්හි ද, තදන්‍ය ශාස්ත්‍රාන්තරයෙහි ද පාරප්‍රාප්ත වූ—මුන්වහන්සේ විසින් කළ මේ විවරණය කාත්‍යායනයට පූර්වයෙහි ලියූ න්‍යාසාදි සියලු විවරණයන් ම පරදවා සිටිනේ යැ. ඒ මතු ද නො වේ. ජිනවචනානුරොධ වැ කාත්‍යායනය හදාරන්නවුන්ට උපයොගි වනු පිණිස රූපසිද්ධියට වඩා ප්‍රශස්ත වූ අනික් ග්‍රන්ථයක් රචනා කරන්නට එයට පසු වැ ඇති වූ කිසිවෙකු දු සමර්ථ නො වූහ.

කාත්‍යායන සූත්‍රපාඨයෙහි සූත්‍රක්‍රමය අනෙකෙකි. රූපසිද්ධියෙහි සූත්‍රක්‍රමය අනෙකෙකි. කාත්‍යායනයෙහි පඤ්චසන්ධිපරිච්ඡෙද ය, අට්ඨනාමපරිච්ඡෙද ය, චතුආඛ්‍යාතපරිච්ඡෙද ය, ඡකිබ්බිධානපරිච්ඡෙදය යි ප්‍රකරණයෝ සතරදෙනෙකි. පරිච්ඡෙදයෝ තෙවිසි දෙනෙකි. (කාත්‍යායන වෘත්තියෙහි පරිච්ඡෙදයෝ **කප්ප** නාමයෙන් ව්‍යවහාර කරන ලදහ.) රූපසිද්ධියෙහි වනාහි සන්ධිකාණ්ඩය, නාමකාණ්ඩය, කාරකකාණ්ඩය, සමාසකාණ්ඩය, තද්ධිතකාණ්ඩය, ආඛ්‍යාතකාණ්ඩය, කිතකකාණ්ඩය යි කාණ්ඩයෝ සත්දෙනෙකි. කාත්‍යායන සූත්‍රපාඨයෙහි මතු මතු සූත්‍රයන්ට අනුවෘත්තිපද ගත හැකි ලෙස සූත්‍ර ගොතා තිබෙන නමුත් රූපසිද්ධියෙහි ඒ ක්‍රමය අත්හැර බොහෝ සෙයින් නාමකාණ්ඩයෙහි දී ද, ආඛ්‍යාතකාණ්ඩයෙහි දී ද, ඒ ඒ නාමයන් ඒ ඒ විභක්තිවචනයන්හි වර නැඟෙන ලෙස හා ඒ ඒ ධාතූන් ඒ ඒ විභක්ති වචනයන්හි වර නැඟෙන ලෙසත් අනික් ක්‍රමයෙකින් සූත්‍රයෝ ගළපන ලදහ.

## රූපසිද්ධි ටීකා හා සන්න.

මහාරූපසිද්ධියට බුද්ධප්‍රියාචාර්යපාදයන් විසින් ම කරන ලද ටීකාග්‍රන්ථයෙක් වේ. එය මුද්‍රිත වැ තිබෙන නමුත් කාලාන්තර සංජාත ලිපිකරභ්‍රමාදියෙන් ගහන යැ. අප විසින් කලකට පෙර පරිශොධනය කොට මුද්‍රණවාරයෙන් ප්‍රකාශිත වූ මහාරූපසිද්ධි සන්නය ද, මේ සන්නය ද තදාශ්‍රයෙන් ම ලියන ලදූ සි දතයුතු. **රූපසිද්ධිසන්න පිටපතය, රූපසිද්ධිසන්න ගැටපදය** යි සිංහල ව්‍යාඛ්‍යාවයක් තුබූ බව **පඤ්චිකාප්‍රදීපාදි**යෙන් පෙනේ. ඒ අප විසින් ප්‍රකාශිත වූ රූපසිද්ධිසන්නය බුද්ධප්‍රියාචාර්යපාදයන්ගේ අභිප්‍රාය මැනවින් දැනගත් අනෙකශාස්ත්‍රාන්තරප්‍රවීණ මහපඬිවරයකු විසින් රචනා කරන ලද්දේ යැ. **රූපසිද්ධිසන්නපිටපත**

යයි ව්‍යවහාර කරන ලද්දේ ඒ ව්‍යාඛ්‍යාව සඳහා දෝ හෝ යි සිතම්හ.

## මහාරූපසිද්ධි වර්ණනාව.

එහි ඇති ඇතම් දුර්බෝධස්ථානයන් හා ග්‍රන්ථිස්ථානයන් සුබෝධ කරලීමෙන් ද, රූපසිද්ධි පෙළෙහි එන හැම පදයන්ට ම ව්‍යාඛ්‍යා ලිවීමෙන් ද කරන ලද **සන්දෙහවිඝාතනී** නම් වූ මේ ව්‍යාඛ්‍යාව **රූපසිද්ධිසන්න්‍යගැටපද** නැමිනුදු පුරාතනයන් විසින් ව්‍යවහාර කරන ලද්දැ යි සිතම්හ. මේ සන්දෙහවිඝාතනියට විශෙෂ සංඥා වශයෙන් **මහාරූපසිද්ධිවර්ණනාව** යයි කිවද වරදෙක් නොවේ. කවර හෙයින යත්? "සවරසන්ධිවිධාන වර්ණනාය"—යනාදි වශයෙන් ඒ ඒ කාණ්ඩයන්ගේ අවසානයෙහි **වර්ණනා** ශබ්දය ම ප්‍රයුක්ත වැ තිබෙන හෙයිනි. කාත්‍යායනය සම්බන්ධ වූ අනික් කිසිම ග්‍රන්ථයකට මෙතරම් ශාස්ත්‍රයුක්ති පෙන්වා විස්තර වශයෙන් කළ ප්‍රශස්ත සිංහලව්‍යාඛ්‍යානයෙක් නැත්තේ යැ. මෙහි ඇති මහාහීභාවය හැඟෙන්නේ කාරක කාණ්ඩයට ලියූ වර්ණනාව අවික්ෂිප්ත වැ හදාරන්නවුන්ට පමණෙකි. ඉදැනීන්තනයන්ගේ අභාග්‍යයකට මෙන් අපට ලැබී තිබෙන හැම පුස්කොළ පිටපතක් ම කාරකකාණ්ඩයෙන් අවසන්වීම ඛෙදයට කරුණෙකි. මෙහි කර්තෘ වූ ආචාර්‍ය්‍යපාදයෝ කවර කාලෙක විසූ විචවරයාණ කෙනෙක් දැ?යි නිශ්චය කරලීමට ඉතිහාසාදි ප්‍රමාණයක් නැති හෙයින් ඒ සම්බන්ධ වැ අදහස් දැක්වීමට නො වෙහෙසෙමු. එතකුදු වුවත් **පළමු වන පණ්ඩිත පරාක්‍රමබාහු** මහීපාලයන්ගේ කාලයෙහි හෝ ඉන් ඔබ්බෙහි හෝ ශාස්ත්‍රසාගරපාරගත වැ විසූ මහාපණ්ඩිවරයාණ කෙනෙකැ යි අනුමානවශයෙන් සිතිය හැකි යැ.

## අපගේ පරිශොධනය.

සන්දෙහවිඝාතනිය මෙයට පළමු කිසිවකු විසිනුත් මුද්‍රණවාරයෙන් ප්‍රකාශයට නො පමුණුවන ලද්දී යැ. ලක්දිව ත්‍රිපිටක ධර්‍මය හා තදනුගත ශාස්ත්‍රාන්තරයන් පිළිබඳ පඨනපාඨනය ක්‍රමයෙන් දියුණු අවස්ථාවකට පැමිණෙමින් පවත්නා මේ කාලයෙහි මෙබඳු ග්‍රන්ථයක් පරිශොධනය කොට මුද්‍රාපිත වුව හොත් මාගධභාෂාපාඨකයන්ගේ සවල්පායාසයට හෙතු වෙතී සැලකූ අපි කතිපය සුධීජන කෙනකුන්ගේ ද අධ්‍යෙෂණය ඇති වැ මේ කාර්‍ය්‍යයෙහි ව්‍යාපෘත වූම්හ. අපගේ මේ පරිශො

ධනයට ශාස්ත්‍රාගමධාරී වැ වැඩ විසූ **බඹරැන්දේ දේවානන්දාභිධාන** යතිතුමන්ගෙන් අපට ලැබී තිබෙන පැරණි පුස්කොළ පොත ද, තංගල්ලේ ගෞතමවිද්‍යාලයාධිපති **වැලිපටන්විල ශ්‍රී දීපඞ්කර** ස්ථවිරයාණන්ගෙන් ලැබුණු පොත ද, **කඳුරුපේ විමලධම්ම** ස්ථවිරයන්ගෙන් ලැබුණු **බූස්සේ විහාරස්ථානයෙම** අයත් පොත ද, ඉතා උපකාරී වූ බැව් මෙහි ලා සඳහන් කරනු කැමැත්තම්හ.

තවද, අප විසින් පළමු ප්‍රකාශිත වූ රූපසිද්ධිසන්නයෙහි 5 වන කලාපයේ සටන් අවසානය දක්වා ශුද්ධිපත්‍ර බලාදීමෙන් සඞ්ග්‍රහකලාක් මෙන් මේ සඤ්ඤහවිභාවනියෙහි ද පළමුවන භාගයේ පටන් කාණ්ඩ තුනක ශුද්ධිපත්‍ර බලාදීමෙන් අපගේ මේ කාර්‍ය්‍යයෙහි සහාය වූ පැලියගොඩ විද්‍යාලඞ්කාරපරිවෙණාධිපති **රත්මලානේ ධම්මකීර්ත්තිශ්‍රී ධම්මානන්දාභිධාන** නායකස්ථවිර පාදයන්වහන්සේ ද මෙහිදී ගෞරවයෙන් සඳහන් කරම්හ.

## ව්‍යාඛ්‍යාතෘත්වය.

මේ **සඞ්ගහවිභාවනි**යෙහි ලිපිකරසංජාත යයි හැඟෙන දූෂිත ස්ථානයෝ බොහෝ වූහ. අපගේ පරිශෝධනයෙන් එබඳු තැන් රැසක් අපගත වූ නමුත් දූෂිතස්ථාන යයි සැක උපදවන තැන් කිහිපයෙක් ද ශේෂ වැ තිබේ. ඒ දූෂිතස්ථානයන්ගේ තත්ත්වය රූපසිද්ධිසන්නය පුස්කොළ පිටපත් බැලුවන්ට මුත් සෙස්සන්ට නො වැටහේ. ටීකායෙහි අශුද්ධ ලෙස එන පාඨයෙක් වේ නම් සමහර විට මේ සන්නයෙහි ද එලෙස ම අශුද්ධ ලෙස එනු දක්නා ලැබේ. අනික් සන්නයෙහි ද එසේ ම යැ.

මේ අපපාඨයෝ ව්‍යාඛ්‍යාකර්තෘ වූ ආචාර්‍ය්‍යපාදයන්ගේ ම අනවධානතායෙන් සිදුවූහ යි සමහර කෙනකුන්ට සිතන්නට අවකාශ ඇතත් එසේ සිතීම සමීක්ෂ්‍යකාරිත්වයට නො ගැළපේ. මෙතරම් ව්‍යක්ත වූ ව්‍යාඛ්‍යානයක් කරන්නට සමර්ථ මේ ආචාර්‍ය්‍යපාදයන්ගේ භ්‍රමප්‍රමාදාදියෙකින් පූර්වෝක්ත අපපාඨයෝ පොතට ඇතුළත් වූහ--යනු කිසිසේත් සිතිය නො හේ. ඔව්හු අල්පශ්‍රුත අව්‍යක්ත පාඨකයන්ගේ මිථ්‍යාග්‍රාහයෙන් වූ හ යි දතයුතු. පරශත්‍රු පීඩායෙන් හා ශාස්ත්‍රපරම්පරාව සිඳී යාමෙන් ගත වූ ශතවර්ෂ කීපය තුළ ලක්දිවැ පැවැත්තා වූ ශාස්ත්‍රදුර්ලභත්වය

ඉතා මහත් යැ. මේ පොත් ඒ සා මහත් දුර්දශාවක් ද ඉක්මවා මේ තරමින් වත් ප්‍රයොජන ගත හැකි ලෙස අපට ලැබී තිබීම කොතරම් භාග්‍යයෙක් ද?

තවද, අනික් සත්‍යයෙහි අශුද්ධස්ථාන ලෙස සැලකිය හැකි බොහෝ තැන් **සන්දේශවිඥාපනි**යෙහි ශුද්ධ ලෙස පෙනේ. එහි 31 පිටුවේ "ප පුච්ඡ වූ වතු වත්තනෙය, දම දමනෙය යන ධාතූන්ට "භූවාදිතො අ" යන සූත්‍රයෙන් වූ අකාරයාට "ලොපඤ්චෙත්තමකාරෙ" යන්නෙන් එකාර ව පවත්තන දමෙ යී සිද්ධ ව අනන්තරප්‍රත්‍යය කොට "පවත්තනෙත්තා දමෙන්තො" යී සිද්ධ වූ හෙයින්"—යන පාඨය අශුද්ධ යැ. මේ සත්‍යයෙහි 53 පිටුවේ එය නිර්දෙෂ ලෙස පැනේ.

පැරණි පුස්කොළ පොත් දූෂිත වැ තිබෙන ආකාරය අව බොධ කරවීමට මේ පාඨය මෙහි දක්වූම්හ අපපාඨ වුවද සුධීන්ගේ පරීක්ෂාවට භාජන වනු පිණිස එබඳු පාඨයන් පොතෙන් බැහැර නො කොළෙමු. ඒ සඳහා පාඨකයන් විසින් පළමුවෙන් ම මෙහි තිබෙන **ශුද්ධිපත්‍රය** කියවිය යුතුයි. රූපසිද්ධිපෙළ ද යොදා මුද්‍රණය කරවන ලද මේ සත්‍යයේ ප්‍රථමභාගය නිකුත් වූයේ මෙයට අවුරුදු දෙකකට පමණ පෙර යැ. අටවන භාගයෙන් පොත අවසන් වී යැ. හෙද කාරකකාණ්ඩය අවසන් කොට යැ සමාසකාණ්ඩයේ පටන් පොත අවසානය දක්වා ඇති කාණ්ඩ යන්ට මේ සත්‍යයේ සන්දහීය නො ඉක්මවා අභිනව ව්‍යාඛ්‍යාවක් කරන්නට ද අප අදහස ඇති බැව් සුධීන් වෙත දන්වමු. තවද, අපගේ ප්‍රමාදදියෙන් වූ යම් දොෂයෙක් මෙහි පැනේ නම් ඒ සඳහා ක්‍ෂමාව භජනය කොට නිර්දොෂ දෙයෙහි ප්‍රමුදිත වෙත්ව යි අභ්‍යර්ථනය ද කරම්හ.

මේබවට–ශාස්ත්‍රාගමාභිවෘද්ධිකාමී;

වැලිගම අග්‍රබොධිවිහාරපරිවෙණාධිපති
බද්දේගම කීර්තිශ්‍රී ධම්මරතනාභිධාන
මාතර ගම්බන්තර දෙපළාතේ ප්‍රධාන
සඞ්ඝනායකස්ථවිර.

1-9-1936.

# ම හා රූ ප සි ද්ධි.

නමො තස්ස භගවතො අරහතො
සම්මාසම්බුද්ධස්ස.

1. විසුද්ධසද්ධම්මසහස්සදීධිතිං
සුබුද්ධසම්බොධියුගන්ධරොදිතං
තිබුද්ධබොධෙන්තකදිවාකරං ජිනං
සද්ධම්මසඞ්ඝං සිරසාභිවන්දිය.

2. කච්චායනාචරියං නමිත්වා
නිස්සාය කච්චායනවණ්ණනාදිං
බාලප්පබොධත්ථමුජුං කරිස්සං
ව්‍යත්තං සුකණ්ඩං පදරූපසිද්ධිං.

## සන්දෙහ විඝාතනී සන්නය.

අනුපචිතපුණ්‍යසම්භාර ඇති මන්දබුද්ධීන්ගේ ශබ්දලක්ෂණාව බොධය පිණිස **පදරූපසිද්ධි** නම් ප්‍රකරණයක් කටැටි ව, ප්‍රාරම්භ යෙහි යථාභිප්‍රෙතප්‍රකරණයාගේ පරිසමාප්තියට විඝ්නක වූ උප පීඩකොපඝාතාදිනෛකාන්තරායයන්ගේ නිවාරණය ද ප්‍රඥවගේ පාටවය ද යන එවමාදි ප්‍රයොජනසංසිද්ධිය පිණිස ශාස්තෘප්‍රණා මය දක්වනුවෝ, ස්තුතිපූර්වඞ්ගමප්‍රණාමයෙන් ශාස්තෘහුගේ විශිෂ්ටගුණයොගය ද විශිෂ්ටගුණයොගයෙන් ප්‍රණාමාර්හභාවය ද ප්‍රණාමාර්හභාවයෙන් ප්‍රණාමයාගේ ක්ෂෙත්‍රගතභාවය ද ක්ෂෙත්‍රගත ප්‍රණාමයෙන් යථාභිප්‍රෙතකාර්‍ය්‍යාගේ නිෂ්ඨාව ද සිද්ධ වන හෙයින් ස්තුතිපූර්වඞ්ගම කොට **විසුද්ධසද්ධම්ම** යනාදි ගාථාව කීහු.

මෙහි **ජිනං** යන වචනයෙන් ශාස්තෘහුගේ පූර්වචර්‍ය්‍යාපරාක්‍රම විජයප්‍රහානපූජාර්හත්වාදි සම්පත් දර්ශිතය, මෙම ආත්මෝද්ධාරගුණ යයි ද කියනු ලැබේ. **සුබුද්ධසම්බොධියුගන්ධරොදිතං** යන වචනයෙන් අනාවරණඥානාධිගම සම්පත් හා දශබලාදිගුණානුභාවප්‍රතිලාභ සම්පත් දර්ශිතය, මෙම ධර්මඥතෝද්ධාර ගුණය යි ද කියනු ලැබේ **විසුද්ධසද්ධම්මසහස්සදීධිතිං** යන වචනයෙන් දෙශනාදිලක්ෂණපරහිතප්‍රතිපත්ති සම්පත් දර්ශිතය, මෙම ලොකොද්ධාරගුණය යි ද කියනුලැබේ. **නිබුද්ධබොධනසාදිවාකරං** යන වචනයෙන් ජාත්‍යා ඥානර්ද්ධි දෙශනානුභාවාදි සම්පත් හා අසදෘශතා දර්ශිතය. **සද්ධම්ම සඞ්ඝං** යන වචනයෙන් ධර්මකායපරිවාරසම්පත් දර්ශිතය. **සිරසා අභිවන්දිය** යන වචනයෙන් යථොක්ත ගුණ විශිෂ්ට පූජාර්හ ශාස්තෘහු කෙරෙහි තත්ගුණ නිම්නතාලක්ෂණ අධිප්‍රේතාර්ථ සාධකකායප්‍රණාමාදි ත්‍රිවිධප්‍රණාම දර්ශිතයි. **අභිවන්දිය** යනු පූර්වකාලක්‍රියා නිර්දේශය; ඔහුගේ උත්තරගාථාවෙහි **කරිස්සං** යන අපරක්‍රියාව හා සම්බන්ධ දතයුතු, **ජිනං** යනු **අභිවන්දිය** යන්නට කර්මනිර්දේශයි. **විසුද්ධසද්ධම්මසහස්සදීධිතිං සුබුද්ධසම්බොධියුගන්ධරොදිතං නිබුද්ධබොධනසාදිවාකරං සද්ධම්මසඞ්ඝං** යනු **ජිනං** යන්නට විශේෂණයි. **සිරසා** යනු කරණනිර්දේශයි.

මෙසේ ප්‍රකරණාරම්භයෙහි ආදි කොට අන්තරාය නිවාරණාදි ප්‍රයොජනසතුති පූර්වඞ්ගමාදි ප්‍රණාමයෙන් ශාස්තෘ හට සාදරයෙන් පූජාවිධාන කොට දැන් අභිප්‍රේතප්‍රකරණොපනිශ්‍රයග්‍රන්ථකර්තෘ ප්‍රණාමය හා සමඟ ප්‍රකරණනිශ්‍රයප්‍රකරණප්‍රයොජනාභිධෙය ප්‍රකරණකාරණප්‍රකාරචිකීර්ෂාවන් ද දක්වනුවෝ **කච්චායනඤ්චාචරියං** යනාදි ගාථාව කීහු.

මෙහි **කච්චායනඤ්චාචරියං නමිත්වා** යන වචනයෙන් නිශ්‍රයග්‍රන්ථකර්තෘප්‍රණාම දර්ශිතය. **නිස්සාය කච්චායනවණ්ණනාදිං** යන වචනයෙන් ප්‍රකරණනිශ්‍රය දර්ශිතය. **බාලප්පබොධත්ථං** යන වචනයෙන් ප්‍රයොජන දර්ශිතය. **ව්‍යත්තං සුකාණ්ඩං උජුං** යන මේ වචනත්‍රයෙන් ම කරණප්‍රකාර දර්ශිතය. **පදරූපසිද්ධිං** යන මේ වචනයෙන් අභිධානාභිධෙය දර්ශිතය. **කරිස්සං** යන මේ වචනයෙන් චිකීර්ෂා දතයුතුය; **නමිත්වා** යනු පූර්වකාලක්‍රියා නිර්දේශය, **කච්චායනං** යනු එයට කර්මනිර්දේශය, **ආචරියං** යනු **කච්චායනං** යන්නට විශේෂණය, **ච** යනු ශබ්දසමුච්චයෙහි වැටෙයි; එයින් සද්ධම්මසඞ්ඝජිනයාගේ මෙන් මොහු ගොත්‍ර ප්‍රණාමාර්හ භාවය දක්වත්; **නිස්සාය** යනු

පූර්වකාලක්‍රියා නිර්දේශය; **කච්චායනවණ්ණනාදිං** යනු එයට කර්ම නිර්දේශය; **නිස්සාය** යනු අපරකාලක්‍රියා නිර්දේශය; **පදරූපසිද්ධිං** යනු එයට කර්මනිර්දේශය **බාලප්පබෝධනත්ථං** යනු **පදරූපසිද්ධිං** යන්නට විශේෂණය; **උජුං** යනු කාරණක්‍රියාවට විශේෂණයි; **සද්ධම්ම සඞ්ඝං ජිනං සිරසාභිවන්දිය පදරූපසිද්ධිං උජුං කරිස්සං** යි මේ ගාථාවයෙහි පදසම්බන්ධ කටයුතු.

එහි ආදි ගාථාව "වංශස්ථ" නම් වෘත්තය–ජගණ තගණ දෙකින් හා ජගණ රගණ දෙකින් යුක්ත වූයේ වංශස්ථ නමි.

මෙම කීහ කෙදාරයෝ

**ජතෞ තු වංශස්ථමුදීරිතං ජරෞ** යි.

දෙවන ගාථාව **ඉන්ද්‍රවජ්‍රා** නම් වෘත්තය

තගණ දෙකින් පරවූ ජගණයක් හා අන්තයෙහි ගුරුදෙකක් ඇත්තේ ඉන්ද්‍රවජ්‍රා නමි.

එසින් ම කීහ

**ස්‍යාදින්ද්‍රවජ්‍රා යදි තෞ ජගෞ ගඃ** යි.

විසුද්ධ, (නිරුපක්ලේශත්වාදි ගුණයෙන් යුක්ත හෙයින්) අත්‍යන්තපරිශුද්ධ වූ; සද්ධම්ම, පර්‍ය්‍යාප්තිසද්ධර්ම නමැති; සහස්සදීධිතිං, නොයෙක්දහස්රශ්මි ඇති; සුබුද්ධ, (දුඃඛසමුදයනිරොධමාර්ග යන චතුරාර්‍ය්‍යසත්‍යයන්) මනාකොට ප්‍රතිවෙධ කළා වූ; සම්බෝධි, අර්හත්මාර්ගඥාන නමැති; යුගන්ධරෙ, යුගන්ධරුවිෂයෙහි; උදිතං, (සර්වඥතාඥානමණ්ඩලොපශොභිතව) පහළ වූ; තිබුද්ධඛෙත්තෙ, (ජාත්‍යාඥාවිෂයක්ෂෙත්‍රාඛ්‍යාත වූ) ත්‍රිවිධබුද්ධක්ෂෙත්‍රයෙහි; එකදිවාකරං, (දෙශනාඥානාලොකකරණයෙන්) අසහාය සූර්‍ය්‍ය වූ; සද්ධම්ම සඞ්ඝං, ධර්මසංඝසහිතවූ; ජිනං, (පඤ්චමාරයන් දිනූ හෙයින්) ජින යයි කියන ලද සර්වඥයා; සිරසා, උත්තමාඞ්ගය කාරණකොටගෙන; අභිවන්දිය, (ප්‍රෙමභාරාවනතචිත්තයෙන්) සාදරයෙන් වැඳ;

ආචරියං, නිරුක්තිලක්ෂණාචාර්‍ය්‍ය වූ; කච්චායනච, කාත්‍යායන මහාස්ථවිරපාදයාද; නමිත්වා, වැඳ; කච්චායනවණ්ණනාදිං, කච්චායන ව්‍යාකරණය තමන්ගේ ඥානාභූතන්‍යාසය සන්ධිනිරුක්තිප්‍රකරණාදිය යන මේ; නිස්සාය, උපාශ්‍රය කොට; බාලප්පබොධනත්ථං, ශබ්ද

ලක්ෂණ නොදන්නා බාලයන්ගේ ශබ්දලක්ෂණානුබොධයට උප
නිශ්‍රය වූ හෙවත් ශබ්දලක්ෂණාවබොධය පිණිස; ව්‍යත්තං, (ලක්ෂණ
විෂයව්‍යවස්ථාව ද ලක්ෂ්‍යාභිනිෂ්පත්තිය ද සුප්‍රකට හෙයින්)
ව්‍යක්ත වූ; සුකණ්ඩං, (සන්ධිලිඞ්ගාදි සුන්දරකල්ප ඇති බව හෙතු
කොට ගෙන) මනා වූ පරිච්ඡෙද ඇති; පදරූපසිද්ධිං, (නාමාඛ්‍යා
තොපසග්ගනිපාතසඞ්ඛ්‍යාත චතුර්විධපදයන්ගේ විභක්ත්‍යන්තරූප
නිෂ්පත්තිසාධනයට උපාය හෙයින්) පදරූපසිද්ධියයි කියනලද
ප්‍රකරණය; උජුං, (ලක්ෂණක්‍රමය හැර ලක්ෂ්‍යශබ්දයන්ගේ රූපසිද්ධි
ක්‍රමය අනුව පවත්නා හෙයින්) ඍජුකොට; කරිස්සං, කෙරෙමි.

විසෙසෙන සුද්ධා පරිසුද්ධාති විසුද්ධා; සතං ධම්මො සද්ධම්මො,
සන්තො වා පසත්ථො සංවිජ්ජමානො වා ධම්මො සද්ධම්මො,
සහස්සානි ච තානි දීධිතී චාති සහස්සදීධිතියො, පරියත්තිධම්ම
සඞ්ඛාතො සද්ධම්මො එව සහස්සදීධිතියො–අනෙකසහස්සරංසියො
නානානයවිචිත්තතාය අවිජ්ජන්ධකාරවිධමනහෙතුතාය සද්ධම්ම
සහස්සදීධිතියො, විසුද්ධා සද්ධම්මසහස්සදීධිතියො අස්සාති විසුද්ධ
සද්ධම්මසහස්සදීධිති, තං විසුද්ධසද්ධම්මසහස්සදීධිතිං; චත්තාරි සච්චානි
පරිඤ්ඤාභිසමයපහානාභිසමයසච්ඡිකිරියාභිසමයභාවනාභිසමය ව
සෙන යථාරහං සුට්ඨු–සම්මා බුජ්ඣි–පටිවිජ්ඣීති සුබුද්ධා; පාරමීපරි
භාවිතතාය සයං සච්චානි බුජ්ඣීති සම්බොධි; සුබුද්ධා ච සා සම්බොධි
චාති සුබුද්ධසම්බොධි; සබ්බඤ්ඤුතඤ්ඤාණපදට්ඨානං අරහත්තමග්ග
ඤාණං; අථවා, භගවතා සුට්ඨු බුද්ධා–පටිවිද්ධා අනුත්තරවිමොක්ඛා
ධිගමෙන පටිලද්ධාති සුබුද්ධා; සඞ්ඛාරවිකාරලක්ඛණනිබ්බානපඤ්ඤ
ත්තිසඞ්ඛාතෙ සබ්බධම්මෙ සම්මා අවිපරීතං සබ්බාකාරෙන අනාවරි
යපටිවෙධෙන බුජ්ඣීති සම්බොධි, සුබුද්ධා එව සම්බොධි සුබුද්ධ
සම්බොධි, අරහත්තමග්ගඤාණපදට්ඨානං සබ්බඤ්ඤුතඤ්ඤාණං;
යුගන්ධරෙ විය යුගන්ධරො, සාවකපච්චෙකබොධිතො තදඤ්ඤ
බුද්ධඤාණතො පටිසිද්ධතාය අච්චුග්ගතට්ඨෙන යුගන්ධරගිරිසදිසත්තා;
අථවා, අත්තපරසන්තානසඞ්ඛාතං යුගං–යුගලං ධාරෙතීති යුගන්ධ
රො; බුද්ධසන්තානප්පභවාය තස්ස සාවකානම්පි සච්චාභිසමයස්ස
හෙතුභාවතො සායෙව යුගන්ධරෙ සුබුද්ධසම්බොධියුගන්ධරෙ; තස්මිං
උදිතො සුබුද්ධසම්බොධියුගන්ධරොදිතො; කිලෙසන්ධකාරවිධමනාදි
කිච්චචතුක්කං සාධෙන්තො මග්ගඤාණපටිපාටියා ගන්ත්වා අරහත්ත
මග්ගඤාණසඞ්ඛාතඋදයගිරිපත්තිතො සබ්බඤ්ඤුතඤ්ඤාණමණ්ඩ
ලොපසොභිතො හුත්වා උග්ගතො, සබ්බඤ්ඤුතඤ්ඤාණගිරිප්පත්ති
තො වා සදෙවකෙ ලොකෙ අනුත්තරං සම්මාසම්බොධිමභිසම්බුද්ධො

ති සයඤ්ඤූතභාවෙන පාකටභාවං ගතොති වුත්තං හොති; තං සුබු
ද්ධසම්බොධියුගන්ධරොදිතං. බුද්ධස්ස ඛෙත්තන්ති ජාතිආණාඤාණානු
භාවානං පවත්තිට්ඨානානි, තිබුද්ධඛෙත්තා ජාතික්ඛෙත්තආණක්ඛෙ
ත්තවිසයක්ඛෙත්තානි, ජාතික්ඛෙත්තන්නාම දසසහස්සචක්කවාළ
පරියන්තං යං තථාගතස්ස පටිසන්ධිග්ගහණාදිසු කම්පති; ආණ
ක්ඛෙත්තන්නාම කොටිසතසහස්සචක්කවාළපරියන්තං යත්ථ රතන
සුත්තං ඛන්ධපරිත්තං ධජග්ගපරිත්තං ආටානාටියසුත්තං මොර
පරිත්තන්ති ඉමෙසං පරිත්තානං ආනුභාවො වත්තති; විසය
ක්ඛෙත්තන්නාම අනන්තානි චක්කවාළානි යාවතා භගවා පන
ආකඞ්ඛෙය්‍යාති වුත්තං, යත්ථ යං යං තථාගතො ආකඞ්ඛති තං
තං තථාගතො ජානාති, තානි තීණි බුද්ධක්ඛෙත්තානි සමාහටානි
තිබුද්ධඛෙත්තං, තිබුද්ධක්ඛෙත්තන්ති හි වත්තබ්බෙ වුත්තඹෙදෙන
විභාවස්ස අඨානත්තා තිබුද්ධඛෙත්තම්ති වුත්තං යථා 'අප්පස්සාද
දුඛා කාමා'ති; දිවාකරො විය දිවාකරො; එකො ච සො දිවා
කරො-චාති එකදිවාකරො; එකසද්දො චෙත්ථ 'එකො'මහි සම්මා
සම්බුද්ධො'ති ආදිසු විය අසහායත්ථො, තිබුද්ධඛෙත්තෙ එකදිවා
කරො අසහායාදිච්චභූතොති තිබුද්ධඛෙත්තෙකදිවාකරො; දිවස
කරස්ස විය සකිදෙව තීසු දීපෙසු එකාසොව බුද්ධදිවාකරස්ස තීසු
බුද්ධක්ඛෙත්තෙසු දෙසනාඤාණාලොකකරණතො, තමෙත්ථ
තදඤ්ඤස්ස තාදිසස්ස සබ්බඤ්ඤුබුද්ධස්ස සහුප්පත්තියා නිරත්ථ
කතාදිනාය අනවකාසත්තාති දට්ඨබ්බං, තං තිබුද්ධඛෙත්තෙකදිවා
කරං. ජිතවාති ජිනො; දෙවපුත්තකිලෙසාභිසඞ්ඛාරමච්චුඛන්ධ
මාරසඞ්ඛාතෙ පඤ්චමාරෙ විසයාතික්කමසමුච්ඡෙදප්පහාණ [illegible]
වෙකල්ලකරණනිදානුපච්ඡෙද සමුදයප්පහාණ පරිඤ්ඤාවසෙන
විජිතවාති වුත්තං හොති, තං ජිනං, සද්ධම්මසංඝන්ති එත්ථ ධම්මො
චතුන්නං අරියපුග්ගලානං චතුන්නං අරියඵලානං නිබ්බානස්ස ච ව
සෙන නවවිධො ලොකුත්තරධම්මො අධිප්පෙතො, පරියත්තිධම්මස්ස
"විසුද්ධ සද්ධම්මසහස්සදීධිතින්ති"ඉමිනා විසුං ගහිතත්තා;"සංඝොති"
අට්ඨඅරියපුග්ගලා, තත්ථ යථානුසිට්ඨං පටිපජ්ජමානෙ චතූසු අපායෙසු
අපතමානෙ කත්වා ධාරෙතීති ධම්මො.

"යෙ කෙචි ධම්මං සරණං ගතාසෙ න තෙ ගමිස්සන්ති අපායං
පහාය මානුසං දෙහං දෙවකායං පරිපූරෙස්සන්ති"ති හි,වුත්තං.

සංසාරදුක්ඛෙ වා අපතමානෙ කත්වා ධාරෙතීති ධම්මො,
[illegible]ඵලප්පත්තියා සත්තක්ඛත්තුපරමතාදිවසෙන සංසාරස්ස

පරිච්ඡින්නත්තා අපායාදිනිබ්බත්තකකිලෙසවිද්ධංසනත්ථෙන ධාරණං; එවඤ්ච කත්වා අරියමග්ගො, තස්සත්ථසිද්ධිහෙතුතාය නිබ්බානඤ්චාති උභයමෙව නිප්පරියායතො ධාරෙති, අරියඵලම්පන තංසමුච්ඡින්න කිලෙසපටිප්පස්සම්භනෙන තදනුගුණතාය පරියත්තිධම්මො තදධිගමහෙතුතායාති උභයං පරියායතො ධාරෙතීති වෙදිතබ්බං; ධම්මො ච සඞ්ඝො ච ධම්මසඞ්ඝා, තෙහි සහ වත්තමානො සධම්මසඞ්ඝො, තං සධම්මසඞ්ඝං.

කච්චස්ස අපච්චං කච්චායනො, කච්චොති කිර තස්මිං ගොත්තෙ පඨමපුරිසො, තප්පභවත්තා තබ්බංසිකා සබ්බෙව කච්චායනා ජාතා, තබ්බංසිකො චායම්ති කච්චායනො. කො චායං කච්චායනො නාම? යො "එතදග්ගං භික්ඛවෙ මම සාවකානං භික්ඛූනං සංඛිත්තෙන භාසිතස්ස විත්ථාරෙන අත්ථං විභජන්තානං යදිදං මහාකච්චායනො"ති එතදග්ගෙ ඨපිතො, භගවා මං චතුපරිසමජ්ඣෙ නිසින්නො සූරියරංසිසම්ඵස්ස විකසමානමිව පදුමං සස්සිරිකං මුඛං විවරිත්වා බ්‍රහ්මඝොසං නිච්ඡාරෙන්තො

"ගඞ්ගාය වාලුකා ඛීයෙ උදකං ඛීයෙ මහණ්ණවෙ
මහියා මත්තිකා ඛීයෙ ලක්ඛෙන මම බුද්ධියා"ති

ආදිනා ඤාණගජ්ජිතං ගජ්ජිතුං සමත්ථො, "මහාපඤ්ඤා භික්ඛවෙ සාරිපුත්තො"ති ආදිනා තෙසු තෙසු සුත්තන්තෙසු අත්තනාව,

"ලොකනාථං ඨපෙත්වාන යෙ චඤ්ඤෙ ඉධ පාණිනො
පඤ්ඤාය සාරිපුත්තස්ස කලං නාග්ඝන්ති සොළසින්ති".

ආදිනා ආචරියෙහි වණ්ණිතඤාණෙ සාරිපුත්තෙ ච තදඤ්ඤෙසු ච පභින්නපටිසම්භිදෙසු මහාසාවකෙසු විජ්ජමානෙසුපි, චක්කවත්ති රාජා විය රජ්ජවහනසමත්ථං ජෙට්ඨපුත්තං පරිනායකට්ඨානෙ ඨපෙන්තො, තථාගතවචනං විභජන්තානං එතදග්ගෙ ඨපෙසි, හන්දහං තථාගතස්ස පච්චුපකාරං කරිස්සාමි, දාතබ්බමෙව ඨානන්තරං භගවා අදාසි, භගවතො යථාභුච්චකථනං සද්දහාපෙස්සාමි, එවං සති නානා දෙසභාසා සත්තා සක්කතාදිබලිත

වචනමනාරොපෙත්වා තථාගතෙන වුත්තාය සභාවනිරුත්තියා සුඛෙන බුද්ධවචනං උග්ගණ්හිස්සන්තීති අත්ථතො බලං දස්සෙන්තො නිරුත්තිපිටකං ඉමස්ස වා පස්ස යථාභූතං සද්දලක්ඛණමකාසි, සො මහාකච්චායනත්ථෙරො ඉධ කච්චායනොති වුත්තො. සොයෙව නිරුත්තිලක්ඛණාදීනං ආචරියභූතත්තා ආචරියො, තං කච්චායනඤ්ච ආචරියං නමිත්වා-නමස්සිත්වාති අත්ථො. සො පනායස්මා කිඤ්චාපි සඞ්ඝරතනපරියාපන්නත්තා පුරිමගාථායං සද්ධම්මසඞ්ඝවචනෙනෙව ගහිතො, තථාපි පබ්බජ්ජා උපසම්පත්තෙන පුරෙ උපසම්පන්නො වන්දියොති වත්වාපි ආචරියො වන්දියො උපජ්ඣායො වන්දියොති වචනං විය බහූපකාරත්තා පුන ගහිතොති වෙදිතබ්බො.

කච්චායනඤ්ච කච්චායනවණ්ණනා ච කච්චායනවණ්ණනා, එකදෙසසරූපෙකසෙසනයෙන, යථා නාමඤ්ච රූපඤ්ච නාමරූපඤ්ච නාමරූපන්ති, කච්චායනවණ්ණනා ආදි යස්ස සන්ධිනිරුත්තිපකරණාදිකස්ස තං කච්චායනවණ්ණනාදි, තං කච්චායනවණ්ණනාදිං, අථවා, වණ්ණියතෙ එතායාති වණ්ණනා. කච්චායනස්ස වණ්ණනා කච්චායනවණ්ණනා, සෙසං වුත්තනයමෙව, ඉධ පන කච්චායනව්‍යාකරණම්පි ආදිසද්දෙනෙව සඞ්ගහිතං. බලන්තීති බාලා, සද්දලක්ඛණෙ පාටවසඞ්ඛාතපඤ්ඤාජීවිකාභාවෙන අස්සාසපස්සාසමත්තෙන ජීවන්තීති වුත්තං හොති, තෙසං සද්දලක්ඛණානභිඤ්ඤානං බාලානං පබොධො-අවබොධොති බාලප්පබොධො, බාලප්පබොධස්ස අත්ථාය පදරූපසිද්ධි බාලප්පබොධත්ථා, තං බාලප්පබොධත්ථං, පජ්ජතෙ [illegible]ම්‍යතෙ අත්ථො එතෙහීති පදානි, රූපානි සිජ්ඣන්ති-සාධීයන්ති නිප්ඵාදීයන්ති-එතායාති රූපසිද්ධි, නාමාඛ්‍යාතොපසග්ගනිපාතසඞ්ඛාතානං චතුබ්බිධානං පදානං රූපසිද්ධි, තං සාධනූපායොති පදරූපසිද්ධි, තං පදරූපසිද්ධිං. කරිස්සන්ති සම්බන්ධො, කරිස්සන්ති ච අනාගතවචනං, අනාගතස්ස වා වත්තමානසමීපත්තා වත්තමානම්පි කත්වා පවත්තමානවචනං, පටිඤ්ඤානන්තරමෙව හි පකරණං කරොතීති. සුන්දරා කණ්ඩා පරිච්ඡෙදා එත්ථාති සුකණ්ඩා, සන්ධිලිඞ්ගාදිසුන්දරකලාපාති අත්ථො, තං සුකණ්ඩං.

මෙසේ ප්‍රකරණාරම්භයෙහි පූජනීය පූජාවිධානාදි දක්වා දැන් යථාප්‍රතිඥාත ප්‍රකරණයට ආරම්භ කරනුවෝ නතළ යනාදි කීහු. *

---

* සම්බන්ධයි-පොත්හි.

**තස්ස ජිනසාසනාධිගමස්ස අක්ඛරකොසල්ලමූලකත්තා තං සම්පාදෙතබ්බන්ති දස්සෙතුං අභිධෙය්‍යප්පයොජනවාක්‍යමිදමුච්චතෙ.**

## 1. අත්ථො අක්ඛරසඤ්ඤාතො—1. 1. 1.

**යො කොචි ලොකියලොකුත්තරාදිභෙදො වචනත්ථො සො සබ්බො අක්ඛරෙහෙව සඤ්ඤායතෙ.**

---

තත්ථ, ඒ පදරූපසිද්ධි නම් ප්‍රකරණයෙහි; ජිනසාසන, (පර්‍යාප්තිප්‍රතිපත්තිප්‍රතිවේධාඛ්‍ය ත්‍රිවිධ) ජිනශාසනය සම්බන්ධී වූ; අධිගමස්ස, අධිගමයාගේ; අක්ඛරකොසල්ලමූලකත්තා, (ස්වරව්‍යඤ්ජනාදි ප්‍රභෙද ඇති) අක්ෂරයන් කෙරෙහි ද අක්ෂරසමුදායස්වරූප නාමිකාදිපදයන් කෙරෙහි ද කෞශල්‍යසංඛ්‍යාතපටුතරඥානය මුල් කොට ඇති බව හෙතුකොටගෙන; තං, ඒ අක්ෂරකෞශල්‍ය සංඛ්‍යාතපටුතරඥානය; සම්පාදෙතබ්බන්ති, සිද්ධ කටයුත්තේයයි; දස්සෙතුං, දක්වනු පිණිස; ඉදං, මේ ("අත්ථො අක්ඛරසඤ්ඤාතො" යන); අභිධෙය්‍යප්පයොජනවාක්‍යං, (ව්‍යාකරණාර්ථීයාගේ) වචනාර්ථාවබොධනලක්ෂණඵලය හඟවන්නා වූ වාක්‍යය; උච්චතෙ, කියනු ලැබේ.

සාසීයන්ති-අනුසාසීයන්ති එතෙනාති සාසනං, පරියත්තිසාසනාදිකං; ජිනස්ස-භගවතො සාසනං ජිනසාසනං, තස්ස අධිගමො-අවබොධො ජිනසාසනාධිගමො, තස්ස. කුසලස්ස-පවීණස්ස භාවො කොසල්ලං,

මෙතන කුසලශබ්ද ඡේකයා කෙරෙහි වැටෙයි, ඒ කුශල ශබ්දයාගේ ප්‍රවෘත්තිනිමිත්තඥානගුණය කෞශල්‍ය නම්, හේ කෞශල්‍යයද හෙද හෙයින් ෂොඩශවිධ වේ? කීයේ මැනෝ. "දෙසකුසලතා අක්ඛරකුසලතා සමයකුසලතා ලිඞ්ගකුසලතා විභත්තිකුසලතා පුබ්බාපරකුසලතා සන්ධිකුසලතා සමාසකුසලතා ව්‍යාසකුසලතා නිබ්බචනකුසලතා ආයතනකුසලතා අපායකුසලතා ආදෙසකුසලතා ගහණකුසලතා ධාරණකුසලතා සම්පටිපාදනකුසලතා"යි.

අක්ඛරෙසු කොසල්ලං අක්ඛරකොසල්ලං; මෙහි ස්වරව්‍යඤ්ජනාද්‍යක්ෂරයෝ ද තත්සමුදයරූපනාමිකාදි පදයෝ ද අක්ෂර නම් වෙති දතයුතු.

මෙම් කියන් මිනු "එත්ථ ච පදසිපි අක්ඛරසන්නිපාතරූපත්තා අක්ඛරෙසෙව්ව සඞ්ගය්හන්ති"යි. අභිධෙය්‍යස්ස පයොජනං අභිධෙය්‍යප්පයොජනං, තස්ස දීපකං වාක්‍යං අභිධෙය්‍යප්පයොජනවාක්‍යං; "දධිභොජනං" යනුයෙහි උපසිද්ධශබ්දය හට මෙන් දීපකශබ්දයහට අප්‍රයොග වේ; මෙහි අභිධෙය්‍ය නම් අක්ෂරසඞ්ඛ්‍යාත ශබ්දානුශාසනාභිධෙය ව්‍යාකරණාර්ථය යි සේයි.

ප්‍රයොජන නම් වචනාර්ථාවබොධනලක්ෂණඵලය, වාක්‍ය නම් "එකත්ථපටිපාදකපදසමුදායො වාක්‍යං" යනු හෙයින් එකාර්ථප්‍රතිපාදක වූ පදසමුදාය, අභිධෙයප්‍රයොජනකථනයද ප්‍රකරණයාගේ ආරම්භකරණීයත්වදර්ශනය පිණිසයි, ස්වාර්ථප්‍රතිපාදනලක්ෂණ වූ ප්‍රකරණප්‍රයොජනයක් ඇතිකල්හි දු අභිධෙයප්‍රයොජනයාගේ අභාවයෙහි විතණ්ඩශාස්ත්‍රය මෙන් අනාරම්භනීය හෙයිනි.

අත්ථො ය අක්ඛරසඤ්ඤාතො ය යනු පද යි.

අරීයති ඤායතීති අත්ථො, අක්ඛරෙහි සම්මා ඤායතීති අක්ඛරසඤ්ඤාතො.

ලොකියලොකුත්තරාදිභෙදෙ, ලෞකිකලොකොත්තරාදී භෙද ඇති; යො කොචි වචනත්ථො, යම්කිසි ශබ්දාර්ථයෙක් ඇද්ද; සො සබ්බො, ඒ සියල්ල; අක්ඛරෙහි එව, (විශ්‍රුතස්වරූපසම්බන්ධ ඇති) අක්ෂරයන් කාරණකොට ගෙන ම; සඤ්ඤායතෙ, (අභිප්‍රාය ප්‍රකාශනවශයෙන්) මනාකොට දන්නා ලැබේ. මෙහි "එව" ශබ්ද අවධාරණයෙහි වැටෙයි, එයින් අක්ෂරයන්ගේ ස්වරූපාදි ජානනය විනා වචනාර්ථාවබොධයාගේ දුෂ්කරභාවය දක්වත්.

ලුජ්ජති පලුජ්ජතීති ලොකො, ලොකෙ විදිතො ලොකියො; ලොකෙ අපරියාපන්නභාවතො ලොකතො උත්තරො-උත්තිණ්ණොති ලොකුත්තරො, ලොකියො ච ලොකුත්තරො ච ලොකියලොකුත්තරා; තෙ ආදයො යෙසං තෙ ලොකියලොකුත්තරාදයො, තෙ භෙදා-අනෙකප්පකාරභින්නා එතස්සාති ලොකියලොකුත්තරාදිභෙදො. මෙහි ලොකිය නම් ත්‍රෛභූමික වෘත්තපර්යාපන්න වූ කුශලාදි ස්කන්ධාදි භෙදභින්න වූ සාශ්‍රවධර්මය; ලොකොත්තර නම් මාර්ගඵලනිර්වාණසඞ්ඛ්‍යාත වූ නවවිධඅනාශ්‍රවධර්මය. ආදි ශබ්දයෙන් සමූහසන්තානාදි භෙදභින්න වූ ව්‍යවහාරාර්ථය ගන්නා ලදි. වචනස්ස අත්ථො වචනත්ථො; "අත්ථො" යි අවිශෙෂයෙන් කී බැවින් ද වෘත්තියෙහි "සබ්බවචනානමත්ථො" යි අනවශෙෂ වචනාර්ථවශයෙන් කී බැවින් ද "යො කොචි වචනත්ථො" යි සර්වසඞ්ග්‍රාහකවශයෙන් කීහු.

**සිථිලධනිතාදි අක්ඛරවිපත්තියං හි අත්ථස්ස දුන්නයතා හොති තස්මා අක්ඛරකොසල්ලං බහූපකාරං බුද්ධවචනෙසු.**

**එත්ථ පදානිපි අක්ඛරසන්නිපාතරූපත්තා අක්ඛරෙස්වෙව සඞ්ගය්හන්ති.**

---

සිථිලධනිතාදිඅක්ඛරවිපත්තියං, (සිථිලාදීහුගේ ධනිතාදිභාවයෙන් ධනිතාදීහුගේ සිථිලාදිභාවයෙන්) සිථිලධනිතාද්‍යක්ෂරයන්ගේ අන්‍යථාප්‍රවෘත්තියක් ඇති කල්හි; අත්ථස්ස, (ලෞකිකාලොකොත්තරාදිභෙද ඇති) ශබ්දාර්ථයාගේ; දුන්නයතා, විපරීත කොට දක්නා ලබන බව; හි–යස්මා, යම්කාරණයකින්; හොති, වේද; තස්මා ඒ කාරණයෙන්; අක්ඛරකොසල්ලං, (සිථිලධනිතාදිප්‍රභෙද ඇති) අක්ෂරයන් කෙරෙහි (අවිපරීත ප්‍රඥාවශයෙන්) දක්ෂ බව; බුද්ධවචනෙසු; (ත්‍රිපිටකසඞ්ඛ්‍යාත) බුද්ධවචනයන් විෂයෙහි ලා; බහූපකාරං, (ශ්‍රවණධාරණප්‍රතිපාදනාදිවශයෙන්) බොහෝ උපකාර ඇත්තේයි. මෙයින් කුමක් කීහ යත්? අර්ථප්‍රතිපත්ති ව්‍යඤ්ජනයන් නොසික්ම වන බැවින් දුන්නිරුත්තව්‍යඤ්ජනයෝ වචනාර්ථදූෂණය කෙරෙති; දූෂිතාර්ථය ද සද්ධර්මයාගේ අන්තර්ධානය පිණිස පවත්නේය; එහෙයින් සද්ධර්මයාගේ සංස්ථිතිය කැමැත්තහු විසින් අර්ථානුරූප කොට ව්‍යඤ්ජනයෝ නිරූපන කට යුත්තාහ යි කිවූ වෙත්. “ද්වෙමෙ භික්ඛවෙ! ධම්මා සද්ධම්මස්ස සම්මොසාය අන්තරධානාය සංවත්තන්ති, කතමෙ ද්වෙ? දුන්නික්ඛිත්තඤ්ච පදබ්‍යඤ්ජනං අත්ථො ච දුන්නීතො, දුන්නික්ඛිත්තස්ස භික්ඛවෙ! පදබ්‍යඤ්ජනස්ස අත්ථො ‘පි දුන්නයො හොති, ඉමෙ ඛො භික්ඛවෙ! ද්වෙ ධම්මා සද්ධම්මස්ස සම්මොසාය අන්තරධානාය සංවත්තන්ති” යනු මෙහි පාළි යි, සුක්ලපක්ෂය වනාහි උක්තවිපර්‍ය්‍යාසයෙන් දතයුතු.

නිරුත්තිපිටකයෙහි දු මේ කියන ලදී.

“බ්‍යඤ්ජනෙ දුන්නිරුත්තම්හි දුන්නිද්දිට්ඨෙ ච කාරණෙ
වොහින්දන්ති පුථුබුද්ධ්‍යා එසා සද්ධම්මසඞ්ඛයා.

බ්‍යඤ්ජනෙ සුනිරුත්තම්හි සුනිද්දිට්ඨෙ ච කාරණෙ
එකීභාවො දළ්හො හොති එසා සද්ධම්මසණ්ඨිති.

තස්මා අත්ථවසෙනෙව ධීරො පෙසෙය්‍ය බ්‍යඤ්ජනං
බ්‍යඤ්ජනඤ්ච අනොක්කම්ම අත්ථං නීයාථ පණ්ඩිතො"සි.

දුබ්බු නීයතීති **දුන්නයො**, තස්ස භාවො **දුන්නයතා**, බුඩ්ඩවා–සවාසනාය අඤ්ඤාණනිද්දාය අච්චන්තවිගතොති **බුද්ධො**–මේ පක්ෂයෙහි බුධ යන ධාතු ජාගරණාර්ථයෙහි වැටේ; නොහොත්, බුඩ්ඩවා–බුද්ධියා විකසිතභාවං ගතොති **බුද්ධො**–මේ පක්ෂයෙහි බුධ යන ධාතු විකසනාර්ථයෙහි වැටේ; නොහොත්, බුඩ්ඩවා–අවගතවාති **බුද්ධො**–මේ පක්ෂයෙහි බුධ යන ධාතු අවගමනාර්ථයෙහි වැටේ;එසේ කල්හි කර්තෘනිර්දේශය නො යෙදෙන්නේ වේද යත්? යෙදේ මැයි, විධෙයධර්මයන් අතුරෙහි අවිඥාත කිසි ධර්මයක්හුගේ අභාවය හෙතු කොට ගෙන භෙදවිශෙෂයක් කර්මභාවයෙන් නො ගන්නා හෙයින් කර්මවචනෙච්ඡාවගේ අභාවයෙහි අවගමනාර්ථවශයෙන්ම කර්තෘනිර්දේශය ලැබෙන හෙයිනි; නොහොත් මේ කාත්‍යායනව්‍යාකරණයෙහි"බුධගමාදිත්ථෙ කත්තරි" 4.2.8. යන සූත්‍රයෙන් සකර්මකධාතුහු කෙරෙන්ද කර්තෘයෙහි ත ප්‍රත්‍යය විහිත හෙයින් කර්මවචනෙච්ඡාවක් ඇතිකල්හිම අවගමනාර්ථ "බුධ" යන ධාතුහු කෙරෙන් කර්තෘයෙහි ත ප්‍රත්‍යය ලැබේ මැයි; නොහොත්, **බුද්ධිමස්ස අත්ථීති** බුද්ධො, බුඩය බුඩ්ඩිය බොධය බොධිය යන මේ පර්යාය යයි, යම්සේ නීලරක්ත ගුණයොගයෙන් "නීලපටවො රත්තපටවො" සී කියනු ලැබේද එසේම බුද්ධිගුණයොගයෙන් හෝ බුඩ නම් වෙයි දතයුතු. අර්ථයෙන් වනාහි පාරමිතාපරිචිත වූ ස්වයංභූඥානයෙන් වාසනා හා සමඟ විගතවිධ්වස්ත නිරවශෙෂ කෙලශයන් ඇත්තා වූ මහාකරුණා සර්වඥතාඥානාදි අපරිමෙය ගුණගණාධාර වූ ස්කන්ධසන්තානය බුඩ නම් වෙයි, මෙම කීහ, "බුද්ධොති යො සො භගවා සයම්භූ අනාචරියකො පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු සාමං සච්චානි අභිසම්බුජ්ඣි, තත්ථ ච සබ්බඤ්ඤුතං පත්තො බලෙසු ච වසීභාවං" සී. බුඩස්ස වචනානි බුඩවචනානි, තීණි පිටකානි, තෙසු බුඩවචනෙසු, බහවො උපකාරා යෙන තං බහූපකාරං.

එත්ථ, මේ ආදි වාක්‍යයෙහි; පදානිපි, පදයෝ ද; අක්ඛරසන්නිපාතරූපත්තා, අක්ෂරයන්ගේ සමුදාය ස්වභාව කොට ඇති බැවින්; අක්ඛරෙසු එව, අක්ෂරයන් කෙරෙහිම; සඞ්ගය්හන්ති, සඞ්ග්‍රහ කරනු ලැබෙත්–දූන් යථොක්ත අක්ෂරකෞශල්‍යයාගේ සම්පාදනවිධි දක්වනුවෝ "තස්මා අක්ඛරකොසල්ලං" යනාදි ගාථාව කීහු.

**3. තස්මා අක්ඛරකොසල්ලං සම්පාදෙය්‍ය හිතත්ථිකො උපට්ඨං ගරුං සම්මා උට්ඨානාදීහි පඤ්චහි.**

**තස්මාදෙ තාව සද්දලක්ඛණෙ වොහාරවිඤ්ඤාපනත්ථං සඤ්ඤාවිධානමාරභීයතෙ.**

## 2. අක්ඛරාපාදයො එකචත්තාලීසං—1. 1. 2.

**අක්ඛරා අපි ආදයො එකචත්තාලීසං. තෙ ච ඛො ජිනවචනානුරූපා අකාරාදයො නිග්ගහීතන්තා එකචත්තාලීසමත්තා වණ්ණා පච්චෙකං අක්ඛරා නාම හොන්ති. තං යථා-**

**අ ආ ඉ ඊ උ ඌ එ ඔ- ක ඛ ග ඝ ඞ-ච ඡ ජ ඣ ඤ-ට ඨ ඩ ඪ ණ-ත ථ ද ධ න-ප ඵ බ භ ම- ය ර ල ව ස හ ළ අං ඉති අක්ඛරා.**

---

මේ **පථ්‍යාවක්ත්‍ර** නම් වෘත්තය යි.

විතීය චතුෂ්පදයන්හි සතර අක්ෂරයකින් පරව "ජගණ" වී නම් හේ පථ්‍යාවක්ත්‍ර නම්, මෙම කීහ

**යුජෝජේන සරිද්භතුඃ පථ්‍යාවක්ත්‍රම් ප්‍රකීර්තිතම්** යි.

තස්මා, ඒ (අක්ෂරකෞශල්‍යයාගේ බුඩවචනයෙහි බොහෝ උපකාර ඇති බව) හෙතු කොට ගෙන; හිතත්ථිකො,(ශාසනාධිගම සඞ්ඛ්‍යාත) හිතයෙන් අර්ථි පුද්ගල තෙම; උට්ඨානාදීහි පඤ්චහි, උට්ඨාන උපට්ඨාන සුස්සූසා පාරිචරියා සක්කච්චසිප්පපටිග්ගහණ යන මේ පඤ්චාඞ්ගයෙන් යුක්තව; ගරුං, * ගුරුහු; සම්මා, මනා කොට; උපට්ඨං,උපස්ථාන කරන්නේ;අක්ඛරකොසල්ලං, යථොක්තඅක්ෂර කෞශල්‍යය; සම්පාදෙය්‍ය, සිඩ කරන්නේ යි.

මෙහි උට්ඨාන නම් ගුරුහු දක හුනස්නෙන් නැගී සිටීමය, උපට්ඨාන නම් ගුරුහු කරා දවස තුන් වාරයක එළඹීමය, සුස්සූසා නම් හැදිහිලි ඇතිව ඇසීමය, පාරිචරියා නම් මුඛොදකදන්තාදි වූ වෘත්තකරණය, සක්කච්චසිප්පපටිග්ගහණ නම් මනාකොට අසා බොහෝ වාරයෙහි අධ්‍යයන කිරීමයි.

මෙසේ යථාරබ්ධප්‍රකරණයාගේ ශ්‍රවණානෘශංස දර්‍ශනයෙන් ශ්‍රොතෘජනයහට ඔහුගේ තදාරම්භකරණයෙහි මහොත්සාහ උපදවා දූන් අවිඥාතසංඥය හට ව්‍යවහාරසිඩිය නොවන හෙයින් සංඥ විධාන ආදියෙහි වක්තව්‍යනුයි හේ දක්වනු පිණිස, "තස්මාදෙ

---

* ගුරුං යී සමහර

තාව–පෙ–සඤ්ඤාවිධානමාරභීයතෙ" යි සංඥාවතාරය කොට සාමාන්‍ය විශෙෂසංඥාවන් අතුරෙහි විශෙෂසංඥාව සාමාන්‍යසංඥාවෙහි ඇතුළත්නුයි සාමාන්‍යසංඥාවම ආදිකොට දක්වනුවෝ "අක්ඛරාපාදයො එකචත්තාලීසං" යන සූත්‍රයන් කීහු

"තත්‍ථ සඤ්ඤාවිධානමාරභීයතෙ" යනු සම්බන්‍ධයි; තත්‍ථ, ඒ පද රූපසිද්ධි නම් ප්‍රකරණයෙහි; ආදෞ, ආදියෙහි (සංහිතාප්‍රදෙශයෙහි); තාව, පළමු කොට; සද්දලක්ඛණෙ, ("සරා සරෙ ලොපං" 1. 2. 1. යනාදි) කාත්‍යායන සූත්‍රයෙහි; වොහාරවිඤ්ඤාපනත්‍ථං, ස්වර ව්‍යඤ්ජන ඝොෂාදි අක්ෂරව්‍යවහාරය හඟවන පිණිස; සඤ්ඤාවිධානං, සංඥාවිධාන තෙම; ආරභීයතෙ, පටන්ගන්නා ලැබේ.

ලක්ඛීයතෙ 'නෙනාති ලක්ඛණං, සද්දානං ලක්ඛණං සද්දලක්ඛණං, තස්මිං. සඤ්ඤා විධීයතෙ එත්‍ථ එතෙනාති සඤ්ඤාවිධානං.

"අක්ඛරාපාදයො එකචත්තාලීසං" 1. 1. 2. යන මේ අක්ෂර සංඥාවිධානසූත්‍රයි. එහි අක්ඛරා, යනු සංඥානිර්දේශය, ආදයො, යනු සංඥීනිර්දේශය, එකචත්තාලීසං, යනු එයට විශෙෂණයි.

සූත්‍රවර්ණනා කරන්නන් විසින් වනාහි

"සම්බන්‍ධො ච පදඤ්චෙව පදත්‍ථො පදවිග්ගහො
චොදනා පරිහාරොති ඡබ්බිධා සුත්තවණ්ණනා".

යන න්‍යාය හෙයින් සූත්‍රයෙහි පූර්වාපරපදයන්ගේ එකවාක්‍යතායෙන් යෙදීමෙන් සම්බන්‍ධ කියයුතුය; සූත්‍රයෙහි පදච්ඡේද කිරීමෙන් පද කිය යුතුය; සූත්‍රයෙහි අර්ථ දක්වීමෙන් පදාර්ථ කියයුතුය; සූත්‍රයෙහි විද්‍යමාන සමාසාදිපදයන්ගේ සමාසාදිවිග්‍රහ වාක්‍ය දක්වීමෙන් පදවිග්‍රහ කියයුතුය, සූත්‍රයෙහි පදයන්ගේ ප්‍රයොජනාදි පෘච්ඡාවශයෙන් චොදනා කටයුතුය, සූත්‍රයෙහි පදයන්ගේ සාර්ථකත්වනිදර්ශනවශයෙන් පරිහාර කියයුතුය. එහි, අක්ඛරා, අපි, ආදයො, එකචත්තාලීසං, යන මෙයින් සූත්‍රයෙහි විද්‍යමාන පද දැක්වූහ; තෙ ච බො–පෙ–සරලවසහළ අංඉති අක්ඛරා යන මෙයින් සූත්‍රසම්බන්‍ධ ද සූත්‍රාර්ථ ද දැක්වූහ; නක්ඛරන්තීති අක්ඛරා, අ ආදි යෙසං තෙ ආදයො, * එකෙනාධිකා චත්තාලීසං එකචත්තාලීසං, යන මෙයින් පදවිග්‍රහ දැක්වූහ; "අකාරාදීනමනුක්කමො– පෙ – වුත්තො තෙසමනුක්කමොති" යනුද "එතෙන ගණනපරිච්ඡෙදෙන–පෙ–අපෙක්ඛාකරණත්‍ථං" යනු අආදයොයි අකාරයාම ආදි කොට දක්වූයේ කුමක් පිණිසද යනාදීන් වර්ණනයන්ගේ පෙඟුවා

* "අආදයො" යි සමහර.

පර්‍යවිශෙෂයද එකචත්වාරිංශත්ග්‍රහණයද කුමක් පිණිසද යනාදීන් වචනයන්ගේ ප්‍රයොජන විශෙෂයද නිසා ප්‍රවෘත්ත වූ අනුයොගය සිත්හිතබා එයට පරිහාරමුඛයෙන් කී බැවින් ඒ වචන සමුදය යෙන් චොද්‍යපරිහාර දක්වූවා නම් වෙති දතයුතු.

තෙ ච ඛො, ඒ (ආදිවාක්‍යයෙහි කියනලද අක්‍ෂරයෝද; ජිනවචනානුරූපා, බුද්ධවචනයට අනුරූප වූ; අකාරාදයො, අකාරයා මර්‍යාද කොට ඇති; නිග්ගහීතන්තා, නිග්ගහීතයා අවසාන කොට ඇති; එකචත්තාලීසමත්තා, එක්සාළිසක් සඞ්ඛ්‍යාව පමණ කොට ඇති; වණ්ණා, වර්ණයෝ; පච්චෙකං, වෙන වෙනම; අක්ඛරා නාම හොන්ති, අක්‍ෂරයෝ නම් වෙත්;

ජිනස්ස වචනං ජිනවචනං,ජිනවචනස්ස අනුරූපා-අනුච්ඡවිකා ජිනවචනානුරූපා,නිග්ගහීතං අන්තං-පරියොසානං එතෙසන්ති නිග්ගහීතන්තා, එකචත්තාලීසමත්තං පමාණං එතෙසන්ති එකචත්තාලීසමත්තා;මෙහි මාත්‍රශබ්ද සමවධානයෙන් එකචත්වාරිංශත් ශබ්දය සඞ්ඛ්‍යානයෙහිවැටෙයි දතයුතු. මාත්‍රශබ්දයෙන්ද බුද්ධවචනොපකාර වර්ණයෝ එක්සාළිසින් අනූනයහ අනධිකයහයි දක්වත්. එකාමෙ කමපීති පච්චෙකං, ඛරණං ඛරො,නත්ථි එතෙසං ඛරො විනාසොති අක්ඛරා; මෙයින් අකාරාදි නාමප්‍රඥප්ති දර්‍ශිතයි,හේ පරමාර්‍ථයෙන් අනිෂ්පන්න හෙයින්'සංස්කාරවිකාරලක්‍ෂණ නිර්‍වාණප්‍රඥප්ති'සඞ්ඛ්‍යාත වූ පඤ්චවිධ ඥෙය පථයෙහි පවත්නීද විනාශයක් නැත්තීමැයි.'ආ සො' 2.1.9. යනාදියෙහි මෙන් එකාක්‍ෂරවශයෙන් සංඥා නොකොට 'අක්ඛරා'යි ගුරුසංඥා කරණයද අන්වර්‍ථසංඥාවශයෙන් අකාරාදි නාම ප්‍රඥප්තියගේ ඛරණස්වභාවයෙක් නැති බවම දක්වන පිණිසයයි දත යුතු. නොහොත්, න ඛරා න ඵඩාති අක්ඛරා-අතිසූක්‍ෂ්මගම්භීරාර්‍ථ සංකටයෙහි විපරිවෘත්තමාන වූවාහු කර්‍කශත්වයට නොගොස් අති මෘදුව අර්‍ථවශයෙන් නැමෙන බැවින් අක්‍ෂර නම් වෙති යු තැනි. “පච්චෙකං අක්ඛරා නාම හොන්ති”යනාදි මෙයින් වනාහි“සභ සසියො ඉමා ගාථා” යනාදියෙහි මෙන් මෙහි අවයවයා කෙරෙහි වාක්‍යපරිසමාප්තියමය, “ගඞ්ගකුලස්ස සතං දණ්ඩා” යනාදියෙහි මෙන් සමුදායයා කෙරෙහි වාක්‍යපරිසමාප්තිය නොවෙයි දක්වූහ; එයිනුදු අක්‍ෂරසංඥාව අකාරාදීන්ට වෙන වෙන වත් මුත් වර්ණ සමුදායට, නොවෙයි,ඉදින් වර්ණසමුදායට වේ නම්,අ එව අකාරො, ප එව පකාරො, යනාදීන් වෙන වෙන අක්‍ෂරවාචීශබ්දයන් කෙරෙන් කාරප්‍රත්‍යයාගේ විධාන පිණිස ‘අක්ඛරෙහි කාරං” 4. 4. 15. යන සූත්‍රය ආචාර්‍යයන් විසින් නොකිය යුතුයයි කීවා නම් වෙත්.

දුන් සාමාන්‍යයෙන් කියන ලද්දවුන්ගේ ස්වරූප නිර්දේශය පිණිස "තං යථා" යි පුච්ඡා කළෝ, අදෘෂ්ටද්‍යොතන පුච්ඡාය දෘෂ්ටසංසන්දන පුච්ඡාය විමතිච්ඡේදන පුච්ඡාය අනුමති පුච්ඡාය කථේතුකාම්‍යතා පුච්ඡායයි පඤ්චවිධ වේ, එහි ස්වභාවයෙන් අඥාතාර්ථයාගේ ඥාණය පිණිස ප්‍රශ්නකිරීම අදෘෂ්ටද්‍යොතන පුච්ඡාය, ස්වභාවයෙන් ඥාතාර්ථයාගේ අන්‍යපණ්ඩිතජනයා හා සංසන්දනය පිණිස ප්‍රශ්න කිරීම දෘෂ්ටසංසන්දන පුච්ඡාය, ස්වභාවයෙන් සංශය ප්‍රාප්තයා විසින් සංශය විච්ඡේදය පිණිස ප්‍රශ්න කිරීම විමතිච්ඡේදනපුච්ඡාය, අනුන්ගේ අනුමති වේදනය පිණිස ප්‍රශ්න කිරීම අනුමති පුච්ඡාය, යම් කවර අර්ථයක් කියනු කැමතිව ප්‍රශ්න කිරීම කථේතුකම්‍යතා පුච්ඡායි.

මෙම කීහ

තත්‍ථ, කතමා අදිඨජොතනා පුච්ඡා? පකතියා ලක්ඛණං අඤ්ඤාතං හොති අදිඨං අතුලිතං අතීරිතං අවිභූතං අවිභාවිතං තස්ස ඤාණාය දස්සනාය තුලනාය තීරණාය විභූතතාය විභාවනත්ථාය පඤ්හං පුච්ඡති අයං අදිඨජොතනා පුච්ඡා, කතමා දිඨසංසන්දනා පුච්ඡා? පකතියා ලක්ඛණං ඤාතං හොති දිඨං තුලිතං තීරිතං විභූතං විභාවිතං සො අඤ්ඤෙහි පණ්ඩිතෙහි සද්ධිං සංසන්දනත්ථාය පඤ්හං පුච්ඡති අයං දිඨසංසන්දනා පුච්ඡා, කතමා විමතිච්ඡෙදනා පුච්ඡා? පකතියා සංසයපක්ඛන්තො හොති විමතිපක්ඛන්තො ද්වෙළ්හකජාතො එවන්නු ඛො නනු ඛො කිංනු ඛො කථංනු ඛොති සො විමතිච්ඡෙදනත්ථාය පඤ්හං පුච්ඡති අයං විමතිච්ඡෙදනා පුච්ඡා, කතමා අනුමතිපුච්ඡා? භගවා හි භික්ඛූනං අනුමතියා පඤ්හං පුච්ඡති තං කිං මඤ්ඤථ භික්ඛවෙ රූපං නිච්චං වා අනිච්චං වාති, අනිච්චං භන්තෙ, යම්පනානිච්චං දුක්ඛං වා තං සුඛං වාති, දුක්ඛං භන්තෙ, යම්පනානිච්චං දුක්ඛං විපරිණාමධම්මං කල්ලංනනු තං සමනුපස්සිතුං එතං මම එසො'හමස්මි එසො මෙ අත්තාති, නො හෙතං භන්තෙති, අයං අනුමතිපුච්ඡා, කතමා කථෙතුකම්‍යතා පුච්ඡා? භගවා භික්ඛූනං කථෙතුකම්‍යතාය පඤ්හං පුච්ඡති, චත්තාරොමෙ භික්ඛවෙ සතිපට්ඨානා කතමෙ චත්තාරො?ති අයං කථෙතු කම්‍යතා පුච්ඡා" යි.

ඒ පඤ්චවිධ පුච්ඡාවන් අතුරෙහි මෝ තොමෝ ආචාර්‍ය්‍යයන්ගේ කථේතුකම්‍යතා පුච්ඡාය යි දතයුතු. තං යථා, ඔහු කවුරුද? අආ–පෙ–යරලවසහළඅං ඉති, අ ආ–පෙ–යරලවසහළඅං යී, මෙසේ අනන්තරෝක්ත ක්‍රමයෙන් දක්වන ලද වර්ණයෝ එක්සාළිස; අක්ඛරා, (මෙහි) අක්‍ෂරයෝ නම්හු–මේ "ඉති" ශබ්ද වනාහි හෙත්වාදිපදාර්ථපර්‍ය්‍යායප්‍රකාරාවධාරණපරිසමාප්තිනිදර්ශනාදි අනේකාර්ථ ප්‍රභේද ඇත්තේයි, එසේම, "රූපතීති ඛො භික්ඛ

**නක්ඛරන්තීති අක්ඛරා:– අ ආදි යෙසං තෙ ආදයො.* අකාරාදීනමනුක්කමො පනෙස ඨානාදික්කමසන්නිස්සිතො. තථා හි ඨානකරණප්පයතනෙහි වණ්ණා ජායන්තෙ. තත්ථ ඡ ඨානානි කණ්ඨතාලුමුද්ධදන්තොට්ඨනාසිකාවසෙන.**

**තත්ථ අවණ්ණකවග්ගහකාරා කණ්ඨජා.**
**ඉවණ්ණචවග්ගයකාරා තාලුජා.**
**ටවග්ගරකාරළකාරා මුද්ධජා.**
**තවග්ගලකාරසකාරා දන්තජා.**
**උවණ්ණපවග්ගා ඔට්ඨජා.**
**එකාරො කණ්ඨතාලුජො.**
**ඔකාරො කණ්ඨොට්ඨජො.**
**වකාරො දන්තොට්ඨජො.**
**නිග්ගහීතං නාසිකට්ඨානජං.**
**ඞඤණනමා සකට්ඨානනාසිකට්ඨානජාති.**

---

වෙ තස්මා රූපන්ති වුච්චති” යනාදියෙහි හෙතුයෙහි ආය, “ඉති වා ඉති එවරූපා නච්චගීතවාදිත විසූකදස්සනා පටිවිරතො” යනාදියෙහි ආද්‍යර්ථයෙහි ආය, “මාගන්දියොති තස්ස බ්‍රාහ්මණස්ස සඞ්ඛ්‍යා සමඤ්ඤා පඤ්ඤත්ති වොහාරො නාමකම්මං නිරුත්තිව්‍යඤ්ජනමභිලාපො” යනාදියෙහි පදාර්ථවිපර්‍ය්‍යයෙහි ආය, “ඉති ඛො භික්ඛවෙ සප්පටිභයො බාලො අප්පටිභයො පණ්ඩිතො සඋපද්දවො බාලො අනුපද්දවො පණ්ඩිතො සඋපස්සග්ගො බාලො අනුපස්සග්ගො පණ්ඩිතො” යනාදියෙහි ප්‍රකාරයෙහි ආය. “අත්ථි ඉදප්පච්චයා ජරාමරණන්ති ඉති පුට්ඨෙන සතා ආනන්ද අත්ථීතිස්ස වචනීයං කිං පච්චයා ජරාමරණං ඉති චෙ වදෙය්‍ය ජාතිපච්චයා ජරාමරණන්ති ඉච්චස්ස වචනීයං” යනාදියෙහි අවධාරණයෙහි ආය, අවධාරණ නම් සන්නිෂ්ඨානයයි. “තස්මා තිහ භික්ඛවෙ ධම්මදායාදා භවථ මා ආමිසදායාදා අත්ථි තුම්හෙසු අනුකම්පා කින්ති මෙ සාවකා ධම්මදායාදා භවෙය්‍යුං නො ආමිසදායාදා” යනාදියෙහි පරිසමාප්තියෙහි ආය. “අත්ථීති ඛො කච්චායන අයමෙකො අන්තො නත්ථීති ඛො කච්චායන අයං දුතියො අන්තො” † යනාදියෙහි නිදර්ශනයෙහි ආයි, මෙහි ද නිදර්ශනයෙහි දතයුතු.

නක්ඛරන්තීති, (අනිෂ්පන්න හෙයින්) ක්ෂය නො වෙත්නුයි; අක්ඛරා, අක්ෂරයෝ නම් වෙත්; “ඛර සෙචනෙ” යන ධාතුහු කෙරෙන් කර්තෘයෙහි අ ප්‍රත්‍යය වේ; මෙහි අකාර–

---

* “අ ආදයො” ඉති කත්ථචි

† අත්ථීති ඛො කච්චායන අයමෙකො අන්තො නත්ථී ඛො කච්චායන අයමෙකො අන්තො නත්ථි, ඛො කච්චායන අයං දුතියො අන්තො යි සියලු

"පටිසෙධවුඩ්ඪිතබ්භාවෙ අඤ්ඤත්‍ථෙ සදිසෙ'පි ච
විරුද්ධෙ ගරහෙ සුඤ්ඤෙ අකාරො විරහප්පකෙ" යි.

මෙසේ දක්වන ලද ප්‍රතිෂෙධාදි අර්‍ථයන් අතුරෙහි අත්‍යර්‍ථ යෙහි වැටෙයි දතයුතු; අ, අකාර තෙම; ආදි, ආදි වූයේ; යෙසං, යම් අක්‍ෂරකෙනකුන්ට ඇද්ද; තෙ, ඔහු; ආදයො, ආදීහු නම් වෙත්; තත්ගුණසංවිඥානබහුව්‍රීහිසමාසය යි–මෙහි ආදිශබ්ද–

"මරියාදායං පකාරෙ ච සමීපෙ'වයවෙ'පි ච
ආදිසද්දො'යමෙතෙසු චතුස්වත්‍ථෙසු දිස්සති" යි.

මෙසේ දක්වන ලද මර්‍යාදාදි අර්‍ථයන් අතුරෙහි මර්‍යාදාර්‍ථ යෙහි වැටේ; දූන් අකාරාදීන්ගේ යථොක්තක්‍රමය වනාහි උත්පත්ති ක්‍රමහෙයින් නොද සිඩය, අකාරයාගේ ප්‍රධානත්වය හෙයින් නොද සිඩය, කරණාදිස්ථානපටිපාටිය හා තිශ්‍රයාදි ක්‍රමයන්ගේ සංසිඩිය දක්වනුවෝ, "අකාරාදීනමනුක්කමො" යනාදි කීහු; අකාරාදීනං, අකාරාදීන්ගේ; එසඅනුක්කමො පන, මේ යථොක්ත පිළිවෙල වනාහි; ඨානාදික්කම සන්නිස්සිතො, ස්ථාන කරණ ප්‍රයත්නාදීන්ගේ පිළිවෙල ඇසුරු කොට පැවැත්තේයි; තථාහි, එසේමනුයි; ඨාන කරණපයතනෙහි, ස්ථාන කරණ ප්‍රයත්නය යන මෙයින්; වණ්ණා, අක්‍ෂරයෝ; ජායනෙත, උපදිත්; තිඨන්ති එත්‍ථ තදායත්තවුත්තිකා යාති ඨානං; කණ්ඨාදි යි; කරීයනෙත උච්චාරීයනෙත'නෙනාති කරණං, ජිව්හාමජ්ඣාදියි; පකාරෙන යතනං පයතනං; සුදුසු සුදුසු පරිද්දෙන් ස්ථානකරණයන්ගේ සංවෘතත්ව විවෘතත්වාදි ගුණ යි; ඨානච කරණච පයතනච ඨානකරණපපයතනානි, තෙහි–කිසි සේත් වාගෙඝාෂය චිත්තජය එතකුදු වත් ස්ථානාදියෙහිම ඔහුගේ අභිව්‍යක්තිය වන හෙයින් "ඨානකරණපපයතනෙහි වණ්ණා ජය නෙත" යනු කීහයි දතයුතු, එයින් කීහ සඬිසොධන කාරයෝ.

"ආකාසවායුප්පභවො චිත්තජො දෙහනිස්සිතො
සද්දො උරසි කණ්ඨෙ ච සිරස්මිං තීසු ජායති.

සො පත්‍වා පචඨානානි වණ්ණත්තමුපගච්ඡති
කණ්ඨතාලොෂ්ඨදනතා ච * මුඩ්ඨානං පවුච්චති".

---

* මුඩ්ඛ ඨානපචමා–අනික් සත්තය,

තත්‍ථ, ඒ ස්ථානය කරණය ප්‍රයත්නය යන මොවුන් අතුරෙහි; කණ්ඨ, කණ්ඨස්ථානය; තාලු, තාලුකස්ථානය; මුඩ, සිරස්ථානය; දන්ත, දන්තස්ථානය; ඔට්ඨ, ඔෂ්ඨස්ථානය; නාසිකා, නාසිකාස්ථානය යන මොවුන්ගේ වශයෙන්; ඡට්ඨානානි, ස්ථානයෝ සදෙනෙකි.

තත්‍ථ, ඒ ෂට්විධ වූ ස්ථානයන් අතුරෙහි; අවණ්ණ, අකාරය ආකාරය; කවග්ගහකාරා, කඛගඝඞ ය හකාර ය යන මොහු; කණ්ඨජා, කණ්ඨස්ථානයෙහි උපදිති; ඉවණ්ණ, ඉකාරය ඊකාරය; චවග්ග යකාරා, චඡජඣඤ ය යකාරය යන මොහු; තාලුජා, තාලුස්ථානයෙහි උපදිත්; ටවග්ග, ටඨඩඪණ ය; රකාරළකාරා, රකාර ය ළකාර ය යන මොහු; මුඩජා, සිරස්ථානයෙහි උපදිති; තවග්ග, තථදධන ය; ලකාරසකාරා, ලකාර ය සකාර ය යන මොහු; දන්තජා, දන්තස්ථානයෙහි උපදිති; උවණ්ණ, උකාරය ඌකාරය; පවග්ගා, පඵබභම ය යන මොහු; ඔට්ඨජා, ඔෂ්ඨස්ථානයෙහි උපදිති; එකාරෝ, එකාර තෙම; කණ්ඨතාලුජෝ, කණ්ඨස්ථානයෙහි හා තාලුකස්ථානයෙහි උපද්දි; ඔකාරෝ, ඔකාර තෙම; කණ්ඨොට්ඨජෝ, කණ්ඨෞෂ්ඨස්ථානයෙහි උපද්දි; වකාරෝ, වකාර තෙම; දන්තොට්ඨජෝ, දන්තස්ථානයෙහි හා ඔෂ්ඨස්ථානයෙහි උපද්දි; නිග්ගහීතං, නිග්ගහීත තෙම; නාසිකට්ඨානජං, නාසිකාස්ථානයෙහි උපද්දි; ඞඤණනමා, ඞකාර ඤකාර ණකාර නකාර මකාර යන මොහු; සකට්ඨාන, තමතමන්ගේ ස්ථාන හා; නාසිකට්ඨානජාති, නාසිකාස්ථානයෙහි උපදිත්–මේ “ඉති” ශබ්ද පරිසමාප්තියෙහි වැටේ.

කණ්ඨෙ ජායන්තීති කණ්ඨජා; තාලුම්හි ජායන්තීති තාලුජා– තාලුනම් ජිහ්වාමධ්‍යයෙන් යම්ස්ථානයක් සටන කල්හි ඉවණ්ණා දීහු උපදිත්ද ඒ ස්ථානය යි.

මුඩනි ජායන්තීති මුඩජා–දිව අග වෙතින් යම් ස්ථානයක් සටන කල්හි ටවග්ගාදීහු උපදිත්ද ඒ ස්ථානය මුඩ නම්.

දන්තෙසු ජායන්තීති දන්තජා; ඔට්ඨෙසු ජායන්තීති ඔට්ඨජා; නාසිකා ච තං ඨානඤ්චාති නාසිකට්ඨානං; තස්මිං ජායන්තීති නාසිකට්ඨානජා; සකං සකං ඨානං සකට්ඨානං; සකට්ඨානඤ්ච නාසිකට්ඨානඤ්ච සකට්ඨානනාසිකට්ඨානානි; තෙසු ජායන්තීති සකට්ඨානනාසිකට්ඨානජා.

**4. හකාරං පඤ්චමෙහෙව අන්තට්ඨෙහි ච සංයුතං
ඔරසන්ති වදන්තෙත්ථ කණ්ඨජං තදසංයුතං.**

**කරණං-**

**ජිව්හාමජ්ඣං තාලුජානං-ජිව්හොපග්ගං මුද්ධජානං-ජිව්හග්ගං දන්තජානං-සෙසා සකට්ඨාන කරණා.**

**පයතනං-සංවුතාදිකරණවිසෙසො-සංවුතමකාරස්ස-විවටං සරානං සකාරහකාරානඤ්ච-ඵුට්ඨං වග්ගානං-ඊසම්ඵුට්ඨං යරලවානන්ති.**

---

එත්ථ, මේ ස්ථාන්‍යක්ෂරයන් කියන ප්‍රස්තාවයෙහි ලා තොහොත් කණ්ඨස්ථානජාක්ෂරයන් අතුරෙහි; පඤ්චමෙහෙව, වර්‍ගපඤ්චමයහයි කියන ලද ඞඤණනම යන මොවුන් හා; අන්තට්ඨෙහි ච, අන්තස්ථයහයි කියන ලද ය ර ල ව යන මොවුන් හා ද; සංයුතං, යුක්ත වූ; හකාරං, හකාරයා; ඔරසන්ති, "බ්‍රහ්මචරියං ජිව්හාකාරො" යනාදියෙහි මෙන් උරස්ථානයෙහි උපදිනේ යයි; වදන්ති, කියති; තදසංයුතං, ඒ වර්‍ගපඤ්චමාන්තස්ථයන් හා යුක්ත නො වූ හකාරයා; කණ්ඨජන්ති වදන්ති, කණ්ඨස්ථානයෙහි උපදීයයි කියත්.

කරණං, කරණ තෙම; (උච්චතෙ, කියනු ලැබේ)-"අනුක්තස්‍යාවයවස්‍ය වක්තව්‍යස්‍යාහරණමධ්‍යාහාරඃ" යි බැවින් මෙහි "වුච්චතෙ" යනු අධ්‍යාහාර කරන කල වෙයි දතයුතු.

තාලුජානං, තාලුජාක්ෂරයන්ට; ජිව්හාමජ්ඣං, දිවමැද; (කරණං භවති, කරණ වේ) භවති යනුද එසේමැයි. මුද්ධජානං, සිරස්‍යාක්ෂරයන්ට; ජිව්හොපග්ගං, දිව්අග වෙත; (කරණම්භවති, කරණ වේ); දන්තජානං, දන්ත්‍යාක්ෂරයන්ට; ජිව්හග්ගං, දිවඅග; (කරණං භවති, කරණ වේ); සෙසා, සෙසු කවර්‍ග පවර්‍ගාදීහු; සකට්ඨාන, තම තමන්ගේ ස්ථානම; කරණා, කරණකොට ඇත්තාහුයි. අග්ගස්ස සමීපං උපග්ගං, ජිව්හාය උපග්ගං ජිව්හොපග්ගං, දිව් අග සමීපයයි; සකට්ඨානං කරණමෙතෙසන්ති සකට්ඨානකරණා; කවර්‍ග පවර්‍ග එකාර ඔකාර වකාරාදීහු යි; ජිහ්වාඝර්ෂණයක් නැතිව ස්වකීය ස්ථානය ස්පර්‍ශකිරීමෙන් ක ය ප ය යනාදීන් කියනු ලබන හෙයින් මොවුන්ට ස්වකීය ස්ථානම කරණ වෙයි දතයුතු.

පයතනං, ප්‍රයත්න නම්; සංවුතාදිකරණවිසෙසො, සංවෘතත්වාදි ක්‍රියා විශෙෂයෙක; සංවුතං, කරණයාගේ අවිවෘත බව; අකාරස්ස, අකාරය හටය; විවටං, විවෘත බව; සරානං, ස්වරයන්ටද ඇත; සකාරහකාරානඤ්ච; සකාරහකාරදෙදෙනා

**එවං ඨානකරණප්පයත්නසුතිකාලභෙදභින්නෙසු අක්ඛරෙසු සරා නිස්සයා, ඉතරෙ නිස්සිතා-තත්ථ-**

**5. නිස්සයාදො සරා වුත්තා බ්‍යඤ්ජනා නිස්සිතා තතො**
**වග්ගෙකජා බහුත්තාදො තතො ඨානලහුක්කමා.**

**වුත්තඤ්ච.**

**6. “පඤ්චන්නං පන ඨානානං පටිපාටිවසාපි ච**
**නිස්සයාදිප්පභෙදෙහි වුත්තො තෙසමනුක්කමො”ති.**

**එකෙනාධිකා චත්තාලීසං එකචත්තාලීසං**

---

හටද ඇති—“විවටං සරානං” කියා සාමාන්‍යයෙන් කීවද “බ්‍රාහ්මණෝ’ස්‍ය දධි දීයතාම් තක්‍රං කෞණ්ඩින්‍යාය” යනු මෙන් අකාරයා සංවෘතත්වයෙන් විශිෂ්ට හෙයින් විවෘතත්වය අවිශිෂ්ට ස්වරයන්ට ම ලැබේ-ස්වරයන්ට වඩා අතිශයින් විවෘතත්වගුණය එකාර ඔකාර දෙදෙනාටය ඔවුන් දෙදෙනාටද වඩා අතිශයින් විවෘතත්ව ගුණය ආකාරයා හටය.

ඵුට්ඨං, ස්ථානකරණප්‍රයත්නයන්ගේ ස්පර්ශකිරීමය යන ස්පෘෂ්ට බව; වග්ගානං, වර්ගාක්ෂරයන්ටය; ඊසම්ඵුට්ඨං, මඳක් පැහැර කීම; යරලවානං, යරලව යන මොවුන්ටයි-මෙහි “සංවුතං විවටං ඵුට්ඨං ඊසංඵුට්ඨං” යනු භාවප්‍රධාන නිර්දේශය යි. යම්සේ “චක්ඛුසුඤ්ඤං අත්තෙන වා අත්තනියෙන වා” යන තන්හි භාවප්‍රධාන නිර්දේශය සේම මෙහිදු භාවප්‍රධාන නිර්දේශ හෙයින් “සංවුතත්තං විවටත්තං ඵුට්ඨත්තං ඊසංඵුට්ඨත්තං” යන අර්ථ ලැබෙයි දතයුතු.

එවං, මෙසේ පරිද්දෙන්; ඨාන, කණ්ඨාදිස්ථානභෙදයෙන්ද; කරණ, ජිහ්වාමධ්‍යාදි කරණභෙදයෙන්ද; පයත්න, සංවෘතත්වාදි ප්‍රයත්න භෙදයෙන්ද; සුති, ඝොෂාදි ශ්‍රැතිභෙදයෙන්ද; කාලභෙද, ඒකමාත්‍රාදිකාලභෙදයෙන්ද; භින්නෙසු, වෙන් වෙන් වූ; අක්ඛරෙසු, අක්ෂරයන් අතුරෙහි; සරා, ස්වරයෝ; නිස්සයා, ව්‍යඤ්ජන විසින් නිසන ලබන හෙයින් නිශ්‍රයහ; ඉතරෙ, සෙසු කකාරාදීහු; නිස්සිතා, ස්වරයන් නිසා පවත්නා හෙයින් නිශ්‍රිතයෝ යි. ඨානඤ්ච කරණඤ්ච පයත්නඤ්ච සුති ච කාලො ච ඨානකරණප්පයත්නසුතිකාලා, තෙසං භෙදො, ඨානකරණප්පයත්නසුතිකාලභෙදො-භෙදශබ්ද “ද්වන්ද්වාත් පරං ශ්‍රූයමානං ප්‍රත්‍යෙකමභිසම්බධ්‍යතෙ” යන න්‍යාය හෙයින් “ඨානභෙදො කරණභෙදො පයත්නභෙදො සුතිභෙදො කාලභෙදො” යි මෙසේ වෙන වෙන සම්බන්ධ කටයුතුයි; භෙද යීද නානාත්වයයි; ඨානකරණප්පයත්නසුතිකාලභෙදෙහි භින්නා ඨානකරණප්පයත්නසුතිකාලභෙදභින්නා, තෙසු.

බ්‍යඤ්ජනෙ නිස්සීයන්තීති නිස්සයා; සරෙ නිස්සයන්තීති නිස්සිතා; තත්, "එවං" යනාදි වාක්‍යයෙහි

සරා, ස්වරයෝ; නිස්සයා, නිශ්‍රය බව හෙතුකොට ගෙන; ආදෞ වුත්තා, (ව්‍යඤ්ජනයන්ට) ආදියෙහි කියන ලදහ; බ්‍යඤ්ජනා, බ්‍යඤ්ජනයෝ; නිස්සිතා, නිශ්‍රිතබව හෙතුකොට ගෙන; තතො (වුත්තා), (ඒ ස්වරයන්ට) ඉක්බිත්තෙහි (කියන ලදහ); වග්ගෙකජා, වර්ගාක්ෂරයෝද එකෙකස්ථානයෙහි උපදනා අක්ෂරයෝද; බහුත්තා, බොහෝ බව හෙතුකොට ගෙන; ආදෙ (වුත්තා), (අවර්ගයන්ටද විජයන්ටද) ආදියෙහි (කියන ලදහ); ඨානලහුකක්කමං, නැවත ස්ථානක්‍රම ලඝුක්‍රම හෙතු කොට ගෙන; තතො (වුත්තා), (ස්වරයෝද ව්‍යඤ්ජනයොද) ඔවුනොවුන්ට ඉක්බිත්තෙහි (කියන ලදහුයි) "නිස්සයනිස්සිතෙසු නිස්සයාව පඨමං වත්තබ්බා" යනු හෙයින් නිශ්‍රය වූ ස්වරයන්ම පළමු කොට කියා නිශ්‍රිත වූ ව්‍යඤ්ජනායෝ පසු කොට කියන ලදහ, ස්වරයන් කෙරෙහි දු "අප්පකබහුකෙසු බහුකාව පඨමං වත්තබ්බා" යනු හෙයින් බොහෝ වූ එකස්ථානජ වූ අවර්ණාදීන් ආදියෙහි කණ්ඨතාලුක ඒ ඒ ස්ථානක්‍රමයෙන් කියා අල්ප වූ විජස්ථානජ වූ එකාර ඔකාර දෙන්න අන්තයෙහි ස්ථානක්‍රමයෙන් කියන ලදහ, එකජයන් කෙරෙහිද "ගරුකලහුකෙසු ලහුකාව පඨමං වත්තබ්බා" යනු හෙයින් ලඝු වූ හ්‍රස්වයෝම පළමු කොට කියන ලදහ ව්‍යඤ්ජනයන් කෙරෙහි දු වර්ගාවර්ගයන් අතුරෙහි වර්ගයන් බොහෝව අවර්ගයන් මඳ හෙයින් බොහෝ වර්ගයන්ම පළමු කොට කණ්ඨාදිස්ථාන පරම්පරා හෙයින් කියා අල්ප වූ අවර්ගයෝ පසුකොට කියන ලදහ වර්ගයන් කෙරෙහි දු අල්ප හෙයින් විජ වූ වර්ගපඤ්චමයෝ පසුකොට කියන ලදහ ලඝුකරණ ඇති බැවින් අඝොෂයෝ පළමුකොට කියන ලදහ,ගරුකරණ ඇති හෙයින් ඝොෂයෝ පසුකොට කියන ලදහ අවර්ගයන් කෙරෙහි දු බොහෝ සෙයින් ඝොෂවූ යරලව යන මොවුන් ස්ථානානුක්‍රමයෙන් පළමු කොට කියා අල්පහෙයින් අඝොෂ වූ සකාර පසුකොට කියන ලදහ, හකාර වනාහි කණ්ඨජ හෙයින්ද ඝොෂ හෙයින්ද අවර්ගයන්ට පළමු කොට කිය යුත්තේද උත්පටිපාටි හෙයිනුදු අක්ෂරොත්පත්තිය සමහවශ දක්වන පිණිස පසුකොට කියනලද ළකාරයාද සමහර කෙනෙක් ඩකාරයාගේ ස්ථානයෙහි හඳුරති,මේ මාගධිකව්‍යාකරණයෙහි ළකාරයාගේ ස්ථානයෙහි යයි දක්වන පිණිස මූර්ධජ හෙයිනුදු ඝොෂහෙයිනුදු රකාරයාට අනතුරු කොට කියයුත්තේද පසුකොට කියන ලද අස්වර හෙයින්ද අවර්ග හෙයින්ද ඝොෂාඝොෂ විනිර්මුක්ත හෙයින්ද නිග්‍ගහ

**එතෙන ගණනපරිච්ඡෙදෙන-**

**7. අධිකක්ඛරවන්තානි එකචත්තාළීසතො * ඉතො**
**න බුද්ධවචනානීති දීපෙතාචරියාසභො.**

**අපිග්ගහණං හෙට්ඨා වුත්තානං අපෙක්ඛාකරණත්ථං.**

## 3 තත්ථොදන්තා සරා අට්ඨ-1-1-3.

**තත්ථ යෙසු අක්ඛරෙසු අකාරාදිසු ඔකාරන්තා අට්ඨ අක්ඛරා සරා නාම හොන්ති-තං යථා-**

**අ ආ ඉ ඊ උ ඌ එ ඔ ඉති සරා; ඔ අන්තො යෙසං තෙ ඔදන්තා-දකාරො සන්ධිජො-සරන්ති ගච්ඡන්තීති සරා-බ්‍යඤ්ජනෙ සාරෙන්තීතිපි සරා.**

---

නීත වනාහි හැමයාටමම පසුකොට කියන ලදැයි මෙසේ මේ ගාථායෙහි අභිප්‍රාය දත යුතු.

දැන් මේ අනුක්‍රමය න්‍යාසයෙහි කියන ලදැයි දක්වනු වෝ "වුත්තාච" යනාදි කීහු.

පඤ්චන්නං පන ඨානානං,(කණ්ඨාදි)පඤ්චස්ථානයන්ගේ වනාහි; පටිපාටිවසාපි ච, ප්‍රතිෂ්ඨිත පටිපාටිවසයෙන්ද; නිස්සයාදිප්පභෙදෙහි (පිච); නිශ්‍රයනිශ්‍රිතාදි ප්‍රභෙද හෙයින්ද; තෙසං, ඒ අකාරාදින්ගේ; අනුක්කමො, පිළිවෙළ; වුත්තො, කියන ලදැයි මෙසේ; වුත්තඤ්ච, න්‍යාසයෙහි දු කියන ලද මැයි.

එකෙන, එකෙකින්;අධිකා, අධික වූ; චත්තාළීසං, සතළිසෙක්; එකචත්තාළීසං, එක් සාළිසෙක් නම් ‌වේ-මෙහි "අධිකා" යනු ප්‍රථමා බහු වචනාන්තය; "එකචත්තාළීසං" යනු ප්‍රථමෛක වචනාන්තයි.

එතෙන ගණනපරිච්ඡෙදෙන, මේ "එකචත්තාළීසං"යන සූත්‍රානෙතාපකාර වූ අක්ෂරයන්ගේ ගණන පරිච්ඡෙද වචනය හෙතු කොට ගෙන.

ඉතො එකචතාළීසතො, මේ එක්සාළිසක් පමණ අක්ෂරයන් කෙරෙන්; අධිකක්ඛරවන්තානි, (සංස්කෘතග්‍රන්ථයෙහි සමුපලබ්භ්‍යමාන වූ ශෂාදි අධිකාක්ෂරයන් ඇත්තා වූ පදයෝ;බුද්ධවචනා

---

* එකචත්තාළීසතො යී ද පොත්හි,

නීත ඉති, බුඩවචීන නම් නොවෙති යි; ආචරියාසභො, ආචාර්‍යශ්‍රෙෂ් ඨතම තෙම;දීපෙති, ප්‍රකාශ කෙරේ-එත්ථ ච ආචරියාසභොති,ආස භො වුච්චති උත්තමො, උත්තමපරියායෙ'පි හි ආසභසද්දො, ආචරි යො ච සො ආසභො චාති ආචරියාසභො;අථ වා ගවසතජෙට්ඨකො උසභො ගවසහස්සජෙට්ඨකො වසභො වජසතජෙට්ඨකො වා උස භො වජසහස්සජෙට්ඨකො වසභො, සබ්බගවසෙට්ඨො සබ්බපරිස්සය සහො සෙතො පාසාදිකො මහාභාරවහො සොති අධිප්පෙතො, ඉදම්පි තස්ස පරියායවචනං, උසභ එව ආසභො; ආසභො විය ආසභො; යථෙව හි නිසභසඞ්ඛාතො උසභතෙලෙන සමන්නා ගතත්තා කෙනචි අකම්පියො, අයං ථෙරො'පි දසහි ඛීණාසවබලෙ හි සමන්නාගතත්තා කෙනචි පච්චත්ථිකෙන පච්චාමිත්තෙන අකම්පි යොව, ආචරියො ච සො අකම්පියට්ඨෙන ආසභො චාති ආචරියා සභො, විසෙසනස්ස පරනිපාතො දට්ඨබ්බො.

අපිග්ගහණං, අපිශබ්ද තෙම; හෙට්ඨා වුත්තානං; යථ (“අත්ථො අක්ඛරසඤ්ඤාතො” 1. 1. 1. යන මෙහි) කියන ලද්ද වූ අක්ෂර යන්ගේ; අපෙක්ඛාකරණත්ථං, අපෙක්ෂාකිරීම ම ප්‍රයොජන කොට ඇත්තේයි.

තත්ථ ය ඔදන්තා ය සරා ය අට්ඨ ය යනු පදයි.

“තත්ථොදන්තා සරා” යි මෙසේම නො කියා “අට්ඨ” යි ගණන පරිච්ඡෙදය කුමැයිද යත්? බාහ්‍යශාස්ත්‍රයෙහි අතිරෙකයෝද ඇතැයි හඟවන පිණිස යයි දතයුතු, තත්ථ, යයි සේයි; තෙසු අකා රාදිසු, ඒ අකාරයා මය්‍යාද කොට ඇති; අක්ඛරෙසු, අක්ෂරයන් කෙරෙහි; ඔකාරන්තා, ඔකාරයා කෙළවර කොට ඇති; අට්ඨඅක්ඛ රා, අක්ෂරයෝ අටදෙන; සරා නාම හොන්ති, (ස්වයං විරාජමානා දෘෂියෙන්) ස්වරයෝ නම් වෙත්-මෙහි “තත්ථ” යනු “ත්‍යාදයො විභත්තිසඤ්ඤායො” 2.5.1. යි ත්‍යාදීන්ට විභක්තිසංඥා විහිත බැවින් නිර්ධාරණයෙහි සප්තමී විහිත බව හඟවන පිණිස “තත්ථ තෙසු” යි කීහු; තං යථා, ඔහු කවරහ යත්? අආඉඊඋඌඑඔ ඉති, අආඉඊ උඌඑඔ යන මොහුයි-මෙසේ අනන්තරොක්ත ක්‍රමයෙන් නිර්දිෂ්ට වූ වර්‍ණයෝ අටදෙන; සරා, ස්වරයෝ යි; ඔ, ඔකාර තෙම; අන්තො, කෙළවර වූයේ; යෙසං, යම් අක්ෂර කෙනකුන්ටද; තෙ, ඒ අක්ෂරයෝ;ඔදන්තා, ඔදන්ත නම් වෙත්. දකාරො, දකාර තෙම;

**තත්‍රෙති වත්තතෙ.**

## 4. ලහුමත්තා තයො රස්සා-1-1-4.

**තත්‍ථ අඨසු සරෙසු ලහුමත්තා තයො සරා රස්සා නාම හොන්ති-තං යථා-**

**අ ඉ උ ඉති රස්සා-ලහුකා මත්තා පමාණං යෙසං තෙ ලහුමත්තා-මත්තාසද්දො චෙත්‍ථ අච්ඡරාසඞ්ඝාතඅක්ඛිනිමීලනසඞ්ඛාතං කාලං වදති-තාය මත්තාය එකමත්තා රස්සා-ද්විමත්තා දීඝා-අඩ්ඪමත්තා ව්‍යඤ්ජනා.**

**ලහුග්ගහණං ඡන්දසි දියඩ්ඪමත්තස්සාපි ගහණත්‍ථං-රස්සකාලයොගතො රස්සා-රස්සකාලවන්තතා වා.**

---

සඤ්ජෝ,(ශ්ලිෂ්ටනිර්දේශය පිණිස)සංහිතා හෙයින් උපනී; සරන්ති, යසි සේසි;ගච්ඡන්තීති,(සප්‍රධානව)පවතින්නුයි,ස්වරයෝ නම් වෙත්, ව්‍යඤ්ජනෙ, (කකාරාදි) ව්‍යඤ්ජනයන්; සාරෙන්තීතිපි, (සුබොධෝච්චාරණකරණ වශයෙන්) හසුරුවන්නුයී කියා; සරා; ස්වරයෝ නම් වෙත්-මෙහි ද්‍රු,සර-ගතිචින්තායං, යන ධාතුහු කෙරෙන් පරකොට අ ප්‍රත්‍යයම කටයුතු.

තත්‍රෙති වත්තතෙ, තත්‍ර යනු (මතු සූත්‍රයට) වැටේ.

ලහුමත්තා ය තයො ය රස්සා ය යනු පදයි.

තත්‍ර අඨසු සරෙසු, ඒ ස්වරයන් අටදෙනා අතුරෙහි; ලහුමත්තා, ලඝුප්‍රමාණ ඇති; තයො සරා, ස්වරයෝ තුන් දෙන; රස්සා නාම හොන්ති, හ්‍රස්වකාලයෙන් යුක්ත වර්ණයෝ නම් වෙති; තං යථා, ඒ (හ්‍රස්වකාලයෙන් යුක්ත අක්ෂරයෝ) මෙසේයි; අඉඋ ඉති රස්සා, අඉඋ යන මොහු හ්‍රස්වයෝයි.

ලහුකා,ලඝුවූ;මත්තා,ය සි සේ;පමාණං,(උන්මේෂාදි)ප්‍රමාණය, යෙසං, යම් වර්ණ කෙනකුන්ට ඇද්ද; තෙ ඔහු; ලහුමත්තා, ලඝුවූ මාත්‍රා ඇත්තා නම් වෙත්; මත්තාසද්දො ච, මාත්‍රාශබ්දද; එත්‍ථ, මේ සූත්‍රයෙහි; අච්ඡරාසඞ්ඝාත, අසුරු ගැසීම; අක්ඛිනිමීලන, (අවිකල ශරීර ඇත්තහුගේ එකවරෙක්හි) ඇසිපිය බහාලීම යි; සඞ්ඛාතං,

කියන ලද; කාලං, කාලය; වදන්ති, කියා–"මත්තාසද්දො ච" යන මෙහි ච ශබ්ද වාක්‍යොපන්‍යාසයෙහි වැටේ–වාක්‍යොපන්‍යාස නම් වාක්‍යාරම්භය, කිසිවක් කියා නැවත අනිකක් කියන්ට ආරම්භ කරනු කැමතිව ච ශබ්ද ප්‍රයොග කිරීම ග්‍රන්ථකාරයන්ගේ ස්වරූප යෙකැයි දතයුතු, අච්ඡරාය සඞ්ඝාතො ඛණ්ඩනං අච්ඡරාසඞ්ඝාතො, අක්ඛිනො නිමීලනං ලක්ඛනං අක්ඛිනිමීලනං, අච්ඡරාසඞ්ඝාතො ච අක්ඛිනිමීලනඤ්ච අච්ඡරාසඞ්ඝාතඅක්ඛිනිමීලනං, අච්ඡරාසඞ්ඝාත අක්ඛිනිමීලනෙන සඞ්ඛාතො අච්ඡරාසඞ්ඝාතඅක්ඛිනිමීලනසඞ්ඛාතො, අක්ඛිනිමීලනසඞ්ඛාතො ච සො කාලො චාති අක්ඛිනිමීලන සඞ්ඛාතකාලො, තං, අක්ඛිනිමීලනසඞ්ඛාතකාලං.

තාය මත්තාය, ඒ (යථොක්ත) මාත්‍රයෙන්; එකමත්තා, එක් මාත්‍රාවක් ඇත්තාහු; රස්සා, හ්‍රස්වයහ; ද්විමත්තා, මාත්‍රාද්වයක් ඇත් තාහු; දීඝා, දීර්ඝයහ; අඩ්ඪමත්තා, අර්ධමාත්‍රාවක් ඇත්තාහු; ව්‍යඤ්ජනා, ව්‍යඤ්ජනයෝ යි.

ලහුග්ගහණං, (මෙහි) ලහුශබ්දයාගේ ගැන්ම; ඡන්දසි, ඡන්දස් විෂයෙහි; දියඩ්ඪමත්තස්සාපි (ව්‍යඤ්ජන සහිත බැවින්) මාත්‍රායෙලක් ඇති හ්‍රස්වවර්ණයාගේද; ගහණත්ථං, ගැන්ම ප්‍රයොජන කොට ඇත්තේ යි–ගුරුලඝු විචාරයක් ඇති කල්හි ව්‍යඤ්ජනසහිත බව හෙතුකොට ගෙන මාත්‍රායෙලක් ඇත්තාහු හ්‍රස්වයාගේය යි ගන්නා ලබන හෙයින් 'එකමත්තා"යි නො කියා "ලහුමත්තා"යි කියන ලද යනු මෙහි භාවයි. සිථිලධනිතාදි දසවිධ ව්‍යඤ්ජනයක් ඇති කල්හි සංයොගපූර්වාදි හ්‍රස්වස්වරද ගුරුකය යි කියනු ලැබෙයි, මෙහි වනාහි කාලනියමයෙන් නො කියනලදනුයි දීර්ඝකාලප්‍රති ක්ෂෙපයෙන් ලහුකාලයොග නිසා අන්වර්ථසංඥායොග වශයෙන් "ලහුමත්තා" යි කිහ යි දතයුතු.

රස්සකාලයොගතො, හ්‍රස්වකාලසඞ්ඛ්‍යාත කාලයා හා යෙදීම හෙතුකොට ගෙන; රස්සා, හ්‍රස්වයෝ නම් වෙති–නීලගුණයොග යෙන් නීල වූ වස්ත්‍රය සේ හ්‍රස්වකාලයොගයෙන් අකාරාදිත්‍රය හ්‍රස්ව නම් වෙති යි සේ යි; වා, නොහොත්; රස්සකාලවන්තො, හ්‍රස්ව කාලයද ඇත්තාහු හ්‍රස්වයෝ නම් වෙත්; රස්ස ශබ්දයා කෙරෙන් අස්ත්‍යර්ථයෙහි ණ ප්‍රත්‍යය යි.

**සර-රස්සග්ගහණානි ච වත්තන්තෙ.**

## 5. අස්සංඛ්‍යා දීඝා-1-1-5.

**තත්ථ අඪසු සරෙසු රස්සෙහි අඤ්ඤෙ ද්විමත්තා පඤ්ච සරා දීඝා නාම හොන්ති-තං යථා- ආ ඊ ඌ ඒ ඕ ඉති දීඝා.**

**අඤ්ඤග්ගහණං රස්සෙහි අවසිඪසරෙ සංගණ්හනත්ථං-දීඝ කාලයුත්තා තබ්බනෙතා වා දීඝා.**

**ක්වචි සංයොගපුබ්බා එකාරොකාරා රස්සා ඉව වුච්චන්තෙ. යථා-එත්ථ, සෙය්‍යො, ඔට්ඨො, සොත්ථි.**

**ක්වචීති කිං? මෙත්තං චිත්තං නිබ්බාණං වනෙ, පුත්තො ත්‍යාහං මහාරාජ.**

## 6. දුම්හි ගරු-4-4-13.

**විත්තං සඤ්ඤොගො දු-තස්මිං දුම්හි-සංයොගභූතෙ අක්ඛරෙ පරෙ යො පුබ්බො රස්සක්ඛරො සො ගරුසඤ්ඤො හොති.**

**යථා-දත්වා, හිත්වා, හුත්වා.**

**ගරූති වත්තතෙ.**

## 7. දීඝො ච-4-4-14.

**දීඝො ච සරො ගරුසඤ්ඤො හොති.**

**යථා-නාවා, නදී, වධූ, මෙ, තයො.**

---

සරරස්සග්ගහණානි ච, සරග්‍රහණ රස්සග්‍රහණ දෙන්නද; වත්තන්තෙ, (මත්තෙහි සූත්‍රයට) වැටෙත්-ච ශබ්ද "තත්ථ" යනු සම්පිණ්ඩනය කෙරේ.

අඤ්ඤ ය දීඝා ය යනු පද යි.

තත්ථ අඪසු සරෙසු, ඒ ස්වරයන් අටදෙනා අතුරෙහි;රස්සෙහි අඤ්ඤ, හ්‍රස්වස්වරයෙන් අවශිෂ්ට වූ; ද්විමත්තා, මාත්‍රාවයක් ඇති; පඤ්ච සරා, (දීර්ඝ) ස්වරයෝ පස් දෙන; දීඝා නාම හොන්ති, දීර්ඝකාල යෙන් යුක්ත අක්ෂරයෝ නම් වෙත්-"අඤ්ඤ"යී කී බැවින්ම"ද්විම ත්තා" යනුද "පඤ්ච" යනුද අර්ථ හෙයින් සිඬ යි.

තං යථා, හේ මෙසේ යි.

ආ ඊ ඌ ඒ ඕ ඉති දීඝා, ආ ඊ ඌ ඒ ඕ යන මොහු දීර්ඝ ස්වර යෝ නම් වෙත්.

අඤ්ඤග්ගහණං, අන්‍යග්‍රහණය තෙම; රස්සෙහි අවසිට්ඨසරෙ, හ්‍රස්වයන් කෙරෙන් අවශිෂ්ට ස්වරයන්(පස් දෙනා);සංගණ්හනත්ථං, සඞ්ග්‍රහකිරීම ප්‍රයොජනකොට ඇත්තේයි; දීඝකාලයුත්තා, දීර්ඝ සඞ්ඛ්‍යාතකාලයෙන් යුක්තයෝ හෝ; තබ්බන්තො වා, ඒ දීර්ඝකාලය ඇත්තාහු හෝ; දීඝා, දීර්ඝාක්ෂරයෝ නම් වෙත්; සංයොගපුබ්බා, සංයොගයා කෙරෙන් පූර්වභාගස්ථානයෙහිද වූ; එකාරොකාරා, එකාර ඔකාර යන මොහු දෙදෙන; ක්වචි, සමහරතැනෙක; රස්සා ඉව, හ්‍රස්වකාලයෙන් යුක්ත අක්ෂරයන් මෙන්; වුච්චන්ති, කියනු ලැබෙත්.සංයොගතො පුබ්බා සංයොගපුබ්බා ; එත්ථ සෙය්‍යො ඔට්ඨො සොත්ථි යථා,එත්ථ සෙය්‍යො ඔට්ඨො සොත්ථි යනු මෙනි.

එත්ථ, යනු කෙවල එකාරය හට උදාහරණය; සෙය්‍යො, යනු ව්‍යඤ්ජනසහිත එකාරය හට උදාහරණය; ඔට්ඨො, යනු කෙවල ඔකාරය හට උදාහරණය; සොත්ථි, යනු ව්‍යඤ්ජන සහිත ඔකාරය හට උදාහරණ යි; ක්වචීති, ක්වචි යනු; කිං, කුමටය; මමෙ ත්වං නිබණං වනෙ, පුත්තොත්‍යාහං මහාරාජ, යන තැන්හි සංයොගපූර්වවූ වද හ්‍රස්වයන් මෙන් උච්චාරණය නො කරන පිණිස යි.

දුමහි ය ගරු ය් යනු පද යි.

විත්තං, දෙදෙනකුන්ගේ; සමූහො, රැස; දු, දු නම්වේ-සමූහාර්ථයෙහි ණ ප්‍රත්‍යය කරන ලද කල්හි මෙම නිපාතනයෙන් වි ශබ්දය හට දු වේ;තස්මිං, ඒ;දුමහි යි සේයි; සංයොගභූතෙ අක්ඛරෙ පරෙ, සංයොග වූ අක්ෂරයා පරකල්හි සංයොගාක්ෂරයා කෙරෙන් පූර්ව වූ; යො රස්සක්ඛරො, යම් හ්‍රස්වාක්ෂරයෙක් ඇද්ද; සො, එතෙම; ගරුසඤ්ඤො හොති, ගුරුසංඥ ඇත්තේ වේ-ගුරුයයි ව්‍යවහාරයක් ලැබෙයි සේයි. සූත්‍රකාරයන් විසින් අන්තයෙහි කියන ලද්දා වූ ගුරු සංඥව ස්වරාධිකාර හෙයින් මෙහිම දර්ශිතයි, දත්වා හිත්වා හුත්වා යථා, දත්වා හිත්වා හුත්වා යනු මෙනි-මෙහි ත්වා කාර සංයොගයා කෙරෙන් පූර්වවූ දකාර හකාරස්ථ හ්‍රස්වස්වරයන් තුන්දෙනාට මෙයින් ගුරුසංඥ වේ.

දීඝො ය ච ය යනු පද යි

දීඝො ච සරො, දීර්ඝස්වරද; ගරුසඤ්ඤො හොති, ගුරු සංඥ ඇත්තේ වේ-මෙහි ච ශබ්ද ගුරුග්‍රහණානුකර්ෂණය පිණිසය යි දතයුතු, නාවා නදී යනාදි එයට උදාහරණ යි.මෙහි දු නකාරාදීන් හා එක්ව සිටියා වූ ආකාරාදි දීර්ඝස්වරයන්ට මෙයින් ගුරු සංඥ වේ.

**ගරුකතො අඤ්ඤො ලහුකොති වෙදිතබ්බො.**

## 8. සෙසා බ්‍යඤ්ජනා–1–1–6.

**ඨපෙත්වා අක්ඛරෙ සෙසා අඩ්ඪමත්තා අක්ඛරා කකාරාදයො නිග්ගහීතන්තා තෙත්තිංස බ්‍යජනා නාම හොන්ති.**

**වුත්තෙහි අඤ්ඤෙ සෙසා.**

**බ්‍යජීයති එතෙහි අත්ථොති බ්‍යජනා–තං යථා–ක ඛ ග ඝ ඞ–ච ඡ ජ ඣ ඤ–ට ඨ ඩ ඪ ණ–ත ථ ද ධ න–ප ඵ බ භ ම ය ර ල ව ස හ ළ අං–ඉති බ්‍යජනානි.**

**කකාරාදිස්වකාරො උච්චාරණත්ථො.**
**බ්‍යජනාති වත්තතෙ.**

## 9. වග්ගා පඤ්චපඤ්චසො මන්තා–1–1–7.

**තෙසං ඛො බ්‍යජනානං කකාරාදයො මකාරන්තා පඤ්චවීසති බ්‍යජනා පඤ්චපඤ්චවිභාගෙන වග්ගා නාම හොන්ති–තං යථා–**

**ක ඛ ග ඝ ඞ– ච ඡ ජ ඣ ඤ – ට ඨ ඩ ඪ ණ–ත ථ ද ධ න–ප ඵ බ භ ම–ඉති වග්ගා.**

---

ගරුකතො, (යථොක්ත) ගුරුසංඥා ඇති ස්වරයා කෙරෙන්; අඤ්ඤො, අන්‍ය වූ (අසංයොගපූර්ව වූ හ්‍රස්ව) ස්වර තෙම; ලහුකොති වෙදිතබ්බො, ලහුක නම් වේයි දතයුත්තේයි–හීයත්තනාදීන්ට සර්වධාතුකසංඥාවිධානයෙන් ම තදන්‍ය අද්‍යතනාදීන්ට අසර්වධාතුකසංඥාව සිද්ධවූවා සේ සංයොගපූර්වස්වරයන්ට හා දීර්ඝස්වරයන්ට ගුරුසංඥා විධානයෙන් ම තදන්‍ය වූ අසංයොග පූර්ව වූ හ්‍රස්ව ස්වරයන්ට ලඝුසංඥාව සිද්ධය යනු අභිප්‍රාය යි.

සෙසා ය බ්‍යඤ්ජනා ය යනු පද යි.

අක්ඛරෙ ඨපෙත්වා, ස්වරයන් අටදෙනා තබා; සෙසා, අවශිෂ්ට වූ; අඩ්ඪමත්තා, අර්ධමාත්‍රාවක් ඇති; කකාරාදයො, කකාරමයාදී කොට ඇති; නිග්ගහීතන්තා, නිග්ගහීතයා කෙළවරකොට ඇති; තෙත්තිංසඅක්ඛරා, අක්ෂරයෝ තෙතිස; ව්‍යඤ්ජනා නාම හොන්ති, (අර්ථව්‍යඤ්ජනාර්ථයෙන්) ව්‍යඤ්ජන නම් වෙත්; වුත්තෙහි, කියන ලද ස්වරයන් කෙරෙන්, අඤ්ඤෙ, අන්‍ය වූ කකාරාදීහු; සෙසා,

ශෙෂයෝති-"සෙසා බ්‍යඤ්ජනා" 1.1.6. යි කියන ලද බැවින් මෙහි කකාරාදීහු ව්‍යඤ්ජන නම් වෙති සෙසු තැන වනාහි ස්වරයෝද ක කාරාරාදීහුද පදයෝද ව්‍යඤ්ජන නම් වෙති දතයුතු.

මෙම කීහ.

සිථිලධනිතඤ්ච දීඝරස්සං ගරුකලහුකඤ්ච නිග්ගහීතං
සම්බන්ධංච * වවත්ථිතං විමුත්තං දසධා බ්‍යඤ්ජනබුද්ධියාපභෙදෙ.

එත්ථ පඤ්චසු වග්ගෙසු පඨමං තතියං තථා
සිථිලං නාම දුතියං චතුත්ථං ධනිතව්හයං.

ගරුකං නාම දීඝො ච රස්සො සංයොගපුබ්බකො
අසංයොගපරො රස්සො ලහුකන්ති සමීරිතො.

කරණං නිග්ගහෙත්වාන මුඛෙනාවිවටෙන ච
යං සානුනාසිකං වුත්තං නිග්ගහීතන්ති තං වදෙ.

සම්බන්ධිත්වාන යං වුත්තං සන්ධිං පරපදෙන තං
සම්බන්ධං යං පදච්ඡෙදං කත්වා වුත්තං වවත්ථිතං.

විස්සජ්ජෙත්වාන කරණං විවටෙන මුඛෙන යං
වුච්චතෙ තං විමුත්තන්ති කථයන්ති විචක්ඛණා, යි.

එතෙහි, මොවුන් කරණකොටගෙන; අත්ථො, ශබ්දාර්ථය තෙම; බ්‍යජ්ජියති, ප්‍රකාශ කරනු ලැබේනුයි නොහොත් දන්නා ලැබේ නුයි; බ්‍යඤ්ජනා, බ්‍යඤ්ජනයෝ නම් වෙත්-විපූර්ව වූ "අඤ්ජ බ්‍යත්ති ගතිසු" යන ධාතුහු කෙරෙන් කරණයෙහි යු ප්‍රත්‍යය යි.

ක ඛ ග ඝ ඞ- පෙ -අං ඉති, අං යන මොහු; බ්‍යඤ්ජනාති, බ්‍යඤ්ජනාක්ෂරයෝ වෙත්; කකාරාදිසු, කකාරාදීන් කෙරෙහි; අකාරො, අකාර තෙම; උච්චාරණත්ථො, සුඛොච්චාරණය ම ප්‍රයොජනකොට ඇත්තේය යි-ව්‍යඤ්ජන සංඥාව කකාරාදීන්ට මුත් අකාරාදීන්ට නො කිවද කකාරාදීන් කෙරෙහි අකාරයාගේ කීම ස්වරයන් විනා කකාරාදීන්ගේ උච්චාරණ සුවසේ නො කොට හැකි හෙයින් ඔවුන්ගේ සුඛොච්චාරණ පිණිසය යි සේයි.

බ්‍යඤ්ජනාති, බ්‍යඤ්ජනා යනු; වත්තන්තෙ, වැටේ.

වග්ගා ය පඤ්චපඤ්චසො ය මන්තා ය යනු පද යි.

---

* සම්බන්ධංච-යී පුස්තකාන්තරයෙහි.

**තෙ පන පඨමක්ඛරවසෙන කවග්ගචවග්ගාදිවොහාරං ගතා-වග්ගොති සමූහො-තත්‍ථ පඤ්චපඤ්චවිභාගෙනාති වා පඤ්චපඤ්ච එතෙසමත්‍ථීති වා පඤ්චපඤ්චසො-මො අන්තො යෙසං තෙ මන්තා.**

## 10. අං ඉති නිග්ගහීතං–1–1–8.

**අකාරො උච්චාරණත්‍ථො – ඉතිසද්දො අනන්තරවුත්තනිදස්සනත්‍ථො–අං ඉති යං අකාරතො පරං වුත්තං බින්දු තං නිග්ගහීතං නාම හොති.**

**රස්සසරං නිස්සාය ගය්හති, කරණං නිග්ගහෙත්‍වා ගය්හතීති වා නිග්ගහීතං.**

**6 කරණං නිග්ගහෙත්‍වාන මුඛෙනාවිවටෙන යං**
**වුච්චතෙ නිග්ගහීතන්ති වුත්තං බින්දු සරානුගං.**

---

තෙසං ඛො බ්‍යඤ්ජනානං, ඒ ව්‍යඤ්ජනයන් තෙතිස් දෙනා අතුරෙහි; කකාරාදයො, කකාර මයීාදූ කොට ඇති; මකාරන්තා, මකාරයා අන්තකොට ඇති; පඤ්චවීසති බ්‍යඤ්ජනා, ව්‍යඤ්ජනයෝ පස්විස්ස; පඤ්ච පඤ්ච විභාගෙන, පස් පස් විභාගයෙන්; වග්ගා නාම හොන්ති, වර්ගයෝ නම් වෙත්–මෙහි පඤ්ච පඤ්ච යනු ගාමො ගාමො රමණීයො යනු මෙන් වීප්සා ප්‍රයොගයයි මෙයින් පසක්පසක්ව වර්ගසංඥ ලබන්නවුන්ගේ බහුත්වය දක්වත්. "සො" යනු විභාගාර්ථයෙහි හෝ අත්‍යර්ථයෙහි හෝ ප්‍රත්‍යයෙකි. එහෙයින් කියත් "පඤ්චපඤ්ච විභාගෙනාති" යනාදි.

කඛගඝඞ–පෙ–පඵබභම ඉති, පඵබභම යන මොහු; වග්ගා, වර්ගාක්ෂර නම් වෙත්.

තෙ පන, ඒවර්ගයෝ වනාහි; පඨමක්ඛරවසෙන, කකාර චකාර ටකාර තකාර පකාර සඞ්ඛ්‍යාත වූ ස්වකීය ස්වකීය ආද්‍යක්ෂරයාගේ වශයෙන්; කවග්ගචවග්ගාදිවොහාරං, කවර්ගීය චවර්ගීය ටවර්ගීය තවර්ගීය පවර්ගීය යන ව්‍යවහාරයට; ගතා, ගියෝය; වග්ගොති, වර්ගයයි; සමූහො, සමූහය යි; තත්‍ථ, ඒ සූත්‍රයෙහි; පඤ්චපඤ්චවිභාගෙනාති වා, පස් පස් කොටස් හෙයිනැයි යන අර්ථයෙහි හෝ; පඤ්චපඤ්ච එතෙසමත්‍ථීති වා, පසෙක් පසෙක් මොවුන්ට ඇත්තුයි යන අර්ථයෙහි හෝ; පඤ්චපඤ්චසො, පඤ්චපඤ්චසො යි යනු

ළේ-මෙහි ආදි වාක්‍යය විභාගාර්ථයෙහි සො ප්‍රත්‍යය නිසා කීහ, දෙවන වාක්‍යය අසත්‍යාර්ථයෙහි සොප්‍රත්‍යය නිසා කීහ,මෙහි පස් පස් අක්‍ෂර අර්ථයෙන් ව්‍යතිරික්ත වර්ගයන් නැතද "අඪඛගිකො මගෙහා චතුරඞගිනීසෙනා" යනාදියෙහි මෙන් අවයවයා කෙරෙන් සමුදාය භින්නයා සේ ව්‍යවහාර කොට වග්ගා පඤ්චපඤ්චසො යි කීහයි දතයුත්තේයි.

අනෙනා, අනන්ත වූ; මෝ, මකාර තෙම; යෙසං, යම් වර්ණ කෙනකුන්ට ඇද්ද; තෙ, ඔහු; මනතා, මන්තයෝ නම්හු.

අං ය ඉති ය නිග්ගහීතං ය යනු පද යි.

අකාරෝ, අකාර තෙම; උච්චාරණත්ථො, නිග්ගහීතයාගේ සුව සේ උච්චාරණ කිරීම ප්‍රයොජන කොට ඇත්තේය; ඉති සද්දො, ඉති ශබ්ද තෙම; අනන්තරවුත්තස, තමහට අනතුරු කොට කියන ලද බින්දුහුගේ; නිදස්සනත්ථො, දක්වීම ප්‍රයොජන කොට ඇත් තේයි; අං ඉති, අං කියා මෙසේ; අකාරතො පරං, අකාරයා කෙරෙන් පර කොට;යං වුත්තං,යමක් කියන ලදද;තං බින්දු, ඒ බින්දුව තෙම,නිග්ගහීතං නාම හොති,නිග්ගහීත නම් වේ. රස්සසරං නිස්සාය ගය්හතීති වා, හ්‍රස්වස්වරයා නිසා ගන්නා ලැබේනුයි හෝ; කරණං නිග්ගහෙත්වා, කණ්ඨතාලවාදි කරණය හකුළුවා; ගය්හතීති වා, ගන්නා ලැබේනුයි හෝ; නිග්ගහීතං, නිග්ගහීත නම් වේ-නිපූර්ව වූ ගහ-උපාදානෙ යන ධාතුහු කෙරෙන් කර්මයෙහි ත ප්‍රත්‍යය යි. මෙහි නිග්ගහීතය යි ගුරු සංඥා කරණය අන්වර්ථ සංඥාව හඟවන පිණිසමැයි.

කරණං නිග්ගහෙත්වාන, කණ්ඨතාලවාදි කරණය හකුළුවා; අවිවටෙන මුඛෙන,අවිවෘත වූ මුඛය කරණකොට ගෙන;සරානුගං, හ්‍රස්වස්වරයා අනුව පවත්නා වූ; යං, යමක්; වුච්චතෙ, උච්චාරණ කරනු ලැබේද;(තං) බින්දු (ඒ) බින්දුව තෙම; නිග්ගහීතනති වුත්තං, නිග්ගහීතයයි කියන ලදී.

"යත්තදො නිත්‍යඃ සම්බන්ධඃ" යනු හෙයින්,යත් තත් දෙදෙනා ගේ සම්බන්ධය නිත්‍යයෙන් වේනුයි මෙහි තං යන පදය නො කියන ලද්දේද යං යන පදය කී සාමර්ථ්‍යයෙන් ලැබේ-මෙසේ සර්ව සාධාරණ ස්වරසාධාරණ විශෙෂ ව්‍යඤ්ජන සාධාරණ විශෙෂ සංඥා වශයෙන් ස්වකීය සංඥා විධාන කොට දැන් ප්‍රයොජනයක් ඇති කල්හි පරසංඥාවද අනුදන්නෝ මේ පරිභාෂා සූත්‍රය තුබූ හෙයින් දක්වන පිණිස කියත් ඉධ අවුත්තානං යනාදි.

**ඉධ අවුත්තානං පරසමඤ්ඤානම්පි පයොජනෙ සති ගහණත්ථං පරිභාසමාහ.**

## 11. පරසමඤ්ඤා පයොගෙ–1–1–9,

**යා ච පන පරස්මිං සක්කතගන්ථෙ පරෙසං වෙය්‍යාකරණානං වා සමඤ්ඤා ඝොසාඝොසලොපසවණ්ණසංයොගලිඞ්ගාදිකා තා පයොගෙ සති එත්ථාපි යුජ්ජන්තෙ.**

**පරස්මිං පරෙසං වා සමඤ්ඤා පරසමඤ්ඤා – පයුඤ්ජනං පයොගො: විනියොගො–තත්ථ වග්ගානං පඨම දුතියක්ඛරා සකාරො ච අඝොසා–වග්ගානං තතියචතුත්ථපඤ්චමා යරලව හළා චාති එකවීසති ඝොසා නාම.**

**එත්ථ ච වග්ගානං දුතියචතුත්ථා ධනිතාතිපි වුච්චන්ති, ඉතරෙ සිථිලාති වුච්චන්ති.**

**විනාසො ලොපො, රස්සසරා සකදීඝෙහි අඤ්ඤමඤ්ඤං සවණ්ණා නාම, යෙ සරූපාතිපි වුච්චන්ති.**

**සරානන්තරිතානි බ්‍යඤ්ජනානි සංයොගො.**
**ධාතුප්පච්චයවිභත්තිවජ්ජිතමත්ථවලලිඞ්ගං.**

**විභත්‍යන්තං පදං–ඉච්චෙවමාදි.**

**ඉති සඤ්ඤාවිධානං නිට්ඨිතං.**

———000———

---

ඉධ, මේ මාගධිකව්‍යාකරණයෙහි; අවුත්තානං, ස්වරූප හෙයින් නො කියන ලද්දා වූ; පරසමඤ්ඤානම්පි, පරසංඥාවන්ගේද; පයොජනෙ සති ගහණත්ථං, වග්ග ඝොසාඝොසානං තතියපඨමා" 1.3.7. "යනාදි සූත්‍රයෙහි ප්‍රයොජනයක් ඇති කල්හි ගැන්ම පිණිස; පරිභාසං, පරිභාෂා සූත්‍රයක්; ආහ, කියා,

"පරි සමන්තතො ව්‍යාපනා භාෂා පරිභාෂා" යනු හෙයින් හාත් පසින් ඒ ඒ සූත්‍රයෙහි ව්‍යාප්තව සිටියා වූ භාෂාව පරිභාෂා නම් වේ.

"පරස්මිං සක්කතගන්ථෙ පරෙසං වෙය්‍යාකරණානං වා ඝොසාඝොසලොපසවණ්ණසංයොගලිඞ්ගාදිකා යා ච පන සමඤ්ඤා තා පයොගෙ සති එත්ථාපි යුජ්ජන්තෙ" යි යොදනු.

පරසමඤ්ඤා ය පයොගෙ ය යනු පද යි.

පරසමිං සක්කතගන්ථෙ, පරසංස්කෘත ග්‍රන්ථයෙහි හෝ; පරෙසං වෙය්‍යාකරණානං වා, පරවෛයාකරණයන්ගේ හෝ; ඝොස, ඝොෂ සංඥය, අඝොස, අඝොෂ සංඥය; ලොප, ලොප සංඥය; සවණ්ණ, සවර්ණ සංඥය; සංයොග, සංයොග සංඥය; ලිඞ්ගාදිකා, ලිඞ්ග සංඥය යනාදි වූ; යා ච පන සමඤ්ඤා, යම් සංඥ කෙනෙක් ඇද්ද; තා, ඒ සංඥවෝ; පයොගෙ සති, අභිධානයක් ඇති කල්හි; එත්ථාපි, මේ මාගධි ව්‍යාකරණයෙහි දු; යුජ්ජන්ති, යොදනු ලැබෙත්.

පරසමිං පරේසං වා සමඤ්ඤා, පරව්‍යාකරණයෙහි හෝ පර වෛයාකරණයන්ගේ හෝ; සමඤ්ඤා, සංඥවෝ; පරසමඤ්ඤා, පරසමඤ්ඤ නම් වෙත්; පයුඤ්ජනං, ප්‍රයොග කිරීම; පයොගො, ප්‍රයොග නම්; හේ කිම්ද යත්? විනියොගො, යෙදීම යි-මේ පපූර්ව වූ "යුජ-යොගෙ" යන ධාතුහු කෙරෙන් භාවයෙහි ණ ප්‍රත්‍යය කොට "පයොගො" යි කියන ලදී.

තත්ථ, ඒ ඝොෂාදීන් අතුරෙහි; වග්ගානං, වර්ගීයන් සම්බන්ධි වූ; පඨම, පළමුවනු වූ ක ච ට ත ප යෝද; දුතියා, දෙවනු වූ ඛ ඡ ඨ ථ ඵ යෝද; සකාරො ච, සකාරද; අඝොසා, අඝොෂ ගුණය හෙතු කොට ගෙන අඝොෂයෝ නම්හ; වග්ගානං, වර්ගීයන් සම්බන්ධි වූ; තතිය, තුන්වනු වූ ග ජ ඩ ද බ යෝද; චතුත්ථ, සතර වනු වූ ඝ ඣ ඪ ධ භ යෝද; පඤ්චමා, පස් වනු වූ ඞ ඤ ණ න ම යෝද; යරලව හළා චාති, යරලවහළයෝද යන; එකවීසති, (වර්ණයෝ) එක් විස්ස; ඝොසා නාම, ඝොෂ ගුණය හෙතුකොට ගෙන ඝොෂ නම්හු.

එත්ථ ච, මේ ඝොෂාඝොෂයන් අතුරෙහිද; වග්ගානං දුතිය චතුත්ථා, වර්ගීයන් සම්බන්ධි වූ දෙවනු වූ ඛ ඡ ඨ ථ ඵ යෝද සතරවනු වූ ඝ ඣ ඪ ධ භ යෝද; ධනිතාතිපි වුච්චන්ති, ධනිතය හයි කියනු ලැබෙති; ඉතරෙ, සෙසු වර්ගීයන් සම්බන්ධි වූ පළමුවනු වූ ක ච ට ත ප යෝද තුන් වනු වූ ග ජ ඩ ද බ යෝද; සිථිලාති වුච්චන්ති,

සිථිලයන සි කියනු ලැබෙත්; විනාසො, විද්‍යමානයාගේ විනාශය අනුච්චාරණය; ලොපො, ලොප් නම; රසසසරා, හ්‍රස්වස්වරයෝ; සකාදීසෙහි, තමන් තමන් දීඝී ස්වරයන් හා සමඟ; අඤ්ඤමඤ්ඤං සවණ්ණා නාම, (අකාර ආකාරයා හා සවර්ණය ඉකාර ඊකාරයා හා සවර්ණය යනාදීන් මෙසේ) අන්‍යොන්‍යයන්ට සවර්ණයෝ නම් වෙති; යෙ සරූපානිපි වුච්චන්ති, යම් ස්වර කෙනෙක් සමාන රූපයන සි කියනු ලැබෙත්ද ඔහු සවර්ණයන සි සේ සි;

සරානන්තරිතානි, ස්වරයන් විසින් අව්‍යවහිත වූ (මධ්‍යයෙහි) ව්‍යවධානයක් නැත්තා වූ;ව්‍යඤ්ජනානි, ව්‍යඤ්ජනයෝ;සංයොගො, සංයොග නම;ධාතු, ධාතුය;පච්චය (ණාදි)ප්‍රත්‍යය; විභත්ති,(සි ආදි) විභක්තිය යන මොවුන් කෙරෙන්; වජ්ජිත, වර්ජිත වූ; අත්‍ථවං, අර්ථ යෙන් යුක්ත වූ ශබ්ද රූපය; ලිඞ්ගං, ලිඟු නම;–මෙහි "ධාතුලිඞ්ගෙහි පරාපච්චයා"–3–2–1. යි යූ බැවින් විභක්තිනු ද ප්‍රත්‍යයන් කෙරෙහි ඇතුලත් වතු ද විභක්තීන් වෙන්කොට කී හෙයින් විභක්තීන් ගේ ග්‍රහණය නොවෙයි. තවද අවශිෂ්ටවුන්ගේ ම ග්‍රහණය වන්නේ ය සි දතයුතු. විභත්‍යන්තං, (ස්‍යාදි) විභක්තීන් අන්තකොට ඇත්තෝ; පදං ඉති, පද නමැයි; එවමාදි, මේ ආදී පරසංඥ සී.

සඤ්ඤාවිධානං නිඨිතං.

සංඥ විධානය නිමවන ලදී.

—————o—o—————

මෙසේ ස්වසංඥ පරසංඥ වශයෙන් විවිධ වූ සියළු සංඥ විධාන කොට දූන් යමක් පිණිස ස්වරාදි සංඥ විහිතද ඒ සංහිතා විධානයට ආරම්භ ප්‍රමුඛව විශෙෂ සංඥවට ආදි වූ ස්වරසංඥවට අනුරූප කොට ස්වරසන්ධිවිධි දක්වනු පිණිස "අථ සරසන්ධි වුච්චතෙ" යනාදි කීහු.

**අථ සරසන්ධි වුච්චතෙ.**

**ලොක-අග්ගපුග්ගලො, පඤ්ඤා-ඉන්ද්‍රියං, තීණි-ඉමානි, නොහි-එතං, භික්ඛුනී-ඔවාදො, මාතු-උපට්ඨානං, සමෙතු-ආයස්මා, අභිභූ-ආයතනං, ධනම්මෙ-අත්ථි, සබ්බෙ-එව, තයො-අස්සු ධම්මා, අසන්තො-එත්ථ න දිස්සන්ති ඉතීධ-**

**සරාදිසඤ්ඤායං-සබ්බත්ථ සන්ධිකරණට්ඨානෙ බ්‍යඤ්ජන වියොජනත්ථං පරිභාසමාහ.**

## 12. පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ–1–1–10.

**සරෙනාති නිස්සක්කෙ කරණවචනං, සහයොගෙ වා-සන්ධිකබ්බෙ සරරහිතං පුබ්බබ්‍යඤ්ජනමනතික්කමන්තො අධොඨිතමස්සරඤ්ච කත්වා සරතො වියොජයෙති සරතො ව්‍යඤ්ජනං වියොජෙතබ්බං.**

---

අථ, සංඥානන්තරයෙහි නොහොත්; අථ, සංඥ අවිච්ඡින්න කොට (සංඥ විච්ඡේද නොකොට)-හේ මාතෘකාසථානයෙහි තබා ය යි සේ යි;සර සන්ධි වුච්චතෙ,ස්වරයන්ගේ සංහිතා කියනු ලැබේ. සරානං සරෙ වා සන්ධි සරසන්ධි, සංහිතා නම් "සංහිතාති ච වණ්ණානං සන්නිධබ්‍යවධානතො" යනු හෙයින් වර්ණයක්හු විසින් හෝ කාලයක් විසින් හෝ ව්‍යවධානයක් නැතිව වර්ණයන්ගේ සන්නිධාන ය යි, ලඟ වී මැ යි සේ යි.

ලොකඅග්ගපුග්ගලො-පෙ-අසන්තො එත්ථ න දිස්සන්ති ඉති, ලොකඅග්ගපුග්ගලො-පෙ-අසන්තො එත්ථ න දිස්සන්ති යන; ඉධ, මේ උදාහරණයෙහි;(සන්ධි වුච්චතෙ, සංහිතා කියනු ලැබේ)-මත්තෙහි දු අසිද්ධ පක්ෂයෙහි අථ මෙසේ මැ යි කියයුතු-මෙහි "සන්ධි වුච්චතෙ" යනු අධ්‍යාහාර වේ. "ඌනපූරණාර්ථමධිකපදොදාහරණමධ්‍යාහාරඃ" යනු හෙයින් ඌනපදයාගේ පිරීම පිණිස අධිකපදයක්හුගේ ආහරණය අධ්‍යාහාර නම්.

සරාදිසඤ්ඤාසු, පූර්වපදයෙහි අකාරාදීන්ට "තත්‍රෝදන්තා සරා අට්ඨ"-1-1-3. යන සූත්‍රයෙන් ස්වරසංඥාද තන්නිශ්‍රිතකකාරාදීන්ට "සෙසා බ්‍යඤ්ජනා"-1-1-6. යන සූත්‍රයෙන් ව්‍යඤ්ජනසංඥාද කරන ලද කල්හි; සබ්බත්‍ථ, සියලු; සන්ධිකරණට්ඨානෙ, සංහිතා කරනු ලබන ස්ථානයෙහි; බ්‍යඤ්ජනවියොජනත්‍ථං, ස්වරයා කොරෙන් බ්‍යඤ්ජනයාගේ වෙන් කිරීම පිණිස නොහොත් ස්වරයා කොරෙන් ව්‍යඤ්ජනයාගේ වෙන් කිරීම ප්‍රයොජන කොට ඇති; පරිභාසං, පරිභාෂාසූත්‍රයක්; ආහ, කියා; සන්ධි කරීයති එත්‍ථාති සන්ධිකරණං, සන්ධිකරණඤ්ච තං ඨානඤ්චාති සන්ධිකරණට්ඨානං, තස්මිං.

පුබ්බං ය අධොඨිතං ය අස්සරං ය සරෙන ය වියොජයෙ ය
යනු පද යි.

සරෙනාති, සරෙන යන මේ (තෘතීයා) වචනය; නිස්සක්කකාරණවචනං, ("සුමුත්තා මයං තෙන මහාසමණෙන" යනාදියෙහි මෙන්) පඤ්චම්‍යර්ථයෙහි තෘතීයා වචනයෙකි-මෙයින් පඤ්චම්‍යන්තය හටද න්‍යාසයෙහි කියන ලද 'සරෙන" යන රූපසම්භවය ප්‍රත්‍යාඛ්‍යාන කරන ලදී; සහයොගෙ වා, ("පියෙහි විප්පයොගො" යනාදියෙහි මෙන්) සහයොගයෙහි හෝ කරණ වචනයෙකි-ප්‍රියයන් හා සමඟ වියොගය මෙන් ස්වරයා සමඟ ව්‍යඤ්ජනයාගේ වියොගයෙදෙන හෙයින් සහයොගයෙහි ම මේ තෘතීයා වචනය සිද්ධය යනු භාව යි.

සන්ධිතබ්බෙ, වර්ණයන්ගේ සන්ධිකටයුතු ස්ථානයෙහි; සරසහිතං, ස්වරසහිත වූ; පුබ්බබ්‍යඤ්ජනං, පූර්වව්‍යඤ්ජනයා; අනතික්කමන්තො, පිළිවෙළ නො ඉක්මවන්නා වූ ප්‍රයොගවක්තෘ තෙම; අධොඨිතං, යටසිටියා වූද; අස්සරඤ්ච, ස්වරරහිත වූවහුද; කත්වා, කොට; සරතො, ස්වරයා කොරෙන්; වියොජයෙති, වෙන් කරන්නේ ය යි; සරතො ව්‍යඤ්ජනං වියොජෙතබ්බං, (මේ "ලොකඅග්ගපුග්ගලො" යනාදියෙහි) ස්වරයා කොරෙන් ව්‍යඤ්ජන තෙම වෙන් කට යුත්තේ යි.

**එත්ථ අස්සරග්ගහණසාමත්ථියෙන බ්‍යඤ්ජනන්ති ලබ්භං.**

## 13. සරා සරෙ ලොපං–1–2–1.

**සරා ඛො සබ්බෙපි සරෙ පරෙ ඨිතෙ ලොපං පප්පොන්ති.**

**ලොපොති අදස්සනං අනුච්චාරණං-එත්ථ සරාති කාරියීනිද්දෙසො-බහුවචනං පනෙත්ථ එකෙකස්මිං පරෙ සබ්බලොපඤාපනත්ථං-සරෙති නිමිත්තනිද්දෙසො නිමිත්තසත්තමී චායං-නිමිත්තොපාදානසාමත්ථියතො වණ්ණකාලව්‍යවධානෙ සති සන්ධිකාරියං න භවති-ලොපන්ති කාරියනිද්දෙසො-ඉදම්පන සුත්තං උපරි පරලොපවිධානතො පුබ්බලොපවිධානන්ති දට්ඨබ්බං-එවං සබ්බත්ථ සත්තමීනිද්දෙසෙ පුබ්බස්සෙව විධි පරස්සා විධානෙති වෙදිතබ්බං.**

---

එත්ථ, මේ සූත්‍රයෙහි; අස්සරග්ගහණසාමත්ථියෙන, අස්සර වචනයාගේ අත්‍යර්ථානුපපත්ති සඞ්ඛ්‍යාත සාමර්ථ්‍යයෙන්, ව්‍යඤ්ජනන්ති ලබ්භං, ව්‍යඤ්ජනං යනු ලැබිති-ස්වරයාගේ අස්වරත්වය නො යෙදෙන හෙයින් ව්‍යඤ්ජනං යනු ලැබේනු යි සූත්‍රයෙහි ව්‍යඤ්ජනග්‍රහණය නො කරන ලද යනු මෙහි අභිප්‍රාය යි.

සරා ය සරෙ ය ලොපං ය යනු පද යි.

සරෙ පරෙ ඨිතෙ, ස්වරයා පරව සිටි කල්හි; සබ්බෙපි ඛො සරා, (අකාරාදි) සියලු ස්වරයෝ; ලොපං, ලොපට; පප්පොන්ති, පැමිණෙත්-මෙහි අපිශබ්ද“සබ්බෙපි අප්පත්තා වස්සසතෙ අපණ්ණත්තිකභාවං ගමිස්සන්ති” යනාදියෙහි මෙන් අවධාරණයෙහි වැටේ; ඛො ශබ්ද “සචෙ ඛො ත්වං ආනන්ද” යනාදියෙහි මෙන් පදපූරණයෙහි වැටේ; ලොපොති, ලොප යි; අදස්සනං, (විද්‍යමානයාගේ) අදර්ශනය; හේ කිම්දයත්? අනුච්චාරණං, උච්චාරණ නො කිරීම යි; මෙම කීහ “විනාසො විජ්ජමානස්ස ලොපොති පවුච්චති” යි. එත්ථ, මේ සූත්‍රයෙහි; සරාති, සරා යනු; කාරියීනිද්දෙසො, කාර්‍ය්‍යී ඇත්තහුගේ නිර්දේශය-කාර්‍ය්‍යී ලබන්නහුගේ දැක්වීම යි සේයි; එත්ථ, මෙහි; බහුවචනම්පන, සරො යි නො කියා සරා යන බහුවචනය වනාහි; එකෙකස්මිං පරෙ, එකෙකී ස්වරයක්හු පරකල්හි; සබ්බලොපඤාපනත්ථං, අනතුරු වූ අකාරාදි සියලු ස්වරයන්ගේම ලොප් හැඟවීම ප්‍රයොජන කොට ඇත්තේ යි-අකාරාදීන් කෙරෙන් එකක් හුම පර කල්හි තමතමාට අනතුරු වූ අකාරාදි සියලු ස්වරයෝම ලොප්

වෙති ඔවුන්ගේ බහුභාවය හඟවනු පිණිස 'සරා' යි බහුවචන නිර්දේශය කරන ලදි, එකක්හු පරකල්හි අනතුරු වූ ස්වරයන් දෙන්නකු තුන් දෙනකුට ලොප් වෙයි හඟවන පිණිස කරන ලදැයි යනු භාවයි; සරෙති, සරෙ යන මේ; නිමිත්තනිද්දෙසො, නිමිත්තයාගේ නිර්දේශය; අයං, මේ සප්තමී තොම; නිමිත්තසත්තමී ච, නිමිත්තාර්ථයෙහි කරන ලද සප්තමීමය ආධාරයෙහි නො වෙයි සේ යි-මෙහි ච ශබ්දය අවධාරණයෙහි වැටෙයි.

නිමිත්තොපාදනසාමත්ථියතො, නිමිත්තාර්ථයෙහි සප්තමිය ගේ වාග්‍රහණසාමර්ථ්‍යය හෙතුකොට ගෙන; වණ්ණකාලව්‍යවධානෙ සති, වර්ණයක්හු විසින්ද කාලයක්හු විසින්ද ව්‍යවධානයක් ඇති කල්හි; සන්ධිකාරියං න භවති, සංහිතාකාර්යය නොවේ- "අකොචඡි මං අවධි මං" යනුද "මාතා යථා නියං පුත්තං ආයුසා එකපුත්තමනුරක්ඛෙ එවම්පි සබ්බභූතෙසු මානසම්භාවයෙ අපරිමානං" යනුද මෙහි උදාහරණ යි-එහි පූර්ව උදාහරණයෙහි අවධි මං යන පරපදයෙහි අකාරයා පර කල්හි දු අකොචඡිමං යන පූර්ව පදයෙහි මකාරසථ අකාරය හට නිග්ගහීතයා විසින් ව්‍යවධානය හෙතුකොට ගෙන ලොප් නො වෙයි, පරඋදාහරණයෙහි පූර්වාර්ධය කියා කාලාන්තරයක් ගිය කල අපරාර්ධයක් කියන හෙයින් කාලයා විසින් ව්‍යවධානය ඇත්තේනු යි අපරාර්ධයෙහි ආදි එකාරයා පරකල්හි දු පූර්වාර්ධයෙහි එකාරයාට ලොප් වෙයි; ලොපන්ති, ලොපං යන මේ; කාරියනිද්දෙසො, කාර්යයාගේ නිර්දේශය; ඉද මපන සුත්තං,("සරා සරෙ ලොපං")1.2.1. යනමේ සූත්‍රය වනාහි;උපරි,මත්තෙහි;පරලොපවිධානතො,("වා පරොඅසරූපා"1.2.2.යන සූත්‍රයෙන්)පරස්වරය හට ලොප විධාන කළ හෙයින්;පුබ්බලොපවිධානන්ති,පූර්වස්වරයාට ලොප විධාන ය යි; දට්ඨබ්බං, දතයුත්තේයි; එවං, මෙසේ; පරස්ස අවිධානෙ, පරය හට විශෙෂ විධානයක් නැති කල්හි; සත්තමීනිද්දෙසෙ, සප්තමියෙන් නිර්දේශ ඇති; සබ්බත්ථ, සියලු සූත්‍රයෙහි; පුබ්බස්සෙව විධීති, පූර්වය හටම විධි වන්නේ ය යි; වෙදිතබ්බං, දතයුත්තේයි-පූර්වසූත්‍රයෙන් පූර්වය හටම විධිවෙයි නියමයක් නො කරනලද සථානයෙහි ලා විධි කවරක් හට වේද යත්? යම් යම් සූත්‍රයකින් සප්තමියෙන් නිර්දේශ ඇත්නම් ඒ ඒ සූත්‍රයෙහි සප්තමීනිර්දේශයම හෙතුකොටගෙන පූර්වය හටම විධිවත් මුත් පරය හට නො වෙයි කියයුතු වෙති, සප්තමියෙන් නිර්දිෂ්ටයාගේ පරබව හැඟෙයි දතයුතු.

**අස්සරං-අඝොසිතන්ති ච වත්තතෙ.**

**සිලිට්ඨකථනෙ පරිභාසමාහ.**

## 14. නයෙ පරං යුත්තෙ-1-1-11.

**සරරහිතං ඛො බ්‍යඤ්ජනමඝොසිතං පරක්ඛරං නයෙ යුත්තෙ ඨානෙති, පරනයනං කාතබ්බං-එත්ථ යුත්තග්ගහණං නිග්ගහීතනිසෙධනත්ථං-තෙන අක්කොච්ඡි මං අවධි මං ආදිසු පරනයන සඤ්ඤෙහා න හොති.**

**ලොකග්ගපුග්ගලො, පඤ්චින්ද්‍රියං, තීණිමානි, නොහෙතං, භික්ඛුනොවාදෙ, මාතුපට්ඨානං, සමෙතායස්මා, අභිභායතනං, ධම්මමත්ථි, සබ්බෙව, නයස්සු ධම්මා, අසනෙනත්ථ න දිස්සන්ති.**

**යස්ස-ඉන්ද්‍රියානි, සඤ්ඤා-ඉති, ඡායා-ඉව, ඉති-අපි, අස්සමණී-අසි, චක්ඛු-ඉන්ද්‍රියං, අඤ්ඤාතඤ්ඤු-අසි, ආකාසෙ-ඉව, තෙ-අපි, වන්දෙ-අහං, සො-අහං, චත්තාරො-ඉමෙ, වසලො-ඉති, මොග්ගල්ලානො-ආසි බීජකො, කථා-එව කා, ඡාතො-එවා තීධ පුබ්බලොපෙ සම්පත්තෙ.**

---

අස්සරං, අස්සරං යනුද; අඝොසිතන්ති ච, අඝොසිතං යනුද; වත්තතෙ, වැටේ; සිලිට්ඨකථනෙ, සංසලිෂ්ට කොට කීමක් ඇති කල්හි හෙවත් සිලුටු කොට කීමක් ඇති කල්හි ස්වරව්‍යඤ්ජන දෙදෙනාගේ එක්කොට කීමක් ඇති කල්හිය යි සේ යි; පරිභාසං, පරිභාෂාසූත්‍රයෙක්; ආහ, කියා.

නයෙ ය පරං ය යුත්තෙ ය යනු පද යි.

සරරහිතං ඛො බ්‍යඤ්ජනං, ස්වරයා කෙරෙන් පහ වූ බ්‍යඤ්ජනයාද; අඝොසිතං, යටසිටියහු; පරක්ඛරං, පරාක්ෂරයා කරා; යුත්තෙ ඨානෙ, යුක්තස්ථානයෙහි; නයෙති, පමුණුවන්නේය යි; පරනයනං කාතබ්බං, පරාක්ෂරයා කරා පැමිණවීම කටයුත්තේ යි; එත්ථ, මේ සූත්‍රයෙහි; යුත්තග්ගහණං, යුත්තශබ්දයාගේ ගැන්ම; නිග්ගහීතනිසෙධනත්ථං, නිග්ගහීතයාගේ පරනයන ශඞ්කා වැළ කීම් ප්‍රයොජන කොට ඇත්තේ යි-"නයෙ පරං" යි කී කල්හි නිග්ගහීතයාගේද අස්වරබව හෙතුකොට ගෙනද අඝොෂ ව්‍යඤ්ජන භාවයෙන් හා සංඥා ව්‍යඤ්ජන ප්‍රතිලාභයෙන් ව්‍යඤ්ජන බව හෙතු කොට ගෙන මකාරාදි ආදෙශවිශෙෂයන්හුගේ අභාවයෙහි දූ පර

න්ති යන කටයුත්තේ දෝ හෝ යන භ්‍රාන්තිය වේදෝ හෝ සි හේ වලකන පිණිස යුත්තග්‍රහණය කරන ලද යි යනු මෙහි අභිප්‍රාය යි; නෙත, යුත්තග්‍රහණය නිග්ගහීතයාගේ පරත යන සාංකානිවාරණය පිණිස කරන ලද හෙයින්; අක්කොච්ඡි මං අවධි මන්ති ආදිසු, අක්කොච්ඡි මං අවධි මං යනාදිප්‍රයොගයෙහි; පරනයනසන්ධො න හොති, පරාක්ෂරයා කරා පැමිණීම වේදෝ හෝ යන සන්දේහ නොම නො වන්නේ සි-පරනයනෙ සන්ධො පරනයනසන්ධො.

ලොකග්ගපුග්ගලො යනාදියෙහි ලොකයී තිබෙයි අග්ගපුග්ගලො යි තිබෙයි පඤ්ඤා යි තිබෙයි ඉන්ද්‍රියං යි තිබෙයි තීණි යි තිබෙයි ඉමානි යි තිබෙයි නොහි යි තිබෙයි එතං යි තිබෙයි භික්ඛුනී යි තිබෙයි ඔවාදෙ යි තිබෙයි මාතු යි තිබෙයි උපධානං යි තිබෙයි සමෙතු යි තිබෙයි ආයස්මා යි තිබෙයි අභිභූ යි තිබෙයි ආයතනං යි තිබෙයි ධනමෙම යි තිබෙයි අත්ථි යි තිබෙයි සබ්බෙ යි තිබෙයි එව යි තිබෙයි තයො යි තිබෙයි අසු ධම්මා යි තිබෙයි අසන්තා යි තිබෙයි එසො න දිස්සන්ති යි තිබෙයි. පූර්වපදයෙහි කකාරයත් අකාරාදීන්ටද පර අකාරාදීන්ටද "තත්‍රොදන්තා සරා අට්ඨ"-1-1-3. යන සූත්‍රයෙන් ස්වරසංඥ වෙයි, කකාරාදීන්ට "සෙසා බ්‍යඤ්ජනා"-1-1-6. යන සූත්‍රයෙන් බ්‍යඤ්ජන සංඥ වෙයි, සංහිතාවක් කළමනා කල්හි "පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ" -1-1-10. යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් ස්වරයා කෙරෙන් ව්‍යඤ්ජන පහ වෙයි, පහවන්නේද අකාරයා කෙරෙන් කකාර පහවෙයි ආකාරයා කෙරෙන් ඤකාර පහවෙයි ඉකාරයා කෙරෙන් ණකාර පහවෙයි ඉකාරයා කෙරෙන් හකාර පහවෙයි ඊකාරයා කෙරෙන් තකාර පහවෙයි උකාරයා කෙරෙන් තකාර පහවෙයි උකාරයා කෙරෙන් නකාර පහවෙයි උකාරයා කෙරෙන් තකාර පහවෙයි ඌකාරයා කෙරෙන් භකාර පහවෙයි එකාරයා කෙරෙන් මකාර පහවෙයි එකාරයා කෙරෙන් බකාර පහවෙයි ඔකාරයා කෙරෙන් යකාර පහවෙයි, ඔකාරයා කෙරෙන් නකාර පහ වෙයි ස්වරයා පරකල්හි පූර්වස්වරය හට "සරා සරෙ ලොපං"-1-2-1. යන සූත්‍රයෙන් ලොප්වෙයි. යටසිටි ස්වරරහිත වූ ව්‍යඤ්ජනයෝ "නයෙ පරං යුත්තෙ"-1-1-11. යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් පරාක්ෂරයන් කරා පැමිණෙත්, ලොකඅග්ගපුග්ගලො යනාදීන් පදබිඳ තුබූතන්හි සංහිතාකාශීච ලොකග්ගපුග්ගලො යනාදිය වෙත්.

**සරෙති-අධිකාරො-ඉධ පන "අප්පවසා විහත්තිවිපරිණාමො"ති කත්වා සරො-සරම්හා-ලොපනීති ච වත්තමානෙ-**

## 15. වා පරො අසරූපා-1-2-2.

**අසමානරූපම්හා සරම්හා පරො සරො ලොපං පප්පොති වා-සමානං රූපං අස්සාති සරූපො-න සරූපො අසරූපො-අසවණ්ණො-යස්මා පන මරියාදං අභිවිධිම්හි ච වත්තමානො ආ උපසග්ගො විය වා සද්දො ඔධා වත්තතෙ-කත්ථචි විකප්පෙ කත්ථචි යථාවවත්ථිතරූපපරිග්ගහෙ ච-ඉධ පන පච්ඡිමෙ-තතො නිච්චමනිච්චමසන්තඤ්ච විධිමෙකෙ වා සද්දො දීපෙති.**

**නයෙ පරං යුත්තෙනති පරං නෙතබ්බං.**

**යස්සදානි, යස්සිදානි, සඤ්ඤාති, සඤ්ඤා ඉති, ඡායාව, ඡායා ඉව, ඉතිපි, ඉච්චපි, අස්සමණීසි, අස්සමණී අසි.**

**චක්ඛුන්ද්‍රියමිති-නිච්චං.**

**අකතඤ්ඤූසි, අකතඤ්ඤූ අසි, ආකාසෙව, ආකාසෙ ඉව, තෙ'පි, තෙ අපි, වන්දෙ හං, වන්දෙ අහං, සො'හං, සො අහං, චත්තාරොමෙ, චත්තාරො ඉමෙ, වසලොති, වසලො ඉති, මොග්ගල්ලානොසි බීජකො, මොග්ගල්ලානො අසි බීජකො, කථාවකා, කථා එව කා, පාතොව, පාතො එව.**

---

පඤ්ඤා ඉන්ද්‍රියං යී තුබූ තන්හි සංහිතාකාර්යයීව පඤ්ඤින්ද්‍රියං යනු වෙයි, තීණි ඉමානි යී තුබූ තන්හි සංහිතාකාර්යයීව තීණිමානි යනු වෙයි, නොහි එතං යී තුබූ තන්හි සංහිතාකාර්යයීව නොහෙතං යනු වෙයි, භික්ඛුණී ඔවාදො යී තුබූ තන්හි සංහිතාකාර්යයීව භික්ඛුණොවාදො යනු වෙයි, මාතු උපට්ඨානං යී තුබූ තන්හි සංහිතාකාර්යයීව මාතුපට්ඨානං යනු වෙයි, සමෙතු ආයස්මා යී තුබූතන්හි සංහිතාකාර්යයීව සමෙතායස්මා යනු වෙයි, අභිභූ ආයතනංයී තුබූ තන්හි සංහිතාකාර්යයීව අභිභායතනං යනු වෙයි, ධනමෙම අත්ථි යී තුබූ තන්හි සංහිතාකාර්යයීව ධනම්මමත්ථි යනු වෙයි, සබ්බෙ එව යී තුබූ තන්හි සංහිතාකාර්යයීව සබ්බෙව යනු වෙයි, තයො අස්සු ධම්මා යී තුබූ තන්හි සංහිතාකාර්යයීව තයස්සුධම්මා යනු වෙයි, අසන්තො එත්ථ න දිස්සන්ති යී තුබූතන්හි සංහිතාකාර්යයීව අසන්තෙත්ථ න දිස්සන්ති යනු වෙයි; යස්ස-ඉදානි-පෙ-පාතො එව ඉති, පාතො එව යන; ඉධ, මෙහි; පුබ්බලොපෙ සම්පත්තෙ, ("සරා සරෙ ලොපං"-1-2-1. යන සූත්‍රයෙන්) පූර්වස්වරයහට ලොප සම්ප්‍රාප්ත කල්හි (අයං විධි වුච්චතෙ යනු ශෙෂයි. අයං විධි, මේ පරස්වර විධානය; වුච්චතෙ, කියනු ලැබේ )

සරෙ ඉති, සරෙ යනු; අධිකාරො, මත්තෙහි ("එවාදිස්ස රි පුබ්බො ච රස්සො" 1.2.11. යන සූත්‍රය දක්වා) සම්බන්ධ කරනු ලැබේ-අධිකරීයතෙ තෙන තෙන සුත්තෙන සම්බන්ධීයතෙති අධිකාරො;

ඉධ පන, මේ ("වා පරෝ අසරූපා,,-1-2-2 යන) සූත්‍රයෙහි වනාහි; අත්ථවසා,අර්‍ථ හෙතුකොට ගෙන,විභත්තිවිපරිනාමොති කත්වා, විභක්තීන්ගේ විපර්‍ය්‍යාසය වන්නේය යි කොට;සරෝ සරම්හා ති ච,සරා යනු සරෝ යි ද සරෙ යනු සරම්හා යි ද; ලොපනති ච, ලොපං යනු ද;වත්තමානෙ, වැටෙන්නෙහි; පරෝ සරෝ ලොපං පප්පොති යි යොදනු-මේ සූත්‍රයෙහි සරෝ යන ප්‍රථමෛකවචනාන්තපදයහට විශෙෂණභාවයෙන් "සරා සරෙ ලොපං"-1-2-1. යන සූත්‍රයෙහි සරා යන ප්‍රථමා බහුවචනාන්ත පදය විභක්ති විපරිනාම වශයෙන් සරෝ යි ද වෙයි, මෙම සූත්‍රයෙහි "අසරූපා" යන පඤ්චම්‍යෙකවචනාන්ත පදය හට විශෙෂණභාවයෙන් එම සූත්‍රයෙහි සරෙ යන සප්තම්‍යෙකවචනාන්ත පදය විභක්තිවිපරිණාමවශයෙන් සරම්හා යි ද වැටෙයි සේ යි.

වා ය පරෝ ය අසරූපා ය යනු පද යි.

අසමානරූපම්හා, සමාන සවභාවයක් නැත්තා වූ; සරම්හා, සවරයා කෙරෙන්; පරෝ සරෝ, පරසවර තෙම; ලොපං, ලොපට; වා, විකල්පයෙන්; පප්පොති, පැමිණේ; සමානං රූපං, සමාන සවභාවය;අස්සාති, මෝහට ඇත්තුයි; සරූපො, සවරූප නම් වෙයි; න සරූපො, සමානසවභාව නොවන්නේ; අසරූපො, අසරූප නම් වෙයි; සේ කිම්දයත්? අසවණ්ණො, අසවණ්ණය යි-මෙම නිපාතනයෙන් සමාන ශබ්දය හට සකාරාදෙශ කරන ලදී; මරියාදායං, ("ආපබ්බතා ඛෙත්තං" යනාදියෙහි මෙන්) හිම හැර ගැන්මෙහිද; අභි විධිම්හි ච, ("ආ ජලන්තා සීතං" යනාදියෙහි මෙන්) හිම නො හැර ගැන්මෙහිද; වත්තමානො, වැටෙන්නා වූ; ආ උපසග්ගො විය, ආ යන උපසර්ගයා මෙන්; යස්මා පන වා සද්දො විධා වත්තතෙ, යම් හෙයකින් වා ශබ්ද තෙම විප්‍රකාරයකින් වැටේද; කවර විප්‍රකාරයෙක්ද යත්? කත්ථචි, කිසිසූත්‍රයෙක්හි; විකප්පෙ, "වා ණප්පච්චෙ"-2-8-1. යනාදියෙහි මෙන් විකල්පොදාහරණයෙහිද; කත්ථචි, කිසි සූත්‍රයෙක්හි; යථාවවත්ථිතරූපපරිග්ගහෙ ("වග්ගන්තං වා වග්ගෙ -1-4-2. යනාදියෙහි මෙන්) යථාව්‍යවස්ථිත වූ උදාහරණ රූපයන්ගේ පරිග්‍රහයෙහිදු යි - මෙසේ දෙපරද්දෙකින් වැටේ; ඉධ පන, මේ සූත්‍රයෙහි වනාහි; පච්ඡිමෙ, පසුකොට කියනලද (යථාව්‍යවස්ථිතරූපපරිග්‍රහයෙහි වැටේ;) තතො, ඒ පශ්චිමාර්‍ථයෙහි වැටෙන හෙයින්; නිච්චමනිච්ච

මසන්තඤ්ච විධිං, නිත්‍යවිධි අනිත්‍යවිධි අසත් විධිද; එත්ථ, මෙහි; වා සද්දො, වා ශබ්ද තෙම; දීපෙති, ප්‍රකාශ කෙරේ-යථාවවත්ථිතානි ච තානි රූපානි චෙති යථාවවත්ථිතරූපානි; පරිසමන්තතො පරි

**ඉධ න භවති-පඤ්චින්ද්‍රියානි, සද්ධින්ද්‍රියං, සත්තුත්තමො, එකූනවීසති, යස්සෙත, සුගතොවාදො, දිට්ඨාසවො, දිට්ඨොඝො, චක්ඛායතනං, තං කුතෙත්ථ ලබ්භා ඉච්චාදි.**

**භවති ච වවත්ථිතවිභාසායං.**

**8. අවණ්ණතො සරොදුනිතිවෙවාදිං විනා පරො**
**න ලුප්පතඤ්ඤතො දීඝො ආසෙය්‍යචාදි විවජ්ජිතො.**

**බන්ධුස්ස-ඉව, උප-ඉක්ඛති, උප-ඉතො, අව-ඉච්ච, ජින-ඊරිතං, න-උපෙති, චන්ද-උදයො, සථා-උදකෙ ඉතීධ-**

**පුබ්බාවණ්ණසරානං ලොපෙ සතෙ-**

---

චජින්දිත්වා වා ගහණං පරිග්ගහො; යථාවවත්ථිතරූපානං පරිග්ගහො යථාවවත්ථිතරූපපරිග්ගහො.

තමෙය පරං යුතෙත ඉති, තයෙ පරං යුතෙත යන පරිභාෂා සූත්‍රසාමර්ථ්‍යයෙන්; පරං,පරාක්ෂරයා සාරා; තෙ තබ්බං, (ස්වරරහිත ව්‍යඤ්ජන තෙම) පැමිණවිය යුක්තෝ යි; යස්සෙති, යන විකල්ප උදාහරණයෙහි පූර්වස්වරයා හට ලොප් වෙයි; සඤ්ඤා ඉති, ඡායා ඉව, අස්සමණී අසි; චක්ඛුන්ද්‍රියං ඉති, චක්ඛුන්ද්‍රියං යනු;න් ච්චං, නිත්‍ය විධිය යී - චක්ඛු ඉන්ද්‍රියං යි පදච්ඡෙද කළ කල්හි පරස්වරලොප යෙන් චක්ඛුන්ද්‍රියං කියාම වීම වා ශබ්දයාගේ නිත්‍යවිධිය යි සේ යි. අසාතඤ්ඤූ අසි, අකාසෙ ඉව, තෙ අපි, වන්දෙ අහං,සො අහං, චත්තාරො ඉමෙ, විසලො ඉති, මොග්ගල්ලානො ආසි බීජකො, කථා එව සා, පාතො එව, යන මේ විකල්ප උදාහරණයෙහි "සරා සරෙ ලොපං" 1.2.1. යන සූත්‍රයෙන් පූර්වස්වරය හට ලොප් ප්‍රාප්ත කල්හි"සරෙ ක්වචි"-1-3-2.යන සූත්‍රයෙන් ප්‍රතිෂෙධ වෙයි, "ඉච්චපි" යන විකල්පඋදාහරණයෙහි "සබ්බො චන්ති" 1-2-8. යන සූත්‍රයෙන් ති ශබ්දයාහට චකාරාදෙශ වෙයි.

ඉධ, මේ (වක්ෂ්‍යමාන වූ "පඤ්චින්ද්‍රියානි" යනාදි) උදාහරණ යෙහි; න භවති,(පරස්වරය හට ලොප් නොවේ;) මෙහි-පඤ්ච ඉන්ද්‍රියානි, සද්ධා ඉන්ද්‍රියං, සත්ත උත්තමො,එක ඌනවීසති, යස්ස එතෙ, සුගත ඔවාදො,දිට්ඨි ආසවො,දිට්ඨි ඔඝො,චක්ඛු ආයතනං,තං කුතො,

එත්ථ ලබ්භා, යි පදච්ඡෙද කොට "සරා සරෙ ලොපං" 1 2.1. යන සූත්‍රයෙන් පූර්වස්වරයන්ට ලොප් කට යුතු; වවත්ථිතවිභාසායං, ව්‍යවස්ථිතවිභාෂාව හෙතුකොට ගෙන; භවති ච, සඞ්ග්‍රහ ගාථාවකුදු වන්නී යි. "ව්‍යවස්ථිතස්‍ය ලක්ෂ්‍යස්‍ය ලක්ෂ්‍යානුසාරෙණ ලක්ෂණප්‍රවෘත්ති:තා විභාෂා ව්‍යවස්ථිතවිභාසා" යනු හෙයින් ව්‍යවස්ථිත ය යි කියන ලද ලක්ෂ්‍යයහට අවිරුඞපරිද්දෙන් ලක්ෂණය පවත්වන විභාෂා ව්‍යවස්ථිතවිභාෂා නමැයි දතයුතු.

අවණ්ණතො, අවර්ණයා කෙරෙන්; පරො සරො, පර වූ(ඉවර්ණ උවර්ණාදි වූ) ස්වර තෙම; ඉදනිතිවෙවාදිං විනා, ඉදනි ඉති ඉව එව යනාදීහු හැර; න ලුප්පති, ලොප් කරනු නො ලැබෙයි; අඤ්ඤතො, අවර්ණයා කෙරෙන් අන්‍ය වූ ඉවර්ණාදීහු කෙරෙන් පර වූ, ආසෙය්‍යවාදි විවජ්ජිතො, ආසි එව යනාදීහු කෙරෙන් විවර්ජිත වූ; දීඝො සරො, දීර්ඝස්වර තෙම; න ලුප්පති, ලොප් කරනු නො ලැබේ-අසමානස්වභාව වූ අවර්ණයා කෙරෙන් පර වූ ඉදනි ඉති එව යනාදි පදයන්ට ආදි වූ ඉවර්ණ ස්වරයා මුත් අනික් ස්වරයකුට ලොප් නො වෙයි; සෙසු අසමාන ස්වභාව වූ ඉවර්ණ උවර්ණාදි ස්වරයා කෙරෙන් පරවූ ආසි එවාදි පදයන්ට ආදි වූ ආකාර එකාරාදි ස්වරය හට මුත් සෙසු දීර්ඝස්වරයහට ලොප් නො වෙයි ඉති ඉව යනාදි හ්‍රස්ව ස්වරය හට ලොප් වෙයි යනු භාවයි.

බන්ධුස්ස-ඉව-පෙ-යථා-උදකෙ ඉතීධ, යථා උදකෙ යන මෙහි සංහිතාකාර්‍යයි කියනු ලැබේ.

පුබ්බාවණ්ණසරානං, පූර්වපදයෙහි අවර්ණ සඞ්ඛ්‍යාත වූ ස්වරයන්ට; ලොපෙ කතෙ, "සරා සරෙ ලොපං" 1.2.1. යන සූත්‍රයෙන් ලොප් කරන ලද කල්හි-මෙයින් වොදකං යන තැන්හි පූර්වපද සවර්ණය කුදු නැති බැවින් පූර්ව ඉකාරස්වර ලොපනිමිත්තකොට ගෙන පර උකාරය හට මහාවෘත්ති සූත්‍රයෙන් අසවර්ණ වෙයි හැඟේ.

**පරෙ-අසරූපෙති ච වත්තතෙ-තථා ඉවණ්ණො යත්නවා ති-1-2-10. ඉතො ඉවණ්ණග්ගහණඤ්ච වමොදුදන්තාන න්ති-1-2-7. ඉතො උග්ගහණඤ්ච සීහගතියා ඉධානුවත්තෙත බ්බං.**

## 16. ක්වචාසවණ්ණං ලුත්තෙ-1-2-3.

**ඉවණ්ණභූතො උකාරභූතො ච පරෙ සරෙ අසරූපෙ පුබ්බසරෙ ලුත්තෙ ක්වචි අසවණ්ණං පප්පොති.**

**න පි එතෙසං සවණ්ණාති අසවණ්ණා, එකාරොකාරා. තස්ම ඨානාසන්නවසෙන ඉවණ්ණුකාරානමෙකාරොකාරා හොන්ති.**

**බන්ධුස්සෙව, උපෙක්ඛති, උපෙතො, අවෙච්ච, ජිනෙරිතං, නොපෙති, වම්හොදකො, යථොදකෙ.**

**ක්වචීති කිං? තත්‍රිමෙ, ශඤ්ඤිපත්‍යාති, මතිඨිතො, සබ්බීතියො තෙනුපසංකමි, ලොකුත්තරෙ.**

---

පරො, පරො යනුද; අසරූපෙති ච, අසරූපෙ යනුද; වත්ත තෙ, වැටේ-අසරූපා යන පඤ්චමෙ‍යකවචනාන්තයාගේ විභක්ති විපරිණාම වශයෙන් අසරූපෙ යී සප්තමෙ‍යකවචනාන්තව වැටේ; තථා, එසේම; ඉවණ්ණො යත්නවාති, "ඉවණ්ණො යත්නවා 1.2.10. යන; ඉතො මේ සූත්‍රයෙන්; ඉවණ්ණග්ගහණඤ්ච, ඉවණ්ණ ශබ්ද ද වමොදුදන්තානන්ති, "වමොදුදන්තානං"-1-2-7. යන; ඉතො, මේ සූත්‍රයෙන්; උග්ගහණඤ්ච, උශබ්ද ද; සීහගතියා, සිංහාවලොකන න්‍යායයෙන් පසු බලා වැටෙන හෙයින් සිංහය හට බඳු වූ ගතිය හෙතුකොට ගෙන සීහාවලොකන හෙයිනැයි සේ යි; ඉධ, මේ "ක්වචාසවණ්ණං ලුත්තෙ"-1-2-3. යන සූත්‍රයෙහි; අනුවත්තෙත බ්බං, අනුවෘත්ත කට යුත්තේ යී.

ක්වචි ය අසවණ්ණං ය ලුත්තෙ ය යනු පද යී.

අසරූපෙ පුබ්බසරෙ ලුත්තෙ, අසමානසවභාව ඇති පූර්වස්වර ය හට ලොප් කරන ලද කල්හි; ඉවණ්ණභූතො උකාරභූතො ච, ඉවර්ණ වූ ද උකාර වූ ද; පරො සරො, පරවූ ස්වර තෙම; ක්වචි, කිසි විවක්ෂිතස්ථානයෙක්හි; අසවණ්ණං, අසවර්ණබවට; පප්පො ති, පැමිණේ; එතෙසං, මොවුන්ට; සවණ්ණා, සමාන වර්ණකෙනෙක්; නසන්ති, ඇත්තාහු නො වෙත් නු යි; අසවණ්ණා, අසවර්ණ නම් වෙති; ඔහු කවුරුද යත්? එකාරොකාරා, එකාර

ඔකාර දෙන්නයි-නත්ථි යනු "න තස්ස අද්දිට්ඨමිධත්ථි කිඤ්චි" යන මෙහි ආඛ්‍යාතපද වූ සේ පැනේ, "නත්ථි ලොකෙ සමග්ගතා සමණබ්‍රාහ්මණා" යන මෙහි අව්‍යය පද වූ සේ පැනෙයි, ආඛ්‍යාත පද වූයේද ඒකවචනාන්තමය, අව්‍යය පද වූයේ ඒකවචන බහුවචනයට සාධාරණය, මෙහි දු අව්‍යය පදය වූයේම අභිහිතනුයි බහුවර්‍ථයෙහි වැටෙයි දතයුතුයි, මේ වාක්‍යයෙන් වනාහි න සවණ්ණො අසවණ්ණො යි නත් පුරුෂ සමාසවිධානයාගේ නිවාරණය කරන ලදි; මෙම කීහ සප්‍රපඤ්ච සූත්‍රයෙහි–

"සවණ්ණරහිතො වෙත්ථ අසවණ්ණොති ගය්හති
න තදඤ්ඤ නියතත්තා නහි සුත්තා පවත්තිතුං" යී.

තත්‍ර, ඒ ඉවණ්ණ උකාර දෙන්නා කෙරෙහි; ඨානාසන්නවසෙන, ස්ථානයෙන් ආසන්න බව හෙතුකොට ගෙන; ඉවණ්ණුකාරානං, ඉවණ්ණ උකාර දෙන්න හට; එකාරොකාරා, එකාර ඔකාර දෙන්න; හොන්ති, (යථාක්‍රමයෙන්) වෙත්-ඉවණ්ණ උකාරදෙන්නා අතුරෙහි කවරෙක් අසවණ්ණතා බවට පැමිණේද යත්? යමෙක් ස්ථානයෙන් ආසන්න වී නම් ඔහුගේ වශයෙන් තාලුකස්ථානී ඉකාරය හට කණ්ඨතාලුකස්ථානී එකාරයෙක් වෙයි ඔෂ්ඨස්ථානී උකාරය හට කණ්ඨෞෂ්ඨස්ථානී ඔකාරයෙක් වන්නේය යනු මෙහි අභිප්‍රාය යි.

බන්ධුස්ස යි කියා තිබෙයි ඉව යි කියා තිබෙයි න යි කියා තිබෙයි උපෙති යි කියා තිබෙයි, "පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ" 1.1.10. යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් ස්වරයා කෙරෙන් ව්‍යඤ්ජන පහවෙයි පහවන්නේද අකාරයා කෙරෙන් සකාර පහ වෙයි අකාරයා කෙරෙන් නකාර පහවෙයි ස්වරයා පරකල්හි පූර්වස්වරයාට "සරා සරෙ ලොපං" 1.2.1. යන සූත්‍රයෙන් ලොප් වෙයි අසමාන ස්වභාව ඇති පූර්වස්වරය හට ලොප් කරන ලද කල්හි පර ඉවණ්ණ උකාර දෙන්න හට "ක්වචාසවණ්ණං ලුත්තෙ" 1.2.3. යන සූත්‍රයෙන් අසවර්ණ වෙයි වන්නේද ස්ථාන ප්‍රත්‍යාසත්තීන් තාලුකස්ථානී ඉකාරයා මතා කණ්ඨතාලුකස්ථානී එකාරයෙක් වෙයි ඔෂ්ඨස්ථානී උකාරයා මතා කණ්ඨෞෂ්ඨස්ථානී ඔකාරයෙක් වෙයි යට සිටි ස්වරරහිත වූ ව්‍යඤ්ජන තෙම "නයෙ පරං යුත්තෙ" 1.1.11 යන පරිභාෂා සූත්‍ර සාමර්ථ්‍යයෙන් පරාක්ෂරයා කරා පැමිණෙයි, බන්ධුස්ස ඉව න උපෙති යි තුබූ තැන්හි සංහිතාකාර්යයීව බන්ධුස්සෙව නොපෙති යනු වේ.

ක්වචීති, ක්වචි යනු; කිං, කුමටය; තත්‍රිමෙ-පෙ-ලොකුත්තරො යන තන්හි අසවර්ණ නො වන පිණිසයි; තත්‍ර-ඉමෙ, යස්ස-ඉන්ද්‍රියානි

**ලුපන්තෙති කිං? දස ඉමෙ-ධම්මා යථා-ඉදං-කුසලස්ස-උප සම්පදා-**

**අසරූපෙති කිං? චත්තාරිමානි, මාතුපට්ඨානං-එත්ථ ච සතිපි හෙට්ඨා වාග්ගහණෙ ක්වචිග්ගහණකරණතො අවණ්ණා එව ලුපන්ත ඉධ වුත්ත විධි හොන්තීති දට්ඨබ්බං.**

**තතො ඉධ න භවති-දීඝුපාදානං; පඤ්චහුපාලි, මුදින්ද්‍රියං, සොමිස්සරොති.**

**තත්‍ර-අයං, බුද්ධ-අනුස්සති, ස-අත්ථිකා, සඤ්ඤා-අස්ස, නද-අහං, යානි-ඉධ භූතානි, ගච්ඡාමි-ඉති, අති-ඉතො, කිකි-ඉව, බහු-උපකාරං, මධු-උදකං, සු-උපධාරිතං, යො'පි-අයං, ඉදානි-අහං, සචෙ-අයං, අප්පස්සුතො-අයං, ඉතර-ඉතරෙන, සද්ධා-ඉධ විත්තං, කම්ම-උපනිස්සයො, තථා-උපමං, රතනි-උප රතො, වි-උපසමො, ඉච්චත්‍ර-**

---

මහා-ඉද්ධිකො, සබ්බ-ඊතියො, තෙන-උපසඞ්කමි, ලොක-උත්තරො යි පද බින්ද යුතු.

ලුපන්තෙති කිං? ලුපන්ත යන වචනය කුමටද යත්? දස ඉමෙ ධම්මා, යථා ඉදං කුසලස්ස උපසම්පදා යන තන්හි පූර්වස්වරය හට ලොප් නො කරන ලද හෙයින් අසවර්ණ් කො වන පිණිස යි- මෙහි "සරෙ ක්වචි"-1-3-2. යන සූත්‍රයෙන් පූර්වස්වරය හට ලොප් ප්‍රතිෂෙධ වේ.

අසරූපෙති, අසරූපෙ යනු; කිං, කුමටය; චත්තාරිමානි මාතුපට්ඨානං යන තන්හි පූර්වස්වරය හට ලොප් කරන ලද හෙයින් පර ඉවර්ණ උකාර දෙන්න හට එකාර ඔකාර නො වන පිණිස යි; එත්ථ ච, මේ සූත්‍රයෙහි; හෙට්ඨා වාග්ගහණෙ සතිපි, යට "වා පරො අසරූපා"-1-2-2. යන සූත්‍රයෙහි) වාග්‍රහණය ඇති කල්හි දු; ක්වචිග්ගහණකරණතො, ක්වචිග්‍රහණයාගේ ග්‍රහණය හෙතුකොට ගෙන; අවණ්ණා එව ලුපන්තා, අවර්ණය හට ම ලොප් කරන ලද කල්හි; ඉධ වුත්තවිධි හොන්තීති, මේ සූත්‍රයෙන් කියන ලද අසවර්ණ විධි වන්නේය යි; දට්ඨබ්බං, දතයුත්තේ යි-"වා පරො අසරූපා" 1.2.2 යන අනන්තර සූත්‍රයෙහි වා ශබ්ද ඇති කල්හි අසවණ්ණො ලුපන්ත යී නො කියා ක්වචාසවණ්ණං ලුපන්ත යී විකල්ප පිණිස කියන ලද ක්වචිශබ්ද අධික වේද යත්? "අධිකවචනමධිකත්ථං ගමයති

**පුබ්බසරානං ලොපෙ කතෙ-**

**ක්වචීති අධිකාරො-පරො ලුත්තෙති ච වත්තතෙ.**

## 17. දීඝං-1-2-4.

**සරො ඛො පරො පුබ්බසරෙ ලුත්තෙ ක්වචි දීඝභාවං පප්පොති ඨානාසන්නවසෙන රස්සසරානං සවණ්ණදීඝො.**

**තත්‍රායං, බුද්ධානුස්සති, සාත්ථිකා, සද්ධාවාසස්ස, තදහං, සානීධ භූතානි, ගච්ඡාමීති, අතීතො, කිකීව, බහූපකාරං, මධූදකං, සූපධාරිතං, සො'පායං, ඉදානාහං, සචායං, අප්පස්සුතායං, ඉතරීතරෙන, සද්ධිං විතක්කං, කම්මූපනිස්සයො, තත්‍රූපමං, රතනූපරතො, වූපසමො.**

**ක්වචීති කිං? අචිරං වතයං කායො, දසපි, යදිමස්ස, තීණිමානි, පඤ්චසුපාදානක්ඛන්ධෙසු, තස්සෙසො, පඤ්චඞ්ගිකො, මුනින්දො, සතින්ද්‍රියං, ලහුට්ඨානං, ගච්ඡාමහං, තත්‍රිදං, පඤ්චහුපාලි, නත්ථඤ්ඤං.**

**ලුත්තෙති කිං? යථා අයං නිමි ඉව රාජා, කිකී ඉව, සු උපධාරිතං.**

---

යන න්‍යාය හෙයින් අසරූප වූ අවර්ණයාම ලොප් කරන ලද කල්හි පර ඉවර්ණ උකාර දෙන්න හට සූත්‍රයෙහි කියන ලද අසවර්ණවිධි වන්නේය යි සේ යි.

තතො, ඒ ක්වචිග්‍රහණසාමර්ථ්‍යයෙන් අසවර්ණය හට ලොප් කළ කල්හි අසවර්ණ වෙයි නියත කළ හෙයින් "දිට්ඨුපාදානං -පෙ- සො මිස්සරොති, දිට්ඨුපාදානං-පෙ-සො මිස්සරො" යන; ඉධ, මේ උදාහරණයෙහි; න භවති, අසවර්ණකාර්‍ය්‍ය නො වෙයි-දිට්ඨිඋපාදානං, පඤ්චහි උපාලි, මුදු ඉන්ද්‍රියං, සො මෙ ඉස්සරො යී පද බින්ද යුතු.

තත්‍ර-අයං-පෙ-වි-උපසමො ඉති, වි-උපසමො යන; අත්‍ර, මේ උදාහරණයන්හි සන්ධි කාර්‍ය්‍ය කියනු ලැබේ.

පුබ්බසරානං, පූර්වපදයෙහි අකාරාදි ස්වරයන්ට; ලොපෙ කතෙ, ලොප්කරන ලද කල්හි.

ක්වචීති, ක්වචි යනු; අධිකාරො, "ඉවණ්ණො යං නවා"-1-2-10. යන සූත්‍රය දක්වා සම්බන්ධ කරනු ලැබේ; පරො, ("වා පරො අස

රූපා"-1-2-2. යන සූත්‍රයෙන්) පරෝ යනුද; ලුත්තෙති ච, ("ක්වචා සවණ්ණෝ ලුත්තෙ"-1-2-3. යන සූත්‍රයෙන්) ලුත්තෙ යනුද; වත්තතෙ, වැටේ.

දීඝං යනු එකපද යි.

පුබ්බසරෙ ලුත්තෙ, පූර්වස්වරය හට ලොප් කරන ලද කල්හි; පරෝ සරෝ, පරස්වර තෙම; ක්වචි, සමහර තැනෙක්හි; දීඝභාවං, දීර්ඝභාවයට; පප්පොතීති, පැමිණේ නුයි; ඨානාසන්නවසෙන, කණ්ඨාදිස්ථාන හෙයින් ආසන්න බව හෙතුකොට ගෙන; රස්සසරානං, හ්‍රස්වස්වරයන්ට; සවණ්ණදීඝො, සමාන වර්ණ වූ දීර්ඝයෙක් වෙයි-අකාරය හට ආකාරයෙක් ඉකාරය හට ඊකාරයෙක් උකාරය හට ඌකාරයෙක් වෙයි සේයි.

තත්‍රායං යනාදි පටන් කොට සූපධාරිතං යනු දක්වා සමාන ස්වරයා කෙරෙන් පරය හට දීර්ඝත්වයේ උදාහරණය; සො'පායං යනාදි පටන් වූපසමො යනු දක්වා අසමානස්වරයා කෙරෙන් පරය හට දීර්ඝත්වයේ උදාහරණයි.

අචිරං වතයං කායො යනාදියෙහි අචිරං වත-අයං කායො, දස-අපි, යදි-ඉමස්ස, තීණි-ඉමානි, පඤ්චසු-උපාදානක්ඛන්ධෙසු, තස්ස-අත්ථො, පඤ්ච-අඞ්ගිකො, මුනි-ඉන්දො, සති-ඉන්ද්‍රියං, ලහු-උට්ඨානං, ගච්ඡාමි-අහං, තත්‍ර-ඉදං, පඤ්චහි-උපාලි, නත්ථි-අඤ්ඤං යි පදච්ඡෙද කොට පූර්වස්වරය හට ලොප් කරන ලද කල්හි මේ සූත්‍රයෙන් පර ස්වරය හට වන දීර්ඝය අනුවෘත්ත ක්වචිග්‍රහණබලයෙන් නොවේ. මෙහි අචිරං වතයං කායො දසපි යදිමස්ස තීණිමානි පඤ්චසුපාදානක්ඛන්ධෙසු ගච්ඡාමහං තත්‍රිදං පඤ්චහුපාලි යනු අසංයොගාන්තය හට දීර්ඝනිෂෙධයෙහි ප්‍රත්‍යුදාහරණය, තස්සත්ථො පඤ්චඞ්ගිකො මුනින්දො සතින්ද්‍රියං ලහුට්ඨානං නත්ථඤ්ඤං යනු සංයොගාන්තය හට දීර්ඝනිෂෙධයෙහි ප්‍රත්‍යුදාහරණයි, සංයොගාන්තය හට ස්වභාවයෙන් ගුරුබව හෙතුකොට ගෙන දීර්ඝ නො වෙයි දතයුතු "වුඩ්ඪාදි සරස්ස වා සංයොගන්තස්ස සණෙ ච"-2-8-57 යන සූත්‍රයෙහි සංයොගාන්තය හට වෘද්ධිනිෂෙධය පිණිස අසංයොගන්තස්ස යි කී බැවිනුදු මේ හැඟේ.

ලුත්තෙති කිං? ලුත්තෙ යනු කුමටය; යථා අයං යනාදියෙහි "සරෙ ක්වචි"-1-3-2. යන සූත්‍රයෙන් පූර්වස්වරය හට ලොප් ප්‍රතිෂෙධ කරන ලද හෙයින් පරය හට දීර්ඝ නො වෙ.

**ලොකස්ස-ඉති, දෙව-ඉති, වි-අතිපතනති, වි-අතිනාමෙනති, සඞ්ඛාති-අපි, ජීවිතහෙතු-අපි, විජ්ජු-ඉව, කිංසු-ඉධ විත්තං, සාධු-ඉතීතිධ-**

**පරසරානං ලොපෙ කතෙ-**

**දීඝනති ච වත්තතෙ.**

## 18. පුබ්බො ච-1-2-5.

**පුබ්බො ච සරො පරසරෙ ලුත්තෙ ක්වචි දීඝං පප්පොති. චග්ගහණං දීඝග්ගහණානුකඩ්ඪනත්ථං-තං"වානු කඩ්ඪිතමුත්තරත්‍ර නානුවත්තතෙ"ති ඤාපනත්ථං.**

**ලොකස්සාති, දෙවාති, වීතිපතනති, වීතිනාමෙනති, සඞ්ඛාතිපි, ජීවිතහෙතූපි, විජ්ජුව කිංසූධ විත්තං, සාධූති,**

**ක්වචීති කිං? යස්සදානි, ඉතිස්ස, ඉදානිපි, චක්ඛුන්ද්‍රියං, කිනනුමාව.**

**අධිගතො ඛො මෙ-අයං ධම්මො, පුත්තො තෙ-අහං, තෙ-අස්ස පහීනා, පබ්බතෙ-අහං, යෙ-අස්ස ඉතීධ.**

---

ලොකස්ස ඉති-පෙ-සාධු ඉතීධ, සාධු ඉති යන මෙහි සන්ධි කාර්‍ය්‍ය කියනු ලැබේ; පරසරානං, පරස්වරයන්ට; ලොපෙ කතෙ, ("වා පරො අසරූපා"-1-2-2. යන සූත්‍රයෙන්) ලොප්කරන ලද කල්හි; දීඝනති ච, දීඝං යනු ද; වත්තතෙ, ච ශබ්දයෙන් පරෙ යනුද ලුත්තෙ යනුද සම්පිණ්ඩනය කෙරේ.

පුබ්බො ය ච ය යනු පද යි.

පරෙ සරෙ ලුත්තෙ, පරස්වරයා ලොප්කරන ලද කල්හි; පුබ්බො ච සරො, පූර්වස්වරද; ක්වචි, සමහර තැනෙක්හි; දීඝං, දීර්ඝ බවට; පප්පොති, පැමිණේ; චග්ගහණං, චග්‍රහණය තෙම; දීඝග්ගහණ, දීර්ඝග්‍රහණයාගේ; අනුකඩ්ඪනත්ථං, ආකර්ෂණය හෙවත් ඇද ගැන්ම ප්‍රයොජන කොට ඇත්තේය; කුමක් පිණිසද? තං, ඒ දීර්ඝග්‍රහණය; චානුකඩ්ඪිතං, චකාරයා විසින් අදනා ලද්දේ; උත්තරත්‍ර, මත්තෙ සූත්‍රයෙහි; නානුවත්තතෙති, නොවැටෙන්නේය යි; ඤාපනත්ථං, හැඟවීම පිණිසයි; චකාරෙන අනු'කඩ්ඪිතං, චානුකඩ්ඪිතං.

"කාර්‍ය්‍යිණා භජ්‍යතෙ කාර්‍ය්‍යී කාර්‍ය්‍යං කාර්‍ය්‍යෙණ බාධ්‍යතෙ
නිමිත්තෙනත නිමිත්තන්තු යථෙප්සමනුවර්තතෙ" යනු

න්‍යාය හෙයින් යට සූත්‍රයෙහි කාර්‍ය්‍ය කාර්‍ය්‍යී නිමිත්තයෝ මතු මතු සූත්‍රයෙහි කාර්‍ය්‍ය කාර්‍ය්‍යී නිමිත්තයන් විසින් බාධිත

**පුබ්බලොපෙ සම්පත්තෙ-**

## 19. යමෙදන්තස්සාදෙසො-1-2-6.

**එකාරස්ස පදන්තභූතස්ස ඨානෙ සරෙ පරෙ ක්වචි යකාරාදෙසො හොති.**

**අකාරෙ තෙමෙසෙසද්දාදීසෙසවායං විධි-යතති යං රූපං- එ එව අන්තො එදන්තො, ආදෙසිඨානෙ ආදිස්සතීති ආදෙසො-ව්‍යඤ්ජනෙති අධිකිච්ච දීඝන්ති දීඝො.**

**අධිගතො ඛො ම්‍යායං ධම්මො, පුත්තො ත්‍යාහං, ත්‍යාස්ස පහීනා, පබ්බත්‍යාහං, ය්‍යාස්ස.**

**ක්වචීති කිං? තෙනාගතා, පුත්තාමත්ථි.**

---

වේනුයි වශබ්ද නැතද දීඝීග්‍රහණය උත්තර සූත්‍රයට වැටෙන්නේ වේද යත්? නො වැටෙයි, එතකුදු වත් යම්සේ "අවමහි ච" 2-1-24. යන සූත්‍රයෙහි අවාදෙශ සඞ්ඛ්‍යාත කාර්‍ය්‍ය ඇති කල්හි දු යට "ගාවසෙ"-2-1-22. යන සූත්‍රයෙහි කියන ලද ආවාදෙශය වැටේද එසේම මෙහි දු දීඝීග්‍රහණ උත්තර සූත්‍රයට වැටේ දෝ හෝ යි සැනෙදහ වන්නේය; එහෙයින් ඒ වළකින පිණිස ය යි දතයුතු.

එයින් කීහ, නංචානුකඩ්ඪිතමුත්තරත්‍ර නානුවත්තතෙති ඤාපනත්ථං යි, "අවමහි ච"-2-1-24. යන සූත්‍රයෙහි දු චග්‍රහණය හෙතු කොට ගෙන ආවාදෙශය වැටෙන්නේ වේද යත්? චග්‍රහණය පිණිස නො වේ, අනික් අර්ථවිශෙෂයක් හඟවන පිණිස කරන ලදි, කියේ මැනෝ! කාත්‍යායන වෘත්තියෙහි, "චසද්දග්ගහණෙන ස්‍යාදිසු ච පුබ්බුත්තරවචනෙ ආවාදෙසො හොති"යි-තෙන චකාරෙන අනුකඩ්ඪිතමාකඩ්ඪිතං චානුකඩ්ඪිතං.

ලොකස්ස-ඉති, දෙවා-ඉති, වි-අති පතනති, වි-අභිනාමෙනති, සඞ්ඝාටි-අපි, ජීවිතහෙතු-අපි, විජ්ජු-ඉව, කිංසු-ඉධ විත්තං, සාධු-ඉති, යි විච්ඡෙද කොට පරස්වරලොප කර පූර්වස්වරදීර්ඝ කළ කල ලොකස්සාති යනාදිය වේ.

ක්වචීති කිං,(අනුවර්ත්තන)ක්වචිග්‍රහණය කුමටිය යත්? යස්සදානි යනාදියෙහි නො වන පිණිසයි. යස්ස-ඉදානි, ඉති-අස්ස, ඉදානි-අපි, චක්ඛු-ඉන්ද්‍රියං, කින්නු-ඉමාව, යි බින්ද යුතු.

අධිගතො ඛො මෙ අයං ධම්මො-පෙ-යෙ අස්ස ඉතීධ, යෙ අස්ස-යන මෙහි සංහිතා කියනු ලැබේ.

පුබ්බලොපෙ සම්පත්තෙ, පූර්වස්වරය හට ලොප් සම්ප්‍රාප්ත කල්හි; (අයං විධි වුච්චතෙ, ඒ වළකා මේ සන්ධි විධි කියනු ලැබේ.)

යං ය එදන්තස්ස ය ආදෙසො ය යනු පද යි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; පදන්තභූතස්ස, පද කෙළවර වැටෙන්නා වූ; එකාරස්ස ඨානෙ, එකාරයාගේ ස්ථානයෙහි; ක්වචි, සමහරතැනෙක්හි; යකාරාදෙසො හොති, යකාරාදෙශයෙක් වේ; පදන්ත භූතො පවත්තො පදන්තභූතො, තස්ස පදන්තභූතස්ස; අයං විධි, මේ යකාරාදෙශ විධිතෙම; අකාරෙ, අකාරයා පරකල්හි; තෙමෙයෙසඤ්ඤදිස්සෙව, තෙමෙයෙ ශබ්දදීහුගේ එකාරය හට මැයි–සූත්‍රයෙහි එදන්තස්ස යි අනියමෙන් කියන ලද කල්හි "තදනුපරොධෙන"–2–1–5. යන පරිභාෂාසූත්‍ර සාමර්ථ්‍යයෙන් ආකාරයා පරකල්හි තෙමෙයෙ ශබ්දදිහුගේ එකාරය හට ම යකාරාදෙශ වන්නේය යන අභිප්‍රායෙන් "අකාරෙ තෙමෙයෙසඤ්ඤදිස්සෙවායං"යි ආචාර්‍ය්‍යයන් විසින් නියම කරන ලදැයි දත යුතු.

යන්ති, යං යි; යං රූපං, "යං" රූපය යි–මෙයින් යං යන පදය රූපං යන පදය අපෙක්ෂා කරත් මුත් ආදෙසො යන පදය අපෙක්ෂා නො කෙරෙයි ඉදින් ඒ අපෙක්ෂා කෙරේ නම් සූත්‍රකාරක "යො එදන්තස්සාදෙසො"යි කියන්නේය, එසේ නො කියා "යමෙදන්තස්සාදෙසො"යි කී හෙයින්ම යං යනු රූපං යනුම අපෙක්ෂා කෙරේයි දක්වත්; එ එව, එකාරම; අන්තො, පදකෙළවර වූයේ; එදන්තො, එදන්ත නම් වේ; ආදෙසිඨානෙ, ආදෙශීහුගේ ස්ථානයෙහි; ආදිස්සන්ති, කියනු ලැබෙනු යි නොහොත් දක්නා ලැබෙනු යි; ආදෙසො, ආදෙශ නම් වේ; ව්‍යඤ්ජනෙති, "සරා පකති බ්‍යඤ්ජනෙ"–1–3–1. යන සූත්‍රයෙන් බ්‍යඤ්ජනෙ යනු; අධිකිච්ච, වටා; දීඝනති, (ව්‍යඤ්ජන සන්ධියෙහි කියන ලද) "දීඝං"–1–3–3. යන සූත්‍රයෙන්; දීඝො, (අකාරයාට) දීර්ඝ වේ.

'අධිගතො බො ම්‍යායං' යනාදියෙහි, අධිගතො බො මෙ අයං ධම්මො, පුත්තො තෙ අහං, තෙ අස්ස පහීනා, පබ්බතෙ අහං, යෙ අස්ස යී පද විච්ඡෙද කොට යටකී නයින් යකාරාදෙශදීර්ඝාදිය කොට සිද්ධ කට යුතුයි.

ක්වචි ඉති; ක්වචි යනු; කිං, කුමටය? තෙ අනාගතා, පුත්තා මෙ අත්‍ථි යි බිද්දේ.

**අනන්තග්ගහණං කිං? ධම්මචක්කං පවත්තෙන්තො, දමෙන්තො චිත්තං.**

**යාවතකො-අස්ස කායො, තාවතකො-අස්ස ව්‍යාමො, කො-අත්ථො, අථ ඛො-අස්ස, අහං ඛො-අජ්ජ, යො-අයං, සො-අස්ස, සො-එව, යතො-අධිකරණං, අනු-අඩ්ඪමාසං, අනු-එති, සු-ආගතං, සු-ආකාරො, දු-ආකාරො, චක්ඛු-ආපාථං, බහු-ආබාධො, පාතු-අකාසි, න තු-එවාතිධ.**

## 20. වමොදුදන්තානං—1—2—7.

**ඔකාරුකාරානමන්තභූතානං සරෙ පරෙ ක්වචි වකාරාදෙසො හොති, ක ඛ ය ත සද්දාදි ඔකාරස්සෙදං ගහණං.**

**යාවතක්වස්ස කායො, තාවතක්වස්ස ව්‍යාමො, ක්වත්ථො, අථ ඛ්වස්ස, අහං ඛ්වජ්ජ, ය්වායං, ස්වස්ස, ස්වෙව, යත්වාධිකරණං, අන්වඩ්ඪමාසං, අන්වෙති, ස්වාගතං, ස්වාකාරො, ද්වාකාරො, චක්ඛ්වාපාථං, බහ්වාබාධො, පාත්වාකාසි, නත්වෙව.**

**ක්වචීති කිං? කො අත්ථො, අථ ඛො අඤ්ඤතරා, සො'හං, සො'යං, චත්තාරො මෙ, සාගතං, සාධාවුසො, හොතූති.**

**අනන්තග්ගහණං කිං? සවනීයං, විරවන්ති.**

**පටිසන්ථාරවුත්ති-අස්ස, සබ්බවිත්ති-අනුභූයතෙ, වි-අඤ්ජනං, වි-ආකතො ඉතීධ.**

---

අනන්තග්ගහණං, එතදන්තස්ස යි අන්තශබ්දයාගේ ග්‍රහණය; කිං, කුමටය; ධම්මචක්කං පවත්තෙන්තො, දමෙන්තො චිත්තං, යන තැන්හි පදමධ්‍යයෙහි එකාරය හට යකාරාදෙශ නො වන පිණිස යි; වතු වත්තනෙ යන ධාතුහු කෙරෙන් පරව ණෙ ප්‍රත්‍යය හා වර්තමානයෙහි අන්තප්‍රත්‍යය කොට, පවත්තෙන්තො, යි ද දම දමනෙ යන ධාතුහු කෙරෙනුදු එසේම ණෙප්‍රත්‍යය හා අන්ත ප්‍රත්‍යය කොට දමෙන්තො යි දක්වන ලද කල්හි අකාරයාගේ පරබවක් ඇතද එකාරයාගේ පදාන්ත බවෙක් නැත්තුයි අන්ත ග්‍රහණ සාමර්ථ්‍යයෙන් අකාරයා පරකල්හි පදමධ්‍යයෙහි වූ එකාරයා හට යකාරාදෙශ නො වෙයි දතයුතු.

සාචිතකො අස්ස කායො–පෙ–න තු එවාතිධ, නතු එම යන මෙහි සන්ධිකාය්‍යී කියනු ලැබේ.

වං ය ඔදුදන්තානං ය යනු පද සි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; අන්තභූතානං, පද කෙළවර වැටෙන්නා වූ; ඔකාරුකාරානං, ඔකාර උකාර දෙන්න හට; ක්වචි, සමහර තැනෙක්හි; වකාරාදෙසො හොති, වකාරයෙක් ආදෙශ වේ; ඉදං ගහණං, මේ ඔකාරය හට වන වකාරයාගේ ග්‍රහණය; ක බ ය ත සද්දාදිඔකාරස්ස, කබයත ශබ්දාදිහුගේ ඔකාරය හටයි–ඔදුදන්තානං යන මෙහි ඔකාරයා අනියමයෙන් කියන ලද කල්හි ද 'පදනුපරොධෙන''–2–1–5. යන පරිභාෂා සූත්‍ර සාමර්ථ්‍යයෙන් ඒ ක බ ය ත ශබ්දාදිහුගේ ඔකාරයා හට ම වකාරාදෙශ නියම කරන ලදි, යවායං, යත්වාධිකරණං; පාත්වාකාසි, යන මෙහි ව්‍යඤ්ජනයා පරකල්හි පූර්‍ව අකාරය හට "දීඝං"–1–2–4. යන සූත්‍රයෙන් දීර්ඝ කට යුතු.

ක්වචීති කිං? ක්වචි යනු කුමටය; කො අත්ථො, අථ ඛො අඤ්ඤතර, යන උදාහරණයෙහි "සරෙ ක්වචි"–1–3–2. යන සූත්‍රයෙන් පූර්‍වස්වර ලොපය ප්‍රතිෂෙධ වෙයි; යො,හං යනාදියෙහි, යො අහං, සො අයං; චත්තාරො ඉමෙ, සු ආගතං, සාධු ආවුසො, හොතු ඉති, යී බින්ද පූර්‍ව උදාහරණ තුනෙහිද අන්ත උදාහරණයෙහිද පරස්වර ලොප්ද මධ්‍ය උදාහරණයෙහි පූර්‍වස්වරය හට ලොප්ද දතයුතු.

අන්තග්ගහණං,(වමොකාරුකාරානං''යි අන්තශබ්දයාගේ ග්‍රහණය; කිං, කුමටය–සුවනීයං විරවන්ති යන තන්හි පදමධ්‍යයෙහි වකාරාදෙශවිධි නො වන පිණිසයි; සු–සවණෙ යන ධාතුහු කෙරෙන් අනීය ප්‍රත්‍යයද විපූර්‍ව වූ "රු–සද්දෙ" යන ධාතුහු කෙරෙන් අන්ති විභක්තිද උකාරය හට වෘද්ධිද කොට සො ආනීයං විරො අන්ති යි තබන ලද කල්හි ස්වරයා පරවූවද ඔකාර පදාන්ත නො වේනුයි අන්තග්‍රහණසාමර්ථ්‍යයෙන් පදමධ්‍යයෙහි සිටි ඔකාරයා හට වකාරාදෙශ නො වෙයි දත යුතු.

පටිසන්ථාරවුත්ති–අස්ස, සබ්බවිත්ති–අනුභූයතෙ, වි–අඤ්ජනං වි–ආකාතො ඉති ඉධ, යන මෙහි සන්ධිකාය්‍යී කියනු ලැබේ.

**ඉධ මණ්ඩූකගතියා අසරූපෙති වත්තතෙ.**

## 21. ඉවණ්ණො යන්නවා–1–2–10.

**ඉවණ්ණො අසරූපෙ සරෙ පරෙ යකාරං පප්පොති නවා ඉ එව වණ්ණො ඉවණ්ණො–නවාසද්දො ක්වචිසද්දපරියායො.**

**පටිසඞ්ඛාරවුත්‍යස්ස–සබ්බවිත්‍යනුභූයතෙ–ව්‍යඤ්ජනං ව්‍යාඛ්‍යාතො නවාති කිං? පඤ්චහඞ්ගෙහි, තානි අත්තානි, ගච්ඡාමහං, මුත්තවාගී, අනුබන්ධො.**

**අසරූපෙති කිං? ඉති හිදං, අග්ගීව, අපීති.**

**අති අන්තං, අති–ඔදතා, පති–අංසො, පති–ආහරති,–පති, එති, ඉති–අස්ස, ඉති–එතං, ඉති–ආදි ඉතිධ.**

---

ඉධ, මේ ("ඉවණ්ණො යන්නවා" යන) සූත්‍රයෙහි ලා; මණ්ඩූක ගතියා, (මධ්‍යයෙහි සිටි කතිපය සූත්‍රයක් වැටෙන හෙයින්) මණ්ඩූකයා හට බඳු වූ ගතිය හෙතුකොට ගෙන; අසරූපෙති, අසරූපෙ යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

ඉවණ්ණො ය යං ශ නවා ය යනු පද සි.

අසරූපෙ සරෙ පරෙ, අසමානස්වභාව ඇති ස්වරයා පරකල්හි; ඉවණ්ණො, ඉවර්ණතෙම; නවා, සමහර තැනෙක්හි; යකාරං, යකාර බවට; පප්පොති, පැමිණේ; ඉ එව, ඉකාරම; වණ්ණො, වර්ණවූයේ; ඉවණ්ණො, ඉවර්ණ නම් වේ–හ්‍රස්ව දීර්ඝ දෙන්නාගේ සංග්‍රහ බව පිණිස මෙහි වර්ණග්‍රහණය කරන ලදි; නවා සද්දො, නවා ශබ්ද තෙම; ක්වචිසද්දපරියායො, ක්වචිශබ්දය හට පර්‍යාය ශබ්දයෙකි ක්වචි ශබ්දයා හා අභින්නවූ අර්ථ ඇති ශබ්දයෙකැයි සේ සි, "ක්වචාස වණ්ණං ලුත්තෙ"–1–2–3. යන සූත්‍රයෙහි ක්වචි ශබ්දාධිකාරයෙන් ම මොහුගේ විකල්ප භාවය හැඟේ; නැවත මෙහි නවා ශබ්දයාගේ කිරීම කුමටද යත්? නවා ශබ්ද ක්වචි ශබ්ද දෙන්නාගේ පර්‍යාය භාවය හඟවන පිණිසය යනු මෙහි භාවයි.

පටිසඞ්ඛාරවුත්‍යස්ස, සබ්බවිත්‍යනුභූයතෙ, යනමෙහි "බ්‍යඤ්ජනෙ ච විසඤ්ඤොගො"–1–4–12. යන සූත්‍රයෙහි ච ශබ්දයෙන් සංයොග ව්‍යඤ්ජනයන් තුන්දෙනා අතුරෙහි සමානරූපවූ ව්‍යඤ්ජනයන් දෙන්නා අතුරෙහි එකක් හට ලොප්වෙයි දතයුතු.

**ඉවණ්ණො යනනවාති යකාරාදෙසෙ සම්පත්තෙ.**

## 22. සබ්බො චන්ති–1–2–8.

**අති පති ඉතීනං තිසද්දස්සෙදං ගහණං.**

**සබ්බො ති ඉච්චෙතස්ස තිසද්දො සරෙ පරෙ ක්වචි චකාරං පප්පොති.**

**තිති නිද්දෙසතො අකතයකාරස්සෙවායං විධි.**

**ඉතරථා ක්වචිග්ගහණස්ස ච අතිස්ස චන්තස්සාති සුත්තස්ස ච නිරත්ථකතා සියා–පරමෙහාවො ඨානෙති මිත්තං.**

**අච්චන්තං, අච්චොදතා, පච්චයො පච්චාහරති, පච්චෙති, ඉච්චස්ස, ඉච්චෙතං, ඉච්චාදි.**

**ක්වචීති කිං? ඉතිස්ස, ඉති ආකඩ්ඪමානෙන.**

---

නවාති, නවා යනු; කිං, කුමක් පිණිසය, පඤ්චහඞ්ගෙහි, නාති අත්තනි, ගච්ඡාමහං, මුත්තාවාගී, අනුධතො, යන තැන්හි ඉවර්ණය හට යකාරාදෙශ නො වන පිණිසයි–එහි පඤ්චහි අඞ්ගෙහි ගච්ඡාමි–අහං යි පදච්ඡෙද කරන කල්හි පූර්වස්වරය හට "සරා සරෙ ලොපං"–1–2–1. යන සූත්‍රයෙන් ලොප්වෙයි, නාති අත්තනි මුත්තාවාගී අනුධතො යන තැන්හි "සරෙ ක්වචි"–1–3–2. යන සූත්‍රයෙන් පූර්වස්වරය හට ලොප් ප්‍රතිෂෙධ වේ.

අසරූපෙති, අසමානස්වරයා පරකල්හිය යනු; කිං, කුමටය; ඉතිහිදං අග්ගීව අත්ථීති යන තැන්හි සමානස්වරයා පරහෙයින් ඉවර්ණය හට යකාරාදෙශ නො වන පිණිසයි, ඉති හි ඉදං, අග්ගි ඉව, අත්ථි ඉති යි පදච්ඡෙදයි.

අති–අන්තං–පෙ–ඉතීධ, අති අන්තං–පෙ–ඉතී ආදි යන මෙහි සඞ්ඛායයි කියනු ලැබේ.

ඉවණ්ණො යනනවාති, ඉවණ්ණො යනනවා යන සූත්‍රයෙන් යකාරාදෙසෙ සම්පත්තෙ, යකාරාදෙශ සම්ප්‍රාප්තකල්හි; (අයං විධි වුච්චතෙ, මේ චකාරාදෙශ විධාන සූත්‍රය කියනු ලැබේ).

සබ්බො ය චං ය තිය යනු පද යි.

ඉදං ගහණං, මේ චකාරයාගේ ග්‍රහණය; අතිපතිඉතීනං අති පති ඉති යන මේ උපසර්ගයන් තුන්දෙනාගේ; තිසද්දස්ස තිශබ්දය හට මැයි; සරෙ පරෙ, ස්වරයා පරකල්හි; සබ්බො, සියලු;

ති ඉති, ති යන; එසො සද්දො, මේ ශබ්ද තෙම; ක්වචි, සමහර තැනෙක්හි; චකාරං, චකාරාදෙශබවට; පප්පොති, පැමිණේ.

තිතිතිද්දෙසතො, (සූත්‍රයෙහි ත්‍යා යි නොකියා) ති යි දක්වූ හෙයින්; අයං විධි, මේ චකාරාදෙශ විධි තෙම; අකතය කාරලොපව, කරන ලද යකාර නැත්තා වූ තිශබ්දය හටමය; ඉතරථා, අනික් පරිද්දෙකින් වෙනම කරනලද යකාර ඇති ශබ්දයාට වේනම් යී සේයි; ක්වචිග්ගහණස්ස, ක්වචිග්‍රහණයාගේද; අතිස්ස චන්තස්සාති සුත්තස්ස ච, අතිස්ස චන්තස්ස-1-5-6 යන සූත්‍රයාගේද; නිරත්ථකතා සියා, නිෂ්ප්‍රයොජනභාවය වන්නේ යි-ඉදින් යවත්වූ තිශබ්දය හට චකාර වේ නම් යාදෙශයාගේ අනියතත්වයක් ඇති කල්හි තදභාවයෙහි චකාරභාවයද සිද්ධනුයි චකාරාදෙශ ප්‍රතිෂෙධය පිණිස මේ වෘත්තියෙහි ක්වචිග්‍රහණයාගේ අනුවෘත්තිය ආචාර්‍ය්‍යයන් විසින් "අතිස්ස චන්තස්ස" යන සූත්‍රයාගේ කිරීමද නිෂ්ප්‍රයොජනමැයි සේයි, න්‍යාසකාරයෝ චත්‍යාභි සඞ්ග්‍රහණ කාරණය තිකාරප්‍රතිබද්ධ යකාරය හට චකාරාදෙශ ප්‍රාප්තිය පිණිසද එයින්ම තිසද්දො ව්‍යඤ්ජනො යි සූත්‍රවිවරණයද කරනලදැයි කිහ, එද අයුක්තිය ඉදින් චකාරය හට චකාර විධානය මෙහි අභිමත වේනම් එකල්හි සූත්‍රය සබ්බො චන්ති නොකියා සබ්බො චන්ත්‍යා යී ආචාර්‍ය්‍ය කියන්නේය.

පරවෙභාවො ඨානෙති, පරවෙභාවො ඨානෙ 1-3-6 යන සූත්‍රයෙන්, විත්තං, චකාරය හට විභාවයෙක් වේ, ඉකාර අකාරාද්‍යන්ත ස්වරයන් දෙන්නාම පරකල්හි අතිශබ්දයාගේ තිශබ්දය හට චකාරාදෙශ කොට උදාහරණ නිදර්ශනය සෙසු ස්වරයන් පරකල්හිදු අතිශබ්දයාගේ ති ශබ්දය හට යථාසම්භවයෙන් යොදන පිණිසය, පච්චයො යනාදීයෙහිදු මෙසේමය ඉච්චාදි යන මේ උදාහරණ චත්‍යාභි න්‍යාස කාරයෝ භාවය දක්වන පිණිස කියන ලදැයි දතයුතු.

ක්වචීති කිං? ඉතිස්ස මුහුත්තම්පි යන ප්‍රත්‍යුදාහරණයද අතිරිත්තං යනාදි උදාහරණය පිණිස 'අතිස්ස චන්තස්ස' 1-5-6 යන සූත්‍රයද නිරත්ථකභාවයට පැමිණෙන හෙයින් නොකිය යුතු වන්නේය, එතෙකුදුවත් මේ හැම කියනලද එහෙයින් මේ චකාරාදෙශ විධානය යවත් නොවූ තිශබ්දයා හටම වන්නේයයි හැගේ, එසේ වුවහොත් වෘත්තියෙහි සබ්බග්‍රහණය හා තිසද්දො ව්‍යඤ්ජනො යී ව්‍යඤ්ජනග්‍රහණය කුමක් පිණිස කරන ලදද යත්? එහි සබ්බග්‍රහණය

**'තෙ න වා ඉවණ්ණෙ'ති 1-5-5 ඉතො න ඉවණ්ණෙති ච වත්තතෙ.**

## 23. අතිස්ස චන්තස්ස 1-5-6

**අති ඉච්චෙතස්ස අන්තභූතස්ස තිසද්දස්ස ඉවණ්ණෙ පරෙ 'සබ්බො චන්ති'ති 1-2-8 වුත්තරූපං න හොති-අතිස්සාති අති උපසග්ගානුකරණමෙතං තෙනෙවෙත්ථ විභත්තිලොපාභාවො.**

**එත්ථ ච අන්තසද්දො සද්දවිධිනිසෙධපකරණතො අති සද්දන්තභූතං තිසද්දමෙව වදති, න ඉවණ්ණන්තං දට්ඨබ්බං-ඉතරථා ඉදං සුත්තමෙව නිරත්ථකං සියා.**

---

ස්වර රහිතය හට ආදෙශ පිණිස කරනලද ව්‍යඤ්ජනග්‍රහණය වනාහි "ව්‍යඤ්ජනෙ සුනීරුත්තිම්හි" යනාදි හෙයින් මේ ස්වර සහිත වූද * අක්ෂරසමුදාය හට අර්ථ ව්‍යඤ්ජනාර්ථයෙන් ව්‍යඤ්ජන භාවය පැමි නෙන හෙයින් තිශබ්දයාගේ ස්වරරහිතභාවයෙන් මෙමසූත්‍රයෙන් කියනලද කාර්‍ය්‍ය සිඬ නො කෙරෙති එහෙයින් 'තිසද්දො බ්‍යඤ්ජ නො චකාරං පප්පොති"යන මෙහි තිශබ්ද භූත ස්වර ව්‍යඤ්ජනාක්ෂර සමුදාය තෙම චකාර භාවයට පැමිණෙන්නේය යි මෙසේ අර්ථ ගතයුතු. ඉතිස්ස යනු ඉති අස්ස යි බිදේ. ඉතිස්ස, ඉති ආසඞ්ඛ මානෙන, යන මෙහි චකාරාදෙශ නොවන පිණිසය යි දතයුතු.

තෙ න වා ඉවණ්ණෙති, තෙ න වා ඉවණ්ණෙ යන; ඉතො, මේ සූත්‍රයෙන්; න, න යනුද; ඉවණ්ණෙති ච, ඉවණ්ණෙ යනුද; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

අතිස්ස ය ච ය අන්තස්ස ය යනු පදයි.

අති ඉති, අති යන; එතස්ස, මේ උපසර්ගයාගේ; අන්තභූතස්ස, පදාන්තවූ; තිසද්දස්ස, තිශබ්දය හට; සබ්බො චන්තීති, සබ්බො චන්ති 1-2-8 යන සූත්‍රයෙහි;වුත්තරූපං,(ස්වරයා පරකල්හි තිශබ්ද ය හට) කියන ලද ච යන රූපය; ඉවණ්ණෙ පරෙ, ඉවර්ණයා පර කල්හි; න හොති, නොවේ; අතිස්ස ඉති, අතිස්ස යන; එතං, මේ පදය; අතිඋපසග්ගානුකරණං, අති යන උපසර්ගයාගේ අනු කරණ සඞ්ඛ්‍යාත නාමපදයෙකැයි සේයි—අනුකරීයතෙ 'තෙනාති අනුකරණං, අතිඋපසග්ගස්ස අනුකරණං අතිඋපසග්ගානුකරණං; තෙනෙව, ඒ (අතිස්ස යන පදයාගේ අතියන උපසර්ගයා හට අනු කරණ පදයක්ම) හෙතුකොට ගෙන; එත්ථ, මෙහි; විභත්තිලොපා භාවො, ෂෂ්ඨිවිභක්තියගේ ලොප් නොවීමයි.

---

* ස්වර රහිතවූද-සියලු.

**9 'ඉවණ්ණො යනනවාති'ධ 1-2-10 අසරූපාධිකාරතො ඉවණ්ණස්ස සරූපසම්ං යාදෙසො ච න සම්භවෙ.**

එත්ථ ච, මේ සූත්‍රයෙහිද; අනතසඤ්ඤෙ, අනතශබ්දය තෙම; සද්දවිධිනිසෙධප්පකරණතො, සූත්‍ර ශබ්දවිධි නිෂෙධ ප්‍රස්තාවයෙහි කියන ලද බැවින් නොහොත් අබ්භාදෙශාදි ශබ්දවිධිහුගේ ප්‍රති ෂෙධිසූත්‍රයම ප්‍රස්තාව කොට ඇතිබැවින්; අතිසද්දනතභූතං, අති ශබ්දයාගේ අනතයෙහි වූ; තිසද්දමෙව, තිශබ්දයාම; වදති, කියයි; න ඉවණ්ණනති ඉවර්ණයා නොකියන්නේයයි; දඨබ්බං, දත යුත්තේය; ඉතරථා, අනික් ප්‍රකාරයකින් වේනම් තිශබ්දයා නොකියා අනතශබ්ද ඉවර්ණයාම කියා නමැයි සේයි; ඉදං සුත්තමෙව, මේ "අතිස්ස චනතස්ස 1-5-6 යන සූත්‍රයම; නිරත්ථකං සියා, (සමාන රූප වූ ඉවර්ණයා පරකල්හි ඉවර්ණය හට යකාරා දෙශයක්නුයි) නිෂ්ප්‍රයොජන වන්නේයි—තෙ න වා ඉවණ්ණෙ 1-5-5 යන සූත්‍රයෙන් අභිශබ්ද අධිශබ්දයන් දෙන්නා හට ඉවර්ණ යන් පරකල්හි අබ්භාදෙශ අජ්ඣාදෙශ විධිවය ප්‍රතිෂෙධ කොට ඉක්බිති "අතිස්ස චනතස්ස" 1-5-6 යන සූත්‍රය දක්වන ලද, මෙසේ ශබ්දවිධිනිෂෙධ ප්‍රස්තාවයෙහි මේ සූත්‍රය කියන ලද බැවින් මෙයිනුදු ශබ්දවිධියම නිෂෙධ කරනු ලබත්මුත් ඉවර්ණවිධිය නිෂෙධ කරනු නොලැබෙයි යනු මෙහි අභිප්‍රායයි; මෙම නිහ වෘත්තියේ "අති ඉචෙචතස්ස අනතභූතස්ස තිසද්දස්ස සබ්බො චනත්ති වුත්තරූපං න හොති" යි, සඤ්ඤනං විධි සද්දවිධි, නිසෙ ධනං නිසෙධො, සද්දවිධිනො නිසෙධො සද්දවිධිනිසෙධො, සො එව පකරණං සද්දවිධිනිසෙධප්පකරණං තතො සද්දවිධිනිසෙ ධප්පකරණතො; අථවා නිසිජ්ඣතෙ 'නෙනාති නිසෙධො, සද්ද විධිස්ස නිසෙධො සද්දවිධිනිසෙධො, සො පකරණං අධිකාරො එතස්සාති සද්දවිධිනිසෙධප්පකරණො, තතො සද්දවිධිනිසෙධප්ප කරණතො.

මේ ශබ්දවිධිනිෂෙධය තෙම සෑදීමෙන් අතිශබ්දනතයාගේ ඉවර්ණ බව හෙතුකොටගෙන "ඉවණ්ණො යනනවා" 1-2-10 යන සූත්‍රයෙහි කියන ලද යකාරාදෙශ විධිහුගේ ප්‍රතිෂෙධය පිණිස මේ සූත්‍රය දන්නට පිළිවනැයි න්‍යාසයෙහි යමෙක් කියන ලදද ඒ ප්‍රත්‍යාඛ්‍යාන කරන ලදී.

ඉවණ්ණො යනනවා ති, ඉවණ්ණො යනනවා යන; ඉධ, මේ සූත්‍රයෙහි; අසරූපාධිකාරතො, අසරූප ශබ්දයාගේ අනුවෘත්තිය හෙතුකොටගෙන; සරූපසම්ං, සමාන රූප වූ ඉවර්ණයා පර

**චකාරෙ'නුත්තසමුච්චයත්ථො, තෙන ඉතිපතීනමන්තස්ස ච න හොති.**

**අති-ඉසිගණො, අතිසිගණො, එවං අතීතො, අතීරිතං ඉතීති, ඉතිදං, පතීතො.**

**අභි-අක්ඛාතං, අභි-උග්ගතො, අභි-ඕකාසො ඉතීධ. යකාරෙ සම්පත්තෙ සරෙති වත්තතෙ.**

## 24. අබ්භො අභි-1-5-3.

**අභි ඉච්චෙතස්ස සබ්බස්ස සරෙ පරෙ අබ්භාදෙසො හොති.**

---

කල්හි; ඉවණ්ණස්ස, ඉවර්ණයහට වන; යාදෙසො ච, යකාරාදේශද; න සම්භවෙ, සම්භව නොවන්නේ යි සේ යි—න්‍යාසයෙහි යාදෙශයාගේ නිවෘත්තිය පිණිස අවිද්‍යමාන වූ තිශබ්දාන්තයාගේ ප්‍රක්ෂේපකරණයද විද්‍යමානවූ අන්තග්‍රහණයාගේ හැරපීමද නිරර්ථකමැයි දර්ශිතයි, මෙහි "ඉධ පන එවං ගහිතං අතිස්ස ති අතිතීති. යදි එවං අතිතිස්සාති භවිතබ්බන්ති. සච්චං, ඉධ පන "සරූපානමෙකසෙසව්වසකි"න්ති 2-8-45 එකසෙසං කතං, යන්‍යාදි පටන්, එවං සරූපෙකසෙසෙනෙව වුත්තත්තා නිරත්ථකොච අන්ත සද්දොති, සච්චං, "පුථස්සුබ්‍යඤ්ජනෙ"ති 1-5-8 ඉමස්සත්ථායගහිතං, තෙනාහ, අන්තග්ගහණෙන අපුථස්සාපි සරෙ පරෙ අන්තසද්දස්ස උකාරො හොති යන්‍යාදි න්‍යාසයි.

චකාරො, චකාර තෙම; අනුත්තසමුච්චයත්ථො, අනුක්තයාගේ සම්පිණ්ඩනය ප්‍රයොජනකොට ඇත්තේයි, සමුච්චයං සම්පිණ්ඩනං සමුච්චයො, අනුත්තස්ස සමුච්චයො අනුත්තසමුච්චයො, සො අත්ථො පයොජනං එතස්සාති අනුත්තසමුච්චයත්ථො.

තෙන, එම ශබ්දයාගේ අනුක්තසම්පිණ්ඩනය ප්‍රයොජනකොට ඇතිබව හෙතුකොට ගෙන: ඉතිපතීනං, ඉතිපති යන උපසර්ගයන් දෙන්නාගේ; අන්තස්ස ච, අන්ත වූ තිශබ්දයා හටද; න හොති, ඉවර්ණයා පරකල්හි "සබ්බො චන්ති" 1-2-8 යන සූත්‍රයෙහි කියන ලද චකාරත්වය නොවේ.

අති යි තිබෙයි, ඉසිගණො යි තිබේයි, ස්වරයා පරකල්හි අතිශබ්දයා සම්බන්ධවූ තිශබ්දයා හට "සබ්බො චන්ති"-1-2-8 යන සූත්‍රයෙන් චකාරාදෙශ පත්තෙහි ඉවර්ණයා පරකල්හි "අතිස්ස

**10 අභීති පඨමන්තස්ස වුත්තියං ඡට්ඨියොජනං
ආදෙසාපෙක්ඛතො වුත්තං අමෙමාති ආදිකෙ විය.**

**පුබ්බස්සරලොපො.**

**අබ්භක්ඛානං, අබ්භුග්ගතො, අබ්භොකාසො.
අධි-අගමා, අධි-උපගතො, අධි-ඔගහෙත්වාතීධ.**

## 25. අජ්ඣො අධි 1-5-4

**අධි ඉච්චෙතස්ස සබ්බස්ස සරෙ පරෙ අජ්ඣාදෙසො හොති.**

**අජ්ඣගමා, අජ්ඣුපගතො, අජ්ඣොගාහෙත්වා.**

**අභි-ඉජ්ඣිතං, අධි-ඊරිතං ඉතීධ.**

---

ච්තතස්ස" 1-5-6 යන සූත්‍රයෙන් ප්‍රතිෂෙධ වෙයි, ස්වරයා පර කල්හි පූර්වස්වරය හට "සරා සරෙ ලොපං" 1-2-1 යන සූත්‍රයෙන් ලොප් වෙයි, යට සිටි ස්වර රහිත වූ ව්‍යඤ්ජන "නයෙ පරං යුත්තෙ" 1-1-11 යන පරිභාෂා සූත්‍රසාමර්ථ්‍යයෙන් පරාක්ෂරයා කරා පැමිණෙයි, අති ඉසිගණො යි තුබූ තන්හි සංහිතාකාර්යීව අතිසිගණො යනු වේ; ඉතීති යනාදියෙහි, ඉති-ඉති, ඉතීති; ඉති-ඉදං, ඉතීදං; පති-ඉතො, පතීතො යි පදච්ඡෙද වෙයි, චකාර ප්‍රතිෂෙධාදි කී පරිද්දෙන් කොට පරස්වරය හට දීර්ඝම වෙතැයි. අභි-අක්ඛානං, අභි-උග්ගතො, අභි-ඔකාසො ඉතීධ, අභි-අක්ඛානං-පෙ-යන මෙහි සන්ධිකාර්යය කියනු ලැබේ.

යකාරෙ සම්පත්තෙ, (ඉවණ්ණො යන්නවා-1-2-10 යන සූත්‍රයෙන්) යකාරාදෙශ සම්ප්‍රාප්ත කල්හි; (අයං විධි වුච්චතෙ යි යොදනු, මත්තෙහිදු මෙ බඳු ස්ථානයෙහි මේසේම යොදන්න.

සරෙති, ("ගො සරෙ පුථුස්සාගමො ක්වචි" 1-5-1 යන මේ සූත්‍රයෙන්) සරෙ යනු; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

අබ්භා ය අභි ය යනු පදයි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; අභි ඉති, අභි යන; එතස්ස සබ්බස්ස, මේ සියල්ල හට; අබ්භාදෙසො හොති, අබ්භ යන ආදෙශ වේ.

අභි ඉති, අභි යන; පඨමන්තස්ස, ප්‍රථමා විභක්ත්‍යන්තපදයාගේ; වුත්තියං, වෘත්තියෙහි ලා; ඡට්ඨියොජනං, (අභි අධි ඉච්චෙතස්ස යි) ෂෂ්ඨිවිභක්තිය හා සමග යෙදීම; අමෙමාති ආදීකො විය,

("අමෙමා නිග්ගහීතං ඛලපෙහි" 2-1-31 යන සූත්‍රයෙහි) අමෙමා යනාදියෙහි මෙන්; ආදෙසාපෙක්ඛතො, (අබ්භාදෙසො හොති යි කියන ලද) ආදෙශයාගේ අපෙක්ෂා කිරීම හෙතුකොට ගෙන; වුත්තං, කියන ලදි—යම්සේ "අමෙමා නිග්ගහීතං ඛලපෙහි" 2-1-31 යන සූත්‍රයෙහි අමෙමා යි ප්‍රථමා විභක්ත්‍යන්ත වශයෙන් කියන ලද්දවුද, අංවච නමකාර දෙන්නාගේ; අං වච තස්ස මකාරස්ස ච නිග්ගහීතං හොති, යි මෙසේ වෘත්තියෙහි ෂෂ්ඨී විභක්ත්‍යන්ත වශයෙන් යෙදීම ආදෙශාපෙක්ෂායෙන් කරන ලදද එසේම මේ "අබ්භො අභි"-1-5-6 යන සූත්‍රයෙහිදු ප්‍රථමා විභක්ත්‍යන්ත වශයෙන් කියනලද්දහුගේද "අභි ඉච්චෙව තස්ස සබ්බස්ස අබ්භාදෙසො හොති" යි අනුවෘත්තියෙහි ෂෂ්ඨී විභක්ත්‍යන්ත වශයෙන් යොජනා කරනලදූයි සේයි, මෙයින් අභි යන පදයාගේ උපසර්ගානුකරණය හට වාචක බව දක්වූහ, න්‍යාසයෙහි වනාහි ආදෙශයාගේ ප්‍රථමානිර්දේශය හෙතුකොට ගෙන අභිස්ස යි කියයුතුස්ථානයෙහි අභිශබ්දයා කෙරෙන් ෂෂ්ඨී විභක්ති කොට "සෙසතො ලොපං ගසිපි"2-4-10 යනු වැටෙන්නෙහි "සබ්බාසමාවුසොපසග්ගනිපාතාදීහි ච"2-4-11 යන සූත්‍රයෙන් ඇට ලොප්කොට අභි යි දක්වන ලද හෙයින් වෘත්තියෙහි අභි ඉච්චෙව තස්ස යි ෂෂ්ඨියෙන් දක්වන ලදූයි කියනලද; එසේ කල්හි "ඛාච්ඡි පටි පතිස්ස" ඔ අවස්ස" යනාදි සූත්‍රයෙහිදු උපසර්ගපරත්වයක් ඇතිකල්හි ෂෂ්ඨියට ලොප් ප්‍රසඞ්ග වෙයි, අතිකොතුදු "අංබ්‍යඤ්ජනෙ නිග්ගහීතං" යනාදියෙහි මෙන් අවශ්‍යයෙන්ම ස්ථානීහුගේ ෂෂ්ඨ්‍යන්ත වශයෙන් යෙදීම නොද පැනෙයි එහෙයින් අභි යනු උපසර්ගානුකරණ වචනයෙක්මැයි ගතයුතු.

පුබ්බසරලොපො, පූර්වපදවූ අබ්භාදෙශයාගේ භකාරස්ථ අකාරස්වරය හට ලොප්වේ.

අබ්භක්ඛාතං යනාදී සිඬයි.

අධි-අගමා, අධි-උපගතො, අධි-ඔගහෙත්වා ඉතිධ, අධි ඔගහෙත්වා යන මෙහි සන්ධිකාර්‍ය කියනු ලැබේ.

අජ්ඣො ය අධි ය යනු පදයි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; අධි ඉති, අධි යන; එතස්ස සබ්බස්ස, මේ සියල්ල හට; අජ්ඣාදෙසො හොති, අජ්ඣ යනා දෙශයෙක් වේ.

**අබ්භා අභි-අජ්ඣා අධීති ච වත්තතෙ.**

## 26. තෙ න වා ඉවණ්ණෙ—1-5-5

**තෙ ච ඛො අභි අධි ඉච්චෙවමෙතෙ උපසග්ගා ඉවණ්ණෙ පරෙ අබ්භා අජ්ඣා ඉති වුත්තරූපා න හොන්ති වා-සරලොප පරනයනානි-අභිජ්ඣිතං, අධීරිතං.**

**වාති කිං? අබ්භීරිතං, අජ්ඣිණමුත්තො, අජ්ඣෙසා, එකමිධ-අහන්තීධ.**

## 27. දෙ ධස්ස ච—1-2-9

**ධ ඉච්චෙතස්ස සරෙ පරෙ ක්වචි දකාරො හොති-එක සද්දතො පරස්ස ඉධස්ස ධකාරස්සෙවායං-සරලොපදීසා.**

**එකමිදහං.**

**ක්වචීති කිං? ඉධෙව.**

**ච සද්දෙන ක්වචි සාධුස්ස ධස්ස හකාරො-යථා-සාධු-දස්සනං, සාහුදස්සනං.**

**යථා-එව තථා එවාතීධ.**

---

අජ්ඣගමා, අජ්ඣුපගතො, අජ්ඣොගාහෙත්වා, යනු සිද්ධයි.

අභි-ඉජ්ඣිතං, අධි-ඊරිතං ඉතීධ, අධි-ඊරිතං යන මෙහි සන්ධිකාර්ය්‍ය කියනු ලැබේ.

අබ්භා අභි, අබ්භා අභි යන සූත්‍රයද; අජ්ඣා අධි, අජ්ඣා අධි යන සූත්‍රයද; වත්තතෙ, වැටේ.

තෙය නය වාය ඉවණ්ණය යනු පදයි.

තෙ ච ඛො, ඒ; අභි අධි ඉති, අභි අධි යන; එතෙ උපසග්ගා, මේ උපසර්ගයෝ; ඉවණ්ණෙ පරෙ, ඉවර්ණයා පරකල්හි; අබ්භා අජ්ඣා ඉති, අබ්භා අජ්ඣා යන; වුත්තරූපා, කියන ලද ආදෙශ රූපයෝ; වා, විකල්පයෙන්; න හොන්ති, නොවෙත්; සරලොප පරනයනානි, පූර්වස්වරය හට ලොප පරාක්ෂරයා කරා පැමිණවීම යන මොහු වෙත්.

අභි යි තිබෙයි, ඉජ්ඣිතං යි තිබෙයි, අධි යි තිබෙයි, ඊරිතං යි තිබෙයි, සවරයා පරකල්හි අභි යන උපසර්ගය හට "අබ්භො අභි" 1-5-3 යන සූත්‍රයෙන් අබ්භ යන ආදෙශද අධි යන උපසර්ගය හට "අජ්ඣො අධි" 1-5-4 යන සූත්‍රයෙන් අජ්ඣ යනාදෙශද පත්තෙහි ඉවර්ණයා පරකල්හි "තෙ න වා ඉවණ්ණෙ" 1-5-5 යන සූත්‍රයෙන් ප්‍රතිෂෙධවෙයි, සවරයා පරකල්හි පූර්වස්වරය හට "සරා සරෙ ලොපං" 1-2-1 යන සූත්‍රයෙන් ලොප් වෙයි, යට සිටි ස්වර රහිත වූ ව්‍යඤ්ජන "නයෙ පරං යුත්තෙ" 1-1-11 යන පරිභාෂා සූත්‍ර සාමර්ථ්‍යයෙන් පරාක්ෂරයා කරා පැමිණෙයි, අභි ඉජ්ඣිතං අධි ඊරිතං යි තුබූ තන්හි සංහිතාකාර්‍ය්‍යව අභිජ්ඣිතං අධීරිතං යනු වේ.

වාති, ("තෙ න ඉවණ්ණෙ" යි මෙපමණක්ම නොකියා මෙහි) වා යනු; කිං, කුමක් පිණිස කරනලද්ද? අබ්භීරිතං, අජ්ඣිණමුත්තො, අජ්ඣිඩො යන තන්හි ඉවර්ණයා පරකල්හිදු සමහර තැනෙක්හි අබ්භ අජ්ඣ යන ආදෙශ වන පිණිසයි.

අභිඊරිතං,අධි ඉණමුත්තො අධි ඉඩො යි තිබෙයි,සවරයා පරකල්හි අභි අධි යන මොවුන්ට "අබ්භො අභි" 1-5-4 අජ්ඣො අධි 1-5-3 යන සූත්‍රවලින් අබ්භ අජ්ඣ යන ආදෙශ පත්තෙහි ඉවර්ණයා පරකල්හි "තෙ න වා ඉවණ්ණෙ" 1-5-5 යන සූත්‍රයෙන් ප්‍රතිෂෙධ පත්තෙහි එහි ම වාග්‍රහණයෙන් ප්‍රතිෂෙධ වෙයි,සවරයා පරකල්හි සියලු අභිශබ්දය හට "අබ්භො අභි" 1-5-3 යන සූත්‍රයෙන් අබ්භ යන ආදෙශ වෙයි, සියලු අධිශබ්දය හට "අජ්ඣො අධි" 1-5-4 යන සූත්‍රයෙන් අජ්ඣ යනාදෙශ වෙයි පූර්වස්වරය හට ලොප් වෙයි යටසිටි ස්වර රහිත වූ ව්‍යඤ්ජන පරාක්ෂරයා කරා පැමිණෙයි, අභි ඊරිතං අධි ඉණමුත්තො අධි ඉඩො යි තුබූ තන්හි සංහිතාකාර්‍ය්‍යව අබ්භීරිතං අජ්ඣිණමුත්තො අජ්ඣිඩො යනු වේ.

එකම්ධ-අහං ඉති, එකම්ධ-අහං යන; ඉධ, මෙහි සංහිතා කාර්‍ය්‍ය කියනු ලැබේ.

දෙ ධ ස්ස ය ච ය යනු පද යි.

සරෙ පරෙ, සවරයා පරකල්හි; ධ ඉති, ධ යන; එතස්ස, මේ හට; ක්වචි, සමහර තැනෙක්හි; දකාරො හොති, දකාරාදෙශ වේ; අයං, මේ දකාරාදෙශ විධිතෙම; එකාසද්දතො පරස්ස, එකශබ්දයා කෙරෙන් පරවූ; ඉධස්ස, ඉධ ශබ්දයාසම්බන්ධිවූ; ධකාරස්ස එව, ධකාරයා හට මැයි;සරලොපදීඝා, පූර්වස්වරය හට ලොප පරස්වරය හට දීර්ඝ යන මොහු වෙත්.

**නවාති වත්තතෙ සරම්හාති ච.**

## 28. එවාදිස්ස රි පුබ්බො ච රස්සො. 1-2-11

**යථාතථාමයපරස්සෙදං ගහණං-දීඝසරම්හා පරස්ස එවසද්දාදිභූතස්ස එකාරස්ස රිකාරෙ හොති, පුබ්බො ච සරෙ රස්සො හොති නවා.**

**යථරිව, තථරිව.**

**නවාති කිං? යථෙව, තථෙව.**

**ති-අන්තං, ති-අධං, අග්ගි-ආගාරෙ, සත්තමී-අත්ථෙ, පඤ්චමී-අන්තං, දු-අඞ්ගිකං, භික්ඛු-ආසනෙ, පුථු-ආසනෙ, සයම්භූ-ආසනෙ ඉතීධ.**

**යවාදෙසෙසු සම්පත්තෙසු.**

**සඤ්ඤාති වත්තතෙ.**

## 29. ඉවණ්ණුවණ්ණා ඣලා 2-1-7

**ඉවණ්ණුවණ්ණා ඉච්චෙතෙ යථාක්කමං ඣලසඤ්ඤා ච * හොන්ති.**

**වණ්ණග්ගහණං සවණ්ණග්ගහණත්ථං.**

---

එකමිධ-අහං කියා පද බිඳ තුබූ තන්හි සංහිතාකාර්‍යයීව, එකමිදහං යනු වෙයි; ක්වචීති කිං? මෙහි අනුවෘත්ත ක්වචිග්‍රහණය කුමක් පිණිසද? ඉධෙව යන තන්හි ධකාරය හට දකාරාදෙශ නොවන පිණිසයි.

චසද්දෙන, (මේ සූත්‍රයෙහි) ච ශබ්දයෙන්; ක්වචි, සමහර තැනෙක්හි; සාධුස්ස, සාධු ශබ්දයා සම්බන්ධිවූ; ධස්ස, ධකාරය හට; හකාරො, හකාරයෙක් වේ; යථා, උදාහරණ මෙසේයි; සාධු දස්සනං, යන තන්හි; සාහුදස්සනං, යනු වේ; යථා-එව, තථා-එව ඉති, යථා එව තථා එව යන; ඉධ, මෙහි සන්ධිකාර්‍යයී කියනු ලැබේ.

නවාති, නවා යනු; වත්තතෙ, වැටේ; සරම්හාති ච ("සරා සරෙ ලොපං" 1-2-1 යන සූත්‍රයෙන් විභත්ති විපරිණාම වශයෙන්) සරම්හා යනුද වැටේ.

---

* ඣලසඤ්ඤා-ඉති රූපසිද්ධිකච්චායනවුත්තිසු.

**එවාදිස්ස ය රි ය පුබ්බො ය ච ය රස්සො ය යනු පදයි.**

ඉදං ගහණං, එවාදිස්ස රි යි මෙසේ ග්‍රහණය; යථාතථාවය පරස්ස, යථා තථා ශබ්දවයෙන් පර වූ එව ශබ්දයාගේ එකාරය හට මැයි; එවස්ස ආදි එවාදි, තස්ස එවාදිස්ස; දීඝසරම්හා පරස්ස, දීඝීස්වරයා කෙරෙන් පර වූ; එවසද්දාදිභූතස්ස, එවශබ්දයාගේ ආදියෙහි වැටෙන්නාවූ; එකාරස්ස, එකාරය හට; තවා, සමහර තැනෙක්හි; රිකාරො හොති, රිකාරාදෙශ වෙයි; පුබ්බො සරො, පූර්ව වූ දීඝීස්වර තෙම; රස්සො ච හොති, හ්‍රස්වකාලයෙන් යුක්තද වන්නේයි—සූත්‍රයෙහි දීඝීග්‍රහණයක් නැති කල්හිදු පුබ්බො ච රස්සො යන සාමර්ථ්‍යයෙන් දීඝසරම්හා යනු කීහයි දතයුතු.

යථා–එව,තථා–එව,කියා පද බිඳ තුබූ තන්හි සංහිතාකාර්‍ය්‍යීව, යථරිව, තථරිව යනු වෙයි, තවාති කිං, තවා යනු කුමටය, යථෙව තථෙව යන තන්හි රිකාරාදෙශ හා පූර්වස්වරයන්ට හ්‍රස්වද නො වන පිණිසයි, මේ උදාහරණවයෙහි පූර්වස්වරය හට ලොපි; නි–අනත්තං–පෙ–ආසනෙ ඉතීධ, නි–අනත්තං–පෙ–ආසනෙ යන මෙහි සන්ධිකාර්‍ය්‍යී කියනු ලැබේ

යවාදෙසෙසු, "ඉවණ්ණො යන්නවා" 1–2–10 යන සූත්‍රයෙන් යකාරාදෙශය "වමොදුදන්තානං" 1–2–7 යන සූත්‍රයෙන් වකාරාදෙශය යන මේ කාර්‍ය්‍යීයන් දෙන්නා; සම්පතෙන්තසු, සම්ප්‍රාප්ත කල්හි.

සඤ්ඤාති, "ආලපනෙ සි ගසඤ්ඤො" 2–1–6 යන සූත්‍රයෙන්; සඤ්ඤා යනු; විත්තනෙ, වැටේ.

ඉවණ්ණුවණ්ණා ය ඣලා ය යනු පදයි.

ඉවණ්ණඋවණ්ණා ඉති, ඉවර්ණය උවර්ණය යන; එතෙ, මොහු; යථාක්කමං, ක්‍රම නො ඉක්ම; පන්තීන් ය යි සේයි; ඣල සඤ්ඤා ච * හොන්ති, ඣසංඥලසංඥ ඇත්තාහුද වෙත්–ඣල සඤ්ඤා * ච යන මේ ච ශබ්දය පසඤ්ඤා යනු සමුච්චය කෙරේ.

වණ්ණගහණං, ඉවණ්ණුවණ්ණා යි මෙසේ වර්ණශබ්දයාගේ ගැන්ම; සවණ්ණගහණත්ථං, සමාන වර්ණයන්ගේ ගැන්ම ප්‍රයොජන කොට ඇත්තේ යී; ඊකාර ඌකාර දෙන්නාගේද සංග්‍රහය වන පිණිස යී සේයි.

---

* රූපසිද්ධි සාච්චායන වුත්තිවල 'ඣලසඤ්ඤා' යී ච දක්නා ලැබේ.

**11. ඛලසඤ්ඤා පසඤ්ඤාව න ලිඞ්ගන්තංව නිස්සිතා ආඛ්‍යාතෙ ලිඞ්ගමජ්ඣෙ ච විලිඞ්ගන්තෙ ච දස්සනා.**

## 30. ඛලාන්තමියුවා සරෙ වා 2-1-19

**ඛල ඉවණ්ණුවණ්ණානං ඉය උව ඉච්චෙතෙ ආදෙසා හොන්ති වා සරෙ පරෙ-සරලොපො.**

**තියන්තං, තිය්ඛං, දීඝො-අග්ගියාගාරෙ, සුත්තමියන්තො, පචමියන්තන්ති එත්ථ මහාවුත්තිනා යකාරාගමෙ ෆස්සන්තං.**

**දුවඞ්ගිකං, භික්ඛුවාසනෙ, පුථුවාසනෙ, සයම්භුවාසනෙ.**

**වාති කිං? අග්ග්‍යාගාරෙ, භික්ඛු ආසනෙ නිසීදති.**

---

ඛලසඤ්ඤා, ඛල සංඥවෝ; පසඤ්ඤාව, පසංඥයා මෙන්; ලිඞ්ගන්තංව, ලිඞ්ගයාගේ කෙළවරම; නිස්සිතා, ඇසුරුකරන්නාහු; න, නොවෙති—යම්සේ පසංඥ තොම "තෙ ඉත්ථිඛ්‍යා"යි කී බැවින් ස්ත්‍රීලිඞ්ගාන්තයන් නිශ්‍රිත වන්නීද ඛල යන සංඥවෝ දෙන්න එසේ ලිඞ්ගාන්‍තයම ආශ්‍රය කරන්නාහු නො වෙතිය යි සේයි, කවර හෙයින යත්? ආඛ්‍යාතෙ, (කුබ්බන්ති ජනන්ති යනාදියෙහි මෙන්) ආඛ්‍යාතයෙහිද; ලිඞ්ගමජ්ඣෙ ච, (කුබ්බනො පුලලිඞ්ගං යනාදියෙහි මෙන්) ලිඞ්ගමධ්‍යයෙහිද; විලිඞ්ගන්තෙ ච, ("ඛලතො සස්ස නො වා" 2-1-66 යනාදියෙහි මෙන්) පුන්නපුංසක සඞ්ඛ්‍යාත විලිඞ්ගයාගේ අන්තයෙහිද; දස්සනා, ඛලසංඥව හෙතුකොට ගෙනයි. (මෙහි පොත්)

ඛලාන්තං ය ඉයුවා ය සරෙ ය වා ය යනු පදයි.

ඉයො ච උවො ච ඉයුවා.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; ඛල ඉති, ඛල යන; එතෙසං, මේ ඉවර්ණ උවර්ණ දෙන්නාට; ඉය උව ඉති, ඉය උව යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; වා හොන්ති, (ක්‍රම නො ඉක්ම) විකල්පයෙන් වෙත්; සරලොපො, (ඉයොවාදෙශයන්ගේ අන්ත අකාර) ස්වරය හට ලොප් වේ; තියන්තං තියඛං යනු වෙයි.

දීඝො, (අග්ගියාගාරෙ යන උදාහරණයෙහි පූර්වස්වරලොපය නිමිත්තකොට ගෙන පරස්වරය හට "දීඝං"1-2-4 යන සූත්‍රයෙන්) දීඝී වේ—මෙහි ඛලාන්තමියුවා සරෙයි කී බව මුත් ඛලපාත

**ගො-අජිනං, ගො-එළකං ඉතීධ**

**ගො අවො සමාසෙති ච වත්තතෙ.**

## 31. ඔ සරෙ ච—2-1-27.

---

**මියුවා සරෙ වා සී නො කී බැවින් සත්තම්යන්තෙ පඤ්චමියන්තං යන උදාහරණවයෙහි පසංඥය හට මේ සූත්‍රයෙන් ඉයාදෙශ විධානය අයුක්ත වේද යත්? යුක්තමැයි-වා ශබ්ද බලයෙන් පසංඥය හටද සමහර තැනෙක ඉයාදෙශ විධානය අවිරොධ හෙයිනි, ඛ්ලයන් සම්බන්ධව සිටි ඉයොවාදෙශයන්ගේ විකල්පාර්‍ථ වා ශබ්දයෙන් පසංඥය හට ඉයාදෙශ කාරණය නොයෙදෙන් නේවේද යත්? යෙදේ මැයි, ඔහුදු විකල්පාර්‍ථම නො වන හෙයිනි, ඉදින් මෙහි වා ශබ්ද හුදු විකල්පාර්‍ථම වේ නම් අනන්තර සූත්‍රයෙහි විකල්පාර්‍ථ වා ශබ්දය ඇති කල්හි ඛ්ලානම්යුවා සරෙ වා සී මෙසේ වා ශබ්දොපාදානය නිෂ්ප්‍රයොජන වෙයි, එහෙයින් යම්සේ තතො යොනමොතු 2-3-45 යන මේ අනන්තර සූත්‍රයෙහි තතො යනු ඇති කල්හිදු තතො සම්හි 2-3-46 යන සූත්‍රයෙහි නැවත තතො ග්‍රහණය හෙතු කොට ගෙන "අධිකාවචනමධිකාර්‍ථං ගමයති" යන න්‍යාශ හෙයින් ආරුදෙශයා කෙරෙන් අන්‍ය හූ ශබ්දාදීහු කෙරෙන්ද පර වූ සප්තමේ‍යක වචනය හට ඉකාරුදෙශ සිඬද එසේම අම්‍ා පතො සම්ංසමානං වා 2-1-17 යන අනන්තර සූත්‍රයෙහි වා ශබ්දයා ඇති කල්හිදු මේ සූත්‍රයෙහි නැවත වා ශබ්දයාගේ ග්‍රහණය හෙතුකොට ගෙන ශබ්දාධික්‍යයෙන් අර්‍ථාධික්‍යය වේ තුයි පසංඥය හටද ප්‍රයොගානුරොධයෙන් ඉයාදෙශ සිඬය සි දතයුතු.**

අග්ගියාගාරෙ සත්තමියන්තෙ පඤ්චමියන්තං ඉති, පඤ්චමියන්තං යන; එහි, මේ ප්‍රත්‍යුදාහරණයෙහි; මහාවුත්තිනා, මහාවෘත්ති සූත්‍රයෙන්—මහාවෘත්තිය සි මෙතන තෙසුවුඩ්ලොපාගම විකාර විපරිතාදෙසා ච 2-8-61 යන සූත්‍රය ගන්නා ලදී. යකාරාගමෙ, යකාරාගම කළ කල්හි; රස්සත්තං, හ්‍රස්ව බවයි.

දුවඩ්ගිකං, භික්ඛ්වාසනෙ, පුථුවාසනෙ, සයම්භුවාසනෙ, යනු සිඬයි. වාති කිං, වා යනු කුමටද යත්? අග්‍යාගාරෙ, භික්ඛු ආසනෙ නිසීදති යන තන්හි ඉය උවා දෙශ නොවන පිණිසයි.

ගො අජිනං ගො එළකං ඉතීධ, ගො අජිනං ගො එළකං යන මෙහි සන්ධිකාර්‍ය කියනු ලැබේ.

**ගො ඉච්චෙතස්ස ඔකාරස්ස සරෙ පරෙ අවාදෙසො හොති සමාසෙ-ච සද්දග්ගහණෙන උවණ්ණස්ස උව අවා දෙසා ච.**

**යථා-භුවි, පසවො, ගවාජිනං, ගවෙළකං.**

**පුථ-එවාතීධ.**

## 32. ගො සරෙ පුථස්සාගමො ක්වචි 1-5-1

**පුථ ඉච්චෙතස්ස නිපාතස්ස අන්තෙ ක්වචි ගකාරාගමො හොති සරෙ පරෙ.**

**ආගච්ඡතීති ආගමො—අසන්තුප්පත්ති ආගමො—එත්ථ සරෙති නිමිත්තාසන්නවසෙන පුථස්සෙනන්ති ලබ්භති.**

**පුථගෙව, පුථ එව.**

**පා—එවාතීධ.**

---

ගො, ("ගාව සෙ" 2-1-22 යන සූත්‍රයෙන් ගො යනුද; අවො, ("අවම්හි ච" 2-1-24 යන මේ සූත්‍රයෙන්) අවො යනුද; සමාසෙති ච, ("තතො නමමපතිම්හා ලුත්තෙ ච සමාසෙ" 2-1-26 යන සූත්‍රයෙන්) සමාසෙ යනුද; වත්තතෙ, වැටේ.

ඔ ය සරෙ ය ච ය යනු පද යි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; ගො ඉති, ගො යන; එතස්ස, මේ ශබ්දයාගේ; ඔකාරස්ස, ඔකාරය හට; සමාසෙ, සමාස විෂයෙහි; අවාදෙසො හොති, අව යනාදෙශ වේ; ච සද්දග්ගහණෙන, ච ශබ්දයාගේ ග්‍රහණය හෙතු කොට ගෙන; උවණ්ණස්ස, උවර්ණය හට; උව අවාදෙසා ච, උව අවාදෙශයෝ දෙන්නා වෙත්; යථා, එහි උදාහරණ මෙසේයි.

භුවි යනු උවාදෙශය හට උදාහරණය, පසවො යනු අවාදෙශය හට උදාහරණය—එහි භූ ශබ්දයා කෙරෙන් පර වූ සප්තම්‍යෙක වචනය හට තතොසම්මි—2-3-46 යන සූත්‍රයෙහි තතොග්‍රහණයෙන් ඉකාරාදෙශ කරන ලද කල්හි උකාරය හට ඔ සරෙ ච—2-1-27 යන සූත්‍රයෙහි ච ග්‍රහණයෙන් උවාදෙශ වෙයි; පසු යන මේ ශබ්දයා කෙරෙන් පර වූ යොවචනය හට ඝතො යොනමොතු—2-3-45 යන සූත්‍රයෙහි තතොග්‍රහණයෙන්

ඕකාරාදෙශ කරන ලද කල්හි ඔකාරය හට මෙහිම ච ග්‍රහණයෙන් අවාදෙශ වෙයි. සරලොපාදි සූත්‍රයෙන් පූර්වස්වරය හට ලොප් ව පරය හට ප්‍රකෘතිවත්ව පරනයන කරන ලද කල්හි භූවි පසවො යනු වේ, ල සංඥයා කොරෙන් පර යො හට ලතො වොකාරො ච– 2–1–68 යන සූත්‍රයෙන් වොකාරාදෙශ කරන ලද කල්හි වෙ වොසු ලො ච—2–1–46 යන සූත්‍රයෙන් ල සංඥය හට අභාව විධානයෙන්ම පසවො යන මේ රූපය සිඩකල්හි දු ඔහුගේ අවාදෙශය හට උදාහරණ භාවයෙන්ම දක්වීම සාධනාන්තරොපාය දර්ශනය පිණිසය යි දතයුතු.

රවො මඥවං යනු සෂාත් සෂාත් අවාදෙශය හට උදාහරණ ය යි ගතයුතු. ගො ච අජිනො ච එළකො ච යන වාක්‍යයෙහි චත්වසමාස කොට විභාසා යනාදි සූත්‍රයෙන් එකත්ව නපුංසකත්වය කොට නාම් වත් කරන ලද කල්හි ගො අජින ගො එළක යි තිබෙයි, ස්වරයා පරකල්හි ගො ශබ්දයාගේ ඔකාරය හට ඕ සඃර ච—1–2–27 යන සූත්‍රයෙන් සමාස විෂයෙහි අවාදෙශ වෙයි ස්වරයා පරකල්හි පූර්වස්වරය හට ලොප් වෙයි පූර්වස්වරය හට ලොප් කරන ලද කල්හි පරස්වරය හට දීර්ඝ වෙයි ස්වර රහිත ව්‍යඤ්ජන පරාක්ෂරයා හාරා පැමිණ ලිඞ්ගත්ථෙ පඨමා—2–6–14 යන සූත්‍රයෙන් ප්‍රථමෛක වචන වෙයි සි හට “සිං”—2–4–9 යන සූත්‍රයෙන් අං වෙයි, අං පරකල්හි සරලොපාදි සූත්‍රයෙන් පූර්ව ස්වරය හට ලොප්ව පරය හට ප්‍රකෘතිවත් වෙයි, නයෙ පරං යුත්තෙ යි පරනයන වෙයි, ගවාජිනං ගවෙළකං යනු වේ.

පුථ එවාතීධ, පුථ එව යන මෙහි සන්ධිකාර්‍ය්‍යී කියනු ලැබේ.

ස්වරාධිකාරයෙහි ලොපාදෙශ සම්බන්ධි වශයෙන් විප්‍රකාර සන්ධි දක්වා දැන් ආගම සන්ධි දක්වන පිණිස කියත් ගො සරෙ යනාදි.

ගො ය සරෙ ය පුථස්ස ය ආගමො ය ක්වචි ය යනු පදයි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; පුථ ඉති, පුථ යන; එතස්ස නිපාතස්ස, මේ නිපාතයාගේ; අන්තෙ, කෙළවර; ක්වචි, සමහර තැනෙක්හි; ගකාරාගමො හොති, ගකාරාගමයෙක් වේ.

ආගච්ඡතීති, ආදිමධ්‍යාවසානසඞ්ඛ්‍යාත මයඞ්ගාදීයෙහි උත්පත්ති වශයෙන් පැමිණේ නු යි; ආගමො, ආගම් නම්—ආ පූර්ව වූ ගමු යන ධාතුහු කොරෙන් කර්තෘයෙහි අප්‍රත්‍යය වේ;

**සරෙ ගො ආගමො ඛවීති වත්තතෙ.**

## 33 පාස්ස චෙත්තො රස්සො 1–5–2.

**පා ඉච්චෙතස්ස අන්තො සරෙ පරෙ ඛචි ගකාරාගමො හොති.**

**පාස්ස අන්තො ච සරෙ රස්සො හොති.**

**පගෙව වුත්තස්ස, පා එව.**

**වා සරෙති ච වත්තතෙ.**

## 34 යවමදනතරලා චාගමා 1–4–6

**සරෙ පරෙ යකාරාදයො අඪ ආගමා හොන්ති වා.**

**ච සද්දෙන ගකාරාගමො ච-වවත්ථිතවිභාසත්ථො'යං වා සද්දො, තත්ථ යකාරාගමො යථාදිතො ඉකාරෙවාදිසු.**

**යථා–ඉදං, යථයිදං.**

---

ආගමො, ආගම නම්; අසන්තුප්පත්ති, පෙර අවිද්‍යමානයාගේ උත්පත්තිය යි; මෙම කීහ, "අවිජ්ජමානං යං තත්ථ තස්ස උප්පත්ති ආගමො" යි. අසන්තස්ස උප්පත්ති අසන්තුප්පත්ති, එත්, මේ සූත්‍රයෙහි; සරෙති නිමිත්තාසන්නවසෙන, සරෙ යි මෙසේ දක්වන ලද නිමිත්තය හට ආසන්න බව හෙතුකොට ගෙන; පුථස්සන්තෙති, පුථස්සන්තෙ යනු; ලබ්භති, ලැබේ; සවරයා පරකල්හි පුථ ශබ්දයාගේ ආදියෙහි හෝ වෙයි අන්තයෙහි හෝ වන්නේ යයි මෙසේ ගකාරාගමයාගේ නියමයක් නැති කල්හිදු සරෙ යන් නිමිත්තය හට දුථාන්තයාගේම ආසන්න බව හෙතු කොට ගෙන පුථ ශබ්දයාගේ අන්තයෙහි ගකාරාගම වන්නේය යන මේ අර්ථය ලැබෙයි යනු මෙහි අභිප්‍රායයි ගකාරාගම නොවූ තන්හි සරෙ ඛචි– 1–3–2 යන සූත්‍රයෙන් පූර්වය හට ලොප් ප්‍රතිෂෙධ වේ.

පුථගෙව, පුථ එව, යනු වේ.

පා–එවාතීධ, පාඑව යන තන්හි සන්ධිකාර්‍ය්‍ය කියනු ලැබේ.

සරෙ, සරෙ යනුද; ගො, ගො යනුද; ආගමො, ආගමො යනුද; ඛචීති, ඛචි යනුද; වත්තතෙ, වැටේ.

පාස්ස ය ච ය අන්තො ය රස්සො ය යනු පදයි.

සරෙ පරෙ, සවරයා පරකල්හි; පා ඉති, පා යන; එතස්ස, මේ නිපාතයාගේ;අනෙත, කෙළවර; කවචි, සමහර තැනෙක්හි; ගකාරාගමො හොති, ගකාරාගම වෙයි; පාස්ස, පා ශබ්දයාගේ; අනෙතා සරො,අනත වූ සවර තෙම; රස්සො ච හොති, හ්‍රසවද වන්නේයි— මෙහි ද පාස්ස අනෙතා යනු යථොක්ත යුක්ති හෙයින්ම ගත යුතු—අනෙතා ච යි අනියමයෙන් කියන ලද කල්හිදු පාස්ස යී සූත්‍රයෙහි යු බැවින් ඔහුගේම අනතය යනු ලැබේ. අනතග්‍රහණ කරණයද පර නී හට හ්‍රසව නී වෘත්තිය පිණිස යයි දතයුතුයි. මෙහිදු ගකාරාගම භාවයෙහි කී පරිද්දෙන්ම ලොප් ප්‍රතිෂෙධ වේ.

පගෙව වුත්‍යස්ස, පා-එව, යනු වෙයි.

වා සරෙති ච, (වග්ගනතං වා වග්ගෙ-1-4-2 යන සූත්‍රයෙන්) වා යනුද (මද සරෙ-1-4-5 යන මේ සූත්‍රයෙන් සරෙ යනුද; වතතෙ, වැටේ.

යවමදනතරලා ය චය ආගමාය යනු පදයි.

යො ච වො ච මො ච දො ච නො ච තො ච රො ච ලො ච යවමදනතරලා.

සරෙ පරෙ, සවරයා පරකල්හි; යකාරාදයො අඨ, යකාරයා මයනිාද කොට ඇති ව්‍යඤ්ජනයෝ අට දෙන; වා, විකල්පයෙන්; ආගමා හොනති, ආගම වෙත්; චසදෙදන, (මේ සූත්‍රයෙහි) ච ශබ්දයෙන්; ගකාරාගමො ච (හොති), (අතිප්පගො ඛො යනාදියෙහි) ගකාරාගමයෙකුදු වේ; අයං වා සදෙදා, මේ (අනුවෘත්ත) වා ශබ්දය තෙම; වවත්ථිතවිභාසත්ථො, ශිෂ්ටප්‍රයොගය අවිරොධ කොට පවත්වන විභාෂාවම අර්ථකොට ඇත්තේයි; වවත්ථියති නිවත්ථියති අසඞ්කරතො ඨපියතීති වවත්ථිතං, වවත්ථිතස්ස ලක්ඛියස්ස අනුරොධෙන පවත්තිතා විභාසා වවත්ථිතවිභාසා, සා අත්ථො පයොජනං එතස්සාති වවත්ථිතවිභාසත්ථො, තත්ථ, ඒ (යවාදි ආගමයන් අට දෙනා) අතුරෙහි; යකාරාගමො, යකාරාගම තෙම; ඉකාරෙවාදිසු, ඉකාර එවාදීන් පරකල්හි; යථාදිතො, යථාදි ශබ්ද ගණයා කෙරෙන් පරව වේ—යථාදිතො යන මේ ආකෘති ගණයි, යථා ඉදං යනු අසිද්ධපක්ෂය, යථයිදං යනු සිද්ධපක්ෂයි. සෙසු තැන්හිදු මෙසේමැයි.

**ව්‍යඤ්ජනෙහි අධිකිච්ච රස්සත්ති රස්සත්තං.**

**යථා ඉදං වා. යථා-එව, යථායෙව, යථෙව, එවං මායිදං, මායෙව, තයිදං, තංයෙව, තයිදං, තයිමස්ස, හ යිධ, ජයිමානි, තවයිමෙ ධම්මා, බුද්ධානංයෙව, සඞ්ඝංයෙව, බොධියායෙව, පඨවියෙව ධාතු, තෙසුයෙව, තෙයෙව, සොයෙව, පාතියෙක්ඛං.**

**තථා සරෙ විපරියාදිතො ච.**

**වි-අඤ්ජනා, වියඤ්ජනා, ව්‍යඤ්ජනා වා, එවං වියාකාසි, ව්‍යාකාසි, පරි-අන්තං, පරියන්තං, එවං පරියාදානං, පරියුට්ඨානං, පරියෙසති, පරියොසානමිති නිච්චං.**

**නි-ආයොගො, නියායොගො. ඉධ න භවති, පරික්ඛෙත්ත.**

---

ව්‍යඤ්ජනෙහි අධිකිච්ච, ව්‍යඤ්ජනෙ යනු වැටෙන්නෙහි; රස්සත්ති, රස්සං-1-3-4 යන සූත්‍රයෙන්; රස්සත්තං, (අධිකාරය හට) හ්‍රස්ව බව වේ. යථා ඉදං වා, යථා ඉදං හෝ වේ—මෙහි ලොප් ප්‍රතිෂෙධ වේ; යථෙව යන විකල්ප උදාහරණයෙහි පූර්වය හට ලොපි; යථා එව යන මෙහි මේ සූත්‍රයෙන් යකාරාගමව යථායෙව සිද, පූර්වය හට ලොප්ව යථෙව සිද සිඬසි; එවං මායිදං, මෙසේ මායිදං යනාදියද දතයුතුසි.

තයිදං යන මෙහි පූර්වපදයෙහි අනුස්වාරය හට ක්වචි ලොපං-1-4-9 යන සූත්‍රයෙන් ලොප් වේ.

සරෙ, ස්වරයා පරකල්හි; විපරියාදිතො ච, වි පරි ආදී උපසර්ගයන් කෙරෙන් පරවද; තථා, එසේම (යකාරාගම) වේ.

වි-අඤ්ජනා යන තන්හි වියඤ්ජනා යි වේ; ව්‍යඤ්ජනා වා,ව්‍යඤ්ජනා යි හෝ වේ; වියාකාසි, ව්‍යාකාසි යනුද; එවං, මෙසේයි; වි-අකාසි යි පදබිදෙයි; පරි-අන්තං, යන්නෙහි පරියන්තං යි වේ; එවං,මෙසේ; පරියාදානං, පරියුට්ඨානං, පරියෙසති. පරියොසානං ඉති, පරි-ආදානං පරි-උට්ඨානං පරි-එසති පරි-ඔසානං යන මෙහි; නිච්චං, ස්වරයා පරකල්හි නිත්‍යයෙන් යකාරාගම වේ; පරියාදානං යනාදි වේ; නි-ආයොගො යන තන්හි-නියායොගො යනු වෙයි.

**වකාරො තිසඞ්ඛ්‍යාදිතො අවණ්ණුකාරෙසු.**

**ති-අඞ්ගුලං තිවඞ්ගුලං, එවං තිවඞ්ගිකං, භූවාදයො, මිගී භන්තා වුදික්ඛති, පවුච්චති, පාගුඤ්ඤවුජ්ජුතා.**

**මකාරො ලහුප්පභුතිතො සරෙ ඡන්දානුරක්ඛනාදිම්හි.**

**ලහු-එස්සති, ලහුමෙස්සති, එවං ගුරුමෙස්සති*, ඉධමාහු.**

**යෙන නෙ ඉධමිජ්ඣති, භද්‍රො කසාමිව, ආකාසෙමභි පූජයි-එකමෙකස්ස, යෙන මිධෙකමෙව, හායතිමෙව, හොතුමෙව.**

**දකාරො උ උපසග්ග†සකි කිඤ්චි සම්මායාවතාවපුනයතෙත තතසාදිහි. උපසග්ගතො නිච්චං.**

**උ-අග්ගො, උදග්ගො. එවං උදයො, උදපාදි, උදහමං, උදිතො, උදීරිතං, උදෙති.**

**නිපාතතො.**

**සකි-එව, සකිදෙව. එවං සකදාගාමි.**

---

ඉධ න භවති, වාධිකාරයා ව්‍යවස්ථිතවිභාෂායෙහි වැටෙන හෙයින් මේ වක්ෂ්‍යමාන පරික්ඛො යන උදාහරණයෙහි යකාරාගම නොවේ, පරි-ඉක්ඛො යි සිද්ධ.

වකාරො, වකාර තෙම; අවණ්ණුකාරෙසු, අවර්ණය උකාරය යන මොවුන් දෙන්නා පරකල්හි; තිසඞ්ඛ්‍යාදිතො, ති ශබ්දාදීන් කෙරෙන් පරව වේ.

ති යි තිබෙයි, අඞ්ගුලං යි තිබෙයි, ස්වරයා පරකල්හි යවමදන තරලා චාගමා-1-4-6 යන සූත්‍රයෙන් වකාරාගමව තිවඞ්ගුලං යි වෙයි—මත්තෙහි ඡන්දානුරක්ඛනාදිම්හි යනු මෙහිදු වැටේ, එසින් කිහ. මිගී භන්තාවුදික්ඛති යි. තිවඞ්ගිකං-පෙ-පාගුඤ්ඤවුජ්ජුතා යනුද; එවං, මෙසේ; ති-අඞ්ගුලං, තිවඞ්ගුලං යනු හා සමානයි. ති-අඞ්ගිකං, භූ-ආදයො, මිගී භන්තා-උදික්ඛති, ප-උච්චති, පාගුඤ්ඤ-උජ්ජුතා යි පදච්ඡෙදයි.

මකාරො, මකාරාගම තෙම; සරෙ, ස්වරයා පරකල්හි; ලහුප්පභුතිතො, ලහුශබ්දාදීන් කෙරෙන් පර; ඡන්දානුරක්ඛනාදිම්හි, ඡන්දස්‌රක්ෂාකිරීමක්ද සුඛසුඛොච්චාරණයක්ද ඇති කල්හි—මෙහි පභුති ශබ්ද ආද්‍යර්ථයෙහි වැටේ, ඡන්දස නම් අෂ්ටාක්ෂර

---

* ගරුමෙස්සති-ඉති කත්ථචි, † උපසග්ග-ඉති සබ්බත්ථ,

පරිමිතත්වාදීන් ව්‍යවස්ථිත වූ අනුෂ්ටුභාදියයි. අනුරක්ෂණය නම් ඒ ඡන්දස්හුගේ ඌනාතිරේකත්වය සඞ්ඛ්‍යාත භේදයට නො පැමිණීම් වශයෙන් අනුරක්ෂණය යි, අපි හෙයින් ඡන්දස් නො නස්නා පිණිස ලොපාගම වශයෙන් විද්‍යමානාක්ෂරයා අනුසරණය හා අවිද්‍යමානාක්ෂරයාගේ උත්පාදන ඡන්දානුරක්ෂණ නම්, කිසේද යත්? කොන තෙ ඉධිජ්ඣති යි කී කල්හි අක්ෂරයකින් ඌන බැවින් අෂ්ටාක්ෂර පරිමිත වූ අනුෂ්ටුභ් නම් ඡන්දස්හුගේ භෙදය වෙයි මකාරාගම කොට කොන තෙ ඉධමිජ්ඣති යි කී කල්හි වනාහි අක්ෂරයකින් අනූන බැවින් යථොක්ත ඡන්දස්හුගේ භෙදය නොවේ, නමො තෙ බුද්ධවීර අත්ථු යි කී කල්හි අක්ෂරයකින් අතිරෙක බැවින් යථොක්තාක්ෂර පරිමිත අනුෂ්ටුභ් ඡන්දස්හුගේ භෙදවෙයි පූර්වය හට ලොප් කොට නමො තෙ බුද්ධවීරත්ථු යි කී කල්හි අක්ෂරයකින් අතිරෙක නොවන බැවින් ඔහුගේ භෙදය නොවේ, සූත්‍රසුඛොච්චාරණ නම් සූත්‍රපදයාගේ සංශ්ලිෂ්ට කොට කීමයි, කිසේද යත්? යෙනිධෙ කාචෙව යි කී කල්හි සූත්‍රපදයාගේ උච්චාරණසුව නොවෙයි මකාරාගම කළ කල්හි වනාහි යෙනමිධෙ කාචෙව යි උච්චාරණය සුවයි, ඡාදයති අවජ්ජමිති ඡන්දො, ඡන්දසො අනුරක්ඛනං ඡන්දානුරක්ඛනං, තං ආදි යස්ස සුත්තසුඛුච්චාරණස්ස තං ඡන්දානුරක්ඛනාදි, තස්මිං ඡන්දානුරක්ඛනාදිමහි.

ලහු-එස්සති යී තිබෙයි, ස්වරයා පරකල්හි මෙම සූත්‍රයෙන් මකාරාගමව ලහුමෙස්සති යි වේ; එවං, මෙසේ; ගුරුමෙස්සති, ඉධමාහු,කොන තෙ ඉධමිජ්ඣති, භද්‍රා කසාමිව,ආකාසෙමභිපූජයි, එකමෙකස්ස, යෙනමිධෙකාචෙව, භායතිමෙව, හොතුමෙව යි සිඬයි—මෙහි ලහුමෙස්සති යනු ඡන්දානුරක්ෂණයෙහි උදාහරණය, යෙන මිධෙකාචෙව යනාදි සූත්‍රසුඛොච්චාරණස්ථානයෙහි උදා හරණයි.

දකාරෙ, දකාරතෙම; උඋපසග්ග,* උ යන උපසර්ගය; සකිං, සකිං යන නිපාතය; කිඤ්චි, කිඤ්චි යන නිපාතය; සම්මා, සම්මා යන නිපාතය; යාව, යාව යන නිපාතය; තාව, තාව යන නිපාතය; පුන, පුන යන නිපාතය; ය, ය යන නාමය; ත, ත යන නාමය; එත, එත යන නාමය; අඤ්ඤ, අඤ්ඤ යන නාමය;ස, ස යන නාමය; ආදීහි, මේ ආදීන් කෙරෙන් පරව වේ.

---

* උපසග්ග-පෙල.

**මහාවුත්තිසුත්තෙන ඉකාරස්ස අකාරො.**

**තථා ඉතොනවිදෙව, කිඤ්චිදෙව, කිස්මිඤ්චිදෙව, කොචිදෙව.**

**සම්මා-අත්ථො, සම්මදත්ථො, රස්සත්තං.**

**එවං සම්මදක්ඛාතො, සම්මදඤ්ඤා විමුත්තානං, සම්මදෙව, යාවදත්ථං, යාවදිච්ඡිතං, යාවදෙව, තාවදෙව, පුනදෙව.**

**නාමතො-යදත්ථං, යදන්තරා, තදන්තරා, * තදඞ්ග විමුත්ති, එතදත්ථං, අත්තදත්ථං, සදත්ථපසුතො සියා.**

**යමනත්තානන්තරෙසති සමාසසයෙව-ආදිසද්දෙන අඤ්ඤදත්ථු, මනසාදඤ්ඤා විමුත්තානං, බහුදෙවරත්තිං, අහුදෙවභයං.**

---

උ ඉති උපසග්ගො උඋපසග්ගො, † උඋපසග්ගො † ච සකි ච කිඤ්ච සම්මා ච යාව ච තාව ච පුන ච යො ච තො ච එතො ච අත්තා ච සො ච, උඋපසග්ගසකිකිඤ්චසම්මායාවතාවපුනයතෙතත්තසා, තෙ ආදයො යෙසං තෙ උඋපසග්ගසකිකිඤ්චසම්මායාවතාවපුනයතෙතත්තසාදයො, තෙහි උඋපසග්ග-පෙ-සාදීහි.

උඋපසග්ගතො, උ යන උපසර්ගයා කෙරෙන් පරව; නිච්චං, දකාරාගමනිත්‍ය යි, උ යි තිඛෙයි, අගෙගා යි තිඛෙයි, ස්වරයා පර කල්හි උ උපසර්ගයා කෙරෙන් දකාරාගමව උද්ගෙගා යනු සිඬයි.

උදයො උදපාදි උදාහටං උදිතො උදීරිතං උදෙති යන උදාහරණද, එවා, මේ උද්ගෙගා යනු හා සම යි; උ-අයො, උ-අපාදි, උ-ආහටං, උ-ඉතො, උ-ඊරිතං, උ-එති, යි පදච්ඡෙදයි.

නිපාතතො, සකිං යනාදි නිපාතයන් කෙරෙන් දකාරාගම වේ. එහි උදාහරණ කියනු ලැබේ, සකි-එව, සකිදෙව, සකිං අං ගාමි සකදාගාමී යනුද; එවං, මේ සකිදෙව යනු සේමැයි; සකි-ආගාමී යි පදච්ඡෙදයි.

මහාවුත්තිසුත්තෙන, තෙසු වුඩි යනාදි මහාවෘත්ති සූත්‍රයෙන්; ඉකාරස්ස, සකි ශබ්දයාගේ ඉකාරය හට; අකාරො, අකාරයෙක් ආදෙශ වේ.

මහන්තෙසු විසයෙසු පවත්තනතො මහන්තී වුත්ති පවත්ති එතස්සාති මහාවුත්ති, මහාවුත්තිං ච තං සුත්තං චාති මහාවුත්ති සුත්තං, තෙන මහාවුත්තිසුත්තෙන.

---

* යදනන්තරං තදනන්තරං-ඉති කත්ථචි.

† උද්දුපසග්ගො-උද්දුපසග්ගො-සී ගන්ථ.

මදහැන්හිම නිග්ගහීතය හට බ්‍යඤ්ජනෙ ච-1-4-10 යන සූත්‍රයෙන් ලොප් වේ.

කෙනචිදෙව, කිඤ්චිදෙව, කිස්මිඤ්චිදෙව, කොචිදෙව, යන උදාහරණයන්හිද; තථා, එසේමැයි; කෙනචි-එව, කිඤ්චි-එව, කිස්මිඤ්චි-එව, කොචි-එව, යි පදච්ඡෙදයි. සකිදෙව යනුද මෙසේ මැයි සේයි.

සම්මා-අත්ථො යි පද බිඳ තුබූ තන්හි සම්මදත්ථො යනු වේ; රස්සත්තං, රස්සං-1-3-4 යන සූත්‍රයෙන් අකාරය හට හ්‍රස්ව බවු වේ.

සම්මදක්ඛාතො සම්මදඤ්ඤාවිමුත්තානං සම්මදෙව යාවදත්ථං යාවදිච්ඡිතං යාවදෙව තාවදෙව පුනදෙව යනුද; එවං, මෙසේමය; සම්මා-අත්ථො; සම්මදත්ථො යන උදාහරණයද මෙසේමැයි; සම්මා-අක්ඛාතො, සම්මා-අඤ්ඤාවිමුත්තානං, සම්මා-එව, යි පදච්ඡෙදයි මෙහි අකාරය හට හ්‍රස්ව බව වේ යාවදත්ථං යනාදියෙහි, ය-අත්ථං, ය-අනන්තරං, ත-අනන්තරං, ත-අඞ්ගවිමුත්ති, එත-අත්ථං, අත්ත-අත්ථං, ස-අත්ථපසුතො, යාව-අත්ථං, යාව-ඉච්ඡිතං, යාව-එව, තාව-එව, පුන-එව යි පදච්ඡෙදව සම්මදක්ඛාතො යනාදිය වේ.

නාමතො,ශබ්දදිනාමයා කෙරෙන් දකාරාගමයෙහි උදාහරණ කියනු ලැබේ.

යදත්ථං යනාදියෙහි, ය-අත්ථං, ය-අනන්තරං,ත-අනන්තරං, ත-අඞ්ගවිමුත්ති,එත-අත්ථං,අත්ත-අත්ථං,ස-අත්ථපසුතො සියා යි බිඳේ,

යතෙතත්තසෙහි, ය ත එත අත්ත ස යන මේ නාමයන් කෙරෙන්; සමාසෙ එව, (දකාරාගමය) සමාස විෂයෙහිමැයි.

යස්ස අත්ථාය යදත්ථං, යස්ස අනන්තරං යදනන්තරං, තස්ස අනන්තරං තදනන්තරං, තං අඞ්ගං තදඞ්ගං, තදඞ්ගෙන විමුත්ති තදඞ්ගවිමුත්ති, එතස්ස අත්ථාය එතදත්ථං, අත්තනො අත්ථං අත්තදත්ථං, සස්ස අත්ථො සදත්ථො, සදත්ථෙ පසුතො සදත්ථපසුතො යි මෙසේ සමාස කට යුතු

ආදිසද්දෙන,යතෙතත්තසාදීහි යන මෙහි ආදිශබ්දයෙන් ගන්නා ලද්දවුන් කෙරෙන් දකාරාගමයෙහි උදාහරණ කියනු ලැබේ.

අඤ්ඤදත්ථු යනාදියෙහි අඤ්ඤ-අත්ථු, මනසා-අඤ්ඤාවිමුත්තානං, බහු-එව රත්තිං, අහු-එව භයං, යි පදච්ඡෙදයි.

**වාති කිං? කෙනචි අත්තකාමෙන, සම්මා අක්ඛාය, යාවාහං, තාවාහං, පුනාපරං, අත්තත්ථං.**

**නකාරෙ ආයතාදිම්හි. ඉතො-ආයති, ඉතො නායති, චිරන්නායති.**

**තකාරෙ යස්මාතස්මාජ්ජාදිතො ඉහගගාදිම්හි-යස්මා-ඉහ, යස්මාතිහ. එවං තස්මාතිහ, අජ්ජතග්ගෙ.**

**රකාරෙ නි දු පාතු පුන ධි චතුරාදිතො.**

**නි-අන්තරං, නිරන්තරං. එවං නිරාලයො, නිරින්ධනො, නිරීහකං, නිරුත්තරො, නිරොජං, නිරුපද්දවං.**

**දු-අතික්කමො, දුරතික්කමො. දුරාගතං, දුරුත්තරං, පාතුරහොසි, පාතුරහෙසුං, පුනරාගච්ඡෙය්‍ය, පුනරුත්තරං, පුනරෙව, පුනරෙති, ධිරත්ථු, පාතරාසො.**

**චතුසද්දාදිතො-චතුරඞ්ගිකං, චතුරාරක්ඛා, චතුරිද්ධිපාද පටිලාභො, චතුරොසනිස්සරණත්ථං, භත්තුරත්ථෙ, වුත්තිරෙසා, පඨවීධාතුරෙවෙසා.**

---

වාති කිං? අනුවෘත්ත වා ශබ්දය කුමටය; කෙනචි අත්ත කාමෙන, සම්මා අක්ඛාය, යාවාහං, තාවාහං, පුනාපරං, අත්තත්ථං, යන මේ උදාහරණයෙහි දකාරාගම නො වන පිණිසයි—මෙහි ආදි උදාහරණයි, සෙසුඋදාහරණයෙහි පූර්ව හට ලොප් කරන ලද කල්හි පරය හට තුන්තැනෙක දීර්ඝ වේ.

නකාරෙ, නකාරාගම තෙම; ආයතාදිම්හි, ආයතිශබ්දාදීහු පරකල්හිම වේ; ඉතො-ආයති යන්නෙහි ඉතොනායති යනු වී; චිරන්නායති යන තැන්හි චිරං-ආයති යි පදච්ඡෙද කොට නකාරාගම කරන ලද කල්හි වර්ගාන්ත බව වේ.

තකාරෙ, තකාරාගම තෙම; යස්මාතස්මාජ්ජාදිතො, යස්මා ය තස්මා ය අජ්ජ ය යනාදීන් පදයා කෙරෙන් පරව; ඉහගගාදිම්හි, ඉහ අග්ග යනාදියෙහි ස්වරයා පරකල්හි වේ.

යස්මා-ඉහ යන තන්හි යස්මාතිහ යනු වෙයි; තස්මාතිහ යනාදියද; එවං, මෙසේයි.

තස්මාතිහ යනාදියෙහි තස්මා-ඉහ, අජ්ජ-අග්ගෙ, යි පදච්ඡෙදයි.

**තථා සරතො ඉවෙවෙසු ඡන්දානුරක්ඛනෙ.**

**නක්ඛත්තරාජාරිව තාරකානං, විජ්ජුරිවබ්භකූටෙ, ආරග්ගෙරිව සාසපො, සාසපොරිව ආරග්ගෙ, උසභොරිව, සබ්භිරෙව සමාසෙථ.**

**වාති කිං? ස්වාධිට්ඨිතං, පාත්වාකාසි, පුනපි.**

**ළකාරො ඡ ස සඞ්ඛ්‍යාහි-ලළානමවිසෙසො.**

**ඡ-අභිඤ්ඤා, ඡළභිඤ්ඤා, ඡළඞ්ගං, ඡළාසීති, ඡළංසා, සළායතනං.**

**වාති කිං? ඡ අභිඤ්ඤා.**

**ඉති සරසන්ධිවිධානං නිට්ඨිතං.**

———:———

---

රකාරෙ, රකාරාගම තෙම; නි, නි යන උපසර්ගය; දු, දු යන උපසර්ගය; පාතු, පාතු යන නිපාතය; පුන, පුන යන නිපාතය; ධි, ධි යන නිපාතය; චතු, චතු යන නාමය; ආදිතො, මේ ආදීනු කෙරෙන් පරව වේ.

නි-අන්තරං, යන තන්හි නිරන්තරං යනු වේ; නිරාලයො, නිරිඞ්ඛනො, නිරීහකං, නිරුත්තරො, නිරොජං, නිරුපද්දවං යනුද; එවං, මෙසේයි. නි-ආලයො, නි-ඉඞ්ඛනො, නි-ඊහකං, නි-උත්තරො, නි-ඔජං, නි-උපද්දවං, යි පදච්ඡෙදයි. දු-අතික්කමො යන තන්හි දුරතික්කමො යනු වෙයි; දු-ආගතං, දු-උත්තරං, පාතු-අහොසි, පාතු-අහෙසුං, පුන-ආගච්ඡෙය්‍ය, පුන-උත්තරං, පුන-එව, පුන-එති, ධි-අත්ථු, පාත-ආසො, යි පදච්ඡෙදයි.

චතුසද්දාදිතො, චතු යන ශබ්දයා ආදිකොට ඇති ශබ්දයා කෙරෙන් රකාරාගමයෙහි උදාහරණ කියනු ලැබේ.

චතු-අඞ්ගිකං, චතු-ආරක්ඛා, චතු-ඉද්ධිපාදපටිලාභො, චතු-ඔසන්නිස්සරණත්ථං, හත්ථු-අත්ථ, * වුත්ති-එසා, පඤ්චධාතු-එවෙසා යි, පදච්ඡෙදකටයුතු. මේ සූත්‍රයෙන් චතු ශබ්දාදීන් කෙරෙන් රකාරාගම කොට චතුරඞ්ගිකං යනාදිය සිද්ධයි.

ඉවෙවෙසු, ඉව එව යන මොවුන් පරකල්හි; සරතො, ස්වරයා කෙරෙන් පරව; ඡන්දානුරක්ඛනෙ, ඡන්දස් රක්ෂා කිරීමක් ඇති කල්හි; තථා, එසේම රකාරාගම වේ.

---

* සාත්ථුඅත්ථ-යී සන්න

**අථ සරානමෙව සන්ධිකාරියෙ සම්පත්තෙ පකතිභාවො වුච්චතෙ.**
**සරා පකතීති ච වත්තතෙ.**

## 35 සරෙ කවචි 1-3-2

---

නක්ඛත්තරාජා රිවතාරකානං යනාදියෙහි නක්ඛත්තරාජා-ඉව තාරකානං, විජ්ජු-ඉව අබ්භකූටෙ, ආරග්ගෙ-ඉව සාසපො, සාසපො-ඉව ආරග්ගෙ, උසභො-ඉව, සබ්භි-එව සමාසෙථ, යි පදච්ඡෙදයි.

වාති කිං, වායනු කුමටය යත්? වාධිඨිතං යනාදියෙහි රකාරාගම නොවන පිණිසයි,— වාධිඨිතං, යන මේ ප්‍රත්‍යුදාහරණයන්හි, දූ-අධිඨිතං, පාතු-අකාසි, පුන-අපි, යි පදච්ඡෙදකරන ලදකල්හි ආදි උදාහරණවයෙහි වමොදුදන්තානං-1-2-7 යි උකාරය හට වකාරාදෙශවේ, ව්‍යඤ්ජනයා පරකල්හි දීඝං-1-2-4 යන සූත්‍රයෙන් දීඝී වෙයි, අනන උදාහරණයෙහි පූර්වස්වරය හට ලොප් වේ.

ළකාරෙ, ළකාරාගම තෙම; ඡ ස සඞ්ඛ්‍යාහි; ඡය සය යන සඞ්ඛ්‍යා වාචීශබ්දයන් දෙන්නා කෙරෙන් පරව වේ.

ලළානං, ලකාරළකාර දෙන්නාගේ; අවිසෙසො; වෙනසෙක් නැති—මෙයින් සූත්‍රයෙහි ළකාරයාගේ දක්වීම නැතිකල්හිදු ලකාර දෙන්නාගේ විශෙෂයෙක් නැත්නුයි ලකාරයාගේ නිර්දේශයෙන් ළකාරාගමද කියන ලද්දම වෙයි දක්වත්.

ඡ-අභිඤ්ඤා යන තන්හි ඡළභිඤ්ඤා යනු වෙයි. ඡළඞ්ගං යනාදියෙහි, ඡ-අඞ්ගං, ඡ-අසීති, ඡ-අංසා, ස-ආයතනං, යි පදච්ඡෙදයි, ඡළාසීති යන උදාහරණයෙහි ව්‍යඤ්ජනයා පරකල්හි දීඝං-1-2-4 යන සූත්‍රයෙන් දීඝී වේ; වාති කිං? වා යනු කුමටද යත්? ඡ අභිඤ්ඤා යන්හෙහි ළකාරාගම නොවන පිණිසයි.

සරසන්ධිවිධානං, ස්වරසන්ධිවිධානය; ඉති, මෙසේ; නිට්ඨිතං, නිමවන ලදී.

සරානං සරෙසු වා සන්ධි සරසන්ධි=සරසන්ධි විධියති එත්ථ එතෙනාති වා සරසන්ධිවිධානං.

ස්වරසන්ධි විධාන වර්ණනා යි.

---

අථ පකතිභාවො වුච්චතෙ යනු සම්බන්ධයි. අථ, ස්වරසන්ධි අනන්තරයෙන්; සරානමෙව, ස්වරයන්ගේම; සන්ධිකාරියෙ සම්පත්තෙ,

**සරා ඛො සබ්බෙ'පි සරෙ පරෙ ක්වචි ඡන්දභෙදසුඛුච්චාරණඨානෙ සන්ධිච්ඡාරහිතඨානෙ ච පකතිරූපා හොන්ති-න ලොපාදෙසවිකාරමාපජ්ජන්තීති අත්ථො.**

**තත්ථ පකතිඨානං නාම ආලපනන්තානිතිසම්මච්ඡන්දානු රක්ඛණෙ, අසමාසෙ පදන්තදීඝා ච, ඉකාරුකාරා ච නාම පදන්තාතීතක්‍රියාදිමහීති එවමාදි.**

---

ලොපාදෙශසංඛ්‍යාතසංහිතාකාර්‍ය්‍යසම්ප්‍රාප්තකල්හි; පකතිභාවො, ඒ සංහිතාකාර්‍ය්‍යයන්ගේ ප්‍රකෘතිභාවය (ස්වරූපය); වුච්චතෙ, කීයනු ලැබේ.

සරා පකතීති ච, සරා පකති ව්‍යඤ්ජනෙ 1-3-1 යන සූත්‍රයෙන් සරා යනුද පකති යනුද; වත්තන්තෙ, (මතු සූත්‍රයට) වැටේ.

සරෙ ය ක්වචි ය යනු පදයි.

සරෙ පරෙ, ස්වරයා පරකල්හි; සබ්බෙ'පි ඛො සරා, සියලු පූර්වස්වරයෝ ම; ක්වචි, සමහරතැනෙක්හි; කිසේ වූ සමහර තැනෙක්හිද යත්? ඡන්දභෙද, (ස්වරසන්ධිනිමිත්තයෙන් ගාථා) ඡන්දස්හුගේ හානි ඇති තැනද; අසුඛුච්චාරණඨානෙ ච, සුඛසුඛොච්චාරණයාගේ හානි ඇති තැනද යන මේ දෙතැන්හි; සන්ධිච්ඡා රහිතඨානෙ ච, පදච්ඡෙද පදවිග්‍රහාදි දක්වනු කැමැති වීමෙන් සංහිතාකිරීමෙහි ඉච්ඡා රහිත තැන්හිද යන මේ තුන් තැන;පකති රූපා හොන්ති, ප්‍රකෘති රූප ඇත්තාහු වෙති—පෙර සිටි ස්වභාව යෙන්ම සිටිති යි සේයි; ලොපාදෙසවිකාරං, ලොපාදෙශාගම සංඛ්‍යාත ත්‍රිවිධ සංහිතාවන් අතුරෙහි ලොපාදෙශ සංඛ්‍යාත අන්‍ය ථාභාවයට; න ආපජ්ජන්තීති අත්ථො, නො පැමිණෙති යන අර්ථයි.

ඡන්දසො භෙදො යස්මිං තං ඡන්දභෙදං, න සුඛුච්චාරණං සුඛුච්චාරණස්ස හානි යස්මිං තං අසුඛුච්චාරණං, ඡන්දභෙදං ච අසුඛුච්චාරණඤ්ච ඡන්දභෙදසුඛුච්චාරණං, තදෙව ඨානං ඡන්දභෙදසුඛුච්චාරණඨානං, තස්මිං ඡන්දභෙදසුඛුච්චාරණඨානෙ. සන්ධිකරණං සන්ධි, සන්ධිම්හි ඉච්ඡා සන්ධිච්ඡා, සන්ධිච්ඡාය රහිතං සන්ධිච්ඡාරහිතං, සන්ධිච්ඡාරහිතඤ්ච තං ඨානං චාති සන්ධිච්ඡාරහිතඨානං, තස්මිං සන්ධිච්ඡාරහිතඨානෙ. ලොපො ච ආදෙසො ච ලොපාදෙසා, ලොපාදෙසසඞ්ඛාතො විකාරො-අඤ්ඤථත්තං ලොපාදෙසවිකාරො, තං ලොපාදෙසවිකාරං. මේ ත්‍රිවිධස්ථානයෙහි ප්‍රකෘතිභාවාපත්තිද සූත්‍රයෙහි ක්වචිග්‍රහණකරණ සාමර්ථ්‍යයෙන් සිද්ධයයි දතයුතු.

එයින් කීහ. :—

"ඡන්දභෙදසුඛුච්චාරණඨානෙ සරසන්ධි න
ඛචිග්ගහණතො වෙත්ථ සන්ධිවජ්ජාවිරහෙ යථා" සී.

න්‍යාසයෙහි වනාහි සරා සරෙ ලොපං 1–2–1 යනාදි **සූත්‍රයන්** කියා මේ සූත්‍රය කී බැවින් ඛචිග්‍රහණය නැතිව සරෙ සි කී පමණකින්ම මොහුගේ අනියතභාවය හැඟෙන කල්හි දු නැවත ඛචිග්‍රහණකරණය ප්‍රකෘතිභාවය පිණිස කිසිතැනෙක නියම යෙන්ම වෙයි හඟවන පිණිස යයි වක්තව්‍ය කල්හිදු කිසි තැනෙක වෙයි හඟවන පිණිසම නොවෙයි එකෙකි උදාහරණයට, කතමා චානන්ද අනිච්චසඤ්ඤා කතමා චානන්ද අනිච්චසඤ්ඤා යනාදීන් රූපවයක් උපදවන පිණිසයයි කියනලද. සූත්‍රයාගේ අනියතභාවය සිද්ධ කල්හි නැවත අනියතභාවය පිණිස ඛචිග්‍රහණකරණය නිරර්ථක බැවින් හේ නොයෙදෙයි, අපිච එහිම සරා පකති බ්‍යඤ්ජනෙ 1–3–1 යන පරිභාෂාසූත්‍ර වර්ණනායෙහි "සරෙ ඛචීති එත්ථ ඛචි සද්දො චාත්ථො" සි කියන ලද. ඉදින් මෙහි ඛචි ශබ්දය චාර්ථයෙහි වැටේ නම් ආචාර්‍ය්‍යී තෙම වා පරො අසරූපා 1–2–2 යන සූත්‍රයෙහි වාග්‍රහණය නො කොට සරා සරෙ ලොපං වා සි මෙහිම කරන්නේය. නොද එහි කරන ලද. මේ සරෙ ඛචි 1–3–2 යන සූත්‍රයද ආරම්භ නො කරන්නේය, හෙද ආරම්භ කරන ලද, එහෙයින් මෙහි ඛචි ශබ්දය චාර්ථයෙහි නො වැටේම යයි හැඟේ, දැන් ඡන්දොභෙදසුඛුච්චාරණසන්ධිවජ්ජාරහිතස්ථානසඞ්ඛ්‍යාත වූ ප්‍රකෘතිස්ථාන උදාහරණ වශයෙන් දක්වන පිණිස තත්ථ පකතිඨානං නාම යන එවමාදිය කීහ.

තත්ථ, ඒ සූත්‍රයෙහි; පකතිඨානං නාම, (යථොක්ත) ප්‍රකෘති ස්ථාන නම්; අනිතිස්මිං, ඉති ශබ්දයා කෙරෙන් වර්ජිත වූ අනිච්චාදි ශබ්දයා පරකල්හි; අවඡන්දානුරක්ඛනෙ, ඡන්දස් රක්‍ෂා කිරීමක් නැති කල්හි; ආලපනන්තා, ආලපන විභක්තිය අන්ත ආලපන පදයාගේ අන්ත වූ ස්වරයෝද; අසමාසෙ, සමාස නොවන විෂයෙහි; අවඡන්දානුරක්ඛනෙ, ඡන්දොනුරක්‍ෂණයක් නැති කල්හි; පදන්තා දීඝා ච, පදාන්ත වූ දීර්ඝස්වරයෝද; අතීතක්‍රියාදිම්හි, භූතාර්ථවාචී ක්‍රියාපදාදීහු පරකල්හි; නාමපදන්තා ඉකාරුකාරා ච ඉති, නාම පදයාගේ අන්තාවයව වූ ඉකාර උකාර ස්වරයෝද යන; එවමාදි, මේ ආදියයි.

**ආලපනන්තෙසු තාව-කතමා චානන්ද අනිච්චසඤ්ඤා, කතමා චානන්ද ආදීනවසඤ්ඤා, සාරිපුත්ත ඉධෙකච්චො, එහි සිවක උට්ඨෙහි, උපාසකා ඉධෙකච්චො, හොති අය්‍යෙ, භික්ඛු අරොගං තව සීලං, සිඤ්ච භික්ඛු ඉමං නාවං, භික්ඛවෙ එවං වදාමි, පච්ඡිමෙ ගහපතයො ආනිසංසා ඉච්චෙවමාදීසු පකතිභාවා පුබ්බසරලොපයවාදෙසාදයො න හොන්ති.**

**ක්වචි ගහණෙන ඉතිස්මිං ඡන්දානුරක්ඛණෙ ච සන්ධි හොති- යථා-සක්කා දෙවීති, නමො තෙ බුද්ධවීරත්ථු.**

**සරෙති කිං? සාධු මහාරාජාති, එවං කිර භික්ඛූති.**

---

ආලපනසඞ්ඛාතං විභත්තිවචනං අන්තො එතෙසන්ති ආලපනන්තා, ආලපන්ති එතෙනාති වා ආලපනං, ආලපනස්ස වා පදස්ස අන්තා සරා ආලපනන්තා; න ඉති අනිති, තස්මිං අනිතිස්මිං, පදානං අන්තා පදන්තා, පදන්තා ච තෙ දීඝා චාති පදන්තදීඝා, අතීතත්ථවාචීක්‍රියාපදං අතීතක්‍රියා, සා ආදි යස්ස තං අතීතක්‍රියාදි, තස්මිං අතීතක්‍රියාදිම්හි.

ආලපනාන්තය හට සංහිතාවන්නේ යයි දක්වන පිණිස ආලපනන්තා යී විෂය දැක්වූහ, ආලපනාන්තය හට ඉතිහු පර කල්හි සංහිතාවන්නේය යි දක්වන පිණිස අනිතිස්මිං යී විෂය දැක්වූහ, අනිතිහු පරකල්හිද ඡන්දානුරක්ෂණයක් ඇති කල්හි ආලපනාන්තය හට සංහිතාවන්නේ යයි දක්වන පිණිස අච්ඡන්දානුරක්ඛනෙ යී විෂය දැක්වූහ, පදාන්ත හ්‍රස්වයන්ට සංහිතාවන්නේ යයි දක්වන පිණිස පදන්තදීඝා යී විෂය දැක්වූහ, පදාන්තදීර්ඝයක් හට සමාස විෂයෙහි සංහිතාවන්නේයයි දක්වන පිණිස අසමාසෙ යී විෂය දැක්වූහ, අසමාස විෂයෙහිද ඡන්දානුරක්ෂණ යක් ඇති කල්හි පදාන්ත දීර්ඝයන්ට සංහිතාවන්නේ යයි දක්වන පිණිස අච්ඡන්දානුරක්ඛනෙ යි විෂය දැක්වූහ, යනාදීන් ඒ ඒ වචනොපාදානයෙහි ප්‍රයොජන යථාලාභ වශයෙන් යෙදිය යුතු, අච්ඡන්දානුරක්ඛනෙ යනු අසමාසෙ පදන්තදීඝා යනු හා ද සම්බන්ධ කටයුතු, එයින් කියත්, අච්ඡන්දානුරක්ඛනෙති කිං? සඞ්ඛ විත්තං පුරිසස්ස සෙඨං සොම්සස්සරෙ යි.

ආලපනන්තෙසු, ආලපනාන්තයන් කෙරෙහි; තාව, පළමු කොට ප්‍රතිෂෙධොදාහරණ කියනු ලැබේ.

කතමා චානන්ද අනිච්චසඤ්ඤා-පෙ-උපාසකා ඉධෙකච්චො යනුද; භික්ඛවෙ එවං වදාමි යනුද, සරා සරෙ ලොපං 1-2-1 යන සූත්‍රයෙන් විධීයමාන පූර්වලොපප්‍රතිෂෙධයෙහි උදාහරණය, හොති අයෙය යනු ඉවණ්ණො යන්නවා 1-2-10 යන සූත්‍රයෙන් විධීයමාන යකාරාදෙශප්‍රතිෂෙධයෙහි උදාහරණය; භික්ඛු අරොගං තව සීලං, සිව භික්ඛු ඉමං නාවං යනු වමොදුදන්තානං 1-2-7 යන සූත්‍රයෙන් උකාරයහට විධීයමාන වකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණය, හොති අයෙය යනුද පඤ්චමෙ ගහපතයො ආනිසංසා යනුද එම සූත්‍රයෙන් ඔකාරය හට විධීයමාන වකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණයි.

ඉච්චෙවමාදිසු, මේ ආදී උදාහරණයන් කෙරෙහි; පකතිභාවා, මේ සූත්‍රයෙන් ප්‍රකෘතිභාවය හෙතුකොට ගෙන; පුබ්බසර ලොපයවාදෙසාදයො, පූර්වස්වරයහට ලොපය යකාරාදෙශය වකාරාදෙශය යනාදි සංහිතාකාර්‍ය්‍යයෝ; න හොන්ති, නො වෙත්—මෙහි ආදි ශබ්දයෙන් ඉයාදෙශ උවාදෙශ දෙන්නාගේ ග්‍රහණයයි.

ඉච්චෙවං ආදි යෙසං තෙ ඉච්චෙවමාදයො, තෙසු ඉච්චෙවමාදිසු—ඉච්චෙවං යනු වචනීය සමුදායෙහි වැටේ.

ක්වචිග්ගහණෙන, මේ සූත්‍රයෙහි ක්වචිග්‍රහණය හෙතුකොට ගෙන; ඉතිස්මිං ඡන්දානුරක්ඛනෙ ච, ඉතිහු පරකල්හි ඡන්දස් රක්‍ෂා කිරීමක් ඇති කල්හිදු; සන්ධි හොති, සංහිතාකාර්‍ය්‍ය වේ—මෙහි ච ශබ්ද අනිතිස්මිං ඡන්දානුරක්ඛනෙ යනු සම්පිණ්ඩනය කෙරේ.

යථා, එහි උදාහරණ මෙසේයි; සක්කා දෙවීති, සක්කා දෙවී යනු ඉතිහු පරකල්හි ඡන්දෝනුරක්‍ෂණයෙහි උදාහරණය; නමෝ තෙ බුඩවීරත්‍ථු යනු අනිතිහු පරකල්හි ඡන්දෝනුරක්‍ෂණයෙහි උදාහරණය සක්කාදෙවී-ඉති, නමො තෙ බුඩවීර-අත්‍ථු යි පදච්ඡෙදයි.

සරෙති, සරෙ යනු; කිං?, කුමටය; සාධු මහාරාජාති, එවං කිර භික්ඛූති යන තන්හි ස්වරයා නො පර හෙයින් පූර්වස්වරය හට ප්‍රතිෂෙධ නොවන පිණිසයි; සාධු මහරාජ,-ඉති, එවං කිර භික්ඛු-ඉති යි පදච්ඡෙද නො කොට "සබ්බවිධිහෙ‍ය්‍යා ලොපවිධිබ්බලීයාන්" යි යූ බැවින් සියලු විධියට වඩා ලොප විධි බලවත්නුයි පරස්වරය හට ලොප් කොට සාධු මහාරාජාති, එවං කිර භික්ඛූති යි කී කල්හි ස්වරයා පර බවක් නැති හෙයින් පූර්වය හට ප්‍රතිෂෙධවිධි නො වෙයි දතයුතු.

**අසමාසෙ පදන්තාදීසෙසු–ආයස්මා ආනන්දො ගාථා අභාසි, දෙවා ආභස්සරා යථා, තෙවිජ්ජා ඉද්ධිපත්තා ච, භගවා උට්ඨායාසනා, භගවා එතදවොච, අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි, ගන්ත්වා ඔලොකෙන්තො, භූතවාදී අත්ථවාදී, යං ඉධ අරහා අස්ස, සාමාවතී ආහ, පාපකාරී උභයත්ථ තප්පති, නදී ඔත්ථරති, යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා, භික්ඛූ ආමන්තෙසි, භික්ඛූ උපසඞ්කමිංසු, භික්ඛූ එවමාහංසු, ඉමස්මිං ගාමෙ ආරක්ඛකා, සබ්බෙ ඉමෙ, කතමෙ එකාදස, ගම්භීරෙ ඔදකන්තිකෙ, අප්පමාදො අමතපදං, සබ්බෙ ආගච්ඡන්තු, කො ඉමං පඨවිං විජෙස්සති, ආලොකො උදපාදි, එකො එකාය, චත්තාරො ඔඝා.**

**නිපාතෙසු හි අරෙ අහම්පි, සචෙ ඉමස්ස කායස්ස, නො අභික්කමො, අහො අච්ඡරියො, අථො අනෙනාව, අථ ඛො ආයස්මා, අථො ඔඤ්ඤවිත්තකා, තතො ආමන්තයී සත්ථා.**

---

අසමාසෙ පදන්තාදීසෙසු, අසමාසවිෂයෙහි පද කෙළවර වැටෙන්නා වූ දීර්ඝ ස්වරයන් කෙරෙහි ප්‍රතිෂෙධොදාහරණ කියනු ලැබේ; ආයස්මා ආනන්දො ගාථා අභාසි–පෙ–ගන්ත්වා ඔලොකෙන්තො යන මේ උදාහරණයෝ පූර්වස්වරලොප ප්‍රතිෂෙධයෙහි උදාහරණ භාවයෙන් දක්වන ලදහ, භූතවාදී අත්ථවාදී–පෙ–නදී ඔත්ථරති, යන මේ උදාහරණයෝ ඉවර්ණය හට යකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණ භාවයෙන් දක්වන ලදහ, යෙ තෙ භික්ඛූ අප්පිච්ඡා–පෙ–භික්ඛූ එවමාහංසු යන මේ උදාහරණයෝ වකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණ භාවයෙන් දක්වන ලදහ, ඉමස්මිං ගාමෙ ආරක්ඛකා–පෙ–ගම්භීරෙ ඔදකන්තිකෙ යන මේ උදාහරණයෝ එකාරය හට යකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණභාවයෙන් දක්වන ලදහ, අප්පමාදො අමතපදං–පෙ–චත්තාරො ඔඝා යන මේ උදාහරණයෝ ඔකාරය හට වකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණ භාවයෙන් දක්වන ලදහුයි—දැන් අසමාස විෂයෙහි පදන්තදීර්ඝස්වරයන් කෙරෙහි ප්‍රතිෂෙධොදාහරණ නිපාතනයන්ගේ වශයෙනුදු දක්වනුවෝ නිපාතෙසු හි යනාදි කීහු, මෙහි හිකාරය වාචො යුක්තියෙහි වැටේ.

නිපාතෙසු හි, අසමාස විෂයෙහි නිපාත පදන්ත දීර්ඝස්වරයන් කෙරෙහි ප්‍රතිෂෙධොදාහරණ කියනු ලැබේ; අරෙ අහම්පි, සචෙ ඉමස්ස කායස්ස යන මේ දෙක එකාරය හට යකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණ යි; නො අභික්කමො–පෙ–තතො ආමන්තයී සත්ථා යන මොහු ඔකාරය හට වකාරාදෙශ ප්‍රතිෂෙධයෙහි උදාහරණයෝයි.

**ඛචිග්ගහණෙන අකාරඉතීවෙවෙත්ථාදිසු සන්ධිපි-යථා-**

**ආගතත්ථ, ආගතම්හ, කතමස්ස චත්තාරො, අප්පස්සුතායං පුරිසො, ඉත්ථීති, චමරීව, සබ්බෙව තස්ස, සෙව, එසෙව නයො, පරිසුද්ධෙත්ථායස්මන්තො, නෙත්ථ, තං කුතෙත්ථ ලබ්භා, සමෙස බ්‍රාහ්මණ, තථූපමං, යථාහ.**

**අසමාසෙති කිං? ජිව්හායතනං, අවිජ්ජොඝො, ඉත්ථින්ද්‍රියං, අභිභායතනං, භයතූපට්ඨානං.**

**අවඡන්දානුරක්ඛණෙති කිං? සද්ධීධ විත්තං පුරිසස්ස සෙට්ඨං, සොමිස්සරො.**

---

ඛචිග්ගහණෙන, ඛචිග්‍රහණය හෙතුකොටගෙන; අකාර ඉතිවෙවෙත්ථාදිසු, අකාර ඉති ඉව එව එත්ථ යන මේ ආදීන් පර කල්හි; සන්ධිපි, (අසමාස විෂයෙහි පදන්තදීඝීයන් කෙරෙහි) සංහිතාද වේ; යථා, මෙහි උදාහරණ මෙසේයි; ආගතත්ථ යනාදියෙහි ආගතා අත්ථ, ආගතා අම්හ, කතමෙ අස්ස චත්තාරො, අප්පස්සුතො අයං පුරිසො, ඉත්ථී ඉති, චමරී ඉව, යි පදච්ඡෙද කොට පූර්වය හට ලොප් කරන ලද කල්හි අන්ත උදාහරණත්‍රයෙහි පරය හට දීඝී වෙයි, සෙව යන තන්හි සො එව යි පදච්ඡෙද කරන ලද කල්හි ඔකාරය හට වකාරාදෙස වෙයි, සබ්බෙව තස්ස යනාදියෙහි සබ්බ-එව, සො-එව, එසො-එව නයො, පරිසුද්ධා-එත්ථායස්මන්තො, න-එත්ථ, තං කුතො-එත්ථ ලබ්භා, සො-එස බ්‍රාහ්මණ, යථා-ආහ, යි පදච්ඡෙද කරන ලද කල්හි පූර්වය හට ලොප් වෙයි, තථූපමං යන මෙහි තථා-උපමං යි පදච්ඡෙද කොට පූර්වය හට ලොප් කරන ලද කල්හි පරය හට දීඝී වේ.

අසමාසෙති, අසමාසෙ යනු; කිං?, කුමටය; ජිව්හායතනං -පෙ- භයතූපට්ඨානං යන තන්හි සමාස වූ හෙයින් ප්‍රකෘතිභාවය නො වන පිණිස යි, මෙහි, ජිව්හා එව ආයතනං ජිව්හායතනං, අවිජ්ජා එව ඔඝො අවිජ්ජොඝො, ඉත්ථියා ඉන්ද්‍රියං, ඉත්ථින්ද්‍රියං, අභිභූ එව ආයතනං අභිභායතනං, භයතො උපට්ඨානං භයතූපට්ඨානං, යි සමාස කටයුතු.

අවඡන්දානුරක්ඛණෙති, අවඡන්දානුරක්ඛණෙ යනු; කිං, කුමටය; සද්ධීධ විත්තං පුරිසස්ස සෙට්ඨං, සොමිස්සරො, යන තන්හි ඡන්දානු රක්ෂණය හෙතුකොට ගෙන ප්‍රකෘතිභාවය නො වන පිණිසයි; සද්ධා-ඉධ විත්තං පුරිසස්ස සෙට්ඨං, සො මෙ-ඉස්සරො, යි බින්දේයි.

**නාමපදන්ත ඉකාරුකාරෙසු-ගාථාහි අජ්ඣභාසි, පුපථානි ආහරිංසු, සඤ්ඤු අදාසි.**

**ක්වචීති කිං? මනසාකාසි.**

## 36. සරා පකති බ්‍යඤ්ජනෙ 1-3-1

**සරා ඛො බ්‍යඤ්ජනෙ පරෙ පකතිරූපා හොන්තීති යෙ භුය්‍යෙන දීඝරස්සලොපෙහි විකාරාභාවො-යථා අවචයො, පචචයො, භාසති වා, කරොති වා, වෙදනාක්ඛන්ධො, භාග්‍යවා, භද්‍රා කසාම්ව, දීයති, තුණ්හීභූතො, සො ධම්මං දෙසෙති.**

**ඉති පකතිසන්ධිවිධානං නිට්ඨිතං.**

———:———

---

නාමපදන්තඉකාරඋකාරෙසු, නාමපදඅන්ත වූ ඉකාරඋකාර යන් කෙරෙහි ප්‍රතිෂෙධොදාහරණ කියනු ලැබේ. මෙහි ගාථාහි අජ්ඣභාසි යනු ඉවර්ණය හට යකාරාදෙශ ප්‍රතිෂෙධොදාහරණය; පුපථානි ආහරිංසු යන මධ්‍යඋදාහරණයද එමෙනි; සඤ්ඤු අදාසි යන අන්තඋදාහරණය උකාරය :හට වකාරාදෙශ ප්‍රතිෂෙධොදාහරණයි.

ක්වචීති, ක්වචි යනු; කිං?, කුමටය; මනසාකාසි යන තන්හි නාමපදාන්ත ඉකාර බවක් ඇති කල්හිද ප්‍රතිෂෙධව මනසි-අකාසි යී පදච්ඡෙද කොට පූර්වය හට ලොප්කොට පරය හට දීර්ඝ කරන ලද කල්හි මනසාකාසි යනු වේ.

සරා ය පකති ය බ්‍යඤ්ජනෙ ය යනු පදයි.

බ්‍යඤ්ජනෙ පරෙ, බ්‍යඤ්ජනයා පරකල්හි; සරා ඛො,ස්වරයෝ; පකතිරූපා හොන්තීති, ප්‍රකෘතිරූප ඇත්තාහු වෙත්නුයි; යෙ භුය්‍යෙන, බොහෝ සේ; දීඝරස්සලොපෙහි, දීර්ඝය හ්‍රස්වය ලොපය යන මොවුන් හෙතුකොට ගෙන; විකාරාභාවො, විකාරයාගේ නොවීමයි—මෙහි යෙභුය්‍යෙන යනු දීඝං 1-2-4 රස්සං 1-3-4 ලොපඤ්ච තත්‍රාකාරෙ 1-3-5 යන මේ සූත්‍රයන් කෙරෙහි ක්වචි ග්‍රහණයාගේ අනුවෘත්තිය ඇති කල්හි ද නැවත ප්‍රකෘතිභාවා රම්භය හෙතුකොට ගෙන ව්‍යඤ්ජනයා පරකල්හි ස්වරයන්ට භූයො වෘත්තීන් ප්‍රකෘතිභාවය වන්නේ යයි හඟවන පිණිස කියන ලදී; යථා, එහි උදාහරණ මෙසේයි; අවචයො යනාදි දීර්ඝප්‍රතිෂෙධ

**අථ බ්‍යඤ්ජනසන්ධි වුච්චතෙ.**

**බ්‍යඤ්ජනෙති අධිකාරෙ. සරා ක්වචීති ච වත්තතෙ.**

## 37. දීඝං 1-3-3.

**සරා ඛො බ්‍යඤ්ජනෙ පරෙ ක්වචි දීඝං පප්පොන්තීති සුත්ත සුඛුච්චාරණච්ඡන්දානුරක්ඛනට්ඨානෙසු දීඝො.**

**ත්‍යස්ස පහීනා, ත්‍යාස්ස පහීනා, ස්වස්ස, ස්වාස්ස, මධුව මඤ්ඤති බාලො, මධුවා මඤ්ඤති බාලො, තථා, එවං ගාමෙ මුනී චරෙ, ඛන්තී පරමං තපො තිතික්ඛා, න මක්කු භවිස්සාමි, ස්වාක්ඛාතො, සවායං, ස්වාහං, කාමතො ජයතී සොකො, කාමතො ජයතී භයං, සන්තො උජූ ච සුජූ ච, අනූපඝාතො, දූරක්ඛං, දූරමං, දූභරතා.**

**ක්වචීති කිං? ත්‍යජ්ජ, ස්වස්ස පතිලීයති.**

**සිඛං වා–හුතං වා–ලොකෙ, යදි වා සාවකෙ, පුග්ගලා ධම්මදසා තෙ, තො වාදී නාම සො හොති, යථාභාවී ගුණෙන සො ඉතිධ.**

---

යෙහි උදාහරණය, වෙදනාක්ඛන්ධො යනාදියෙහි හ්‍රස්වප්‍රතිෂෙධ යෙහි උදාහරණය, මෙහි ද ඔකාරය හට හ්‍රස්ව උකාරාදෙශ ප්‍රතිෂෙධ පිණිස භද්‍රො කසාමිව යනු කියන ලදී; සො ධම්මං දෙසෙති යනු ලොපප්‍රතිෂෙධයෙහි උදාහරණය.

ඉති, මෙසේ; පකතිසන්ධිවිධානං, ප්‍රකෘතිසන්ධිවිධානය; නිට්ඨිතං, නිමවන ලදී; පකතිභූතො සන්ධි පකතිසන්ධි, සො විධීයති එත්ථාති පකතිසන්ධිවිධානං, සංහිතාප්‍රතිෂෙධ විධාන යයි සේයි.

ප්‍රකෘතිසන්ධිවිධාන වර්ණනාව නිමවන ලදී.

——:——

අථ, ප්‍රතිෂෙධ සංහිතානන්තරයෙන්; බ්‍යජනසන්ධි වුච්චතෙ, ව්‍යඤ්ජනයන්ගේ සංහිතා කියනු ලැබේ.

ව්‍යඤ්ජනෙති, සරා පකති බ්‍යඤ්ජනෙ 1-3-1 යන සූත්‍රයෙන් බ්‍යඤ්ජනෙ යනු; අධිකාරෙ,(වග්ගෙ ඝොසාඝොසානං තතියපඨමා 1-3-7 යන සූත්‍රය දක්වා) සම්බන්ධ කරනු ලැබේ. සරා, මෙම සූත්‍රයෙන් සරා යනුද; ක්වචීති ච, සරෙ ක්වචි 1-2-3 යන සූත්‍රයෙන් ක්වචි යනුද; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

## පුබ්බස්මිංයෙවාධිකාරෙ. *

## 38. රස්සං. 1-3-4.

**සරො බො බ්‍යඤ්ජනෙ පරෙ ක්වචි රස්සං පප්පොතීති ඡන්දානුරක්ඛනෙ ආගමෙ සංයොගෙ ච රස්සත්තං.**

---

දීඝං යනු එකපද යි.

බ්‍යඤ්ජනෙ පරෙ, බ්‍යඤ්ජනයා පරකල්හි; සරො බො, ස්වරයෝ; ක්වචි, කිසිතැනෙක්හි; දීඝං පප්පොතීති, දීර්ඝබවට පැමිණෙත් නුයි; සුත්තසුඛුච්චාරණඡන්දානුරක්ඛනට්ඨානෙසු, (ශලිෂ්ටකථන සඞ්ඛ්‍යාත) සූත්‍රසුඛොච්චාරණස්ථාන වෘත්තිනියමානුරක්ෂණස්ථාන යෙහි; දීඝො, දීර්ඝ වේ—මෙතන ඡන්දස් නම් වෘත්ති නියමයයි, වෘත්ති නියමය යි ද ගුරුලඝු නියමය කියනු ලැබේ.

තෙ-අස්ස පහීනා යි පදච්ඡේද කළ කල්හි ස්වරයා පරකල්හි පදන්ත එකාරය හට යමෙදන්තස්සාදෙසො 1-2-6 යන සූත්‍රයෙන් යකාරාදෙශ කොට මෙම සූත්‍රයෙන් ව්‍යඤ්ජනයා පරකල්හි දීර්ඝව ත්‍යාස්ස පහීනා යි ද ක්වචිග්‍රහණයෙන් දීර්ඝ නොවූ තැන ත්‍යස්ස පහීනා කියා ද වෙයි. සො-අස්ස යි පද බිඳි කල්හි ස්වරයා පර කල්හි පදන්ත ඔකාරය හට වමොදුදන්තානං 1-2-7 යන්නෙන් වකාරාදෙශ කොට මේ සූත්‍රයෙන් දීර්ඝව ස්වාස්ස යිද දීර්ඝ නොවූ තැන ස්වස්ස කියා ද වේ. මධු-ඉව මඤ්ඤති බාලො යි පදච්ඡේද කළ කල්හි අසමානස්වරයා කෙරෙන් පරස්වරය හට වා පරො අසරූපා 1-2-2 යන සූත්‍රයෙන් ලොප් කොට ව්‍යඤ්ජනයා පර කල්හි වකාරස්ථ අකාරය හට මෙම සූත්‍රයෙන් දීර්ඝ කළ කල්හි මධුවා මඤ්ඤති බාලො යිද දීර්ඝ නොවූ තන්හි මධුව මඤ්ඤති බාලො යිද වෙයි. එවං ගාමෙ මුනී චරෙ-පෙ-දූභරතා යනුද; තථා, එසේමය.

ක්වචීති කිං?, ක්වචි යනු කුමටද; ත්‍යජ්ජ යනාදියෙහි දීර්ඝ නොවන පිණිසයි.

සිඛිං වා-පෙ-ගුණෙන සො ඉතිධ, ගුණෙන සො යන මෙහි සංහිතාකායයි කියනු ලැබේ.

පුබ්බස්මිංයෙවාධිකාරෙ, සර පකති බ්‍යඤ්ජනෙ 1-3-1 යන මේ ප්‍රථමවූම අධිකාරය පවත්නා කල්හි; † අං බ්‍යඤ්ජනෙ නිග්ගහීතං යනු ද්විතීයාධිකාරය අපෙක්ෂා කොට පුබ්බස්මිංයෙවාධිකාරෙ යනු කීහයි දතයුතුයි.

---

* පුබ්බස්මිංයෙවාධිකාරෙ-ඉති සබ්බත්‍ථ.

† පළමු මුද්‍රිත සන්නයෙහි ප්‍රථමාවට ගැළපෙන අර්ථය වේ.

**ඡන්දානුරක්ඛනෙ තාව-සිඞ්ඝංව භුත්තංව ලොකෙ, යදිව සාවකෙ, පුග්ගල ධම්මදසා තෙ, භොවාදි නාම සො හොති, යථා භාවි ගුණෙන සො.**

**ආගමෙ-යථයිදං, සම්මදක්ඛාතො.**

**සංයොගෙ-පරා-ක්කමො, පරක්කමො-ආසාදෙ, අස්සාදෙ. එවං තණ්හක්ඛයො, ඤානපටිලාභිමග්ගි, වසිමග්ගි, ඵුල්ලවච්චයො.**

**ක්වචීති කිං? මාගිදං, මනසාදඤ්ඤා විමුත්තානං, යථාක්කමං, ආඛ්‍යාතිකං, දීය්‍යති, සූය්‍යති.**

**එසො-ඛො බ්‍යන්තිකාහිති, සො-ගච්ඡං න නිවත්තති ඉත්‍යාදි.**

---

රස්සං යනු එකපදයි.

බ්‍යඤ්ජනෙ පරෙ, ව්‍යඤ්ජනයා පරකල්හි; සරා ඛො, ස්වරයෝ; ක්වචි, කිසිතැනෙක්හි; රස්සං පප්පොන්තීති, හ්‍රස්ව බවට පැමිණෙත් නුයි; ඡන්දානුරක්ඛනෙ, වෘත්ති නියමානුරක්‍ෂණයක් ඇතිකල්හි කෙවලව්‍යඤ්ජනයා පරකල්හිද; ආගමෙ,ආගමව්‍යඤ්ජනයා පරකල්හිද; සංයොගෙ ච, සංයොගව්‍යඤ්ජනයා පරකල්හිද; රස්සත්තං, හ්‍රස්ව බව වේ.

ඡන්දානුරක්ඛනෙ, ඡන්දානුරක්‍ෂණයෙහි; තාව, පළමුකොට උදාහරණ කියනු ලැබේ.

සිඞ්ඝංව යනාදි ඡන්දානුරක්‍ෂණයෙහි උදාහරණයි.

ආගමෙ, ආගමාක්‍ෂරයා පරකල්හි හ්‍රස්වත්වයෙහි උදාහරණ කියනු ලැබේ; යථා-ඉදං, සම්මා-අක්ඛාතො සි තිබෙයි, යවමදනාදි සූත්‍රයෙන් යකාර දකාරාගම කොට මේ සූත්‍රයෙන් ආගමාක්‍ෂරයා පරනිමිත්තෙන් හ්‍රස්ව කරන ලද කල්හි, යථයිදං, සම්මදක්ඛාතො, යනු වේ.

සංයොගෙ, සංයොගාක්‍ෂරයා පරකල්හි හ්‍රස්වත්වයෙහි උදාහරණ කියනු ලැබේ; පරක්කමො, අස්සාදෙ යන මෙයින් කවර්ගා දියෙහි පටන් සකාරයා දක්වා සංයොගයා පරකොට ඇති ආ උපසර්ගය හට උදාහරණ දැක්වූහු; පරා-කමො, ආ-සාදෙ යි තිබෙයි, මෙම සූත්‍රයෙන් සංයොගාක්‍ෂරයා පරකල්හි හ්‍රස්ව කොට පරක්කමො, අස්සාදෙ යනු සිඩ කළයුතු.

**එවං සබ්බත්ථ ස්‍යාදීනං කාරියවිධානෙ විභත්තීනමෙවාති දට්ඨබ්බං.**

**වා පරො අසරූපාති පරලොපෙ සම්පත්තෙ තදපවාදෙන පුබ්බලොපමාහ.**

---

වචනස්ස ඔකාරෙ හොති සි මෙසේ ෂෂ්ඨ්‍යන්තවචනාන්ත කොට කරන ලද විවරණයම යුක්ති දක්වා සමර්ථනය කරනුවෝ සුත්තෙසු හි යනාදි කීහු.

සුත්තෙසු හි, සූත්‍රයන් කෙරෙහි; පඨමා නිද්දිට්ඨස්ස කාරියිනො, (සි යී යනාදීන්) ප්‍රථමා වචනයෙන් යොදා දක්වන ලද කාර්‍ය්‍යීහුගේ; ඡට්ඨීවිපරිණාමෙන විවරණං, වෘත්තියෙහි ලා සි'වචනස්ස'නා වචනස්ස යනාදීන් ෂෂ්ඨී වචනයෙන් යොදා පෙරළීමෙන් විභජනය; ආදෙසාපෙක්ඛන්ති, (ඔ එ යනාදි) ආදෙශයා අපෙක්ෂා කොට ඇත්තේ යයි; දට්ඨබ්බං, දතයුතු—සිස්ස ඔ සො යී මෙසේ සමාස කොට දක්වූ හෙයින් වෘත්තියෙහි ෂෂ්ඨීවිවරණය කරන ලදැයි කියහැකි වේද යත්? සි සම්බන්ධී වූ ඔකාරයක්හුගේ අභාවයෙන්ද විධීයමාන ඔකාරයාගේ සාපෙක්ෂාභාවයෙන්ද සමාසය නො යෙදෙන හෙයින් හේ අයුක්තයි.

එත්ථ ච, මේ සූත්‍රයද; සීති, සිය යි; විභත්ති ගය්හතෙ, විභක්ති වචනයෙකින් අවිශිෂ්ටවුවද විභක්තිම ගන්නා ලැබෙයි; කවර හෙයින්ද යත්? විභත්තිකාරියවිධිප්පකරණතො, මේ සි වචනයා අතො නෙන 2-1-52 යන විභක්තිකාර්‍ය්‍යවිධානසූත්‍රය ප්‍රස්තාව කොට ඇති හෙයින්; වා, නොහොත්; තතො ච විභත්තියොති ඉතො, තතො ච විභත්තියො 2-1-3 යන මේ සූත්‍රයෙන්; විභත්තිග්ගහණානුවත්තනතො, විභක්තිග්‍රහණයාගේ මෙහි අනුවෘත්තිය හෙයින්—කාරියං විධීයතෙ අනෙනාති කාරියවිධි, විභත්තීනං කාරියවිධි විභත්තිකාරියවිධි, තං පකරණං අස්ස සි වචනස්සාති විභත්තිකාරිය විධිප්පකරණං.

එවං, මෙසේ; ස්‍යාදීනං කාරියවිධානෙ, සි ආදීන්ට කාර්‍ය්‍ය විධායක වූ; සබ්බත්ථ, සියලු සූත්‍රයෙහි; විභත්තීනමෙවාති, විභක්ති වචනයකින් අවිශිෂ්ටවුවද විභක්තීන්ට ම කාර්‍ය්‍ය වන්නේ යයි; දට්ඨබ්බං, දතයුතුයි.

## 67. සරලොපො'මාදෙසප්පච්චයාදිම්හි සරලොපෙ තු පකති 2-1-32.

**පුබ්බසරස්ස ලොපො හොති අංවචනෙ ආදෙසප්පච්චයාදිභූතෙ ච සරෙ පරෙ, සරලොපෙ කතෙ තු පරසරස්ස පකතිභාවො හොති.**

**එත්ථ ච සරලොපෙති පුනග්ගහණං ඉමිනාව කතසරලොපනිමිත්තෙයෙව පරසරවිකාරෙ සම්පත්තෙ පකතිභාවත්ථං.**

---

වා පරෙ අසරූපාති, වා පරො අසරූපා 1-2-2 යන සූත්‍රයෙන්; පරලොපෙ සම්පත්තෙ, පරය හට ලොප් සම්ප්‍රාප්ත කල්හි; තදපවාදො, ඒ පරලොපයාගේ ප්‍රතික්ෂෙපයෙන්; පුබ්බලොපං, පූර්වලොපසූත්‍රයක්; ආහ, කියා.

සරලොපො ය අමාදෙසප්පච්චයාදිම්හි ය සරලොපෙ ය
තු ය පකති ය යනු පදයි.

සරස්ස ලොපො සරලොපො, අං ච ආදෙසො ච පච්චයො ච අමාදෙසප්පච්චයා, තෙ ආදයො යස්ස සො අමාදෙසප්පච්චයාදි, තස්මිං අමාදෙසප්පච්චයාදිම්හි.

අං වචනෙ, අං වචනයද; ආදෙසප්පච්චයාදිභූතෙ ච සරෙ, ආදෙශ ප්‍රත්‍යයාදි වූ ස්වරයද; පරෙ, පරව සිටි කල්හි; පුබ්බසරස්ස ලොපො හොති, පූර්වස්වරය හට ලොප් වෙයි; සරලොපෙ කතෙ තු, පූර්වස්වරලොපය කරන ලද කල්හි; පරසරස්ස පකතිභාවො හොති, පරස්වරය හට ප්‍රකෘතිභාවය වන්නේයි.

එත්ථ ච, මේ සූත්‍රයෙහිද; සරලොපෙති පුනග්ගහණං, සරලොපොමාදෙසප්පච්චයාදිම්හි පකති යි මෙසේ ම නො කියා සරලොපෙ යී නැවත ස්වරලොපයාගේ ග්‍රහණය තෙම; ඉමිනා * කතසරලොපනිමිත්තෙයෙව පරසරවිකාරෙ, මේ සරලොපාදි සූත්‍රයෙන් කරන ලද පූර්වස්වරලොපය නිමිත්තකොට ගෙන ඇත්තාම වූ පරස්වරයා සම්බන්ධී දීර්ඝාදිවිකාරය; සම්පත්තෙ, සම්ප්‍රාප්ත කල්හි; පකතිභාවත්ථං, ඔහුගේ ප්‍රකෘතිභාවය ප්‍රයොජන කොට ඇත්තේයි—ඉදින් සරලොපො යනාදි සූත්‍රයෙන් පූර්වලොපය කරන ලද කල්හි ඒ නිමිත්ත කොට "සයනං දදන්ති ධම්මිකා" යනාදියෙහි

---

* ඉමිනාව-සී රූපසිද්ධි පෙළ.

**පරිසරස්ස පකතිභාවවිධානසාමත්ථියතො අමාදෙසප්පච්චයාදි භූතෙ සරෙ පරෙපි සිද්ධං.**

**15** **ත්‍යාදිවිභත්තියො චෙත්ථ පච්චයත්තෙන ගය්හරෙ**
**ආදිග්ගහණමාඛ්‍යාතකිතකෙසාගමත්ථිදං.**

**16** **පච්චයස්සාභාවම්හියා චාදෙසො පකතීපරෙ**
**පදන්තසරලොපො න තෙනාඛ්‍යාහාදිකෙ පරෙ.**

---

මෙන් පරය හට දීර්ඝ විකාරයෙක් ප්‍රසඞ්ග වේ නම් එකල්හි දීර්ඝ විකාරයාගේ වැලකීම් පිණිස සරලොපෙ යි පුනග්‍රහණය කළහ යි. සේසි. මෙයින් සරා සරෙ ලොපං 1-2-1 යි පූර්වස්වරලොපය කරන ලද කල්හි සෙය්‍යො සෙඨො යනාදියෙහි පරස්වරය හට විකාර වන්නේ ම යයි දත්තයි.

කතො සරලොපො කතසරලොපො, සො නිමිත්තං එතස්ස සරවිකාරස්සාති කතසරලොපනිමිත්තං, තස්මිං කතසරලොප නිමිත්තෙ.

පරසරස්ස, පරස්වරය හට; පකතිභාවවිධානසාමත්ථියතො, ප්‍රකෘතිභාවයාගේ විධානසාමර්ථ්‍යය හෙතුකොට ගෙන; අමාදෙසප්පච්චයාදිභූතෙ, අමා දෙශ ප්‍රත්‍යයාදි වූ; සරෙ පරෙපි, ස්වරයා පරකල්හිය යුනුද; සිද්ධං, සිඬසි-මෙයින් න්‍යාසයෙහි අමාදෙසප්පච්චයාදිම්හි යන මෙහි ප්‍රත්‍යය වචනයෙන් ව්‍යඤ්ජනභූත ප්‍රත්‍යයාද ගෙන ඛ යනාදියෙහි ව්‍යඤ්ජනභූත වූ ප්‍රත්‍යයාදීහුද පරකල්හි මේ සූත්‍රයෙන් පූර්වලොපවිධාන කරණිය ප්‍රත්‍යාඛ්‍යාන කරන ලදැයි දතයුතු. ඉදින් ව්‍යඤ්ජනභූත ප්‍රත්‍යයාද පරකල්හි පූර්වස්වරය හට මේ සූත්‍රයෙන් ලොප් වේ නම් ව්‍යඤ්ජනයා පිණිස ප්‍රතිශෙධ විධානය නොයෙදේ නුඹි පරය හට ප්‍රකෘතිවිධානය ම නිරර්ථක වන්නේයි, ඛච් යනාදියෙහිද ව්‍යඤ්ජනභූත ප්‍රත්‍යයාදීහු පරකල්හි තෙසු වුඩි ඝතාදි මහාවෘත්ති සූත්‍රයෙන් ම ලොප් සිඬයයි දතයුතු.

පකතිභාවස්ස විධානං පකතිභාවවිධානං, පකතිභාවවිධානස්ස සාමත්ථියං පකතිභාවවිධානසාමත්ථියං, තතො පකතිභාවවිධානසාමත්ථියතො.

එත්ථ, මේ සූත්‍රයෙහි; පච්චයත්තෙන, ප්‍රත්‍යයභාවයෙන්; ත්‍යාදිවිභත්තියො ච, ති ආදි විභක්තීහුද හෙවත් ආඛ්‍යාතවිභක්තීහුද; ගය්හරෙ, ගන්නා ලැබෙති; ඉදං ආදිග්ගහණං, මේ ආදිග්‍රහණය

වනාහි; ආඛ්‍යාතකිතකෙසු, ආඛ්‍යාතකිතක දෙක්හි; ආගමත්‍ථං, ආගමයා ම ප්‍රයොජන කොට ඇත්තේයි—මේ සරලොපො යනාදි සූත්‍රයෙහි තද්ධිතාදිප්‍රත්‍යයෝ ම ප්‍රත්‍යයග්‍රහණයෙන් ගන්නා ලබන් නාහු නො වෙති ආඛ්‍යාතවිභක්තිභූත වූ ත්‍යාදිවිභක්තීහුද ප්‍රත්‍යය ග්‍රහණයෙන් ගන්නා ලැබෙති, මෙහි ම ආදෙසප්පච්චයාදිම්හි යන ආදිග්‍රහණයෙන් වනාහි ආඛ්‍යාත විෂයෙහිද ඉකාරාගමො අසබ්බ ධාතුකම්හි 3-4-35 යථාගමම්කාරෙ 4-4-16 යනාදි සූත්‍රයෙන් විහිත ආගමස්වර ගන්නා ලැබෙයි යනු මෙහි අභිප්‍රාය යි.

පච්චයස්ස භාවො පච්චයත්තං, තෙන පච්චයත්තෙන—මේ වචනයෙන් ත්‍යාදිවිභක්තීන්ගේ ගැන්මෙහි ධාතුලිඞ්ගෙහි පරප්පච්චයා 3-2-1 යන සූත්‍රයෙහි ප්‍රත්‍යයග්‍රහණයෙන් විභක්තීන් ගන්නා ලද බව ම ඥාපක වන්නේයි, ත්‍යාදිවිභත්තියො යි ද අවයවයෙහි සමුදාය ව්‍යවහාරයෙන් අර්‍ථ ගතයුතු, යම්සේ “තසමිං සමයෙ චත්තාරො බන්ධා හොන්ති” යන මෙහි වෙදනාදීන් කෙරෙහි සම්බන්ධ ව්‍යවහාරයද “සමුද්දො මයා දිට්ඨො” යන මෙහි නෙත්‍රවිෂය මාත්‍රයෙක්හි සමුද්‍රව්‍යවහාරය ද ශාසන හෙයිනු දු ලොකාහෙයිනු දු සිද්ධ ද එසේ ම සමුදායෙහි ප්‍රවෘත්ත ශබ්දය න්ගේ අවයවයා කෙරෙහි ප්‍රවෘත්ත සම්භව වේනු යි අවයවයා කෙරෙහි සමුදාය ව්‍යවහාර වශයෙන් ‘ත්‍යාදි විභත්තියො’ යි අන්ති අන්ත එ ආමසෙ යනාදි වූ ස්වරයන් ආද්‍යවයව කොට ඇති විභක්තීහු ම ගන්නාලද්හ යි දතයුතු—ත්‍යාදි විභත්තියො ච යන මෙහි ච ශබ්ද තද්ධිත ප්‍රත්‍යයාදීන්ගේ සම්පිණ්ඩනය කෙරේ. ආගමො අත්‍ථො පයොජනං අස්සාති ආගමත්‍ථං, ආගමත්‍ථං ඉදං යි කියයුතු තන්හි ඡන්දොනුරක්ෂණය පිණිස අනුස්වාර ලොපය ද ස්වරසන්ධානය ද කොට ආගමත්‍ථිදං යි කියන ලදී.

ආදෙසො ච, (මේ සූත්‍රයෙහි දක්වන ලද) ආදෙශ ද; පච්චය සාහචරියා, ආදෙසප්පච්චයාදිම්හි යී මේ ප්‍රත්‍යයා හා සමඟ හදාරන ලද හෙයින්; පකති පරෙ, ප්‍රත්‍යයා මෙන් ප්‍රකෘතිය කෙරෙන් පරවූයේ ගන්නා ලැබෙයි; තෙන, ඒ ප්‍රකෘතිය කෙරෙන් පරවූ ම ආදෙශයාගේ මෙහි ලා ගන්නා ලබන බව හෙතුකොට ගෙන; අබ්භ ආහාදිකෙ පරෙ, කිත්තිසද්දො අබ්භුග්ගතො”සත්‍ථා ආහ’යනාදි උදාහරණයෙහි අබ්භ ආහාදි පර පදයාට ආදි වූ ආදෙශ ස්වරයා පරකල්හි; පදන්තසරලොපො න, කිත්තිසද්දො සත්‍ථා යනාදි පූර්‍ව පදයෙහි පදාන්තස්වරය හට ලොප් නොවේ.

**තුග්ගහණං භික්ඛුනීආදිසු සරලොපනිවත්තනත්ථං. නයෙ පරං යුත්තෙති පරං නෙතබ්බං.**

**පුරිසො තිඨති-පුරිසො ච පුරිසො චාති පුරිසපුරිස ඉති වත්තබ්බෙ.**

## 68. සරූපානමෙකසෙසව්සකිං 2-8-45.

**සරූපානං සමානරූපානං පදබ්‍යඤ්ජනානං මජ්ඣෙ එකොව සිස්සතෙ අඤ්ඤෙ ලොපමාපජ්ජනෙන අසකින්ති එකසෙසො.**

---

යම්සේ අර්ජුන ශබ්දය කකුධයට හා රාමසහායයා හට සාධාරණ වූයේ ද රාමශබ්දය හා රාමො ච අජ්ජුනො ච රාමජ්ජුනා යි මෙසේ සහ පඨිත කල්හි කුඹුක හැර රාමසහාය වූ රජහු කෙරෙහි ම වැටේ ද, එසේ ම මෙහි ආදෙශ ශබ්ද ද ප්‍රකෘතිය කෙරෙන් පර ආදෙශය හට හා පරපදාදිභූත වූ ආදෙශය හට සාධාරණ වූයේ ද පකතිතො පරමෙතීති පච්චයො යි මෙසේ නිෂ්පන්න වූ ප්‍රත්‍යය ශබ්දයා හා ආදෙසො ච පච්චයො ච ආදෙසපච්චයා යි මේ සහ පඨිත හෙයින් පරපදාදිභූත ආදෙශයා හැර ප්‍රකෘතිය කෙරෙන් පර වූ විභක්තිප්‍රත්‍යයන්ට කරන ලද ආදෙශයා කෙරෙහි ම වැටෙයි. එහෙයින් පරපදාදිභූත ආදෙශ ස්වරයා පරකල්හි පූර්වපදාන්ත ස්වරය හට ලොප් නොවේ යි යනු මෙහි භාවයි.

සහ චරීයති පඨීයතීති සහචරො, සහචරස්ස භාවො සාහචරියං, පච්චයෙන සාහචරියං පච්චය සාහචරියං, තතො පච්චය සාහචරියා—චාදෙසො යන මෙහි ච ශබ්ද පච්චය සමුච්චය කෙරේ. පකතිතො පරො පකති පරො—පකති පරො යී කියයුතු තන්හි වෘත්‍ය'භෙදය පිණිස දීර්ඝ කොට පකතීපරො යී කීහු.

තුග්ගහණං, සරලොපෙ තු යන මෙහි තු ශබ්දයාගේ ග්‍රහණය; භික්ඛුනී ආදිසු, භික්ඛුනී පරචිත්තවිදූනී යනාදි උදාහරණයෙහි; සරලොපනිවත්තනත්ථං, ප්‍රත්‍යයස්වරයා පර බවක් ඇති කල්හිද පූර්වස්වරය හට ලොප් නිවෘත්තිය පිණිසයි.

නයෙ පරං යුත්තෙති, නයෙ පරං යුත්තෙ 1-1-11 යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන්; පරං, පර වූ ඔකාරයා කරා; නෙතබ්බං, (පූර්ව වූ සකාරසඞ්ඛ්‍යාත ව්‍යඤ්ජන තෙම) පැමිණවියයුතුයි.

පුරිසො යන තැන්හි ජිනවචනයුත්තං හි 2-1-1 යනු වැටේන් නෙහි ලිඞ්ගං ච නිපච්චතෙ 2-1-2 යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් ජිනවචනානුරූපව පුරිස යන ප්‍රකෘති පුරිස යි තිබෙයි, ඕහට පර සමඤ්ඤා පයොගෙ 1-1-9 යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් ලිඞ්ගසංඥ වෙයි ඔහු කෙරෙන් පරව තතො ච විභත්තියො 2-1-3 යන සූත්‍රයෙන් ස්‍යාදිවිභක්තීහු වෙති, ස්‍යාදීන්ට සි යො යනාදි සූත්‍රයෙන් විභක්තිසංඥ වෙයි ස්‍යාදීහු තදනුපරොධෙන 2-1-5 යන පරිභාෂා සූත්‍ර සාමර්ථ්‍යයෙන් ජිනවචනයට අවිරොධ පරිද්දෙන් වෙති එහි ද අවිශෙෂයෙන් සියලු ස්‍යාදීන්ගේ ප්‍රසඞ්ග ඇත්තෙහි "විවක්ඛානු පුබ්බිකා සද්දප්පවත්ති" යන න්‍යාය හෙයින් වක්තෘවිවක්ෂා වශයෙන් ලිඞ්ගාර්ථයාගේ අභිධානමාත්‍රයෙහි ලිඞ්ගත්ථෙ පඨමා 2-1-2 යන සූත්‍රයෙන් ප්‍රථමා විභක්ති වන්නීය, එහි ද අනියමයෙන් එක වචනබහුවචන ප්‍රසඞ්ග ඇත්තෙහි එකම්හි වත්තබ්බෙ එකවචනං යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් ලිඞ්ගාර්ථයාගේ එකවචන විවක්ෂා වක් ඇතිකල්හි එකවචන සි වෙයි ලිඞ්ගයා සම්බන්ධි අකාරයා කෙරෙන්පර වූ සි හට සො 2-1-53 යන සූත්‍රයෙන් ඔකාරාදෙශ වෙයි ආදෙශස්වරයා පරකල්හි පූර්වස්වරය හට සරලොපො යනාදි සූත්‍රයෙන් ලොප් වෙයි යට සිටි ස්වර රහිත ව්‍යඤ්ජන නයෙ පරං යුත්තෙ 1-1-11 යන පරිභාෂාසූත්‍රසාමර්ථ්‍යයෙන් පරාක්ෂරයා කරා පැමිණෙයි පරසමඤ්ඤා පයොගෙ 1-1-9 යන පරිභාෂා හෙයින් පදසංඥ වෙයි, පුරිසො යනු වේ.

පුරිසො, (පඤ්චස්කන්ධයන් නිසා පුරුෂලිඞ්ගනිමිත්ත කෘත්‍යා කල්පයන්ට ආධාරභූත වූ ප්‍රඥප්තිසඞ්ඛ්‍යාත ලොකව්‍යවහාරයෙන් සිඞ වූ) පුද්ගල තෙම; තිට්ඨති, ස්ථානක්‍රියා කරන්නේයි—තිට්ඨති සතුද ප්‍රථමෛකවචනභාවය හඟවන පිණිසයි, පුරි උච්චෙ ඨානෙ සෙතීති පුරිසො—ප්‍රථම ප්‍රකෘති වූ සත්ව තෙම විතීය වූ ප්‍රකෘතියට ප්‍රධාන බව හෙතුකොට ගෙන පුරිසො යි කියන ලදී, ඔහු කෙරෙහි පටන් සියලු දනීත්තනයෝද තත් සදෘශහෙයින් තාල වෘන්තසදෘශය තාලවෘන්තව්‍යවහාර ලබන්නාසේ පුරුෂව්‍යවහාර ලැබෙයි දතයුතු. පුරිසො පුරිසො චාති, පුරිසො ච පුරිසො ච යන මේ වාක්‍යයෙහි; පුරිසපුරිස ඉති වත්තබ්බෙ, වන්ද්වසමාස කොට පුරිස පුරිස යි මෙසේ කියයුතු කල්හි.

සරූපානං ය එකසෙසො ය අසකිං ය යනු පද යි.

සමානං රූපං එතෙසන්ති සරූපා, තෙසං සරූපානං. නිර්ධාරණයෙහි ෂෂ්ඨී යි—නිර්ධාරණ නම් "ජාති ගුණක්‍රියාභි සමුදායාදෙකදෙශස්‍ය පෘථක්කරණම් නිර්ධාරණම්" යි යු බැවින් ජාත්‍යාදිය හෙතු

කොට ගෙන සමූහයා කෙරෙන් එකදෙසයක්හුගේ වෙන්කිරීමයි. “මනුෂ්‍යානාම් ක්ෂත්‍රියස්සූරතමඃ” යනු ජාතිහෙයින් නිර්ධාරණයි, “ධාවන්ත් පථිකානාම් සීඝ්‍රතමඃ” යනු ක්‍රියා හෙයින් නිර්ධාරණයි—මෙහි සමානරූප වූ පදව්‍යඤ්ජනයන් සමූදය වශයෙන් ගන්නා ලද කල්හි එකදෙසත්වය හෙතුකොට ගෙන එකෙක් සමුදායයා කෙරෙන් වෙන් කරනු ලැබේනුයි නිර්ධාරණ නම්, නිර්ධාරණේ ච 2-6-34 යනු සූත්‍ර වන්නේ යි—ඒකසෙසව සෙසො නයප්පයොගොති එකසෙසො.

අසකිං, අනෙකවාරයෙහි ප්‍රයොග කරන ලද; සරූපානං, සී සේයි; සමානරූපානං, සමාන ස්වරූප ඇති; පදබ්‍යඤ්ජනානං මජ්ඣෙ, පදව්‍යඤ්ජනයන්ගේ මධ්‍යයෙහි—සමානශ්‍රැති ඇති ශබ්ද සමුදාය ව්‍යඤ්ජනසමුදායයන් අතුරෙහි යයි සේ යි; එකො, එකෙක්; අවසිස්සතෙ, අවශිෂ්ට වෙයි ප්‍රයොග කරනු ලැබෙයි සේයි; අඤ්ඤෙ, ඔහු කෙරෙන් ඉතරයෝ; ලොපං, ලොපට; ආපජ්ජන්ති, පැමිණෙත්නුයි; එකසෙසො, ඒකසෙසය වේ—එකක්හුගේ ම ප්‍රයොග වෙයි සේ යි—මෙහි පදයන්ගේ මතු ඒකශෙෂය නොවෙයි ව්‍යඤ්ජනයන්ගේද වන්නේ යයි හඟවනු පිණිස සරූපානං පදබ්‍යඤ්ජනානං යි විවරණය කළහ යි දතයුතු, කියේ මැනෝ න්‍යාසකාරයන් විසින් අතිස්ස චන්තස්ස 1-5-6 යන සූත්‍රයාගේ වණ්ණනායෙහි “යදි එවං අත්ථිසාති භවිතබ්බන්ති, සච්චං, ඉධ පන සරූපානමෙකසෙසව සකින්ති එකසෙසං කාහන්ති ඉධ අත්ථපදානෙව ගහිතානීති ව්‍යඤ්ජනානිපි ගහිතානි අනියමෙන සරූපානන්ති වුත්තත්තා ආහ ච සරූපානං පදබ්‍යඤ්ජනානන්ති” යි, පදානි ච ව්‍යඤ්ජනානි ච පදබ්‍යඤ්ජනානි, තෙසං පදබ්‍යඤ්ජනානං—මෙ ව්‍යඤ්ජනශබ්ද සූපං වා ව්‍යඤ්ජනං වා යනාදියෙහි උපසෙචනයෙහි පැනෙයි, උපසෙචන නම් උත්තරිභඞ්ග යි. ඉත්ථිව්‍යඤ්ජනං පුරුසව්‍යඤ්ජනං යනාදියෙහි ලිඞ්ගයෙහි පැනෙයි, ලිඞ්ග නම් නිමිත්තය යි. “පදබ්‍යඤ්ජනානි සාධුකං උග්ගහෙත්වා” යනාදියෙහි වාක්‍යයෙහි පැනෙයි, වාක්‍ය නම් එකාර්ථප්‍රතිපාදක පදසමුදාය යි. “අසීති අනුබ්‍යඤ්ජනානි” යනාදියෙහි ආවෙණිකයෙහි පැනෙයි බුදුන්ගේ අනන්‍යසාධාරණ වූ තම්බනඛතා තුඞ්ගනඛතාදී රූපකාය ගුණය මෙතන ආවෙණික නමි. “චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී” යනාදියෙහි ශරීරාවයවයෙහි පැනෙයි. “දුන්නික්ඛිත්තස්ස භික්ඛවෙ පදබ්‍යඤ්ජනස්ස” යනාදියෙහි අක්ෂරයෙහි පැනෙයි—මෙහිද ප්‍රකරණානුරූප හෙයින් අක්ෂරාර්ථ වූයේ ම කැමතිවන ලදී, අර්ථප්‍රකරණ ශබ්දාන්තර සන්නිධානාදි වශයෙන් ශබ්දයෝ විශෙෂාර්ථ කියත් මැයි.

**එත්ථ ච සරූපානන්ති වුත්තත්තාව සිද්ධෙ අසකිප්පයොගෙ පුනා'සකිංගහණං එකවිභත්තිවිසයානමෙවා'සකිප්පයොගෙ එවායන්ති දස්සනත්ථං.**

**න ච විච්ඡප්පයොගෙ'තිප්පසඞ්ගො, වග්ගා පඤ්චපඤ්ච සො මන්තාති එත්ථ පඤ්චපඤ්චසොති නිද්දෙසෙනෙව විච්ඡාප්පයොගසිද්ධියා ඤාපිතත්තා.**

**අථ වා සහ වචනිච්ඡායමයමෙකසෙසො-යොගවිභාගතො චෙත්ථ එකසෙසෙසකිං ඉති විරූපෙකසෙසො හොති වා පිතූනන්නන්ති ආදිසු.**

**තථෙව ලිඞ්ගත්ථස්ස බහුත්තවචනිච්ඡායං බහුම්හි වත්තබ්බෙ බහුවචනන්ති පඨමා බහුවචනං-යො.**

**පුරිස යො ඉතිධ—**

---

"අර්ථාත් ප්‍රකරණාචජ්ඣිඞ්ගාද් ඖචිත්‍යාද්දෙශකාලතඃ
ශබ්දාර්ථාඃ ප්‍රවිභජ්‍යන්තෙ න ශබ්දාදෙවකෙවලාත්" යි.

එත්ථ ච, මේ සූත්‍රයෙහිද; සරූපානන්ති වුත්තත්තාව, සරූප නමැයි කියන ලද බව හෙතුකොටගෙන ම; අසකිප්පයොගෙ සිද්ධෙ, අනෙකවාරයෙහි ප්‍රයොගසිද්ධියක් ඇතිකල්හි; පුනාසකිංගහණං, නැවත අසකෘත් ශබ්දයාගේ ගැන්ම කුමක් පිණිසද යත්? අයං, මේ එකශෙෂ තෙම; එකවිභත්තිවිසයානමෙව, සමාන විභක්තිය ප්‍රතිෂ්ඨාකොට ඇති පදව්‍යඤ්ජනයන්ගේ ම; අසකිප්පයොගෙ එවාති, අනෙක වාරයෙහි ප්‍රයොගයක් ඇති කල්හි ම වන්නේය යි; දස්සනත්ථං, දක්වීම ප්‍රයොජන කොට ඇත්තේ යි— එකක්හුගේ ම් සමාන රූපත්‍වය නොයෙදේනුයි, සරූපානං යන මේ පදයාගේ නිර්දේශයෙන් ම අනෙකවාර ප්‍රසඞ්ගයෙක් ඇති කල්හී එකශෙෂය වේනුයි සිද්ධවුවද නැවත අසකෘත් ශබ්දයාගේ ග්‍රහණ සාමර්ථ්‍යයෙන් පුරිසො ච පුරිසො ච තිට්ඨන්ති යනාදියෙහි සමානවිභක්ති විෂය කොට ඇත්තවුන්ගේ එකශෙෂය වත් මුත් පුරිසා පුරිසා අපයන්ති යනාදියෙහි නා නා විභක්ති විෂය කොට ඇත්තවුන්ගේ එකශෙෂය නොවේනුයි යනු සිද්ධයයි සේ යි. න්‍යාසයෙහි වනාහි සරූපානං යන මේ වචනාර්ථයාගේ ම ප්‍රකටී භාවය පිණිස අසකෘත් ශබ්දයාගේ ප්‍රයොගය කළහ යි කියන ලදී.

කීයේ මැනෝ් එහි—

“සරූපානන්ති වචනමත්තෙනෙවාසකින්ති විසුජ්ඣමානෙ කිමත්ථමසකිග්ගහණං කතං? නහි එකස්ස සරූපතා යුජ්ජති, තං සච්චං, තප්පාකටීකරණත්ථං යථා ලොකෙ තථා සත්ථෙපි යථා අම්හිඛරස්මිං මෙරුම්හි අසන්තිපි අනද්දිම්හි කෙලාසස්මිං අසන්තිපි සාසනෙපය්‍යනායතනම්හි ධම්මසම්මිසන්තිපි තස්ස භාවපාකටීකර ණත්ථමෙව හි මෙරුමහීධරෙ කෙලාසද්දිධම්මායතනන්ති ආදීනි සද්දප්පයොගා නිද්දිසන්ති එවමසප්පථමනොතරිත්වා තප්පාකටී කාරණත්ථං අසකිං ගහණං කතන්ති දට්ඨබ්බං” යී “එකවිභත්ති විසයො පවත්තිඨානං එතෙසන්ති එකවිභත්තිවිසයා, තෙසං එක විභත්තිවිසයානං.

දූන් එකවිභක්ති විෂය කොට ඇත්තවුන්ගේ ම එකදෙශය පිණිස අසකෘත්ග්‍රහණය වී නම් වීප්සාප්‍රයොගයෙහි කිසේද යන චොද්‍යය ආසංකා කොට ‘න ච විච්ඡාප්පයොගෙ’ යනාදි කීහු.

විච්ඡාප්පයොගෙ, වීප්සාවිෂයෙහි යොදන ලද ශබ්දප්‍රයොගයෙහි ලා; න චාතිප්පසඞ්ගො, අනභිමතයාගේ ප්‍රසඞ්ගය නො වේ මැ යි. කවරහෙයින් ද යත්? ‘වග්ගා පඤ්චපඤ්චසො මන්තා 1–1–7 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; පඤ්චපඤ්චසොති, පඤ්චපඤ්චසො යි මෙසේ එකශෙෂ නො කොට; නිද්දෙසෙනෙව, දක්වීමෙන් ම; විච්ඡාප්පයොග සිද්ධියා, වීප්සාප්‍රයොග සිද්ධියගේ; ඤාපිතත්තා, හඟවන ලද බව හෙතුකොට ගෙන යි.

ඉදින් වීප්සාප්‍රයොගවිෂයෙහි ද එකවිභක්ති විෂය වූ එකශෙෂය ප්‍රසඞ්ග වේ නම් එකල්හි පඤ්චපඤ්ච යන වාක්‍යයෙහි ද්වන්ව සමාසාදි කොට පඤ්චපඤ්චසො යි කියයුතු තන්හි එකශෙෂ කොට පඤ්චසො යී මෙසේ ම කියන්නේය, එසේ නො කියා පඤ්චපඤ්චසො යී වීප්සාප්‍රයොගය සූත්‍රකාරකයන් කළ හෙයින් මෙහි එකවිභක්තික විෂය වූ එකශෙෂය නො වෙයි යනු සිද්ධය යි සේ යි.

අථවා, නො හොත්; අයමෙකසෙසො, මේ එකශෙෂය තෙම; සහ වචනිච්ඡායං, සමඟ අනෙකාර්ථයන්ගේ කීමෙහි ඉච්ඡාවක් ඇතිකල්හි–අනෙකාර්ථයන් එක්කොට එක පදයකින් ම කියනු කැමති කල්හි මේ එකශෙෂය වෙයි එහෙයින් “යෙ යෙ වුඩ්ඪා සො සො අත්ථො” යනාදි වීප්සාප්‍රයොගයෙහි ලා සහ වචනෙච්ඡා

චක් නැති හෙයින් එකාශෙෂ නො වෙයි යනු භාවයි. විච්ඡායං පයොගො විච්ඡාප්පයොගො, තස්ස සිද්ධි විච්ඡාප්පයොගසිද්ධි, තාය විච්ඡාප්පයොග සිද්ධියා—වීප්සා නම් කිම් ද යත්?

“භින්නානි යානි වත්ථූනි-ක්‍රියාය තු ගුණෙන වා
දබ්බෙන වාපි බ්‍යාපිතුං-ඉච්ඡා විච්ඡාති වුච්චතෙ” යි.

බැවින් ක්‍රියාදීන් හා නිශ්ශෙෂ ව්‍යාප්තිය පිණිස ඉච්ඡා වීප්සා නම්.

‘ගාමො ගාමො ගම්‍යතෙ’ යනාදි ක්‍රියාව හා නිශ්ශෙෂ ව්‍යාප තිච්ඡාවෙහි ප්‍රයොගය. ‘ගාමො ගාමො රමනීයො’ යනාදි ගුණය හා නිශ්ශෙෂ ව්‍යාපතිච්ඡාවෙහි ප්‍රයොගය. ‘ගාමෙ ගාමෙ ජලං’ යනාදි ද්‍රව්‍යය හා නිශ්ශෙෂ ව්‍යාපතිච්ඡාවෙහි ප්‍රයොග යි. වග්ගා පඤ්චපඤ්චසො යනු ද ගුණය හා නිශ්ශෙෂ ව්‍යාපතිච්ඡාවෙහි ප්‍රයොග යි, සහ එකතො වචනිච්ඡා සහවචනිච්ඡා, තස්සං සහවච නිච්ඡායං,

එත්ථ, මේ සූත්‍රයෙහි; එකසෙසවසතො ඉති, එකසෙසවසතිං යන; යොගවිභාගතො, සූත්‍ර විභාගය හෙතුකොට ගෙන; පිතුන්නංනති ආදිසු, පිතුන්නං යනාදි උදාහරණයන් කෙරෙහි; විරූපෙකසෙසො ච, විසදෘෂ ස්වරූප ඇත්තවුන් අතුරෙහි එක ශෙෂය ද; වා, විකල්පයෙන්; හොති වේ;—‘යොගවිභාගාදිෂ්ට ප්‍රසිද්ධිඃ’ යනු හෙයින් ‘සරූපානමෙකසෙසවසතිං’ යන සූත්‍රයෙහි සරූපානං යනු හැර ‘එකසෙසවසතිං’ යන සූත්‍ර භාගයෙන් ම මාතාපිතුන්නං යි වක්තව්‍ය කල්හි අසමාන ස්වරූපය ඇති මාතෘ ශබ්දය හට ලොප් කොට පිතු ශබ්දය අවශෙෂ කරනු ලැබෙයි. එහෙයින් පිතුන්නං මාතාපිතුන්නං යන රූපද්වය සිද්ධ යයි යනු මෙහි අභිප්‍රායයි. විරූපානං එකසෙසො විරූපෙකසෙසො. විසදෘශ ශ්‍රැති ඇතියන් අතුරෙහි එකෙක් සිටියි. ඉතරයෝ ලොපට පැමිණෙති යි සේ යි. පිතුන්නංනති ආදි යෙසං තෙ පිතුන්නංනති ආදයො, තෙසු පිතුන්නංනති ආදිසු, ආදි ශබ්ද යෙන් ‘ඡළායතනං’ යනාදි ගන්හු. ඡළායතනඤ්ච ඡට්ඨායතනඤ්ච ඡළායතනං, ඡට්ඨායතනං යි වක්තව්‍ය කල්හි විරූප වූ ඡළායතන ශබ්දයට ලොප්කොට ඡට්ඨායතන ශබ්ද අවශෙෂ කරන ලදී.

**අතො වාති ච වත්තතෙ.**

## 69. සබ්බයොනීනමාඑ 2-1-56.

**අකාරන්තතො ලිඞ්ගම්හා පරෙසං සබ්බෙසං පඨමා යොනීනං දුතියායොනීනඤ්ච යථාක්කමං ආකාරෙකාරාදෙසා හොන්ති වාති ආකාරෙ-සබ්බග්ගහණං සබ්බාදෙසත්ථං-සර ලොපාදි පුරිමසදිසමෙව.**

**පුරිසා තිට්ඨන්ති-වා ඉච්චෙව-රූපා, රූපානි, අග්ගයො, මුනයො.**

**වාසද්දොයං වවත්ථිතවිභාසත්ථො-තෙනෙවෙත්ථ.**

**17 නිච්චමෙව ච පුල්ලිඞ්ගෙ අනිච්චං ච නපුංසකෙ**
**අසන්තපෙක්ඛ සන්තෙන තු විධිං දීපෙති වාසුති.**

---

තථෙව, එසේම; වත්තිච්ඡාවශයෙන්ම යයි සේසි. ලිඞ්ගත්ථස්ස, ශබ්දාර්ථයා සම්බන්ධි වූ; බහුත්තවචනිච්ඡායං, බහුත්වසඞ්ඛ්‍යාවගේ කථනයෙහි ඉච්ඡාවක් ඇතිකල්හි; බහුම්හි වත්තබ්බෙ බහුවචනන්ති, බහ්වර්ථයක් කියයුතු කල්හි බහුවචන වෙයි යන පරිභාෂා සාමර්ථ්‍යයෙන්; පඨමා බහුවචනං යො, ප්‍රථමාවගේ බහුවචනය වූ යො වේ—'බහුම්හි වත්තබ්බෙ බහුවචනං' යන පරිභාෂා හෙයින් බහුවචන වෙයි යන මේ නියමය ද බහුවචනෙසු වො නො 2-2-32 යන සූත්‍ර ඥාපක බලයෙනැයි දතයුතු. බහුන්නං භාවො බහුත්තං, වෘක්ෂාදීන්ගේ ද වූ අනෙකාර්ථයෙහි බහුශබ්දයාගේ ප්‍රවෘත්තියට නිමිත්ත අනෙකත්ව ග්‍රහණනය බහුත්ව නමැයි දන්න, බහුත්තස්ස වචනං බහුවචනං, තස්මිං ඉච්ඡා බහුත්තවචනිච්ඡා, තස්සං බහුත්තවචනිච්ඡායං.

පුරිස යො ඉති, පුරිස යො යන; ඉධ, මෙහි කාර්‍ය්‍යී කියනු ලැබේ.

අතො, අතො නෙන 2-1-52 යන සූත්‍රයෙන් අතො යනු ද; වාති ච, සො වා 2-1-54 යන සූත්‍රයෙන් වා යනු ද; වත්තතෙ, වැටේ.

සබ්බයොනීනං ය ආඑ ය යනු පදයි.

යො ච නි ච යොනි, සබ්බෙ ච තෙ යොනී චාති සබ්බයොනී, තෙසං සබ්බයොනීනං— මෙහි අනුකරණ ශබ්දභාවයෙන් විභක්ති කරන ලදී. ඉදින් අනුකරණ නො වේ නම් යොනීනං යි විභක්තිය කෙරෙන් විභක්ති කෙසේ වේද? එහෙයින් විභත්‍යනුකරණ භාවය හෙතුකොට ගෙන යොනීනං සුහිසු සමාහිසම්භානං යනාදීන් නිර්දේශ කරන ලදැයි දතයුතු. ආ ච ඒ ච ආඒ.

අකාරන්තතො ලිඞ්ගම්හා, අකාරයා අන්තාවයව කොට ඇති ලිඞ්ගයා කෙරෙන්; පරෙසං, පරවූ; සබ්බෙසං, සියලු; (ස්වර සහිත වූ යේ යයි සේයි)පඨමායොනීනං දුතියායොනීනං ච,ප්‍රථමා යො ය තදාදෙශ වූ නි ය යන මොවුන්ට ද ද්විතීයායොය තදාදෙශ වූ නි ය යන මොවුන්ට ද; යථාසඞ්ඛ්‍යං, පාඨක්‍රමය නො ඉක්ම; ආකාරෙ කාරාදෙසා, ආකාරාදෙශ ඒකාරාදෙශයෝ; වා, විකල්පයෙන්; හොන්තීති, වෙත්නු යි; ආකාරො, ප්‍රථමා යො හට ආකාරයෙක් වෙයි—ප්‍රථමා යොනීන්ට අත්‍වය ද්විතීයා යොනීන්ට ඒත්‍වය යි මෙසේ නියමයක් නැති කල්හි ද ධාතුලිඞ්ගෙහි පරප්පච්චයා 3-2-1 යන මෙහි පර යි ප්‍රථමා හට ආකාරත්‍වය පැනෙන හෙයින් සියො අං යො යි මෙසේ ප්‍රථමා ද්විතීයා විභක්තීයගේ පඨිතානු ක්‍රමයෙන් ප්‍රථමායොනීන්ට ආත්‍වය ම වෙයි. ද්විතීයා යොනීන්ට ඒත්‍වය ම වෙයි කියා දක්වන පිණිස මෙහි යථාසඞ්ඛ්‍යං යනු කීහ යි දතයුතු.

සබ්බග්ගහණං, සර්වග්‍රහණය තෙම; සබ්බාදෙසත්ථං, සියල්ලට ආදෙශ ප්‍රයොජන කොට ඇත්තේ යි—යොනීනං යි මෙසේ ම නො කියා සබ්බයොනීනං යි සර්වශබ්දයාගේ ග්‍රහණය ආඒ යන මොවුන් ස්වර මාත්‍රයක් හෙයින් යොනීන්ගේ අන්තය හට ප්‍රසඞ්ග කල්හි සියල්ලට ම ආදෙශ වන පිණිස කරන ලදැ යි සේයි.

සරලොපාදි, පූර්වස්වරලොපාදි කාර්‍ය්‍යී; පුරිමසදිසං, පූර්වෝදාහරණය හා සම යි.

පුරිසා, බොහෝ පුරුෂයෝ; තිට්ඨන්ති, සිටිත්; මේද ප්‍රථමා බහුවචන භාවය හඟවන පිණිස යි; වා ඉති, වා යනු; එව, වැටෙයි යනු කුමටය යත්? රූපා රූපානි, අග්ගයො මුත්තයො, යන උදාහරණයන් පිණිසයි—වා ඉච්චෙව යි නැවත කීම වාධිකාරයාගේ ඵල දක්වන පිණිසයයි දතයුතු—මෙබඳු තැන එව ශබ්දනිපාතත යන් අනෙකාර්ථ බැවින්—වත්තතෙ යනු හා සමානාර්ථය යි දත

**තථෙවාලපන වචනිච්ඡායං ලිඞ්ගත්ථෙ පඨමාති වත්තතෙ.**

## 70. ආලපනෙ ච 2-6-15.

**අභිමුඛං කත්වා ලපනං ආලපනං සම්බොධනං, තස්මිං ආලපනත්ථාධිකෙ ලිඞ්ගත්ථාභිධානමත්තෙ ච පඨමා විභත්ති හොති.**

---

යුතු. නොහොත් අවධාරණාර්ථ වූ එව ශබ්ද යෙදේ. රූපා රූපානි යනු විකල්පවිධියෙහි උදාහරණය. අග්ගයො මුනයො යනු අසන් විධියෙහි උදාහරණයි. එහි ආදි උදාහරණද්වයෙහි රූපශබ්දයා කෙරෙන් පර වූ ප්‍රථමා යො හට අතො නිච්චං 2-4-8 යි නි යන ආදෙශ කරන ලද කල්හි අකාරාන්තයා කෙරෙන් පර නි හට මේ සූත්‍රයෙන් විකල්පයෙන් ආකාරාදෙශ වෙයි. අනික් තැන යොසු කතනිකාරලොපෙසු දීඝං 2-1-37 යි දීර්ඝ වෙයි, අග්ගයො මුනයො යන තන්හි අග්ගි මුනි ශබ්දයන් දෙන්නා කෙරෙන් ප්‍රථමා බහුවචන කොට ඉවණ්ණුවණ්ණොත්ඣලා 2-1-7 යි ඣල සංඥා කොට යො පරකල්හි අන්‍ත හ්‍රස්ව ඣසංඥය හට 'යොසව කතරස්සොසෙඣා' 2-1-45 යි අත්ව කරන ලද කල්හි අකාරාන්ත බවක් ඇත ද වා ශබ්ද බලයෙන් යො හට ආකාරාදෙශ නො වෙයි දතයුතු.

අයං වාසද්දො, මේ වා ශබ්දය තෙමේ; වවත්ථිතවිභාසත්ථො, ව්‍යවස්ථිත විකල්පය අර්ථකොට ඇත්තේය—තෙන එව, වා ශබ්ද යාගේ ව්‍යවස්ථිත විභාෂා බව හෙතුකොට ගෙන.

පුල්ලිඞ්ග, අකාරාන්ත පුල්ලිඞ්ග විෂයෙහි; නිච්චමෙව ච විධිං, නිත්‍ය වූම කාර්‍ය්‍යය ද; නපුංසකෙ, අකාරාන්ත නපුංසක ලිඞ්ග විෂයෙහි; අනිච්චමෙව ච විධිං, අනිත්‍යම වූ කාර්‍ය්‍යය ද; ඣෙ තු, ඣ සංඥාවූ ඉවර්ණය විෂයෙහි; කතත්තෙ, කරන ලද අත්ව ඇති කල්හි, අසන්තමෙව ච විධිං, අසත් ම වූ කාර්‍ය්‍යය ද; එත්ථ, මේ සූත්‍රයෙහි; වාසුති, අනුවෘත්ත වා ශබ්දය තෙමේ; දීපෙති, පහළ කෙරේ.

තථෙව, එසේම; වචනිච්ඡානුපුබ්බිකා සද්දප්පවත්ති යි බැවි නැයි සේ යි. ආලපනවචනිච්ඡායං, වක්තෘහු සම්බොධනයාගේ අභිධානයෙහි ඉච්ඡාවක් ඇතිකල්හි. ලිඞ්ගත්ථෙ පඨමා ඉති, ලිඞ්ගත්ථෙ පඨමා යනු; වත්තතෙ, වැටේ.

ආලපනෙ ය ච ය යනු පද යි.

**පුරෙ විය එකවචනාදි.**

**පුරිස සි ඉච්චත්‍ර-**

## 71. ආලපනෙ සි ගසඤ්ඤො, 2-1-6.

**ආලපනත්ථෙ විහිතො සි ගසඤ්ඤො හොතීති ගසඤ්ඤායං.**

---

අභිමුඛං කත්වා, අභිමුඛ කොට; ලපනං, කීම; ආලපනං, ආලපන නම. හේ කිම ද යත්? සම්බොධනං, ආහවාන යි; තස්මිං, ඒ; ආලපනත්ථාධිකෙ, ආලපනාර්ථය අධික කොට ඇති; ලිඞ්ගත්ථාභිධානමත්තෙ ච, ශබ්දයාගේ කෙවලාභිධානය කටයුතු කල්හි ද; පඨමා විභත්ති හොති, (හේ අර්ථමාත්‍රවාචී ලිඞ්ගයා කෙරෙන් පරව) පළමුවන විභක්ති වන්නී යි—අභිමුඛං කත්වා ලපනං ආලපනං යන මෙයින් ආ ශබ්දයාගේ ආගච්ඡති යනාදියෙහි මෙන් අභිමුඛාර්ථභාවය කීහු. සම්මුඛං කත්වා බොධනං සම්බොධනං, ආලපනමෙව අත්ථො ආලපනත්ථො,ආලපනත්ථො අධිකො යස්මිං තං ආලපනත්ථාධිකං. කිං තං? ලිඞ්ගත්ථාභිධානමත්තං, තස්මිං ආලපනත්ථාධිකෙ. මේ සූත්‍රයෙහි ච ශබ්ද ප්‍රථමාග්‍රහණානුකර්ෂණය පිණිසය යි දත යුතු. එහි ප්‍රයොජන යට කියන ලද මැයි—එකම්හි වත්තබ්බෙ එකවචනං' යන පරිභාෂා සාමර්ථ්‍යයෙන් ආලපනාර්ථාධික ලිඞ්ගාර්ථයාගේ එකත්වවච්ඡෙච්ඡාවක් ඇතිකල්හි ප්‍රථමෙකවචන සි වෙයි. 'බහුම්හි වත්තබ්බෙ බහුවචනං,'යන පරිභාෂා සාමර්ථ්‍යයෙන් ඔහුගේ ම බහුත්ව විවක්ෂාවක් ඇති කල්හි ප්‍රථමා බහුවචනයො වෙයි දක්වනුවෝ 'පුරෙ විය එකවචනාදි' යි කීහු.

පුරෙ විය, පෙර මෙන්; ලිඞ්ගාර්ථයෙහි මෙනැ යි සේයි. එකවචනාදි, එකවචන බහුවචන දෙක වේ.

**පුරිස සි ඉති, පුරිස සි යන; අත්‍ර, මෙහි සිද්ධිය කියනු ලැබේ.**

**ආලපනෙ ය සි ය ගසඤ්ඤො ය යනු පදයි.**

**ග ඉති සඤ්ඤා අස්සාති ගසඤ්ඤො.**

ආලපනත්ථෙ විහිතො, සම්බොධනාර්ථයක් කියයුතු කල්හි ලිඞ්ගයා කෙරෙන් පර කොට කරන ලද; සි, සිවිභක්තිභූත සි තෙම; ගසඤ්ඤො හොතීති, ග යන සංඥ ඇත්තේ වේනු යි; ගසඤ්ඤායං, ග සංඥ කරන ලද කල්හි.

**හො ගෙ තූති ඉතො ගෙති වත්තතෙ.**

## 72. අකාරපිතාද්‍යන්තානමා 2-4-36.

**ලිඞ්ගස්ස සම්බන්ධිඅකාරෙ ච පිතුසත්ථුඉච්චෙවමාදීනමන්තා ච ආකාරත්තමාපජ්ජතෙ ගෙ පරෙ.**

**ගෙ රස්සමිති ච වත්තතෙ.**

## 73. ආකාරො වා 2-4-38.

**ලිඞ්ගස්ස සම්බන්ධි ආකාරෙ රස්සමාපජ්ජතෙ ගෙ පෙර විකප්පෙන-අදූරට්ඨස්සාලපනෙවායං.**

## 74. සෙසතො ලොපං ගසිපි 2-4-10.

**ඝො-සිං-ස්‍යා ච-සඛාතො ගස්සෙ වා-ඝතෙ චාති එවමාදීහි-නිද්දිට්ඨෙහි අඤ්ඤො සෙසො නාම. තතො සෙසතො ලිඞ්ගම්හා ගසී ඉච්චෙතෙ ලොපමාපජ්ජන්තෙ. අපිග්ගහණං දුතියත්ථසම්පිණ්ඩනත්ථං-එත්ථ ච සතිපි සිග්ගහණෙ ග ඉති වචනමෙව ඤාපකමඤ්ඤත්ථාපි සිග්ගහණෙ ආලපනා'ගහණස්ස-කෙචි ආලපනාභිව්‍යත්තියා භවන්තසද්දං හෙසද්දං වා පයුඤ්ජන්ති-හෙ පුරිස තිට්ඨ, හෙ පුරිසා වා.**

---

හො ගෙ තු ඉති, හො ගෙ තු 2-4-33 යන; ඉතො, මේ සූත්‍රයෙන්; ගෙ ඉති, ගෙ යනු; වත්තතෙ, වැටේ.

අකාරපිතාද්‍යන්තානං ය ආ ය යනු පදයි.

පිතා ආදි යෙසං නත්තුප්පච්චයන්තානං තෙ පිතාදයො, තෙසමන්තො පිතාද්‍යන්තො, අකාරො ච පිතාද්‍යන්තො ච අකාරපිතාද්‍යන්තා, තෙසං අකාරපිතාද්‍යන්තානං.

ගෙ පරෙ, ගසංඥක වූ ආලපනෛකවචනයා පරකල්හි; ලිඞ්ගස්ස සම්බන්ධිඅකාරෙ ච, ලිඞ්ගයා ආයතන වූ අකාර ද; පිතුසත්ථු ඉති, පිතුසත්ථු යන; එවමාදීනමන්තා ච, මේ ආදීන්ගේ අන්ත ද;

ආකාරත්තං, ආකාර බවට; * ආපජ්ජතෙ, පැමිණේ. පුරිස ආදී වූ ලිඞ්ගයාගේ අන්තාවයව වූ අකාරය හටද පිතාදි වූ ශබ්දයන්ගේ අන්තාවයව වූ උකාරය හටද් ග පරකල්හි ආකාරාදෙශ වන්නේ යයි සේයි.

ගෙ, ගේහා ගෙ කු 2-4-33 යන සූත්‍රයෙන් ගෙ යනු ද; රස්ස මිති ච, ඛලපා රස්සං 2-4-37 යන සූත්‍රයෙන් රස්සං යනු ද; වත්තතෙ, වැටේ.

ආකාරො ය වා ය යනු පද සි.

ගෙ පරෙ, ග සංඥක ආලපනෙකවචනයා පරකල්හි; ලිඞ්ගස්ස සම්බන්ධි, ලිඞ්ගයා ආයත්ත වූ; ආකාරො, ආකාරය තෙම; විකප්පෙන, විකල්පයෙන්; රස්සං, හ්‍රස්ව බවට; ආපජ්ජතෙ, පැමිණේ—අයං, මේ හ්‍රස්වභාවය; අදූරට්ඨස්සාලපනෙව, අදූරස්ථයාගේ ආලපනය කටයුතු කල්හි මැයි—ආසන්නාදෙශයෙහි සිටියවුන්ගේ ආහ්වානය කටයුතු කල්හි හ්‍රස්ව වත් මුත් දූරදෙශවතීහුගේ ආහ්වානය කටයුතු කල්හි නො වෙයි සේයි.

'සෙසතො ලොපං ගසිපි' යනු ලොපවිධි සූත්‍ර සි.

සෙසතො ය ලොපං ය ගසී ය අපි ය යනු පදයි.

සො, සො 2-1-53 යන සූත්‍රය; සිං, සිං 2-4-9 යන සූත්‍රය; ස්‍යා ච, ස්‍යා ච 2-3-29 යන සූත්‍රය; සබ්බාතො ගස්සෙ වා, සබ්බාතො ගස්සෙ වා 2-1-62 යන සූත්‍රය; ඝතෙ ච, ඝතෙ ච 2-1-63 යන සූත්‍රය; ඉති, යන; එවමාදීහි, මේ ආදී සූත්‍රයන් හෙතුකොට ගෙන; නිද්දිට්ඨෙහි, ආචාර්‍ය්‍යයන් විසින් දක්වන ලද ලිඞ්ගයා කෙරෙන්; අඤ්ඤො, අන්‍ය වූ ශබ්ද තෙම; සෙසො නාම, ශෙෂ නම් වෙයි. තතො සෙසතො ලිඞ්ගම්හා, ඒ ශෙෂ වූ ලිඞ්ගයා කෙරෙන් පරවූ; ගසී ඉති, ග ය සි ය යන; එතෙ, මොහු; ලොපං, අදර්‍ශනයට; ආපජ්ජන්ති; පැමිණෙත්—එවමාදීහි යනමෙහි ආදි ශබ්දයෙන් ආ සිමහි 2-2-5 අං නපුංසකෙ 2-2-6 පුමන්තස්සා සිමහි 2-2-33 අවණ්ණො ච ගෙ 2-2-7 බ්‍රහමතො ගස්ස ච 2-3-33 යනාදී සූත්‍රයෝ සඞ්ග්‍රහ කරන ලදහු.

අපිග්ගහණං, අපි ශබ්දයාගේ ග්‍රහණය; දුතියත්ථසම්පිණ්ඩනත්ථං, ගලොපයට දෙවනු කොට කියන ලද හෙයින් ද්විතීයාර්ථය කියන ලද සිලොපයාගේ සම්පිණ්ඩනය ම ප්‍රයොජන කොට

* ආපජ්ජන්ති, පැමිණෙත්. සන්න පොත්.

**බහුවචනෙ න විසෙසො-භවන්තො පුරිසා තිට්ඨථ-තථෙව කම්මප්පවචනීයා‍යං.**

**වුත්ති වත්තතෙ-**

## 75. යං කරොති තං කම්මං 2-6-10.

**යං වා කරොති යං වා විකරොති යං වා පාපුණාති තං කාරකං කිරියානිමිත්තං කම්මසඤ්ඤං හොති.**

## 76. කම්මත්‍ථෙ දුතියා 2-6-27.

---

ඇත්තේ යි. දුතියත්‍ථස්ස සිලොපස්ස සම්පිණ්ඩනං සමුච්චයො දුතියත්‍ථසම්පිණ්ඩනං. තං අත්‍ථො පයොජනං යස්ස තං දුතියත්‍ථ සම්පිණ්ඩනත්‍ථං.

එත්‍ථ ච, මේ සූත්‍රයෙහි ද; සිග්ගහණෙ සතිපි, සිවචනයාගේ ග්‍රහණය ඇති කල්හිද; ග ඉති වචනමෙව, ග යන වචනය ම; අඤ්ඤත්‍ථාපි, සෙසු සූත්‍රයෙහි ද, සිග්ගහණෙ, සි වචනයාගේ ග්‍රහණයක් ඇතිකල්හි; ආලපනාගහණස්ස, ආලපන වචනයාගේ නො ගැන්මට; ඤාපකං, ඥාපක හෙතු වන්නේයි—සි යි කී කල්හි ම සාමාන්‍යයෙන් ආලපනෛකවචනයාගේ ද ග්‍රහණය වතු දු මේ ග යන වචනයාගේ වෙන ම ගැන්මෙන් ම යම් සූත්‍රයෙක්හි සි වචනයාගේ ග්‍රහණයෙන් ආලපනෛකවචනයාගේ නො ගැන්ම හැඟෙන්නේය යනු මෙහි භාව යි—කෙචි, සමහර වක්තෘහු; ආලපනාභිව්‍යක්තියා,ආහ්වානයාගේ ප්‍රකට් භාවය පිණිස; භවන්ත සද්දං හෙසද්දං වා, ආලපනාර්ථද්‍යෝතක වූ භවන්ත ශබ්දයා හෝ හෙ ශබ්දයා හෝ; පයුඤ්ජන්ති, භො පුරිස හෙ රුක්ඛ යනාදීන් ප්‍රයොග කෙරෙත්—භො පුරිස, පින්වත් පුරුෂය; තිට්ඨ, සිටු; හෙ පුරිසා වා, හෙ පුරිසා තිට්ඨ කියා හෝ වේ.

බහුවචනෙ න විසෙසො, ආලපන බහුවචන විෂයෙහි වෙසෙසක් නැති;ලිඞ්ගාර්ථයෙහි බහුවචනය හා සමයි සේ යි—භවන්තො පුරිසා, පින්වත් බොහෝ පුරුෂයෙනි; තිට්ඨථ, සිටිව්;—මෙහි තිට්ඨ තිට්ඨථ යනු ආලපනෛකවචන බහුවචන භාවය හඟවන

**කම්මත්‍ථෙ දුතියා විභත්ති හොති.**

**පුරෙ විය දුතියෙකවචනං අං–සරලොපොති ආදිනා සරෙ ලුත්තෙ දීඝන්ති දීඝෙ සම්පත්තෙ පකතිභාවො ච–**

**පුරිසං පස්ස.**

---

පිණිස යි—තථෙව, එසේ ම; 'වත්තිච්ඡානු පුබ්බිකා සද්දප්පවත්ති'යි බැවිනැයි සේ යි. කම්මත්‍ථවචනිච්ඡායං, කර්මාර්ථයාගේ කීමෙහි ඉච්ඡාවක් ඇතිකල්හි.

වාති, යෙන වා කයිරතෙ තං කරණං 2-6-9 යන සූත්‍රයෙන් වා යනු; විත්තතෙ, වැටේ—මේ වා ශබ්ද සමුච්චයාර්ථ යයි දතයුතු.

යං ය කරොති ය තං ය කම්මං ය යනු පදයි.

යං, යම් අවිද්‍යමාන ඝටාදියක්; කරොති වා, ක්‍රියායෙන් සිද්ධ කෙරේද; යං, යම් විද්‍යමාන කාෂ්ඨාදියක්; විකරොති වා, ඡෙද නාදින් විකාරයකට පමුණුවා ද; යං, යම් ස්වභාව පරිකල්පිත වූ ගෘහ මරීචිකාදියකට;පාපුණාති වා, ප්‍රවෙශ දර්‍ශනාදීන් පැමිණේ ද; කිරියානිමිත්තං, කරණ විකරණ ප්‍රාප්ත ක්‍රියාවන්ට නිමිත්ත වූ; තං කාරකං, එ කර්තෘහුගේ ක්‍රියාවෙන් පැමිණියයුතු ඝටාදී වූ කාරකය; කම්මසඤ්ඤං හොති, කර්මසංඥ ඇත්තේ වේ;—කම්මන්ති සඤ්ඤා අස්සාති කම්මසඤ්ඤං—කටං කරොති දෙවදත්තො, කට්ඨං මඞ්ගාරං කරොති, නිවෙසනං පවිසති, යනු එහි උදාහරණ යි.

කම්මත්ථෙ ය දුතියා ය යනු පද යි.

කරියතීති කම්මං, කම්මමෙව අත්‍ථො කම්මත්‍ථො, තස්මිං කම්මත්‍ථෙ.

කම්මත්ථෙ, කර්මසංඛ්‍යාත ලිඞ්ගාර්ථයක් ද්‍යොතක කල්හි; දුතියා විභත්ති හොති, කර්මාර්ථවාචී ලිඞ්ගයා කෙරෙන් පරව ද්විතීයා විභක්ති තොම වන්නීය.

පුරෙ විය, පෙර මෙන්,—එකම්හි වත්තබ්බෙ එකවචනං යී බැවිනැ යි සේ යි. දුතියෙකවචනං අං, ද්විතීයාවගේ එකවචන වූ අං විභක්ති වෙයි—සරලොපොති ආදිනා, සරලොපොමාදෙසප්ප ච්චයාදිම්හි සරලොපෙ තු පකති 2-1-32 යන සූත්‍රයෙන්; සරෙ ලුත්තෙ, පූර්වස්වරයා ලොප් කරන ලද කල්හි; දීඝන්ති, දීඝං 1-3-3 යන සූත්‍රයෙන්; දීඝෙ සම්පත්තෙ, දීර්ඝ සම්ප්‍රාප්ත කල්හි; පකති භාවො ච, ප්‍රකෘති භාවය ද වේ;—ච ශබ්ද පරනයන සම්පිණ්ඩනය කෙරේ—පුරිසං, පුරුෂයා; පස්ස, බල.

**බහුවචනෙ-සබ්බයොනීනමාඑති යො වචනස්සෙකාරෙ-පුරිසෙ පස්ස.**

**තථෙව කත්තුවචනිච්ඡායං-**

## 77. යො කරොති ස කත්තා 2-6-11.

**යො අත්තප්පධානො කිරියං කරොති සො කත්තුසඤ්ඤො හොති.**

**තතියාති වත්තතෙ.**

## 78. කත්තරි ච 2-6-18.

**කත්තරි ච කාරකෙ තතියා විභත්ති හොති-තතියෙක වචනං නා.**

## 79. අතො නෙන 2-1-52.

**නාති අවිභත්තිකො'යං නිද්දෙසො-අකාරන්තතො ලිඞ්ගම්හා පරස්ස නා වචනස්ස එනාදෙසො හොති-සරලොපාදි, පුරිසෙන කතං.**

---

බහුවචනෙ, ද්විතීයා බහුවචන කරන ලද කල්හි; සබ්බයොනීනමාඑති, සබ්බයොනීනමාඑ 2-1-56 යන සූත්‍රයෙන්; යොවචනස්ස, යොවචනය හට; එකාරෙ, එකාරාදෙශ වේ—පුරිසෙ, බොහෝ පුරුෂයන්; පස්ස, බල;—පස්ස යනු ද්විතීයාර්ථය හඟවන පිණිස යි.

තථෙව, එසේ ම; 'වත්තිච්ඡානුපුබ්බිකා සද්දප්පවත්ති' යි යූ බැවිනැ යි සේ යි. කත්තුවචනිච්ඡායං, කර්තෘර්ථයාගේ කීමෙහි ඉච්ඡාවක් ඇතිකල්හි.

යො ය කරොති ය සො ය කත්තා ය යනු පද යි.

කරොති කිරියං නිබ්බත්තෙතීති කත්තා.

යො, යමෙක්; අත්තප්පධානො, ස්වප්‍රධාන වූයේ; අනිකෙකු නොමෙහෙයා තෙමේ ම යයි සේයි; කිරියං, පචනාදි වූ කර්මසථ ක්‍රියාව හෝ ගමනාදි වූ කර්තෘසථ ක්‍රියාව හෝ; කරොති, කෙරේ ද; සො, එතෙම; කත්තුසඤ්ඤො හොති, කර්තෘසංඥ ඇත්තේ වේ.

**බහුවචනං හි.**

## 80. සුහිසවකාරො එ 2-1-50.

**සු හි ඉච්චෙතෙසු විභත්තිරූපෙසු පරෙසු ලිඞ්ගස්ස සම්බන්ධි අකාරො එත්තමාපජ්ජතෙ.**

## 81. සමාහිසම්භූනං මහාහිමහි වා 2-1-48.

---

තතියාති, කරණෙ තතියා 2-6-16 යන සූත්‍රයෙන් තතියා යනු; වත්තතෙ, වැටේ.

කත්තරි ය ච ය යනු පදයි.

කත්තරි ච කාරකෙ, කර්තෘ සංඛ්‍යාත කාරකයක් ද්‍යෝතය කල්හි; තතියාවිභත්ති හොති, ඒ කර්තෘවාචී ලිඞ්ගයා කෙරෙන් පරව තෘතීයා විභක්ති වන්නී යි;—තතියෙක වචනං නා, 'එකම්හි වත්තබ්බෙ එකවචනං' යු බැවින් තෘතීයාවගේ එකවචන වූ නා විභක්ති වේ—සූත්‍රයෙහි ච ශබ්දයාගේ ප්‍රයොජන ආචාර්‍ය්‍යයන් විසින් ම කාරකයෙහි කියනු ලැබේ.

අතො නෙන යනු විධිසූත්‍ර යි.

අතො ය නා ය එන ය යනු පද යි.

එනාති, එන යි; අයං නිද්දෙසො, මේ නිර්දේශය තෙම; අවි භත්තිකො, විභක්තිවිරහිත නිර්දේශයෙකි. නත්ථි එත්ථ එතස්ස වා විභත්තීති අවිභත්තිකො.

අකාරන්තතො, අකාරයා අන්තාවයවකොට ඇති; ලිඞ්ගම්හා පරස්ස, ලිඞ්ගයා කෙරෙන් පර වූ; නා වචනස්ස, නා වචනය හට; එනාදෙසො හොති, එන යන ආදෙශ වේ;—සරලොපාදි, පූර්වස්වර ලොප්ආදි කාර්‍ය්‍ය වේ;—පුරිසෙන, පුරුෂයා විසින්; කතං, කරන ලදී.

බහුවචනං, බහුවචන වූ, හි, හි විභක්ති වේ.

සුහිසු ය අකාරො ය එ ය යනු පදයි.

සු ච හි ච සුහි, තෙසු සුහිසු.

**සබ්බතො ලිඞ්ගම්හා සමාහිස්මිං ඉච්චෙතෙසං යථාක්කමං මහාහිමහි ඉච්චෙතෙ ආදෙසා හොන්ති වා. පුරිසෙහි පුරිසෙභි සත්තං.**

## 82. යෙන වා කයිරතෙ තං කරණං 2-6-9

**යෙන වා කයිරතෙ යෙන වා පස්සති යෙන වා සුණාති තං කාරකං කරණසඤ්ඤං හොති.**

## 83. කරණෙ තතියා 2-6-16.

**කරණ කාරකෙ තතියා විභත්ති හොති.**

**සෙසං සත්තු සමං.**

**ආවිට්ඨෙන පුරිසෙන සො පුඤ්ඤං කරෙති. පුරිසෙහි පුරිසෙභි.**

---

සුහි ඉති, සු ය හි ය යන; එතෙසු, මේ; විභත්ති රූපෙසු පරෙසු, විභක්ති සංඛ්‍යාත ශබ්දරූපයන් පරකල්හි; ලිඞ්ගස්ස සම්බන්ධී, ලිඞ්ගයා සම්බන්ධී වූ; ලිඞ්ගයා ආයත්ත වූයේ යයි සේයි. අකාරෙ, අකාරය තෙම; එත්තං, එකාර බවට; ආපජ්ජතෙ, පැමිණේ-සම්බන්ධො අස්ස අත්ථීති සම්බන්ධී.

සමාහිස්මින්නං ය මහාහිමහි ය වා ය යනු පදයි.

සමා ච හි ච ස්මිං ච සමාහිස්මිනො, තෙසං සමාහිස්මින්නං— සමාස්මින්නං යි මෙසේ පටිපාටියෙන් නො කියා උත්පරිපාටියෙන් කියේ කුමට ද යත්? සමාග්‍රහණය මත්තෙහි ද වැටෙන්නේ යයි හඟවන පිණිස යි—යම්කිසි ආකාරයෙකින් අභිප්‍රාය හැඟවීම ආචාර්‍ය්‍යයන්ගේ ප්‍රකෘතියක් මැයි. මහා ච හි ච මහි ච මහාහිමහි.

සබ්බතො ලිඞ්ගම්හා, අකාරන්තාදී ප්‍රභෙද ඇති සියලු පුං ස්ත්‍රී නපුංසක ලිඟුයෙන් යුක්ත ශබ්දයා කෙරෙන් පර වූ; සමා හි ස්මිං ඉති, සමා ය හිය ස්මිං ය යන; එතෙසං, මේ විභක්ති රූප යන්ට; යථාක්කමං, සූත්‍රයෙහි පටිපාටියෙන්; මහාහිමහි ඉති, මහා ය හි ය මහි ය යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; වා, විකල්පයෙන්; හොන්ති, වෙත්;—ස්ත්‍රීලිඟු විෂයෙහි මහි යන ආදෙශ වීමට 'හිවිභත්තිමහි ච' 2-2-38 යන සූත්‍රය ම ඥාපක යි.

තථෙව් සම්පදානවචනිච්ඡායං—

## 84. යස්ස දාතුකාමො රොචතෙ ධාරයතෙ වා තං සම්පදානං 2-6-6.

**යස්ස වා දාතුකාමො යස්ස වා රොචතෙ යස්ස වා ධාරයතෙ තං කාරකං සම්පදානසඤ්ඤං හොති.**

---

පුරිසෙහි, බොහෝ පුරුෂයන් විසින්; කතං, කරන ලදී. පුරිසෙහි කතං කියා ගෝ වේ—කතං යනු තෘතීයාර්ථය හඟවනා පිණිස යි.

යෙන ය, වා ය කයිරතෙ ය තං ය කරණං ය යනු පදයි.

යෙන, යම් සාධක තම වූ හස්තයක් කරණකොට ගෙන; කයිරතෙ වා, පුරුෂ තෙම කර්මය කෙරේද; යෙන, යම් සාධක තම වූ නෙත්‍රයක් කරණකොට ගෙන; පස්සති වා, චක්ෂූරූපාදී රූපය බලා ද; යෙන, යම් සාධක තම වූ ශ්‍රොත්‍රයක් කරණ කොට ගෙන; සුණාති වා, හෙරිශබ්දාදී ශබ්දය අසා ද; තං කාරකං, ඒ හස්තාදී භෙද ඇති වස්තුව; කරණ සඤ්ඤං හොති, කරණ සංඥ ඇත්තේ වේ;—හත්ථෙන කම්මං කාරෙති, නෙත්තෙන චන්දං පස්සති, සොතෙන සද්දං සුණාති, යනු එහි උදාහරණ යි.

කරණෙ ය තතියා ය යනු පදයි.

කාරෙති අනෙනාති කරණං.

කරණ කාරකෙ, කරණ සංඛ්‍යාත කාරකයක් දෘෂ්ටාය කල්හි; තතියා විභත්ති හොති, ඒ කරණවාචී ලිඞ්ගයා කෙරෙන් පරවී තෘතීයා විභක්ති තොමෝ වන්නී යි.

සෙසං, සෙසු ඒකාදෙශාදි කාර්‍යයී; කත්තු සමං, කර්තෘකාරකය හා සම යි.

ආවිට්ඨෙන පුරිසෙන, ආවේෂ කරන ලද පුරුෂයා කරණ කොට ගෙන; සො, ඒ අමනුෂ්‍ය තෙමේ; පුඤ්ඤං කාරෙති, අභිවාද නාදි පුණ්‍යය කරන්නේ යි—පුඤ්ඤං කාරෙති යනු කරණාර්ථය හඟවන පිණිස යි. බහුවචනයෙහි ද ආවිට්ඨෙහි පුරිසෙහි සො පුඤ්ඤං කාරෙති යි යොදනු.

තථෙව, එසේම; සම්පදානවචනිච්ඡායං, සම්ප්‍රදානාර්ථයක්හුගේ වචනෙච්ඡාවක් ඇතිකල්හි.

## 85. සම්පදානෙ චතුත්ථී 2-6-23.

**සම්පදානකාරකෙ චතුත්ථී විභත්ති හොති-චතුත්ථියා එකවචනං ස.**

## 86. සාගමො සෙ 2-1-10.

**සබ්බතො ලිඞ්ගම්හා සකාරාගමො හොති සෙ විභත්තිම්හි පරෙ. පුරිසස්ස ධනං දදාති.**

**බහුවචනං නං.**

**දීඝන්ති වත්තතෙ.**

## 87. සුනහිංසු ච 2-1-38.

**සුනංහි ඉච්චෙතෙසු පරෙසු ලිඞ්ගස්ස අන්තභූතා සබ්බෙ රස්සසරා දීඝමාපජ්ජන්තෙ-චග්ගහණමිකාරුකාරානං ක්වචි නිවත්තනත්ථං-පුරිසානං.**

---

**යස්ස ය දාතුකාමො ය රොචතෙ ය ධාරයතෙ ය වා ය තං ය සම්පදානං ය යනු පද යි.**

**යස්සදාතුකාමො යනාදි සූත්‍රයෙහි වා ශබ්දය සමුච්චයෙහි වැටේ.**

යස්ස, සචෙතන වූ හෝ අචේතන වූ යමක් හට; දාතුකාමො වා, පූජාබුද්ධියෙන් හෝ අනුග්‍රහබුද්ධියෙන් හෝ කිසිවස්තුවක් දෙනු කැමැත්තේ ද; යස්ස, යම් ශ්‍රමණාදියක් හට; රොචතෙ වා, සත්‍යාදිය රුස්නේ ද; ප්‍රීතිය කරු ද; යස්ස, යම් දෙවදත්තාදියමක් හට; ධාරයතෙ වා, ඡත්‍රාදිය ධරු ද; තං කාරකං, ප්‍රතිග්‍රාහකාදි භාවයෙන් අපෙක්‍ෂා කරන ලද ඒ කාරකය; සම්පදානසඤ්ඤං හොති, සම්ප්‍රදාන සංඥ ඇත්තේ වේ—යාචකස්ස ධනං දාතුමිච්ඡති, සමණස්ස සච්චං රොචති, දෙවදත්තස්ස, සුවණ්ණඡත්තං ධාරයතෙ යඤ්ඤදත්තො, යනු එහි උදාහරණ යි.

**සම්පදානෙ ය චතුත්ථී ය යනු පද යි.**

**සම්මා පදීයති එතස්සාති සම්පදානං, තස්මිං සම්පදානෙ.**

සම්පදාන කාරකෙ, සම්ප්‍රදානසංඛ්‍යාතකාරකයක් ද්‍යොත්‍ය කල්හි; චතුත්‍ථී විභත්ති හොති, ඒ සම්ප්‍රදාන වාචී ලිඞ්ගයා කෙරෙන් පරව චතුර්ථී විභක්ති තොම වන්නී යි—චතුත්‍ථියා එකවචනං ස, පෙර සේම චතුර්ථියගේ එකවචන වූ ස විභක්ති වේ.

සාගමො ය සෙ ය යනු පද යි.

සෙ විභත්තිම්හි පරෙ, සවිභක්ති පරකල්හි; සබ්බතො ලිඞ්ගම්හා, අකාරාන්තාදි ප්‍රභෙද ඇති සියලු පුංස්ත්‍රීනපුංසක ලිඞ්ගයා කෙරෙන් පරව; සකාරාගමො හොති, සකාරයෙක් ආගම වේ—ස්ත්‍රීලිඞ්ගවිෂයෙහි ද සවිභක්ති පරකල්හි සකාරාගම වීමට 'මනොගණාදිතො පරස්ස සස්ස විභත්තිස්ස ඔකාරො හොති' යන මේ වෘත්තියෙහි 'විභත්තිස්ස' යනු ම ඥාපක යි—පුරිසස්ස, පුරුෂයා හට; ධනං, ධනය; දදාති, දෙන්නේ යි.

බහුවචනං, චතුර්ථී බහුවචන වූ; නං, නං විභක්ති වේ.

දීඝන්ති, යොසු කතනිකාරලොපෙසු දීඝං 2-1-37 යන සූත්‍රයෙන් දීඝං යනු; වත්තතෙ, වැටේ.

සුනංහිසු ය ච ය යනු පද යි.

සු ච නං ච හි ච සුනංහි, තෙසු සුනංහිසු.

සුනංහි ඉති, සු ය නං ය හි ය යන; එතෙසු පරෙසු, මේ විභක්ති රූපයන් පරකල්හි; ලිඞ්ගස්ස අන්තභූතා, ලිඞ්ගයාගේ අන්තය වූ; සබ්බෙ රස්සසරා, සියලු හ්‍රස්වස්වරයෝ; දීඝං, දීර්ඝ බවට; ආපජ්ජන්තෙ, පැමිණෙත්;—'සාමාන්‍ය චොදනා විශෙෂෙ'ව තිෂ්ඨතෙ' යනු හෙයින් සබ්බෙ රස්සසරා යනු සිද්ධය යි දතයුතු—දූත් නිපාතයන් අනෙකාර්ථ ඇති හෙයින් ච ශබ්දයා නිපාත හෙයින් ඔහු එල දක්වනුවෝ කියත් චග්ගහණං යනාදි—චග්ගහණං, මේ සූත්‍රයෙහි ච ග්‍රහණය තෙම; ඉකාරුකාරානං, ඉකාර උකාර දෙන්නාට; ක්වචි, කිසි විවක්ෂිතප්‍රයොගයෙක්හි ලා; නිවත්තනත්ථං, දීර්ඝ නිවෘත්තිය ම ප්‍රයොජන කොට ඇත්තේ යි. පුරිසානං, බොහෝ පුරුෂයන්ට; 'ධනං දදාති' යි යොදනු. ධනං දදාති යනු ද චතුර්ථ්‍යර්ථය ප්‍රකාශ කරන පිණිස යි.

**තථෙවාපාදානවචනිච්ඡායං-**

## 88. යස්මාදපෙති භයමාදත්තෙ වා තදපාදානං 2-6-1.

**යස්මා වා අවධිතො අපෙති යස්මා වා භයං යස්මා වා ආදත්තෙ තං කාරකං අපාදානසඤ්ඤං හොති.**

## 89. අපාදානෙ පඤ්චමී 2-6-25.

**අපාදානකාරකෙ පඤ්චමී විභත්ති හොති-පඤ්චමියා එකවචනං ස්මා.**

---

තථෙව, එසේම; අපාදානවචනිච්ඡායං, අපදානාර්ථයක් කියනු කැමති කල්හි;

යස්මා ය අපෙති ය භයං ය ආදත්තෙ ය වා ය තං ය අපාදානං ය යනු පදයි.

යස්මා යනාදි සූත්‍රයෙහි වා ශබ්දය ද සමුච්චයාර්ථ ම යයි ගතයුතු—අපෙච්ච ඉතො ආදදාතීති අපාදානං.

යස්මා අවධිතො, යම් ග්‍රාමාදි සීමාවකින්; අපෙති වා, පහ වේ ද; යස්මා, යම් චෞරාදි භය ගෙන දෙන්නකු කෙරෙන්; භයං වා, භය වේ ද; යස්මා, යම් ආචාර්ය්‍යයක්හු කෙරෙන්; ආදත්තෙ වා, විද්‍යාව ගනී ද; තං කාරකං, අපගමනාදාන ක්‍රියාවන්ට අවධි වූ ද භය හෙතු වූ ද ඒ කාරකය; අපාදානසඤ්ඤං හොති, අපාදාන සංඥ ඇත්තේ වේ. ගාමා අපෙන්ති මුනයො, චොරා භයං ජායති, උපජ්ඣායා සික්ඛං ගණ්හාති, යනු උදාහරණ යි.

අපාදානෙ ය පඤ්චමී ය යනු පද යි.

අපාදානකාරකෙ, අපාදානකාරකයක් ද්‍යොත්‍ය කල්හි; පඤ්චමීවිභත්ති හොති, ඒ අපාදානවාචී වූ ලිඞ්ගයා කෙරෙන් පරව පඤ්චමී විභක්ති වේ—පඤ්චමියා එකවචනං ස්මා, පෙර සේ ම පඤ්චමියගේ එකවචන වූ ස්මාවිභක්ති වේ.

**අතො සබ්බසං ආ එති ච වත්තතෙ.**

## 90. ස්මාස්මින්නං වා 2-1-57.

**අකාරන්තතො ලිඞ්ගම්හා සබ්බසං ස්මාස්මිං ඉච්චෙතෙසං යථාක්කමං ආකාරෙකාරාදෙසා හොන්ති වා-අසන්දෙහත්ථ ම්හාදෙසො.**

**පුරිසා අපෙති, පුරිසම්හා පුරිස්මා.**

**බහුවචනෙ සබ්බත්ථ තතියාසමං-හිස්ස හිආදෙසො-පුරිසෙහි පුරිසෙභි අපෙති.**

---

අතො, අතො නෙත 2-1-52 යන සූත්‍රයෙන් අතො යනු ද; සබ්බසං, 'සබ්බයොනීනමාඑ' 2-1-56 යන සූත්‍රයෙන් සබ්බසං යනු ද; ආඑති ච, හෙම සූත්‍රයෙන් ආ එ යනු ද; වත්තතෙ, වැටේ.

ස්මාස්මින්නං ය වා ය යනු පද යි.

අකාරන්තතො ලිඞ්ගම්හා, අකාරය අන්තාවයව කොට ඇති පුංනපුංසකලිඞ්ග ශබ්දයා කෙරෙන් පර වූ; සබ්බසං, සියලු; ස්මාස්මිං ඉති, ස්මා ය ස්මිං ය යන; එතෙසං, මේ විභක්ති රූප යන්ට; යථාක්කමං, පඞ්ක්තීන්; ක්‍රමය නො ඉක්ම; ආකාරෙකාරාදෙසා, ආකාරාදෙශ එකාරාදෙශයෝ; වා හොන්ති, විකල්පයෙන් වෙත්;—අසන්දෙහත්ථ, සන්දෙහමොචක වචනය හට ආකාරාදෙශ නො වූ පක්ෂයෙහි; ම්හාදෙසො, ස්මාහිස්මින්නං යනාදි සූත්‍රයෙන් ස්මා හට ම්හා යන ආදෙශ වේ.

පුරිසා, පුරුෂයා කෙරෙන්; අපෙති, පහව; පුරිසම්හා, පුරිස්මා අපෙති කියා හෝ වේ.

බහුවචනෙ, පඤ්චමී බහුවචනවිෂයෙහි; සබ්බත්ථ, සියලු උදාහරණයෙහිම කාර්‍ය්‍යී; තතියා සමං, තෘතීයා බහුවචන හා සමයි;—හිස්ස, හි විභක්ති හට; භි ආදෙසො, 'ස්මාහිස්මින්නං ම්හාභි ම්හි වා' 2-1-48 යන සූත්‍රයෙන් භි ආදෙශ වේ;—පුරිසෙභි, බොහෝ පුරුෂයන් කෙරෙන්; අපෙති, පහව; පුරිසෙහි අපෙති කියා හෝ වේ. අපෙති යනු පඤ්චම්‍යර්ථය ප්‍රකාශ කරන පිණිස යි.

**තථෙව සාමිවචනිච්ඡායං-**

## 91. යස්ස වා පරිග්ගහො තං සාමි 2-6-13.

**යස්ස වා පරිග්ගහො තං සාමිසඤ්ඤං හොති.**

## 92. සාමිස්මිං ඡට්ඨී 2-6-31.

**සාමිස්මිං ඡට්ඨීවිභත්ති හොති-ඨපෙත්වා ආයාදෙසං සබ්බත්ථ චතුත්ථීඡට්ඨීනං සමානං රූපං.**

**පුරිසස්ස එතං ධනං, පුරිසානං.**

---

තථෙව, එසේම; සාමිවචනිච්ඡායං, ස්වාම්‍යර්ථයක් කියමනා කල්හි;

යස්ස ය වා ය පරිග්ගහො ය තං ය සාමි ය යනු පද යි.

පරිගය්හතීති පරිග්ගහො—මෙයින් සං ශබ්දාභිධෙය කියන ලදී.

යස්ස, යමක්හුගේ; පරිග්ගහො වා, අයත් ද; තං, ඒ විශෙෂණාදිභූත අර්ථය; සාමිසඤ්ඤං හොති, ස්වාමි සංඥා ඇත්තේ වේ—වා ශබ්දයෙහි ඵල ආචාර්යයෝ ම මතු කියත්.

සාමිස්මිං ය ඡට්ඨී ය යනු පද යි.

සාමිස්මිං, විශෙෂණාදිභූත වූ ස්වාම්‍යර්ථයෙහි; ඡට්ඨීවිභත්ති හොති,(පරිග්‍රහ ආයත්තතා ලක්‍ෂණ වූ සම්බන්ධයක් ද්‍යොත්‍ය කල්හි සම්බන්ධවාචී විශෙෂණාදි ලිඞ්ගයා කෙරෙන් පරව) ෂෂ්ඨී විභක්ති වන්නීය—ආයාදෙසං ඨපෙත්වා, ආය චතුත්ථෙකවචනස්ස තු 2-1-58 යන සූත්‍රයෙන් චතුර්ථ්‍යෙකවචනය හට විධීයමාන ආයාදෙශයා තබා, සබ්බත්ථ, (තදන්‍ය වූ) සියළු එකවචන බහුවචන විෂයෙහි; චතුත්ථීඡට්ඨීනං, චතුර්ථී ෂෂ්ඨී දෙන්නාගේ; සමානං රූපං, සමානරූපදීපන වූ උදාහරණ රූපයි.

පුරිසස්ස, පුරුෂයාගේ; එතං ධනං, මේ ධනය යි; පුරිසානං, බොහෝ පුරුෂයන්ගේ; එතං ධනං යි යොදනු—මේ චතුර්ථී ෂෂ්ඨී දෙදෙනාගේ සමානරූපදීපක වූ උදාහරණ රූප යි. එහෙයින් ෂෂ්ඨියට වෙන කාර්‍ය්‍ය නො දක්වා පුරිසස්ස පුරිසානං යනාදීන් චතුර්ථියට කියන උදාහරණ ම දක්වනු ලැබෙයි. අර්ථ හෙයින් වනාහි ඔවුන් දෙදෙනාගේ භෙද කිය යුත්තේය යන අභිප්‍රාය යි—එතං ධනං යනු ෂෂ්ඨ්‍යර්ථ ද්‍යොතනය කරනු පිණිස යි.

**තථෙව ඔකාසවචනිච්ඡායං—**

## 93. යොධාරො තමොකාසං 2-6-8.

**යො කත්තුකම්මානං කිරියාය ආධාරො තං ඔකාසසඤ්ඤං හොති.**

## 94. ඔකාසෙ සත්තමී 2-6-32.

**ඔකාසකාරකෙ සත්තමීවිභත්ති හොති.**

**සත්තමියා එකවචනං ස්මිං—තස්ස ස්මාස්මිනනං වාති එකාරො ම්හිආදෙසො ච.**

**පුරිසෙ පතිට්ඨිතං, පුරිසම්හි පුරිසස්මිං.**

---

තථෙව, එසේ ම; වත්තිච්ඡානුපුබ්බිකා සද්දප්පවත්ති යි යුතු බැවිනැ යි සේ යි. ඔකාස වචනිච්ඡායං, ආධාර කාරකයාගේ කථනයෙහි ඉච්ඡාවක් ඇති කල්හි;

යො ය ආධාරො ය තං ය ඔකාසං ය යනු පද යි.

ආධාරීයති එත්ථාති ආධාරො. යො, යමෙක්; කත්තුකම්මානං, (දෙවදත්තාදී වූ ද ඔදනාදී වූ ද)කර්තෘකර්ම දෙන්නාගේ; කිරියාය, (ස්ථානගමනාදි වූ ද පචනඡෙදනාදි වූ ද)ක්‍රියාවට;ආධාරො, පිහිට වේ ද; තං, ඒ වස්තුව; ඔකාසසඤ්ඤං හොති, අවකාශ සංඥ ඇත්තේ වේ—කත්තා ච කම්මං ච කත්තුකම්මානි, තෙසං කත්තුකම්මානං.

ඔකාසෙ ය සත්තමී ය යනු පද යි.

ඔකාසකාරකෙ, ආධාරකාරකයක් ද්‍යොත්‍ය කල්හි; සත්තමී විභත්ති හොති, (ආධාරවාචී ලිඞ්ගයා කෙරෙන් පරව) සප්තමී විභක්ති වන්නී යි.

සත්තමියා එකවචනං ස්මිං, සප්තමියගේ එකවචන වූ ස්මිං විභක්ති වේ—තස්ස, ඒ ස්මිං වචනය හට; ස්මාස්මිනනං වාති, ස්මාස්මිනනං වා 2-1-57 යන සූත්‍රයෙන්; එකාරො, එකාරාදෙශ ද; ම්හිආදෙසො ච, ස්මාහි යනාදීන් ම්හි ආදෙශ ද වේ.

පුරිසෙ, පුරුෂයා කෙරෙහි; පතිට්ඨිතං, පිහිටියේ; පුරිසම්හි පතිට්ඨිතං, පුරිසස්මිං පතිට්ඨිතං, යි ද යොදනු. අර්ථ පෙරසේ මැ යි.

**බහුවචනෙ-සුහිස්වකාරො එති එකාරො-පුරිසෙසු.**

**පුරිසො පුරිසා, භො පුරිස භෙ පුරිසා වා, භවන්තො පුරිසා, පුරිසං පුරිසෙ, පුරිසෙන පුරිසෙභි පුරිසෙහි, පුරිසස්ස පුරිසානං, පුරිසා පුරිසම්හා පුරිසස්මා පුරිසෙභි පුරිසෙහි, පුරිසස්ස පුරිසානං, පුරිසෙ පුරිසම්හි පුරිසස්මිං පුරිසෙසු.**

**තථා-සුගතො සුගතා, භො සුගත භො සුගතා භවන්තො සුගතා, සුගතං සුගතෙ, සුගතෙන සුගතෙභි සුගතෙහි, සුගතස්ස සුගතානං, සුගතා සුගතම්හා සුගතස්මා සුගතෙභි සුගතෙහි, සුගතස්ස සුගතානං, සුගතෙ සුගතම්හි සුගතස්මිං සුගතෙසු.**

**18** එවං සුරාසුරනරොරගනාගයක්ඛ-
ගන්ධබ්බකින්නරමනුස්සපිසාචපෙතා
මාතඞ්ගජඞ්ගමතුරඞ්ගවරාහසීහ-
ව්‍යග්ඝච්ඡකච්ඡපතරච්ඡමිගස්සසොණා.

**19** ආලොකලොකනිලයානිලචාගයොග
වායාමගාමනිගමාගමධම්මකාමා
සඞ්ඝොඝඝොසපටිඝාසවකොධලොභ-
සාරම්භථම්භමදමානපමාදමක්ඛා.

**20** පුන්නාගපූගපනසාසනචම්පකම්බ-
හින්තාලතාලවකුලජ්ජුනකිංසුකා ච
මන්දාරකුන්දපුචිමන්දකරඤ්ජරුක්ඛා
සෙය්‍යා මයූරසකුණණ්ඩජකොඤ්චහංසා.

**ඉච්චාදයොපි.**

---

බහුවචනෙ, සප්තමී බහුවචන කරන ලද කල්හි; සුහිසවකාරෙ එති, සුහිසවකාරෙ එ 2-1-50 යන සූත්‍රයෙන්;එකාරො,(සුපරකල්හි ලිඞ්ගයා සම්බන්ධි වූ අකාරය හට) එකාරයෙක් වේ—පුරිසෙසු, බොහෝ පුරුෂයන් කෙරෙහි; පතිට්ඨිතං යි යොදනු. පතිට්ඨිතං යනු සප්තම්‍යර්ථය හඟවන පිණිස ප්‍රයොග කරන ලදැ යි දතයුතු.

සුගතො-පෙ-සුගතෙසු, සුගතො-පෙ-සුගතෙසු යනු ද; තථා, එසේමැ යි—පුරිසශබ්දයා සත්විභක්තීන් හා යෙදුවා සේ ම සුගතශබ්දයා ද සුගතො-පෙ-සුගතෙසු යි මෙසේ යොදනු ලැබෙ යි සේ යි—සුන්දරං ඨානං ගතොති සුගතො, සුට්ඨු ගදතීති සුගතො යනාදි අර්ථයෙන් සුගත යයි සංඥයා කියනු ලැබේ.

සුර, සුර යන ශබ්දය; අසුර, අසුර යන ශබ්දය; නර, නර යන ශබ්දය; උරග, උරග යන ශබ්දය; නාග, නාග යන ශබ්දය; යක්ඛ, යක්ඛ යන ශබ්දය; ගන්ධබ්බ, ගන්ධබ්බ යන ශබ්දය; කින්නර, කින්නර යන ශබ්දය; මනුස්ස, මනුස්ස යන ශබ්දය; පිසාච, පිසාච යන ශබ්දය; පෙතා, පෙත ශබ්දය යන මොහුද; මාතඞ්ග, මාතඞ්ග ශබ්දයද; ජඞ්ගම, ජඞ්ගම ශබ්දය ද; තුරඞ්ග, තුරඞ්ග යන ශබ්දය ද; වරාහ, වරාහ යන ශබ්දය ද; සීහ, සීහ යන ශබ්දය ද; ව්‍යග්ඝ, ව්‍යග්ඝ යන ශබ්දය; අච්ඡ, අච්ඡ යන ශබ්දය; කච්ඡප, කච්ඡප යන ශබ්දය; තරච්ඡ, තරච්ඡ යන ශබ්දය; මිග, මිග යන ශබ්දය; අස්ස, අස්ස යන ශබ්දය; සොණා, සොණ ශබ්දය යන මොහුද;

ආලොක, ආලොක යන ශබ්දය; ලොක, ලොක යන ශබ්දය; නිලය, නිලය යන ශබ්දය; අනිල, අනිල යන ශබ්දය; චාග, චාග යන ශබ්දය; යොග, යොග යන ශබ්දය; වායාම, වායාම යන ශබ්දය; ගාම, ගාම යන ශබ්දය; නිගම, නිගම යන ශබ්දය; ආගම, ආගම යන ශබ්දය; ධම්ම, ධම්ම යන ශබ්දය; කාමා, කාම ශබ්දය යන මොහු ද; සඞ්ඝ, සඞ්ඝ යන ශබ්දය; ඕඝ, ඕඝ යන ශබ්දය; ඝොස, ඝොස යන ශබ්දය; පටිඝ, පටිඝ යන ශබ්දය; ආසව, ආසව යන ශබ්දය; කොධ, කොධ යන ශබ්දය; ලොභ, ලොභ යන ශබ්දය; සාරම්භ, සාරම්භ යන ශබ්දය; ථම්භ, ථම්භ යන ශබ්දය; මද, මද යන ශබ්දය; මාන, මාන යන ශබ්දය; පමාද, පමාද යන ශබ්දය; මක්ඛා, මක්ඛ ශබ්දය යන මොහු ද;

පුන්නාග, පුන්නාග යන ශබ්දය; පූග, පූග යන ශබ්දය; පනස, පනස යන ශබ්දය; අසන, අසන යන ශබ්දය; චම්පක, චම්පක යන ශබ්දය; අම්බ, අම්බ යන ශබ්දය; හින්තාල, හින්තාල යන ශබ්දය; තාල, තාල යන ශබ්දය; වකුල, වකුල යන ශබ්දය; අජ්ජුන, අජ්ජුන යන ශබ්දය; කිංසුකා ච, කිංසුක ශබ්දය යන මොහු ද; මන්දාර, මන්දාර යන ශබ්දය; කුන්ද, කුන්ද යන ශබ්දය; පුචිමන්ද, පුචිමන්ද යන ශබ්දය; කාරඤ්ජ, කාරඤ්ජ යන ශබ්දය; රුක්ඛා ච, රුක්ඛ ශබ්දය යන මොහු ද; මයූර, මයූර යන ශබ්දය; සකුණ, සකුණ යන ශබ්දය; අණ්ඩජ, අණ්ඩජ යන ශබ්දය; කොඤ්ච, කොඤ්ච යන ශබ්දය; හංසා ඉති, හංස යන ශබ්දය යි; ආදයොපි, මේ ආදී ශබ්දයෝ ද; එවං ඤෙය්‍යා, අකාරාන්ත පුල්ලිඞ්ග බව හෙතු කොටගෙන සප්ත විභක්තීන් කෙරෙහි මේ පුරිස යන ශබ්දයාගේ නයින් දතයුත්තාහු යි.

සුරෙ ච අසුරෙ ච නරෙ ච උරගො ච යක්ඛො ච ගන්ධබ්බො ච කින්නරෙ ච මනුස්සො ච පිසාචො ච පෙතො ච සුරාසුරනරො රගනාගයක්ඛගන්ධබ්බකින්නරමනුස්සපිසාචපෙතා යනාදීන් මෙසේ ද්වන්ද්ව සමාස කටයුතු—මේ ගාථාත්‍රය වනාහි වසන්තතිලකා නම් වෘත්තය යි. යම් වෘත්තයෙක්හි තගණ භගණ දෙකක් හා ජගණ දෙකක්ද අන්තයෙහි ගුරු දෙකක් ද වී නම් වසන්තතිලකා නම් වේ මෙම කීහ "උත්තා වසන්තතිලකා තභජා ජගාගො" යි. මෙම සිංහොද්ධතාය යි ද කියනු ලැබේ.

එහි සුරශබ්දයෙන් දෙවියන් කියත්. අසුරශබ්දයෙන් දිව්‍යාසුරයන් ද ප්‍රෙතාසුරයන් ද කියත්. නරශබ්දයෙන් මනුෂ්‍යයන් කියත්. උරග ශබ්දයෙන් සර්පයන් කියත්. නාග ශබ්දයෙන් හස්තීන් ද සර්පයන් ද ක්ෂීණාශ්‍රවයන් ද නාගයන් ද කියත්. යක්ඛශබ්දයෙන් දෙවියන් ද රාක්ෂසයන් ද ක්ෂීණාශ්‍රවයන් ද කියත්. ගන්ධබ්බශබ්දයෙන් ගාන්ධර්වදෙවියන් ද ගායනාදිය ද කියත්. කින්නර ශබ්දයෙන් කිම්පුරුෂයන් කියත්. මනුස්ස ශබ්දයෙන් මනුහුගේ පුත්‍රයන් කියත්—මනු නම් ලොකමර්‍යාදාවට ආදි වූ සත්වයන්ට හිතාහිත විධාන කරන හෙයින් පිතෘස්ථානීය වූ සත්වවිශෙෂයෙකි. මෙම ශාසනයෙහි මහාසම්මතය යි කියනු ලැබේ. ඔහුගේ අවවාදානුශාසනායෙහි පිහිටි සත්වයෝ පුත්‍රස්ථානීය වූ හෙයින් මනුෂ්‍යයෝ නම් වෙත්. එහෙයින් ම ඔහු මනුජයන මානවයන යි ද කියනු ලැබෙත්. පිසාච ශබ්දයෙන් ද පෙත ශබ්දයෙන් ද ප්‍රෙත විෂයෙහි උපන් සත්වයන් කියත්. මාතඞ්ග ශබ්දයෙන් ඇතුන් කියත්. ජඞ්ගම ශබ්දයෙන් ඇවිදිනවුන් කියත්. තුරඞ්ග ශබ්දයෙන් අසුන් කියත්. වරාහ ශබ්දයෙන් හූරන් කියත්. සීහ ශබ්දයෙන් කෙශර සිංහාදීන් කියත්. ව්‍යග්‍ඝ ශබ්දයෙන් ශාර්දූලයන් කියත්. අච්ඡ ශබ්දයෙන් වලසුන් ප්‍රසන්නාදියද කියත්. කච්ඡප ශබ්දයෙන් ඉදිබුවන් කියත්. තරච්ඡ ශබ්දයෙන් මෘගාදනයන් කියත්. වලස් ජාතියක් මැයි. මිග ශබ්දයෙන් මුවන් කියත්. අස්ස ශබ්දයෙන් අසුන් කියත්. සොණ ශබ්දයෙන් ශුනකයන් කියත්.

ආලොක ශබ්දයෙන් සූර්‍ය්‍යාලොකාදිය කියත්. ලොක ශබ්දයෙන් අවකාශ ලොකාදිය කියත්. නිලය ශබ්දයෙන් ගෙය කියත්. අනිල ශබ්දයෙන් පවන් කියත්. චාග ශබ්දයෙන් පරිත්‍යාග කියත්. යොග ශබ්දයෙන් භාවනාදි වීර්‍ය්‍ය ද යෙදීම ද කාලයොගාදීන් ද කියත්. වායාම ශබ්දයෙන් උත්සාහ කියත්.

**මනොගණාදිස්ස තු නාසස්මාස්මිංසු විසෙසො-අක්ඛදස්ඛ පුරිසස්මං.**

**මනො මනා, හෙ මන හෙ මනා භවනෙතා මනා, මනං මනෙං**

**වාති වත්තතෙ.**

## 95 මනොගණාදිතො ස්මිංනානම්අා 2-3-21

ගාම ශබ්දයෙන් සමූහ ද කුඩාගම් ද කියත්. නිගම ශබ්දයෙන් ආපණ සහිත මහත් ගම් කියත්. ආගම ශබ්දයෙන් පයඝීාපති ද ප්‍රතිඤත්‍යාගම ද කියත්. ධම්ම ශබ්දයෙන් නවලොකොත්තර යන් ද පාලි ද රූපාදීන් ද ආපත්ති ද සවභාව ද කුසල් ද කියත්. කාම ශබ්දයෙන් වස්තුකාමක්ලෙශකාම ද කාම නම් එක් දිව්‍යපුත්‍ර යෙකැයි ද කියත්. සඞ්ඝ ශබ්දයෙන් ආයඝීගණයාද ශම්කිසි සමූහයක් ද කියත්. ඔඝශබ්දයෙන් ක්ලෙශ ඔඝය ද උදකප්‍රවාහය ද කියත්. ඝොස ශබ්දයෙන් නාදය ද ගාලු ද ඝොෂාක්ෂරයන් ද කියත්. පටිඝ ශබ්දයෙන් ව්‍යාපාදය කියත්. ආසව ශබ්දයෙන් අවිද්‍යාදිය ද මදිරාදිය ද කියත්. කොධ ශබ්දයෙන් කොපය කියත්. ලොභ ශබ්දයෙන් රාගය කියත්. සාරම්භ ශබ්දයෙන් කරණොත්තරිය කාරණය කියත්. ථම්භ ශබ්දයෙන් මානයෙන් චිත්තයාගේ ස්තබ්ධභාවය ද ස්ඵුරණය ද කියත්. මද ශබ්දයෙන් යෞවනමදාදිය කියත්. මානශබ්දයෙන් මාන්නය කියත් මාන නම් අහඞ්කාර යි. පමාද ශබ්දයෙන් ස්මෘති විප්‍රවාසය කියත්. මක්ඛ නම් පරගුණවිනාශය යි.

පුන්නාග ශබ්දයෙන් දොඹ ද පුරුෂ නාගයා ද කියත්. පූග ශබ්දයෙන් පුවක්ගස් ද සමූහය ද කියත්. පනස නම් කොසි. අසන නම් පියාගසි. චම්පක නාම් සපුගසි. අම්බ ශබ්දයෙන් අඹ කියත්. හින්තාල නම් දේතලි. කිතුලි. තාල නම් තල්ගසි. වකුල ශබ්දයෙන් මුහුණ මල් කියත්. අජ්ජුන ශබ්දයෙන් කුඹුක් කියත්. කිංසුක ශබ්දයෙන් කැල ද එරබදු ද මුරුංගා ද කියත්. මන්දාර නම් දෙවද්‍රැම යි. කුන්ද නම් වෑකොඳ යි. පුචිමන්ද නම් කොසඹ යි. කරඤ්ජ නම් කරඳ යි. රුක්ඛ ශබ්දයෙන් පාදප කියත්. මයූර ශබ්දයෙන් මොණරුන් කියත්. සකුණ ශබ්දයෙන් පක්ෂීන් කියත්. අණ්ඩජ ශබ්දයෙන් උන්ම කියත්. කොඤ්ච නම් කොස් ලිහිණි යි. හංස ශබ්දයෙන් හංසයන් කියත්.

මනොගණාදිස්ස තු, මන යන මේ ශබ්දය ආදිකොට ඇති ශබ්දගණාදීහුගේ වනාහි; නාසස්මාස්මිංසු, නා ය ස ය ස්මා ය ස්මිං ය යන මේ විභක්ති රූපවිෂයෙහි; විසෙසො, අකාරාන්ත

**මනො පභුති ගණො මනොගණො-මනොගණාදිතො සමිං නා ඉච්චෙතෙසං යථාක්කමං ඉකාරාකාරාදෙසා හොන්ති වා. ආදිග්ගහණෙන බිලපදාදිතොපි.**

**මනොගණාදිතොති වත්තතෙ.**

## 96. ස සරෙ වාගමො 2-3-24.

**එතෙහෙව මනොගණාදීහි සරෙ පරෙ සාගමො හොති වා.**

**මනසා මනෙන.**

---

බවක් ඇතිකල්හි දු රූපවිශෙෂයෙක් ඇති—අසඤ්ඤාව, සෙසු විභක්ති රූප විෂයෙහි; පුරිස සමං, උදාහරණරූප පුරිස ශබ්දයා හා සම යි—මනොගණාදිස්ස තු යන මෙහි තු ශබ්ද විශෙෂ ද්‍යොතනයෙහි වැටේ.

මනො-පෙ-මනෙ, මනො-පෙ-මනෙ යි වේ.

වාති, "නස්ස වා තත්‍ථං සබ්බත්‍ථ" 2-3-15 යන්නෙන් වා යනු; වත්තතෙ, වැටේ—ඉ ච ආ ච ඉආ.

මනොගණාදිතො ය සමිනානං ය ඉආ ය යනු පද සි.

මනො පභුති ගණො, මන ශබ්දයා ආදිකොට ඇති ශබ්ද ගණය; මනොගණො, මනොගණ නම්—ආද්‍යර්ථවාචී ප්‍රභෘති ශබ්දයා අප්‍රයොග වේ. පභුති ය ආදි ය ආද්‍ය ය ප්‍රමුඛ ය යනු පර්‍ය්‍යාය යි—මනොගණාදිතො, මනොගණාදීහු කෙරෙන් පර වූ; සමිංනා ඉති, සමිං ය නා ය යන; එතෙසං, මේ විභක්තීන්ට; යථාක්කමං, සූත්‍රයෙහි පඨිතක්‍රමය නො ඉක්ම; ඉකාරාකාරාදෙසා, ඉකාරාදෙශ ආකාරාදෙශයෝ; වා හොන්ති, විකල්පයෙන් වෙත්; ආදිග්ගහණෙන, මනොගණාදිතො යන මෙහි ආදිග්‍රහණයෙන්; බිලපදාදිතොපි, බිලය පදය යන මේ ආදී ශබ්දයන් කෙරෙන් පර වූ ද සමිං නා වචනයන්ට ඉකාරාකාරාදෙශයෝ වෙත්.

මනොගණාදිතොති,මනොගණාදිතො සමිනානමිආ 2-3-21 යන සූත්‍රයෙන් මනොගණාදිතො යනු; වත්තතෙ, වැටේ.

ස ය සරෙ ය වා ය ආගමො ය යනු පද සි.

** වවත්ථිතවිභාසත්ථොයං වා සද්දො-තෙන මනො මනා, මනං මනෙ-මන ආයතනන්ති ආදිසු න හොති-මානසිකං චෙතසිකන්ති ආදිසු නිච්චං-මනෙහි මනෙභි.**

**වාති ච වත්තතෙ.**

## 97. සස්ස චො 2-3-22.

**මනොගණාදිතො පරස්ස සස්ස විභත්තිස්ස ඔකාරො හොති වා-සාගමො.**

---

සරෙ පරෙ, විභක්ත්‍යාදෙශාදි වූ ස්වරයා පරකල්හි; එතෙහි එව මනොගණාදීහි, මේම මනොගණාදීන් කෙරෙන් පරව; වා, විකල්පයෙන්; සාගමො හොති, සකාරාගමයෙක් වේ—මනසා යනු උදාහරණ යි. මනෙන යනු වාග්‍රහණයෙන් විකල්පයෙන් සකාරාගම නොවීමට උදාහරණ යි.

අයං වාසද්දො, මේ සූත්‍රයෙහි වා ශබ්දය තෙම; වවත්ථිත විභාසත්ථො, ව්‍යවස්ථිත විකල්පය අර්ථකොට ඇත්තේය;—තෙන, ඒ වා ශබ්දයාගේ ව්‍යවස්ථිත විභාෂාර්ථ භාවය හෙතුකොට ගෙන; මනො මනා මනං මනෙ මනආයතනන්ති ආදිසු, මනො මනා මනං මනෙ මනආයතනං යනාදි උදාහරණයන් කෙරෙහි; න හොති,(විභක්ත්‍යාදෙශාදි ස්වරයා පරකල්හි ද සකාරාගම) නො වේ—මානසිකං චෙතසිකන්ති ආදිසු, මානසිකං [illegible]චතසිකං වාච සිකං යනාදි උදාහරණයන් කෙරෙහි; නිච්චං,(ප්‍රත්‍යය ස්වරයා පරකල්හි සකාරාගමය) අවිකල්පයෙන් වේ.

මනෙභි මනෙහි,(තෘතීයා බහුවචනයෙහි) මනෙභි මනෙහි යි වේ.

වාති ච, තස්සවානත්තං යනාදි සූත්‍රයෙන් ම වා යනුද; වත්තතෙ, වැටේ; වාති ච යන මෙහි ච ශබ්ද මනොගණාදිතො යනු සම්පිණ්ඩනය කෙරේ.

සස්ස ය ච ය ඔ ය යනු පද යි.

මෙහි ච ශබ්දයෙන් "පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච ජානාති", යසො කිත්තිඤ්ච පප්පොති, තපො කරොමි යනාදියෙහි මනොගණාදීන් කෙරෙන් පර වූ ද්විතීයෙක වචනය හට ද ඔකාරාදෙශ වෙයි දතයුතු.

මනසො මනස්ස මනානං, මනා මනම්හා මනස්මා මනෙහි මනෙභි, මනසො මනස්ස මනානං, මනසි මනෙ මනම්හි මනස්මිං මනෙසු.

21 එවං වචො වයො තෙජො, තපො චෙතො තමො යසො
අයො පයො සිරො සරො, උරො රහො අහොපි ච.

ඉච්චාදිමනොගණො.

ගුණවන්තුසද්දස්ස භෙදො.

ගුණවන්තු සි ඉතීධ–

සවිභත්තිස්ස න්තුස්සාති ච අධිකාරො.

## 98 ආ සිම්හි 2–5–2.

සබ්බස්සෙව න්තුප්පච්චයස්ස සවිභත්තිස්ස ආ හොති සිම්හි විභත්තිම්හි-ගුණවා.

යොම්හි පඨමෙ "සිහගතියා" වාති ච වත්තතෙ.

## 99 න්තුස්ස න්තො 2–2–3.

සබ්බස්සෙව න්තුප්පච්චයස්ස සවිභත්තිස්ස න්තො ආදෙසො හොති වා යොම්හි පඨමෙ-ගුණවන්තො තිට්ඨන්ති.

---

මනො ගණාදිතො පරස්ස, මනොගණාදීන් කෙරෙහි පර වූ; සස්ස විභත්තිස්ස, සවිභක්ති හට; වා, විකල්පයෙන්; ඔකාරො හොති, ඔකාරාදෙශයෙක් වේ. සාගමො, ස සරෙ වාගමො 2–3–24 යන සූත්‍රයෙන් ස්වරයා පරකල්හි සකාරාගම වේ.

මනසො මනස්ස මනානං යනාදිය වේ.

වචො, වචශබ්ද ද; වයො, වයශබ්ද ද; තෙජො, තෙජශබ්ද ද; තපො, තපශබ්ද ද; චෙතො, චෙතශබ්ද ද; තමො, තම ශබ්ද ද; යසො, යසශබ්ද ද; අයො, අයශබ්ද ද; පයො, පයශබ්ද ද; සිරො, සිරශබ්ද ද; සරො, සරශබ්දය ද; උරො, උරශබ්ද ද; රහො, රහශබ්ද ද; අහොපි ච, අහශබ්ද ද; යන මේ ශබ්දයෝ; එවං, (නා විභත්ති ස්මිං විභත්ති විෂයෙහි) මේ මනශබ්දයා සේමැයි;

ඉච්චාදි, මෙ ආදි තෙම්; මනොගණො, මනොගණ නම්—එහි මන ශබ්දයෙන් සිත කියත්. වචශබ්දයෙන් වචනය කියත්. වයශබ්ද යෙන් වයස් කියත්. තෙජශබ්දයෙන් වහ්නියද ධූමයද කියත්. තපශබ්දයෙන් තපොගුණය කියත්. චෙතශබ්දයෙන් සිත ම කියත් තමශබ්දයෙන් අන්ධකාරය ද මොහය ද කියත්. යසශබ්ද යෙන් කීර්ත්තිය ද ඓශ්චර්‍ය්‍යය ද භොගය ද සම්මානය ද කියත්. අයශබ්දයෙන් කෘෂ්ණලොහ කියත්. පය ශබ්දයෙන් ක්ෂීරය ද ජලය ද කියත්. සිරශබ්දයෙන් උත්තමාඞ්ගය කියත්. සරශබ්ද යෙන් විල කියත්. උරශබ්දයෙන් ළය කියත්. රහශබ්දයෙන් ගුහ්‍යස්ථාන කියත්. අහශබ්දයෙන් දවස් කියත්.

ගුණවන්තුසද්දස්ස, ගුණවන්තු යන ශබ්දයාගේ; භෙදෙ, කාර්‍ය්‍යනානත්වය කියනු ලැබේ; ගුණවන්තු ශබ්දයෙන් ගුණ ඇත්තවුන් කියත්.

ගුවන්තු සි ඉති,ගුණවන්තු සි යන, ඉධ මෙහි කාර්‍ය්‍ය කියනු ලැබේ.

සවිභත්තිස්ස, අමහස්ස මමං සවිභත්තිස්ස සෙ 2-2-1 යන සූත්‍ර යෙන් සවිභත්තිස්ස යනු ද; න්තුස්ස ඉති ච, න්තුස්ස නො 2-2-3 යන සූත්‍රයෙන් න්තුස්ස යනුද; අධිකාරෙ, (න්තුප්‍රත්‍යය හට කාර්‍ය්‍ය විධාන සියලු සූත්‍රය හා) සම්බන්ධ කරනු ලැබේ

ආ ය සිම්හි ය යනු පද යි.

සිම්හි විභත්තිම්හි, සිවිභක්ති පරකල්හි; සවිභත්තිස්ස, ඒ විභක්තිය හා සහිත වූ; සබ්බස්සෙව න්තුපච්චයස්ස, සියලු ම න්තු ප්‍රත්‍යය හට;ආ හොති,ආකාරාදෙශ වේ;න්තු ච සො පච්චයො චාති න්තුපච්චයො, තස්ස න්තුපච්චයස්ස—මෙහි වන්තු හට මුත් න්තු හට ප්‍රත්‍යය ව්‍යවහාරය නො යෙදෙන්නේ වේ ද යත්? එසේ නොවේ. යම්සේ ‘වෘක්ෂා භින්නාඃ’ ‘පටො දග්ධඃ’ යන මෙහි වෘක්ෂ පට ශබ්දයන් දෙන්නා එකදෙශයෙහි ප්‍රවෘත්ත වූ ද එසේ ම ප්‍රත්‍යය ශබ්ද ද මෙතෙන ප්‍රත්‍යයාගේ එකදෙශයෙහි වැටේනු යි න්තුස්ස යී න්තු හට ද ප්‍රත්‍යය ව්‍යවහාරය යෙදෙන්නේය යි ගතයුතු.

ගුණො අස්ස අත්‍ථීති ගුණවා.

යොම්හි, මයං යොම්හි පඨමෙ 2-2-2 යන සූත්‍රයෙන් යොම්හි යනු ද; පඨමෙ, එම සූත්‍රයෙන් පඨමෙ යනුද; සිංහගතියා වාති ච, න්තස්ස සෙ වා 2-2-4 යන සූත්‍රයෙන් සිංහගති හෙයින් වා යනු ද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

න්තුස්ස ය නො ය යනු පද යි.

**සුනංහිසු අත්තන්ති ච වත්තතෙ.**

## 100 නතුස්සන්තො යොසු ච 2-1-41.

**නතුප්පච්චයස්ස අන්තො උකාරො අත්තමාපජ්ජතෙ සු නං හි යො ඉච්චෙතෙසු.**

**චග්ගහණෙන අඤ්ඤෙසු අංනාස්මාස්මිංසු ච-ගුණවන්තා, ජනිතා සිඛෙසි අන්තාදෙසෙ පුන අන්තගහණකරණතො යොනං ඉකාරො ච ක්වචි-ගුණවන්ති-අම්හි වත්තතෙ.**

## 101 අවණ්ණා ච ගෙ 2-2-7.

**සබ්බස්සෙව නතුප්පච්චයස්ස සවිභත්තිස්ස අං අ ආ ආදෙසා හොන්ති ගෙ පරෙ.**

**භො ගුණවං භො ගුණව භො ගුණවා භවන්තො ගුණවන්තා ගුණවන්තා, ගුණවන්තං ගුණවන්තෙ.**

---

පඨමෙ යොම්හි, ප්‍රථමා යො විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, ඒ ප්‍රථමා යො විභක්තිය සහිත වූ; සබ්බස්සෙව නතුප්පච්චයස්ස, සියලු ම නතුප්‍රත්‍යය හට; වා, විකල්පයෙන්; න්තො ආදෙසො හොති, න්තො යන ආදෙශ වේ; ගුණවන්තො, ගුණවත්හු; තිඨන්ති, සිටිත්.

සුනංහිසු, සුනංහිසු ච 2-1-38 යන සූත්‍රයෙන් සුනංහිසු යනුද; අත්තන්ති ච, පඤ්චාදීනමත්තං 2-1-39 යන සූත්‍රයෙන් අත්තං යනුද; වත්තතෙ, වැටේ.

නතුස්ස ය අන්තො ය යොසු ය ච ය යනු පද යි.

සුනංහියො ඉති, සුය නංය හිය යොය යන; එතෙසු, මේ විභක්තිරූපයන් පරකල්හි; නතුප්පච්චයස්ස, නතුප්‍රත්‍යයාගේ; අන්තො උකාරො, අන්තාවයව වූ උකාර තෙම; අත්තං, අකාර බවට; ආපජ්ජතෙ, පැමිණේ;චග්ගහණෙන, මේ සූත්‍රයෙහි චග්‍රහණ යෙන්; අඤ්ඤෙසු, (සුනංහියො යන මොවුන් කෙරෙන්) අන්‍යවූ; අංනාස්මාස්මිංසු ච, අං ය නා ය ස්මා ය ස්මිං ය යන මොවුන් පරකල්හිද නතුප්‍රත්‍යයාගේ අන්තය හට අත්ව වේ. ගුණවන්තා යනු වෙයි.

**වාති වත්තතෙ.**

## 102 තොතිතා සස්මිංනාසු 2-2-8.

**සබ්බස්සෙව න්තුප්පච්චයස්ස සවිභත්තිස්ස තොතිතා ආදෙසා හොන්ති වා සස්මිංනා ඉච්චෙතෙසු යථාසඞ්ඛ්‍යං.**

**ගුණවතා ගුණවන්තෙන ගුණවන්තෙසි ගුණවන්තෙහි.**

## 103 න්තස්ස සෙ වා 2-2-4.

---

අන්තාදෙසෙ, අන්තය හට වන ආදෙශය; ඡඨියා සිද්ධෙපි, ෂෂ්ඨී විභක්ති හෙයින් සිද්ධකල්හි දු; පුන අන්තග්ගහණකරණතො, නැවත අන්තග්‍රහණයාගේ කිරීම හෙතුකොට ගෙන; යොනං, (න්තුප්‍රත්‍යයා කෙරෙන් පර වූ ප්‍රථමා විතීයා) යොවිභක්තීන්ට; ක්වචි, කිසි විවක්ෂිතස්ථානයෙක්හි; ඉකාරො ච, (නපුංසකලිඞ්ග විෂයෙහි) ඉකාරයකුදු වේ—අන්තග්‍රහණය නැවතද පචාදීනමන්තං 2-1-39 යන සූත්‍රයෙහි මෙන් මෙහි දු න්තුස්ස යන අන්තාපෙක්ෂා ෂෂ්ඨී නිර්දේශයෙන් අන්තය හට අත් වෙයි යනු සිද්ධ වූ ද නැවත අන්තග්‍රහණයාගේ විධානය 'අධිකවචනමධිකාත්‍ථං ගමයති' යනු හෙයින් න්තුහු කෙරෙන් පර යො වචනය හට ඉකාරාදෙශ වන්නේය යි යන මේ අධිකාර්ථය හඟවන පිණිසය යනු මෙහි භාවයි. ගුණවන්ති යනු වෙයි.

අං ඉති, අං නපුංසකෙ 2-2-6 යන සූත්‍රයෙන් අං යනු; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

අවණ්ණා ය ච ය ගෙ ය යනු පද යි.

ගෙ පරෙ, ග පරකල්හි; සවිභත්තිස්ස, ඒ ආලපනෙකවචන විභක්තිය හා සහිත වූ; සබ්බස්සෙව න්තුප්පච්චයස්ස, සියලු ම න්තුප්‍රත්‍යය හට; අංඅආආදෙසා හොන්ති, අංඅආ යන ආදෙශයෝ වෙත්.

මේ සූත්‍රයෙහි ච ශබ්ද අනන්තර සූත්‍රයෙහි කියන ලද අං ග්‍රහණයාගේ අනුකරණය පිණිස යි. හො ගුණවං යනාදිය වේ.

වාති, න්තස්ස සෙ වා 2-2-4 යන මේ සූත්‍රයෙන්; වා යනු; වත්තතෙ, (මණ්ඩූක ගති හෙයින්) වැටේ.

**සබ්බස්සෙව නතුප්පච්චයස්ස සවිභත්තිස්ස නතස්ස ඉච්චය මාදෙසො හොති වා සෙ විභත්තිම්හි.**

**ගුණවන්තස්ස ගුණවතො.**

## 104 නම්හි තං වා 2-2-9.

**සබ්බස්සෙව නතුප්පච්චයස්ස සවිභත්තිස්ස තං ආදෙසො හොති වා නම්හි විභත්තිම්හි.**

**ගුණවතං ගුණවන්තානං**

---

තොතිතා ය සස්මිංනාසු ය යනු පද යි.

සස්මිංනා ඉති, ස ය ස්මිං ය නා ය යන; එතෙසු, මේ විභක්ති රූපයන් පරකල්හි; සවිභත්තිස්ස, එම ස ස්මිං නා විභක්තීන් හා සහිත වූ; සබ්බස්සෙව නතුප්පච්චයස්ස, සියලු නතුප්‍රත්‍යය හට; යථාසඞ්ඛ්‍යං, සඞ්ඛ්‍යා නොයික් ම—ස ස්මිං නා යන මොවුන් තුන් දෙනාගේ පඨිතානු ක්‍රමයෙනැ යි සේයි. තොතිතා ආදෙසා, තො ය ති ය තා ය යන ආදෙශයෝ; වා, විකල්පයෙන්; හොන්ති, වෙත්; ගුණවතා යනාදිය වේ.

න්තස්ස ය සෙ ය වා ය යනු පද යි.

සෙ විභත්තිම්හි, ස යන විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, එම් විභක්ති සහිත වූ; සබ්බස්සෙව නතුප්පච්චයස්ස,සියලු ම නතුප්‍රත්‍යය හට; න්තස්ස ඉති, න්තස්ස යන;අයං ආදෙසො, මේ ආදෙශ තෙම; වා, විකල්පයෙන්; හොති, වේ; ගුණවන්තස්ස ගුණවතො යනු වේ.

නම්හි ය තං ය වා ය යනු පද යි.

නම්හි විභත්තිම්හි, නං විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, එම නං විභක්තිය හා සහිත වූ; සබ්බස්සෙව නතුප්පච්චයස්ස, සියලු ම නතුප්‍රත්‍යය හට; වා, විකල්පයෙන්; තං ආදෙසො හොති, තං යන ආදෙශ වේ; ගුණවතං ගුණවන්තානං යනු වේ.

**අම්හතුම්හන්තු ඉච්චාදිනා සමාවචනස්ස නාව්‍යපදෙසො. ගුණවතා ගුණවන්තම්හා ගුණවන්තස්මා ගුණවන්තෙහි ගුණවන්තෙභි, ගුණවන්තස්ස ගුණවතො ගුණවතං ගුණවන්තානං, ගුණවති ගුණවන්තෙ ගුණවන්තම්හි ගුණවන්තස්මිං, ගුණවන්තෙසු.**

**එවං ගණවා කුලවා ඵලවා යසවා ධනවා සුතවා භගවා හිමවා බලවා සීලවා පඤ්ඤවා ඉච්චාදයො.**

**හිමවන්තුසද්දතො සිම්හි කතෙ.**

**අත්තං න්තුස්සනොති ච වත්තමානෙ.**

## 105 සිම්හි වා 2-1-43.

**න්තුපච්චයස්ස අන්තො අත්තං හොති වා සිම්හි විභත්තිම්හි ති අත්තං.**

**හිමවන්තො හිමවා, සෙසං සමං.**

---

අම්හතුම්හන්තු ඉච්චාදිනා, අම්හතුම්හන්තුරජබ්‍රහ්මත්තසඛසත්ථුපිතාදීහි ස්මා නාව 2-5-24 යන සූත්‍රයෙන්; සමාවචනස්ස, සමාවචනය හට; නාව්‍යපදෙසො, නාව්‍යවහාරය වේ; ගුණවතා ගුණවන්තම්හා ගුණවන්තසමා යනාදිය වේ.

ගණවා-පෙ-පඤ්ඤවා ඉති, ගණවා-පෙ-පඤ්ඤවා යන; ආදයො, (මේ ආදී වන්තුප්‍රත්‍යයඅන්ත)ශබ්දයෝද; එවං, (න්තුහට විධීයමාන කාර්‍ය්‍ය විෂයෙහි) මේ ගුණවන්තු යන ශබ්දයා හා සමයෝයි.

ගණො අස්ස අත්ථීති ගණවා, සමූහ ඇත්තේ යී; කුලමස්ස අත්ථීති කුලවා, වංශ ඇත්තේ යී හෙවත් කුලජ යී; ඵලමස්ස අත්ථීති ඵලවා, ඵල ඇත්තේ යී; යසො අස්ස අත්ථීති යසවා, යසස් ඇත්තේ යී; ධනමස්ස අත්ථීති ධනවා, ධන ඇත්තේ යී; සුතමස්ස අත්ථීති සුතවා, අසා නිම වූ තැන් ඇත්තේ යී නොහොත් ඇසීම් ඇත්තේ යී; ඉස්සරියාදිභෙදො භගො අස්ස අත්ථීති භගවා, පිනැත්තේ යී; හිමො නීහාරො අස්ස අත්ථි හිමං වමතීති වා හිමවා, හිමාලය යි; බලමස්ස අත්ථීති බලවා, ශක්ති ඇත්තේ යි; සීලමස්ස අත්ථීති සීලවා, ස්වභාව ඇත්තේ යී නොහොත් පඤ්ච

**පුන වාග්ගහණකරණං හිමවන්තුසද්දතො අඤ්ඤත්‍ර නිසෙධනත්ථං, තෙන ගුණවන්තාදිසු නාතිප්පසඞ්ගො.**

**එවං සතිමා ධිතිමා ගතිමා මුතිමා මතිමා ජුතිමා සිරිමා හිරිමා ථුතිමා රතිමා යතිමා සුතිමා කලිමා බලිමා කසිමා රුචිමා බුද්ධිමා චක්ඛුමා බන්ධුමා හෙතුමා සෙතුමා කෙතුමා රාහුමා භානුමා ඛාණුමා විජ්ජුමා ඉච්චාදයොපි.**

**තථා සතිමන්තු බන්ධුමන්තුසද්දානං අංසෙසු රූපභෙදො.**

**අත්තං න්තුස්සාති ච වත්තතෙ.**

## 106 සබ්බස්ස වා අංසෙසු 2-1-42.

**සබ්බස්සෙව න්තුප්පච්චයස්ස අත්තං හොති වා අං ස ඉච්චෙතෙසු-ඉධ වාසද්දස්ස වවත්ථිතවිභාසත්තා නාතිප්පසඞ්ගො. සතිමං සතිමන්තං, බන්ධුමං බන්ධුමන්තං, සතිමස්ස සතිමතො සතිමන්තස්ස, බන්ධුමස්ස බන්ධුමතො බන්ධුමන්තස්ස-සෙසං සමං.**

---

ශීලාදී ඇත්තේ යි; පකාරෙන ජානාතීති පඤ්ඤා, පඤ්ඤා අස්ස අත්ථීති පඤ්ඤවා, නුවණැත්තේ යී—මෙහි ඤකාරස්ථ අකාරයා කෙරෙන් ආ හට ඝවාදි සූත්‍රයෙන් හ්‍රස්ව වේ.

හිමවන්තුසද්දතො හිමවන්තු යන මේ ශබ්දයා කෙරෙන් පර කොට; සිම්හි කතෙ, සිවිභක්ති කරන ලද කල්හි.

අත්තං, පඤ්චාදීනමත්තං 2-1-39 යන සූත්‍රයෙන් අත්තං යනුද; න්තුස්සන්තොති ච,න්තුස්සන්තො යොසු ච 2-1-41 යන සූත්‍රයෙන් න්තුස්සන්තො යනුද; වත්තමානෙ, වැටෙන්නෙහි.

සිම්හි ය වා ය යනු පද යි.

සිම්හි විභත්තිම්හි, සිවිභක්ති පරකල්හි; න්තුප්පච්චයස්ස අන්තො, න්තුප්‍රත්‍යයාගේ අන්ත වූ උකාර තෙම; වා, විකල්ප යෙන්; අත්තං හොතීති, අකාරාදෙශ වේනු යි; අත්තං, අත්ව වේ; හිමවන්තො හිමවා යනු වෙයි.

සෙසං, සෙසු කාර්‍ය්‍යය; සමං, ගුණවන්තු යන මේ ශබ්දයා හා සමයි.

පුන වාග්ගහණකරණං, නැවත වාග්‍රහණයාගේ කිරීම; හිමවන්තුසද්දතො අඤ්ඤත්ථ, හිමවන්තු යන මේ ශබ්දයා කෙරෙන් අතික් විෂයෙක; නිසෙධනත්ථං, අත්වයාගේ වැළකීම ම ප්‍රයොජන

කොට ඇත්තේ යි—සබ්බස්ස වා අංසෙසු 2-1-42 යන මේ පූර්ව සූත්‍රයෙහි වා ශබ්දය ඇතිකල්හි නැවත සිමහි වා 2-1-43 යන සූත්‍රයෙහි වා ශබ්දය හිමවන්තු යන මේ ශබ්දයාගේ අන්ත උකාරය හට මුත් සෙසු ගුණවන්තු යනාදි ශබ්දයන්ගේ අන්ත උකාරය හට අත්‍ව වලකන පිණිස කරන ලද යනු මෙහි අභිප්‍රායයි.

තෙන, ඒ වා ශබ්දයා හිමවන්තු යන මොහු කෙරෙන් අනික් විෂයෙක අත්‍වනිවෘත්තිය පිණිස කරන ලද හෙයිනි, සතිමා-පෙ-විජ්ජුමා ඉති, සතිමන්තු-පෙ-විජ්ජුමන්තු යන; ආදයොපි, මේ ආදි මන්තුප්‍රත්‍යයාන්ත ශබ්දයෝ ද; එවං,(නය හෙයින්)මේ ගුණවන්තු යන ශබ්දයා හා සමයෝ යි.

සරතීති සති, සා අස්ස අත්ථීති සතිමා, පූර්වාධිගමයාගේ අනුස්මරණය ඇත්තේ යි; ධාරෙති දහන්ති එතායාති වා ධිති, සා අස්ස අත්ථීති ධිතිමා, වීර්‍ය්‍ය ඇත්තේ යි; ගමනං ගති, ගති අස්ස අත්ථීති ගතිමා, සරණ ඇත්තේ යි නොහොත් ප්‍රතිෂ්ඨා ඇත්තේ ස්ථිර ඇත්තේ හෝ යි; මුනාතීති මුති, සා අස්ස අත්ථීති මුතිමා, පිරිසිඳිනා නුවණ ඇත්තේ යී; මඤ්ඤතීති මති, සා අස්ස අත්ථීති මතිමා, උප පරීක්ෂාඥාන ඇත්තේ යී; ජොතනං ජුති, සා අස්ස අත්ථීති ජුතිමා, සොභා ඇත්තේ යී. නොහොත් ප්‍රතාප ඇත්තේ යී; කතපුඤ්ඤෙහි අස්සාසීයතීති සිරි, සා අස්ස අත්ථීති සිරිමා, සම්පත් ඇත්තේ යී. නොහොත් භොග ඇත්තේ යි; හිරීයතීති හිරි, සා අස්ස අත්ථීති හිරිමා, ලජ්ජා ඇත්තේ යී; ථොමනං ථුති, සා අස්ස අත්ථීති ථුතිමා, ගුණවර්ණනා ඇත්තේ යි; යතති විරියං කාරෙති අකුසලානං පහාණාධිගමෙසූති යති, යති අස්ස සන්තීති යතිමා, සරණයන් ඇත්තේ යි; රමනං රති, සා අස්ස අත්ථීති රතිමා, ඇලුම් ඇත්තේ යි; සුචෙති සුන්දරතන්ති සුචි, සුචි අස්ස අත්ථීති සුචිමා, ශුද්ධි ඇත්තේ යි; කලයති පරිමීයතීති කලි, කලි මස්ස අත්ථීති කලිමා, කිලුටු ඇත්තේ යි; බලන්ති ජීවන්ති අනෙනාති බලි, බලිමස්ස අත්ථීති බලිමා, පරාරාධනයාගේ දීම් ඇත්තේ යි; කසනං විලෙඛණං කසි, කසි අස්ස අත්ථීති කසිමා, කෘෂිකර්ම ඇත්තේ යි හෙවත් සීවැලයි; රොචතෙ දිප්පතෙති රුචි, රුචි අස්ස අත්ථීති රුචිමා, අධ්‍යාස ඇත්තේ යි නොහොත් කාන්ති ඇත්තේ යි; බුජ්ඣතීති බුඩි, සා අස්ස අත්ථීති බුඩිමා, නැණ ඇත් තේ යී; චක්ඛති පස්සතීති චක්ඛු, චක්ඛු අස්ස අත්ථීති චක්ඛුමා, ඇස් ඇත්තේ යී. නොහොත් සර්ඥ යි; බන්ධතීති බන්ධු, බන්ධු අස්ස අත්ථීති බන්ධුමා, සම්බන්ධ ඇත්තේ යි; හිනොති අත්තනො එලන්ති

හෙතු, සො අස්ස අත්‍ථීති හෙතුමා, කාරණ ඇත්තේ යි; සෙතියතෙ ජනෙහීති සෙතු, සෙතු අස්ස අත්‍ථීති සෙතුමා, හේදඬු ඇත්තේ යි. නොහොත් මාර්ග ඇත්තේ යි මගසිංදු ඇත්තේ හෝ යි; කිතති උද්ධං ගච්ඡති උපරි නිවසතීති වා කෙතු, කෙතු අස්ස අත්‍ථීති කෙතුමා, කොන්ත ඇත්තේ යි නොහොත් ධජ ඇත්තේ යි; රහති ඡන්‍දාදීනං සොභං ජහාපෙතීති රාහු, රාහු අස්ස අත්‍ථීති රාහුමා, රාහු නම් අසුරිඳු ඇත්තේ යි; භාති දිප්පතීති භානු, භානු අස්ස අත්‍ථීති භානුමා, රශ්මි ඇත්තේ යි හෙවත් හිරු යි; ඛාණුනති අවදාරියතීති ඛාණු, ඛාණු (ඡින්නසාඛො රුක්ඛො) අස්ස අත්‍ථීති ඛාණුමා, කණු ඇත්තේ යි; විරූපං හුත්වා ජවතීති විජ්ජු, විජ්ජු අස්ස අත්‍ථීති විජ්ජුමා, විදුලිය ඇත්තේ යි හෙවත් මෙඝ යි.

තත්‍ථ,එහි ද්(වන්තු මන්තු ප්‍රත්‍යයාන්ත ශබ්දයන් සම්බන්ධී උකාර යාගේ අප්‍රයොගභාවය හෙතුකොට ගෙන අකාරාන්ත ශබ්දයා කෙරෙහි ග්‍රහණ මතිමා යනාදීන් දක්වන ලද මන්තු ප්‍රත්‍යයාන්ත ශබ්දයන් අතුරෙහි); සතිමන්තුබන්ධුමන්තුසද්දානං, සතිමන්තු බන්ධු මන්තු යන මේ ශබ්දයන් දෙන්නාගේ; අංසෙසු, අංවචන සවචන දෙන්නා පරකල්හි; රූපභෙදෙ, රූපනානත්වයෙක් ඇති; රූපානං භෙදෙ රූපභෙදො,අරූපධ්‍යානකසිණරූපාරූපභව වර්ණායතන රූපස්කන්‍ධශරීරස්වභාව ප්‍රයොගාදි අනෙකාර්ථ ඇත්තේ යි, "රූපී රූපානි පස්සති" යනාදියෙහි රූපධ්‍යානය ඔහුගේ අර්ථය; "අජ්ඣත්තං අරූපසඤ්ඤී බහිද්ධා රූපානි පස්සති" යනාදියෙහි කසිණ රූපය අර්ථය; "රූපූපපත්තියා මග්ගං භාවෙති" යනාදියෙහි රූපභවය අර්ථය; "චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති" යනාදියෙහි වර්ණායතනය අර්ථය; "රූපං අත්තතො සමනුපස්සති" යනාදියෙහි රූපස්කන්‍ධය අර්ථය; "ආකාසො පරිවාරිතො රූපන්ත්වෙව සඞ්ඛං ගච්ඡති" යනාදියෙහි ශරීරය අර්ථය; "චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං" යනාදියෙහි ස්වභාව අර්ථය; මෙතැන්හි ධාතුරූප යනාදි සූත්‍රයෙහි මෙන් ප්‍රයොගය ඔහුගේ අර්ථ යි, එහෙයින් රූපභෙද නම් ප්‍රයොගනානත්වය යි දතයුතු.

අත්තං, පඤ්චාදීනමත්තං 2-1-39 යන සූත්‍රයෙන් අත්තං යනුද; න්තුස්සාති ච, න්තුස්සන්තො යොසු ච 2-1-41 යන සූත්‍රයෙන් න්තුස්ස යනුද; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

සබ්බස්ස ය වා ය අංසෙසු ය යනු පද යි.

**ගච්ඡන්තසද්දස්ස භෙදො.**

**ගච්ඡන්ත සි.**

**වාති වත්තතෙ.**

## 107 සිම්හි ගච්ඡන්තාදීනං න්තසද්දො අං 2-3-26.

**ගච්ඡන්ත ඉච්චෙවමාදීනං අන්තප්පච්චයන්තානං න්තසද්දො අංරූපං ආපජ්ජතෙ වා සිම්හි විභත්තිම්හි.**

**සරලොපසිලොපා-සො ගච්ඡං, ගච්ඡන්තො වා ගණ්හාති.**

---

අංස ඉති, අං ය ස ය යන; එතෙසු, මේ විභක්ති රූපයන් පරකල්හි; සබ්බස්සෙව න්තුප්පච්චයස්ස, සියලු න්තුප්‍රත්‍යය හට; වා, විකල්පයෙන්; අත්තං හොති, අත් වේ; ඉධාපි, මේ සූත්‍රයෙහි ද;වාසද්දස්ස, වා ශබ්දයාගේ; වවත්ථිතවිභාසත්තා, ව්‍යවස්ථිත විභාෂා බව හෙතුකොට ගෙන; නාතිප්පසඞ්ගො, සතිමන්තු බන්ධුමන්තු යන මේ ශබ්දයන් දෙන්නා කෙරෙන් අතික් තැනෙක න්තු හට අතිප්‍රසඞ්ගය නො වේ.

සතිමං සතිමන්තං යනාදිය වේ; සෙසං, සෙස්ස; සමං, මේ සතිමන්තු බන්ධුමන්තු ශබ්දාදිය හා සම යි.

ගච්ඡන්තසද්දස්ස, ගච්ඡන්ත යන මේ ශබ්දයාගේ; භෙදො, රූපනානත්වයෙක් ඇති.

ගච්ඡන්ත සි, ගච්ඡන්ත ශබ්දයා කෙරෙන් සිවිභක්ති වේ.

වාති, ස සරෙ වාගමො 2-3-24 යන සූත්‍රයෙන් වා යනු; වත්තතෙ, වැටේ—මේ වා ශබ්ද ද ව්‍යවස්ථිත විභාෂාර්ථ යි. එහෙයින් කාරෙන්තො කාරාපෙන්තො යනාදියෙහි අන්තය හට අමාදෙශ නොවේ.

සිම්හි ය ගච්ඡන්තාදීනං ය න්තසද්දො, ය අං ය යනු පද යි.

ගච්ඡන්තො ආදි යෙසං තෙ ගච්ඡන්තාදයො තෙසං ගච්ඡන්තාදීනං—ආදි ශබ්දය වනාහි 'පබ්බතාදීනි ඛෙත්තානි කසිතබ්බානි, යනාදිමෙහි මර්‍යාදායෙහි පැනෙයි. 'දධිභොජනමන්තාසාදි,

**ගච්ඡන්තාදීනං න්තසද්දා'ති ච වත්තමානෙ-**

## 108 සෙසෙසු න්තුව 2-3-27.

**ගච්ඡන්තාදීනං න්තසද්දා න්තුප්පච්චයොව දට්ඨබ්බා සෙසෙසු විභත්තිප්පච්චයෙසු අසිම්හි-කාරියාතිදෙසො'යං.**

**සෙසං ගුණවන්තුසමං.**

---

යනාදියෙහි සමීපයෙහි පැනෙයි. 'මූලං රුක්ඛස්සාදි' යනාදියෙහි අවයවයෙහි පැනෙයි. 'දෙවදත්තාදයො ආනීයන්තු' යනාදියෙහි ප්‍රකාරයෙහි පැනෙයි. මෙහි දූ ආදි ශබ්ද ප්‍රකාරාර්ථ වූයේ ම ගත යුතු, මධ්‍යාදි අර්ථ වූයේ නොයෙදේ. එහෙයින් ගච්ඡන්ත යනු හා සදෘශ වූ අන්තප්‍රත්‍යයාන්ත මහන්තාදි ශබ්දයන්ගේ ම මෙහි ග්‍රහණය මුත් 'දන්ත බන්ත පරක්කන්ත භන්තාදී වූ අන්තප්‍රත්‍යයා අන්ත කොට ඇත්තවුන්ගේ ග්‍රහණය නොවේ.

සිම්හි විභත්තිම්හි, සිවිභක්ති පරකල්හි; ගච්ඡන්ත ඉති, ගච්ඡන්ත යන; එවමාදීනං, මේ ප්‍රකාර කොට ඇති; අන්තප්පච්චයන්තානං, 'වත්තමානෙ මානන්තා' 4-2-16 යන සූත්‍රයෙන් විහිත අන්තප්‍රත්‍යයා අන්තකොට ඇති ශබ්දයන්ගේ; න්තසද්දො, න්ත ශබ්දය තෙම; අං රූපං, අං යන රූපයට; වා, විකල්පයෙන්; ආපජ්ජතෙ, පැමිණේ.

සරලොපසිලොපා, අං පරකල්හි, "සරලොපොමාදෙසප්පච්චයාදීම්හි සරලොපෙ තු පකති" 2-1-32 යන සූත්‍රයෙන් ස්වරලොපය හා 'සෙසතො ලොපං ගසිපි 2-4-10 යන සූත්‍රයෙන් සි විභක්ති හට ලොපය ද යන මොහු වෙත්; සරස්ස ලොපො සරලොපො, සිස්ස ලොපො සිලොපො, සරලොපො ච සිලොපො ච සරලොපසිලොපා.

සො, හෙතෙම; ගච්ඡං, යන්නේ; ගණ්හාති, ගනී යි. ගච්ඡන්තො වා, සො ගච්ඡන්තො ගණ්හාති කියා හෝ වේ.

ගච්ඡන්තාදීනං න්තසද්දො'ති ච, සිම්හි ගච්ඡන්තාදීනං න්තසද්දො අං 2-3-26 යන සූත්‍රයෙන්; 'ගච්ඡන්තාදීනං න්තසද්දො' යනු ද; වත්තමානෙ, වැටෙන්නෙහි;

**සෙසෙසු ය න්තු ය ඉව ය යනු පද යි.**

**ගත් ගච්ඡන්තො ගච්ඡන්තා, හො ගච්ඡං ගච්ඡ ගච්ඡා ගච්ඡන්තො ගච්ඡන්තො ගච්ඡන්තා, ගච්ඡන්තං ගච්ඡන්තෙ, ගච්ඡතා, ගච්ඡන්තෙන ගච්ඡන්තෙහි ගච්ඡන්තෙභි, ගච්ඡතො ගච්ඡන්තස්ස ගච්ඡතං ගච්ඡන්තානං, ගච්ඡතා ගච්ඡන්තම්හා ගච්ඡන්තස්මා ගච්ඡන්තෙහි ගච්ඡන්තෙභි, ගච්ඡතො ගච්ඡන්තස්ස ගච්ඡතං ගච්ඡන්තානං, ගච්ඡති ගච්ඡන්තෙ ගච්ඡන්තම්හි ගච්ඡන්තස්මිං ගච්ඡන්තෙසු.**

**21 එවං මහං චරං තිට්ඨං දදං භුඤ්ජං සුණං පචං<br>ජයං ජීරං චවං මීයං සරං කුබ්බං ජපං වජං.**

**ඉච්චාදයො.**

---

අසිම්හි, සිවිභත්ති වර්ජිත වූ; සෙසෙසු විභත්තිප්පච්චයෙසු, යො ආදි සෙසු විභක්ති ප්‍රත්‍යයන් පරකල්හි; ගච්ඡන්තාදීනං, ගච්ඡන්ත යනාදි ශබ්දයන්ගේ; න්තසද්දො, න්ත යන ශබ්දය තෙම; න්තුප්පච්චයොව, න්තු ප්‍රත්‍යයා මෙන්; දට්ඨබ්බො, දතයුතු යි.

අයං,මේ සෙසෙසු න්තුව 2-3-27 යන සූත්‍රය;කාරියාතිදෙසො, සවැදෑරුම් අතිදෙශ සූත්‍රයන් අතුරෙන් කාර්‍ය්‍යාතිදෙශ යි.

සෙසං, (ගච්ඡං ගච්ඡන්තො යන ප්‍රථමෛකවචනය හැර) සෙස්ස; ගුණවන්තුසමං, ගුණවන්තු ශබ්දය හා සම යි.

තෙ ගච්ඡන්තො ගච්ඡන්තා යනාදි ය වේ.

මහං, මහන්තශබ්දය; චරං, චරන්තශබ්දය; තිට්ඨං, තිට්ඨන්ත ශබ්දය; දදං, දදන්තශබ්දය; භුඤ්ජං, භුඤ්ජන්තශබ්දය; සුණං, සුණන්තශබ්දය; පචං, පචන්තශබ්දය; ජයං, ජයන්තශබ්දය; ජීරං, ජීරන්තශබ්දය; චවං, චවන්තශබ්දය; මීයං, මීයන්තශබ්දය; සරං, සරන්තශබ්දය; කුබ්බං, කුබ්බන්තශබ්දය; ජපං, ජපන්තශබ්දය; වජං ඉති, වජන්තශබ්දය යන; ආදයො, මේ ආදි ශබ්දයෝ; එවං, මෙසේ මේ ගච්ඡන්තශබ්දයා මෙනි.

මහං, පුදන්නේ යි නොහොත් උත්තම යි; චරං, ඇවිදින්නේ යි; තිට්ඨං, සිටින්නේ යි; දදං, දෙන්නේ යි; භුඤ්ජං, අනුභව කරන් නේ යි නොහොත් රක්‍ෂා කරන්නේ යි; සුණං,අසන්නේ යි; පචං, පිසන්නේ යි; ජයං, පරාභිභවනය කරන්නේ යි; ජීරං, වයො

**භවන්තසද්දස්ස ග යො නා ස වචනෙසු-විසෙසො-සො භවං.**

**භවතොති වත්තතෙ.**

## 109 ඔභාවො ක්වචි යොසු වකාරස්ස 2-4-34.

**භවන්ත් ඉච්චෙතස්ස වකාරස්ස ඔභාවො හොති ක්වචි යො ඉච්චෙතෙසු.**

**තෙ භොන්තො භවන්තො භවන්තා.**

**භවතොති ච වත්තතෙ.**

## 110 භො ගෙ තු 2-4-33.

**සබ්බස්සෙව භවන්තසද්දස්ස භො හොති ගෙ පරෙ තු සද්දෙන භොන්ත භොන්තාදි ච.**

---

භාතියට යන්නේ යි; චවං, චුතවන්නේ යි; මීයං, ප්‍රාණත්‍යාග කරන්නේ යි; සරං, සිහි කරන්නේ යි; තොහොත් යන්නේ යි; කුබ්බං, කරන්නේ යි; ජපං,ශබ්ද කරන්නේ යි; චජං, යන්නේ යි.

ග යො නා ස වචනෙසු, ග ය යො ය නා ය ස ය යන මේ විභක්ති වචනයන් පරකල්හි; භවන්තසද්දස්ස, භවන්ත යන මේ ශබ්දයාගේ; විසෙසො, රූපවිශෙෂයෙක් ඇති.

ග ච යො ච නා ච ස ච ගයොනාසා. ගයොනාසා ච තෙ වචනානි චෙති ගයොනාසවචනානි, තෙසු ගයොනාසවචනෙසු. සො භවං, යනු වේ.

භවතොති, භවතො භොතො 2-4-32 යන සූත්‍රයෙන් භවතො යනු; වත්තතෙ, වැටේ.

ඔභාවො ය ක්වචි ය යොසු ය වකාරස්ස ය යනු පද යි.

ඔස්ස භාවො ඔභාවො-මෙහි භාවනිදේශය වකාරය හට ඔකාර වෙයි සෙස්සන්ට නොවෙයි යනු හඟවා. ක්වචිග්‍රහණය එම ඔභාවයාගේ විකල්පය කෙරේ.

යො ඉති, යො යන; එතෙසු, මේ ප්‍රථමා විතියා බහුවචනයන් පරකල්හි; ක්වචි, කිසිතැනෙක්හි; භවන්ත ඉති, භවන්ත යන; එතස්ස, මේ ශබ්දයාගේ; වකාරස්ස, වකාරය හට; ඔභාවො හොති, ඔකාර බව වේ.

**ගලොපො-හො භනෙත හොන්ති හොන්තා=හොනෙතා භවනෙතා භවනතා, භවන්තං හොනෙත භවනෙත.**

**නාසෙසු ඔභාවො ක්වචීති යොගවිභාගෙන ඔභාවො. හොතා භවතා භවනෙතන, හොතො භවතො භවනතස්ස ඉච්චාදි.**

## 111 භදන්තස්ස භද්දන්තභන්තෙ 2-4-35.

**සබ්බස්සෙව භදන්තසද්දස්ස භද්දන්ත භන්තෙ ඉච්චෙතෙ ආදෙසා හොන්ති ක්වචි ගෙ පරෙ යොසු ච.**

---

තෙ හොනෙතා භවනෙතා භවන්තා, තෙ හොනෙතා තෙ භවනෙතා තෙ භවනතා යනු වේ—මෙහි හොනෙතා යනු විකාර යාගේ ඔත්වයට උදාහරණ යි. භවනෙතා භවනතා යනු විකල්ප හෙයින් නොවීමට උදාහරණ යි.

භවතොති ච, භවතො යනු ද; වත්තතෙ, වැටේ. මෙහි ච ශබ්ද අවධාරණාර්ථ යි.

හො ය ගෙ ය තු ය යනු පද යි.

ගෙ පරෙ, ග සංඥයා පරකල්හි; සබ්බස්සෙව, සියලු ම්; භවන්තසද්දස්ස, භවන්ත ශබ්දය හට; හො හොති, හො යනාදෙශ වේ; තු සද්දෙන, විශෙෂාර්ථ ප්‍රකාශ කරන්නා වූ තු ශබ්දයෙන්; හොනෙත හොන්තාදී ච, ග පරකල්හි හොනෙත හොන්තා යනාදී ආදෙශයෝ ද; ආදිශබ්දයෙන් හොනෙතා භදෙද යනාදී ආදෙශයෝ ද සිද්ධ වෙත්.

ග ලොපො, සෙසතො ලොපං ගසිපි 2-4-10 යන සූත්‍රයෙන් ග සංඥලොපය වේ—ගස්ස ලොපො ගලොපො—හො භනෙත යනාදිය වේ.

නාසෙසු, නා ය ස ය යන මේ විභක්ති වචනයන් පරකල්හි; ඔභාවො ක්වචීති, ඔභාවො ක්වචි කියා; යොගවිභාගෙන, ඔභාවො ක්වචි යොසු වකාරස්ස 2-4-34 යන සූත්‍රය දෙකක් කිරීමෙන්; ඔභාවො, භවන්ත ශබ්දයාගේ වකාරය හට ඔකාර බව වේ—හොතා-පෙ-භවනතස්ස ඉච්චාදි, හොතා-පෙ-භවනතස්ස යනාදිය වේ. මෙහි හොතා යනු නාවිභක්ති පරකල්හි භවන්ත ශබ්දය හට

**හො භද්දන්ත භන්තෙ භදන්ත භදන්තා වා ඉච්චාදි පුරිස සද්දසමං.**

## 112 සන්තසද්දස්ස සො භෙ බොචන්තෙ 2-3-25.

**සබ්බස්ස සන්තසද්දස්ස සසද්දාදෙසො හොති භකාරෙ පරෙ අන්තෙ ච බකාරාගමො හොති.**

**චසද්දග්ගහණෙන අභකාරෙ'පි සමාසෙ ක්වචි සාදෙසො.**

---

සූත්‍රද්විධාකරණයෙන් ඔ භාවය යි. භවතා භවන්තෙන යනු ක්වචි ශබ්දයෙන් නුවූ තැනි. හොතො යනු ස විභක්ති පරකල්හි එසේම ඔකාර වූ තැනි. භවතො භවන්තස්ස යනු ක්වචිග්‍රහණයෙන් නොවූ තැනි.

භදන්තස්ස ය භද්දන්තභන්තෙ ය යනු පද යි.

භද්දන්තො ච භන්තෙ ච භද්දන්තභන්තෙ.

ගෙ පරෙ, ගසංඥයා පරකල්හි ද; යොසු ච, යො විභක්තීන් පරකල්හි ද; සබ්බස්සෙව භදන්තසද්දස්ස, සියලු ම භදන්ත ශබ්දය හට; භද්දන්තභන්තෙ ඉති, භද්දන්තභන්තෙ යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; ක්වචි, කිසි විවක්ෂිත තැනෙක්හි; හොන්ති, වෙත්.

හො භද්දන්තභන්තෙ, හො භදන්ත භන්තෙ යනු වේ; භදන්ත භදන්තා වා, භදන්ත භදන්තා කියා හෝ වේ. ඉති ආදි, මේ ආදිය; පුරිස සද්දසමං, 'පුරිස' ශබ්දයා හා සම යි.

සන්තසද්දස්ස ය සො ය භෙ ය බො ය ච ය අන්තෙ ය යනු පද යි.

බො ච අන්තෙ යන්නෙහි සුඛුච්චාරණ පිණිස චකාර ද්විත්වව සංහිතාව 'බොච්චන්තෙ' යනු වී.

භකාරෙ පරෙ, භකාරයා පරකල්හි; සබ්බස්ස සන්තසද්දස්ස, සියලු සන්ත ශබ්දය හට; ස සද්දාදෙසො හොති, ස යන ශබ්දය ආදෙශ වේ. අන්තෙ ච, ඒ ස ශබ්දයාගේ අන්තයෙහි ද; බ්කාරාගමො හොති, බකාරයෙක් ආගම වේ.

**සබ්භි - හෙති කිං? සන්තෙහි.**

**සෙසං ගච්ඡන්ත සද්දසමං.**

**අත්ථි රජබ්‍රහ්මත්ත සඛසද්දාදීනං භෙදෙ.**

**තථෙව සන්ධාදුස්සන්ති රාජ සි ඉති සිනෙ-**

**බ්‍රහ්මත්තසඛරාජාදිතොති අධිකාරෙ.**

## 113 සතා ච 2-3-29.

**බ්‍රහ්මත්තසඛරාජ ඉච්චෙවමාදිතො සිවචනස්ස ආකාරො හොති ආදිසද්දෙන ආතුමාදි සද්දතො ච-සරලොපාදි.**

---

චසද්දග්ගහණෙන, ච ශබ්දයාගේ ග්‍රහණයෙන්; සමාසෙ, සප්පුරිසො සඛමෙමා සන්දිඨිසො යනාදි කර්මධාරය තත්පුරුෂ බහුව්‍රීහි' සමාස විෂයෙහි; අභකාරෙ'පි, භකාරයා කෙරෙන් අන්‍ය වූ පකාරාදීහු පරකල්හි ද; ක්වචි,කිසිතැනෙක්හි; සාදෙසො, සකාරාදෙශ වේ.

සබ්භි, සබ්භි යනු වේ; සබ්භි යන තන්හි සන්තශබ්ද සන්ත කීයා වෙයි. ඔහු කෙරෙන් පරව සියො අං යො නා හි සනං සමා හි සනං සම්ං සු 2-1-4 යන සූත්‍රයෙන් තෘතීයා බහුවචන වූ හි විභක්ති වෙයි. හි විභක්ති හට 'සමාහිස්මිනනං ම්හාභිම්හි වා 2-1-48 යන සූත්‍රයෙන්; භි යනාදෙශ වේ භකාරයා පරකල්හි සියලු ම සන්ත ශබ්දය හට 'සන්තසද්දස්ස සො භෙ බොච්චන්තෙ 2-3-25 යන සූත්‍රයෙන් සකාරාදෙශ වේ. සකාරාදෙශයාගේ අන්ත යෙහි එම සූත්‍රයෙන් බකාරයෙක් ආගම වේ. පච්චයාදනිට්ඨා නිපාතනා සිජ්ඣන්ති 4-3-1 යන සූත්‍රයෙන් බකාර භකාරයෙහි බද්ධව සබ්භි යනු සිද්ධ වේ.

හෙ ඉති, භකාරයා පරකල්හි වෙයි යනු; කිං, කුමට ය; සන්තෙහි යන තන්හි භකාරයකු නො පර හෙයින් සන්ත යන ශබ්දය හට සකාරාදෙශ නො වන පිණිස යි.

සං සන්තො සන්තා, හෙ සං හෙ සා හෙ සන්තො හෙ සන්තා, සන්තං සන්තෙ, සතා සන්තෙහි සබ්භි සන්තෙහි සන්තෙහි, සතො සන්තස්ස සතං සන්තානං, සතා සන්තම්හා සන්තස්මා සබ්භි සන්තෙහි සන්තෙහි, සතො සන්තස්ස සතං සන්තානං, සති

ෂන්නෙ සන්තම්හි සන්තසම්ං සන්තෙසු සි මෙසේ සන්ත යන මේ ශබ්දය ගච්ඡන්ත ශබ්දය හා සමය යි දක්වනුවෝ සෙසං ගච්ඡන්ත සද්දසමං යි කීහු. සන්ත ශබ්දයෙන් ප්‍රාඥයන්ද සුන්දරදෙයද විද්‍යමානදෙයද තාරකාවන්ද කියත්. සෙසං, සෙසු කාර්‍ය්‍යිය; ගච්ඡන්තසද්දසමං, ගච්ඡන්තශබ්දය හා සම යි.

රාජබ්‍රහ්මත්තසඛසද්දාදීනං, රාජ යන ශබ්දය බ්‍රහ්ම යන ශබ්දය අත්ත යන ශබ්දය සඛ යන ශබ්දය ආතුම ශබ්දය යන මේ ආදි ශබ්දයන්ගේ; හෙද්‍ද අත්ථි, අකාරාන්තබවක් ඇතිකල්හිද රූප නානත්වයෙක් ඇති. යම්සේ ජිනවචනයුක්ත වූ පුරිස යනාදි ශබ්දයා කෙරෙන් විභක්තීන්ගේ අනියමයෙන් ප්‍රසඞ්ගය ඇති කල්හි චක්කිච්ඡා වසයෙන් නියමයෙන් ස්‍යාද්‍යුත්පත්ති කියන ලදද එසේම රාජ යන මේ ශබ්දයා කෙරෙනුදු වන්නේය යි දක්වනුවෝ තථෙව ස්‍යාද්‍යුප්පත්ති යි කීහු; ස්‍යාද්‍යුප්පත්ති, සි ආදි විභක්තීන්ගේ උත්පත්තිය ද; තථෙව, එසේමැ යි.

සි ආදි යෙසං තෙ ස්‍යාදයො, ස්‍යාදීනං (විභත්තීනං) උප්පත්ති ස්‍යාද්‍යුප්පත්ති. රාජසි ඉති, රාජසි යි; ඨිතෙ, සිටි කල්හි.

’ බ්‍රහ්මත්තසඛරාජාදිතොති, බ්‍රහ්මත්තසඛරාජාදිතො අමානං 2-3-28 යන සූත්‍රයෙන් බ්‍රහ්මත්තසඛරාජාදිතො යනු; අධිකාරෙ, යොනමානො 2-3-30 යන සූත්‍රය දක්වා වැටේ.

සි ය අා ය ච ය යි සූත්‍රයේ පදච්ඡෙද කටයුතු.

චශබ්ද වචනසිලිඨතාව පිණිසද ස සරෙ වාගමො 2-3-24 යන සූත්‍රයෙහි වාග්‍රහණයාගේ නිවෘත්තිය පිණිසද කියන ලදි.

බ්‍රහ්මත්තසඛරාජ ඉච්චෙවමාදිතො, බ්‍රහ්ම ය අත්ත ය සඛ ය රාජ ය යන; මේ ආදි ප්‍රකාර ඇති අකාරාන්ත ශබ්දයන් කෙරෙන් පර වූ; සි වචනස්ස, සි යන මේ විභක්ති වචනය හට; ආකාරො හොති, ආකාරාදෙශ වේ; ආදිසද්දෙන, මේ සූත්‍රයට අනුවෘත්ත වූ බ්‍රහ්මත්ත සඛරාජාදිතො යන මෙහි ආදිශබ්දයෙන්ද; ආතුමාදි සද්දතො ච, ආතුම භස්ම උසම යනාදි ශබ්දයන් කෙරෙන් ද පර වූ සි වචනය හට ආකාරාදෙශ වේ; සරලොපාදි,“සරලොපො”යනාදි සූත්‍රයෙන් සවරලොප් ආදිය වේ.

**රාජා තිට්ඨති.**

## 114 යොනමානො 2-3-30.

**බ්‍රහමත්තසඛරාජාදිතො යොනං ආනො ආදෙසො හොති.**

**රාජානො තිට්ඨන්ති—භො රාජ භො රාජා භවන්තො රාජානො.**

**වාති වත්තතෙ.**

## 115 බ්‍රහමත්තසඛරාජාදිතො අමානං 2-3-28

**බ්‍රහමාදිහි පරස්ස අංවචනස්ස ආනං හොති වා.**

**රාජානං පස්ස, රාජං වා, රාජානො.**

---

රාජා, රජ තෙම; තිට්ඨති, සිටි යි;—යනු බ්‍රහමශබ්දාදීන් කෙරෙන් පර වූ සි විභක්ති හට ආකාරාදෙශයට උදාහරණ යි. ධම්මෙන සමෙන ලොකං රඤ්ජෙතීති රාජා.

යොනං ය ආනො ය යනු පද යි.

බ්‍රහමත්තසඛරාජාදිතො, බ්‍රහමඅත්තසඛරාජආදි වූ ශබ්දයන් කෙරෙන් පර වූ; යොනං, ප්‍රථමාද්විතීයා යො විභක්තීන්ට; ආනො ආදෙසො හොති, ආනො යන ආදෙශ වේ.

රාජානො, රජදරුවෝ; තිට්ඨන්ති, සිටිත්; භො රාජ, පින්වත් රජ; භො රාජා, පින්වත් රජ; භවන්තො රාජානො, පින්වත් රජ දරුවෙනි;—යනු උදාහරණ යි.

වාති, ස සරෙ වාගමෙ 2-3-24 යන සූත්‍රයෙන් වා යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

බ්‍රහමත්තසඛරාජාදිතො ය අං ය ආනං ය යනු පද යි.

බ්‍රහමා ච අත්තා ච සඛා ච රාජා ච බ්‍රහමත්තසඛරාජා, බ්‍රහමත්තසඛරාජා ආදි යස්ස සො'යං බ්‍රහමත්තසඛරාජාදි, තතො බ්‍රහමත්තසඛරාජාදිතො.

බ්‍රහමාදිහි පරස්ස, බ්‍රහමාදි වූ අකාරාන්ත ශබ්දයන් කෙරෙන් පර වූ; අං වචනස්ස, අං යන විභක්ති වචනය හට; වා, විකල්ප යෙන්; ආනං හොති, ආනං යනාදෙශ වේ.

**සවිභත්තිස්ස රාජස්සාති ච වත්තතෙ.**

## 116 නාම්හි රඤ්ඤා වා 2-2-18.

**සබ්බස්සෙව රාජසද්දස්ස සහ විභත්තියා රඤ්ඤා ආදෙසො හොති වා නාම්හි විභත්තිම්හි.**

**රඤ්ඤා කතං, රාජෙන වා.**

## 117 රාජස්ස රාජු සුනංහිසු ච. 2-3-9.

**සබ්බස්ස රාජසද්දස්ස රාජු ආදෙසො හොති සුනංහි ඉච්චෙතෙසු වචනෙසු.**

**චසද්දෙ විකප්පත්ථො-සුනංහිසු වාති දීඝො.**

**රාජූහි රාජූහි රාජෙහි රාජෙහි වා.**

---

රාජූනං, රජුනු; පස්ස, බල; යනු උදාහරණ යි. රාජං වා පස්ස, යනු විකල්ප උදාහරණ යි. රාජානො යනු යො විභක්තීන්ට වන ආනො යනාදෙශයට උදාහරණ යි.

සවිභත්තිස්ස, 'අම්හස්ස මමං සවිභත්තිස්ස සෙ' 2-2-1 යන මේ සූත්‍රයෙන් සවිභත්තිස්ස යනු ද; රාජස්සාති ච, රාජස්ස රඤ්ඤො රාජිනො සෙ 2-2-16 යන මේ සූත්‍රයෙන්;රාජස්ස යනු ද;වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

නාම්හි ය රඤ්ඤා ය වා ය යනු පද යි.

නාම්හි විභත්තිම්හි, නා විභක්ති පරකල්හි; සබ්බස්සෙව රාජ සද්දස්ස, සියලු ම රාජශබ්දය හට; සහ විභත්තියා, එම නා යන විභක්තිය හා සමග; වා, විකල්පයෙන්; රඤ්ඤා ආදෙසො හොති, රඤ්ඤා යන ආදෙශ වේ.

රඤ්ඤා, රජහු විසින්; කතං, කරන ලදී; යනු උදාහරණ යි. රාජෙන වා, රාජෙන කතං කියා විකල්ප හෝ වේ.

රාජස්ස ය රාජු ය සුනංහිසු ය ච ය යනු පද යි.

රාජස්ස යනු රාජ ශබ්දයා ම හඟවා සිටින අනුකරණ ශබ්ද යෙකි අනුකාරී රාජශබ්දයෙහි කොටලව රාජස්ස යි යෙදීමක් නැත: සමාසාන්ත වූ තැන පමණක් 'මහාරාජස්ස' යනාදි පැනෙයි.

**සවිභත්තිස්සාති අධිකාරෙ.**

## 118 රාජස්ස රඤ්ඤොරාජිනො සෙ 2-2-16.

**සබ්බස්සෙව රාජසද්දස්ස සවිභත්තිස්ස රඤ්ඤොරාජිනො ඉච්චෙතෙ ආදෙසා හොන්ති සෙ විභත්තිම්හි-රඤ්ඤො රාජිනො දෙහි.**

**රාජස්සාති වත්තතෙ.**

## 119 රඤ්ඤං නම්හි වා 2-2-17.

**සබ්බස්සෙව රාජසද්දස්ස සවිභත්තිස්ස රඤ්ඤං ආදෙසො හොති වා නම්හි විභත්තිම්හි.**

**රඤ්ඤං රාජූනං රාජානං.**

---

සුනංහි ඉච්චෙතෙසු වචනෙසු, සු යනං ය හි ය යන මේ විභක්ති වචනයන් පරකල්හි; සබ්බස්සෙව රාජසද්දස්ස, සියලු මේ රාජ ශබ්දය හට; රාජු ආදෙසො හොති, රාජු යන ආදෙශ වේ.

ච සද්දො, මේ සූත්‍රයෙහි ච් ශබ්දය තෙම; විකප්පනත්ථො, රාජු යන ආදෙශයාගේ විකල්පය ම අර්ථකොට ඇත්තේ යි—සුනංහිසු ච ඉති, සුනංහිසු ච 2-1-38 යන සූත්‍රයෙන්; දීඝො, රාජු යනාදෙශයාගේ උකාරයාට දීර්ඝ වේ.

රාජූහි, රාජූහි, යනු උදාහරණ යි. රාජෙහි රාජෙහි යනු විකල්පොදාහරණ යි.

සවිභත්තිස්ස ඉති, සවිභත්තිස්ස යනු; අධිකාරෙ, මතු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ.

රාජස්ස ය රඤ්ඤොරාජිනො ය සෙ ය යනු පද යි.

රඤ්ඤො ච රාජිනො ච රඤ්ඤොරාජිනො.

සෙ විභත්තිම්හි, සවිභක්ති පරකල්හි; සවිභත්තිස්ස, විභක්ති සහිත වූ; සබ්බස්සෙව රාජසද්දස්ස, සියලු ම රාජශබ්දයහට; රඤ්ඤොරාජිනො ඉති, රඤ්ඤොරාජිනො යන; එතෙ ආදෙසා හොන්ති, මේ ආදෙශයෝ වෙත්.

රඤ්ඤො, රජ හට; දෙහි, දෙව; රාජිනො, රජ හට; දෙහි, දෙව් යනු උදාහරණ යි.

**පඤ්චමීයං–**

## 120 අම්හතුම්හන්තුරාජබ්‍රහ්මත්තසඛසත්ථුපිතාදීහි ස්මා නාව 2-5-24.

**අම්හතුම්හන්තුරාජබ්‍රහ්මත්තසඛසත්ථුපිතු ඉච්චෙවමාදීහි ච ස්මා වචනං නා ඉව දට්ඨබ්බන්ති ස්මාවචනස්ස නාව්‍යපදෙසාතිදෙසො–අතිදෙසො පන ඡබ්බිධො–වුත්තඤ්ච.**

---

රාජස්සාති, රාජස්ස රඤ්ඤොරාජිනො සෙ 2-2-16 යන සූත්‍රයෙන් රාජස්ස යනු; වත්තතෙ, වැටේ.

රඤ්ඤං ය නම්හි ය වා ය යනු පද යි.

නම්හි විභත්තිම්හි, නං විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, එම නං විභක්තිය හා සහිත වූ; සබ්බස්සෙව රාජසද්දස්ස, සියලු ම රාජශබ්දය හට; වා, විකල්පයෙන්; රඤ්ඤං ආදෙසො හොති, රඤ්ඤං යන ආදෙශ වේ—රඤ්ඤං යනු උදාහරණ යි. රාජූනං රාජානං යනු විකල්පොදාහරණ යි.

පඤ්චම්යං, පචමී විභක්ති විෂයෙහි "කාරියවිසෙසො අත්ථි," යනු පාඨශෙෂ යි.

අම්හතුම්හන්තුරාජබ්‍රහ්මත්තසඛසත්ථුපිතාදීහි ය ස්මා ය නා ය ඉව ය යනු පද යි.

අම්හො ච තුම්හො ච න්තු ච රාජා ච බ්‍රහ්මා ච අත්තා ච සඛා ච සත්ථා ච පිතා ච අම්හතුම්හන්තුරාජබ්‍රහ්මත්තසඛසත්ථුපිතරො– තෙ ආදයො යෙසං තෙ අම්හ–පෙ–පිතාදයො, තෙහි, මෙහි ආදි ශබ්දයෙන් න්තුප්‍රත්‍යයාන්තයන් ම ගන්නා ලැබේ. නා ඉව යි පදච්ඡෙද කටයුතු.

අම්හ, අම්හ යන ශබ්දය; තුම්හ, තුම්හ යන ශබ්දය; න්තු, න්තු යන ප්‍රත්‍යය; රාජ, රාජ යන ශබ්දය; බ්‍රහ්ම, බ්‍රහ්ම යන ශබ්දය; අත්ත, අත්ත යන ශබ්දය; සඛ, සඛ යන ශබ්දය; සත්ථු, සත්ථු යන ශබ්දය; පිතු ඉති, පිතු යන ශබ්දය යි; එවමාදීහි ච, මේ ආදීන් කෙරෙන් ද පර වූ; ස්මා වචනං, ස්මා යන විභක්ති වචන තෙම; නා ඉව, නා විභක්ති මෙන්; දට්ඨබ්බන්ති, දක්කයුතුය යි; (සූත්‍රයෙහි කී හෙයින) ස්මා වචනස්ස, ස්මා යන විභක්ති වචනය හට; නා ව්‍යප

**28 ව්‍යපදෙසො නිමිත්තඤ්ච තංරූපං තංසභාවතා සුත්තඤ්චෙව තථා කාරියමතිදෙසොති ඡබ්බිධො'ති.**

---

දෙසාතිදෙසො, නාව්‍යපදෙශයාගේ අතිදෙශ වේ නාව්‍යවහාරයාගේ කථනය වෙයි සේයි—නා ව්‍යපදෙශාතිදෙශ නම් නා යන්නහුගේ නම සමා හට තබාලීම යි සමා නාවත් වෙයි යනාදීන් ව්‍යවහාර කිරීම ව්‍යපදෙශ නම් වෙයි. ඒ ව්‍යවහාරයාගේ කථනය ව්‍යපදෙශාති දෙශ නම් වෙයි.

ව්‍යපදිසතං කථ්‍යං වොහාරො ව්‍යපදෙසො. අතිදිසති කථයතීති අතිදෙසො. ව්‍යපදෙසස්ස අතිදෙසො ව්‍යපදෙසාතිදෙසො. නාවචනස්ස ව්‍යපදෙසාතිදෙසො නාව්‍යපදෙසාතිදෙසො.

**අතිදෙසො පන, අතිදෙශය වනාහි; ඡබ්බිධො, ව්‍යපදෙසාති දෙසාදීන්ගේ වශයෙන් සවැදෑරුම් ඇත්තේ යි—වුත්තඤ්ච, කියන ලද මැ යි.**

**අතිදෙසොති, අතිදෙශ සූත්‍ර වනාහි; ව්‍යපදෙසො, ව්‍යපදෙශාතිදෙශය; නිමිත්තඤ්ච, නිමිත්තාතිදෙශය; තංරූපං, තද්‍රූපාතිදෙශය; තං සභාවතා, තත් සවභාවාතිදෙශය; සුත්තඤ්චෙව, සූත්‍රාතිදෙශ සූත්‍රය යි කියා ද; තථා, එසේ ම; කාරියං, කාර්‍යාතිදෙශ සූත්‍රය යි කියා; ඡබ්බිධො, ෂට්ප්‍රකාර වේ.**

**මේ අම්හාදි සූත්‍රය අම්හාදීන් කෙරෙන් පර සමා හට නා ව්‍යවහාර සාධක හෙයින් ව්‍යපදෙශාතිදෙශ නම් වෙයි. 'අසංයොගන්තස්ස වුද්ධි කාරිතෙ'3–4–2 යනාදි සූත්‍රයෙන් වන සාමාන්‍ය කාර්‍යයට නිමිත්තත්ව සාධක හෙයින් "කාරිතං විය ණානුබන්ධො" 4–5–15 යනු නිමිත්තාතිදෙශ සූත්‍ර නම් වෙයි. මේ අම්හාදි සූත්‍රය බ්‍රහ්මාදි ශබ්දයන් කෙරෙන් පර සමා හට තත් සංස්ථාන වූ නා රූපාතිදෙශය කී හෙයින් රූපයාගේ අතිදෙශය කෙරේනු යි තද්‍රූපාතිදෙශ නම් වෙයි. නපුංසක සවභාවය අතිදිශනය කරන හෙයින් 'සො නපුංසකලිඞ්ගො 2–7–5 යනු තත් සවභාවාතිදෙශ සූත්‍ර නම් වෙයි. "අනුපදිට්ඨානං වුත්තයොගතො' 1–5–10 යනු සට අනුක්ත විශෙෂකාර්‍යයී ද මේ සූත්‍රයෙන් සිද්ධවීම් සඞ්ඛ්‍යාත අතිදෙශය වේනු යි සූත්‍රාතිදෙශ සූත්‍ර නම් වෙයි. 'සෙසෙසු නතුව**

**තත්‍රායං බ්‍රහ්මත්තසඛාදීසු පායසාමඤ්ඤියතො රූපාතිදෙසො. සෙසං තතියා සමං.**

**රඤ්ඤා අපෙති, රාජතො වා–රාජූහි රාජූභි රාජෙහි රාජෙභි, රඤ්ඤො රාජිනො සන්තකං–රඤ්ඤං රාජූනං රාජානං.**

**රාජස්සාති ච වත්තතෙ.**

## 121 ස්මිම්හි රඤ්ඤෙරාජිනි 2-2-19.

**සබ්බස්සෙව රාජසද්දස්ස සවිභත්තිස්ස රඤ්ඤෙරාජිනි ඉච්චෙතෙ ආදෙසා හොන්ති ස්මිම්හි විභත්තිම්හි.**

**රඤ්ඤෙ රාජිනි පතිට්ඨිතං, රාජූසු රාජෙසු.**

---

2-3-27 යනු තත්තු ප්‍රත්‍යයාගේ කාර්‍ය්‍ය ඇති හෙයින් තත් සදෘශය හට කාර්‍ය්‍ය පිණිස අතිදෙශය කරන හෙයින් කාර්‍ය්‍යාතිදෙශ සූත්‍ර නම් වේ. මත්තෙහිද අතිදෙශ සූත්‍ර මේ ලක්‍ෂණයෙන් දතයුතු.

ව්‍යපදෙසං අතිදිසතීති ව්‍යපදෙසාතිදෙසො. නිමිත්තං අතිදිසතීති නිමිත්තාතිදෙසො. තං රූපං අතිදිසතීති තාරූපාතිදෙසො. තං සභාවං අතිදිසතීති තංසභාවාතිදෙසො. සුත්තං අතිදිසතීති සුත්තාතිදෙසො. කාරියං අතිදිසතීති කාරියාතිදෙසො යයි මෙසේ පද විග්‍රහ කටයුතු. මේ ෂට්විධ පරිභාෂා සූත්‍ර යි.

තත්‍ර, ඒ ෂට්විධ අතිදෙශයන් අතුරෙහි; අයං, මේ අතිදෙශය තොම; බ්‍රහමත්ත සඛාදීසු, බ්‍රහ්මත්ත සඛාදි ශබ්දයන් කෙරෙහි; පායසාමඤ්ඤියතො, සමානාව යී ම හඳුල සාමීප්‍යයෙන්; රූපාතිදෙසො, රූපාතිදෙශ නම් වේ—කවර යුක්තියකින් ද යත්? බ්‍රහ්මුනා අත්තනා සඛිනා යි මෙසේ පඤ්චම්‍යන්තාව ශබ්දයන් නිෂ්පාදිතව්‍ය වූ බ්‍රහ්මත්ත සඛයන් කෙරෙහි ව්‍යපදෙශාතිදෙශය නිරවිකනු සි බ්‍රහමාදීන් කෙරෙන් පර වූ පඤ්චම්‍යෙකවචනය හට ද සමා නා ඉව සි පඨිත බැවින් ඔවුන් කෙරෙන් සමාවචනය හට මේ සූත්‍රය නාරූපයාගේ අතිදෙශය කොරේය යි නැති.

සෙසං, සෙස්ස; තතියා සමං, තෘතීයාව හා සම යි.

රඤ්ඤා, රජහු කෙරෙන්; අපෙති, පහවෙයි; යනු උදාහරණ යි. රාජතො වා, රාජතො අපෙති කියා හෝ වේ. බහුවචන විෂයෙහි, රාජූහි රාජූභි රාජෙහි රාජෙභි යනු වේ. රඤ්ඤො රාජිනො

**බ්‍රහ්මසද්දස්ස ගනාසස්මිංසු විසෙසො.**

**බ්‍රහ්මා බ්‍රහ්මානො.**

**ආලපනෙ-එති වත්තතෙ.**

## 122 බ්‍රහ්මතො ගස්ස ච 2-3-33.

**බ්‍රහ්මසද්දතො ගස්ස ච එකාරො හොති.**

**චග්ගහණං එග්ගහණානුකඩ්ඪනත්ථං.**

**භො බ්‍රහ්මෙ භවන්තො බ්‍රහ්මානො, බ්‍රහ්මානං බ්‍රහ්මං බ්‍රහ්මානො.**

---

සන්තකං, රජහුගේ සන්තක යි. අයිතිය යි සේ යි. රඤ්ඤං රාජූනං රාජිනං සන්තකං, කියා බහුවචන විෂයෙහි වේ.

රාජස්සාති ච, රාජස්ස රඤ්ඤොරාජිනො සෙ 2-2-16 යන සූත්‍රයෙන් රාජස්ස යනු ද; වත්තතෙ, වැටේ. ච ශබ්ද සවිභත්තිස්ස යනු සම්පිණ්ඩනය කෙරේ

සම්මිහි ය රඤ්ඤොරාජිනි ය යනු පද යි.

සම්මිහි විභත්තිම්හි, සම්ං විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, ඒ සම්ං විභක්තිය හා සහිත වූ, සබ්බස්සෙව රාජසද්දස්ස, සියලු ම රාජ යන මේ ශබ්දය හට; රඤ්ඤොරාජිනි ඉති, රඤ්ඤො රාජිනි යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; හොන්ති, වෙත්—රාජ ශබ්දයෙන් පෘථිවීශ්වරයන් කියත්.

රඤ්ඤො රාජිනි පතිට්ඨිතං, රජහු කෙරෙහි පිහිටයේය; බහු වචන විෂයෙහි රාජූසු, රාජෙසු පතිට්ඨිතං යනු වේ.

බ්‍රහ්මසද්දස්ස, බ්‍රහ්ම යන මේ ශබ්දයාගේ; ගනාසස්මිංසු, ග සංඥය නා ය ස ය සම්ං ය යන මේ විභක්ති වචනයන් පරකල්හි; විසෙසො, (රූපයන්ගේ) වෙනසෙක් ඇති. බ්‍රෑහිතොති බ්‍රහ්මා.

බ්‍රහ්මා බ්‍රහ්මානො, ප්‍රථමෛකවචන බහුවචන විෂයෙහි බ්‍රහ්මා බ්‍රහ්මානො යි වේ.

ආලපනෙ, ආලපන විෂයෙහි; එති, සම්මෙ 2-3-32 යන සූත්‍රයෙන් එ යනු, වත්තතෙ, වැටේ.

බ්‍රහ්මතො ය ගස්ස ය ච ය යනු පද යි.

**විපරිණාමෙන බ්‍රහ්මස්ස අන්තොති ච වත්තතෙ.**

## 123 උත්තං සනාසු 2-3-38.

**බ්‍රහ්මසද්දස්ස අන්තො උත්තමාපජ්ජතෙ සනා ඉච්චෙතෙසු වචනෙසු.**

**උත්තමිති භාවනිද්දෙසො කත්ථචි අභාවදස්සනත්ථො.**

**බ්‍රහ්මුනා බ්‍රහ්මෙභි බ්‍රහ්මෙභි.**

**සස්මිං උත්තෙ කතෙ ඉවණ්ණුවණ්ණා ඣලාති ලසඤ්ඤායං.**

## 124 ඣලතො සස්ස නො වා 2-1-66.

**ඣලසඤ්ඤෙහි ඉවණ්ණුවණ්ණෙහි පරස්ස ස ඉච්චෙතස්ස වචනස්ස නො ඉච්චාදෙසො හොති වා.**

**බ්‍රහ්මුනො බ්‍රහ්මස්ස බ්‍රහ්මානං, බ්‍රහ්මුනං වා.**

---

බ්‍රහ්මානො යි ආකාරාන්ත නිර්දේශය සුඛොච්චාරණය පිණිසය යි දතයුතු.

බ්‍රහ්මසද්දතො, බ්‍රහ්ම යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; ගස්ස ච, ගසංඥ කරන ලද ආලපන එකවචනයහට; එකාරෙ හොති, එකාරාදෙශ වේ.

චග්ගහණං, (මේ සූත්‍රයෙහි) චග්‍රහණය තෙම; එගහණානුකඩ්ඪනත්ථං, සම්මෙ 2-3-32 යන සූත්‍රයෙහි එ ග්‍රහණයාගේ ඇද ගැන්ම ම ප්‍රයොජන කොට ඇත්තේ යි.

හො බ්‍රහ්මෙ යනු උදාහරණ යි. භවන්තො බ්‍රහ්මානො, ආලපනෙක වචන බහුවචන විෂයෙහි හො බ්‍රහ්මෙ භවන්තො බ්‍රහ්මානො යනු වේ. ද්විතීයා එකවචන විෂයෙහි බ්‍රහ්මානං බ්‍රහ්මං යනුද බහුවචන විෂයෙහි බ්‍රහ්මානො යනු ද වේ

විපරිණාමෙන, පචමී ෂෂ්ඨී විභක්තීන්ගේ ෂෂ්ඨී ප්‍රථමා ප්‍රසඞ්ග වශයෙන් පෙරළීමෙන්; බ්‍රහ්මස්ස අන්තොති ච, බ්‍රහ්මානො තු සම්ං නි 2-3-37 යන සූත්‍රයෙන් බ්‍රහ්මස්ස යනු ද

සබ්බනාසසි නො නා නං සෙ සු 2-3-34 යන සූත්‍රයෙන් අනෙතා යනු ද; වත්තතෙ, වැටේ.

උත්තං ය්‍සනාසු ය යනු පද යි.

සනා ඉති, ස ය නා ය යන; එතෙසු වචනෙසු, මේ විභක්ති වචනයන් පරකල්හි; බ්‍රහ්මසද්දස්ස අනෙතා, බ්‍රහ්ම යන මේ ශබ්ද යාගේ අනත වූ අකාර තෙම; උත්තං, උකාරාදෙශ බවට; ආපජ්ජ තෙ, පැමිණේ.

උත්තමිති භාවනිද්දෙසො, (උ සනාසු යි නො කියා) උත්තං යි භාවප්‍රත්‍යය වශයෙන් දැක්වීම; කත්ථචි, කිසි විවක්ෂිත විෂයෙක්හි; අභාව දස්සනත්ථො, උකාරාදෙශයාගේ අභාවය දර්ශනය අර්ථ කොට ඇත්තේ යි; ප්‍රයොජනකොට ඇත්තේ යි; එහෙයින් බ්‍රහ්මස්ස යනු ද සිද්ධ යි.

බ්‍රහ්මුනා බ්‍රහෙමහි බ්‍රහෙමහි යනු තෘතීයා එකවචන බහුවචන දෙක්හි වේ.

සස්මිං, ස විභක්ති පර නිමිත්තේ;උත්තෙ කතෙ,(බ්‍රහ්මශබ්දාන්ත යා හට) උකාරාදෙශ කරන ලද කල්හි; ඉවණ්ණුවණ්ණා ඣලාති, ඉවණ්ණුවණ්ණා ඣලා 2-1-7 යන සූත්‍රයෙන්; ල සඤ්ඤායං, බ්‍රහ්ම යන මේ ශබ්දයාගේ උකාරය හට ල සංඥ කරන ලද කල්හි.

ඣලතො ය සස්ස ය නො ය වා ය යනු පද යි.

ඣො ච ලො ච ඣලා, තතො ඣලතො-මෙහි තො ප්‍රත්‍යය බහුවචනයෙහි වේ.

ඣලසඤ්ඤෙහි ඉවණ්ණුවණ්ණෙහි, ඣ සංඥ ලසංඥ ඇති ඉවර්ණ උවර්ණ දෙදෙනා කෙරෙන්; පරස්ස, පර වූ; ස ඉති, ස යන; එතස්ස වචනස්ස, මේ විභක්ති වචනය හට; වා, විකල්පයෙන්; නො ඉච්චාදෙසො හොති, නො යන ආදෙශ වේ.

බ්‍රහ්මුනො, යනු වේ; බ්‍රහ්මස්ස බ්‍රහ්මානං බ්‍රහ්මූනං වා, බ්‍රහ්මස්ස බ්‍රහ්මානං බ්‍රහ්මූනං කියා හෝ වේ.

**උත්තමිති යොගවිභාගෙන උත්තං.**

**පඤ්චමියං-නාභාවාතිදෙසො.**

**බ්‍රහ්මුනා බ්‍රහ්මෙහි බ්‍රහ්මෙභි, බ්‍රහ්මුනො බ්‍රහ්මස්ස බ්‍රහ්මානං බ්‍රහ්මූනං වා.**

## 125 බ්‍රහ්මාතො තු සම්ම්නි 2-3-37.

**බ්‍රහ්මසද්දතො සම්ං වචනස්ස නි හොති-තු සද්දෙන කම්ම චම්ම මුද්ධාදිතො ච ක්වචි.**

**බ්‍රහ්මනි බ්‍රහ්මෙසු.**

**අත්තසද්දස්ස තතියාදිස්වෙව විසෙසො.**

---

උත්තමිති යොගවිභාගෙන, සනාසු හැරඋත්තං යන සූත්‍රවිධා කරණයෙන්; උත්තං, බ්‍රහ්මූනං යන තැන නං පරකල්හිද උත්ව වේ; පඤ්චමියං, පඤ්චමී විභක්ති විෂයෙහි; නාභාවාතිදෙසො, පඤ්චම්‍යෙකවචනය හට නාරූපයාගේ කථනය වේ; බ්‍රහ්මුනා යනාදිස වේ.

බ්‍රහ්මාතො ය තු ය සම්ං ය නි ය යනු පද යි.

බ්‍රහ්මසද්දතො, බ්‍රහ්ම යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; සම්ං වචනස්ස, සම්ං වචනය හට; නි හොති, නි යන ආදෙශ වේ; තු සද්දෙන, මේ සූත්‍රයෙහි තු ශබ්දයෙන්, කම්මචම්මමුද්ධාදිතො ච, කම්මචම්මමුද්ධසම්මහසමාදි ශබ්දයන් කෙරෙන් පර වූ සම්ං වචනය හටද; ක්වචි,කිසි විවක්ෂිත තැනෙක්හි නි යනාදෙශ වේ—කම්මශබ්ද යෙන් චෙතනාදි කියත්, චම්මශබ්දයෙන් ශරනිවාරණ ඵලකාදි කියත්, මුද්ධශබ්දයෙන් මස්තකය කියත්, බ්‍රහ්මශබ්දයෙන් සුර ජ්‍යෙෂ්ඨයන්ද බ්‍රහ්මලොකගාමී ප්‍රතිපත්තියට ප්‍රතිපන්නයන්ද ශ්‍රෙෂ්ඨයන්ද වෙද ද කියත්. බ්‍රහ්මනි බ්‍රහ්මෙසු යනු වේ.

අත්තසද්දස්ස, අත්ත යන මේ ශබ්දයාගේ; තතියාදිස්වෙව, තෘතීයාදීන් පරකල්හි ම; විසෙසො, රූපවිශෙෂයෙක් ඇති— ප්‍රථමා විතීයා පරකල්හි වෙනසෙක් නැතැයි සේයි.

**අත්තා අත්තානො, හො අත්ත හො අත්තා භවන්තො අත්තානො, අත්තානං අත්තං අත්තානො.**

**නාමහි-අ කම්මන්තස්ස වාති එත්ථ වසද්දෙන අත්තන්තස්ස අත්තං වා.**

**අත්තනා අත්තෙන වා.**

## 126 අත්තන්තො හිස්මිමනත්තං 2-4-1

**අත්තසද්දස්ස අන්තො අනත්තමාපජ්ජතෙ හිස්මිං පරෙ.**

**අත්තනෙහි අත්තනෙහි.**

**අත්තතො තතොති ච වත්තතෙ.**

## 127 සස්ස නො 2-4-3.

---

අදතීති අත්තා,

අත්තා අත්තානො යනාදිය වේ.

නාමහි, නා වචනයා පරකල්හි; අ කම්මන්තස්ස වාති, අ කම්මන්තස්ස ච 2-2-41 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; වසද්දෙන, ච ශබ්දයෙන්; අත්තන්තස්ස, අත්ත යන මේ ශබ්දයාගේ අන්තාවයව වූ අකාරය හට; වා, විකල්පයෙන්; අත්තං, අත්ව වේ. අකාරාන්තය හට ම අත්වවිධානය එනාදෙශයාගේ නිවෘත්තිය පිණිස යයි දතයුතු.

අත්තනා යනු වේ; අත්තෙන වා, අත්තෙන කියා හෝ වේ.

අත්තන්තො ය හිස්මිං ය අනත්තං ය යනු පදයි.

හිස්මිං පරෙ, හි විභක්ති පරකල්හි; අත්තසද්දස්ස අන්තො, අත්ත යන මේ ශබ්දයාගේ අන්ත වූ අකාර තෙම; අනත්තං, අන යන ආදෙශ බවට; ආපජ්ජතෙ, පැමිණේ; අත්තනෙහි අත්තනෙහි යනු වේ.

අත්තතො, අත්තන්තො හිස්මිමනත්තං 2-4-1 යන සූත්‍රයෙන් අත්තතො යනුද; තතොති ච, තතො ස්මිනි 2-4-2 යන මේ සූත්‍රයෙන් තතො යනුද; වත්තතෙ, වැටේ.

සස්ස ය නො ය යනු පදයි.

**තතො අත්තසද්දතො සස්ස විභත්තිස්ස නො හොති.**

**අත්තනො අත්තානං.**

## 128 සමා නා 2-4-4.

**තතො අත්තසද්දතො සමාවචනස්ස නා හොති.**

**අත්තනා අපෙති.**

**නාභාවාතිදෙසෙනෙව සිද්ධෙපි "උත්තරසුත්තෙන එකයොගමකත්වා භින්නයොගකරණං අත්ථන්තරවිඤ්ඤාපනත්ථං- තෙන අත්තනත්තකාරස්ස රකාරො ජකාරෙ ක්වචි.**

**අත්‍රජො, අත්තජො වා-අත්තනෙහි අත්තනෙහි; අත්තනො අත්තානං.**

---

තතො අත්තසද්දතො, ඒ අත්ත යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; සස්ස විභත්තිස්ස, සවිභක්ති හට; නො හොති, නො යන ආදෙශ වේ; අත්තනො අත්තානං යනු වේ.

සමා ය නා ය යනු පදයි.

තතො අත්තසද්දතො, ඒ අත්ත යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; සමාවචනස්ස, සමාවිභක්ති වචනය හට, නා හොති, නා යන ආදෙශ වේ; අත්තනා, තමා කෝරෙන්; අපෙති, පහ වෙව යනු වේ.

නාභාවාතිදෙසෙනෙව, අමහාදි වූ නාරූපාතිදෙශසූත්‍රයෙන් ම; සිද්ධෙ'පි, සමාවචනය හට නාභාවය සිද්ධකල්හිද; උත්තරසුත්තෙන එකයොගමකත්වා, පරසූත්‍රය හා ඣතො සමා නා යි මෙසේ අභින්නයොග නො කොට; භින්නයොගකරණං, භින්නසූත්‍ර කිරීම; අත්ථන්තරවිඤ්ඤාපනත්ථං, අන්‍යඅර්ථයක්හුගේ හැඟවීම ප්‍රයොජන කොට ඇත්තේ යි; තේන, ඒ භින්නයොගකරණයා අර්ථාන්තරයක්හුගේ හැඟවීම ප්‍රයොජන කොට ඇති බැවින්; අත්තනත්තකාරස්ස, අත්ත යන මේ ශබ්දයාගේ කෙළවර ස්වර රහිත තකාරය හට; ජකාරෙ, ජකාරයා පරකල්හි; ක්වචි, කිසි විවක්ෂිත තැනෙක්හි; රකාරො, රකාරාදෙශ වේ.

අත්‍රජො යනු වේ; අත්තජො වා, අත්තජො, කියා හෝ වේ; අත්තනෙහි අත්තනෙහි, අත්තනො අත්තානං යනු වේ.

**අත්තතොති වත්තතෙ.**

## 129 තතො සම්නනි 2–4–2.

**තතො අත්තසද්දතො සම්ංවචනස්ස නි හොති.**

**අත්තනි අත්තනෙසු.**

**සඛසද්දස්ස භෙදො.**

**සඛා සඛාතො.**

**යොනමිති වත්තතෙ.**

## 130 සඛාතො චායොනො 2–3–31.

---

අත්තතො ඉති, (අත්තනොතා හිසම්මනත්තං 2–4–1 යන සූත්‍රයෙන්) අත්තතො යනු; වත්තතෙ, වැටේ.

තතො ය සම්ං ය නි ය යනු පද යි.

තතො අත්තසද්දතො, ඒ අත්ත යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; සම්ංවචනස්ස, සම්ං වචනය හට; නි හොති, නි යන ආදෙශ වේ—අත්තනි අත්තනෙසු යනු වේ. අත්තශබ්දයෙන් ශරීරය උත්සාහය ස්වභාවය පරමාත්මය චිත්තය ධෛය්‍ය්‍යය බුද්ධිය පරව්‍යාවර්තනය යනාදි අනෙකාර්‍ථ කියත්. *

සඛසද්දස්ස, සඛ යන මේ ශබ්දයාගේ, භෙදො, රූපනානත්ව යෙක් ඇති;සහ ඛාදති සුඛදුක්ඛං එකතො අනුභවතීති සඛා, සඛා සඛාතො යනු වේ.

යොනං ඉති, යොනංමාතො 3–2–30 යන මේ සූත්‍රයෙන් යොනං යනු; වත්තතෙ, වැටේ.

සඛාතො ය ච ය ආයොතො ය යනු පද යි.

ආයො ච නො ච ආයොනො,

---

* ආත්මාකලෙවරෙ යත්තෙ ස්වභාවෙ පරමාත්මනි
චිත්තෙ ධෘතෞ ච බුද්ධෞ ච පරව්‍යාවර්තනෙපි ච,

**සබ්බසද්දතො යොනං ආයොනො ආදෙසා ච හොන්ති-**

## 131. සබ්බස්සි නොනානංසෙසු 2-3-34.

**සබ්බන්තස්ස ඉකාරාදෙසො හොති නො නා නං ස ඉච්චෙතෙසු පරෙසු.**

**සබ්බිනො තිට්ඨන්ති.**

**ආලපනෙ-ගසඤ්ඤායං.**

## 132 සබ්බාතො ගස්සෙ වා 2-1-62.

**සබ්බාතො ගස්ස අකාර ආකාර ඉකාර ඊකාර එකාරාදෙසා හොන්ති වා.**

**වා සද්දෙන අඤ්ඤස්මාපි ක්වචි එකාරො.**

**යථා භද්දෙන්ත ඉසෙ ඉති.**

**අ ච ආ ච ඉ ච ඊ ච එ චාති එ-සබ්බසරානං කමෙන ලොපො.**

**හො සබ්බ හො සබ්බා හො සබ්බි හො සබ්බී හො සබ්බෙ භවන්තො සබ්බානො සබ්බාසො සබ්බිනො.**

---

සබ්බසද්දතො, සබ යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; යොනං, (ප්‍රථමා විතීයා)යො වචනයන්ට; ආයොනො ආදෙසා ච, ආයො ය නො ය යන ආදෙශයෝ ද; හොන්ති, වෙත්—මේ සූත්‍රයෙහි ච ශබ්ද යොග්‍රහණයාගේ අනුකර්ෂණය පිණිස යි;

සබ්බන්තස්ස ය ඉ. ය නොනානංසෙසු ය යනු පද යි.

නොනානංස ඉති, නො ය නා ය නං ය ස ය යන; එතෙසු පරෙසු, මේ වචනයන් පරකල්හි; සබ්බන්තස්ස, සබ යන මේ ශබ්දයාගේ අන්තාවයව වූ අකාරය හට; ඉකාරාදෙසො හොති, ඉකාරාදෙශයෙක් වේ—තිට්ඨන්ති යනු සබ්බිනො යන රූපයාගේ ප්‍රථමා බහුවචනාන්තභාවය හඟවන පිණිස යි; සබ්බිනො, සබ්බූ; තිට්ඨන්ති, සිටිත්.

ආලපනෙ, සම්බොධන විෂයෙහි; ගසඤ්ඤායං, සි හට ග සංඥා කරන ලද කල්හි.

සඛාතො ය ගස්ස ය එ ය වා ය යනු පද යි.

සඛාතො යි ආකාරාන්ත නිර්දේශය බ්‍රහ්මාතො යනාදි සූත්‍රයෙහි කී පරිද්දෙන් ම දතයුතු.

සඛාතො, සඛ යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; ගස්ස, ග සංඥා වූ ආලපනෙකවචනය හට; අකාර ආකාර ඉකාර ඊකාර එකාරාදෙසා, අකාරාදෙශ ආකාරාදෙශ ඉකාරාදෙශ ඊකාරාදෙශ එකාරාදෙශයෝ; වා, විකල්පයෙන්; හොන්ති, වෙත්.

වාසද්දෙන, මේ සූත්‍රයාගේ ම වා ශබ්දයෙන්; අඤ්ඤස්මාපි, සඛ යන මේ ශබ්දයා කෙරෙන් අන්‍ය වූ අකාරාන්ත ඉකාරාන්ත ශබ්දයන් කෙරෙන් පර වූ ග හටද; කචි එකාරො, කිසි විවක්ෂිත විෂයෙක එකාරාදෙශ වේ; භද්දන්ත ඉසෙ ඉති යථා, භද්දන්ත ඉසෙ යනු මෙහි—මෙහි භදන්ත ඉසි යන මේ ශබ්දයන් දෙදෙනා කෙරෙන් පර වූ ආලපනෙකවචනය හට මේ සූත්‍රයෙහි වා ශබ්දයෙන් එකාරාදෙශ කොට පූර්වස්වරලොපාදිය කරන ලද කල්හි භද්දන්ත ඉසෙ යන රූපද්වය සිද්ධයි.

අ ච, අකාරද; ආ ච, ආකාරද; ඉ ච, ඉකාරද; ඊ ච, ඊකාරද; එ ච ඉති, එකාරය දැයි යන මොහු; එ, එ නම් වෙයි; සබ්බ සරානං, * (එත්ථසමාසව අ ආ ඉ ඊ එ යි මෙසේ සිටි) සියලු ස්වරයන්ට; කමෙන ලොපො, (ආකාරයා පරකල්හි අකාරයාට ලොප, ඉකාරයා පරකල්හි ආකාරය හට ලොප, ඊකාරයා පරකල්හි ඉකාරයා හට ලොප, එකාරයා පරකල්හි ඊකාරයා හට ලොපැයි මෙසේ) ක්‍රමයෙන් ලොප් වේ. නොහොත් එකාරයා පරකල්හි ම ඊකාරයාට ලොප, ඊකාරලොපයට අනතුරුව ඉකාරයාට ලොප, එයට අනතුරුව ආකාරයාට ලොප, එයට අනතුරුව අකාරය හට ලොප් වෙයි; මෙසේද ක්‍රමයෙන් ලොප් වේ, න්‍යාසයෙහි වනාහි එකාරයා පරකල්හි අකාරාදි වූ ස්වරයන් සතරදෙනා හට එකවිටම සරා සරෙ ලොපං 1-2-1 යි ලොප කියන ලද, එබඳු ප්‍රයොගයක් ජිනවචනයෙක්හි නොපෙනෙන හෙයින්ද වෙන වෙන ලොප් ඇතිකල්හි එක්කොට ලොප් නිරර්ථක හෙයින්ද එසේ වීම්ද එ යන නිපාතයෙන්ම සිද්ධහෙයින්ද හේ නොයෙදේ.

හො සඛ හො සඛා යනාදියි වේ.

---

* පුබ්බසරානං-රූපසිද්ධි පෙළ.

**සබ්බනාසස ආරොති ච වත්තතෙ.**

## 133 සුනමංසු වා 2-3-36.

**සබ්බනාසස ආරො හොති වා සු නං අං ඉච්චෙතෙසු පරෙසු.**

**සබ්බාරං සබ්බානං සබ්බං සබ්බාරො සබ්බායො සබ්බිනො-සබ්බිනා.**

**සබ්බනාසසාති වත්තතෙ.**

## 134 ආරො හිමහි වා 2-3-35.

**සබ්බනාසස ආරො හොති වා හිමහි විභත්තිමහි.**
**සබ්බාරෙහි සබ්බාරෙභි සබ්බෙහි සබ්බෙභි.**

---

සබ්බනාසස, සබ්බනාසසි නොනානංසෙසු 2-3-34 යන සූත්‍රයෙන් සබ්බනාසස යනුද; ආරොති ච, ආරො හිමහි වා 2-3-35 යන සූත්‍රයෙන් ආරො යනුද; වත්තතෙ, වැටේ.

සුනමංසු ය වා ය යනු පද යි.

සු ච නං ච අං ච සුනමං, තෙසු සුනමංසු—ආරො හිමහි වා 2-3-35 යන අනන්තර සූත්‍රයෙහි වා ශබ්දය ඇතිකල්හි නැවත මෙහි වා ශබ්දකරණය සු ං ං අං යන මොවුන් පරකල්හිද ආරාදෙශ වන්නේ යයි සමුච්චය පිණිස යි, අනන්තර සූත්‍රය හා එකයොග නො කිරීමද ව්‍යාඛ්‍යානගෞරවයාගේ පරිහරණය පිණිස යයි දතයුතු.

සුනංඅං ඉති, සුය නං ය අං ය යන; එතෙසු පරෙසු, මේ වචනයන් පරකල්හිද; සබ්බනාසස, සබ්බ යන මේ ශබ්දයාගේ අන්තය හට; වා, විකල්පයෙන්; ආරො හොති, ආර යන ආදෙශ වේ; සබ්බාරං සබ්බානං යනාදිය වේ.

සබ්බනාසසාති, සබ්බනාසසි නොනානංසෙසු 2-3-34 යන සූත්‍රයෙන් සබ්බනාසස යනු; වත්තතෙ, වැටේ.

ආරො ය හිමහි ය වා ය යනු පද යි.

හිමහි විභත්තිමහි, හි විභක්ති පරකල්හි; සබ්බනාසස, සබ්බ යන මේ ශබ්දයාගේ අන්තය හට; වා, විකල්පයෙන්; ආරො හොති, ආරයනාදෙශ වේ; සබ්බාරෙහි සබ්බාරෙභි යනාදිය වේ.

**ඉකාරාදෙසෙ ඣලතො සස්ස නො වාති නො.**

**සඛිනො සඛිස්ස සඛාරානං සඛීනං.**

**ස්මාවචනස්ස නාභාවාතිදෙසො-සඛිනා සඛාරෙහි සඛාරෙභි සඛෙහි සඛෙභි, සඛිනො සඛිස්ස සඛාරානං සඛීනං.**

**සඛාතොති වත්තතෙ.**

## 135 ස්මිමෙ 2-3-32.

**සඛාතො ස්මිංවචනස්ස එකාරො හොති, නිච්චත්ථො'යමාරම්භො.**

**සඛෙ සඛාරෙසු සඛෙසු.**

---

ඉකාරාදෙසෙ, සඛන්තස්සි නොනානංසෙසු 2-3-34 යන සූත්‍රයෙන් විභක්ති පරකල්හි සඛාන්තය හට ඉකාරාදෙශ කළකල්හි; ඣලතො සස්ස නො වා ඉති, ඣලතො සස්ස නො වා 2-1-66 යන සූත්‍රයෙන්; නො, (ඣසංඥක ඉවර්ණයා කෙරෙන් පර වූ ස හට විකල්පයෙන්) නො යන ආදෙශ වේ; සඛිනො යනාදිය වේ.

ස්මාවචනස්ස, ස්මාවචනය හට; නාභාවාතිදෙසො * අම්හාදි සූත්‍රයෙන් නාරූපයාගේ කථනය වේ—නාපරනිමිත්තින් ඉකාරාදෙශ කරන ලද කල්හි සඛිනා යනු වේ.

සඛාතොති, සඛාතො චායොනො 2-3-31 යන සූත්‍රයෙන් සඛාතො යනු; වත්තතෙ, වැටේ.

ස්මිං ය එ ය යනු පද යි.

සඛාතො, සඛ යන මේ ශබ්දයා කෙරෙන් පර වූ; ස්මිංවචනස්ස, ස්මිං වචනය හට; එකාරො හොති, එකාරාදෙශ වේ; අයං ආරම්භො, මේ ‘ස්මිමෙ’ යන ආරම්භය; නිච්චත්ථො, නිත්‍යවිධියම ප්‍රයොජන කොට ඇත්තේය—ස්මාස්මින්නං වා 2-1-57 යන මේ සූත්‍රයෙන් ම සප්තම්‍යෙකවචනය හට එකාරාදෙශය සිද්ධ කල්හිදු නැවත ස්මිමෙ යි ආරම්භ කිරීම සඛශබ්දයා කෙරෙන් පර ස්මිං වචනය හට එකාරාදෙශ නිත්‍යයෙන්ම වන පිණිසය, එහෙයින් සඛස්මිං සඛම්හි යන රූපද්වය අසිද්ධය යනු මෙහි අභිප්‍රායයි; සඛෙ සඛාරෙසු සඛෙසු යනු වේ. සඛශබ්දයෙන් සහාය යන් කියත්.

---

* නාභාවො-රූපසිද්ධිපෙළ.

**ආතුමසද්දස්ස පඨමාදුතියාසු අත්තසද්දස්සෙව රූපනයො. ආතුමා ආතුමානො, භො ආතුම භො ආතුමා භවන්තො ආතුමානො, ආතුමානං ආතුමං ආතුමානො, ආතුමෙන ඉච්චාදි පුරිසසමං.**

**පුමසද්දස්ස භෙදො.**

**පුමසි.**

**සවිභත්තිස්සාති අධිකාරෙ.**

## 136 පුමන්තස්සා සිමහි 2-2-33.

**පුමසද්දන්තස්ස සවිභත්තිස්ස ආකාරාදෙසො හොති සිම්හි විභත්තිම්හි.**

---

ආතුමසද්දස්ස, ආතුම යන මේ ශබ්දයාගේ; පඨමාදුතියාසු, ප්‍රථමා ද්විතීයා විභක්ති විෂයෙහි; රූපනයො, රූපවිධි-උදාහරණ රූපයන්ගේ නිෂ්පත්ති යයි සේයි; අත්තසද්දස්ස ඉව, අත්ත යන මේ ශබ්දයාගේ රූපනය වැනි යි-සෙසු විභක්ති විෂයෙහි පුරිස යන ශබ්දයා හා සමය යන අභිප්‍රාය යි; ආතුමා ආතුමානො යනාදිය වේ. අතුමා යන මේ ශබ්දයෙන් ආත්මය කියත්.

පුමසද්දස්ස, පුමශබ්දයාගේ; භෙදො, භෙදය කියනු ලැබේ; **පුමසි,** පුමශබ්දයා කෙරෙන් සිවිභක්ති වේ.

සවිභත්තිස්සාති, අමහස්ස මමං සවිභත්තිස්ස සෙ 2-2-1 යන **සූත්‍රයෙන්** සවිභත්තිස්ස යනු; අධිකාරෙ, සම්බන්ධ කරනු ලැබේ.

පුමන්තස්ස ය ආ ය සිම්හි ය යනු පද යි.

**පුමස්ස** අන්තො පුමන්තො,තස්ස පුමන්තස්ස.

සිම්හි විභත්තිම්හි, සිවිභක්ති පරකල්හි; සවිභත්තිස්ස, **එම සිවිභක්ති** හා සහිත වූ; පුමසද්දස්ස, පුම යන මේ ශබ්දයාගේ **අන්තය** හට; ආකාරාදෙසො හොති, ආකාරාදෙශ වේ.

**අන්තග්ගහණෙන මඝවයුවාදීනමන්තස්ස ච-පුමා.**

**පුමන්තස්සාති ච අධිකාරො.**

## 137 යොස්වානො 2-3-36.

**පුමන්තස්ස සවිභත්තිස්ස ආනො ආදෙසො හොති යොසු විභත්තිසු-පුමානො.**

## 138 අමාලපනෙකවචනෙ 2-2-34.

**පුමන්තස්ස සවිභත්තිස්ස අං හොති ආලපනෙකවචනෙ පරෙ.**

**හෙ පුමං හෙ පුමානො, පුමං පුමානො.**

---

අන්තග්ගහණෙන, මේ සූත්‍රයෙහි අන්තග්‍රහණයෙන්; මඝව යුවාදීනං, මඝව යුව යන මේ ආදී ශබ්දයන්ගේ; අන්තස්ස ච, අන්තය හටද (සිවිභක්ති පරකල්හි විභක්ති සහිතව ආකාරාදෙශ වේ)—මඝවයුවාදීනං යන මෙහි ආදි ශබ්දයෙන් අඩමුඩාදීන්ගේ ග්‍රහණය යි.

පුමන්තස්සාති ච, පුමන්තස්සා සිමහි 2-2-33 යන සූත්‍රයෙන් පුමන්තස්ස යනු ද; අධිකාරො, (පුම යන මේ ශබ්දය හට කාර්‍ය්‍ය විධායක සියලු සූත්‍ර හා) සම්බන්ධකරණු ලැබේ—මෙහි ච ශබ්ද සවිභත්තිස්ස යනු සමුච්චය කෙරේ.

යොසු ය ආනො ය යනු පද යි.

යොසු විභත්තිසු, ප්‍රථමා ද්විතීයා යො විභක්තීන් පරකල්හි; සවිභත්තිස්ස, එම විභක්ති හා සහිත වූ; පුමන්තස්ස, පුම යන මේ ශබ්දයාගේ අන්තය හට; ආනො ආදෙසො, ආනො යන ආදෙශ තෙම; හොති, වේ; පුමානො යනු වේ.

අං ය ආලපනෙකවචනෙ ය යනු පද යි.

ආලපනස්ස එකවචනං ආලපනෙකවචනං, තස්මිං ආලපනෙකවචනෙ.

ආලපනෙකවචනෙ පරෙ, ආලපනෙක වචනයා පරකල්හි; සවිභත්තිස්ස පුමන්තස්ස, එම ආලපනෙකවචන විභක්තිය හා සහිත වූ පුම යන මේ ශබ්දයාගේ අන්තය හට; අං හොති, අං යන ආදෙශ වේ. හෙ පුමං යනාදිය වේ.

**ආවාති ච වත්තතෙ.**

## 139 උ නාමහි ච 2-2-40.

**පුමන්තස්ස ආ උ ආදෙසා හොන්ති වා නාමහි විභත්තිම්හි-චසද්දෙන පුම කම්ම ථාමන්තස්ස චුකාරො වා ස සමාසු.**

**පුමානා පුමුනා පුමෙන වා.**

**ආනෙති වත්තතෙ.**

## 140 හිවිභත්තිම්හි ච 2-2-38.

**පුමන්තස්ස හිවිභත්තිම්හි ච ආනෙ ආදෙසො හොති.**

**විභත්තිග්ගහණං සවිභත්තිග්ගහණනිවත්තනත්ථං.**

**පුමානෙහි පුමානෙභි.**

---

ආවාති ච, සුසම්මා වා 2-2-39 යන මේ සූත්‍රයෙන් ආ යනුද වා යනුද; වත්තතෙ, වැටේ.

උ ය නාමහි ය ච ය යනු පද සි.

නාමහි විභත්තිම්හි, නාවිභක්ති පරකල්හි; පුමන්තස්ස, පුම් යන මේ ශබ්දයාගේ අන්තය හට; ආ උ ආදෙසා, ආ යන උ යන ආදෙශයෝ දෙන්න; වා හොන්ති, විකල්පයෙන් වෙත්.

චසද්දෙන, මේ සූත්‍රයෙහි චශබ්දයෙන්; සසමාසු, ස ය සමා ය යන මේ වචනයන් දෙන්නා පරකල්හි; පුමකම්මථාමන්තස්ස ච, පුමකම්මථාම යන මේ ශබ්දයන් දෙන්නාගේ අන්තය හටද; වා, විකල්පයෙන්; උකාරො, උකාරයෙක් වේ.

පුමානා පුමුනා යනු වේ; පුමෙන වා, පුමෙන කියා හෝ වේ.

ආනෙති, ආනෙ සම්මිහි වා 2-2-37 යන මේ සූත්‍රයෙන් ආනෙ යනු; වත්තතෙ, වැටේ.

හිවිභත්තිම්හි ය ච ය යනු පද සි.

හි එව විභත්ති හිවිභත්ති, තස්මිං හිවිභත්තිම්හි.

හිවිභත්තිම්හි ච, හිවිභක්ති පරකල්හිද; පුමන්තස්ස, පුම යන මේ ශබ්දයාගේ අන්තය හට; ආනෙ ආදෙසො හොති, ආනෙ යන ආදෙශ වේ; විභත්තිග්ගහණං, හිම්හි ච යී නො කියා හිවිභත්තිම්හි

**චසද්දෙන යුවමසවාදීනමන්තස්ස වා ආනාදෙසො සබ්බ විභත්තීසු.**

**උ නාමම්හි චාති එත්ථ චසද්දෙන පුමන්තස්සුකාරෙ වා සස්මා සු විභත්තීසු-ඣලතො සස්ස නො වාති නො, පුමුනො පුමස්ස පුමානං.**

**සමානාති වත්තතෙ.**

## 141 ඣලතො ච 2-4-5.

---

ච යි නැවත විභත්තිශබ්දයාගේ ග්‍රහණය තෙම; සවිභත්තිග්ගහණං, අම්හස්ස මමං සවිභත්තිස්ස සෙ 2-2-1 යන සූත්‍රයෙන් වන සවිභක්තිග්‍රහණයාගේ; නිවත්තනත්ථං, නිවෘත්තියම ප්‍රයොජන කොට ඇත්තේ යි—ආනෙ සම්මහි වා 2-2-37 යන සූත්‍රයෙන් මත්තෙහි සවිභක්තිකය හට කාර්‍ය්‍ය අනභිමත හෙයින යනු අභිප්‍රාය යි.

පුමානෙහි පුමානෙහි යනු වේ.

චසද්දෙන, මේ සූත්‍රයෙහි ච ශබ්දයෙන්; යුවමසවාදීනං, යුවමසවාදි ශබ්දයන්ගේ; අන්තස්ස, අන්තය හට; සබ්බවිභත්තීසු, ප්‍රථමාදි සියලු විභක්තීන් පරකල්හි; වා, විකල්පයෙන්; ආනාදෙසො, ආන යන ආදෙශ වේ.

උ නාමම්හි චාති, උ නාමම්හි ච 2-2-40 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; ච සද්දෙන, ච ශබ්දයෙන්; පුමන්තස්ස, පුම යන මේ ශබ්දයාගේ අන්තය හට;සස්මාසු විභත්තීසු,ස ය ස්මා ය යන විභක්තීන් දෙන්නා පරකල්හි; වා උකාරෙ, විකල්පයෙන් උකාරයෙක් වේ; ඣලතො සස්ස නො වාති, ඣලතො සස්ස නො වා 2-1-66 යන සූත්‍රයෙන්; නො, (ඣසංඥයා කෙරෙන් පර වූ සවිභක්ති හට) නො යන ආදෙශ වේ.

පුමුනො පුමස්ස පුමානං යනු වෙයි.

සමානා ඉති, සමා නා 2-4-4 යන සූත්‍රයෙන් සමානා යනු; වත්තතෙ, වැටේ.

ඣලතො ය ච ය යනු පදයි.

**ඛලිඉච්චෙතෙහි ච සමාවචනස්ස නා හොති- චග්ගහණං ඛචි නිවත්තනත්ථං.**

**පුමානා පුමානෙහි පුමානෙහි, පුමුනො පුමස්ස පුමානං.**

## 142 ආනෙ සම්මහි වා 2-2-37.

**පුමසද්දන්තස්ස සවිභත්තිස්ස ආනෙ ආදෙසො හොති වා සම්මහි විභත්තිම්හි.**

**පුමානෙ පුමෙ පුමම්හි පුමස්මිං.**

## 143 සුස්මිමා වා 2-2-39.

**පුමන්තස්ස සු ඉච්චෙතස්මිං පරෙ ආ ආදෙසො හොති වා.**

**පුමාසු පුමෙසු.**

---

ඛල ඉති, ඛල යන; එතෙහි ච, මේ ඉවණ්ණ උවණ්ණයන් කෙරෙන්ද පර වූ; සමාවචනස්ස, සමා යන මේ විභක්ති වචනය හට; නා හොති, නා යන ආදෙශ වේ; චග්ගහණං, මේ සූත්‍රයෙහි චග්‍රහණය තෙම; ඛචි, කිසිව්වක්‍ෂිත විෂයෙක්හි; නිවත්තනත්ථං, (ඛලයන් කෙරෙන් පර සමා වචනය හට නාදෙශයාගේ) නිවෘත්තය ම ප්‍රයොජනකොට ඇත්තේ යි.

පුමානා යනාදිය වේ.

ආනෙ ය සම්මහි ය වා ය යනු පද යි.

සම්මහි විභත්තිම්හි, සම්ං විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, (එම සම්ං) විභක්තිය හා සහිත වූ; පුමසද්දන්තස්ස, පුම යන මේ ශබ්දයාගේ අන්තය හට; වා, විකල්පයෙන්; ආනෙ ආදෙසො හොති, ආනෙ යන ආදෙශ වේ—යට විභාෂාග්‍රහණය ඇතිකල්හි මෙහි වාග්‍රහණ කාරණය කුමක් පිණිසද යත්? අනන්තර සූත්‍රයට විභාෂාග්‍රහණය නො වන්නේය යි හඟවන පිණිසය යි දතයුතු. පුමානෙ පුමෙ පුම්මහි පුමස්මිං යනු වේ.

සුසම්ං ය ආ ය වා ය යනු පද යි.

සු ඉති, සු යන; එතස්මිං පරෙ,මේ විභක්ති වචනය පරකල්හි; පුමන්තස්ස,පුම යන මේ ශබ්දයාගේ අන්තය හට;වා,විකල්පයෙන්; ආ ආදෙසො හොති,ආ යන ආදෙශ වේ-ආනෙ සම්මහි වා 2-2-37 යන සූත්‍රයෙහි වාග්‍රහණය ඇති කල්හි දු නැවත මේ සූත්‍රයෙහි

**යුවාදීසු-යුව සි ඉතිධ.**

**පුමන්තස්සා සිම්හීති එත්ථ අන්තග්ගහණෙන ආකාරෙ. හි විභත්තිම්හි චාති සුත්තෙන චසද්දෙන් ආනාදෙසො ච.**

**යුවා යුවානො යුවානා, හෙ යුව හෙ යුවා හෙ යුවාන හෙ යුවානා භවන්තො යුවානා, යුවානං යුවං යුවානෙ යුවෙ.**

**අකම්මන්තස්ස චාති එත්ථ චසද්දෙන යුවමඝවාන මන්තස්ස ආ හොති වා නාසු ඉච්චෙව්තාසූති ආත්තං.**

---

වා ශබ්දයාගේ විධානය අනන්තර සූත්‍රයට ඒ වාග්‍රහණය නො වැටෙන්නේය යි දක්වන පිණිස යි. පුමන්තස්ස යන අනුවෘත්තිය හැර සුසම්මා වා යන යොගවිභාගයෙන් "තීසු අඩ්ඪාසු කඩ්ඩං විතරිත්වා සීතං" යනාදියෙහි අඩ යන මේ ශබ්දයාගේ අන්තය හට ද සුවිභක්ති පරකල්හි ආකාරාදෙශ වෙයි දතයුතු. පුමාසු පුමෙසු යනු වේ. පුම ශබ්දයෙන් පුරුෂයන් කියත්.

යුවාදීසු, යුව මඝවාදීන් කෙරෙහි ප්‍රයොග කියනු ලැබේ. යුව සි ඉති, යුව සි යන; ඉධ, මෙහි කාර්‍ය්‍ය කියනු ලැබේ.

පුමන්තස්සා සිම්හි ඉති, පුමන්තස්සා සිම්හි 2-2-33 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; අන්තග්ගහණෙන, අන්තග්‍රහණයෙන්; ආකාරෙ, (සිවිභක්ති පරකල්හි විභක්ති සහිත වූ යුව යන මේ ශබ්දයාගේ අන්තය හට) ආකාරයෙක් වේ; හිවිභත්තිම්හි චාති සුත්තෙන චසද්දෙන, හි විභත්තිම්හි ච 2-2-38 යන මේ සූත්‍රයෙහි ච ශබ්දයෙන් ආනාදෙසො ච, (සියලු විභක්තීන් පරකල්හි එම ශබ්දයාගේ අන්තය හට) ආන යන ආදෙශ වේ.

යුවා යුවානො යුවානා යනාදිය වේ.

අකම්මන්තස්ස චාති,අකම්මන්තස්ස ච 2-2-41 යන; එත්ථ,මේ සූත්‍රයෙහි; චසද්දෙන, චශබ්දයෙන්; යුවමඝවානමන්තස්ස, යුව මඝව යන මේ ශබ්දයන් දෙන්නාගේ අන්තය හට; නාසු ඉති, නා ය සු ය යන,එතාසු,මේ විභක්තීන් පරකල්හි; වා,විකල්පයෙන්, ආ හොතීති, ආකාරාදෙශ වේනුයි, ආත්තං, (යුව යන මේ ශබ්ද යාගේ අන්තය හට) ආත්වවේ—ආකාරයා කෙරෙන් පර නා හට එනාදෙශද සු පරකල්හි ආකාරය හට එකාරාදෙශද විකල්ප යෙන් වන පිණිස මෙහි ආත්ව විධානය යි.

**යුවානා යුවෙන යුවානෙන වා, යුවානෙහි යුවානෙහි යුවෙහි යුවෙහි, යුවානස්ස යුවස්ස යුවානානං යුවානං, යුවානා යුවානම්හා යුවානස්මා යුවානෙහි යුවානෙහි යුවෙහි යුවෙහි, යුවානස්ස යුවස්ස යුවානානං යුවානං, යුවානෙ යුවානම්හි යුවානස්මිං යුවෙ යුවම්හි යුවස්මිං යුවානෙසු යුවාසු යුවෙසු.**

**එවං මඝවා මඝවානො මඝවානා ඉච්චාදි යුවසද්දසමං.**

**අකාරන්තං.**

---

**ආකාරන්තො පුල්ලිඞ්ගො සාසද්දො.**

**සා-සි, සිලොපො-සා-සුනඛො.**

**බහුවචනෙ.**

## 144 අඝො රස්සමෙකවචනයොස්වපි ච 2-1-33

---

යුවානා යුවෙන, යනාදිය වේ; යුව ශබ්දයෙන් ලදරුවන් කියත්. මඝවා මඝවානො මඝවානා ඉති, මඝවා මඝවානො මඝවානා යන; ආදී, මේ ආදී වූ මඝව ශබ්දයාගේ රූපද; එවං,මේ යථොක්ත රූපනය හෙයින්; යුවසද්දසමං, යුව යන මේ ශබ්දයා හා සමයි; මඝව ශබ්දයෙන් ශක්‍රයා කියත්.

අකාරන්තං,

අකාරාන්ත පුල්ලිඟුනාම වර්ණිතාව යි.

---

ආකාරන්තො,ආකාරයා අන්තාවයව කොට ඇති,පුල්ලිඞ්ගො, පුල්ලිඞ්ගයෙන් යුක්ත වූ; සාසද්දො, සා යන මේ ශබ්ද තෙම; දස්සියතෙ යනු පාඨශෙෂ යි. (දස්සියතෙ, දක්වනු ලැබේ); සා, සා ශබ්ද සා කියා වේ; සි, (ඔහු කෙරෙන් පරව) සිවිභක්ති වෙයි; සිලොපො, සි හට සෙසතො ලොපං ගසිපි 2-4-10 යන සූත්‍රයෙන් ලොප් වේ; සා, සා යනු; සුනඛො, සුනඛ යි-සා යනු සුනඛයන්ගේ නාමාන්තරයක් හෙයින් සා සුනඛො යනු කීහු.

අඝො ය රස්සං ය එකවචනයොසු ය අපි ය ච ය යනු පද යි.

**සසඤ්ඤකආකාරවජ්ජිතො ලිඞ්ගස්සන්තො සරො රස්සමාපජ්ජතෙ එකවචනෙසු යොසු ච පරෙසූති රස්සත්තං-අපිග්ගහණං සිමහි නිවත්තනත්ථං-සෙසං නෙය්‍යං.**

**සා තිට්ඨති-හෙ ස හෙ සා හෙ සා, සං සෙ, සෙන සාහි සාහි, සස්ස සාය සානං, සා සම්හා සස්මා සාහි සාහි, සස්ස සානං, සෙ සම්හි සස්මිං සාසු.**

**එවං පච්චක්ඛධම්මා ගණ්ඨිවධන්වා පඝුතයො.**

**ආකාරන්තං.**

---

න සොති අසො, එකවචනානි ච යො ච එකවචනයො, තෙසු එකවචනයොසු.

බහුවචනෙ රස්සත්තං යනු සම්බන්ධ යි. එකවචනෙසු, ආලපනෙකවචන විතීයෙකවචනාදි වූ එකවචනයන්ද; යොසු ච, ප්‍රථමාදි යොවචනයන්ද; පරෙසු, පරව සිටි කල්හි; සසඤ්ඤක ආකාරවජ්ජිතො, මේ අසො රස්සං යනාදි සූත්‍රයෙන් කරන ලද සසංඥ ඇති ආකාරයා කෙරෙන් වර්ජිත වූ; වෙන් වූ යයි සේ යි; ලිඞ්ගස්ස අන්තො සරො, ආකාරාන්ත ඊකාරාන්ත ඌකාරාන්ත වූ පුම්සත්‍රීනපුංසක ලිඞ්ගයාගේ අන්තාවයව වූ දීර්ඝස්වර තෙම; රස්සං, හ්‍රස්ව භාවට; ආපජ්ජතෙති, පැමිණෙන්නේ යයි; බහුවචනෙ, බහු වචනයෙහි; රස්සත්තං, (සා යන මොහුගේ අන්තය හට) හ්‍රස්ව බව වේ. මෙහි ච ශබ්ද අවධාරණාර්ථ යි.

අපිග්ගහණං, (මේ සූත්‍රයෙහි) අපි ශබ්දයාගේ ග්‍රහණය; සිමහි නිවත්තනත්ථං, සිවිභක්ති පරකල්හි අස හට හ්‍රස්ව නිවෘත්තිය ම ප්‍රයොජන කොට ඇත්තේ යි—හෙද න සිස්මිමනපුංසකානි යි බැවින් පුම්සත්‍රීලිඟයෙහි මැයි, වා ග්‍රහණය වනාහි එකවචන යො යන මොවුන් පරකල්හි යම් අස සංඥයෙක් ඇද්ද හේ න සිස්මිම නපුංසකානි 2-1-34 යන මේ සූත්‍රයාගේද අපිග්‍රහණයාගේද විෂය නබා හ්‍රස්ව වේමය යි යථොක්ත ස්ථානයෙහි අසසංඥකයා කිසි කාලෙක්හි දු හ්‍රස්වභාවානුපගමනය අවධාරණය කෙරේ නිවාරණය් කොරෙ යි සේ යි; සා යො යී මෙසේ සිටි කල්හි යො පරනිමිත්තින් අසසංඥක ආකාරය හට මේ සූත්‍රයෙන් හ්‍රස්ව කොට සබ්බයොනී

**ඉකාරන්තො පුල්ලිඞ්ගො අග්ගිසද්දො.**

**ස්‍යාදුප්පත්ති. අග්ගි සි.**

**අනෙනා සිම්හි වාති ච වත්තතෙ.**

## 145 අග්ගිස්සිනි 2–1–44.

---

නමාඑ යී ආකාරාන්තයා කෙරෙන් පර යො වචනය හට ආකාරාදෙශද සරලොප පරනයනද කටයුත්තේ යයි දක්වනුවෝ "සෙසං නෙය්‍යං" යනු කීහු.

සෙසං, අවශෙෂකාය්‍ය්‍යීය; නෙය්‍යං, උක්තනය හෙයින් දත්නට පිළිවනි, මෙත්ථං සක්කං නෙය්‍යං—යො පරකල්හි අසො රස්සං යනාදීන් හ්‍රස්වව අකාරාන්තයා කෙරෙන් පර යො හට ආව, ස තිට්ඨන්ති යනු වී. සා, සුනඛයෝ; තිට්ඨන්ති, සිටිත්.

හෙ ස හෙ සා යනාදීහු වෙත්.

පච්චක්ඛධම්මා ගණ්ඩීවධන්වා පභූතයො, පච්චක්ඛධම්මා ගණ්ඩීවධන්වා යනාදි වූ ආකාරාන්තපුල්ලිඞ්ගශබ්දයෝද; එවං, නය හෙයින් මේ සා ශබ්දයා වැන්නෝ යි—මෙහි පභූතිශබ්දයෙන් මනුස්සධම්මා යනාදි ශබ්දයෝ ගන්නා ලදහු-පච්චක්ඛා ධම්මා අස්ස, ගණ්ඩීවො ධනු අස්ස, යන වාක්‍යයෙහි බහුව්‍රීහි සමාස කරන ලදුව පච්චක්ඛධම්මා ගණ්ඩීවධනු යී සිටි කල්හි ධනුම්හා ච 2–7–25 යන සූත්‍රයෙන් ආප්‍රත්‍යය කොට පශ්චිම උදාහරණයෙහි යවකාරාච 2–1–20 යන සූත්‍රයෙන් උකාරය හට වකාරාදෙශද පූර්වඋදාහරණයේ ස්වරලොපාදිද කරන ලද කල්හි පච්චක්ඛධම්මා ගණ්ඩීවධන්වා යන ආකාරාන්ත ප්‍රකෘති සිඬ වෙයි.

පච්චක්ඛධම්ම ශබ්දයෙන් ප්‍රතිවිඬධර්ම ඇත්තාහු කියත්.

ගණ්ඩීව ධනු ශබ්දයෙන් මැඬහගින් කරන ලද දුනු ඇත්තාහු කියත්.

ආකාරන්තං,

ආකාරාන්තපුල්ලිඞ්ගනාම වණ්ණනාව යි.

---

ඉකාරන්තො, ඉකාරයා අන්තාවයව කොට ඇති; පුල්ලිඞ්ගො, පුල්ලිඞ්ගයෙන් යුක්ත වූ; අග්ගිසද්දො, අග්ගි යන මේ ශබ්දය තෙම; දස්සීයතෙ සී යොදනු.

ස්‍යාදි, සි ආදිවිභක්තීන්ගේ; උප්පත්ති, ඉපැද්දම වේ. අග්ගි සි, අග්ගිශබ්දයා කෙරෙන් සි යන විභක්ති ප්‍රත්‍යය වේ.

**අග්ගිස්සනෙතා ඉනි හොති වා සිම්හි විභත්තිම්හි.**

**සෙසතො ලොපං ගසිපීති සිලොපො.**

**අග්ගිනි අග්ගි.**

**බහුවචනෙ-ඉවණ්ණුවණ්ණොජඣලාති ඣලසඤ්ඤායං.**

**ඣලතො වාති ච වත්තතෙ.**

## 146 ඣපතො ච යොනං ලොපො 2-1-67.

---

අනෙතා, නාතුසසනෙතා යොසු ච 2-1-41 යන සූත්‍රයෙන් අනෙතා යනුද; සිම්හි වා ඉනී ච, සිම්හි වා 2-1-43 යන සූත්‍රයද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

අග්ගිස්ස ය ඉනී ය යනු පද යි.

සිම්හි විභත්තිම්හි, සිවිභක්ති පරකල්හි; අග්ගිස්ස, අග්ගි යන මේ ශබ්දයාගේ; අනෙතා, අන්තාවයව වූ ඉකාර තෙම; වා, විකල්පයෙන්; ඉනි හොති, ඉනි යන ආදෙශ වේ.

සෙසතො ලොපං ගසිපි ඉති, සෙසතො ලොපං ගසිපි 2-4-10 යන සූත්‍රයෙන්; සිලොපො, සිවිභක්ති ලොපය වේ; අග්ගිනි අග්ගි යනු සිඩ යි.

බහුවචනෙ, ප්‍රථමා බහුවචන විෂයෙහි; ඉවණ්ණුවණ්ණොජඣලාති,ඉවණ්ණුවණ්ණොජඣලා 2-1-7 යන සූත්‍රයෙන්;ඣලසඤ්ඤායං, ඣසංඥලසංඥ කරන ලද කල්හි-අග්ගිශබ්දයාගේ අන්තාවයව වූ ඉකාරය හට ඣසංඥ කරන ලද කල්හි.

ඣලතො, ඣලතො සස්ස නො වා 2-1-66 යන සූත්‍රයෙන් ඣලතො යනුද; වා ඉති ච, එම සූත්‍රයෙන් වා යනුද; වත්තතෙ, වැටේ.

ඣපතො ය ච ය යොනං ය ලොපො ය යනු පද යි.

ඣො ච පො ච ඣපා, තතො ඣපතො, බහුවචනයෙහි තො ප්‍රත්‍යය යි.

**සපසඞ්ඛ්‍යෙහි ඉත්ථිවාචකාකාරිවණ්ණුවණ්ණෙහි ඛල සඞ්ඛ්‍යෙහි ච පරෙසං යොවචනානං ලොපො හොති වා.**

**වවත්ථිතවිභාසායං.**

## 147 යොසු කතනිකාරලොපෙසු දීඝං 2–1–37

**ලිඞ්ගස්සන්තභූතා සබ්බෙ රස්සසරා යොසු කතනිකාරලොපෙසු දීඝමාපජ්ජන්තෙ-කතා නිකාරලොපා යෙසං තෙ කතනිකාරලොපා-අග්ගී.**

---

සපසඞ්ඛ්‍යෙහි, ඝසංඥපසංඥ ඇති; ඉත්ථිවාචකආකාර ඉවණ්ණඋවණ්ණෙහි, ස්ත්‍රීවාචක වූ ආකාර ඉවර්ණඋවර්ණ යන මොවුන් කෙරෙන්ද; ඛලසඞ්ඛ්‍යෙහි ච ඉවණ්ණඋවණ්ණෙහි ච යි යොදනු; ඛලසඞ්ඛ්‍යෙහි ච,(පුල්ලිඞ්ග වාචකවූ) ඛලසංඥ ඇති ඉවර්ණඋවර්ණයන් කෙරෙන්ද; පරෙසං, පර වූ; යොවචනානං, (ප්‍රථමා ද්විතීයා) යොවචනයන්ට; වා, විකල්පයෙන්; ලොපො හොති, ලොප් වේ.

අයං,මේ වාශබ්ද තෙම; වවත්ථිතවිභාසා, ව්‍යවස්ථිතවිභාෂා යි- ව්‍යවස්ථිතවිභාෂා වාචී යයි සේයි.

යොසු ය කතනිකාරලොපෙසු ය දීඝං ය යනු පද යි.

යො ච යො චාති යො,(සරූපෙකසෙසෙන) තෙසු යොසු; නිකාරො ච ලොපො ච නිකාරලොපා, කතා නිකාරලොපා යෙසං තෙ කතනිකාරලොපා, තෙසු කතනිකාරලොපෙසු.

කතනිකාරලොපෙසු, අතො නිච්චං 2–4–8 යන සූත්‍රයෙන් කරන ලද නිකාරාදේශද සපතො ච යොනංලොපො 2–1–67 යන සූත්‍රයෙන් කරන ලද ලොප්ද ඇති; යොසු, ප්‍රථමාද්විතීයායොවචනයන් පරකල්හි; ලිඞ්ගස්ස අන්තභූතා, ලිඞ්ගයාගේ අන්තාවයව වූ; සබ්බෙ රස්සසරා, පූර්ව වූ සියලු හ්‍රස්වස්වරයෝ; දීඝං, දීර්ඝ බවට; ආපජ්ජන්තෙ, පැමිණෙත්—යො විභක්තීන්ට නිකාරාදේශද ලොප්ද කරන ලද කල්හි ලිඞ්ගයා සම්බන්ධි වූ සියලු පූර්වහ්‍රස්වස්වරයෝ දීර්ඝභාවයට පැමිණෙති යනු මෙහි පිණ්ඩාර්ථ යි, යොවචනයන්ට කරන ලද නිකාරාදේශද ලොප්ද ඇතිකල්හි දීර්ඝත්වයට පැමිණෙති යි අනියමයෙන් කී බැවින් ම රස්සසරා යනුද අර්ථ හෙයින් සිද්ධ යි දතයුතු; කතා, කරන ලද; නිකාරලොපා, නිකාරාදේශ හා ලොප්ද යන මොහු; යෙසං, යම් වචන කෙනෙකුන්ට ඇද්ද; තෙ, ඔහු; කතනිකාරලොපා, කතනිකාරලොප් ඇත්තා නම් වෙත්.

අග්ගී, යනු සිද්ධයි.

**පචාදිනමත්තනති ඉතො අත්තමිති වත්තතෙ.**

## 148 යොසවකතරස්සාජේඛා 2-1-45.

**යොසු පරෙසු අකතරස්සාජේඛා අත්තමාපජ්ජතෙ.**

**අග්ගයො.**

**ඣොති කිං? රත්තියො.**

**ආලපනෙපෙවං-හෙ අග්ගි හෙ අග්ගී හෙ අග්ගයො-දුතියෙකවචනෙ පුබ්බසරලොපෙ සම්පත්තෙ.**

---

පචාදීනමත්තා ඉති, පචාදීනමත්තං 2-1-39 යන; ඉතො, මේ සූත්‍රයෙන්; අත්තං ඉති, අත්තං යනු; වත්තතෙ, වැටේ.

යොසු ය අකතරස්සා ය ඣො ය යනු පද යි.

කතො රස්සො අස්සාති කතරස්සො, න කතරස්සො අකත රස්සො, ඣො යන්නට විශෙෂණ යි.

යොසු පරෙසු, (ප්‍රථමා විතීයා) යො විභක්තීන් පරකල්හි; අකතරස්සො, කෘතහ්‍රස්වයා නොකෙරෙන් අත්‍ය වූ; ඣො, ඣසංඥක ඉකාර තෙම; අත්තං, අකාර බවට; ආපජ්ජතෙ, පැමිණේ.

අග්ගයො යනු වෙයි.

ඣොති, අකත හ්‍රස්ව ඣසංඥ අත්‍ය වෙයි යනු; කිං, කුමටය; රත්තියො යන තන්හි පසංඥත්වය හෙතු කොටගෙන ඉකාරය හට අත්‍ය නොවන පිණිස යි.

ආලපනෙපි, සම්බොධනයෙහි රූපද; එවං, මෙසේ ලිඞ්ගාර්ථයෙහි රූපසේ මැයි. හෙ අග්ගී යනාදිය වේ—හෙ අග්ගි යන තැන්හි සෙසතො ලොපං ගසිපි 2-4-10 යන සූත්‍රයෙන් ග හට ලොප් වේ, හෙ යනු සම්බොධනාර්ථයෙහි නිපාතයෙකි හෙද හුදෙක් එකවචනය හට ම සාධාරණ නො වෙයි හඟවනු පිණිස හෙ අග්ගී හෙ අග්ගයො යී ආලපනබහුවචනාන්තපද හා සමඟද ගන්නා ලදී.

දුතියෙකවචනෙ, විතීයෙකවචන වූ අං පරනිමිත්තින්; පුබ්බසරලොපෙ සම්පත්තෙ, සරලොපාදිසූත්‍රයෙන් පූර්වස්වරලොපය සම්ප්‍රාප්තකල්හි **උත්සර්ගාපවාද සූත්‍රයක්** කියනු ලැබෙයි සේයි.

## 149 අමෙමා නිග්ගහීතං ඛලපෙහි 2-1- 1.

**ඛලප ඉවණ්ණුවණ්ණෙහි පරස්ස අංවචනස්ස මකාරස්ස ච නිග්ගහීතං ආදෙසො හොති.**

**අග්ගිං අග්ගී අග්ගයො, අග්ගිනා අග්ගීහි අග්ගීහි.**

---

අමෙමා ය නිග්ගහීතං ය ඛලපෙහි ය යනු පද යි.

අං ච මෝ ච අමෙමා, සමාහාරවන්ව හෙයින් එකත්වය යි. එසේ වුව හොත නපුංසකත්වයද විය යුත්තේද යත්? ගේ අනෙකාන්තිකයි, "පටිසන්ධිප්පවත්තියං" යනාදියෙහි සමාහාර වාඑසමාස බවක් ඇතද එකත්වය මුත් නපුංසකත්වය නො පැමිණෙන හෙයිනි. ඛො ච ලො ච පො ච ඛලපා, තෙහි ඛලපෙහි.

ඛලප ඉති, ඛසංඥලසංඥපසංඥ යන; එතෙහි, මේ(පුල්ලිඟු) ඉවණ්ණඋවණ්ණ (ස්ත්‍රීලිඟු) ඉවණ්ණඋවණ්ණයා කෙරෙන්; පරස්ස, පර වූ; අංවචනස්ස මකාරස්ස ච, අංවචනය හටද මකාරය හටද; නිග්ගහීතං ආදෙසො හොති, අනුස්වාරයෙක් ආදෙශ වේ; අග්ගිං අග්ගී අග්ගයො, අග්ගීහි අග්ගීහි යනු වෙයි—අග්ගිං දණ්ඩිං යනාදියෙහි ඛසංඥක ඉවණ්ණයා කෙරෙන්ද භික්ඛු සයම්භු යනාදියෙහි ලසංඥක උවණ්ණයා කෙරෙන්ද රත්තිං ඉත්ථිං යාගුං ජම්බුං යනාදියෙහි පසංඥක ඉවණ්ණ උවණ්ණයන් කෙරෙන් පර වූ අං යන මේ වචනය හටද පුල්ලිඞ්ගං පුම්භාවො යනාදියෙහි ලසංඥක උකාරයා කෙරෙන් පර වූ මකාරය හටද නිග්ගහීතයෙක් වන්නේ යයි සේයි; මෙහිදු ඛලපෙහි යනු නැතිව පස්සදස්ස ච 2-1-21 යන මේ සූත්‍රයට අනතුරු කොට අමෙමා නිග්ගහීතං යී කී කල්හි,ම ඛලානම්යුවා සරෙ වා 2-1-19 යන සූත්‍රයෙන් ඛග්‍රහණයද පස්සදස්ස ච 2-1-21 යන සූත්‍රයෙන් පග්‍රහණයද වැටෙන හෙයින් අධිප්‍රෙතාඑයාගේ සිඬිය වන කල්හි ඛලපෙහි යී පුනරාරම්භග්‍රහණය කුමක් පිණිසද යත්? එහි කියන ලද ඛල ග්‍රහණයන් වැටෙන හෙයින් වාග්‍රහණය වැටේද්‍යහෝ යි සන්දෙහ උපදනේයයි ඔහුගේ නිවෘත්තිය පිණිස ඛලපෙහි යන නිමිත්තයා ඇතිහෙයින් සරග්‍රහණයාගේ අනුවෘත්ති සාංකා නිවෘත්තිය පිණිසයයි නොම දතයුතු. එහෙයින් කීහු වෘත්තිකාරයෝ. පුනරාරම්භග්ගහණං විභාසානිවත්තනත්ථං යී.

**සුනංහිසු චාති එත්ථ චග්ගහණෙන කත්ථචි දීඝාභාවො, අග්ගීහි අග්ගීභි, ඛලතො සස්ස නො වාති නො. අග්ගිනො අග්ගිස්ස අග්ගීනං.**

**ස්මා නාති වත්තමානෙ ඛලතො වාති විකප්පෙන නා. අග්ගිනා අග්ගිම්හා අග්ගිස්මා අග්ගීහි අග්ගීභි, අග්ගිනො අග්ගිස්ස අග්ගීනං-අග්ගිම්හි අග්ගිස්මිං අග්ගිසු අග්ගීසු.**

**එවමඤ්ඤෙපි.**

**23 ජොති පාණි ගණ්ඨි මුට්ඨි-කුච්ඡි වත්ථි සාලි වීහි**
**ව්‍යාධි ඔධි බොධි සන්ධි-රාසි කෙසි සාති දීපි.**

**24 ඉසි මුනි මණි ධනි ගිරි රවි කවි කපි**
**අසි මසි නිධි විධි අහි කිමි පති හරි**
**අරි තිමි කලි බලි ජලධි ච ගහපති**
**උරුධිති වරමති නිරුපධි අධිපති.**

**අඤ්ජලි සාරථි අතිථි සමාධි උදධිප්පභුතයො.**

**ඉකාරන්තා.**

---

සුනංහිසු චාති, සුනංහිසු ච 2-1-38 යන මේ සූත්‍රයෙහි,චග්ගහණෙන, චශබ්දයෙන්; කත්ථචි, කිසිවිවක්ෂිත ප්‍රයොගයෙක්හි; දීඝාභාවො, සුනංහි යන මොවුන් පරකල්හි පූර්ව වූ හ්‍රස්වය හට දීර්ඝයාගේ අභාවය වේ; එහෙයින් අග්ගීහි භික්ඛුහි යනාදි සිද්ධ යි.

ඛලතො සස්ස නො වාති, ඛලතො සස්ස නො වා 2-1-66 යන සූත්‍රයෙන්; නො, (ඛසංඥයා කෙරෙන් පර වූ ස හට) නො යන ආදෙශ වේ. අග්ගිනො අග්ගිස්ස අග්ගීනං යනු වේ.

ස්මා නාති, ස්මා නා 2-4-4 යන සූත්‍රය; වත්තමානෙ, වැටෙන් නෙහි; ඛලතො චාති, ඛලතො ච 2-4-5 යන සූත්‍රයෙන්; විකප්පෙන, විකල්පයෙන්; නා,(ඛසංඥයා කෙරෙන් පරවූ ස්මා වචනය හට)නා යනාදෙශ වේ-මෙහි ස්මා නාති වත්තමානෙ යනු භාවයෙහි භාවලක්ෂණයෙහි සප්තමී යි, ස්මා යන සූත්‍රෛකදෙශයාගේ අනුවර්තනය ක්‍රියායෙන් ඛලතො ච යි නාදෙශයාගේ භවන ක්‍රියා ලක්ෂිතව්‍ය හෙයිනි, යටද මත්තෙහිද මෙබඳු වූ ස්ථානයෙහි අර්ථ මෙසේ ම ගතයුතු. අග්ගිනා අග්ගිම්හා යනාදිය වේ. ජොති-පෙ-උදධිප්පභුතයො අඤ්ඤෙපි ඉකාරන්තා සද්ද, එවං ඤෙය්‍යා යි යොදනු

මේඝී ජෝති පාණී යනාදි ගාථාව සමානිකා නම් වෘත්තය යි. යථාක්‍රමයෙන් සිටි රගණ ජගණ දෙකින් හා ගුරුලඝු දෙකින් යුක්තවූයේ සමානිකා නම්.

මෙම කීහ, "ජෝ ස සමානිකා ගලෞ ච" යි.

ඉසි මුනි යනාදි ගාථාව අවලධෘති නම් වෘත්තය යි. යම් වෘත්තයෙක්හි ෂොඩශ ලඝුයෙක් වී නම් හේ අවලධෘති නම්.

මෙම කීහ, "විකගුණිතවසුලඝුරචලධෘතිරිහ" යි.

ජලධි ච යන මේඝි ච ශබ්ද ජෝති ච පාණී ච ගණ්ඩී ච මුඨී ච යනාදි සියලු ශබ්දයන් හා සම්බන්ධ කටයුතු.

ජෝති, ජෝති යන ශබ්දද; පාණී, පාණී යන ශබ්දද; ගණ්ඩී, ගණ්ඩී යන ශබ්දද; මුඨී, මුඨී යන ශබ්දද; කුච්ඡී, කුච්ඡී යන ශබ්දද; වත්ථි, වත්ථි යන ශබ්දද; සාලි, සාලි යන ශබ්දද; වීහි, වීහි යන ශබ්දද; ව්‍යාධි, ව්‍යාධි යන ශබ්දද; ඔධි, ඔධි යන ශබ්දද; බොධි, බොධි යන ශබ්දද; සන්ධි, සන්ධි යන ශබ්දද; රාසි, රාසි යන ශබ්දද; කෙසි, කෙසි යන ශබ්දද; සාති, සාති යන ශබ්දද; දීපි, දීපි යන ශබ්දද; ඉසි, ඉසි යන ශබ්දද; මුනි, මුනි යන ශබ්දද; මණී, මණී යන ශබ්දද; ධනි, ධනි යන ශබ්දද; ගිරී, ගිරී යන ශබ්දද; රවි, රවි යන ශබ්දද; කවි, කවි යන ශබ්දද; කපි, කපි යන ශබ්දද; අසි, අසි යන ශබ්දද; මසි, මසි යන ශබ්දද; නිධි, නිධි යන ශබ්දද; විධි, විධි යන ශබ්දද; අහි, අහි යන ශබ්දද; කිමි, කිමි යන ශබ්දද; පති, පති යන ශබ්දද;හරි, හරි යන ශබ්දද; අරි, අරී යන ශබ්දද; තිමි, තිමි යන ශබ්දද; කලි, කලි යන ශබ්දද; බලි, බලි යන ශබ්දද; ජලධි, ජලධි යන ශබ්දද; ගහපති, ගහපති යන ශබ්දද; උරුබිති, උරුබිති යන ශබ්දද; විරමති, විරමති යන ශබ්දද; නිරුපධි, නිරුපධි යන ශබ්දද; අධිපති, අධිපති යන ශබ්දද; අඤ්ජලි අඤ්ජලි යන ශබ්දද; සාරථි, සාරථි යන ශබ්දද; අතිථි, අතිථි යන ශබ්දද; සමාධි, සමාධි යන ශබ්දද; උදධිප්පභූතයො, උදධි ශබ්දයා ආදිකොට ඇති ශබ්දයෝද යන; අඤ්ඤෙපි, සෙසු ඉකාරාන්ත පුල්ලිඞ්ගශබ්දයෝ; එවං, සප්තවිභක්තීන් කෙරෙහි අග්ගි යන ශබ්දයාගේ නය හෙයින්ම දතයුත්තාහුයි.

අග්ගිශබ්දයෙන් ගිනි කියත්; ජෝති ශබ්දයෙන් ප්‍රභාද ගිනිද තාරකාද කියත්; පාණිශබ්දයෙන් අත්ල කියත්; ගණ්ඩි ශබ්ද යෙන් විෂමස්ථානද අනුක්‍රාන්තාථි ඇති ශබ්දද කියත්; මුඨී ශබ්ද

යෙන් හස්තසංකොචය කියත්; කුච්ඡි ශබ්දයෙන් උදරය කියත්; වත්ථි ශබ්දයෙන් මූත්‍රාසය කියත්; සාලිශබ්දයෙන් ධාන්‍යරාජයා කියත් හෙවත් හැල් කියත්; වීහිශබ්දයෙන් ධාන්‍ය කියත් හෙවත් වී යි; ව්‍යාධි ශබ්දයෙන් රොග කියත්; ඔධිශබ්දයෙන් පරිච්ඡෙද කියත්; බොධි ශබ්දයෙන් දුමරජයා කියත් නොහොත් එනම් එකෙකි, සංඥාන වාචී වූයේ වනාහි ස්ත්‍රීලිඟුමැයි; සන්ධිශබ්දයෙන් පදසන්ධි අස්ථිසන්ධි ආදිය කියත් ප්‍රතිසන්ධිවාචී කල්හි වනාහි ස්ත්‍රී ලිඟුමැයි; රාසි ශබ්දයෙන් සමූහයද නැකැත් රාසිද කියත්; කෙසි ශබ්දයෙන් එනම් අශ්වදමකයකු කියත් නොහොත් එනම් යම් කිසිවෙකි; සාති යන ශබ්දයෙන් එනම් මිනිසකු කියත් සා නැකත හෝයි; දීපි ශබ්දයෙන් දිවියන් කියත් පුණ්ඩරීක යයි ද ඔවුන්ම කියත්.

ඉසි ශබ්දයෙන් ශ්‍රමණයන් කියත්; සීලාදිං එසති ගවෙසතීති ඉසි, මුනිශබ්දයෙන් භාවිතප්‍රඥ ඇත්තවුන් කියත්; මුනාති පරිජානාති හිතාහිතනති මුනි, මණිශබ්දයෙන් පාසාණ කියත් රත්නාදිරත්නයන් කෙරෙහි වනාහි බහුල ප්‍රයොගයි; ධනි ශබ්දයෙන් ශබ්දය කියත්; ගිරිශබ්දයෙන් පර්වත කියත්; රවිශබ්දයෙන් හිරු කියත්; කවිශබ්දයෙන් කාව්‍යකාරයන් කියත්; කපි ශබ්දයෙන් වානරයන් කියත්; අසිශබ්දයෙන් නෙත්තිංස කියත් නෙත්තිංස නම් කඩුයි; මසිශබ්දයෙන් දැලි කියත්; නිධිශබ්දයෙන් ස්ථාවරනිධි ජඞ්ගමනිධි අඞ්ගසමනිධි අනුගාමිකනිධි යන අනෙක නිධි කියත්, ස්ථාවරනිධි නම් මුතුමැණික් ආදි රත්නයි, ජඞ්ගමනිධි නම් දැසිදසාදියයි, අඞ්ගසමනිධි නම් උගත් විද්‍යා ආදියයි, අනුගාමික නිධි නම් කරන ලද සුචරිත කර්මයි; නිධීයතීති නිධි, නිධියති එත්‍ථ ති වා නිධි යි ගත් කල්හි වනාහි භාණ්ඩ නිගුහනස්ථානද නිධි නම් වේ; විදධාති සුඛාසුඛනති විධි, විධි නම් කුසලාකුසලයයි නොහොත් උපා යයි බ්‍රහමයාද කියත් මැයි; අහිශබ්දයෙන් සර්පයන් කියත්; කිමිශබ්දයෙන් පණුවන් කියත්; පතිශබ්දයෙන් ස්වාමීහු කියත්; හරිශබ්දයෙන් සවර්ණ සූර්‍ය්‍ය විෂ්ණු සිංහ වානරාදි අනෙකාර්ථ කියත්; අරිශබ්දයෙන් සතුරන් කියත්; තිමිශබ්දයෙන් එනම් මහා මත්ස්‍යයකු කියත්; කලිශබ්දයෙන් කිලුටුද අපරාධද කියත්; බලිශබ්දයෙන් කරව්වරද බලිකර්මද අසුරවිශෙෂාදියද කියත්; ජලං ධීයතීති ජලධි, ජලධි නම් සාගරයයි; ගහං වුච්චති ගෙහං, ගෙහෙ පති ගහපති, ගහපති ශබ්දයෙන් ගෘහපතිමහාසාරකුලයෙහි අගපත්හු කියත්;

**ඊකාරන්තො පුල්ලිඞ්ගො දණ්ඩීසද්දො.**

**දණ්ඩීසි ඉතීධ–**

**අඝො රස්සමෙකවචනයොස්වපි චාති රස්සත්තෙ සම්පත්තෙ– එතෙස්වාපිග්ගහණෙන සිස්මිං තදභාවෙ සිද්ධෙ නියමත්ථමාහ.**

---

උරු (මහන්තො) ධිති විරියං එතස්සාති උරුධිති; මහාවීර්‍ය්‍යී ඇත්තේයි; වර උත්තමා මති පඤ්ඤා අස්සාති වරමති; උතුම් නුවණ ඇත්තේයි; උපධීයතීති උපධි; උපධීති ඛන්ධොපධි කිලෙසොපධි අභිසඞ්ඛාරෙපධි කාමගුණොපධි ච, නත්‍ථි එතස්ස උපධීති නිරුපධි, සකන්ධකෙලශාදි විරහිත වූයේයි; අධිපතිශබ්දයෙන් ජ්‍යෙෂ්ඨයන් කියත්; අඤ්ජලිශබ්දයෙන් කරසම්පුටය කියත්; සාරථිශබ්දයෙන් රථාචාරීහු කියත්;අතිථිශබ්දයෙන් අමුත්තන් කියත්; සමාධිශබ්දයෙන් චිත්තෙකාග්‍රතාව කියත්;සම්මා අධීයති එකත්ත තිඨති චිත්තං එතෙනාති සමාධි, පරිහාරදීමෙන් තමාගේ සිත පිහිටීම හෝ සමාධි නම් වේ; උදධි ශබ්දයෙන් සාගරය කියත්; උදකං දධාතීති උදධි; උදක යන්නෙහි කශබ්දය හට මහාවෘත්ති සූත්‍රයෙන් ලොපි.

ඉකාරන්තං,

ඉකාරාන්තපුල්ලිඟු නාමවර්‍ණනාව යි.

---

ඊකාරන්තො, ඊකාරයා අන්තාවයව කොට ඇති; පුල්ලිඞ්ගො, පුල්ලිඞ්ගයෙන් යුක්ත වූ; දණ්ඩීසද්දො, දණ්ඩීශබ්දය තෙම දක්වනු ලැබේ; දණ්ඩී සි ඉති, දණ්ඩී සි යන; ඉධ, මෙහි; රස්සත්තාභාවො යනු සම්බන්ධයි.

අඝො රස්සමෙකවචනයොස්වපි චාති,අඝො රස්ස මෙකවචනයොස්වපි ච 2–1–33 යන සූත්‍රයෙන්; රස්සත්තෙ සම්පත්තෙ, (එක වචනයා පර බව නිමිත්තකොට ගෙන) හ්‍රස්වභාවය සම්ප්‍රාප්ත කල්හි; එතෙස්වාපිග්ගහණෙන, මෙම (අඝො යනාදි සූත්‍රයෙහි) අපි ශබ්දයාගේ ග්‍රහණය හෙතුකොට ගෙන; සිස්මිං තදභාවෙ සිද්ධෙ, සි විභක්ති පරකල්හි (අලිඞ්ගයෙහිය යි නියමයක් නැතිව) ඒ හ්‍රස්වයාගේ අභාවය සිද්ධ කල්හි; නියමත්ථං, (නිමිත්ත වූ ඒ

**රස්සන්ති වත්තතෙ.**

## 150 න සිස්මිමනපුංසකානි 2-1-34.

**සිස්මිං නපුංසකවජ්ජිතානෙව ලිඞ්ගානි න රස්සමාපජ්ජන්තීති රස්සත්තාභාවො-සිලොපො-දණ්ඩී තිට්ඨති.**

---

ප්‍රතිෂෙධයාගේ) නියම්ය පිණිස; ආහ, නියම සූත්‍රයක් කියා— මෙහි "අසිද්ධිවචනමන්‍යම්ත්‍රං බොධයති" යි බැවින් අධික වූ අපි ග්‍රහණයෙන් ම සි නිමිත්ත වූ හ්‍රස්වයාගේ අභාවය සිඞ කල්හි නැවත තදභාවය පිණිස ප්‍රතිෂෙධ වචනය "සිඞෙ සත්‍යාරම්භො නියමාය වා භවති විකල්පාය වා" යනු හෙයින් නියම පිණිස වන්නේ යයි දක්වත්.

තස්ස රස්සත්තස්ස අභාවො තදභාවො, තස්මිං තදභාවෙ.

රස්සන්ති, අඝො රස්සං යනාදි සූත්‍රයෙන් රස්සං යනු; වත්තතෙ, වැටේ.

න ය සිස්මිං ය අනපුංසකානි ය යනු පදයි.

න නපුංසකානි අනපුංසකානි—යම්සේ "පඨවිකසිණං දුක්ඛසච්චං තං සමුට්ඨාපිකා පුරිමා තණ්හා සමුදය සච්චං" යනාදියෙහි පෘථිවීකෘෂ්ණ යනාදි විෂමධ්‍යානයෝ පෘථිවී කෘෂ්ණ යනාදි වචනයෙන් කියන ලදහුද එසේම මෙහිද අනපුංසක වචනයෙන් නපුංසකද්‍රව්‍යවිෂය ලිඞ්ගයන් කෙරෙන් අන්‍ය වූ පුංස්ත්‍රී ද්‍රව්‍ය විෂය ලිඞ්ගයෝ කියන ලදහ යි දතයුතු.

සිස්මිං, සිවිභක්ති පරකල්හි; නපුංසකාවජ්ජිතානි ඒව ලිඞ්ගානි, නපුංසකද්‍රව්‍යවාචී ලිඞ්ගයන් කෙරෙන් වර්ජිත වූම ලිඞ්ගයෝ; රස්සත්තං, හ්‍රස්ව බවට; න ආපජ්ජන්තෙති, නොපැමිණෙති යි; රස්සත්තාභාවො, හ්‍රස්වභාවයාගේ අභාවය වේ; සිලොපො, සි විභක්ති ලොපය වේ; දණ්ඩී, දඬු ඇති පුරුෂ තෙම; තිට්ඨති, සිටී— "දණ්ඩී තිට්ඨති" යන මෙතැන්හි එකවචනයා පරකල්හි අඝ හට "අඝො රස්සමෙකවචනඣොස්වපි ච" 2-1-33 යන සූත්‍රයෙන් හ්‍රස්ව පත්තෙහි සි විභක්ති පරකල්හි එහිම් අපිග්‍රහණයෙන් ප්‍රතිෂෙධ පත්තෙහි න සිස්මිමනපුංසකානි 2-1-34 යන සූත්‍රයෙන් නියම කළ හෙයින් අනපුංසකලිඟුයෙහි ප්‍රතිශෙධ වෙයි සෙසයා කෙරෙන් පර වූ සි හට "සෙසතො ලොපං ගසිපි" 2-4-10 යන සූත්‍රයෙන් ලොප් වේ.

**අනපුංසකානීති කිං? සුඛකාරි දානං-එසා ච.**

**25 විසදාවිසදාකාර වොහාරෙහභමුත්තකා පුමාදිජානනෙ හෙතු භාවතො ලිඞ්ගමීරිතා.**

**සොලොපො-දණ්ඩී තිණනති.**

---

අනපුංසකානීති, අනපුංසකානි යනු; කිං, කුමට්ද; සුඛකාරි දානං යන තන්හි නපුංසකලිඞ්ග හෙයින් සි පරකල්හි හ්‍රස්ව නොවන පිණිසයි—මෙහි කෘදන්තයන් වාච්‍යලිඞ්ගික හෙයින්ද සුඛකාරි ශබ්දය කෘදන්තහෙයින්ද තුල්‍යාධිකරණ වූ දානශබ්දයාගේ අනුප්‍රයොගය හෙතුකොට ගෙන අනපුංසකත්වයෙක් නැත්නුයි විභක්ති පරකල්හිද මෙයින් හ්‍රස්වප්‍රතිෂෙධ නොකොට අඝොරස්සමෙකවචනයොස්වපි ච 2-1-33 යන සූත්‍රයෙන් හ්‍රස්ව කටයුතු.

සුඛං සුඛවිපාකං කාරෙති සීලෙනාති සුඛකාරි, දීයතෙනෙ නෙති දානං, චෙතනා සම්පයුත්තො වා අලොභො-දාන් "න සිසම්ම නපුංසකානි" 2-1-34 යන මේ සූත්‍රයෙහි සඞ්ගෘහීත වූ පුමාදි ලිඞ්ග යාගේ ස්වභාව විභාව කරනුවෝ එසා ච යනාදි කීහු.

එසා ච, මේ සූත්‍රයෙහිද පුමාදිලිඞ්ගව්‍යවස්ථා පිණිස සඞ්ග්‍රහ ගාථාවක් වේ.

විසදාකාරවොහාරො, විශදාකාරභූත ව්‍යවහාරය; අවිසදාකාර වොහාරො, අවිශදාකාරභූතව්‍යවහාරය; උභයමුත්තකාකාර වොහාරො, උභයමුත්තකාකාරව්‍යවහාරය යන මොහු; පුමාදිජා නනෙ, පුංස්ත්‍රීනපුංසකද්‍රව්‍යයන්ගේ අවබොධයෙහි; හෙතුභාව තො, (තමන් කරන බව) හෙතුකොට ගෙන; ලිඞ්ගං, පුෂීයාගේ ලිඞ්ගය ස්ත්‍රියගේ ලිඞ්ගය නපුංසකයාගේ ලිඞ්ගයයි; ඊරිතං, කියන ලදනුයි—පුෂ්පාදීන්ගේ ගමිනාදියෙහි දක් වූ ස්වභාවය මොලොක් වූ ස්වභාවයයි කියනලද ව්‍යවහාරය මේ පුෂීය මේ ස්ත්‍රිය මේ නපුංසකයයි මෙසේ ලොකයාගේ පරිච්ඡෙදය යට නිමිත්තහෙසින් පුල්ලිඞ්ග නම් වෙයි ස්ත්‍රීලිඞ්ග නම් වෙයි නපුංසකලිඞ්ග නම් වෙයි කියා ලොකයා විසින් දන්නා ලදැයි සේයි.

විසදෙ ච අවිසදෙ ච විසදාවිසදා, විසදාවිසදභූතො ආකාරො ආකාති සංකෙතො විසදාවිසදාකාරො, විසදාවිසදාකාරෙ ච සො අපරත්ථතො වොහාරෙ චාති විසදාවිසදාකාරවොහාරො, උභය

**ඉතරත්‍ර අසොරස්සාදිනා රස්සත්තෙ කතෙ.**

**ඛත්තා කතරස්සාති ච වත්තතෙ.**

## 151 යොනනෙතා 2-4-15.

---

තො විසද විසදකාරතො මුත්තො විනිස්සටො වොහාරො උභය මුත්තො, මුත්තො එවමුත්තකො, විසදවිසදකාරවොහාරො ච උභයමුත්තකො ච විසදවිසදකාරවොහාරොභයමුත්තකා, විසද විසදොභයමුත්තකාකාරවොහාරාති වුත්තං හොති, පුමා ආදි යෙසන්ති පුමාදයො, තෙසං ජානනං අවගමනං පුමාදි ජානනං, තස්මිං පුමාදිජානනෙ, හෙතුනො භාවො හෙතුභාවො, තතො හෙතුභාවතො, ලිංගීයතෙ තෙනාති ලිඞ්ගං, පුරිසාදීනං ජානනූපායභූතො විසදකාරාදිකො.

ලිඞ්ගමීරිතං යන මෙහි (අධිකව යොදන ලද) ඉති ශබ්ද "ගම්‍යමානාර්ථස්‍ය ශබ්දස්‍ය ප්‍රයොගම්පති කාමචාරාත්" යනු හෙයින් ගම්‍යමාන වූ අර්ථ ඇත්තේනුයි ප්‍රයොග නොකරන ලද හෙයින් "ලිඞ්ගමිතීරිතං" යී ඉති ශබ්දයා යොද අර්ථ කියයුතු.

ලොපො, සපතො ච යොනං ලොපො 2-1-67 යන සූත්‍රයෙන් යො හට ලොප් වේ—"සම්විධිභ්‍යො ලොපවිධිර්බලීයාන්" යනු හෙයින් යොලොපය බලවත්නුයි මේ පක්ෂයෙහි අසො යනාදි සූත්‍රයෙන් අස හට හ්‍රස්වවිධි නො වෙයි දතයුතු.

ඉතරත්‍ර, යො හට ලොප් නොවූ පක්ෂයෙහි; අසොරස්සාදිනා, අසො රස්සමෙකවචනයොස්වපි ච.2-1-33 යන සූත්‍රයෙන්; රස්සත්තෙ කතෙ, අස හට හ්‍රස්ව බව කරන ලද කල්හි; ඛත්තො කතරස්සාති ච, තං ඛත්තො කතරස්සා -2-4-14 යන සූත්‍රයෙන් ඛත්තො යනුද, කතරස්සා යනුද; වත්තතෙ, (මත්තෙහි සූත්‍රයට) වැටේ.

යොනං ය නො ය යනු පදයි.

**සබ්බෙසං යොනං සාලපනානං ඣතො කතරස්සා පරෙසං නො ඉච්චාදෙසො හොති, දණ්ඩිනො තිඪනති. කතරස්සාති කිං? අගගයො.**

**26 අධිකාරං විනා යොනං නොති යොගවිභාගතො, කවචි අකතරස්සාපි නො සාරමතිනො යථා.**

**ආලපනෙ.**

---

කතරස්සා ඣතො පරෙසං සාලපනානං සබ්බෙසං යොනං නො ඉච්චාදෙසො හොති සි යොදනු.

කතරස්සා, අසෙ රස්සං යන සූත්‍රයෙන් කරන ලද හ්‍රස්ව ඇති; ඣතො, ඣසංඥයා කෙරෙන්; පරෙසං, පර වූ; සාලපනානං, ආලපනාර්ථයෙහි විහිතයොවිභක්තිය හා සහිත වූ; සබ්බෙසං යොනං, සියලු ප්‍රථමා විතීයා යො විභක්තීන්ට; නො ඉති, නො යන; ආදෙසො හොති; ආදෙශ වේ, දණ්ඩිනො, දඬු ඇත්තාහු; තිඪනති; සිටිත්.

කතරස්සාති, කතරස්සා යනු; කිං, කුමටය; අගගයො; යන තන්හි අකෘතහ්‍රස්ව ඣසංඥයා කෙරෙන්, පර හෙයින් යො හට නො යනා දෙශය නොවන පිණිසයි.

අධිකාරං විනා '(ඣතො කතරස්සා යන) අධිකාරය හැර; යොනනොනාති, යොනනොනා යන; යොගවිභාගතො, සූත්‍ර විභාගය හෙතුකොට ගෙන; කවචි, කිසි විවක්ෂිතස්ථානයෙක්හි; අකතරස්සාපි, අකෘතහ්‍රස්ව ඣසංඥයා කෙරෙන් පර වූ යො වචනය හටද; නො, නොයනා දෙශ වේ; සාරමතිනො යථා, සාරමතිනො යන තන්හි මෙති—සානුවෘත්තසූත්‍රය අනුවෘත්තය හා සමග "ඣතො කතරස්සා යොනං නො" සි මෙසේ සම්පූර්ණ වූ සූත්‍රයාගේ ඣතො කතරස්සා යන භාගය හැර යොනනොනා යන භාගයෙන් සාරමතිනො යනාදියෙහි කෘතහ්‍රස්ව නොවන ඣසංඥකයා කෙරෙන් පර වූ යො වචනයන්ට නො යන ආදෙශ වන්නේය යනු මෙහි භාවයි.

සාරව තං මතං වාති සාරමතං, උත්තමමති එතෙසමත්ථීති සාරමතිනො යි මෙසේ ගත් කල්හි යොගවිභාගය නැතිව ම සාරමතිනො යන රූපය සූත්‍රයෙන් ම සිඬය. ආචාර්‍ය්‍යයන්ගේ

**ඝෙති වත්තතෙ.**

## 152 ඛලපා රස්සං 2-4-37.

**ඛලප ඉච්චෙතෙ රස්සමාපජ්ජන්තෙ ගෙ පරෙ.**

**හො දණ්ඩි-අසො රස්සන්ති ආදිනාව සිද්ධෙපි රස්සත්තෙ පුනාරම්භො නියමත්ථො තෙන හො ගොති ආදීසු න භවති.**

**දණ්ඩි දණ්ඩිනො-දුතියාසං රස්සත්තත කතෙ.**

---

මතයෙන් වනාහි සාරමති එතොසන්ති සාරමතිනො යි මෙසේ ගත් කල්හි යොගවිභාගයෙන් ම සිද්ධයයි දතයුතු. “එකච්චෙ භික්ඛූ චෙතොවිමුත්තිනො එකච්චෙ පඤ්ඤාවිමුත්තිනො” යනුද යොග විභාගයෙන්ම සිද්ධයි.

ආලපනෙ, ආලපන විෂයෙහි.

ගෙති, හො ගෙ තු 2-4-33 යන සූත්‍රයෙන් ගෙ යනු; වත්තතෙ, වැටේ.

ඛලපා ය රස්සං ය යනු පද යි.

ඛො ච ලො ච පො ච ඛලපා, ගෙ පරෙ, ගසංඥක වූ ආලපනෙකවචනය පරකල්හි; ඛලප ඉති, ඛසංඥ ලසංඥ පසංඥ යන; එතෙ, මේ ඉවණ්ණ උවණ්ණ ඉවණ්ණ උවණ්ණයෝ; රස්සං, හ්‍රස්ව බවට; ආපජ්ජන්තෙ, පැමිණෙත්.

හො දණ්ඩි යනු වේ.

අසො රස්සන්ති ආදිනාව, “අසො රස්ස මෙකවචනයොස්වපි ච” 2-1-33 යන සූත්‍රයෙන් ම; රස්සත්තෙ සිද්ධෙපි, හ්‍රස්වභාවය සිද්ධ කල්හිද; පුනාරම්භො, නැවත හ්‍රස්වත්වයාගේ ආරම්භය තෙම; නියමත්ථො, නියමය ප්‍රයොජන කොට ඇත්තේ යි—ආලපනෙකවචනය පරකල්හිද ඛසංඥාදීන්ට හ්‍රස්වත්වය අසො යනාදි සූත්‍රයෙන් ම සිද්ධවතු දු නැවත ඛලපා රස්සං 2-4-37 යි හ්‍රස්වවිධානය “පුනාරම්භො නියමාය වා භවති විකප්පනාය වා” යි බැවින් නියමය පිණිසය ය තැනි.

පුනරස්සත්තස්ස ආරම්භො පුනාරම්භො.

අම්හි වත්තතෙ

ඝපතො ස්මිං යං වාති ඉතො මණ්ඩූකගතියා වාති ච.

## 153 නං ඣතො කතරස්සා 2–4–14.

**ඣතො කතරස්සා පරස්ස අංවචනස්ස නං හොති වා. දණ්ඩිනං දණ්ඩිං දණ්ඩී දණ්ඩිනො, දණ්ඩිනා දණ්ඩීහි දණ්ඩීභි, දණ්ඩිනො දණ්ඩිස්ස දණ්ඩීනං.**

**ඣලතො වාති නා–**

**දණ්ඩිනා දණ්ඩිම්හා දණ්ඩිස්මා දණ්ඩීහි දණ්ඩීභි. දණ්ඩිනො දණ්ඩිස්ස දණ්ඩීනං.**

---

තෙන, හ්‍රස්වත්වයාගේ පුනරාරම්භය නියම පිණිස වන හෙයින්; හො ගොති ආදීසු, හො ගො සුමෙධසො යනාදි ආලපන ප්‍රයොගයෙහි; න භවති, ආලපනෙකවචනයා පරකල්හි අස හට හ්‍රස්ව නො වේ—ඉදින් "ඣලපා රස්සං." 2–4–37 යන සූත්‍රය නැත් නම් ඣසංඥක ආකාරයා කෙරෙන් වර්ජිත වූ සියලු ලිඞ්ගාන්ත දීර්ඝස්වරයන් ම අස නම් වන බැවින් අසො යනාදි සූත්‍රයෙන් හො ගො යනාදියෙහිද හ්‍රස්වත්වය පැමිණෙන්නේය.

අං ඉති, අංයමීතො පසඤ්ඤතො 2–4–13 යන සූත්‍රයෙන් අං යනු; වත්තතෙ, වැටේ. ඝපතො ස්මිං යං වා ඉති, ඝපතො ස්මිං යං වා 2–4–6 යන, ඉතො, මේ සූත්‍රයෙන්; මණ්ඩූකගතියා, මණ්ඩූකගත් හෙයින්; වාති ච, වා යනුද; (වත්තතෙ, වැටේ.)

නං ය ඣතො ය කතරස්සා ය යනු පදයි.

කතරස්සා, කරන ලද හ්‍රස්ව ඇති; ඣතො, ඣසංඥක ඉවණ්ණයා කෙරෙන්; පරස්ස, පර වූ; අංවචනස්ස, අං වචනය හට; වා, විකල්පයෙන්; නං හොති, නං යන ආදෙශ වේ—නමාදෙශාභාවයෙහි අමෙමා යනාදි සූත්‍රයෙන් අං හට නිග්‍රහීත වේ.

දණ්ඩිනං දණ්ඩිං යනාදිය වේ.

ඣලතො ච ඉති, ඣලතො ච 2–4–5 යන සූත්‍රයෙන්; නා, (ස්මා වචනය හට විකල්පයෙන්) නා යනාදෙශ වේ.

දණ්ඩිනා දණ්ඩිම්හා යනාදිය වේ.

**ඛතො කතරස්සාති ච වත්තතෙ-පුරෙ විය වාති ච.**

## 154 සම්නනි 2-4-16.

**ඛතො කතරස්සා පරස්ස සම්ංවචනස්ස නි ඉච්චාදෙසො හොති වා. දණ්ඩිනි දණ්ඩිමහි දණ්ඩිසම්ං දණ්ඩිසු.**

**එවමඤ්ඤානිපි-**

**27** ධම්මි සංඝි ඤාණි හත්ථි චක්කි පක්ඛි දුසි රඨි
ඡත්ති මාලි වම්මි යොගී භාගී භොගී කාමී සාමී

**28** ධජී ගණී සසී කුඨී ජටී යානී සුඛී සිඛී
දන්ති මන්ති කරි චාගී කුසලී මුසලී බලී.

**29** පාපකාරී සත්තුසාතී මාලාකාරී දීඝජීවී
ධම්මවාදී සීහනාදී භූමිසායී සීඝයායී.

**ඉච්චාදීනි ඊකාරන්තනාමානි.**

---

ඛතො කතරස්සා ති ච, නං ඛතො කතරස්සා 2-4-14 යන සූත්‍රයෙන් ඛතො කතරස්සා යනුද; පුරෙ විය, පෙර මෙන් (ඛතො කතරස්සා යන සූත්‍රයෙහි මෙන්) මණ්ඩූකගති හෙයිනැයි සේයි; වා ඉති ච, වා යනුද; (වත්තතෙ, වැටේ.)

සම්ං ය නි ය යනු පදයි.

කතරස්සා, කරන ලද හ්‍රස්ව ඇති; ඛතො,ඛසංඥ ඉවණීණයා කෙරෙන්; පරස්ස, පර වූ; සම්ංවචනස්ස, සම්ං වචනය හට; වා, විකල්පයෙන්; නි ඉති, නි යන; ආදෙසො හොති, ආදෙශය වේ.

දණ්ඩිනි දණ්ඩිමහි යනාදිය වේ.

ධම්මි-පෙ-සීඝයායී, සීඝයායී යන; ඉච්චාදීනි, මේ ආදී වූ; අඤ්ඤානිපි ඊකාරන්තනාමානි, අනිකුදු ඊකාරාන්ත නාමයෝ; එවං, මෙසේ; වෙදිතබ්බානි, දතයුත්තාහු යි යොදනු.

එහි ආදි ගාථාව විද්‍යුන්මාලා නම් වෘත්තය, මගණ දෙකක් හා ගුරුදෙකක් ඇත්තේ විද්‍යුන්මාලා නම්.

එයින් කීහ;— "මොමොගොගො විද්‍යුන්මාලා" යි.

දෙවන ගාථාව පථ්‍යාවක්ත්‍ර නම් වෘත්තය, එහි ලක්‍ෂණ "තස්මා අක්ඛරකොසල්ලං" යනාදි ගාථා වර්‍ණනායෙහි දර්‍ශිතයි.

තුන්වන ගාථාව අන්‍යා නම් වෘත්තය හෙවත් රවිපුලා නම් වෘත්තයයි. සතර අක්‍ෂරයකින් පරව රගණය වී නම් ඒ අන්‍යා නම් (රවිපුලා නම්.)

මෙම කීහ;— "ඉත්‍ථමන්‍යාරශචතුර්‍ථාත්" යි.

ධම්මො අස්ස අත්‍ථීති ධම්මී, ධර්‍ම ඇත්තේ යී; සඞ්ඝො අස්ස අත්‍ථීති සංඝී, සමූහ ඇත්තේ යී; ජානාතීති ඤාණං, ඤාණං එතස්ස අත්‍ථීති ඤාණී, නුවණ ඇත්තේ යී; හත්‍ථො එතස්ස අත්‍ථීති හත්‍ථී, වාරණයි; චක්කං අස්ස අත්‍ථීති චක්කී, සක් ඇත්තේ යී.

මෙහි චක්කශබ්දයෙන් වනාහි "චත්තාරිමානි භික්ඛවෙ චක්කානි යෙහි සමන්නාගතානං දෙවමනුස්සානං" යනාදියෙහි සම්පත්ද "හෙට්ඨා පාදතලෙසු චක්කානි ජාතානි හොන්ති" යන තන්හි ධර්‍මචක්‍රයද ලක්‍ෂණයද, 'චක්කං ව වහතො පදං" යන තන්හි රථාඞ්ගද, "චතුචක්කං නවවාරං" යන තන්හි ඊර්‍යාපථද, "දද භුජ ච මා ච පමාදෙ, චක්කං වත්තය කොසලාධිප" යන තන්හි දානයද, "දිබ්බං චක්කරතනං පාතුරහොසි" යන තන්හි රථචක්‍රයද, "පවත්තිතං චක්කං" යන තන්හි ධර්‍මචක්‍රයද, ධර්‍ම චක්‍රය නම් ප්‍රතිවෙධඥාන දෙශනාඥාන දෙකයි, "ඉච්ඡාහතස්ස පොසස්ස චක්කං භමති මත්‍ථකෙ" යන තන්හි උරචක්‍රයද, ඛුර පරියන්තෙන චෙපි ච චක්කෙන" යන තන්හි ප්‍රහරණචක්‍රයද, "අසනිම්ව චක්කං" යනා තන්හි අශනිමණ්ඩලයද කියත්.

පක්ඛො අස්ස අත්‍ථීති පක්ඛී, සකුණයි; දාඨා අස්ස අත්‍ථීති දාඨී, ව්‍යාලමෘගයි; රථං අස්ස අත්‍ථීති රථී, රථ ඇත්තේ යි; ඡත්තමස්ස අත්‍ථීති ඡත්තී, ආතපධර යී; මාලා අස්ස අත්‍ථීති මාලී, මාලාපඩ්කාති ඇත්තේ යී; වම්මං අස්ස අත්‍ථීති වම්මී, කවච ඇත්තේයි; යොගො අස්ස අත්‍ථීති යොගී, භාවනා යොග ඇත්තේ යී; භාගො අස්ස අත්‍ථීති භාගී, පිනැත්තේ යී; නොහොත් කොට්ඨාස ලබන්නේ යී; භොගො අස්ස අත්‍ථීති භොගී, ආඪ්‍යයි නොහොත් උරගයි; කාමෙතීති කාමො, සො එතස්ස අත්‍ථීති කාමී, රාග බහුල යි; සධනං එතස්ස අත්‍ථීති සාමී, ඉසුරු ඇත්තේයි; ධජො අස්ස අත්‍ථීති ධජී, ධ්වජ බහුලයි; ගණො අස්ස අත්‍ථීති ගණී, ගණජ්‍යෙෂ්ඨයි; සසො අස්ස අත්‍ථීති සසී, චන්‍ද්‍රයි; කූඨො අස්ස අත්‍ථීති කූඨී,

ගාමණී සද්දස්ස තු සත්තමියං භෙදො.

ගාමණී ගාමණි ගාමණිනො-භො ගාමණි ගාමණී ගාමණිනො, ගාමණීනං ගාමණිං ගාමණි ගාමණිනො.

සෙසං දණ්ඩිසමං-නිආදෙසාභාවොව විසෙසො.

එවං සෙනානී සුධිපභුතයො.

ඊකාරන්තං.

---

කුෂ්ඨරොග ඇත්තේ යි; ජටා අස්ස අත්ථීති ජටී, කෙස සමූහාර ඇත්තේයි; නොහොත් සම්කිසි අවුලක් ඇත්තේ යි; යන්ති ගච්ඡන්ති පවත්තන්ති එත්ථ එතෙනාති වා යානං, යානං අස්ස අත්ථීති යානී, සකටාදි යාන ඇත්තේයි; සුඛු ඛණති කායික චෙතසිකෙ ආබාධෙති සුඛං, සුඛමෙතස්ස අත්ථීති සුඛී, සුව ඇත්තේයි; සිඛා චූලා අස්ස අත්ථීති සිඛී, මයුරයි නොහොත් වහ්නියි; දන්තා අස්ස අත්ථීති දන්තී, ගජයි; මන්තනසීලො මන්තී, සංසඳන සුළු වූයේයි නොහොත් මන්ත්‍රාධ්‍යායකයි; කරො අස්ස අත්ථීති කරී, කුංජරයි; චාගො අස්ස අත්ථීති චාගී, පරිත්‍යාග ඇත්තේයි, කුසලං අස්ස අත්ථීති කුසලී, කුසල් ඇත්තේයි; මුසලොති එකා ආයුධජාති ධඤ්ඤකොට්ටනදණ්ඩාදිකො වා, මුසලො අස්ස අත්ථීති මුසලී, මුසල නම් ආයුධ ඇත්තේයි නොහොත් ධාන්‍යකොටන මෝල් ඇත්තේ යි; බලං අස්ස අත්ථීති බලී, ශක්ති ඇත්තේයි නොහොත් සෙනා ඇත්තේ යි; පාපං කාරෙති සීලෙනාති පාපකාරී, අකුසල් කරන සුළු වූයේයි; සත්තුං ඝාතෙතීති සත්තුඝාතී, සතුරන් මඩනේයි; මල්‍යං කාරෙති සීලෙනාති මල්‍යකාරී, මාලාකාරීයි හෙවත් මල් ගොමුයි; දීඝං චිරකාලං ජීවනං පාණධාරණං සීලමස්සාති දීඝජීවී, දීඝායු ඇත්තේයි; ධම්මං වදනසීලො ධම්මවාදී, න්‍යායවාදී යි; සීහො විය නිබ්භයං නදතීති සීහනාදී; නිර්භයනාද ඇත්තේ යි; භූමියං සයනසීලො භූමිසායී, බිම හෝනා සුළුවූයේයි; සීඝං යාති සීලෙනාති සීඝයායී, වහා යන සුළු වූයේයි.

ගාමණී සද්දස්ස තු, ගාමණී යන මේ ශබ්දයාගේ වනාහි; සත්තමියං, සප්තමීවිභක්තියෙහි; භෙදො, රූපනානත්වයෙක් ඇති.

ගාමණි ගාමණී ගාමණිනො යනාදිය වේ.

**උකාරන්තො පුල්ලිඞ්ගො භික්ඛුසද්දො.**

**තථෙව භික්ඛුසද්දතො සි-සිලොපො-සො භික්ඛු.**

**බහුවචනෙ-ඝපතො ච යොනං ලොපොති යොලොපො-**

**යොසු කත ඉච්චාදිනා දීඝො.**

**තෙ භික්ඛූ-ලොපාභාවෙ-**

---

සෙසං, (ගාමණී ශබ්දයාගේ) සෙසු රූප; දණ්ඩීසමං, දණ්ඩී ශබ්දයාගේ රූප හා සමයි; නිආදෙසාභාවොව, (කෘතහ්‍රස්ව ඝ සංඥයා කෙරෙන් පර සිං හට විධියමාන) නිආදෙශයාගේ වෙනසයි.

සෙනානීසුධීප්පභූතයො, සෙනානී ශබ්ද සුධී ශබ්ද දෙක ආදිකොට ඇති ශබ්දයෝද; එවං, සප්තමී විෂයෙහි මේ ගාමණී ශබ්දයා වැන්නෝ යි—පභූති ශබ්දයෙන් ධම්මසසිරි යනාදීන්ගේ ග්‍රහණයයි-ගාමං නෙතීති ගාමණී, සෙනං නෙතීති සෙනානී, සොභනා ධී අස්සාති සුධී; ගාමණී ශබ්දයෙන් අසරුවන් කියත්, සෙනානී ශබ්දයෙන් සෙනා නායකයන් කියත්, සුධීශබ්දයෙන් පණ්ඩිතවරුන් කියත්.

ඊකාරන්තං.

ඊකාරාන්ත පුල්ලිඞ්ග නාම වර්ණනා යි.

---

උකාරන්තො, උකාරයා අන්තාවයව කොට ඇති; පුල්ලිඞ්ගො, පුල්ලිඞ්ගයෙන් යුක්ත වූ; භික්ඛුසද්දො, භික්ඛු යන මේ ශබ්ද තෙම; (දස්සීයතෙ, දක්වනු ලැබේ.)

තථෙව, එසේම "වත්තිච්ඡානුපුබ්බිකා සද්දප්පවත්ති"යි බැවින් වක්තෘහු ලිඞ්ගාර්ථයාගේ ඒකත්වයෙක් කැමති කල්හියයි සේ යි; භික්ඛුසද්දතො, භික්ඛු ශබ්දයා කෙරෙන් පරව; සි, ලිඞ්ගත්ථෙ පඨමා 2-6-14 යන සූත්‍රයෙන් ප්‍රථමෛක වචන සි වේ—සංසාරෙ භයං ඉක්ඛතීති භික්ඛු, භික්ඛණසීලොති වා භික්ඛු; මේ ප්‍රථමෛක වචනාන්ත බව හඟවන පිණිස සො යනු ප්‍රයොග කළෝ.

බහුවචනෙ, ප්‍රථමා බහුවචන කරන ලද කල්හි; ඝපතො ච යොනං ලොපො ඉති, ඝපතො ච යොනං ලොපො 2-1-67 යන සූත්‍රයෙන්; යො ලොපො, ලසංඥයා කෙරෙන් පර වූ යො හට

**වා යොනන්ති ච වත්තතෙ-**

## 155 ලතො වොකාරො ච 2-1-68.

**ලසඤ්ඤතො පරෙසං යොවචනානං වොකාරාදෙසො හොති වා-කාරග්ගහණෙන යොනං නො ච හොති-චසද්දග්ගහණං කත්ථචි නිවත්තනත්ථං-අථ වා චග්ගහණං නොග්ගහණානුවත්තනත්ථං-තෙන ජන්තු සබ්බඤ්ඤු ආදිතො යොනං නො ච හොති-වාසද්දො වවත්ථිතවිභාසත්ථො-තෙන-**

---

ලොප් වේ; යොසු කතඉච්චාදිනා, යොසු කතනිකාරලොපෙසු දීඝං 2-1-37 යන සූත්‍රයෙන්; දීඝො, යො විභක්තියට කරන ලද ලොප් ඇති කල්හි පූර්‍ව වූ හ්‍රස්ව ස්වරයා හට දීර්‍ඝ වේ; තෙ භික්ඛූ යනු වේ-තෙ යනුද ප්‍රථමා බහුවචනාන්ත බව හඟවන පිණිස මැයි; ලොපාභාවෙ, ලොපයාගේ අභාවයෙහි.

වා, ඣලතො සස්ස නො වා 2-1-66 යන සූත්‍රයෙන් වා යනුද; යොනන්ති ච, ඝපතො ච යොනං ලොපො 2-1-67 යන සූත්‍රයෙන් යොනං යනුද; වත්තතෙ, වැටේ.

ලතො ය වොකාරො ය ච ය යනු පදයි.

ලසඤ්ඤතො, ලසංඥක උවර්ණයා කෙරෙන්; පරෙසං, පර වූ; යොවචනානං, ප්‍රථමාදි යො වචනයන්ට; වා, විකල්පයෙන්; වොකාරාදෙසො හොති, වො යනාදෙශ වේ; කාරග්ගහණෙන, ලතො වො ච යි නො කියා කාරශබ්දයාගේ ග්‍රහණය හෙතු කොට ගෙන; යොනං, ප්‍රථමාදි යො වචනයන්ට; නො ච හොති, ජන්තුනො යනාදියෙහි නො යන ආදෙශද වේ; චසද්දග්ගහණං, චශබ්දයාගේ ගැන්ම; කත්ථචි, කිසි තැනෙක්හි; නිවත්තනත්ථං, (නො යනාදෙශයාගේ) නිවෘත්තිය ප්‍රයොජන කොට ඇත්තේ යි.

අථ වා, නොහොත්; චග්ගහණං, මේ සූත්‍රයෙහි ච ශබ්ද තෙම; නොග්ගහණානුවත්තනත්ථං, "ඣලතො සස්ස නො වා" 2-1-66 යන සූත්‍රයෙහි නොග්‍රහණයාගේ අනුවෘත්තිය ම ප්‍රයොජන කොට ඇත්තේයි; තෙන, ඒ චග්‍රහණය නොග්‍රහණයාගේ වටා ගැන්ම ප්‍රයොජන කොට ඇතිහෙයින්; ජන්තු සබ්බඤ්ඤූ ආදිතො, ජන්තු සබ්බඤ්ඤූ යනාදි ශබ්දයන් කෙරෙන් පර වූ; යොනං, ප්‍රථමාදි

**30 භික්ඛුපපභුතිතො නිච්චං වොයොනං හෙතුආදිතො විභාසා න ච වො නො ච අමුපපභුතිතො භවෙ.**

---

යෝ වචනයන්ට; නො ච හොති, මේ සූත්‍රයෙන් නො යන ආදෙශ වේ—"නො ච හොති" යන මෙහි ච ශබ්ද වෝකාර සම්පිණ්ඩනය කෙරේ, "ජන්තු සබ්බඤ්ඤූ ආදිතො" යන මෙහි ආදි ශබ්දයෙන් සහභූ මිගගඤ්ඤූ යනාදීන්ගේ ග්‍රහණය යි; වාසද්දො, වාශබ්දය තෙම; වවත්‍ථිතවිභාසත්‍ථො, ව්‍යවස්ථිතවිභාෂාව අර්‍ථ කොට ඇත්තේය; තෙන, ඒ අනුවෘත්ත වාශබ්දය ව්‍යවස්ථිත විභාෂාව අර්‍ථකොට ඇති හෙයින්.

භික්ඛුපපභුතිතො, යොනං, වො, නිච්චං, භවෙ, හෙතු ආදිතො, යොනං, වො නො ච, විභාසා, භවෙ, අමුපපභුතිතො, යොනං, වො නො ච, න ච භවෙ, යී යොදනු.

භික්ඛුපපභුතිතො, භික්ඛු යනාදී ශබ්දයන් කෙරෙන් පර වූ; යොනං, යො වචනයන්ට; වො, (ලොපාභාවයෙහි) වොකාරාදෙශ, නිච්චං, අවිකල්පයෙන්; භවෙ, වන්නේය; හෙතු ආදිතො, හෙතු ආදී ශබ්දයන් කෙරෙන් පර වූ; යොනං, යොවචන යන්ට; වො නො ච, (ලොපාභාවයෙහි ද) වොද නොද; විභාසා, විකල්පයෙන්; භවෙ, වන්නේය; අමුපපභුතිතො, අමු යනාදී ශබ්දයන් කෙරෙන් පර වූ; යොනං, යො වචනයන්ට; වො නො ච, වොද නොද; න ච භවෙ, නොම වේ—භික්ඛුපපභුතිතො යන මේ පභුති ශබ්දයෙන් ශබ්ද මාලාවෙහි නිදීෂ්ට හෙතුජන්තු දෙදෙනා වර්ජිත කොට ඇති සෙතු ආදි ශබ්දයෝද අභිභූ සයම්භූ වෙස්සභූ පරාභිභූ යනාදීහුද සංගෘහීතයහ, හෙතුආදිතො යන මෙහි ආදි ශබ්දයෙන් වනාහි ජන්තු සහභූ යනාදීහු ගන්නා ලදහ, න ච යන මෙහි ච ශබ්ද අවධාරණයෙහි වැටෙයි, වොනො ච යන මෙහි චශබ්ද වනාහි අනුක්තසමුච්චයාර්‍ථද වෙයි, අනුක්ත නම් කිම යත්? "සබ්බඤ්ඤූ ආදිතො යොනං නො නිච්චං" යනුයි, එයින් කියත්. මතු සබ්බඤ්ඤූ යන ශබ්දයාගේ නිර්දේශයෙහි "ලොපාභාවෙ රස්සත්තං ලතො වොකාරො වා" ති එත්ථ කාරග්ගහණෙන යොනන්තො ආදෙසො වාධිකාරස්ස වවත්‍ථිතවිභාසත්තා නව වොකාරො" යී, එසේ කල්හි "භික්ඛුපපභුතිතො යොනං වො ච සබ්බඤ්ඤූ ආදිතො යොනං නො ච නිච්චං භවෙ" යී යොදනු, අමුපපභුතිතො යන මෙහි පභුතිශබ්ද සබ්බඤ්ඤූ

**අත්තං අකතරස්සාති ච වත්තතෙ-**

## 156 වෙවොසු ලො ච 2-1-46.

**වෙ වො ඉච්චෙතෙසු ච පරෙසු අකතරස්සො ලො අත්තමාපජ්ජතෙ.**

**භික්ඛවො, භො භික්ඛු භවන්තො භික්ඛූ.**

**ලොපාභාවෙ.**

## 157 අකරස්සා ලතො යවාලපනස්ස වෙවො 2-1-65.

**අකතරස්සා ලතො පරස්ස ආලපනෙ විහිතස්ස යො ඉච්චෙතස්ස වෙවො ආදෙසා හොන්ති-අත්තං.**

**භවන්තො භික්ඛවෙ භික්ඛවො.**

---

මග්ගඤ්ඤූ යනාදීන්ගේ සංග්‍රහය කෙරේ, එහෙයින් "අමුප්පභුති තො වො නො ච භවෙ" යන මේ අර්ථය යථා සම්භවයෙන් දතයුතු, කිසේය යත්? අමු යන මේ ශබ්දයා කෙරෙන් පර වූ යො වචනයන්ට වො ද නො ද නොම වෙයි, සබ්බඤ්ඤූ මග්ගඤ්ඤූ යනාදි ශබ්දයන් කෙරෙන් පර වූ යො වචනයන්ට වො ම නො වෙයි.

අත්තං, පමාදීනමත්තං 2-1-39 යන මේ සූත්‍රයෙන් අත්තං යනුද, අකතරස්සාති ච, යොසුකතරස්සො ඣො 2-1-45 යන මේ සූත්‍රයෙන් කතරස්සො යනුද; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

වෙවොසු ය ලො ය ච ය යනු පදයි.

වෙ ච වො ච වෙවො, තෙසු වෙවොසු, මෙහි චශබ්ද අනුග්‍රහණයාගේ අනුකරණය පිණිසයි.

වෙවො ඉති, වෙවො යන; එතෙසු ච පරෙසු, මොවුන් පර කල්හි; අකතරස්සො ලො, කෘතහ්‍රස්ව නොවන ලසංඥක උකාර තෙම; අත්තං, අකාර බවට; ආපජ්ජතෙ, පැමිණේ.

භික්ඛවො, හො භික්ඛු භවන්තො භික්ඛූ යනු වේ.

ලොපාභාවෙ, යොලොපයාගේ අභාවයෙහි.

අකතරස්සා ය ලතො ය යවාලපනස්ස ය වෙවො ය යනු පදයි.

**අමෙමා නිග්ගහීතං ඣලපෙහිති නිග්ගහීතං.**

**භික්ඛුං භික්ඛූ භික්ඛවො, භික්ඛුනා භික්ඛූහි භික්ඛූභි භික්ඛූහි භික්ඛූභි, භික්ඛුනො භික්ඛුස්ස භික්ඛූනං, භික්ඛුනා භික්ඛුම්හා භික්ඛුස්මා භික්ඛූහි භික්ඛූභි භික්ඛූහි භික්ඛූභි, භික්ඛුනො භික්ඛුස්ස භික්ඛූනං, භික්ඛුම්හි භික්ඛුස්මිං භික්ඛුසු භික්ඛූසු.**

**එවං සෙතු කෙතු රාහු භානු සඞ්කු උච්ඡු වෙළු මච්චු සින්ධු ඛන්ධු නෙරු මෙරු සත්තු කාරු හෙතු ජන්තු රුරු පටු ඉච්චාදයො.**

**හෙතුජන්තුසද්දානං පඨමා දුතියාසු විසෙසො.**

**හෙතු හෙතූ හෙතවො හෙතුයො, භො හෙතු හෙතූ හෙතවෙ හෙතවො, හෙතුං හෙතූ හෙතවො හෙතුයො.**

**සෙසං භික්ඛුසමං.**

**ජන්තු ජන්තූ ජන්තවො.**

---

ආලපනෙ විහිතො ආලපනො, යො එව ආලපනො යවාලපනො, තස්ස යවාලපනස්ස; විශෙෂණයා පරනිපාතයි.

අකතරස්සා ලතො පරස්ස, කෘතහ්‍රස්ව නො වන ලසංඥයා කෙරෙන් පර වූ; ආලපනෙ විහිතස්ස, සම්බොධනාර්ථයෙහි කරන ලද; යො ඉති, යො යන; එතස්ස, මේ හට; වෙවො ආදෙසා හොන්ති, වෙ වො යන ආදෙශයෝ වෙත්; අන්තං, (වෙවො යන මොවුන් පරකල්හි ලසංඥය හට) අඬ වේ; භවන්තො භික්ඛවෙ භික්ඛවො යනු වෙයි

අමෙමානිග්ගහීතං ඣලපෙහිති, අමෙමා නිග්ගහීතං ඣලපෙහි 2-1-31 යන මේ සූත්‍රයෙන්; නිග්ගහීතං, ලසංඥයා කෙරෙන් පර වූ අංවචනය හට නිග්ගහීතාදෙශ වේ; භික්ඛුං භික්ඛූ භික්ඛවො යනාදිය වේ; භික්ඛු ශබ්දයෙන් ශ්‍රමණයන් කියත්.

සෙතු-පෙ-පටු ඉච්චාදයො උකාරාන්තසද්දා, එවං භික්ඛුසද්දෙව ඤෙය්‍යා යි යොදනු

මෙහි සෙතු ශබ්දයෙන් ජලදුර්ගසංස්ථානයෙහි කරන ලද දඹු ලෙස් ආදී කියත්; කෙතු ශබ්දයෙන් ධ්වජද කුන්තද කියත්; රාහු ශබ්දයෙන් එනම් අසුරිඳු කියත්; භානු ශබ්දයෙන් හිරුද හිරු

**කාරග්ගහණෙන යොනං නො ච හොති.**

**ජන්තුනො ජන්තුයො, හෝ ජන්තු ජන්තු ජන්තවෙ ජන්තවො, ජන්තුං ජන්තු ජන්තවො ජන්තුනො ජන්තුයො ඉච්චාදි.**

**සත්ථුසද්දස්ස භෙදො.**

**සත්ථු සි ඉතිධ-**

---

රැස්ද කියත්; සංකු ශබ්දයෙන් හුල් කියත්; උච්ඡුශබ්දයෙන් උක් කියත්; වෙළු ශබ්දයෙන් හුන කියත්; මච්චු ශබ්දයෙන් මරු කියත්; මධු ශබ්දයෙන් මී කියත්; සින්ධු ශබ්දයෙන් එනම් නදියද සාගරයද ජනපද විශෙෂයක්ද කියත්; බන්ධුශබ්යෙන් නෑයන් කියත්; නෙරුශබ්දයෙන් හිමාලයෙහි එක් සුවර්ණ පර්වතයක් කියත්; මෙරුශබ්දයෙන් සිනෙරු පර්වතය කියත්; සත්තුශබ්දයෙන් සතුරන්ද හත්වටද කියත්; කාරුශබ්දයෙන් බෙල්ලන් කියත්; හෙතුශබ්දයෙන් කාරණද වචනාවයවද කුශල මූලාදීන්ද කියත්; ජන්තුශබ්දයෙන් සත්වයන් කියත්; රුරු ශබ්දයෙන් එනම් මෘගජාතිය කියත්; පටුශබ්දයෙන් නිපුනයන් කියත්.

හෙතුජන්තුසඤ්ඤානං, (මොවුන් අතුරෙහි) හෙතු ජන්තු ශබ්දයන් දෙන්නාගේ, පඨමා දුතියාසු විසෙසො, ප්‍රථමා ද්විතීයා විභක්ති විෂයෙහි වෙනසෙක් ඇති, මතු කියන්නේ ඔවුන්ගේ වෙනසයි; හෙතු හෙතු හෙතවො යනාදිය වේ. සෙසං, හෙතු ශබ්දයාගේ සෙසුරූප; භික්ඛුසමං, භික්ඛු යන මේ ශබ්දයාගේ රූප හා සමයි.

ජන්තු ජන්තු ජන්තවො යනු වෙයි.

කාරග්ගහණෙන, ලතො වොකාරෙ ච 2-1-68 යන සූත්‍රයෙහි කාරශබ්දයාගේ ග්‍රහණය හෙතුකොට ගෙන; යොනං, යො විභක්තීන්ට; නො ච හොති, නොයන ආදෙශද වේ. ජන්තුනො ජන්තුයො යනාදිය වේ.

සත්ථුසද්දස්ස, සත්ථු යන මේ ශබ්දයාගේ; භෙදො, රූපනානත්වයෙක් ඇති.

සත්ථු සි ඉති, සත්ථුශබ්දයා කෙරෙන් සිවිභක්ති වෙයි යතු; ඉධ, මෙහි කාර්‍ය්‍යී කියනු ලැබේ.

**අනන්තාති වත්තතෙ.**

## 158 සත්ථුපිතාදීනමා සිස්මිං සිලොපො ච 2-3-39.

**සත්ථු පිතු මාතු භාතු ධීතු කත්තු ඉච්චෙවමාදීනමන්තො ආත්තමාපජ්ජතෙ සිස්මිං, සිලොපො ච හොති-සත්ථා.**

**සත්ථුපිතාදීනන්ති අධිකාරො-**

## 159 අඤ්ඤෙස්වාරත්තං 2-3-40.

**සත්ථුපිතාදීනමන්තො සිවචනතො අඤ්ඤෙසු වචනෙසු ආරත්තමාපජ්ජතෙ.**

---

අනන්තාති, සබ්බාසසි නොනානංසෙසු 2-3-34 යන සූත්‍රයෙන් අනන්තා යනු; වත්තතෙ, (අකාරය හට විශෙෂණ භාවයෙන් විභක්ති විපරිනාම වශයෙන්) වැටේ.

සත්ථුපිතාදීනං ය ආ ය සිස්මිං ය සිලොපො ය ච ය යනු පදයි.

සත්ථා ච පිතා ච සත්ථුපිතරො, තෙ ආදි පකාරා යෙසං තෙ සත්ථුපිතාදයො; තෙසං සත්ථුපිතාදීනං—සත්ථු යන මේ ශබ්දයාගේ වෙන ගැන්ම කුමැයිද යත්? රත්ථුප්‍රත්‍යය අන්තකොට ඇතිහෙයිනැයි දතයුතු.

ලුත්ති ලොපො, සිස්ස ලොපො සිලොපො; නොහොත්, ලූපපතීති ලොපො, සි ච ලොපතීයොති අත්ථො.

සිස්මිං, සි විභක්ති පරකල්හි; සත්ථු, සත්ථු යන ශබ්දය; පිතු, පිතු යන ශබ්දය; මාතු, මාතු යන ශබ්දය; භාතු, භාතු යන ශබ්දය; ධීතු, ධීතු යන ශබ්දය; කත්තු ඉති, කත්තු ශබ්දය යන; එවමාදීනං, මේ ප්‍රකාර ඇති තුප්‍රත්‍යාන්තයන්ගේ; අන්තො, අන්තාවයව වූ උකාරද; අත්තං, අකාර බවට; ආපජ්ජතෙ, පැමිණෙයි. සිලොපො ච හොති,සි වචනය හට ලොප් වේ. නොහොත් සි ද ලොප් කරනු ලැබේ.

සත්ථා යනු වෙයි.

**ආරත්තමිතිභාවනිද්දෙසෙන කාච්චි අනියමං දස්සෙති.**

**ආරග්ගහණමනුවත්තතෙ-**

## 160 තතො යොනමො තු 2-3-45.

**තතො ආරාදෙසතො සබ්බසං යොනං ඔකාරාදෙසො හොති.**

---

සත්ථුපිතාදීනං ඉති, සත්ථුපිතාදීනමා සිස්මිං සිලොපො ච 2-3-39 යන සූත්‍රයෙන් සත්ථුපිතාදීනං යනු; අධිකාරෙ, මතු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ.

අන්තග්‍රහණයාගේ අනුවෘත්තිය නොකිවද හැගෙන හෙයින් අන්තොති ච යි නො කීහු.

අසේ‍යසු ය ආරත්තං ය යනු පදයි.

සි වචනතො, සි යන වචනයා කෙරෙන්; අසේ‍යසු විවනෙසු, සෙසු විභක්ති වචනයන් පරකල්හි; සත්ථුපිතාදීනමන්තො, සත්ථු පිතු ආදීන්ගේ අන්ත උකාර තෙම; ආරත්තං, ආරාදෙශ බවට; ආපජ්ජතෙ, පැමිණේ.

ආරත්තං ඉති භාවනිද්දෙසෙන, ආරෙ යි නො කියා ආරත්තං යි භාවාර්ථප්‍රත්‍යයාගෙ නිර්දේශය හෙතුකොට ගෙන; කාච්චි, සත්ථූනං කත්තුස්ස යනාදි සමහර තැනෙක්හි; අනියමං දස්සෙති, (ආරාදෙශයාගේ)අනියමය දක්වන්නේ යි; සුත්තකාරෙ යනු, වචනසෙස යි.

ආරග්ගහණං, අසේ‍යස්වාරත්තං 2-3-40 යන සූත්‍රයෙන් ආරග්‍රහණය; අනුවත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

තතො ය යොනං ය ඔ ය තු ය යනු පදයි.

තතො ආරාදෙසතො, ඒ ආරාදෙශයා කෙරෙන් පර වූ; සබ්බසං යොනං, සියලු යො වචනයන්ට; ඔකාරාදෙසො හොති, ඔකාරාදෙශ වේ.

**තුග්ගහණෙන අඤ්ඤතොපි චතුළුභනදීගවාදීහි යොන මොකාරො හොති–සරලොපාදි, සඛාරෙ.**

**ආලපනෙ, අකාරපිතාද්‍යන්තානමාති ආත්තං–ගෙ රස්සන්ති ච අධිකිච්ච ආකාරො වාති විකප්පෙන රස්සත්තං–ගලොපො.**

**භො සඛ භො සඛා භවන්තො සඛාරො, සඛාරං සඛාරෙ සඛාරො.**

**තතොති ච වත්තතෙ.**

## 161 නා ආ 2-3-47.

---

තුග්ගහණෙන, මේ සූත්‍රයෙහි තුශබ්දයාගේ ගැන්මෙන්; අඤ්ඤතොපි, අන්‍ය වූ ද; චතුළුභනදීගවාදීහි, චතුශබ්ද උභශබ්ද නදීශබ්ද ගොශබ්ද යනාදීන් කෙරෙන් පර වූ; යොනං, යො විභක්තීන්ට ද; ඔකාරො හොති, ඔකාරාදෙශ වේ.

චතු ච උභො ච නදී ච ගො ච චතුළුභනදීගාවො, තෙ ආදයො යෙසං තෙ චතුළුභනදීගවාදයො, තෙහි චතුළුභනදීගවාදීහි.

සරලොපාදි,(සරලොපො මාදෙසප්පච්චයාදිම්හි සරලොපෙ තු පකති 2–1–32 යන සූත්‍රයෙන්) ස්වරලොපාදිය වේ; සඛාරො යනු වේ.

ආලපනෙ, ආලපනයෙහි; අකාරපිතාද්‍යන්තානමාති, අකාරපිතාද්‍යන්තානමා 2–4–36 යන සූත්‍රයෙන්; ආත්තං, (ග පරකල්හි සඛ යන ශබ්දයාගේ අන්තය හට) ආකාර බව වෙයි; ගෙ රස්සන්ති ච, භො ගෙ තු 2–4–33 යන සූත්‍රයෙන් ගෙ යනුද–ඛ්‍යලපා රස්සං 2–4–37 යන සූත්‍රයෙන් රස්සං යනුද; අධිකිච්ච, සම්බන්ධ කොට හෙවත් වටා; ආකාරො වාති, ආකාරො වා 2–4–34 යන සූත්‍රයෙන්; විකප්පෙන, විකල්පයෙන්; රස්සත්තං, ග පර කල්හි ම හ්‍රස්ව වේ; ගලොපො, සෙසතො ලොපං ගසිපි 2–4–10 යන සූත්‍රයෙන් ග සංඥය හට ලොප් වේ; ගස්ස ලොපො ගලොපො.

භො සඛ භො සඛා යනාදිය වේ.

තතොති ච, තතො යොනමො තු 2–3–45 යන සූත්‍රයෙන් තතො යනු; වත්තතෙ, වැටේ–ච ශබ්දයා ආරග්‍රහණයා සම්පිණ්ඩනය කෙරේ.

නා ය ආ ය යනු පදයි.

**තතො ආරාදෙසතො නාවචනස්ස ආකාරාදෙසො හොති- සත්ථාරා.**

**සත්ථුනාති ආරත්තමිති භාවනිද්දෙසෙන සිද්ධං.**

**සත්ථාරෙහි සත්ථාරෙහි.**

**වා නමිහීති ඉතො වාති වත්තතෙ.**

## 162 උ සස්මිං සලොපො ච 2-3-43.

**සත්ථු පිතු ඉච්චෙවමාදීනමන්තස්ස උත්තං හොතිවා සස්මිං, සලොපොච හොති-ආරාදෙසාපවාදොයං-සත්ථු.**

---

නා ආ යන සූත්‍රයෙහි නා යනුද ආ යනුද ප්‍රථමෛක වචනාන්තමය.

තතො ආරාදෙසතො, ඒ ආරා දෙශයා කෙරෙන් පරවූ; නාවචනස්ස, නා යන මේ විභක්ති වචනය හට; ආකාරාදෙසො හොති, ආකාරාදෙශ වේ; සත්ථාරා යනු වේ.

සත්ථුනාති, සත්ථුනා යන ආරාදෙශ විරහිත රූපය; ආරත්තමිතිභාවනිද්දෙසෙන සිද්ධං, ආරා දෙශයාගේ අනියමය ම පිණිස කරන ලද ආරත්ත යන භාවප්‍රත්‍යයාන්ත නිර්දේශයෙන්ම සිද්ධයි, සත්ථාරෙහි සත්ථාරෙහි යනු වේ.

වා නමිහීති, වා නමිහි යන; ඉතො, මේ සූත්‍රයෙන්; වාති, වා යනු; වත්තතෙ, වැටේ. උ සස්මිං සලොපො ච යනු විධි සූත්‍රයි.

උ යන පදය සස්මිං යන පදය සලොපො යන පදය ච යනු පදයි,

සස්ස ලොපො සලොපො,නොහොත් ස යන මේ අවිභක්තික නිර්දේශය ඇති චෙන පදයෙක් එහෙයින්, උ යන පදය සස්මිං යන පදය ස යන පදය ලොපො යන පදය ච යන පදයයි මෙසේ පස්පදයකු දු වේ; මේ පක්ෂයෙහි ලොප ශබ්ද කර්ම සාධන ඇත්තේය, පූර්වපක්ෂයෙහි වනාහි භාව සාධන ඇත්තේ යි—මෙහි දු ච ශබ්ද විතීයාර්ථ සම්පිණ්ඩනය පිණිස ප්‍රයුක්තයයි දතයුතු.

සස්මිං, සවිභක්ති පරකල්හි; සත්ථු පිතු ඉති, සත්ථු පිතු යන; එවමාදීනං, මේ ආදී තුප්‍රත්‍යයාන්ත ශබ්දයන්ගේ; අන්තස්ස, අන්ත උකාරය හට; වා, විකල්පයෙන්; උත්තං හොති, උකාරාදෙශ වේ; සලොපො ච හොති, උත්තපක්ෂයෙහි ස හට ලොපද වේ. අයං, මේ සූත්‍රාරම්භය; ආරාදෙසාපවාදො, (ස පරකල්හි සත්ථු පිතු ආදීන්ගේ අන්ත උකාරය හට වන) ආරාදෙශයාගේ ප්‍රතිෂේධයි.

**අසඞ්ඛ්‍යෙසු භාවනිද්දෙසෙනාරාභාවො.**

**සත්‍ථුනො සත්‍ථුස්ස.**

**ආරත්තානන්ති වත්තතෙ.**

## 163 වා නම්හි 2-3-41.

**සත්‍ථු පිතුආදීනම්මන්තො ආරත්තමාපජ්ජතෙ වා නම්හි විභත්තිම්හි.**

**සත්‍ථාරානං.**

**ආරාභාවෙ.**

**වා නම්හීති වත්තතෙ.**

## 164 සත්‍ථුනාත්තඤ්ච 2-3-42.

**සත්‍ථුසද්දන්තස්ස පිතාදිනමන්තස්ස ච අත්තං හොති වා නම්හි විභත්තිම්හි.**

---

අපවදනං අපවාදෙ, පටිසෙධො. ආරාදෙසස්ස අපවාදෙ ආරාදෙසාපවාදෙ, සත්‍ථු යනු වේ.

අසඞ්ඛ්‍යෙසු, ස පරකල්හි උපවනු වූ පක්ෂයෙහි; භාවනිද්දෙසෙන, ආරත්තං යන භාවනිර්දේශයෙන්; ආරාභාවො, ආර යන ආදේශයාගේ නොවීමයි; සත්‍ථුනො සත්‍ථුස්ස යනු වේ.

ආරත්තානන්ති, අසඞ්ඛ්‍යෙසවාරත්තං 2-3-40 යන සූත්‍රයෙන් ආරත්තං යනු; වත්තතෙ, (මතු සූත්‍රයට) වැටේ.

වා ය නම්හි ය යනු පදයි.

නම්හි විභත්තිම්හි, නං විභක්ති පරකල්හි; සත්‍ථුපිතුආදීනං, සත්‍ථු පිතු යනාදී වූ තුප්‍රත්‍යයාන්ත ශබ්දයන්ගේ; අන්තො, අන්ත උකාර තෙම; වා, විකල්පයෙන්; ආරත්තං, ආරයනාදෙශ බවට; ආපජ්ජතෙ, පැමිණේ.

අනන්තර සූත්‍රයෙන් ආරාදෙශයා නිත්‍යයෙන් සම්ප්‍රාප්ත කල්හි ඔහුගේ විකල්පය පිණිස මේ සූත්‍රය ආරබ්ධයයි දතයුතු. සත්‍ථාරානං යනු වේ.

**පුන සත්ථුග්ගහණං සත්ථුනො නිච්චවිධානත්ථං.**

**සත්ථානං.**

**අම්හතුම්හන්තුරාජ බ්‍රහ්මත්තසඛසත්ථුපිතාදීහි ස්මා නාවාති ස්මාවචනස්ස නාභාවො.**

**සත්ථාරා සත්ථාරෙහි සත්ථාරෙභි, සත්ථු සත්ථුනො සත්ථුස්ස සත්ථාරානං සත්ථානං.**

---

ආරුභාවෙ, ආරුදෙශයාගේ අභාවයක් ඇති කල්හි නො හොත් ආරුදෙශයාගේ අභාව පක්ෂයෙහි.

වා නමහීති, වා නමහි යනු; විකල්පනෙ, වැටේ.

සත්ථුනො අත්තං යී පදච්ඡෙදයි.

නමහි විභත්තිම්හි, නං විභක්ති පරකල්හි; සත්ථුසද්දන්තස්ස, සත්ථු යන මේ ශබ්දයාගේ අන්තය හටද; පිතාදීනමන්තස්ස ච, පිතු යනාදීන්ගේ අන්තය හටද; වා, විකල්පයෙන්; අත්තං හොති, අකාරාදෙශ බව වේ-මේ සූත්‍රයෙහි ච ග්‍රහණය සෙසු පිතු යනාදී ශබ්දයන්ගේ සංග්‍රහය වන පිණිසයි සත්ථු පිතාදීනං යනු ඇති කල්හි සත්ථු යන ශබ්දසාම ස්වරූප හෙයින් ගෙන ඉතරයන්ගේ ච ශබ්දයෙන් ගැන්ම කුමැයිද යත්? අර්ථාන්තරයක් හඟවන පිණිසයි, එහෙයින් යම් කලෙක්හි සත්ථු යන මේ ශබ්දය නං විභක්ති පරකල්හි ආරුදෙශ විනිර්මුක්තව වේ නම් එකල්හි තදන්තය හට අත්ව වේමය ඉතර වූ පිතු යනාදීන්ගේ වනාහි ආකාරාදෙසාභාවයෙහි අත්වවිනිර්මුක්තවූ ද ප්‍රයොග වන්නේ යී නො එසේ වීනම් හැමදෙනාගේ ම සමාන රූප ප්‍රසඞ්ගය වන්නේ යි එහෙයින් කියත් "පුන සත්ථුග්ගහණං සත්ථුනො නිච්චවිධානත්ථං" යී.

පුන සත්ථුග්ගහණං, නැවත සත්ථු යන මේ ශබ්දයාගේ ගැන්ම; සත්ථුනො නිච්චවිධානත්ථං, (ආරාදෙශාභාව පක්ෂයෙහි) සත්ථු යන මේ ශබ්දයාගේ අන්තය හට නිත්‍යයෙන් අත්ව විධානය ප්‍රයොජන කොට ඇත්තේ යී; සත්ථානං යනු වේ.

අම්හතුම්හ-පෙ-ස්මා නාව ඉති, අම්හතුම්හ-පෙ-ස්මා නාව යන මේ සූත්‍රයෙන්;ස්මාවචනස්ස,සත්ථු යන මේ ශබ්දයා කෙරෙන් පරවූ ස්මාවචනය හට; නාභාවො, නා රූපය වේ; සත්ථාරා යනාදිය වේ.

ආරතොති වත්තතෙ.

## 165 තතො ස්මිමි 2-3-46.

තතො ආරාදෙසතො ස්මිංවචනස්ස ඉකාරාදෙසො හොති-පුන තතොග්ගහණෙන අඤ්ඤස්මාපි ස්මිංවචනස්ස ඉකාරො.

යථා-භුවි දිවි.

## 166 ආරො රස්සමිකාරෙ 2-3-48.

ආරාදෙසො රස්සමාපජ්ජතෙ ඉකාරෙ පරෙ.
සත්ථරි සත්ථාරෙසු.

එවං කත්තා කත්තාරො, හෙ කත්ත හෙ කත්තා භවන්තො කත්තාරො, කත්තාරං කත්තාරෙ කත්තාරො, කත්තාරා කත්තාරෙභි කත්තාරෙහි.

ළ ස්මිං සලොපො චාති ළත්තං සලොපො ච.

කත්තු කත්තුනො කත්තුස්ස කත්තාරානං කත්තානං කත්තූනං, කත්තාරා කත්තාරෙභි කත්තාරෙහි, කත්තු කත්තුනො කත්තුස්ස කත්තාරානං කත්තානං කත්තූනං, කත්තරි කත්තාරෙසු-ආරාභාවෙ කත්තුසු.

---

ආරතොති, අඤ්ඤෙසඤ්චාරත්තං 2-3-40 යන සූත්‍රයෙන් ආරතො යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ;

තතො ය ස්මිං ය ඉ ය යනු පදයි.

තතො ආරාදෙසතො, ඒ ආරාදෙශයා කෙරෙන් පර වූ; ස්මිංවචනස්ස, ස්මිං වචනය හට; ඉකාරාදෙසො හොති, ඉකාරාදෙශ වේ; පුන තතොග්ගහණෙන, තතො යොනමොතු. 2-3-45 යන මේ සූත්‍රයෙහි තතොග්‍රහණය ඇති කල්හි නැවත තතො යන පදයාගේ ගැන්ම හෙතුකොට ගෙන; අඤ්ඤස්මාපි, සත්‍ථු පිතාදීහු කෙරෙන් අන්‍යවූ උකාරාන්තාදි නාමයා කෙරෙන් ද පරවූ; ස්මිංවචනස්ස, ස්මිං වචනය හට; ඉකාරො, (ජිනවචනානුරොධ යෙන්) ඉකාරාදෙශ වේ; යථා, එහි උදාහරණ මෙසේ යි; භූශබ්දයා

**එවං හත්තු වත්තු නෙතු සොතු ඤාතු ජෙතු ජෙත්තු භෙත්තු දාතු ධාතු නත්තු බොධූ විඤ්ඤාපෙතු ආදයොපි.**

**උ සස්මිං සලොපො චාති වත්තතෙ.**

## 167 සකමන්ධාතාදීනම 2-3-44.

**සකමන්ධාතු ඉච්චෙවමාදීනමනෙතා ච උත්තමාපජ්ජතෙ සස්මිං, සලොපො ච-නිච්චං පුනබ්බිධානා.**

**සකමන්ධාතු විය අස්ස රාජිනො විභවො-සෙසං සමං, එවං මහාමන්ධාතුප්පභුතයො.**

---

කෙරෙන් පර වූ සම්ං වචනය හට මෙයින් ඉකාරාදේශද ඔ සරෙච 2-1-27 යන සූත්‍රයෙහි ච ශබ්දයෙන් භූ ශබ්දයාගේ ඌකාරය හට උවාදෙශ ද දෙතැන්හි ම සවරලොපාදි කාය්‍ය්‍යීද කරන ලද කල්හි භුවි දිවි යන රූපවය වේ; භූ ශබ්දයෙන් පෘථිවිය කියත්; දිවි ශබ්දයෙන් දිව්‍යලොක කියත්.

ආරො ය රස්සං ය ඉකාරෙ ය යනු පදයි.

ඉකාරෙ පරෙ, (ආරා දෙශයා කෙරෙන් පර සත්‍යාමේ‍යක වචනය හට විහිත) ඉකාරයා පර කල්හි; ආරාදෙසො, ආරාදෙශ තෙම; රස්සං, හ්‍රස්ව බවට; ආපජ්ජතෙ, පැමිණේ; සත්ථරි සත්ථාරෙසු යනු වේ; සත්ථු ශබ්දයෙන් අනුශාසකයා කියත්.

කත්තා කත්තාරො, කත්තා කත්තාරො යනාදිය ද; එවං, මෙසේ මැයි; කරොතීති කත්තා, කරන්නේ යී.

උ සස්මිං සලොපො චාති, උ සස්මිං සලොපො ච 2-3-43 යන සූත්‍රයෙන්; උත්තං, ස පරකල්හි කත්තු යන මොහුගේ අන්ත උකාරය හට උත්වය වේ; සලොපො ච, ස හට ලොපද වේ; කත්තු කත්තුනො යනාදිය වේ, ආරාභාවෙ, (ආරත්තං යන භාවනිර්දේශයෙන් සු පරකල්හි) ආරාදෙශ නොවූ පක්ෂයෙහි; කත්තු සු යනු වේ.

“හත්තු-පෙ-විඤ්ඤාපෙතු ආදයොපි අඤ්ඤෙ තුප්පච්චයන්තා සද්දා එවං කත්තුසද්දනයෙන ඤෙය්‍යා” යී යොදනු.

භරතීති භත්තා, ස්වාමි යි; වදතීති වත්තා, වාග්මී යි; නෙතීති නෙතා, විනෙය ජනයන් සංසාරසඞ්ඛ්‍යාත භයස්ථානයෙන් ගෙන හැර නිර්වාණසඞ්ඛ්‍යාත ක්ෂෙමස්ථානයට පමුණුවන්නේ යි; යම් කිසි

පාපයකුදු කියත්; සුණාතීති සොතා, අසන්නේ සි; ඤායතීති ඤාතා, දන්නේ සි; ජිනාතීති ජෙතා, දිනන්නේ සි; ඡින්දතීති ඡෙත්තා, සිඳින්නේ සි; භින්දතීති භෙත්තා, බිඳින්නේ සි; දදාතීති දාතා, දෙන්නේ සි; දධාතීති ධාතා, ධරන්නේසි, බ්‍රහ්මයාද කියත්; පුත්තස්ස පුත්තො නත්තා, මුනුබුරුයි; බුජ්ඣතීති බොද්ධා, දන්නේ සි; විඤ්ඤාපෙතීති විඤ්ඤාපෙතා, භගවත්නේ සි. ආදයොපි, මේ ආදීහුද; එවං, මේ කත්තුශබ්දයා මෙනි.

උ සස්මිං සලොපො චාති, උ සස්මිං සලොපො ච යනු; එත්තක්කෙ වැටේ;

සකම්මන්ධාතාදීනං ය ච ශ යනු පදයි.

සකො ච මන්ධාතා ච සකමන්ධාතා, සකමන්ධාතා ආදි යෙසං තෙ සකම්මන්ධාතාදයො, තෙසං සකමන්ධාතාදීනං–ආදි ශබ්දයෙන් මහා මන්ධාතා යනාදීන්ගේ ග්‍රහණයයි ච ශබ්ද සමුච්චයෙහි වැටේ. සස්මිං, ස විභත්ති පර කල්හි; සකමන්ධාතු ඉති, සකමන්ධාතු යන; එවමාදීනං අන්තො ච, මේ ආදී ශබ්දයන්ගේ අන්තාවයව වූ උකාරද; උත්තමාපජ්ජතෙ, උකාර බවට පැමිණෙයි; සලොපො ච, ස හට ලොප්ද වේ; පුනබ්බිධානා, අනන්තර සූත්‍රයෙන් ම උත්වය සිඬකල්හි නැවත උත්ව විධානය හෙතුකොට ගෙන; නිච්චං, සක මන්ධාතු යනාදී ශබ්දයන්ගේ අන්තය හට; උත්වය අවිකල්ප යෙන් වේ;

අස්ස රාජිනො විභවො, මේ රජහුගේ විභවය; සකම්මන්ධාතු විය, සකරජහුගේ හා මන්ධාතු රජහුගේ විභවය මෙනි; සෙසං, මේ ශබ්දයාගේ සෙසු රූප; සමං, සත්‍ථු පිතාදීන්ගේ රූප හා සමයි; මහාමන්ධාතුප්පභුතයො, මහාමන්ධාතු යනාදීහු ද; එවං, (සවිභත්ති පරවිෂයෙහි) මේ සකමන්ධාතු යන ශබ්දයාසේ මැයි. මහන්තො මන්ධාතා මහාමන්ධාතා, මහාමන්ධාතා පභුතයො මහා මන්ධාතුප්පභුතයො, මහාමන්ධාතු ශබ්දයෙනුදු එනම් රජෙකු කියත්.

**පිතුසද්දස්ස භෙදෙ.**

**සිමහි-ආනනසිලොපො-පිතා-යොමහි.**

**ආරෙ රස්සන්ති ච වත්තතෙ.**

## 168 පිතාදීනමසිම්හි 2-3-49.

**පිතාදීනමාරාදෙසො රස්සමාපජ්ජතෙ අසිම්හි විභත්තිම්හි- සිස්මිං ආරාදෙසාභාවෙපි අසිම්හීති අධිකවචනමඤ්ඤත්ථ විඤ්ඤාපනත්ථං-තෙන තොආදිම්හි පිතාදීනමිකාරො ච-යථා, පිතිතො මාතිතො භාතිතො ධීතිතො පිතිපක්ඛො මාතිපක්ඛොති.**

---

පිතුසද්දස්ස, පිතු යන ශබ්දයාගේ; භෙදෙ, තුප්‍රත්‍යයාන්ත බවක් ඇතද රූපනානත්වයෙක් ඇති.

සිමහි, සිවිභක්ති පරකල්හි; ආනනසිලොපා, (සත්‍ථුපිතාදීනං යනාදී සූත්‍රයෙන් පිතු යන මොහුගේ අන්තඋකාරය හට) ආකාරාදෙශ සි හට ලොප යන මේ කාර්‍ය්‍යයෝ දෙන්න වෙත්; පාතිති පිතා; යොමහි, යො විභක්ති පරකල්හි.

ආරෙ රස්සන්ති ච, ආරෙ රස්සමිකාරෙ 2-3-48 යන සූත්‍රයෙන් ආරෙ යනුද රස්සං යනුද; වත්තතෙ, වැටේ.

පිතාදීනං ය අසිම්හි ය යනු පදයි.

පිතා ආදි යෙසං මාතුභාතුආදීනං තෙ පිතාදයො, තෙසං පිතාදීනං, අසිමහි විභත්තිම්හි, සි විභක්ති වර්ජිතයා පරකල්හි; පිතාදීනං, පිතුශබ්දාදීන්ගේ; ආරාදෙසො, ආරයනාදෙශය තෙම; රස්සං, හ්‍රස්ව බවට; ආපජ්ජතෙ, පැමිණේ—සවිභක්ති පරකල්හි තුප්‍රත්‍යයාන්තයන්ගේ අන්තය හට ආරාදෙශ නැතිකල්හි, අසිම්හි යනු කියේ කුමැයි යන චොද්‍යය ආසඞ්කා කොට එහි ප්‍රයොජන දක්වනු වෝ "සිස්මිං ආරාදෙසාභාවෙපි" යනාදි කීහු. සිස්මිං, සි විභක්ති පරකල්හි; ආරාදෙසාභාවෙපි, ආරාදෙශයාගේ අභාවය ඇතිකල්හිද; අසිම්හීති අධිකාවචනං, අසිම්හි යන අධික

**පිතරෝ-සෙසං කත්තුසමං.**

**හො පිත හො පිතා භවන්තො පිතරො, පිතරං පිතරෙ, පිතරා පිතරෙහි පිතරෙහි.**

**භාවනිද්දෙසෙන ආරාදෙසාභාවෙ-**

**පිතුහි පිතුභි, පිතු පිතුනො පිතුස්ස පිතරානං පිතානං පිතූනං.**

**දීඝාභාවෙ-පිතුනනං වා-පිතරා පිතරෙහි පිතරෙභි පිතුහි පිතුභි, පිතු පිතුනො පිතුස්ස පිතරානං පිතානං පිතූනං පිතුනනං, පිතරි පිතරෙසු පිතූසු.**

**එවං භාතා භාතරො ඉච්චාදි.**

**උකාරන්තං.**

---

වචනය තෙම; අත්ථන්තරවිඤ්ඤාපනත්ථං, අර්ථවිශෙෂයක්හුගේ හැඟවීම ප්‍රයොජන කොට ඇත්තේ යි; තෙන, ඒ අසිමහි යන අධි[illegible]වචනයා අර්ථාන්තරයක් හැඟවීම ප්‍රයොජන කොට ඇති හෙයින්; තොආදිමහි, තොප්‍රත්‍යයපක්ෂ ශබ්දදීහු පරකල්හි; පිතාදීනං, පිතුයනාදී තුප්‍රත්‍යයාන්තයන්ගේ අන්ත උකාරය හට; ඉකාරො ච, ඉකාරාදෙශයකුදු වේ; ච ශබ්ද ග්‍රහණයා සමුච්චය කෙරේ; යථා, හේ මෙසේයි.

පිතිතො-පෙ-මාති පක්ඛොති, පිතිතො-පෙ-මාතිපක්ඛො, යනුයි. පිතුතො පක්ඛො පිතිපක්ඛො, මාතුයා පක්ඛො මාති පක්ඛො-පක්ඛශබ්ද මෙහි වර්ගවාචී යි,

පිතරෙ යනු වේ. සෙසං, සෙසු රූප; කත්තුසමං, කත්තු යන මේ ශබ්දයාගේ රූප හා සමයි.

හො පිත හො පිතා යනාදිය වේ.

භාවනිද්දෙසෙන, ආරත්තං යන භාවනිර්දේශයෙන්; ආරාදෙසාභාවෙ, ආරාදෙශයාගේ නොවීමෙහි පිතුහි පිතුභි යනාදිය වේ.

දීඝාභාවෙ, සුනංහිසු ච 2-1-38 යන සූත්‍රයෙන් දීර්ඝයාගේ අභාව පක්ෂයෙහි; පිතුනනං වා, පිතුනනං යනු හෝ වෙයි—මෙහි නො ච වාදිතො නමහි 2-1-16 යන සූත්‍රයෙහි චශබ්දග්‍රහණයෙන්

**ඌකාරන්තො පුල්ලිඞ්ගො අභිභූසද්දො.**

**තථෙව, ස්‍යාදුප්පත්ති, සිලොපො-සො අභිභූ-**

**යොලොපෙ කතෙ අභිභූ-**

**අසො රස්සන්ති ආදිනා රස්සත්තං, වොකාරො-කතරස්සත්තා අත්තාභාවො.**

**අභිභුවො, හෙ අභිභූ හො අභිභූ අභිභුවො.**

---

නකාරාගමයෙක් වේ; පිතරා යනාදිය වේ. පිතෘශබ්දයෙන් පියන් කියත්; භාසතීති භාතා; භාතෘ ශබ්දයෙන් මල්බෑයන් කියත්; භාතා භාතරො ඉති ආදි, භාතා භාතරො යනාදිය; එවං, මෙසේ මේ පිතු ශබ්දයා මෙනි—මෙහි ආදි ශබ්දයෙන් භාතරං භාතරො යනාදි ගන්නු.

උකාරන්තං.

උකාරාන්ත පුල්ලිඞ්ගනාම වර්ණනාව යි.

---

ඌකාරන්තො, ඌකාරයා අන්තාවයවකොට ඇති; පුල්ලිඞ්ගො, පුල්ලිඞ්ගයෙන් යුක්ත; අභිභූසද්දො, අභිභූශබ්ද තෙම; (දස්සීයතෙ, දක්වනු ලැබේ.)

අභිභවතීති අභිභූ, ප්‍රතිපක්ෂයන් මැඩපවත්නේ යි, සිඛීසම්බුද්ධයන්ගේ එනම් ශ්‍රාවක කෙනකු නු දු කියත්;

තථෙව, එසේම; ස්‍යාදුප්පත්ති, සි ආදි විභක්ති වේ; සිලොපො, සි හට ලොප් වේ; සො අභිභූ යනු වේ; යොලොපෙ කතෙ, යො විභක්ති ලොපය කළ කල්හි; අභිභූ යනු වේ.

අසො රස්සන්ති ආදිනා, අසො රස්සං යනාදි සූත්‍රයෙන්; රස්සත්තං, (යො පරකල්හි අස හට) හ්‍රස්වබව වේ; වොකාරො, ළසංඥයා කෙරෙන් පර වූ යො වචනය හට 'ළතො වොකාරො ච 2-1-68 යන සූත්‍රයෙන් වොකාරාදෙශ වේ; කතරස්සත්තා, යො පරකල්හි ළසංඥයාගේ කරන ලද හ්‍රස්ව ඇති බව හෙතුකොට ගෙන; අත්තාභාවො, ඕහට වෙවොසු ලො ච 2-1-46 යන සූත්‍රයෙන් වන අත්වයාගේ නොවීමයි—බහුවචනයෙහි භවනෙනා

**කතරස්සන්තා චෙවආදෙසො න හොති-සෙසං භික්ඛුසද්දසමං, රස්සන්තමෙව විසෙසො.**

**අභිභුං අභිභූ අභිභුවො-අභිභුනා අභිභූහි අභිභූභි, අභිභුනො අභිභුස්ස අභිභූනං ඉච්චාදි.**

**එවං සයම්භූ වෙස්සභූ පරාභිභූ ආදයො-සහභූසද්දස්ස යොනං නොආදෙසොව විසෙසො.**

**සහභූ සහභුවො සහභුනො ඉච්චාදී.**

**තථා සබ්බඤ්ඤූසද්දස්ස යොනං නොව විසෙසො.**

**සො සබ්බඤ්ඤූ තෙ සබ්බඤ්ඤූ.**

---

අභිභූ අභිභුවො සි යොදනු, නොහොත් හො යි එකවචන බහුවචන සාධාරණ වූ ආමන්ත්‍රණය යි අව්‍යාවි නිපාතයකු දු ඇති බැවින් හො අභිභූ යන තැන හො යනුම ගෙන හො අභිභූ අභිභුවො යි යෙදිය යුතු. එයින් කීහු මඤ්ජුෂකාරයෝ "හොතිදං ආමන්තණත්ථෙ නිපාතො සො න කෙවලං එකවචනං හොතීති ඤාපෙතුං බහුවචනප්පයොගොපි ගහිතො" යි.

අභිභුවො, හො අභිභූ යනාදිය වේ.

කතරස්සන්තා, (යො පරකල්හි ලසංඥයාගේ) කරන ලද හ්‍රස්ව ඇති බව් හේතු කොට ගෙන; චෙ ආදෙසො න හොති, (ඔහු කෙරෙන් පර වූ ආලපන යො හට "අකතරස්සා ලතො ය්වාලපනස්ස වෙවො" 2-4-65 යන සූත්‍රයෙන් විධියමාන) වේ යන ආදෙශය නො වේ, එහෙයින් ලතො වොකාරෙ ච 2-1-68 යන සූත්‍රයෙන් මෙහි යො හට වොකාරාදෙශම වේ.

සෙසං, අභිභූ ශබ්දයාගේ සෙසු විතීයාදියෙහි රූප; භික්ඛුසද්දසමං, භික්ඛු යන මේ ශබ්දයාගේ විතීයාදියෙහි රූප හා සම්යි; රස්සන්තමෙව විසෙසො, මෙහි අසො යනාදි සූත්‍රයෙන් විධීයමාන හ්‍රස්වත්වය ම වෙනසි; අභිභුං අභිභූ අභිභුවො යනාදිය වේ.

සයම්භූ වෙස්සභූ පරාභිභූ ආදයො, සයම්භූ වෙස්සභූ පරාභිභූ යනාදී ශබ්දයෝ; එවං, මේ අභිභූ ශබ්දයා මෙනි.

සයමෙව අනාචරියකො හවතීති සයම්භූ, බුද්ධප්‍රත්‍යෙක බුද්ධයෝයි, වෙස්සභූ නම් සම්‍යක්සම්බුද්ධකෙනෙකි; පරං අභිභවතීති පරාභිභූ, මෙණ්ඩා මැඩ පවත්නෝයි ...

**යොලොපාභාවෙ රස්සත්තං-ලතො වොකාරො චාති එත්ථ චකාරග්ගහණෙන යොනං නො ආදෙසො-වාධිකාරස්ස වවත්ථිත විභාසත්තා න ච වොකාරො.**

**සබ්බඤ්ඤුනො-හෙ සබ්බඤ්ඤු සබ්බඤ්ඤු සබ්බඤ්ඤුනො, සබ්බඤ්ඤුං සබ්බඤ්ඤු සබ්බඤ්ඤුනො ඉච්චාදි.**

**එවං මග්ගඤ්ඤු ධම්මඤ්ඤු අත්ථඤ්ඤු කාලඤ්ඤු රත්තඤ්ඤු මත්තඤ්ඤු කතඤ්ඤු තථඤ්ඤු විඤ්ඤු විදූ වෙදගූ පාරගූ ඉච්චාදයො.**

**ඌකාරන්තං.**

---

සහභූසද්දස්ස, සහභූ ශබ්දයාගේ; විසෙසො, වෙනස නම්; යොනං නො ආදෙසොච, ඔහු කෙරෙන් පර යො වචනයන්ට ලතො වොකාරො ච 2-1-68 යන සූත්‍රයෙහි චකාරග්‍රහණයෙන් නො ආදෙශ වීමයි; නොහොත් "යොනං නො ආදෙසොච සහභූ සද්දස්ස විසෙසො" යී යොදනු; සහභූ සහභුවො යනාදිය වේ. සහ භවන්තීති සහභූ, එක්ව උපදනෝ යී; "චිත්ත සහභුනො ධම්මා" යනාදියෙහි මෙනි.

තථා, එසේම; සහභූ ශබ්දයා මෙනැයි සේ යී. සබ්බඤ්ඤු සද්දස්ස, සබ්බඤ්ඤු යන මේ ශබ්දයාගේද; යොසු එව, යො විභක්ති විෂයෙහි ම; විසෙසො, වෙනසක් ඇති; සො සබ්බඤ්ඤු නෙ සබ්බඤ්ඤු යනුවේ. සබ්බං අනවසෙසතො ඤෙය්‍යමණ්ඩලං ජානාති අප්පටිහතඤාණචාරතායාති සබ්බඤ්ඤු, බුදුහුයි.

යොලොපාභාවෙ, සපනතො ච යොනං ලොපො 2-1-67 යන සූත්‍රයෙන් යො හට ලොප් නොවූ පක්ෂයෙහි; රස්සත්තං, (යො පරකල්හි අඝ හට අසො යනාදි සූත්‍රයෙන්) හ්‍රස්ව බව වෙයි; ලතො වොකාරො ච ඉති, ලතො වොකාරෙ ච 2-1-68 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; කාරග්ගහණෙන, කාරග්‍රහණය හෙතුකොට ගෙන; යොනං, යො විභක්තීන්ට; නො ආදෙසො, නො යනාදෙශ වෙයි; වාධිකාරස්ස වවත්ථිතවිභාසත්තා, මෙම සූත්‍රයෙන් වාධිකාරයාගේ ව්‍යවස්ථිත විභාෂාභාව හෙතුකොට ගෙන; න ච වොකාරො, යො වචනයන්ට වොකාරාදෙශ නොවේ; වා ඉති අධිකාරො වාධිකාරො, තස්ස වාධිකාරස්ස. සබ්බඤ්ඤුනො යනාදිය වේ.

**එකාරන්තො අප්පසිද්ධො.**

**ඔකාරන්තො පුල්ලිඞ්ගො ගොසද්දො.**

**තතො ස්‍යාදුප්පත්ති-සිලොපො.**

**ගො ගච්ඡති.**

**ගාව සෙති ඉතො ගොති අධිකාරෙ.**

---

මග්ගඤ්ඤූ-පෙ-පාරගූ ඉති ආදයො, මග්ගඤ්ඤූ-පෙ-පාරගූ යනාදීහු: එවං, මේ සබ්බඤ්ඤූ ශබ්දයා මෙනි

මග්ගං ජානාතීති මග්ගඤ්ඤූ, ප්‍රත්‍යවෙක්ෂා වශයෙන් තමා විසින් උපදවන ලද ආර්‍ය්‍ය මාර්ගය දන්නේයි නොහොත් මාර්ගයයි උපායද පථයද කියත්; ධම්මං ජානාතීති ධම්මඤ්ඤූ, ධර්මය දන් නේයි; අත්ථං ජානාතීති අත්ථඤ්ඤූ, කාරණ දන්නේයි; කාලං ජානාතීති කාලඤ්ඤූ,(තත් තත් කෘත්‍යයට සුදුසු) කල් දන්නේයි; රත්තිං ජානාතීති රත්තඤ්ඤූ, චිරකල් දන්නේයි හෙවත් දීර්ඝායුෂ්ක වූයේයි;මත්තං පමාණං ජානාතීති මත්තඤ්ඤූ,(ප්‍රතිග්‍රහණාදී යෙහි, ප්‍රමාණ දන්නේයි; කතං උපකාරං ජානාතීති කතඤ්ඤූ, කළ උපකාර දන්නේයි; තථං ජානාතීති තථඤ්ඤූ, අවිපරීත ස්වභාව දන්නේයි; විජානාතීති විඤ්ඤූ, වෙදෙතීති විද්වා, දෙකින් ම පණ්ඩිතවරුන් කියත්;වෙදං ඤාණං ගච්ඡති අව බුජ්ඣතීති වෙදගූ, “යෙ ගත්‍යර්ථාසෙත බුද්ධ්‍යර්ථා යෙ බුද්ධ්‍යර්ථාසෙත ගත්‍යර්ථා” යනු හෙයින් මේ ගමු යන ධාතු අවගමනාර්ථ වාචී ප්‍රතිවිද්ධඥාන ඇත්තේ වෙදගූ නම්. නොහොත්, විදිතෙ කත්වා ගච්ඡතීති වෙදගූ, සියළු ධර්මයන් ප්‍රකට කොට පවත්නේයි. “වෙදෙන ගච්ඡති පවත්තතීති වෙදගූ” යි ගත්කල්හි ඥානය හෙතු කොටගෙන හෝ කාරණ කොටගෙන හෝ පවත්නේයයි කියනු ලැබේ. පාරං ගච්ඡති සීලෙනාති පාරගූ, කෙළ පැමිණෙන සුළුවූ යේයි.

ඌකාරන්තං.

ඌකාරාන්ත පුංලිඞ්ගනාම වර්ණනාවයි.

—— o ——

එකාරන්තො, එකාරය අන්තාවයව කොට ඇති ශබ්දයෙක්; අප්පසිද්ධො, අප්‍රසිද්ධයි; අප්‍රකටයයි සේයි මේ දශ සඞ්ඛ්‍යා ශබ්දයන් ගෙන කියන ලදී, අසඞ්ඛ්‍ය ශබ්දයන් කෙරෙහි වනාහි අරේජේ යනාදී වූ එකාරාන්ත ශබ්දයෝ ප්‍රසිද්ධයෝ මැයි.

**ආව ඉති ච වත්තතෙ.**

## 169 යොසු ච 2-1-23.

**ගොඉච්චෙතස්ස ඔකාරස්ස ආවාදෙසො හොති යොසු පරෙසු-චසද්දෙන නා ස්මා ස්මිං සු ඉච්චෙතෙසු ච-තතො යොනමොතූති එත්ථ තුග්ගහණෙන යොනමොකාරො-සරලොපාදි-ගාවො තිට්ඨන්ති.**

## 170 අවම්හි ච 2-1-24.

**ගොඉච්චෙතස්ස ඔකාරස්ස ආව අව ආදෙසා හොන්ති අම්හි විභත්තිම්හි-චසද්දෙන යො නා ස ස්මා ස්මිං සු ඉච්චෙතෙසු ච අවාදෙසො හොති.**

**ගවො ගච්ඡන්ති-හෙ ගො හෙ ගාවො හෙ ගවො.**

---

ඔකාරන්තො, ඔකාරයා අන්තාවයව කොට ඇති; පුල්ලිඞ්ගො, පුල්ලිඞ්ගයෙන් යුක්ත වූ; ගොසද්දො, ගොශබ්දය තෙම; (දස්සීයතෙ, දක්වනු ලැබේ.)

තතො, ඒ ගොශබ්දයා කෙරෙන් පරව; ස්‍යාද්‍යුප්පත්ති, සි ආදී විභක්තීන්ගේ උත්පත්තිය වේ; සිලොපො, සිවිභක්තිහුගේ ලොපය වේ; ගො, ගව තෙම; ගච්ඡති, යෙයි;

ගාව සෙ ඉති, ගාව සෙ 2-1-22 යන; ඉතො, මේ සූත්‍රයෙන්; ගො ඉති, ගො යනු; අධිකාරො, ගොශබ්දය හට කාර්‍ය්‍යවිධායක සියලු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ.

ආව ඉති ච, මෙම සූත්‍රයෙන් ආව යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

යොසු ය ච ය යනු පදයි.

යොසු පරෙසු, යො විභක්තීන් පරකල්හි; ගො ඉති, ගො යන; එතස්ස ඔකාරස්ස, මොහුගේ ඔකාරය හට; ආවාදෙසො හොති, ආව යනාදෙශ වේ; චසද්දෙන; මේ සූත්‍රයෙහි ච ශබ්දයෙන්; නා ස්මා ස්මිං සු ඉති, නාය ස්මාය ස්මිංය සුය යන; එතෙසු ච; මේ විභක්ති රූපයන් පරකල්හි ද ගො ශබ්දයාගේ ඔකාරය හට ආව යන ආදෙශ වේ; තතො යොනමොතු ඉති, තතො යොනමොතු

**දුතියායං අම්හීති ච වත්තතෙ.**

## 171. ආවස්සු වා 2-1-25.

**ආව ඉච්චෙතස්ස ගාවාදෙසස්ස අන්තස්ස සරස්ස උකාරා දෙසො හොති වා අම්හි විභත්තිම්හි-ආවස්ස අ ආව, තස්ස ආවසද්දන්තස්ස-අමෙමාති ආදිනා නිග්ගහීතං.**

---

-2-3-45 යන; එහි, මේ සූත්‍රයෙහි; තුග්ගහණෙන, තු ශබ්දයාගේ ගැන්මෙන්;යොනං,යො වචනයන් ට; ඔකාරො, ඔකාරාදෙශ වේ; සරලොපාදි, ස්වරලොප් ආදිය වේ; ගාවො, ගවයෝ; තිඨන්ති, සිටිත්.

අව් ය අම්හි ය ච ය යි බිදේ.

අම්හි විභත්තිම්හි, අං විභක්ති පර කල්හි; ගො ඉති, ගො යන, එතස්ස, මේ ශබ්දයාගේ; ඔකාරස්ස, ඔකාරය හට; ආව අව ආදෙසා හොන්ති, ආව අවාදෙශයෝ වෙත්—මෙහි ගාව සෙ 2-1-22 යන සූත්‍රයෙන් ආව යනු වැටේ, යට“ යොසු ච” 2-1-23 යන සූත්‍රයෙහි චග්‍රහණයෙන් ආව අවා දෙශද මත්තෙහි ඕ සරෙ ච 2-1-27 යන සූත්‍රයෙන් ආවාදෙශද උපලබ්භ්‍යමාන කල්හි මේ සූත්‍රය නොකිය යුතුද යත්? නොකියයුතු නොවේ, කවර හෙයින්ද යත්? ඕ සරෙ ච 2-1-23 යන සූත්‍රය සමාස විෂයෙහි ස්වරයා පරකල්හි කියන ලදී එහෙයින් අසමාස විෂයෙහි ද ආවාදෙශ පිණිස ද යට සූත්‍රයෙහි චග්‍රහණයා නිසා නො කියන ලද කල්හි ආවාදෙශ ම වේද්‍යෙහෝයි සාඞ්කා වන්නීය එහෙයින් නිවාරණය පිණිස ද උපාත්තහෙයිනි. ච් සද්දෙන, මේ සූත්‍රයෙහි ච් ශබ්දයෙන්; යො නා ස ස්මා ස්මිං සු ඉති,යො ය නා ය ස ය ස්මා ය ස්මිං ය සු ය යන; එතෙසු ච, මේ විභක්ති රූපයන් පරකල්හි ද; අවාදෙසො හොති, අව යන ආදෙශ වේ; ගවො, ගවයෝ; ගච්ඡන්ති, යෙත්; හෙ ගො හෙ ගාවො හෙ ගවො යනු ද වේ.

දුතියායං, විතීයා විෂයෙහි; අම්හි ඉති ච, අවම්හි ච 2-1-24 යන සූත්‍රයෙන් අම්හි යනුද; වත්තතෙ, වැටේ. අම්හීති ච යන මෙහි චශබ්ද ගො යනු සම්පිණ්ඩනය කෙරේ.

ආව්ස්ස ය උ ය වා ය යනු පදයි.

අම්හි විභත්තිම්හි, අංවිභක්ති පරකල්හි; ආව් ඉති, ආව යන, එතස්ස,මේ;ගාවාදෙසස්ස, ගොශබ්දයා සම්බන්ධි වූ ගාව යන ආදෙශ

**ගාවුං ගාවං ගවං ගාවො ගවො.**

**ගොණ නමඝි වාති වතතතෙ.**

## 172. සුහිනාසු ච 2-1-30.

**සුහිනා ඉවෙච්චතෙසු සබ්බස්ස ගොසද්දස්ස ගොණාදෙසො හොති වා-විසදෙදන සෙසෙසු ච.**

---

යාගේ; අන්තස්ස සරස්ස, අන්තාවයව වූ ස්වරයා හට ද; උකාරාදෙසො හොති, උකාරාදෙශ වේ—මෙහි ආවස්ස යි අනියමයෙන් කී කල්හි ද ගො යනු අධිකාර හෙයින් ගොශබ්දයාගේ අන්තය හට විහිත ආවාදෙශය ගන්නා ලදැයි හැඟේ. එයින් කීහු "ආව ඉච්චෙතස්ස ගවාදෙසස්ස" යි, දුන් සූත්‍රයෙහි අන්තග්‍රහණයක් නැත ද "ආව ඉච්චෙතස්ස ගවාදෙසස්ස අන්තස්ස සරස්ස" යි මෙසේ සූත්‍ර විවරණ කිරීම සූත්‍රකාරයන් විසින් ම "ආවස්ස අ ආව" යි ෂෂ්ඨී සමාස කොට සරා සරෙ ලොපං 1-2-1 යි පූර්වස්වර ලොපද පරනයනද ආදෙශාපෙක්ෂායෙන් ෂෂ්ඨී විභක්තිද කොට ආවස්ස යි දැක්වූ හෙයිනැ යි හඟවනුවෝ "ආවස්ස අ" යනාදි කීහු; ආවස්ස, ආවශබ්දයාගේ; අ, අකාර තෙම; ආව, ආව නම් වෙයි; තස්ස ආව සද්දන්තස්ස, ඒ ආවශබ්දයාගේ අන්ත අ හට; (උකාරො හොති, උකාරයෙක් වෙයි)-ගාවසෙ 2-1-22 යන සූත්‍රයෙන් ගාවග්‍රහණය වැටෙන කල්හි මේ සූත්‍රයෙහි ආවග්‍රහණය නැවතද ඉෂ්ටාර්ථසිද්ධිය වන්නේද යත්? සිද්ධ නොවේ, අනන්තර සූත්‍රයෙහි ආවාදෙශයා විහිත හෙයින්ද මත්තෙහිද ඕහුම වැටෙන හෙයින්ද මීට එම වැටේද්‍යෙහෝ යි සන්දෙහ වන්නේ යි එහෙයින් එව ග්‍රහණයාගේ නිවෘත්තිය පිණිස මෙහි ආවග්‍රහණය කරන ලදැයි දතයුතු.

අමෙමාති ආදිනා, අමෙමා නිග්ගහීතං ඛලපෙහි 2-1-31 යන සූත්‍රයෙන්; නිග්ගහීතං, ලසංඥයා කෙරෙන් පර වූ අං වචනය හට අනුස්වාරයෙක් වේ.

ගාවුං ගාවං යනාදිය වේ.

ගොණ නමඝි වාති, ගොණ නමඝි වා 2-1-29 යන සූත්‍රය; වතතතෙ, මතු සූත්‍රයට වැටේ.

සුහිනාසු ය ච ය යනු පද යි.

**ගොණො ගොණා, හෙ ගොණ ගොණා, ගොණං ගොණෙ, ගොණෙන ගොණෙහි ගොණෙභි, ගොණස්ස.**

## 173. ගොණ නම්හි වා 2-1-29.

**සබ්බස්ස ගොසද්දස්ස ගොණාදෙසො හොති වා නම්හි විභත්තිම්හි.**

**ගොණානං, ගොණා ගොණම්හා ගොණස්මා ගොණෙහි ගොණෙභි, ගොණස්ස ගොණානං, ගොණෙ ගොණම්හි ගොණස්මිං ගොණෙසු.**

**ගොණාදෙසාභාවෙ-**

**ගාවෙන ගවෙන ගොහි ගොභි.**

## 174. ගාව සෙ 2-1-22.

**ගො ආව සෙ ඉති තිපදමිදං-ගොස්ස ඔ ගො-ගොසද්දොකාරස්ස ආවාදෙසො හොති සෙ විභත්තිම්හි.**

**ගාවස්ස ගවස්ස-**

---

සුහිනා ඉති, සු ය හි ය නා ය යන;එතෙසු.මොවුන් පරකල්හි; සබ්බසෙසව ගොසද්දස්ස, සියලු ම ගො ශබ්දය හට; වා, විකල්පයෙන්; ගොණාදෙසො හොති,ගොණ යන ආදෙශ වේ; චසද්දෙන, මේ සූත්‍රයෙහි චග්‍රහණයෙන්; සෙසෙසු ච, සෙසු ප්‍රථමාදි විභක්ති පරකල්හිද "සබ්බසෙසව ගොසද්දස්ස ගොණා දෙසො හොති" යි. යොදනු—ගොශබ්දය [හට ගොණාදෙශ විධානයද ගොණශබ්දයාගේ ගොශබ්දපර්‍ය්‍යාය භාවය දක්වන පිණිසය යි දතයුතු.

ගොණො ගොණා යනාදිය වේ.

ගොණ ය නම්හි ය වා ය යනු පදයි.

නම්හි විභත්තිම්හි, නං විභක්ති පරකල්හි; සබ්බස්ස ගොසද්දස්ස, සියලු ගො ශබ්දය හට; වා, විකල්පයෙන්; ගොණාදෙසො හොති, ගොණ යනාදෙශ වේ.

**නම්හි-ගො අවාඞ් ච වත්තතෙ.**

## 175. තතො නමම්පතිම්හාලුත්තෙ ච සමාසෙ 2-1-26.

**තතො ගොසද්දතො පරස්ස නං වචනස්ස අං ආදෙසො හොති ගොසද්දොකාරස්ස අවාදෙසො ච පතිම්හි පරෙ අලුත්තෙ සමාසෙ, චසද්දෙන අසමාසෙපීති අං අවාදෙසො.**

**ගවම්පතිස්ස ථෙරස්ස-ගවං.**

---

ගොණානං යනාදිය වේ—"යොගවිභාගාදිෂ්ටප්‍රසිද්ධිඃ" යනු හෙයින් ගොණ යන යොගවිභාගයෙන් ගොණභූතානං යනාදියෙහිද ගො ශබ්දය හට ගොණාදෙශ වේ.

ගොණාදෙසාභාවෙ, ගොණාදෙශයාගේ නොවීමෙහි, ගාවෙන ගවෙන ගොහි ගොභි යනු වේ.

ගො ආව සෙ ඉති, ගො ය ආව ය සෙ ය යි; ඉදං, මේ සූත්‍රය; තිපදං, පද තුනකි; ගොස්ස ඔ, ගොශබ්දයාගේ ඔකාර තෙම; ගො, ගො නම්—මෙයින් ගොශබ්දයාගේ අන්ත්‍යාවයව වූ ඔකාරයා ගන්නා ලද බව දක්වූහු, එහෙයින් ම ගො යි ප්‍රථමෛක වචනාන්ත කොට සූත්‍රය දක්වන ලදී.

සෙ විභත්තිම්හි, සවිභක්ති පරකල්හි; ගොසද්දොකාරස්ස, ගො ශබ්දයාගේ ඔකාරය හට; ආවාදෙසො හොති, ආව යන ආදෙශය වේ; ගාවස්ස ගවස්ස යනු වෙයි.

නම්හි, නං විභක්ති කරන ලද කල්හි ගො ශබ්දයාගේ රූප දක්වනු ලැබේ.

ගො අවාති ච වත්තතෙ, ගාවසෙ 2-1-22 යන සූත්‍රයෙන් විභක්ති විපරිනාම වශයෙන් ගො යනුද අවම්හි ච 2-1-24 යන සූත්‍රයෙන් අව යනුද වැටේ.

තතො ය නං ය අං ය පතිම්හි ය අලුත්තෙ ය ච ය සමාසෙ ය යනු පදයි.

අලුත්තෙ සමාසෙ, අලුක්සමාස විෂයෙහි විභක්තිලොප නැති සමාසයෙහිය යි සේයි; පතිම්හි පරෙ, පතිශබ්දයා පරකල්හි; තතො ගො සද්දතො පරස්ස, ඒ ගො ශබ්දයා කෙරෙන් පර වූ;

**සුහිනාසු චාති එත්ථ චසද්දෙන නම්හි ගු ආදෙසො ච- නො ච ඣාදිතො නම්හීති සුත්තෙන චසද්දෙන නකාරාගමො.**

**ගුන්නං ගොනං වා - ගාවා ගාවම්හා ගාවස්මා ගවං ගවම්හා ගවස්මා ගොහි ගොභි, ගාවස්ස ගවස්ස ගවං ගුන්නං ගොනං, ගාවෙ ගාවම්හි ගාවස්මිං ගවෙ ගවම්හි ගවස්මිං ගාවෙසු ගවෙසු ගොසු.**

**ඔකාරන්තං.**

---

නං වචනස්ස, නං වචනය හට; අං ආදෙසො හොති. අං යන ආදෙශ වේ; ගොසද්දොකාරස්ස, ගො ශබ්දයාගේ ඔකාරය හට; අවාදෙසො ච, අව යන ආදෙශද වෙයි; චසද්දෙන, මෙහි චග්‍රහණයෙන්; අසමාසෙපීති, අසමාසවිෂයෙහිද නං හට අං වන්නේය යි; අං අවාදෙසා, අම්ාදෙශ අවාදෙශයෝ වෙත්—සමාසයක් ඇති කල්හි විභක්තිලොපය වන්නේය. එසේ කල්හි "අලුත්තෙ" යනු කුමැයි කියන ලදද යත්? අලුක් සමාසයාගේ සම්භවය හෙතු කොට ගෙන යි, පෙ. සං විභත්තියො ලොපා ච 2-7-2 යන මෙහි චග්‍රහණයද එම පිණිස යි එසේ වුවහොත් "තතො නම්මපතිම්හාති ච සමාසෙ" යි කියන ලද කල්හි ම නං වචනය හට අංවචනය කියන හෙයින් සමාසයක් ඇති කල්හි දු ඕ හට් ලොප් නොවෙයි හැහෙත් අලුත්තෙ යි කීයේ ම කුමැයිද යත්? නොකියයුතුමැයි එහොකුදුවත් සමාසය හට යාවිසද්දු හඟවන පිණිස කියන ලද්.එසේ මැනු, ලුත්තසමාසය අලුත්තසමාස යි සමාසය ද්විවිධ වෙයි, "සමාසීයති සමසනං වා සමාසො" යි කී බැවින් ලුත්තසමාසයා ප්‍රකටය ඉතරය වනාහී අප්‍රකටය එහෙයින් "තතො නං වචනස්ස අං හොති පතිම්හි පරෙ සමාසෙ" යි කියන ලද සෙසු තැන සමාසයක් ඇතිකල්හි විභක්තිලොපය වෙයි මෙහි වනාහි සමාසො යිද නං වචනස්ස අං හොති යි ද කියන ලද මේ කිමෙක්දැයි සැහෙන වන්නේය, එහෙයින් මෙබඳු වූයේ අලුක් සමාස නමැයි හඟවන පිණිස අලුත්තෙ යනු කීහු, හෙද සමාසශබ්දයා හා සමානාධිකරණනු යි අලුත්තෙ සමාසෙ යි සම්බන්ධ වේ.

ගොනං පති ගවම්පති, තස්ස ගවම්පතිස්ස, ථෙරස්ස යනු හා සමානාධිකරණයි, ථෙරශබ්දය ෂෂ්ඨ්‍යන්තය යි; ගවං යනු වේ.

සුහිනාසු චාති, සුහිනාසු ච 2-1-30 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; චසද්දෙන, චශබ්දයෙන්; නම්හි, නං පරකල්හි; ගුආදෙසො ච, ගොශබ්දය හට ගු යන ආදෙශද වේ—ගුආදෙසො ච යන මෙහි චශබ්ද සෙස්සන් පරකල්හි ගොණාදෙශ සම්පිණ්ඩනය කෙරේ.

**29 පුරිසො ගුණවා රාජා * සාග්ගි දණ්ඩී ච භික්ඛු ච සත්ථාභිභූ ච සබ්බඤ්ඤූ ගොති පුල්ලිඞ්ගසඞ්ගහො.**

**පුල්ලිඞ්ගං නිට්ඨිතං.**

---

තො ච වාදිතො නම්හීති සුත්තෙන, තො ච වාදිතො නම්හි 2-1-16 යන සූත්‍රයෙහි; චසද්දෙන, චග්‍රහණයෙන්, නකාරාගමො, (නං පරකල්හි අවාදීන් කෙරෙන්ද පරව විකල්පයෙන්)නකාරාගම යෙක් වේ; නකාරස්ස ආගමො නකාරාගමො—ගො ශබ්දයෙන් ශර රශ්මි පශු භූමි යනාදි අර්ථ කියත්, කියේ මැනෙවි.

"ඉෂෞ භූමෞ පශෞ රශ්මෞ දිශිවාක්‍යජලෙක්ෂණි
සවගේ වජ්‍රේ ච ගොශබ්දො දශස්වර්ථෙෂු දෘශ්‍යතෙ" යි.

ඔකාරන්තං.

ඔකාරාන්ත පුංලිඞ්ගනාම වර්ණනාව යි.

---

දැන් යථොක්ත පුල්ලිඞ්ගශබ්දයන්ගේ එක්කොට නිගමනය කරනුවෝ පුරිසො යනාදි ගාථාව කීහු.

පුරිසො, පුරිසශබ්දද; ගුණවා, ගුණවන්තුශබ්දද; රාජා, රාජ ශබ්දද; සා, සාශබ්දද; අග්ගි, අග්ගිශබ්දද; දණ්ඩී ච, දණ්ඩීශබ්දද; භික්ඛු ච, භික්ඛුශබ්දද; සත්ථා, සත්ථුශබ්දද; අභිභූ ච, අභිභූශබ්දද; සබ්බඤ්ඤූ, සබ්බඤ්ඤූශබ්දද; ගොති, ගො ශබ්දද යන මේ ශබ්ද සමුදය තෙම; පුල්ලිඞ්ගසඞ්ගහො, පුල්ලිඞ්ගයන් කෙරෙහි සඞ්ග්‍රහ ඇත්තේයි නොහොත් පුල්ලිඞ්ග ශබ්දයන් කෙරෙහි සඞ්ග්‍රහ කරනු ලැබෙයි—දණ්ඩී ච යන මෙහි චශබ්ද පුරිසො යනාදීන් හා සම්බන්ධ වෙයි,අභිභූ ච යන මෙහි චශබ්ද වනාහි සත්ථා යනු හා ද සබ්බඤ්ඤූ යනාදීන් හා ද සම්බන්ධ වේ.

පුල්ලිඞ්ග සඞ්ගහො එතස්සාති පුල්ලිඞ්ගසඞ්ගහො; අථ වා පුල්ලිඞ්ග සඞ්ගහතීති පුල්ලිඞ්ගසඞ්ගහො.

පුල්ලිඞ්ගං නිට්ඨිතං.

පුල්ලිඞ්ගනාම වර්ණනාව නිමවන ලදී.

---

* රාජා ඉදිරිපත රූපසිද්ධියෙල.

**අථ ඉත්ථිලිඞ්ගානි වුච්චන්තෙ.**

**අකාරන්තො ඉත්ථිලිඞ්ගසද්දො අප්පසිද්ධො.**

**ආකාරන්තො ඉත්ථිලිඞ්ගො කඤ්ඤාසද්දො.**

**කඤ්ඤා ඉති ඨිතෙ-**

## 176. ඉත්ථියමතො ආප්පච්චයො. 2-4-27.

**ඉත්ථියං වත්තමානා අකාරන්තතො ලිඞ්ගම්හා පරො ආප්පච්චයො හොති.**

**30 පකතත්ථජොතකා ඉත්ථිප්පච්චයා ස්‍යාදයො විය**
**ණාදයො පච්චයත්ථස්ස සකත්ථස්සාපි වාචකා.**

---

අථ, පුල්ලිඞ්ගානන්තරයෙහි; ඉත්ථිලිඞ්ගානි, ස්ත්‍රීලිඞ්ගයෙන් යුක්ත වූ නාමයෝ; වුච්චන්තෙ, කියනු ලැබෙත්.

ඉත්ථියා ලිඞ්ගං ඉත්ථිලිඞ්ගං, අවිසදාකාරෙ ඉත්ථිලිඞ්ගො එතෙ සමත්ථීති ඉත්ථිලිඞ්ගානි. නාමානි යනු සේස යි.

අකාරන්තො, අකාරය අන්තාවයව කොට ඇති; ඉත්ථිලිඞ්ගසද්දො, ස්ත්‍රීලිඞ්ගශබ්ද තෙම; අප්පසිද්ධො, අප්‍රකට යි.

ආකාරන්තො, ආකාරය අන්තාවයව කොට ඇති; ඉත්ථිලිඞ්ගො, ස්ත්‍රීලිඞ්ගයෙන් යුක්ත; කඤ්ඤාසද්දො, කඤ්ඤාශබ්ද තෙම; (දස්සීයතෙ, දක්වනු ලැබේ )

කඤ්ඤා ඉති, කඤ්ඤා යී; ඨිතෙ, සිටි කල්හි; ස්ත්‍රීවිධි කියනු ලැබේ.

ඉත්ථියං ය අතො ය ආප්පච්චයො ය යනු පද යි.

ආ එව පච්චයො ආප්පච්චයො; ඉත්ථියං වත්තමානා, ස්ත්‍රීලිඞ්ගයෙහි වැටෙන්නා වූ; ස්ත්‍රීවාචක වූ යයි සේයි; අකාරන්තතො ලිඞ්ගම්හා පරෙ, අකාරය අන්තාවයව කොට ඇති ලිඞ්ගයා කෙරෙන් පරව; ආප්පච්චයො හොති, ආ යන මේ ප්‍රත්‍යය වෙයි— “ධාතුලිඞ්ගෙහි පරාප්පච්චයා” යි බැවින් මෙහි පරෙ යනු කීහු.

දැන් මේ “ඉත්ථියමතො ආප්පච්චයො 2-4-27 යනාදි සූත්‍රයෙන් විධීයමාන ආකාරාදි ස්ත්‍රීප්‍රත්‍යයන්ගේ හා “වාණප්පච්චෙ 2-8-1 යනාදි සූත්‍රයෙන් විධීයමාන ණාදි වූ තද්ධිතප්‍රත්‍යයන්ගේ වෙනස දක්වනුවෝ “පකතත්ථජොතකා” යනාදි ගාථාව කීහු.

ඉත්ථිප්පච්චයා, ආ ඊ යනාදි ස්ත්‍රීවිධි නිමිත්ත වූ ප්‍රත්‍යයෝ; ස්‍යාදයො විය, ස්‍යාදිවිභක්තීන් මෙන්; පකතත්ථජොතකා, ද්‍රව්‍ය ලිඞ්ගාදිගොත්‍රද ස්ත්‍රීශබ්දාර්ථයන්ද ද්‍යෝතනයහ; ණාදයො, ණාදි වූ තද්ධිතප්‍රත්‍යයෝ වනාහි; පච්චයත්ථස්ස, අප්‍රත්‍යයාදි භෙද ඇති ප්‍රත්‍යයාර්ථයටද; සකත්ථස්සාපි, ස්වාර්ථයයි කියන ලද ශබ්දාර්ථයටද; වාචකා, වාචකයෝයි—යම්සේ ස්‍යාදි සූත්‍රයෙන් නිර්දිෂ්ට වූ ස්‍යාදි විභක්තීහු “ලිඞ්ගත්ථෙ පඨමා” යනාදි වචන හෙයින් දඬිලිඞ්ගාදි භෙද ඇති වචනාර්ථයට ද්‍යෝතකයක්ම වත් මුත් වාචකයෝ නො වෙද්ද එසේම ආ ඊ යනාදි ස්ත්‍රීප්‍රත්‍යයෝ “ඉත්ථියමතො ආප්පච්චයො 2-4-27 යන වචන හෙයින්ද ක්ෂත්‍රිය කාත්‍යාය යනාදියෙහි පූර්වපදස්ථ වූ ස්ත්‍රීප්‍රත්‍යයාගේ නිවෘත්තියක් ඇති කල්හිදු ක්ෂත්‍රියාදි ශබ්දයෙන් ම තදර්ථොපලබ්ධිය වන හෙයින්ද ප්‍රකෘත්‍යර්ථභූත ස්ත්‍රීලිඞ්ගාර්ථයට ද්‍යෝතකවත් මුත් වාචකයෝ නො වෙති ණාදි වූ තද්ධිතප්‍රත්‍යයයෝ වනාහි ප්‍රත්‍යයාභාවයෙහි තදර්ථො පලබ්ධියක් නැති හෙයින්ද “වාණප්පච්චෙ” යනාදි වචනහෙයින්ද “රාසවො ද්‍රධිකං” යනාදියෙහි අප්‍රත්‍යය සංසෘෂ්ටාදි භෙද වූ ප්‍රත්‍යයාර්ථයටද “සසංකාදෘකමයං” යනාදියෙහි ස්වාර්ථයටද වාචක යයි සේයි.

ද්‍යෝතකය වාචකයහ යන මෙහි නානාර්ථ කිම යත්? ඝටාදීන්ට ප්‍රදීපාදිය මෙන් ශබ්දයා කෙරෙහි විද්‍යමාන වූ අර්ථය ම ප්‍රකාශක වූයේ ද්‍යෝතක නම් වෙයි ගඞ්ගා සලිලයෙහි ලවන රසය සමුද්‍ර සලිලය මෙන් ශබ්දයා කෙරෙහි අවිද්‍යමාන අර්ථය කියන්නේ වාචක නම් වෙයි දතයුතු.

පකතියා ලිඞ්ගස්ස අත්ථො පකතත්ථො, පකතත්ථස්ස ජොතකා පකතත්ථජොතකා, පකතත්ථං පකාසෙන්තීති වා පකතත්ථජොතකා; ඉත්ථිවිධිනිමිත්තා පච්චයා ඉත්ථිප්පච්චයා, පච්චයස්ස අත්ථො පච්චයත්ථො, තස්ස පච්චයත්ථස්ස, සකස්ස අත්ථො සකත්ථො, සද්දත්ථො, සද්දො හි පච්චයමපෙක්ඛිත්වා සකොති වුච්චති.

**සරලොපොතිආදිනා පුබ්බසරෙ ලුත්තෙ පරනයනෙ ච කතෙ-ධාතුප්පච්චයවිභත්තිවජ්ජිතමත්ථවලිඞ්ගන්ති වුත්තත්තා පච්චයන්තස්සාලිඞ්ගත්තා විභත්තුප්පත්තියමසම්පත්තායං-තද්ධිත සමාසකිතකා නාමං වා තවෙතුනාදිසු චාති එත්ථ චග්ගහ ණෙන ඉත්ථිප්පච්චයන්තස්සාපි නාමව්‍යපදෙසො-පුරෙ විය ස්‍යාදුප්පත්ති-සෙසන්තො ලොපං ගසිපීති සිලොපො-සා සඤ්ඤා.**

**බහුවචනෙ-ආලපනෙසිගසඤ්ඤොති ඉතො ගසඤ්ඤා.**

---

සරලොපොති ආදිනා, "සරලොපො මාදෙසප්පච්චයාදිම්හි සරලොපෙ තු පකති" 2-1-32 යන සූත්‍රයෙන්; පුබ්බසරෙ ලුත්තෙ, පූර්වස්වරයා ලොප් කළ කල්හිද; පරනයනෙ ච, පරකුර කරා පැමිනවීමද; කතෙ, කළ කල්හි—ලුත්තෙ ච පරනයනෙ ච යී චශබ්ද වෙන වෙන යෙදියයුතු.

ධාතු, ක්‍රියාර්ථ වූ ධාතුය; පච්චය, තද්ධිතාදිප්‍රත්‍යය; විභත්ති, ස්‍යාදිවිභක්තිය යන මොවුන් කෙරෙන්; වජ්ජිතං, වෙන් වූ; අත්ථවං, අර්ථයෙන් යුක්ත වූ (ශබ්දරූපය); ලිඞ්ගන්ති, ලිඟු නමැයි; වුත්තත්තා, (ශබ්දශාස්ත්‍ර දන්නවුන් විසින්) කියන ලද බව හෙතු කොට ගෙන; පච්චයන්තස්ස, ප්‍රත්‍යයා අන්තකොට ඇති ශබ්ද යාගේ; අලිඞ්ගත්තා, අලිඟු බව හෙයින්; විභත්තුප්පත්තියං අසම්පත්තායං, ඒ ප්‍රත්‍යයාන්තයා කෙරෙන් පර වූ ස්‍යාදිවිභක්තීන් ගේ උත්පත්තිය අසම්ප්‍රාප්ත කල්හි; තද්ධිතසමාසකිතකා නාමංවා තවෙතුනාදිසු චාති, තද්ධිතසමාසකිතකා නාමංවාතවෙතුනාදිසු ච 4-4-12 යන; එත්ථ, මේ සූත්‍රයෙහි; චග්ගහණෙන, චශබ්දයෙන්; ඉත්ථිප්පච්චයන්තස්සාපි, ස්ත්‍රීප්‍රත්‍යයාන්ත ශබ්දය හටද; නාමව්‍යප දෙසො, නාමව්‍යවහාරය වේ—මෙහි ධාතුවර්ජිත නම් ධාතුසංඥ විරහිත වූ නිෂ්පන්න ප්‍රාතිපදිකය යි, යම්සේ තන්තුව නො වී කල්හි තන්තු ව්‍යවහාර ලබත් මුත් පට ව්‍යවහාර නො ලැබේද විය නිම වූ කල්හි වනාහි පට ව්‍යවහාර මුත් තන්තුව්‍යවහාර නො ලැබේද එසේම භූවාදිධාතුහුද නිෂ්පන්නකාලයෙහි ධාතු ව්‍යවහාර ලබත් මුත් ප්‍රාතිපදික ව්‍යවහාර නො ලබත් භූමිවායු යනාදීන් නිෂ්පන්න කාලයෙහි වනාහි ප්‍රාතිපදික ව්‍යවහාර මුත් ධාතුව්‍යවහාර නො ලබත් ප්‍රත්‍යය වර්ජිත නම් නිෂ්පන්නයා කෙ රෙන් ප්‍රත්‍යය නැත්තේයි, විභක්ති වර්ජිත නම් අවිභක්ත්‍යාන්තයි.

**තෙ ඉත්ථිඛ්‍යා පො ති ඉතො ඉත්ථිඛ්‍යාති ච වත්තතෙ.**

## 177. ආ ඝො 2-1-9.

**ලිඞ්ගස්සන්තො ආකාරෙ යදා ඉත්ථිඛ්‍යා තදා ඝසඤ්ඤො හොතීති ඝසඤ්ඤායං-සපතො ච යොනං ලොපොති විකප්පෙන යොලොපො-තා කඤ්ඤා කඤ්ඤායො**

**ආලපනෙ-සබාතො ගස්සෙ වාති ඉතො ගස්සාති වත්තතෙ.**

## 178. ඝතෙ ච 2-1-63.

**ඝතො පරස්ස ගස්ස එකාරෙ හොති-සරලොපාදි. භො කඤ්ඤෙ හොතියො කඤ්ඤා කඤ්ඤායො.**

---

පුරෙ විය, පෙර මෙන්; ස්‍යාද්‍යුප්පත්ති, සි ආදි විභක්තීන්ගේ ඉපැද්ම වේ; සෙසතො ලොපං ගසිපීති, සෙසතො ලොපං ගසිපි 2-4-10 යන සූත්‍රයෙන්: සිලොපො, සිවිභක්ති හට ලොප් වේ. සා කඤ්ඤා, ඒ යෞවන ස්ත්‍රී; ගච්ඡති, යන්නීය.

බහුවචනෙ යොලොපො සි යොදනු.

බහුවචනෙ, බහුවචනයෙහි; ආලපනෙ සි ගසඤ්ඤෙති, ආලපනෙ සි ගසඤ්ඤෙ 2-1-6 යන සූත්‍රයෙන්; ගසඤ්ඤෙ, සි හට ග යන සංඥා ඇත්තේ වේ.

තෙ ඉත්ථිඛ්‍යා පොති, තෙ ඉත්ථිඛ්‍යා පො 2-1-8 යන; ඉතො, මේ සූත්‍රයෙන්; ඉත්ථිඛ්‍යාති ච, ඉත්ථිඛ්‍යා යනුද; වත්තතෙ, වැටේ.

ආ ය ඝො ය යනු පදයි.

ලිඞ්ගස්ස අන්තො ආකාරො, ශබ්දයාගේ අන්ත වූ ආකාර තෙම; යදා, යම්කලෙක්හි; ඉත්ථිඛ්‍යා, ස්ත්‍රියට සංඥා වේද ස්ත්‍රිය කියාද යි සේයි; තදා ඝසඤ්ඤො හොතීති, එකල්හි ඝ යන සංඥා ඇත්තේය යි; ඝසඤ්ඤායං, ඝසංඥා කරන ලද කල්හි—මේ සූත්‍රයෙන් ස්ත්‍රීද්‍යෝතක ආකාරය හට ඝසංඥා විධානයෙන් ම තදන්‍ය වූ ඊකාරාද්‍යන්ත ලිඞ්ගාන්ත දීර්ඝස්වරය හට අඝසංඥාද කීවා නම් වෙක් එයින් කීහු "අඝොරස්සමෙකවචනයොස්වපි ච" යි.

**අමහි සරලොපපකතිභාවා-කඤ්ඤං කඤ්ඤා කඤ්ඤායො-තතියාදිසු-ආය චතුත්ථෙකවචනස්ස තුති ඉතො ආයො එක වචනානන්ති ච වත්තතෙ.**

## 179. ඝතො නාදීනං 2-1-60.

**ඝසඤ්ඤාතො ලිඞ්ගස්සාකාරා පරෙසං නාදීනං සම්පරි යන්තානං එකවචනානං විභත්තිගණානං ආයාදෙසො හොති.**

---

ඝපතො ච යොනං ලොපොති, ඝපතො ච යොනං ලොපො 2-1-67 යන සූත්‍රයෙන්; විකප්පෙන, විකල්පයෙන්; යොලොපො, ඝසංඥයා ෂකාරෙන් පර වූ යො හට ලොප් වේ නොහොත් යො පෙම ලොප් කටයුතු වේ; තා කඤ්ඤ කඤ්ඤයො, ඒ යෞවන ස්ත්‍රීහු.

ආලපනෙ, ආලපන විෂයෙහි.

ඝබ්‍රාතො ගස්සෙ වාති, ඝබ්‍රාතො ගස්සෙ වා 2-1-62 යන; ඉතො, මේ සූත්‍රයෙන්; ගස්ස ඉති, ගස්ස යනු; වත්තතෙ, වැටේ.

ඝතො ය එ ය ච ය යනු පදයි.

ඝබ්‍රාතො ගස්සෙ වා 2-1-62 යන මේ අනන්තර වූ සූත්‍රයෙහි එග්‍රහණය ඇතිකල්හි ඝතො ච යි නො කියා ඝතෙ ච යී එකාර යාගේ පුනග්‍රහණය කුමැයි ද යත්? සෙසු ආකාරාදීන්ගේ නිවෘත්තිය පිණිසය යි දතයුතු. චග්‍රහණය වනාහි අසො යනාදි සූත්‍ර මෙන් අවධාරණයි.

ඝතො පරස්ස, ඝසංඥ ආකාරයා කෙරෙන් පර වූ; ගස්ස, ගසංඥක වූ ආලපනෙක වචනය හට; එකාරෙ හොති, එකාර යෙක් ආදෙශ වේ, සරලොපාදි,සවරලොපාදිය වේ. හො කඤ්ඤෙ හොතියො කඤ්ඤ කඤ්ඤයො යනු වේ.

අමහි, අං විභක්ති පරකල්හි; සරලොපපකතිභාවා, සර ලොපාදි සූත්‍රයෙන් පූර්වස්වරයා හට ලොප පරස්වරය හට ප්‍රකෘති භාවය යන මොහු වෙත්; පරනයන කරන ලද කල්හි; කඤ්ඤං කඤ්ඤ කඤ්ඤයො යනු වේ; තතියාදිසු, තෘතීයාදි විභක්ති විෂ යෙහි කඤ්ඤශබ්දයාගේ ප්‍රයොග කියනු ලැබේ.

**සරලොපපරනයනානි-කඤ්ඤාය කඤ්ඤාහි කඤ්ඤාහි, කඤ්ඤාය කඤ්ඤානං කඤ්ඤාය කඤ්ඤාහි කඤ්ඤාහි, කඤ්ඤාය කඤ්ඤානං, සම්මහි.**

## 180. ඝපතො ස්මිං යං වා 2-4-6.

**ඝපතො පරස්ස ස්මිං වචනස්ස යං හොති වා-අඤ්ඤත්‍රායාදෙසො.**

**කඤ්ඤායං කඤ්ඤාය කඤ්ඤාසු.**

---

ආය චතුත්ථෙකාවචනස්ස තු ති, ආය චතුත්ථෙකවචනස්ස තු 2-1-58 යන; ඉතො, මේ සූත්‍රයෙන්; ආයො එකවචනානං ඉති ච, ආයො යනුද එකවචනානං යනුද; වත්තතෙ, පරවෘත්ති වසයෙන් වැටෙයි දතයුතු.

ඝතො ය නාදීනං ය යනු පදයි.

නා ආදි යෙසං තෙ නාදයො, තෙසං නාදීනං.

ඝසඤ්ඤතො, ඝසංඥ ඇති; ලිඞ්ගස්ස ආකාරා පරෙසං, ලිඞ්ගයාගේ අන්ත ආකාරයා කෙරෙන් පර වූ; නාදීනං, නාවිභක්තිය මර්‍යාදා කොට ඇති; ස්මිං පරියන්තානං, ස්මිංවිභක්තිය පර්‍යවසාන කොට ඇති; එකවචනානං, එක ම වචනයන්ගේ කීමට උපකාර වූ; විභත්තිගණානං, විභක්ති සමූහයන්ට; ආයාදෙසො හොති, ආය යන ආදෙශ වේ.

සරලොපපරනයනානි, ස්වරලොප පරනයනයෝ වෙත්. කඤ්ඤාය යනාදිය වේ; සම්මහි, ස්මිං විභක්ති විෂයෙහි.

ඝපතො ය ස්මිං ය යං ය වා ය යනු පදයි.

ඝො ච පො ච ඝපා, තතො ඝපතො.

ඝපතො පරස්ස, ඝසංඥක ආකාරයා කෙරෙන් හා පසංඥක ඉවණ්ණොවණ්ණයන් කෙරෙන් පර වූ; ස්මිං වචනස්ස, ස්මිං වචනය හට; වා, විකල්පයෙන්; යං හොති, යං යන ආදෙශය වේ.

අඤ්ඤත්‍ර, ස්මිං හට යමාදෙශ නු වූ පක්ෂයෙහි; ආයාදෙසො, ඝතො නාදීනං 2-1-60 යන සූත්‍රයෙන් ස්මිං හට ආය යන ආදෙශ වේ; කඤ්ඤායං කඤ්ඤාය කඤ්ඤාසු යනු වේ; කඤ්ඤා ශබ්දයෙන් කුමාරීන් කියත්.

**එවමඤ්ඤෙපි-**

**31** සද්ධා මෙධා පඤ්ඤා විජ්ජා චින්තා මන්තා තණ්හා වීණා
ඉච්ඡා මුච්ඡා ඒජා මායා මෙත්තා මත්තා සික්ඛා භික්ඛා.

**32** ජඞ්ඝා ගීවා ජිව්හා වාචා ඡායා ආසා ගඞ්ගා නාවා
ගාථා සෙනා ලෙඛා සාලා මාලා වෙලා පූජා ඛිඩ්ඩා.

**33** පිපාසා වෙදනා සඤ්ඤා චෙතනා තසිණා පජා
දෙවතා වට්ටකා ගොධා බලාකා පරිසා සභා

**34** ඌකා සෙඵාලිකා ලඞ්කා සලාකා වාලිකා සිඛා
විසාඛා විසිඛා සාඛා වචා වඤ්ඣා ජටා ඝටා.

**35** ජෙට්ඨා සොණ්ඩා විතණ්ඩා ච කරුණා වනිතා ලතා
කථා නිද්දා සුධා රාධා වාසනා සිංසපා පපා.

**36** පභා සීමා ඛමා ජායා ඛත්තියා සක්ඛරා සුරා
දොලා තුලා සිලා ලීලා ලාලෙලා මෙඛලා කලා.

**37** වළවාලම්බුසා මූසා මඤ්ජූසා සුලසා දිසා
නාසා ජුණ්හා ගුහා ඊහා ලසිකා වසුධාදයො.

---

සද්ධා-පෙ-වසුධාදයො, සද්ධා-පෙ-වසුධා යනාදි වූ; අඤ්ඤෙපි (ආකාරාන්ත ඉත්ථිලිඞ්ගා), අනිකුදු ආකාරාන්ත ස්ත්‍රීලිඟු ශබ්දයෝ; එවං ඤෙය්‍යා, මෙසේ දතයුත්තාහුයයි යොදනු.

එහි ආදිගාථාවිය "විද්‍යුන්මාලා" නම් වෘත්තය, එහි ලක්ෂණ පුල්ලිඞ්ගයෙහි ඊකාරාන්ත ශබ්දමාලාවෙහි ආදිගාථාවට කී පරිද්දෙන් මැයි. ශෙෂ ගාථා පවසාය වනාහි "පථ්‍යාවක්ත්‍ර" නම් වෘත්තය, එහි ලක්ෂණයද යට කියන ලදමැයි.

විතණ්ඩා ච යන මෙහි ච ශබ්ද සද්ධා ච මෙධා ච යනාදී වෙන වෙන ශබ්දයන් හා යෙදියයුතු.

සද්දහන්ති එතායාති සද්ධා, හැදහිලි ලක්ෂණ වූ චෛතසිකයෙකි; අසනි විය සිලුච්චයෙ කිලෙසෙ මෙධති හිංසතීති මෙධා, ඛිප්පං ගහණධාරණට්ඨෙන වා මෙධා, උපාය පරිග්‍රාහිකා වූ ප්‍රඥා යි; පකාරෙන ජානාතීති පඤ්ඤා, ශ්‍රැතමයාදි වූ ප්‍රඥා යි; වින්දතී ජානාතීති

විජ්ජා, විජ්ජා ශබ්දයෙන් ප්‍රතිවෙධ ප්‍රඥද වස්ත්‍රවිද්‍යාදි වූ ග්‍රන්ථද කියත්; විනෙන්තීති විනයා, විනයා ශබ්දයෙන් උපපරීක්ෂාව කියත්; මනති ජානාතීති මන්තා, මන්තා ශබ්දයෙන් ගවේසන ප්‍රඥව කියත් නොහොත් සංසන්දනායි; තසති පාපං ඉච්ඡතීති තණ්හා, තණ්හා ශබ්දයෙන් ලෝභය කියත්; වියතීති වීණා, වීණා ශබ්දයෙන් පරිවාදනී කියත්; එසනං ඉච්ඡා, ඉච්ඡා නම් ප්‍රාර්ථනායි; මුය්හනං මුච්ඡා, මුච්ඡා ශබ්දයෙන් බලවත් තෘෂ්ණාවද සම්මූඪතාවද කියත්; එජති ලාභාදිං පටිච්ච කම්පතීති එජා, ප්‍රතිලබ්ධ විෂයෙහි නානා ස්වභාව වූ තෘෂ්ණා මැ යි; මෙති පරිමෙති අසෙඤ්ඤන උත්තමෙන ගුණෙන අත්තානං ගුණෙනාති මායා, මායා ශබ්දයෙන් කරන ලද පාපයාගේ වසා කිරීම කියත්; මිජ්ජති සිනෙහතීති මෙත්තා, මෛත්‍රී යි අර්ථයෙහි අවෙෂ ප්‍රධාන සම්බන්ධ චතුර්ථය මෛත්‍රී නම්; මාති පරිමාණං කරොතීති මත්තා, මත්තා ශබ්දයෙන් ප්‍රමාණ කියත්; සික්ඛතීති එත්ථාති සික්ඛා, පඤ්චශීලාදි යි; භික්ඛීයතාති භික්ඛා, භික්ඛා ශබ්දයෙන් ආහාර කියත්.

ජනයති ගමනමෙතායාති ජඞ්ඝා, ජඞ්ඝා ශබ්දයෙන් මිණිබන්ධයෙන් මත්තෙහි ජානුයෙන් යට පාදභාග කියත්; සින් කකුලයසිද හෙම කියත්;ගායන්ති එතායාති ගීවා,ගීවා ශබ්දයෙන් ගලප්‍රදෙශය කියත් සකාඞ්ඛයසිද හේමැයි; ජීවන්ති එතායාති ජිව්හා, ජිව්හා ශබ්දයෙන් දිව කියත්;වුච්චතෙති වාචා, වාචා ශබ්දයෙන් භාෂා කියත්; ඣෙතීති සංසයනාති ඡායා, ඡායා ශබ්දයෙන් ප්‍රතිබිම්බද ආකල්පද කියත්; ඉච්ඡති එතායාති ආසා, ආසා ශබ්දයෙන් විෂය ප්‍රාර්ථනාද දිශාද කියත්; සබ්බත්‍ර ගච්ඡතීති ගඞ්ගා, ගඞ්ගා ශබ්දයෙන් නදී කියත්; නුදතීති නාවා; නාවා ශබ්දයෙන් ජලනෞකා කියත්; ගායතීති ගාථා, ගාථා ශබ්දයෙන් ත්‍රිපදයෙන් හෝ ෂට්පදයෙන් උපලක්ෂිත වූ බන්ධන විශෙෂය කියත්;එසින් කීහු "ශෙෂගාථාත්‍රිභිෂ්ෂට්භිශ්චරණෛශ්චොපලක්ෂිතම්" යි. බුද්ධ වචනයෙහි වනාහි චතුෂ්පදයෙන් යුක්ත වූයේ ගාථා නම් වේ; සෙති බන්ධතීති සෙනා, සෙනා ශබ්දයෙන් බලකාය කියත්; ලිඛතීති ලෙඛා, ලෙඛා ශබ්දයෙන් රාජි කියත්; සලති ගච්ඡතීති සාලා, සාලා ශබ්දයෙන් චතුරශ්‍රාදි ගෙය කියත්;මීයති පරිමීයතීති මාලා, මාලා ශබ්දයෙන් මල්දම්ද පඞ්ක්තිද කියත්;විනාසං ල තීති වෙලා, වෙලා ශබ්දයෙන් මර්යාදද පූර්වාහ්නාදිකාලයද කියත්; පූජනං පූජා; පූජා ශබ්දයෙන් මානය කියත්; කීලතීති ඛිඩ්ඩා, ඛිඩ්ඩා ශබ්දයෙන් සෙලි කියත්.

පාතුමිච්ඡා පිපාසා, පිපාසා ශබ්දයෙන් පාතුමිච්ඡාව කියත්; වේදයතීති වෙදනා, වෙදනා ශබ්දයෙන් ඉෂ්ටාද්‍යනුභව කියත්; සඤ්ජානාතීති සඤ්ඤා, සඤ්ඤා ශබ්දයෙන් නිමිත්තග්‍රහණ ලක්ෂණ වූ චෛතසිකය කියත්; චේතයතී සන්තානං රාසිං කරොතී විනිච්ඡිතුං න දෙතීති චෙතනා; කුසලාදිකම්මයි, වදාළේ මැනෝ "චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි" යි; තසති පිපාසතීති තසිනා, තසිනා නාමුදු තෘෂ්ණා මැයි; පජායතීති පජා, සත්ත්වකායයි; දිබ්බන්ති කීළන්තීති දෙවා, දෙවා එව දෙවතා; දෙවතාශබ්දයෙන් චාතුර්මහාරාජික දෙවියන්ද දෙව්දූන්ද කියත්; වට්ටතීති වට්ටකා, වට්ටකා නම් වටුවෝ යි; ගුධන්ති රොසෙතීති ගොධා, ගොධා නම් ගොයි; බලන්ති පාණන්තීති බලාකා, බලාකාශබ්දයෙන් කොකුන් කියත්; පරිතො සීදන්ති එත්ථාති පරිසා; සන්නිපාතස්ථානය යි සන්නිපතිතජන හෝ යි පරිවාරද කියත් මැයි; සහ භාසන්ති එත්ථාති සභා, සන්නිපාතස්ථාන මැ යි.

උඝංසති විච්ඡිනතීති ඌකා; ඌකාශබ්දයෙන් උකුණන් කියත්; සෙඵා ජටා අස්සා අත්ථීති සෙඵාලිකා, සෙඵාලිකා ශබ්දයෙන් සෙඵාලිකාමල් කියත්; ලඞ්කාචංලෙන අඞ්කාතීති ලඞ්කා, ලංකාශබ්දයෙන් ලක්දිව් කියත් එනම් මනුෂ්‍යයන්ද කියත් මැයි; සලතීති සලාකා, සලාකා ශබ්දයෙන් කූසපත් උල් කියත්; වලතීති සංවරතීති වාලුකා, වාලුකාශබ්දයෙන් වැලි කියත්; සිනොතීති නිසාති භවතීති සිඛා, සිඛාශබ්දයෙන් මස්තකයන්ද ගිනිසිළුද මොනර සිළුද කියත්; විසදිසං අලං භණතීති විසාඛා, විසාඛා ශබ්දයෙන් විසා නැකතද එනම් මිනිසුන්ද කියත්; විසන්ති එත්ථාති විසිඛා, විසිඛාශබ්දයෙන් වීථි කියත්; සඛති ඛිඥායතීති සාඛා, සාඛා ශබ්දයෙන් වෘක්ෂ ශාඛාද කුඩා ඇලද කියත්; වුච්චති අනෙනාති වචා; වචාශබ්දයෙන් උග්‍රගන්ධාදි කියත්, උග්‍රගන්ධ නම් වදයි; වනති යාචතීති වඤ්ඣා, වඤ්ඣා ශබ්දයෙන් වඳ ගැහැනුන් කියත්; ජටාවියාති ජටා, ජටාශබ්දයෙන් අවුල් කියත්; ඝටනං රාසිභවනං ඝටා; ඝටාශබ්දයෙන් සමූහ කියත්;

අතිසයෙන වුඩ්ඪතා ජෙට්ඨා; ජෙට්ඨාශබ්දයෙන් දෙට නැකතද වෘද්ධ වූවන්ද කියත්; සොණතීති සොණ්ඩා, සොණ්ඩා ශබ්දයෙන් හස්ති කර කියත්; විසෙසෙන තණ්ඩෙති පාලෙතීති විතණ්ඩා, විතණ්ඩාශබ්දයෙන් ස්වපක්ෂස්ථාපන පරපක්ෂදූෂනයෙහි අසමර්ථවාදීන්ගේ කථා කියත්; කිරතීති කරුණා, පරදුක්ඛං වික්ඛිපති

අපනෙතීති අත්ථො, දුක්ඛිතෙසු වා කිරියතීති කරුණා, අථ වා පසාරියතීති කරුණා, අථ වා කිණාතීති කරුණා, පරදුක්ඛෙ සකාරුණිකං න හිංසති · න විබාධෙති විනාසෙති පරස්ස දුක්ඛන්ති වා අත්ථො, පරදුක්ඛෙ සති සාධූනං කම්පනං හදය ඛෙදං කරොතීති වා කරුණා, අථවා කං සුඛං රුන්ධතීති කරුණා, එසා හි පරදුක්ඛාපනයන කාමතා ලක්ඛණා අත්තසුඛ නිරපෙක්ඛතාය කාරුණිකානං සුඛං රුන්ධති විබාධෙතීති කරුණා; කරුණා ශබ්දයෙන් දයා කියත්; වනති සම්භත්තිං කරොතීති වනිතා; වනිතා ශබ්දයෙන් ස්ත්‍රීන් කියත්; ලාති ආදදාතීති ලතා, ලතා ශබ්දයෙන් ලිය කියත්; කථියතීති කථා, කථා ශබ්දයෙන් අනුපුබ්බිකථා ආදිය කියත්; නිද්දීයතීති නිද්දා, නිද්දා ශබ්දයෙන් නිදි කියත්; සුඛෙන ධයන්ති පිවන්තීති සුධා, සුධා ශබ්දයෙන් දිව්‍යභොජනද ක්ෂොදකද කියත්, ක්ෂොදක නම් සුණුයි; රාධති සිඣතීති රාධා, රාධා ශබ්දයෙන් සා නැකත කියත්; වාසති උපසෙවතීති වාසනා; වාසනා ශබ්දයෙන් කෙලෙස නිහිත සාමර්‍ථ්‍ය විශෙෂ කියත්; මෙම කීහ, ධම්මපාලාචාර්‍ය්‍යයෝ ‘ කා පනායං වාසනා නාම පහීනකිලෙසස්සාපි අප්පහීනකිලෙසස්ස පයොගසදිස පයොග හෙතු භූතො කිලෙසනිහිතො සාමත්ථියවිසෙසො’’ යි; සිසති ඉච්ඡතීති සිංසපා, සිංසපා ශබ්දයෙන් ඉන් සලු කියත්. පිවන්ත්‍යස්සමිති පපා, පපා නම් පැන්හලයි.

පභාරෙන භාතීති පභා, පභා නම් රශ්මි යි; සීයතෙ බජ්ඣතෙති සීමා, සීමා නම් අවධි යි; ඛමති සහතීති ඛමා, ඛමා නම් ක්ෂාන්ති යි; ජායති ඉමායාති ජායා, ජායා ශබ්දයෙන් භාර්‍ය්‍යාවන් කියත්; ඛත්තියස්සාපච්චං ඛත්තියා, ඛත්තියා නම් ක්ෂත්‍රිය කුල යෙහි උපන්නී යි; සරති විසාරං ගච්ඡතීති සක්ඛරා, සක්ඛරා ශබ්දයෙන් සකුරු කියත්; සු අභිසවති පිවතීති වා සුරා, සුරා ශබ්දයෙන් රා කියත්; දුලති දිප්පතීති දොලා, දොලා ශබ්දයෙන් හෝවිලි කියත්; තුලයති මිණාති එතායාති තුලා, තුලා ශබ්දයෙන් තුලා දණ්ඩ කියත්; සන්තෙහි සෙවියතීති සිලා, සිලා ශබ්දයෙන් පාෂාණ කියත්; ලලති විලාසෙතීති ලීලා, ලීලා ශබ්දයෙන් ස්ත්‍රීන්ගේ ශෘංගාරක්‍රියාවද කියත්; ලලති ඉච්ඡතීති ලාලා, ලාලා ශබ්දයෙන් ක්ෂෙඩය කියත් හෙවත් කෙලයි; ඉලති ගච්ඡතීති එලා, එලා ශබ්දයෙන් එන්සාල් කියත්; මෙහනස්ස ඛස්ස මාලා මෙඛලා; මෙඛලා ශබ්දයෙන් රසනා කියත්, රසනා නම් මෙවුල්දම යි; කලීයතෙ සඞ්ඛ්‍යායතෙති කලා, කලා බදයෙන් කොටස කියත්.

**අම්මාදීනං ආලපනෙව රූපභෙදෙ.**

**අම්මා අම්මා අම්මායො.**

**ගස්ස සෙ වාති එකාරෙ සම්පත්තෙ-**

## 181. න අම්මාදිතො 2-1-64.

**අම්මා අන්නා ඉච්චෙවමාදිතො පරස්ස ගස්ස ආලපනෙක වචනස්ස න එකාරත්තං හොති-ආකාරො වාති රස්සත්තං හොති අම්ම හොති අම්මා හොතියො අම්මා අම්මායො-එවං අන්නා අන්නා අන්නායො, හොති අන්න හොති අන්නා හොති යො අන්නා අන්නායො-අම්බා අම්බා අම්බායො, හොති අම්බ හොති අම්බා හොතියො අම්බා අම්බායො ඉච්චාදි.**

**ආකාරන්තං.**

---

වලති වල්ලතීති වලවා; වලවා නම් අශ්වධෙනුවයි හෙවත් වෙලඹයි; අත්තනි වසාපෙතුං අලං සමත්ථාති අලම්බුසා, අලම්බුසා නම් එක් දෙව්දුවකි; මූසති ථෙනෙතීති මූසා, මූසා ශබ්දයෙන් උල්කාමුඛය කියත්, හෙවත් කාඹුරුඋදුනයි; මඤ්ජතී සධනත්තං එනායාති මඤ්ජූසා, මඤ්ජූසා ශබ්දයෙන් කරඬු කියත්; සුඨු ලසතීති සුලසා, සුලසා නම් තලායි; දිසති පෙක්ඛතීති දිසා, දිසා නම් පූර්වාදි දිගමැයි; නාසති සද්දං කරොතීති නාසා, නාස නම් නාසි කාවයි; ජොතෙතීති ජුණ්හා, ජුණ්හා නම් ජ්‍යොත්ස්නා යි හෙවත් සඳරැසයි; ගුහති සං වරතීති ගුහා, ගුහාශබ්දයෙන් ලෙණ කියත්; ඊහතීති ඊහා; ඊහාශබ්දයෙන් චෙෂ්ඨාව කියත්; ලසතීති ලසිකා, ලසිකා නම් සඳ මිදුලි; වසුං සම්පත්තිං ධාරෙතීති වසුධා, පොළොවයි.

අම්මාදීනං, අම්මාදිශබ්දයන්ගේ; ආලපනෙව, ආලපන විෂයෙහි ම; රූපභෙදෙ, රූපනානත්වයෙක් ඇති.

අම්මා අම්මා අම්මායො යනු වේ.

ගස්ස, ග හට; සෙ වාති, සෙ ච 2-1-63 යන සූත්‍රයෙන්; එකාරෙ සම්පත්තෙ, එකාරාදෙශ සම්ප්‍රාප්ත කල්හි; (අපවාදෙ වුච්චතෙ, යනු පාඨශෙෂ යි. අපවාදෙ, බාධක; වුච්චතෙ, කියනු ලැබේ.)

න ය අම්මාදිතො ය යනු පද යි.

**ඉකාරන්තො ඉත්ථිලිඞ්ගො රත්තිසද්දො.**

**තථෙව ස්‍යාදුප්පත්ති-සිලොපො-රත්ති-බහුවචනෙ.**

**සඤ්ඤා ඉවණ්ණුවණ්ණාති ච වත්තතෙ.**

## 182. තෙ ඉත්ථිඛ්‍යා පො 2-1-8.

**ඉත්ථියා ආඛ්‍යා සඤ්ඤා ඉත්ථිඛ්‍යා, ලිඞ්ගස්සන්තා තෙ ඉවණ්ණුවණ්ණා යදා ඉත්ථිඛ්‍යා තදා, පසඤ්ඤා හොන්තීති පසඤ්ඤායං-සපතො චාති ආදිනා යොනං ලොපො-යොසු කත ඉවචාදිනා දීසො.**

**රත්ති රත්තියො රත්‍යො වා-හෙ රත්ති හෙ රත්තී හෙ රත්තියො-අම්මොති ආදිනා නිග්ගහිතං-රත්තිං රත්තී රත්තියො-නතියාදීසු.**

---

අම්මං ආදි අස්සාති අම්මාදි, තතො අම්මාදිතො. අම්මා අන්නා ඉති, අම්මා අන්නා යන; එවම්මාදිතො, මේ ආදීහු කෙරෙන්; පරස්ස, පර වූ; ආලපනෙකවචනස්ස, ආලපනෛක වචන වූ; ගස්ස, ග සංඥය හට; එකාරත්තං, එකාරාදෙශ බව, න හොති, නො වේ;

ආකාරො වා ඉති, ආකාරෙ වා 2-4-38 යන සූත්‍රයෙන්; රස්සත්තං, හ්‍රස්ව බව වේ.

හොති අම්ම හොති අම්මා හොතියො අම්මා අම්මායො යනු වේ.

අන්නා —පෙ— අම්බායො ඉච්චාදි, අන්නා —පෙ— අම්බායො යනාදියද; එවං, මෙසේ මැයි.

අම්මා අන්නා අම්බා යන මේ ශබ්දයෝ තුන්දෙන ම මාතෘපර්‍යායයෝ යි.

ආකාරන්තං.

ආකාරාන්ත ස්ත්‍රීලිඞ්ග නාමවර්‍ණනාව යි.

—————— ඃ ——————

ඉකාරන්තො, ඉකාරය අන්තාවයව කොට ඇති; ඉත්ථිලිඞ්ගො, ස්ත්‍රීලිඞ්ගයෙන් යුක්ත වූ; රත්තිසද්දො, රත්තිශබ්දය තෙම කියනු ලැබේ.

තථෙව, එසේම; ස්‍යාදුප්පත්ති, සි ආදි විභක්තීන්ගේ උත්පත්තිය වේ; සිලොපො, සෙසතො යනාදීන් සි හට ලොප් වේ; රත්ති යනු වේ.

බහුවචනෙ, බහුවචනයෙහි.

සඤ්ඤ, ආලපනෙ සි ගසඤ්ඤ 2-1-6 යන මේ සූත්‍රයෙන් සඤ්ඤා යනුද; ඉවණ්ණුවණ්ණා ති ච, ඉවණ්ණුවණ්ණා ඣලා 2-1-7 යන මේ සූත්‍රයෙන් ඉවණ්ණුවණ්ණා යනුද; වත්තතෙ, වැටේ.

තෙ ය ඉත්ථිඛ්‍යා ය පො ය යනු පදයි.

ආඛ්‍යායතීති ආඛ්‍යා, තෙ යනු ඉවණ්ණුවණ්ණා යන මේ අපෙක්‍ෂා කෙරේ හෙද"ගුණප්‍රමාණම්"යනාදියෙහි මෙන් ඉත්ථිඛ්‍යා යන්නට විශෙෂණ සි.

ඉත්ථියා, ස්ත්‍රියට; ආඛ්‍යා යී සේ; සඤ්ඤා, නම් වූවා; ඉත්ථිඛ්‍යා, ඉත්ථිඛ්‍යා නම්; ලිඞ්ගස්සන්තා, ලිඞ්ගයාගේ කෙළවර වැටෙන්නා වූ; තෙ ඉවණ්ණුවණ්ණා, ඒ ඉවර්ණ උවර්ණ යන මොහු; යද, යම් කාලෙක්හි; ඉත්ථිඛ්‍යා, ස්ත්‍රියට නම් වේද්ද; තද, පසඤ්ඤා හොන්ති, එකල්හි ඔහු පසංඥ ඇත්තාහු වෙතියි;පසඤ්ඤායං,(ඒ ඉවර්ණ උවර්ණයන්ට) පසංඥ කරන ලද කල්හි; ඝපතො චාති ආදිනා, ඝපතො ච යොනං ලොපො 2-1-37 යන සූත්‍රයෙන්; යො ලොපො, (පසංඥයා කෙරෙන් පර වූ) යො හට ලොප් වේ; යොසු කත ඉච්චාදිනා, යොසු කතනිකාරලොපෙසු දීඝං 2-1-37 යන සූත්‍රයෙන්; දීඝො, (විභක්තීන්ට කරන ලද ලොප් ඇති කල්හි පූර්වස්වරයා හට) දීර්ඝ වේ.

රත්තී රත්තියො යනු වේ; රත්‍යො වා, රත්‍යො කියා හෝ වේ; රත්‍යො යන තන්හි රත්ති යන මේ ශබ්දයා කෙරෙන් පර වූ යො හට, තතො යොනමොතු 2-3-45 යන මේ සූත්‍රයෙහි තුග්‍රහණ යෙන් ඔකාරාදෙශ කරන ලද කල්හි විභක්ත්‍යාදෙශ ස්වරයා පර නිමිතින් පසංඥක ඉවර්ණය හට පසඤ්ඤස්ස ච 2-1-21 යන සූත්‍රයෙන් යකාරාදෙශ කොට පරනයන කටයුතු යවත් බවක් ඇතද අනුවෘත්ත වා ශබ්දයෙන් යවතමාදි සූත්‍රයෙන් චකාරත්වය නොවේ.

හෙ රත්ති යනාදිය වේ; අමෙමාති ආදිනා, අමෙමා නිග්ගහීතං ඣලපෙහි 2-1-31 යන සූත්‍රයෙන්;නිග්ගහීතං,(පසංඥයා කෙරෙන් පර වූ අං වචනය හට)නිග්ගහීතාදෙශ වේ.

රත්තිං රත්තී රත්තියො යනු වේ; තතියාදීසු, තෘතීයාදීන් විෂයෙහි.

**එකවචනානං නාදීනනති ච වත්තතෙ.**

## 183. පතො යා 2–1–61.

**පසඤ්ඤතො ඉවණ්ණුවණ්ණෙහි පරෙසං නාදීනමෙක වචනානං විභත්තිගණානං යා ආදෙසො හොති. රත්තියා රත්තීහි රත්තියා, රත්තියා රත්තීනං.**

**පඤ්චමියං.**

## 184. අමා පතො ස්මිංස්මානං වා 2–1–17.

**පතීවෙචනස්මා පරෙසං ස්මිං ස්මා ඉවෙචනෙසං යථාක්කමං අං ආ ආදෙසා හොන්ති වා.**

**වවත්ථිතවිභාසත්ථොයං වාසද්දෙ–තෙන උවණ්ණන්තතො න හොන්ති–* ඉවණ්ණන්තා පතො යථාපයොගං.**

---

එකවචනානං, ආය චතුත්ථෙකවචනස්ස තු 2–1–58 යන සූත්‍රයෙන් වචනවිපර්‍ය්‍යාස වශයෙන් එකවචනානං යනුද; නාදීනනති ච, සතො නාදීනං 2–1–60 යන සූත්‍රයෙන් නාදීනං යනුද; වත්තතෙ, වැටේ.

පතො ය යා ය යනු පද යි.

පසඤ්ඤතො, පසංඥ ඇති; ඉවණ්ණුවණ්ණෙහි, ඉවර්ණ උවර්ණ යන මොවුන් කෙරෙන්; පරෙසං, පර වූ; නාදීනං, නා විභක්තිමයර්‍යාද කොට ඇති ස්මිං විභක්ති පර්‍ය්‍යන්ත කොට ඇති; එකවචනානං විභත්තිගණානං, එකඑක ම අර්ථයාගේ කීමට උපකාර වූ විභක්ති සමූහයන්ට; යා ආදෙසො හොති, යා යන ආදෙශ වේ; රත්තියා රත්තීහි[1]රත්තීහි, රත්තියා රත්තීනං යනු වේ.

පඤ්චමියං, පඤ්චමියෙහි.

අමා ය පතො ය ස්මිංස්මානං ය වා ය යනු පද යි.

අං ච ආ ච අමා, ස්මිං ච ස්මා ච ස්මිංස්මා, තෙසං ස්මිංස්මානං– යථාක්‍රමයෙන් සමාසම්ජ්ඥාං යි නො කියා ස්මිං ස්මානං යි කීයේ කුමැයිද යත්? විධ්‍යන්තරයක් හඟවන පිණිසය, හේ කිම්ද යත්?

---

* ඉවණ්ණන්තතොපි–පෙළ.

**සරෙ යකාරෙති ච වත්තතෙ-සීහමණ්ඩූකගතීහි යො වචනෙකවචනගහණඤ්ච.**

## 185. පසඤ්ඤස්ස ච 2-1-21.

**පසඤ්ඤස්ස ඉවණ්ණස්ස යොවචනෙකවචනවිභත්තීනමාදෙසෙ සරෙ පරෙ යකාරො හොති.**

---

උත්තර සූත්‍රයෙහි ස්මිංග්‍රහණයාගේ ම අනුවෘත්තිය යි, යම්කිසි ආකාරයකින් අභිප්‍රාය හැඟවීම ආචාර්‍ය්‍යයන්ගේ ප්‍රකෘති මැ යි, ස්මාහිස්මිංනං ම්හාභිම්හි වා 2-1-48 යන සූත්‍රයෙහිද "හිස්මා ස්මිංනං භිම්හාම්හි" යි වක්තව්‍ය කල්හි එසේ නො කියා ස්මාවචනයාගේ පූර්වනිපාතය දීඝොරෙහි 2-1-55 යන සූත්‍රයට ඉහාරය හැර ස්මාසවචනය ම වැටෙන්නේ යි හඟවන පිණිස ය යි, එයින් කීහු වෘත්තිකාරයෝ "දීඝඔරෙ ඉච්චෙතෙහි ස්මාවචනස්ස සො ආදෙසො හොති" යි.

ප ඉති, ප යන; එතස්මා ෂරෙසං, මේ ඉවර්ණ උවර්ණයා කෙරෙන් පර වූ; ස්මිංස්මා ඉති, ස්මිං ය ස්මා ය යන; එතෙසං, මොවුන්ට; යථාක්කමං, සූත්‍රයෙහි පඨිතානුක්‍රමය නොහැර; අං ආ ආදෙසා, අං ය ආ ය යන ආදෙශයෝ; වා හොන්ති, විකල්පයෙන් වෙත්; අයං වාසද්දො, මේ වාශබ්දය තෙම; ව්‍යවත්ථිතවිභාසත්ථො, ව්‍යවස්ථිත විභාෂාව අර්ථකොට ඇත්තේ යි; තෙන, ඒ වා ශබ්දයා ව්‍යවස්ථිතවිභාෂාව අර්ථකොට ඇති බව හෙතුකොට ගෙන; උවණ්ණන්තතො න හොන්ති, පතො යි සාමාන්‍යයෙන් කිවද පසංඥක උවර්ණාන්ත ලිඞ්ගයා කෙරෙන් පරව ස්මිං ස්මා වචනයන්ට අං ආ යන ආදෙශයෝ නො වෙති; ඉවණ්ණන්තා පතො, පසංඥක ඉවර්ණාන්ත ලිඞ්ගයා කෙරෙන් පර වූ එක වචනයන්ට; යථාපයොගං, ප්‍රයොගානුරූපයෙන් වෙත්.

සරෙ, ඕලානම්‍ය්‍යුවා සරෙ වා 2-1-19 යන සූත්‍රයෙන් සරෙ යනුද; යකාරෙති ච, යවකාරා ච 2-1-20 යන සූත්‍රයෙන් යකාරො යනුද; වත්තතෙ, වැටේ; සීහමණ්ඩූකගතීහි, සිංහගතිමණ්ඩූකගති හෙයින්; යොවචනෙකවචනග්ගහණඤ්ච, යොසු ච 2-1-23 සංඥා සෙවනාවිච්චනෙසු ච 2-1-11 යන මේ සූත්‍රවලයෙන් යොවචනග්‍රහණ යද විභක්ති විපර්‍ය්‍යාසයෙන් එකවචනග්‍රහණයද පසඤ්ඤස්ස ච

**එත්ථ ච යකාරසෙසවාධිකාරා පසඤ්ඤග්ගහණෙන ඉව ණ්ණාව ගය්හති-වග්ගහණං රත්තොති ආදිසු නිවත්තනත්ථං-රත්‍යා රත්තියා රත්තිහි රත්තීහි, රත්තියා රත්තීනං.**

**ස්මිංවචනෙ-අම්හාදෙස යකාරාදෙසා-රත්‍යං.**

**සපතො ස්මිං යං වාති යං ආදෙසො-රත්තියං.**

---

2-1-21 යන්නට වැටේ, එහෙයින් යො වචනය හටද එකවචනය හටද ආදෙශභූත ස්වරයා පරකල්හිය යන වක්‍ෂ්‍යමාන අර්ථය සිඩයි.

පසඤ්ඤස්ස ය ච ය යනු පද යි.

යොස්වෙකවචනවිභත්තීනං, ප්‍රථමාදි යොවචන විභක්තිය තෘතීයාදි එකවචනවිභක්තිය යන මොවුන්ට; ආදෙසෙ සරෙ පරෙ, ආදෙශභූත වූ ස්වරයා පරකල්හි; පසඤ්ඤස්ස ඉවණ්ණස්ස, පසංඥ ඇති ඉවර්ණය හට; යකාරො හොති, යකාරයෙක් ආදෙශ වේ—මෙහි ද යොවචනෙක වචනසඞ්ඛ්‍යාත විභක්තීන්ට ආදෙශ භූත වූම ස්වරයා පරකල්හිය යි මෙසේ සූත්‍රවිවරණය පසංඥක ඉවර්ණයා සම්බන්ධි වූ ද යාදෙශයා ඉවණ්ණා යනාවා 1-2-10 යන අවිශෙෂ සූත්‍රයෙන් ම සිඩ වතු ද පසඤ්ඤස්ස ච 2-1-21 යි ආරම්භ කළ හෙයින් ම පසංඥකාඉවර්ණය හට වන යාදෙශයා යථොක්ත විභක්තීන්ට ආදෙශ වූ ම ස්වරයා පරකල්හි යි ගතයුතු පිණිස යි, න්‍යාසයෙහි වනාහි යම් තැනෙක්හි පසංඥ නිමිත්ත වූ ආදෙශයෙක් නැද්ද එහි පසංඥකරණයෙහි ප්‍රයොජන භාවයෙක් නොකොට ඉවණ්ණා යනාවා 1-2-10 යන මෙයින් සිඩ කරන්නට පිළිවන යම් තැනෙක්හි වනාහි පසංඥ නිමිත්ත වූ ආදෙශ යෙක් ඇද්ද එහි පසංඥ කොට මෙයින් සඤ්ඤාවගේ අභාව යෙහි ද යකාරාදෙශවිධානය පිණිස මේ සූත්‍රය ආරබ්ධය යි කියන ලදී.

එත්ථ ච, මෙ සූත්‍රයෙහිද; යකාරසෙසවාධිකාරා, යවකාරා ච 2-1-20 යන සූත්‍රයෙන් වකාරය හැර යකාරයාගේ ම අධිකාරය හෙතු කොට ගෙන; පසඤ්ඤග්ගහණෙන, පසංඥග්‍රහණයෙන්; ඉවණ්ණොව ගය්හති, ඉවර්ණයා ම ගන්නා ලැබේ—වකාරග්‍රහණය කුමක්හු යි අධිකාර නොවේද යත්? "තදනුපරොධෙන" යි

**අඤ්ඤස්ස අං සිං වා ති ච වත්තතෙ.**

## 186. ආදිතො ඔ ච 2-1-18.

**ආදි ඉච්චෙතස්මා සිංවචනස්ස අං ඔ ආදෙසා හොන්ති වා-චසද්දෙන අඤ්ඤස්මාපි ආඅමොති ආ අං ඔ ආදෙසා.**

**රත්‍යා රත්තිං රත්‍යො රත්තියා රත්තිසු රත්තීසු.**

---

බැවින් ලක්ඛ්‍යානුසාරයෙන් ලක්ෂණය ම පවත් මුත් ලක්ෂණානු සාරයෙන් ලක්ෂණය නො පවතීනු යි එබඳු ලක්ෂණයක් නැති හෙයින් අධිකාර නො වෙයි දතයුතු

චග්ගහණං, (මේ සූත්‍රයෙහි) ච ශබ්ද තෙම; රත්‍යොති ආදීසු, රත්‍යො යනාදි උදාහරණයෙහි; නිවත්තනත්ථං, විභත්ත්‍යාදෙශ ස්වරයා පර වුවද පසංඥය හට යකාරාදෙශ නිවෘත්තිය ම ප්‍රයෝජන කොට ඇත්තේ යි.

රත්‍යා රත්තියා යනාදිය වේ.

සිං වචනෙ, රත්ති යන ශබ්දයා කෙරෙන් සිං වචනය කර්න ලද කල්හි (ප්‍රයොග කියනු ලැබේ.)

අම්ාදෙස යකාරාදෙසා,අම්ාපතො යනාදි සූත්‍රයෙන් පසංඥයා කෙරෙන් පර සිං වචනය හට විකල්පයෙන් අං යන ආදෙශය පසඤ්ඤස්ස ච 2-1-21 යන සූත්‍රයෙන් ඒ අම්ාදෙශ සඞ්ඛ්‍යාත විභත්ත්‍යාදෙශ ස්වරයා පරකල්හි පසංඥය හට යකාරාදෙශය යන මොහු වෙත්; රත්‍යං යනු වේ.

ඝපතො සිං යං වාති, ඝපතො සිං යං වා 2-4-6 යන සූත්‍රයෙන්; යං ආදෙසො, යං යන ආදෙශ වේ; රත්තියං යනු වේ.

අඤ්ඤස්ස, එම ආදෙශාදි නො වූ පක්ෂයෙහි; අං සිං වාති ච, අම්ාපතො සිංසමාකං වා 2-1-14 යන සූත්‍රයෙන් අං යනුද සිං යනුද වා යනුද; වත්තතෙ, වැටේ.

ආදිතො ය ඔ ය ච ය යනු පද යි

ආදි ඉති, ආදි යන; ඒතස්මා, මේ ශබ්දයා කෙරෙන් පර වූ; සිංවචනස්ස, සිං යන වචනය හට; අං ඔ ආදෙසා, අං ඔ යන ආදෙශ; වා හොන්ති, විකල්පයෙන් වෙති; චසද්දෙන, මෙහි ම

**එවමඤ්ඤානිපි-**

> **පත්ති යුත්ති වුත්ති කිත්ති මුත්ති තිත්ති ඛන්ති කන්ති**
> **සන්ති තන්ති සිද්ධි සුද්ධි ඉද්ධි වුද්ධි බුද්ධි බොධි.**
>
> **භූමි ජති පිති සූති නන්දි සන්ධි සාණි කොටි**
> **දිට්ඨි වුට්ඨි තුට්ඨි යට්ඨි පාළි ආළි නාළි කෙළි.**

**සති මති ගති චුති ධිති යුවති විකති රති රුචි රස්මි අසනි වසනි ඔසධි අඞ්ගුලි ධූලි දුන්දුභි දොණි අටවි ඡවි ආදීනි ඉකාරන්ත නාමානි.**

**ඉකාරන්තං.**

---

වග්ගහණයෙන්; අඤ්ඤසමාපි, ආදිශබ්දයෙන් අන්‍ය වූ ශබ්දයන් කෙරෙන් පර වුවද ස්මිං වචනය හට; ආඅමොති, ආ අං ඔ යන මොහු වෙත්නු යි; ආ අං ඔ ආදෙසා, මේ රත්ති යන ශබ්දයා කෙරෙන් පර වූ ස්මිං හට ආකාරාදෙශ අං ආදෙශ ඔකාරාදෙශ වෙත්.

රත්තියා රත්තිං යනාදිය වේ.

පත්ති-පෙ-ඡවි ආදීනි අඤ්ඤානිපි (ඉත්ථිලිඞ්ගානි ඉකාරන්ත නාමානි) එවං (වෙදිතබ්බානි) යි යොදනු.

මෙහි පත්ති යනාදි ගාථාවය **සමානිකා** නම් වෘත්තය යි; එහි ලක්ෂණ ද ලලිඞ්ගයෙහි ඉකාරාන්ත ශබ්දමාලායෙහි ජොති යනාදි ගාථාවයට කී පරිද්දෙන් ම දතයුතු

පත්ති ශබ්දයෙන් පදදිසෙනග කියත්; යුත්ති ශබ්දයෙන් සහිත බව කියත්; වුත්ති ශබ්දයෙන් සූත්‍රවිවරණද ජීවිකාවෘත්ති ආදියද කියත්; කිත්ති ශබ්දයෙන් ගුණඝොෂය කියත්; මුත්ති ශබ්දයෙන් ශරීරයද මුක්තවීමද කීමද කියත්; තිත්ති ශබ්දයෙන් සුහිතභාවය කියත් හෙවත් පිරුනු බවයි; ඛන්ති ශබ්දයෙන් පරොපකාරයෙන් සහනය කියත්; කන්ති ශබ්දයෙන් ශොභාව කියත්; සන්ති ශබ්දයෙන් ව්‍යුපසමය කියත්; තන්ති ශබ්දයෙන් ග්‍රන්ථ කියත්; සිද්ධි ශබ්දයෙන් නිෂ්පත්තිය කියත්; සුද්ධි ශබ්දයෙන් විශුද්ධිය කියත්; ඉද්ධි ශබ්දයෙන් නිෂ්පත්‍යභිප්‍රාප්ති ලාභයද උපාය

සම්පදද කියත්; වුඩි ශබ්දයෙන් වැඩ කියත්; බුඩි ශබ්දයෙන් නුවන කියත්; බොධි ශබ්දයෙන් අභි සම්බොධිය කියත්; බොධි ශබ්දය දුමවාචී වූයේ වනාහි පුල්ලිඟු වේ.

භූමි ශබ්දයෙන් පොළොව කියත්; ජාති ශබ්දයෙන් "එකම්පි ජතිං වෙපි ජාතියො" යනාදියෙහි භවයද "අකඛිතෙනා අනු පකකුඨො ජාතිවාදෙන" යන තන්හි කුලයද "අත්‍ථි විසාඛෙ නිගන්ඨා නාම සමණජාති" යන තන්හි නිකායද "යතොහම්භ ගිනි අරියාය ජාතියා ජාතො නාභිජානාමි" යන තන්හි ආර්‍ය්‍ය ශීලයද "තිරියා නාම තිණජාති නාභියා උග්ගන්‍ත්‍වා නභං ආහච්ච ඨිතා" යන තන්හි ප්‍රඥප්තියද "ජාති විහිත බන්‍ධෙහි සඞ්ගහීතා" යන තන්හි සංස්කෘත ලක්‍ෂණයද "පච්ඡිමභවෙ ගබ්භාවක්කන්තිං ජාතිං අභිනික්ඛමන්තං" යනාදියෙහි ප්‍රසවයද "භවපච්චයා ජාති" යන තන්හි පර්‍ය්‍යායයෙන් ප්‍රතිසන්‍ධි සම්බන්‍ධයන්ද නිෂ්පර්‍ය්‍යාය හෙයින් ඒ භවයෙහි නිර්‍වෘත්තමාත්‍ර සත්‍වයන්ට යම් සකන්‍ධ කෙනෙක් පහල වෙද්ද ඔවුන්ගේ ප්‍රථම ප්‍රාග්භාවයද කියත්; "ජාතිසසාමාන්‍යම්" යී බැවින් ජාතිය යි සාමාන්‍යයද කියත් මැ යි; පීනෙති සන්තානං තප්පෙතීති පීති, ප්‍රමොදය යි; සූති ශබ්දයෙන් ප්‍රසවය කියත්; නන්‍දි ශබ්දයෙන් තුෂ්ටියද නන්‍දිරාගයද කියත්; නන්‍දිරාගය නම් බලවත් රාගය යි; සන්‍ධි ශබ්දයෙන් ප්‍රතිසන්‍ධිය කියත්; අසම්සන්‍ධි ආදි වාචී වූයේ වනාහි පුල්ලිඟු වේ; සානි ශබ්ද යෙන් තිරෙකරණී කියත්; ජවනිකා නමුදු හේ මැයි; කොටි ශබ්දයෙන් සියක්ලක්‍ෂද පර්‍ය්‍යන්තද කියත්; දිඨි ශබ්දයෙන් මිථ්‍යා ග්‍රාහද නයනද ඥානද කියත්; වුඨි ශබ්දයෙන් වැසි කියත්; තුඨි ශබ්දයෙන් සන්තොස කියත්; යඨි ශබ්දයෙන් යට කියත්; පාළි ශබ්දයෙන් පඞ්ක්තිද පාඨද කියත්;ආළි ශබ්දයෙන් සෙහෙලියන්ද ඇලද පන්තිද කියත්; නාළි නම් ප්‍රස්ථය යි හෙවත් නැලිය යි; කෙළි නම් ක්‍රීඩා යි.

සති ශබ්දයෙන් කුශලධර්‍මයෙහි අප්‍රමාදය කියත්; මති ශබ්දයෙන් බුඩිය කියත්; ගති ශබ්දයෙන් ප්‍රතිෂ්ඨාආදි කියත්; චුති ශබ්දයෙන් මරණ කියත්; ධිති ශබ්දයෙන් වීර්‍ය්‍ය කියත්; යුවති ශබ්දයෙන් යෞවන ස්ත්‍රීන් කියත්; විකති ශබ්දයෙන් විකාර කියත්; රති ශබ්දයෙන් කාන්ති කියත්; කාමදෙවයාගේ භාර්‍ය්‍යාවත් කියති, රුචි ශබ්දයෙන් අභිරුචියද ප්‍රභාවද කියත්; රස්මි ශබ්දයෙන් ප්‍රභාද රැහැනද කියත්; අසනි ශබ්දයෙන් සෙන

**ඊකාරන්තා ඉත්ථිලිඞ්ගා ඉත්ථිසද්දා.**

**ඉත්ථි ඉතීධ-**

**ඉත්ථියං පච්චයොති ච වත්තතෙ.**

## 187. නදාදිතො වා ඊ 2-4-28.

**නදාදිතො වා අනදාදිතො වා ඉත්ථියං වත්තමානා ලිඞ්ගම්හා ඊප්පච්චයො හොති.**

**වාගහණමනදාදි සම්පිණ්ඩනත්ථං *-තෙන පුථුගවාදිතො ච ඊ.**

**සරලොපෙ-ත්වාසවණ්ණං ලුත්තෙති අසවණ්ණෙ සම්පත්තෙ පකතිභාවො-නාමව්‍යපදෙසො-ස්‍යාදුප්පත්ති.**

**ඉත්ථි ඉත්ථී.**

**අඝො රස්සන්ති ආදිනා රස්සත්තං-ඉත්ථියො.**

---

කියත්; වසති ශබ්දයෙන් වසත්‍ර කියත් පිළියෙළ කන්ද කියත් යෙත්; ඔසධි ශබ්දයෙන් තාරකාවිශෙෂයන්ද අගදද කියත්; අඞ්ගුලි ශබ්දයෙන් කරශාඛාද පාදශාඛාද කියත්; ධූලි ශබ්දයෙන් රජස් කියත්;දුන්දුභි ශබ්දයෙන් භෙරිවිශෙෂ කියත්; දෙණි ශබ්දයෙන් දෙණ කියත්; අටවි ශබ්දයෙන් අරණ්‍යය කියත්; ඡවි ශබ්දයෙන් ශොභාවද ශරීරචර්මයද කියත්.

ඉකාරන්තං.

ඉකාරාන්ත ස්ත්‍රීලිඟු නාමවර්ණනාව යි.

---

ඊකාරන්තා, ඊකාරාන්ත වූ; ඉත්ථිලිඞ්ගා, ස්ත්‍රීලිඟු වූ; ඉත්ථිසද්දා, ඉත්ථිශබ්දය තෙම; (වුච්චතෙ, කියනු ලැබේ.) ඉත්ථි ඉති, ඉත්ථි යන; ඉධ, මෙහි කාර්‍ය්‍යයී කියනු ලැබේ.

ඉත්ථියං පච්චයො ඉති ච, ඉත්ථියමතො ආප්පච්චයො 2-4-27 යන සූත්‍රයෙන් ඉත්ථියං යනුද පච්චයො යනුද; වත්තතෙ, වැටේ.

නදාදිතො ය වා ය ඊ ය යනු පද යි.

---

* සඞ්ගහණත්ථං-රූපසිද්ධි පෙළ.

නදෙ ආදි යස්ස ඉත්ථිවාචකස්ස සද්දගණස්ස සො නදාදි, තතො නදාදිතො–මෙහි ආදිශබ්ද ප්‍රකාරයෙහි වැටේ, ශබ්ද වනාහි ප්‍රකෘති විකල්පනය අර්ථකොට ඇත්තේ යි, එහෙයින් කීහු වෘත්තියෙහි "නදාදිතො වා අනදාදිතො වා" යි.

නදාදිතො වා, නදඉත්ථිම්හ යනාදි වූ ද; අනදාදිතො වා, නදශබ්දාදීහු කෙරෙන් අන්‍ය වූ පුථුගවාදි වූ ද;ඉත්ථියං වත්තමානා ලිඞ්ගම්හා, ස්ත්‍රීලිඟයෙහි වැටෙන්නා වූ ශබ්දයා කෙරෙන් පරව; ඊපච්චයො හොති, ඊ යන මේ ප්‍රත්‍යය වේ.

වාගහණං, මේ සූත්‍රයෙහි වාග්‍රහණයාගේ ග්‍රහණය; අනදාදී සම්පිණ්ඩනත්ථං, නදාදීහු කෙරෙන් අන්‍ය වූ පුථුගවාදීන්ගේ සමුච්චය ප්‍රයොජන කොට ඇත්තේ යි; තෙන, වාග්‍රහණයාගේ අනදාදී සම්පිණ්ඩනය අර්ථකොට ඇති බව හෙතු කොට ගෙන; පුථුගවාදිතො ච, පුථු ගො ශබ්දයන් කෙරෙන් පරවද ඊ ප්‍රත්‍යය වේ.

සරලොපෙ, සරලොපාදි සූත්‍රයෙන් ප්‍රත්‍යය ස්වරයා පර කල්හි පූර්වස්වරය හට ලොප් කරන ලද කල්හි; ඨවාසවණ්ණෙ ලුත්තෙති, ඨවාසවණ්ණෙ ලුත්තෙ 1-2-3 යන සූත්‍රයෙන්; අස වණ්ණෙ සම්පත්තෙ, පර ඊකාරය හට අසවර්ණ සම්ප්‍රාප්ත කල්හි; පකතිභාවො, එම සරලොපාදි සූත්‍රයෙන් ඕ හට පූර්වප්‍රකෘතියගේ නම වීමයි ප්‍රතිෂෙධ වෙයි සේයි; නාමව්‍යපදෙසො, ප්‍රත්‍යයාන්තයා ලිඟු නො වන හෙයින් ලිඞ්ගකෘත්‍යුත්පත්තිය අසම්ප්‍රාප්ත කල්හි තද්ධිතාදි සූත්‍රයෙහි චග්‍රහණයෙන් ඊප්‍රත්‍යයාන්තය හට නාමව්‍යව හාරය වේ; ස්‍යාදුප්පත්ති, සි ආදි විභක්තීන්ගේ ඉපැද්ම වේ; ඉත්ථී ඉත්ථී යනු වේ.

පියති සඞ්ඛාතං ගච්ඡති එතිස්සා ගබ්භොති ඉත්ථී.

අසො රස්සන්ති ආදිනා, අසො රස්සමෙකවචනයොස්වපි ච 2-2-33 යන සූත්‍රයෙන්; රස්සත්තං, යො පරකල්හි අස හට හ්‍රස්ව වේ; ඉත්ථියො යනු වේ.

**සම්බොධනෙ-ඝලපා රස්සන්ති රස්සත්තං-හොති ඉත්ථි ඉත්ථී ඉත්ථියො.**

**දුතියෙකවචනෙ-**

**ඝපතො ස්මිං යං වාති ඉතො වාති වත්තතෙ.**

## 188. අං යමීතො පසඤ්ඤතො 2-4-13.

**පසඤ්ඤාතො ඊකාරතො පරස්ස අංවචනස්ස යං හොති වා.**

**ඉත්ථියං ඉත්ථිං ඉත්ථී ඉත්ථියො, ඉත්ථියා ඉත්ථීහි ඉත්ථීභි, ඉත්ථියා ඉත්ථීනං, ඉත්ථියා ඉත්ථීහි ඉත්ථීභි, ඉත්ථියා ඉත්ථීනං, ඉත්ථියං ඉත්ථියා ඉත්ථීසු.**

**එව. නදී නදී.**

---

සම්බොධනෙ, ආලපන විෂයෙහි; ඝලපාරස්සන්ති රස්සත්තං, (ගපරකල්හි පසංඥය හට) ඝලපා රස්සං 2-4-37 යන සූත්‍රයෙන් හ්‍රස්ව වේ. හොති ඉත්ථි ඉත්ථී ඉත්ථියො යනු වේ; දුතියෙකවචනෙ, විතීයෙක වචනයෙහි; ඝපතො ස්මිං යං වාති ඉතො, ඝපතො ස්මිං යං වා 2-4-6 යන මේ සූත්‍රයෙන්; වා ඉති, වා යනු; වත්තතෙ, වැටේ.

අං ය යං ය ඉතො ය පසඤ්ඤතො ය යනු පද යි.

පසඤ්ඤතො යි කියයුතු තන්හි සුඛොච්චාරණය පිණිස දීර්ඝ කොට පසඤ්ඤාතො යි කීහු.

පසඤ්ඤාතො ඊකාරතො, පසංඥ ඇති ඊකාරයා කෙරෙන්; පරස්ස අං වචනස්ස, පර වූ අං වචනය හට; වා, විකල්පයෙන්; යං හොති, යං යනාදෙශ වේ.

ඉත්ථියං ඉත්ථිං යනාදිය වේ.

ඉත්ථියං යන තන්හි පසංඥක ඊකාරයා කෙරෙන් පර වූ අං වචනය හට යමාදෙශ කළ කල්හි අසෝ යනාදි සූත්‍රයෙන් හ්‍රස්ව කටයුතු.

**ඉත්ථී ශබ්දයෙන් ගැනු කියත්.**

නදී නදී, නදී නදී යනුද; එවං, මෙසේ යි. නදති ගච්ඡතීති නදී.

**යොලොපාභාවෙ-තතො යොනමො තූති එත්ථ තුසද්දෙන යොනමොකාරෙ ච-පසඤ්ඤස්ස චාති ඊකාරස්ස යකාරෙ-යවතං තලන ඉච්චාදිනා ද්‍යස්ස ජකාරෙ ද්විත්තං.**

**නජ්ජො සන්දන්ති නදියො.**

**එත්ථ චෙවං සිජ්ඣන්තානං නජ්ජොති ආදීනං වුත්තියං ආනත්තග්ගහණාදිනා නිප්ඵාදනං අනුජ්ජුගතාදීනං විය නිප්ඵාදනුපායන්තරදස්සනත්ථන්ති දට්ඨබ්බං.**

**හෙ නදි හෙ නදී හෙ නජ්ජො හෙ නදියො, නදියං නදිං නදී නජ්ජො නදියො.**

**අමාදිසුත්තෙන ආ පතොති යොග විභාගෙන ඝවී නාසානං චාත්තං, තෙන "න ජච්චා වසලො හොති පඨව්‍යා එකරජ්ජෙන"ති ආදි ච සිජ්ඣති-පුරෙ විය යකාරජකාරාදෙස ද්විත්තානි.**

**නජ්ජා කතං, නදියා නදීභි නදීහි, නජ්ජා නදියා නදීනං, නජ්ජා නදියා නදීභි නදීහි, නජ්ජා නදියා නදීනං, නජ්ජං නදියං නදියා නදීසු.**

---

යොලොපාභාවෙ, යො හට ලෝප් නුවූ පක්ෂයෙහි; තතො යොනමො තූති, තතො යොනමො තු 2-3-45 යන; එත්ථ, මේ සූත්‍රයෙහි, තුසද්දෙන, තුශබ්දයෙන්; යොනං ඔකාරෙ ච, (සෙස් සත් කෙරෙන් පර) යොවචනයන්ට ඔකාරයෙක් ද වේ—ඔකාරෙ ච යන ශබ්දලොපාභාවපක්ෂයෙහි යොලොප සමුච්චය කෙරේ; පසඤ්ඤස්ස චාති, පසඤ්ඤස්ස ච 2-1-21 යන සූත්‍රයෙන්; ඊකාරස්ස යකාරෙ, (විභක්ත්‍යාදෙශ ස්වරයා පරකල්හි පසංඥක වූ) ඊකාරය හට යකාරාදෙශ වේ, යවතං තලන ඉච්චාදිනා, 'යවතං තලනදකාරානං බ්‍යඤ්ජනානි චලඤ්ජකාරත්තං" 2-5-23 යන සූත්‍රයෙන්; ද්‍යස්ස, යකාරයුක්ත දකාරය හට; ජකාරෙ, ජකාරයෙක් වේ; ද්විත්තං, පරද්වෙභාවො ඨානෙ 1-3-6 යන සූත්‍රයෙන් ජකාරයෙක් ද්විත්ව වේ.

නජ්ජො, නදීහු; සන්දන්ති, වැහෙත් නදියො සන්දන්ති කීයාද වේ—සන්දන්ති යනු ප්‍රථමා බහුවචනාන්ත බව හඟවන පිණිසයි, ඉදින් තතො යොනමො තු 2-3-45 යනාදි සූත්‍රානුසාරයෙන් ම

නජ්ජා යන රූප සිද්ධ වේ නම් වෘත්තියෙහි "ආනත්තගහණේන නදී ඉච්චෙතස්ස නදී සද්දස්ස නජ්ජා" යනාදීන් ආනත්තග්‍රහණයෙන් සිද්ධ කිරීම සි ද යන චෝද්‍යය සිත තබා එත්ථ ච යනාදි කීහු.

එත්ථ ච, මේ ප්‍රස්තාවයෙහි; එවං සිද්ධානානං, මේ සූත්‍රානුසාරයෙන් නිෂ්පන්න වන්නා වූ; නජ්ජෝති ආදීනං, නජ්ජෝ නජ්ජා යනාදි රූපයන්ගේ; ආනත්තගහණාදිනා වුත්තියං නිප්ඵාදකං, මාතුලාදීනමානත්තමීකාරෙ 2-1-47 හො ගෙ තු 2-4-33 යනාදි සූත්‍රයන්හි ආනත්තග්‍රහණ තුග්‍රහණාදිය හේතුකොට ගෙන න්‍යාසයන වෘත්තියෙහි ලා මෙසේ සිද්ධ කිරීම; අත්‍රජ සුගතාදීනං විය (දෙ ධස්ස ච 1-2-9 යන සූත්‍රයෙහි චග්‍රහණයෙන් ත්‍රො තස්ස තො දස්ස යි බැවින් ම සිද්ධ වන්නා වූ)අත්‍රජෝ සුගතො යනාදීන්ගේ (සමානා යන පූර්වග්‍රහණයෙන් හා යවමද නාදි සූත්‍රයෙහි චශබ්දයෙන් නියමය මෙන්; නිප්ඵාදනූපායන්තර දස්සනත්ථන්ති දට්ඨබ්බං, අන්‍ය නිෂ්පාදනොපායක් හුගේ දැක්වීම ප්‍රයොජන කොට ඇත්තේය යි දතයුතු—යම්සේ අත්‍රජ සුගත යන මොවුන්ගේ තකාර දකාරයන්ට දෙ ධස්ස ච 1-2-9 යන සූත්‍රයෙහි චශබ්දයෙන් ත්‍රකාර තකාරාදෙශ කිරීමෙන් අත්‍රජෝ සුගතො යි සිද්ධ කරන ලද අත්‍රජ සුගතාදීන්ගේ නැවත ස්ථානය පුනරාරම්භයෙන් අත්‍රජ ශබ්දයාගේ තකාරය හට රකාරාදෙශද "යවමදනතරලා චාගමා" 1-4-9 යන සූත්‍රයෙහි චග්‍රහණයෙන් සුගද ශබ්දයාගේ දකාරයා හට තකාරාදෙශ කිරීමෙන් සිද්ධ විහිතද එසේ ම නදී ශබ්දයා කෙරෙන් පර යො නා ස වචනයන්ට නතො යොනමො තු 2-3-45 යන සූත්‍රයෙහි තු ග්‍රහණයෙන් ඔකාරාදෙශ හා අමා පතො යනාදියෙහි ආ පතො යන යොගවිභාගයෙන් ආකාර ද පසඤ්ඤස්ස ච 2-1-[illegible] යන සූත්‍රයෙන් දකාරාදෙශද යවත මාද සූත්‍රයෙන් ඈකාරය හට ජකාරද කළ කල්හි නජ්ජෝ නජ්ජා සි ද, භවන්ත යන මේ ශබ්දයා කෙරෙන් නා වචන ස වචනයන් දෙන්න හට සෙසෙසු නතුව 2-3-27 සි නතුවන් කොට විභක්ති සහිත වූ නතූ හට තොතිතා ස යනාදි සූත්‍රයෙන් තා තො යන ආදෙශද "ඔභාවො ක්‍වචි" යන යොගවිභාගයෙන් වකාරය හට ඔකාරාදෙශද කරන ලද කල්හි හොතා හොතො සි ද සිද්ධව මේ නජ්ජෝ නජ්ජා හොතා යනාදීන්ගේ මාතුලාදීනමානත්තමීකාරෙ 2-1-47 යන සූත්‍රයෙහි ආනත්තං යන භාවනිර්දේශයෙන් යො නා ස වචනයන් සහිත වූ නදී යන මොහුගේ නදී ශබ්දය හට ජ්ජෝ ජ්ජා දෙශ විධානයෙන්ද හො ගෙ තු 2-4-33 යන සූත්‍රයෙහි තු ග්‍රහණයෙන් නා වචනයන් පරකල්හි සවිභක්තික භවන්ත යන

**එවමඤ්ඤෙපි-**

**39 මහී වෙතරණී වාපී පාටලී කදලී සචී**
**නාරී කුමාරී තරුණී වාරුණී බ්‍රාහමණී සඛී.**

**40 ගන්ධබ්බී කින්නරී නාගී දෙවී යක්ඛී අජී මිගී**
**වානරී සූකරී සිඞ්ඝී හංසී කාකී ච කුක්කුටී.**

**ඉච්චාදයො ඉත්ථිසද්දසමා.**

---

ශබ්දය හට හොතා හොතො යන ආදෙශ විධානයෙන්ද කාත්‍යා යන වෘත්තියෙහි සිඬ කිරීම ශ්‍රොතෘ ජනයා විසින් ශබ්දනිෂ්පත්තිය උපදවා ගන්නට අතික් උපදෙශයක් හඟවන පිණිසය යි තැති.

අමාදිසුත්තෙන, අමා පතො සම්ංසමානං වා 2-1-17 යන සූත්‍රයෙහි; ආ පතොති යොගවිභාගෙන, සම්ංසමානං වා යන රූප හැර ආ පතො යි සූත්‍රවිධා කරණයෙන්, ක්වචි. කිසි විවක්ෂිත තැනෙක්හි; නාසානඤ්ච (පසංඥක ඉවණ්ණයා කෙරෙන් පර වූ) නා වචන ස වචනයන්වද; ආත්තං, ආකාරාදෙශ බව වේ—නාසානඤ්ච යන මෙහි ච ශබ්ද සමා වචනය සමුච්චය කෙරේ.

තෙන, ඒ ආ පතො යන යොගවිභාගයෙන් නා වචන ස වචනයන්ට ආත්වය වන හෙයින්; න ජච්චා වසලො හොති පථව්‍යා එකරජ්ජෙනාති ආදි ච, න ජච්චා වසලො හොති පථව්‍යා එකරජ්ජෙන යනාදි ප්‍රයොගද; සිජ්ඣති, සිඬ වේ—මෙහි ජාති ශබ්දය කෙරෙන්ද පුථවී යන මේ ශබ්දයා කෙරෙන්ද පර වූ නා විභත්ති සවිභත්තීන්ට ආ පතො යන යොගවිභාගයෙන් ම ආකාරාදෙශද පසඤ්ඤස්ස ච 2-1-21 යන සූත්‍රයෙන් ඉවණ්ණය හට සකාරාදෙශද ආදි උදාහරණයෙහි යවතමාදි සූත්‍රයෙන් යවත් වූ තකාරය හට චත්වද "පරවෙභාවො ඨානෙ" 1-3-6 යන සූත්‍රයෙන් ඒත්වද දෙවන උදාහරණයෙහි පකාරස්ථ උකාරය හට තෙසු වුඞ්ඪි යනාදි සූත්‍රයෙන් අත්වද කරන ලද කල්හි න ජච්චා පථව්‍යා යන රූපවය සිඬ වන්නේය යි දක්වනුවෝ පුරෙ විය යනාදි කීහු.

පුරෙ විය, පෙර මෙන්-නජ්ජා යන උදාහරණයෙහි මෙතැයි සේ යි; යකාර ජකාරාදෙස ච්ත්තාති, යකාරාදෙශය ජකාරාදෙශය ච්ත්වය යන මේ විධිහු වෙත්.

නජ්ජා නදියා යනාදිය වේ; නදී ශබ්දයෙන් ගඞ්ගා කියත්.

මහී-පෙ-කුක්කුටී ඉච්චාදයො අඤ්ඤෙපි (ඊකාරන්තා ඉත්ථිලිඞ්ගා සද්දා) එවං ඉත්ථිසද්දසමා යි යොදනු.

**තථෙව මාතුලසද්දතො ඊප්පච්චයෙ කතෙ.**

## 189. මාතුලාදීනමානත්තමීකාරෙ 2-1-47.

**මාතුල අය්‍යක වරුණ ඉච්චෙවමාදීනමන්තො ආනත්තමා පජ්ජතෙ ඊකාරෙ පච්චයෙ පරෙ-අනනාපෙක්ඛාසං ඡසී-සර ලොපාදි-මාතුලානී-එවං අය්‍යකානී වරුණානී-සෙසං ඉත්ථී සද්දසමං.**

---

කාකී ච යන මෙහි චශබ්දයා මහී ච වෙතරණී ච යනාදීන් වෙන වෙන යෙදිය යුතු—මෙහි මහී ශබ්දයෙන් පොළොවද එනම් නදියක්ද කියත්; වෙතරණී ශබ්දයෙන් උත්සදනිරයෙහි ලොහො නදිය කියත්; වාපී ශබ්දයෙන් වැව කියත්; පාටලී ශබ්ද යෙන් පලලු කියත්; කදලී ශබ්දයෙන් කෙහෙල්ද කදලි මෘග යන්ද කියත්; ඝටී ශබ්දයෙන් කල කියත්; නාරී ශබ්දයෙන් මනුෂ්‍යස්ත්‍රීන් කියත්; කුමාරී ශබ්දයෙන් කන්‍යාවන් කියත්; තරුණී ශබ්දයෙන් ළදරුවන් කියත්;වාරුණී ශබ්දයෙන් වරුණ දිව්‍යපුත්‍රයාගේ ස්ත්‍රීන් කියත්, බ්‍රාහමණී ශබ්දයෙන් බ්‍රාහමණ කුල යෙහි උපන්නිය කියත්; සඛී ශබ්දයෙන් සබඳිය කියත්.

ගන්ධබ්බී ශබ්දයෙන් ගාන්ධර්වජාතියෙහි උපන්නිය කියත්; කින්නරී ශබ්දයෙන් කිම්පුරිස ස්ත්‍රී කියත්; නාගී ශබ්දයෙන් නාග කන්‍යාව කියත්; දෙවී ශබ්දයෙන් දෙව්දූන්ද අගමෙහෙස්නන්ද කියත්; යක්ඛී ශබ්දයෙන් යකින්නන් කියත්; අජී ශබ්දයෙන් එළියන් කියත්; මිගී ශබ්දයෙන් මෘගධෙනූන් කියත්; වානරී ශබ්දයෙන් වැඳිරියන් කියත්; සූකරී ශබ්දයෙන් හීරියන් කියත්; සීහී ශබ්දයෙන් සිංහධෙනූන් කියත්; හංසී ශබ්දයෙන් හංස ධෙනූන් කියත්; කාකී ශබ්දයෙන් කැවිඩියන් කියත්; කුක්කුටී ශබ්දයෙන් කිකිලියන් කියත්.

මාතුලසද්දතො, මාතුල ශබ්දයා කෙරෙන් පර කොට;තථෙව, එසේ ම නදාදිතො වා ඊ 2-4-25 යන සූත්‍රයෙන් ම යයි සේයි; ඊප්පච්චයෙ කතෙ, ඊප්‍රත්‍යයා කරන ලද කල්හි කාය්‍යීවිශෙෂයක් කියනු ලැබේ.

මාතුලාදීනං ය ආනත්තං ය ඊකාරෙ ය යනු පද යි.

**නම්හි සසමාගමො, තිස්සන්නං.**

**සසංඛ්‍යවධානතො ඉණ්ණාභාවො සෙසං සමං.**

**නපුංසකෙ, තීණි තීණි—සෙසං පුල්ලිඞ්ගසමං.**

**තථා චතුසද්දස්සපි යොසු තිචතුන්නන්ති ආදිනා යථා වුත්තාදෙසා. තතො යොනමොකූති එත්ථ තුසද්දෙන කවචි ඔකාරෙ ච.**

**චත්තාරෙ චතුරො වා, චත්තාරො, චතූහි චතූභි චතුබ්භි, චතුන්නං, නකාරාගමො, චතූහි චතූභි චතුබ්භි, චතුන්නං චතූසු.**

**ඉත්ථියං-චතස්සො, චතස්සො, නම්හි සසමාගමෙ තෙසු වුද්ධිති ආදිනා චතුරුකාරස්ස අකාරෙ, චතස්සන්නං, සෙසං සමං.**

**නපුංසකෙ-චත්තාරි චත්තාරි, සෙසං පුල්ලිඞ්ගසමං තථා-**

---

නම්හි, උභාදිතො නම්හ්නං 2-1-35 යන සූත්‍රයෙන් නං යනු; විත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

ඉණ්ණෙම්ණ්ණන්නං ය තීහි ය සංඛ්‍යාහි ය යනු පද යි.

ඉණ්ණං ච ඉණ්ණන්නං ච ඉණ්ණෙම්ණ්ණන්නං,—සංඛ්‍යාහි යි සංඛ්‍යාශබ්දයාගේ සයකාරසංයොගත්වය මෙම නිපාතයෙන් සිද්ධය යි දතයුතු.

ති ඉති, ති යන; එත සමා සංඛ්‍යාසද්ද පරස්ස, මේ සංඛ්‍යාවාචී ශබ්දයා කෙරෙන් පර වූ; නංවචනස්ස, නං වචනය හට; ඉණ්ණං ඉණ්ණන්නං ඉති,ඉණ්ණං ඉණ්ණන්නං යන;එතෙ ආදෙසා හොන්ති, මේ ආදෙශයෝ වෙත්; සරලොපාදි, ස්වර ලොප් ආදිය වේ. තිණ්ණං තිණ්ණන්නං යනාදිය වේ.

ඉත්ථියං, ස්ත්‍රීලිඟුයෙහි; තිස්සො ඉත්ථියො යනාදිය වේ.

නම්හි, නංපරකල්හි; සසං වාගමො, නො ච වාදිතො නම්හි 2-1-16 යන සූත්‍රයෙහි චශබ්දයෙන් ස්ත්‍රීවාචකත්ශබ්දයා කෙරෙන් පරවද සසං යනුද ආගම වේ; තිස්සන්නං යනු වේ.

සසංව්‍යවධානතො, සසං යන ආදෙශයා විසින් ව්‍යවස්ථානය හෙතුකොට ගෙන; ඉන්නාභාවො, නං හට ඉන්න යන ආදෙශයාගේ අභාවය යි. සංඛ්‍යාවාචී නිශබ්දයා කෙරෙන් පර වුවද සසමාදෙශයා විසින් ව්‍යවහිතනු යි නං හට ඉණ්ණමාදෙශ නො වෙයි සේ යි—ඉණ්ණංභාවො යන මෙහි ඉණ්ණංඅභාවො යි පදච්ඡින්ති කල කල ක්‍වචි ලොපං 1-4-9 යන සූත්‍රයෙන් අනුස්වාරය හට ලොප් කරන ලද කල්හි ස්වර සංහිතා වේ; සෙසං, සෙස්ස; සමං, සම යි; නපුංසකෙ, නපුංසක ලිඟුයෙහි; තිණි, තීණි, යනු වේ; සෙසං, සෙස්ස; පුල්ලිඞ්ගසමං, පුල්ලිඟු හා සම යි.

චතුසද්දස්සපි, චතු යන ශබ්දය හටද; යොසු, ප්‍රථමාදි යො වචනයන් දෙන්නා පරකල්හි; තිචතුන්නන්ති ආදිනා, තිචතුන්නං යනාදි සූත්‍රයෙන්; යථා යථාවුත්තාදෙසා, එසේම ලිඞ්ගත්‍රයෙහි යථාක්‍රමයෙන් යට කියන ලද චතස්සො චත්තාරො චත්තාරි යන ආදෙශයෝ වෙත්.

තතො යොනමො තුති එත්ථ තුසද්දෙන, තතො යොනමො තු 2-3-45 යන මේ සූත්‍රයෙහි තු ශබ්දයෙන්; ක්‍වචි ඔකාරො ච, සමහර තැනෙක්හි (පුල්ලිඟු විෂයෙහි ම චතු යන්නහු කෙරෙන් පර වූ යො හට) ඔකාරාදෙශ ද වේ, චත්තාරො යනාදිය වේ—ඔකාරො ච යන මෙහි ච ශබ්ද චත්තාරො, චත්තාරො යන ආදෙශ සම්පිණ්ඩනය කෙරේ, චතුරො යන තන්හි යො හට ඔකාරාදෙශ කරන ලද කල්හි යවමදනාදි සූත්‍රයෙන් රකාරාගම වේ, චතුබ්භි යන තන්හි වග්ගෙ ඝොසා ඝොසානං යනාදි සූත්‍රයෙන් වර්ග චතුර්ථය හට තෘතීයයෙක් විත්ව වේ.

නකාරාගමො,නො ච වාදිතො නම්හි 2-1-16 යන සූත්‍රයෙන් නකාරයෙක් ආගම වේ, චතුන්‍නි චතුන්‍නි යනාදිය වේ; ඉත්ථියං, ස්ත්‍රී ලිඟුයෙහි චතස්සො චතස්සො යනු වේ.

නම්හි, නං විභක්ති පරකල්හි; සසමාගමෙ, නො ච වාදිතො නම්හි 2-1-16 යන සූත්‍රයෙහි චග්ගහණයෙන් ම සසං යන ආගම කරන ලද කල්හි; තෙසු වුද්ධිති ආදිනා, තෙසු වුද්ධිලොපාගමාදී මහාවෘත්ති සූත්‍රයෙන්; චතුරුකාරස්ස අකාරො, චතු යන ශබ්දයාගේ උකාරය හට අකාරයෙක් ආදෙශ වේ; චතස්සන්නං යනු වේ; සෙසං, ස්ත්‍රීවාචක චතුශබ්දයාගේ සෙසු රූප; සමං, පුල්ලිඟු

**48. නීලාදිගුණනාමඤ්ච බහුබ්බීහි ච තද්ධිතං**
**සාමඤ්ඤවුත්‍යතීතාදි කිතන්තා වාච්චලිඞ්ගිකා.**

**එකෝදං වුච්චති.**

**49. එසෙසොඑතමිති ච පකිඛි අකෝඤ්ඤ සෙසු ලොකස්ස**
**පීපුන්නපුංසකානීති වුච්චනෙත තානි නාමානි.**

**තිලිඞ්ගං නිට්ඨිතං.**

---

යෙහි චතුශබ්දයාගේ රූප හා සම සි—දූන් යථොක්ත සබ්බාදීන්ට මෙන් ගුණ නාමාදීන්ට ත්‍රිලිඟභාවය අතිදෙශ කරනුවෝ "තථා නීලාදි ගුණ නාමඤ්ච" යී කීහු, නීලාදි ගුණනාමඤ්ච, බහුබ්බීහි ච, තද්ධිතං සාමඤ්ඤවුත්‍යතීතාදි කිතන්තා වාච්චලිඞ්ගිකා යී යොදනු.

නීලාදි ගුණ නාමඤ්ච, නීල පීත ලොහිතාවදාතමාංජිෂ්ඨ ගුරු ලඝු වෘත්ත චතුරශ්‍රාදී වූ විශෙෂණ ගුණ නාමද;බහුබ්බීහි ච,සුගන්ධ සුරූපාදී වූ බහුබ්‍රීහි සමාසද; සාමඤ්ඤවුත්ති තද්ධිතඤ්ච, ගොත්‍රාදී සාමාන්‍යයෙහි ප්‍රවෘත්ති ඇති වාසිට්ඨසාරදූදී තද්ධිතද—ලිඞ්ගත්‍රයට සාමාන්‍යව පවත්නා තද්ධිත ප්‍රත්‍යයාන්තයාදූ යි සේ යි; අතීතාදි කිතන්තා ච, අතීත ශබ්ද අනාගත ශබ්දදී වූ නියත ලිඞ්ගවිරහිත කිතකප්‍රත්‍යයාන්තයෝද යන මේ නාමද; තථා, එසේම යථොක්ත යුෂ්ම දසමත් ශබ්දවර්ජ්ජිත සබ්බාදීන් සේම; වාච්චලිඞ්ගිකා, විශෙෂ්‍ය භූත අර්ථයට බඳු වූ ලිඟු ඇත්තෝ යී—හේ මෙසේ යි "නීලො පටො නීලා භූමි නීලං උප්පලං සුගන්ධො චම්පකො සුගන්ධා නදී සුගන්ධං චන්දනං වාසිට්ඨො පුරිසො වාසිට්ඨී කඤ්ඤා වාසිට්ඨං නපුංසකං අතීතො කාලො අතීතා රත්ති අතීතං චිත්තං"යනාදීන් යෙදිය යුතු, මෙහි පටාදි චම්පකාදි පුරිසාදි කාලාදි විශෙෂ්‍යපද පුම්සත්‍රී නපුංසක ලිඞ්ග විශිෂ්ටාර්ථයට වාචකයෝනු යි තද්විශෙෂණ වූ නීලාදි සුගන්ධාදි වාසිට්ඨාදි ශබ්දයෝද පුම්සත්‍රී නපුංසක ලිඞ්ගයෙන් කියනුලබන්නාහ යි දතයුතු,ගුණ නිමිත්තං දබ්බවුත්ති නාමං ගුණනාමං, සාමඤ්ඤෙ වුත්ති එතිස්සාති සාමඤ්ඤවුත්ති, කිතපච්චයො අන්තො එතෙසන්ති කිතන්තා, අතීතාදයො ච තෙ කිතන්තා චාති අතීතාදි කිතන්තා, වාච්චස්ස අභිධෙය්‍යස්ස විය ලිඞ්ගමස්සාති වාච්චලිඞ්ගං, තදෙව වාච්චලිඞ්ගිකං—දූන් මෙම

ප්‍රස්තාවයෙහි මේ ස්ත්‍රීලිඞ්ග නාමය මේ පුල්ලිඞ්ග නාමය මේ නපුංසක ලිඞ්ගනාමය යි ස්ත්‍රීපුංනපුංසක නාමය පිණිස ලක්ෂණයක් තබනු වෝ 'එතෙද්දං වුච්චති" යනු කීහු

එහ්, මේ වාච්‍යලිඞ්ගික නාම ප්‍රස්තාවයෙහි; ඉදං වුච්චති, ස්ත්‍රී පුංනපුංසක නාම ලක්ෂණප්‍රකාශ වූ එසෙසො යනාදී මේ ගාථා බන්ධනය කියනු ලැබේ—මේ "පථ්‍යායතී" නම් වෘත්තය යි, යම් වෘත්තයක අර්ධයෙහි ප්‍රථමපාද ගණත්‍රයකින් වේ නම් හේ පථ්‍යායතී නමි, මෙම කීහ.

"ත්‍රිෂ්වංශකෙෂු පාදෙ දලයො රද්‍යෞෂු දෘශ්‍යතෙ යස්‍යාඃ
පථ්‍යෙති නාම තස්‍යාඃ ප්‍රකීර්ත්තිතං නාගරාජෙන" යි.

යෙසු, අත්ථෙසු, එසාති ච, එසොති ච එතංති ච, ලොකස්ස පසිද්ධි, හොති, තානි, නාමානි, ථීපුංනපුංසකානීති, (ලොකෙන) වුච්චන්තෙ යි යොදනු.

යෙසු අත්ථෙසු; යම් ද්‍රව්‍යකෙනකුන් කෙරෙහි; එසාති ච, එසා යි ද; එසොති ච එසො යි ද; එතම්ති ච, එතං යි ද; ලොකස්ස, වෘද්ධ ලොකයා හට හෙවත් ශිෂ්ටලොකයා හට; පසිද්ධි හොති, ප්‍රසිද්ධිය වේද; තානි නාමානි, ඒ ද්‍රව්‍ය ප්‍රකාශක නාමයෝ; ථීපුංනපුංසකානි, ස්ත්‍රීපුන්නපුංසකලිඞ්ග ඇත්තාහුය යි; වුච්චන්තෙ, කියනු ලැබෙත්—විශදාකාර ව්‍යවහාර අවිශදාකාර ව්‍යවහාර උභය මුක්තාකාර ව්‍යවහාර විශිෂ්ට වූ යම් අර්ථයෙක්හි; එසා කඤ්ඤා එසාමාලා එසා වුඩ්ඩි එසො පුරිසො එසො රුක්ඛො එසො බොධි එතං නපුංසකං එතං ධනං එතං ඤාණං යි මෙසේ සමානාධිකරණ වශයෙන් ශිෂ්ටලොකය හට ව්‍යවහාරයෙහි ප්‍රකටභාවය වේද යම් අර්ථයෙක්හි තත් සමානාධිකරණ වශයෙන් ප්‍රවෘත්ත වූ කඤ්ඤා මාලා වුඩ්ඩි පුරිස රුක්ඛ බොධි නපුංසක ධන ඤාණාදී වූ නාමයෝ ස්ත්‍රීපුන්නපුංසකලිඞ්ග නාමයහ යි ඒ ශිෂ්ටලොකයා කියත් තේය යි සේ යි, මේ එසෙසො යනාදී ගාථාව. ස්ත්‍රීලිඞ්ගනාම පුල්ලිඞ්ගනාම නපුංසකලිඞ්ගනාම පරිඥානයද ලොකප්‍රතීති වශයෙන්ම වන්නේය යි හඟවනු පිණිස කීහ. යට විසදාකාර වොහාරාවිසදාකාර වොහාරොභයමුත්තකො යනාදි වනාහී පුමාදි ලිඞ්ගය යි විශදාකාර ව්‍යවහාරද යනාදිය කියනු ලැබේය යි හඟවන පිණිස කීහු.

තිලිඞ්ගං නිට්ඨිතං.

ත්‍රිලිඞ්ගික නාමවර්ණනාව නිමවන ලදී.

**අථාලිඞ්ගෙසු නාමෙසු.**

**තුම්හාම්හසද්දා වුච්චන්තෙ.**

**තෙසම්පනාලිඞ්ගත්තා තීසුපි ලිඞ්ගෙසු සමානං රූපං.**

**තුම්හ අම්හ ඉති ඨිතෙ-ස්‍යාද්‍යුප්පත්ති.**

**සවිභත්තීනං තුම්හාම්හාකන්ති ච අධිකාරෙ.**

## 232. ත්වමහං සිම්හි ච 2-2-21.

**සබ්බෙසං තුම්හඅම්හසද්දානං සවිභත්තීනං යථාක්කමං ත්වං අහං ඉච්චෙතෙ ආදෙසා හොන්ති සිම්හි විභත්තිම්හි.**

**චසද්දෙන තුම්හස්ස තුවඤ්ච හොති.**

**ත්වං (පුමා) ත්වං (ඉත්ථී) ත්වං (නපුංසකං) තුවං (සබ්බා වා) අහං (පුමා) අහං (ඉත්ථී) අහං (නපුංසකං.)**

**බහුවචනෙ—සබ්බනාමකාරන්ත පඨමොති එකාරෙ.**

**තුම්හෙ තිට්ඨථ-ඛියො අම්හෙ මහෙමසෙ.**

**අම්හස්සාති වත්තතෙ.**

## 233. මයං යොම්හි පඨමෙ 2-2-2.

**සබ්බස්සෙව අම්හසද්දස්ස සවිභත්තිස්ස මයං ආදෙසො හොති යොම්හි පඨමෙ.**

---

අථ, ත්‍රිලිඞ්ගනාමානන්තරයෙහි; අලිඞ්ගෙසු නාමෙසු, ස්ත්‍රී පුන්නපුංසකලිඟු විරහිත වූ නාමයන් අතුරෙහි; තුම්හඅම්හසද්දා, තුම්හඅම්හ ශබ්දයෝ දෙන්නා; වුච්චන්තෙ, (රූපභෙද දක්වීම් වශයෙන්) කියනු ලැබෙත්, නත්ථි එතෙසං ලිඞ්ගානීති අලිඞ්ගානි, තෙසු අලිඞ්ගෙසු—යුෂ්මදස්මත් ශබ්දයෝද පඤ්චාද්‍යෂ්ටාදශාන්ත ශබ්දයෝද කත්‍යාදි ශබ්දයෝද අලිඞ්ගනාමයෝ වෙත්.

තෙසම්පන, ඒ තුම්හඅම්හ ශබ්දයන් දෙන්නාගේ: අලිඞ්ගත්තා, අලිඟු බව හෙතුකොට ගෙන; තීසුපි ලිඞ්ගෙසු, පුම්ස්ත්‍රීනපුංසක ලිඞ්ග යන මේ තුන්ලිඟුයෙහි ම; රූපං, උදාහරණ රූප; සමානං,

"ත්වං පුමා ත්වං ඉත්ථී ත්වං නපුංසකං, අහං පුමා අහං ඉත්ථී අහං නපුංසකං"යි මෙසෙයින් සමාන වන්නේ යි;තුම්හ අම්හ ඉති ඨිතෙ, තුම්හ අම්හ කියා සිටි කල්හි; ස්‍යාදුප්පත්ති, සි ආදි විභක්තීන්ගේ උත්පත්තිය වේ.

සවිභත්තීනං, අම්හස්ස මමං යනාදි සූත්‍රයෙන් වචනවිපර්‍ය්‍යාස යෙන් සවිභත්තීනං යනුද; තුම්හාම්හාකන්ති ච, තුම්හාම්හාකං තයි මයි 2-2-20 යන සූත්‍රයෙන් තුම්හාම්හාකං යනුද; අධිකාරෙ, මෙයින් මතු අධිකාර වන්නේ යි මත්තෙහි සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබෙ යි සේ යි.

ත්වමහං ය සිම්හි ය ච ය යනු පද යි.

ත්වං ච අහං ච ත්වමහං.

සිම්හි විභත්තිම්හි, සිවිභක්ති පරකල්හි; සවිභත්තීනං, එම සිවිභක්තිය හා සඞ්ගත වූ;සබ්බෙසං තුම්හඅම්හසද්දානං,සියලු තුම්හ අම්හ ශබ්දයන්ට; යථාක්කමං, තුම්හ අම්හ යි පඨිතානුක්‍රම නො හැර; ත්වං අහං ඉති, ත්වං අහං යන; එතෙ ආදෙසා හොන්ති, මේ ආදෙශයෝ දෙන්න වෙත්—තුම්හ යන ශබ්දය හට ත්වං යන ආදෙශ වෙයි, අම්හ යන ශබ්දයා හට අහං යන ආදෙශ වෙයි යි තැනි.

චසද්දෙන, මේ සූත්‍රයෙහි චග්‍රහණයෙන්; තුම්හස්ස, තුම්හ ශබ්දය හට; තුවං ච හොති, සිවිභක්ති පරකල්හි එම සිවිභක්ති හා සමග තුවං යන ආදෙශද වේ—තුවං ච යන මෙහි ච ශබ්ද ත්වමා දෙශ සමුච්චය කෙරේ, පුමා ඉත්ථී නපුංසකං යනු ත්වං අහං යන පදයන් දෙන්නා ම ලිඞ්ගත්‍රයෙහි ම සමාන රූපත්වය හඟවන පිණිස යි.

බහුවචනෙ, තුම්හ අම්හ යන ශබ්දයන් දෙන්නාගේ ප්‍රථමා බහුවචනයෙහි ප්‍රයොග දක්වනු ලැබේ;සබ්බනාමකාරතෙ පඨමො ඉති, සබ්බනාමකාරතෙ පඨමො 2-3-4 යන සූත්‍රයෙන්; එකාරෙ, එකාරයෙක් ආදෙශ වේ.

තුම්හෙ, තෙපි; තිඨථ; සිටිව්; අම්හෙ, අපි; හියෙය්‍යා, බොහෝ සේ නොහොත් නැවත නැවත; මහෙමසෙ. පුදමු—මෙහි "තිඨථ මහෙමසෙ යනු ප්‍රථමා බහුවචනාන්ත බව හඟවන පිණිස ස්, හියෙය්‍යා යනු සූත්‍රවිධාකරණය පිණිස යි.

**මයං ගච්ඡාම—එකො ච එකස්මිපි ගාරවබහුමානෙන බහුත්තසමාරොපා බහුවචනං හොති.**

**අමහීති වත්තතෙ.**

## 234. තවං මමඤ්ඤව නවා -2-2 5.

**සබ්බසං තුම්හඅම්හසද්දානං සවිභත්තීනං තවං මමං ඉච්චෙතෙ ආදෙසා හොන්ති නවා යථාක්කමං අම්හි විභත්තිම්හි.**

**තවං මමං (පස්ස).**

## 235. තං මමම්හි 2-2-24.

**සබ්බසං තුම්හඅම්හසද්දානං සවිභත්තීනං තංමං ඉච්චෙතෙ ආදෙසා හොන්ති යථාක්කමං අම්හි විභත්තිම්හි-තං මං.**

## 236. තුම්හස්ස තුවංත්වමම්හි 2-2-27.

**සබ්බස්ස තුම්හසද්දස්ස සවිභත්තිස්ස තුවංත්වම්ච්චෙතෙ ආදෙසා හොන්ති අම්හි විභත්තිම්හි.**

**තුවං ත්වං.**

---

අම්හස්සාති, අම්හස්ස මමං සවිභත්තිස්ස සෙ 2-2-1 යන සූත්‍ර යෙන් අම්හස්ස යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

මයං ය යොම්හි ය පඨමෙ ය යනු පද යි.

පඨමෙ යොම්හි, ප්‍රථමා බහුවචන වූ යොවිභක්ති පරකල්හි; සවිභත්තිස්ස, ප්‍රථමා යො විභක්තිය හා සහිත වූ; සබ්බස්සෙව අම්හ සද්දස්ස, සියලු ම අම්හශබ්දය හට; මයං ආදෙසො හොති, මයං යන ආදෙශය වේ.

මයං, අපි; ගච්ඡාම, යමු—මෙහි ගච්ඡාම යනු මයං යන රූප යාගේ ප්‍රථමා බහුවචනාත්තභාවය හඟවන පිණිස මැයි, යම් කලෙක්හි එක පුරුෂයක්හු හා බෙණෙද එකල්හි ඒ යුෂමත් සංඛ්‍යාත පරයාගේ එකත්වය හෙතුකොට ගෙන යුෂමත් ශබ්දයා කොරෙන්ද අස්මත් සංඛ්‍යාත ආත්මයාගේ එකත්වය හෙතුකොට ගෙන හැමකල්හි ම අස්මත් ශබ්දයා කොරෙන්ද පරව එකවචන වත් මුත් බහුවචන නොවිය යුතුය, එසේහෙයින් එක්වස්තුවක්හු

විෂයෙහි යුෂ්මදස්මත් ශබ්දයන්ගේ බහුවචනප්‍රයොග නොයෙදෙන්නේ වේද යන චොද්‍යයට "එතථ ච" යනාදි කීහු, එත්ථ ච එකස්මිම්පි බහුවචනං හොති යි යොදනු, එත්ථ ච යන මෙහි ච ශබ්ද අන්‍යෝන්‍ය විකල්පයෙහි වැටේ.

එත්ථ ච, මේ තුම්හඅම්හ ශබ්දවිෂයෙහිද; එකස්මිම්පි, එක ද්‍රව්‍යයක් කියයුතු කල්හිද; ගාරවබහුමානෙන, ගෞරව බහුමානය හෙතුකොට ගෙන; බහුත්තසමාරොපා, (ඒ ඒ ද්‍රව්‍යයෙහි) බහු සාඛ්‍යාව (තමා කෙරෙහි) පිහිටුවීමෙන්; බහුවචනං හොති, බහු වචන වේ—යම් කලෙක්හි එකක්හු කෙරෙහි ගෞරව බහුමාන යෙන් බහුභාවය කල්පනා කරන ලදද එකල්හි තුම්හ අම්හ ශබ්දයන් කෙරෙන් පරව "දෙව තුම්හෙ මා චින්තයිත්ථ" "අය ම්මහාකං බනති" යනාදියෙහි මෙන් බහුවචන වන්නේය යි යී තැනි, යම් කලෙක්හි මෙරමා තමා හා සම කොට ඔවුන්ගේ අන්‍ය භාවය ප්‍රතික්‍ෂෙප කිරීමෙන් ආත්මබුඬිය උපදවාද එකල්හි ද අම්හශබ්දයා කෙරෙන් පරව "පසමාති අම්හං දහරා න මීයරෙ" යනාදියෙහි මෙන් බහුවචන * වේ මැයි—ගරුභාවො ගාරවං, ගාරවං ච බහුමානං ච ගාරවබහුමානං, තෙන ගාරවබහුමානෙන; බහුත්තස්ස සමාරොපො බහුත්තසමාරොපො, තතො බහුත්ත සමාරොපා—මෙහි ගාරව නම් පාෂාණච්ඡත්‍රයක් මෙන් ගරුකිරීම, බහුමාන නම් සිතින් කරන සම්භාවනා යි.

අම්හීති, නාමහි 2-2-30 යන සූත්‍රයෙන් අම්හි යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

තවංමමං ය ච ය නවා ය යනු පද යි.

තවං ච මමං ච තවංමමං—මෙහි ච ශබ්ද තුම්හාම්හ ග්‍රහණ යාගේ අනුකරණය පිණිස යි.

අම්හි විභත්තිම්හි, අංවිභක්ති පරකල්හි; සවිභත්තීනං, එම අංවිභක්ති හා සහිත වූ; සබ්බසං, සියලු; තුම්හාම්හසද්දානං, තුම්හ අම්හ ශබ්දයන්ට; යථාක්කමං, සූත්‍රයෙහි පඨිතානුක්‍රමය නො හැර; තවං මමං ඉති, තවං මමං යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; නවා හොන්ති, සමහර තැනෙක්හි වෙත්—තුම්හ යන ශබ්දය හට තවං යන ආදෙශ වෙයි, අම්හ යන ශබ්දය හට මමං යන ආදෙශ වෙයි යී තැනි.

---

* මෙය එකශෙෂ සමාසයෙන් ද සාධ්‍යය.

**බහුවචනෙ-තුම්හාමෙහි ආකංනති ච වත්තතෙ.**

## 237. වායවප්පඨමො 2-3-2.

**තුම්හාමෙහි පරෙ අප්පඨමො යො ආකං හොති වා.**

**තුම්හාකං පස්සසි, තුම්හෙ පස්සසි, අම්හාකං පස්සති. අම්හෙ පස්සති.**

---

තවං මමං පස්ස යනු වේ—පස්ස යනු තවං මමං යන රූප යන්ගේ විතීයාන්ත බව හඟවන පිණිස යි, තවඤ්ච මමඤ්ච තවං මමං.

තංමං ය අම්හි ය යනු පද යි.

අම්හි විභත්තිම්හි; අං විභක්ති පරකල්හි; සවිභත්තීනං, එම අං විභක්ති හා සහිත වූ; සබ්බේසං තුම්හඅම්හ සද්දානං, සියලු තුම්හ අම්හ ශබ්දයන්ට; යථාක්කමං, සූත්‍රයෙහි පඨිතානුක්‍රමය නො හැර; තංමං ඉති, තංමං යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; හොන්ති, වෙත්—තුම්හ යන ශබ්දය හට තං වෙයි, අම්හ යන ශබ්දය හට මං වෙයි යී තැනි; තං මං යනු වේ.

තුම්හස්ස ය තුවංත්වං ය අම්හි ය යනු පද යි.

තුවං ච ත්වං ච, තුවං ත්වං.

අම්හි විභත්තිම්හි, අං විභක්ති පරකල්හි; සවිභත්තිස්ස, එම අං විභක්තිය හා සහිත වූ; සබ්බස්ස තුම්හසද්දස්ස, සියලු ම තුම්හ ශබ්දය හට; තුවංත්වං ඉති, තුවං ත්වං යන; එතෙ ආදෙසා, මෙකී ආදෙශයෝ; හොන්ති, වෙත්; තුවං ත්වං යනු වේ.

බහුවචනෙ, බහුවචන විෂයෙහි.

තුම්හාමෙහි ආකං ඉති ච, තුම්හාමෙහි නමාකං 2-3-1 යන සූත්‍රයෙන් තුම්හාමෙහි යනුද ආකං යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

වා ය යො ය අප්පඨමො ය යනු පද යි.

## 238. නාම්හි තයාමයා 2-2-26.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං තයා මයා ඉච්චෙතෙ ආදෙසා හොන්ති යථාක්කමං නාම්හි විභත්තිම්හි.**

## 239. තයාතයීනං තකාරො ත්වත්තං වා 2-3-50.

**තයා තයි ඉච්චෙතෙසං තකාරො ත්වත්තමාපජ්ජතෙ වා.**

**ත්වයා තයා මයා තුම්හෙහි අම්හෙහි තුම්හෙභි අම්හෙභි-**

---

තප්පඨමො අප්පඨමො; තුම්හාම්හෙහි පරෙ, තුම්හ අම්හ ශබ්දයන් කෙරෙන් පර වූ; අප්පඨමො යො, ප්‍රථමා නො වන යො තෙම හෙවත් විතීයා යො තෙම; වා, විකල්පයෙන්; ආකං හොති, ආකං යන ආදෙශ වේ; තුම්හාකං පස්සසි යනාදිය වේ— තුම්හෙ පස්සසි අම්හෙ පස්සසි යන තැන්හි සබ්බයොනීනමාඑ 2-1-56 යි විතීයා යො හට එකාර වේ.

නාම්හි ය තයාමයා ය යනු පද යි.

තයා ච මයා ච තයාමයා.

නාම්හි විභත්තිම්හි, නාවිභක්ති පරකල්හි; සවිභත්තීනං, ඒ නාවිභක්තිය හා සහිත වූ; සබ්බෙසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හඅම්හ ශබ්දයන්ට; තයාමයා ඉති, තයාමයා යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ දෙන්න; යථාක්කමං, සූත්‍රයෙහි පඨිත ක්‍රමය නො හැර; හොන්ති, වෙත්—තුම්හ යන ශබ්දය හට තයා වෙයි, අම්හ යන ශබ්දය හට මයා වෙයි යී තැනී.

තයාතයීනං ය තකාරො ය ත්වත්තං ය වා ය යනු පද යි.
තයා ච තයි ච තයාතයී, තෙසං තයාතයීනං.

තයාතයී ඉති, තයා තයී යන; එතෙසං, මේ ආදෙශ දෙන්නාගේ; තකාරො, තකාර තෙම; ත්වත්තං, ත්ව යන ආදෙශ බවට; වා, විකල්පයෙන්; ආපජ්ජතෙ, පැමිණේ; ත්වයා තයා යනාදිය වේ.

**සස්මිං වාති වත්තතෙ.**

## 240. සස්සං 2-3-3.

**තුම්හාමෙහි සස්ස විභත්තිස්ස අමාදෙසො හොති වා.**

**තුම්හං අම්හං දීයති.**

## 241. තවමම සෙ 2-2-22.

**සබ්බසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං යථාක්කමං තව මම ඉච්චෙතෙ ආදෙසා හොන්ති සෙ විභත්තිම්හි, විකප්පෙනායං විධ්‍යන්තරස්ස විජ්ජමානත්තා.**

---

සස්මිං, සවිභක්ති විෂයෙහි ප්‍රයොග කියනු ලැබේ. වාති, වා ය්වප්පඨමො 2-3-2 යන සූත්‍රයෙන් වා යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

**සස්ස ය අං ය යනු පද යි.**

තුම්හාමෙහි, තුම්හඅම්හ ශබ්දයන් කෙරෙන්; සස්ස විභත්තිස්ස, සවිභක්ති හට; වා, විකල්පයෙන්; අමාදෙසො හොති, අං යන ආදෙශ වේ.

තුම්හං අම්හං දීයතෙ, යනු වේ—දීයතෙ යනු තුම්හං යනාදි රූපයන්ගේ චතුර්ථ්‍යන්තභාවය හඟවන පිණිස යි.

**තවමම ය සෙ ය යනු පද යි.**

තව ච මම ච තවමම.

සෙවිභත්තිම්හි, සවිභක්ති පරකල්හි; සවිභත්තීනං, එම සවිභක්තිය හා සහිත; සබ්බසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හඅම්හ ශබ්දයන්ට; තවමම ඉති, තවය මමය යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; යථාක්කමං, සූත්‍රයෙහි පඨිතක්‍රමය නො හැර; හොන්ති, වෙත්—තුම්හ යන ශබ්දය හට තවාදෙශ වෙයි, අම්හ යන ශබ්දය හට මමාදෙශ වෙයි යී තැති.

**සෙති වත්තතෙ.**

## 242. තුය්හංමය්හං ච 2-2-23.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං තුය්හං මය්හං ඉච්චෙතෙ ආදෙසා ච හොන්ති යථාක්කමං සෙ විභත්තිම්හි.**

**තව මම තුය්හං මය්හං වා දීයතෙ.**

## 243. අම්හස්ස මමං සවිභත්තිස්ස සෙ 2-2-1.

**සබ්බස්සෙව අම්හසද්දස්ස සවිභත්තිස්ස මමං ආදෙසො ච හොති සෙ විභත්තිම්හි.**

**මමං දීයතෙ.**

---

අයං, මේ විධිය; විකප්පෙන, විකල්පයෙනි; හේ කිසේ හැගේද යත්? විජ්ඣන්තරස්ස විජ්ජමානත්තා, සවිභක්ති පරකල්හි තුම්හ අම්හ යන ශබ්දයන්ට මෙසින් අන්‍යවිධියක්හුගේ විද්‍යමානත්වය හෙතුකොට ගෙන යි—තවමමාදෙශයාගේ විකල්පය පිණිස වා ශබ්දයක් නැතද තුය්හං මය්හංච 2-2-23 අම්හස්ස මමං සවිභත්තිස්ස සෙ 2-2-1 සස්සං 2-3-3 යන මෙතෙක් සූත්‍රයෙන් සවිභක්ති පරකල්හි ම තුම්හ අම්හ යන ශබ්දයන්ට තුය්හංමය්හං යනාදි ආදෙශාන්තරයන්ගේ විධානය හෙතුකොට ගෙන තවම්මාදෙශය විකල්පයෙන් වන්නේය යි සේ යි.

සෙ ඉති, තවමම සෙ 2-2-22 යන සූත්‍රයෙන් සෙ යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

තුය්හංමය්හං ය ච ය යනු පද යි.

තුය්හච මය්හච තුය්හං මය්හං-මෙහි චග්‍රහණය සෙ ග්‍රහණානුකර්ෂණය පිණිස යි.

සෙ විභත්තිම්හි, සවිභක්ති පරකල්හි; සවිභත්තීනං, එම ස විභක්ති සහිත වූ; සබ්බෙසං තුම්හඅම්හ සද්දානං, සියලු තුම්හ අම්හ ශබ්දයන්ට; තුය්හං මය්හං ඉති, තුය්හං මය්හං යන; එතෙ ආදෙසා, මේ ආදෙශයෝ; යථාක්කමං, සූත්‍රයෙහි පඨිත ක්‍රමය අත් නොහැර; හොන්ති, වෙත්.

**සස්සන්ති ඉතො සීහගතියා අම්ති වත්තතෙ.**

## 244. තුම්හාම්හෙහි නමාකං 2-3-1.

**තුම්හාම්හෙහි පරස්ස නංවචනස්ස ආකං ඉච්චාදෙසො හොති අඤ්ච.**

**තෙසු වුඪීති ආදිනා අම්හස්ස ක්වචි අස්මාදෙසො.**
**තුම්හං තුම්හාකං, අම්හං අම්හාකං අස්මාකං වා**

**පඤ්චමියං-අම්හ තුම්හ නන්තු රාජ ඉච්චාදිනා ස්මාවචනස්ස නා භාවාතිදෙසො.**

**තයා මයා අපෙහි-තුම්හෙහි අම්හෙහි තුම්හෙහි අම්හෙහි. තුම්හං අම්හං, තව මම තුය්හං මය්හං මමං පරිග්ගහො-තුම්හං තුම්හාකං අම්හං අම්හාකං අස්මාකං ධම්මතා.**

---

තව මම තුය්හං මය්හං වා දීයතෙ යනු වේ—තුම්හ යන ශබ්දය හට තුය්හමාදෙශ වෙයි, අම්හ යන ශබ්දය හට මය්හමාදෙශ වෙයි යී හැනි.

අම්හස්ස ය මමං ය සවිභත්තිස්ස ය සෙ ය යනු පද යි.

සහ විභත්තියාති සවිභත්ති, තස්ස සවිභත්තිස්ස—මේ අම්හස්ස යනු හා සමානාධිකරණ යි.

සෙ විභත්තිමහි, සවිභත්ති පරකල්හි; සවිභත්තිස්ස, එම සවිභත්ති හා සහිත වූ; සබ්බස්සෙව අම්හසද්දස්ස, සියලු ම අම්හ ශබ්දය හට; මමං ආදෙසො ච හොති, මමං යන ආදෙශ ද වේ— මමං ආදෙසො ච යන මෙහි ච ශබ්ද මමාදෙශාදීන් සමුච්චය කොරේ; මමං දීයතෙ යනු වේ.

සස්සන්ති, සස්සං 2-3-3 යන; ඉතො, මේ සූත්‍රයෙන්; සීහ ගතියා, සීහගති හෙයින්; අං ඉති, අං යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

තුම්හාම්හෙහි ය නං ය ආකං ය යනු පද යි.

තුම්හෙ ච අම්හෙ ච තුම්හාම්හා, තෙහි තුම්හාම්හෙහි. තුම්හාම්හෙහි පරස්ස, තුම්හඅම්හ ශබ්දයන් කෙරෙන් පර වූ; නං වචනස්ස, නං වචනය හට;ආකං ඉති ආදෙසො,ආකං යන ආදෙශය; හොති, වෙයි; අං ච, අමාදෙශද වේ.

**සම්මහීති වත්තතෙ.**

## 245. තුම්හාම්හාකං තයිමයි 2-2-20.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං තයිමයි ආදෙසා හොන්ති යථාක්කමං සම්මහි විභත්තිම්හි.**

**තකාරස්ස ත්වත්තං-ත්වයි තයි මයි තුම්හෙසු අම්හෙසු.**

**තෙසංයෙව තුම්හාම්හසද්දානං පදතො පරෙසං ක්වචි ආදෙසන්තරවිධානෙ රූපභෙදො.**

---

තෙසු වුඩ්ඪි ආදීනං, තෙසු වුඩ්ඪිලොපාගමාදි සූත්‍රයෙන්; අම්හස්ස, අම්හශබ්දය හට; ක්වචි, කිසිතැනෙක්හි; අස්මාදෙසො, (නං පරකල්හි) අස්ම යන ආදෙශ වේ; තුම්හං තුම්හාකං යනාදිය වේ—තුම්හං අම්හං යන තන්හි නං හට තුම්හාම්හෙහි නමාකං 2-3-1 යන සූත්‍රයෙන් අමාදෙශ කරන ලද කල්හි අං පරනිමිත්තින් පූර්වය හට එම සූත්‍රයෙන් ලොප්ද පරය හට දීර්ඝප්‍රතිෂෙධද පර නයනද කටයුතු.

පඨමියං, පඨමීවිභක්ති විෂයෙහි ප්‍රයොග කියනු ලැබේ; අම්හ තුම්හ නන්තුරාජ ඉච්චාදීනං, අම්හතුම්හනන්තුරාජබ්‍රහ්මත්තසඛසත්‍ථු පිතාදීහි ස්මා නාව 2-5-24 යන සූත්‍රයෙන්; ස්මාවචනස්ස, ස්මා වචනය හට; නාභාවාතිදෙසො, නා බැවහාරය වෙයි සේයි. තයා මයා අපෙහි යනු වේ—අපෙහි යනු තයාමයා යනාදි පදයන්ගේ පඨම්‍යන්තභාවය හඟවන පිණිස යි; තුම්හෙහි අම්හෙහි යනාදිය වේ—තුය්හං යනාදියෙහි නං හට තුම්හාම්හෙහි නමාකං 2-3-1 හි අමාදෙශ ආකං ආදෙශ වේ. ධම්මතා යනුද ෂෂ්ඨීභාවය හඟවන පිණිස යි.

සම්මහි ඉති, සම්මහි රස්සෙදුරාජීති 2-2-19 යන සූත්‍රයෙන් සම්මහි යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

තුම්හාම්හාකං ය තයිමයි ය යනු පද යි.

සම්මහි විභත්තිම්හි, සම්ංවිභක්ති පරකල්හි; සවිභත්තීනං, එම සම්ංවිභක්තිය හා සහිත වූ; සබ්බෙසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හඅම්හ ශබ්දයන්ට; තයිමයි ආදෙසා, තයිමයි යන ආදෙශයෝ;

**නවාති ච අධිකාරෙ.**

## 246. පදතො දුතියාචතුත්ථීඡට්ඨීසු වොනො 2-2-28.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තිනං පදස්මා පරෙසං වොනො ආදෙසා හොන්ති යථාක්කමං දුතියාචතුත්ථීඡට්ඨීසු බහුවචනෙසු නවා.**

**එත්ථ ච එකවචනෙති වක්ඛමානත්තා බහුවචනෙසූති ලබ්ධං, පහාය වො ගමිස්සාමි-මා නො අජ්ජ විකන්තිංසු-ධම්මං වො භික්ඛවෙ දෙසිස්සාමි-සංවිභජෙථ නො රජ්ජෙන-තුට්ඨොස්මි වො පකතියා-සත්ථා නො භගවා.**

**නවාති කිං? තයං තුම්හාකං නො සියා, එසො අම්හාකං සත්ථා.**

---

යථාක්කමං, සූත්‍රයෙහි පඨිතානුක්‍රමය නො ඉක්ම; හොන්ති,වෙත්-තුම්හ යන ශබ්දය හට තයි වෙයි, අම්හ යන ශබ්දය හට මයි වෙයි සේයි.

තකාරස්ස, තයාදෙශයාගේ තකාරය හට; ත්වත්තං, තයා තයීනං යනාදි සූත්‍රයෙන් ත්වකාර බව වේ; ත්වයිතයි යනාදිය වේ.

පදතො පරෙසං, පෙදෙන් පර වූ; තෙසං එව තුම්හාම්හ සද්දානං, එම තුම්හ අම්හ ශබ්දයන්ගේ; ක්වචි ආදෙසන්තරවිධානෙ, සමහර ආදෙශ විශෙෂ විධානයක් ඇති කල්හි; රූපභෙදෙ, රූපනානත්වයෙක් ඇති.

නවාති ච, තවංමමච නවා 2-2-25 යන සූත්‍රයෙන් නවා යනුද; අධිකාරෙ, මතු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ—නවාති ච යන මෙහි ච ශබ්ද සවිභත්තිග්‍රහණය හා තුම්හ අම්හ ශබ්දග්‍රහණය සමුච්චය කෙරේ.

පදතො ය දුතියාචතුත්ථීඡට්ඨීසු ය වොනො ය යනු පද යි.

දුතියා ච චතුත්ථී ච ඡට්ඨී ච දුතියාචතුත්ථීඡට්ඨී, තාසු දුතියාචතුත්ථීඡට්ඨීසු, වො ච නො ච වොනො.

දුතියාචතුත්ථිඡට්ඨී බහුවචනෙසු,විතීයා චතුර්ථී ෂෂ්ඨී සඞ්ඛ්‍යාත බහුවචනයන් පරකල්හි; පදසමා පරෙසං, පෙදෙන් පර වූ; සවිභත්තීනං, එම විතීයාදී විභක්තීන් හා සහිත වූ; සබ්බෙසං තුම්හ අම්හ සද්දානං, සියලු තුම්හඅම්හ ශබ්දයන්ට; යථාක්කමං, පඨිතානුක්‍රමය නොයික් ම; නවා, සමහර තැනෙක්හි; වොනො ආදෙසා හොන්ති, (ඒ පදයා හා එකවාක්‍ය බවක් ඇති කල්හි) වොනො යන ආදෙශයෝ වෙත්—විතීයා චතුර්ථී ෂෂ්ඨී බහුවචනයන් පර කල්හි පෙදෙන් පර වූ විභක්ති සහිත වූ සියලු තුම්හ යන ශබ්දය හට ඒ පදය හා එකවාක්‍ය බවක් ඇති කල්හි විකල්පයෙන් වො යන ආදෙශ වෙයි, එසේ ම අම්හ යන ශබ්දය හට විකල්පයෙන් නො යන ආදෙශ වෙයි යී තැනී; දැන් කිසිසේත් සූත්‍රයෙහි දුතියා චතුත්ථිඡට්ඨීසු යී අනියම කොට කියන ලද, එනකුදුවත් තෙමෙක වචනෙ 2-2-29 නාමහි 2-2-30 යී කී බැවින් වෘත්තියෙහි "දුතියා චතුත්ථිඡට්ඨීසු බහුවචනෙසු" යී බහුවචනයෙන් ම ගන්නා ලදහ යි දක්වනුවෝ කියත් "එත්ථ ච" යනාදි, එත්ථ ච බහුවචනෙසූති ලබ්ධං යී යොදනු.

එත්ථ ච, මේ සූත්‍රයෙහිද; එකවචනෙති වක්කමානත්තා, මත් තෙහි එකවචනෙ යනු කියනු ලබන හෙයින්; බහුවචනෙසූති, බහුවචනෙසු යනු; ලබ්ධං, ලැබුනි-මත්තෙහි තෙමෙකවචනෙ 2-2-29 යන සූත්‍රයෙන් චතුර්ථීෂෂ්ඨ්‍යෙක වචනයන් පරකල්හි පෙදෙන් පර තුම්හ අම්හ යන ශබ්දයන්ට තෙ මෙ ආදෙශ විධාන කරන ලද නාමහි 2-2-30 යන සූත්‍රයෙන් විතීයෙක වචනයා පරකල්හි එම තුම්හ අම්හ යන ශබ්දයන්ට තෙ මෙ ආදෙශ ප්‍රතිෂෙධ කරන ලද හෙයින් මෙම සූත්‍රයෙන් බහුවචන වූ ම විතීයා චතුර්ථී ෂෂ්ඨී පරකල්හි වො නො ආදෙශ සිඬය යි සේ යි.

වො, තොප; පහාය, හැර; ගමිස්සාමි, යෙමි—මෙහි පහාය යනු වො යන පදයා පෙදෙන් පරබවද විතීයාන්තබවද දක්වන පිණිස යි, ගමිස්සාමි යනු, සූත්‍රවිභාවනය පිණිස යි.

නො, අප; අජ්ජ, දැන්; මා විකාන්තිංසු, නාමක් සිඳීත්වා—මෙහි මා යනු නො යන පදයාගේ පෙදෙන් පර බව හඟවන පිණිසය, විකාන්තිංසු යනු ඔහුගේ ම විතීයාන්ත බව හඟවන පිණිසය, අජ්ජ යනු සූත්‍රවිභාගය පිණිසය.

භික්ඛවෙ, මහණෙනි; වො, තොපට; ධම්මං, ධර්මයෙක්; දෙසිස්සාමි,දෙසමි–මෙහි ධම්මං යනු වො යන පදයාගේ පෙදෙන් පරබව දක්වනු පිණිසය, දෙසිස්සාමි යනු චතුර්ථ්‍යන්තභාවය දක්වනු පිණිසය, භික්ඛවෙ යනු සූත්‍රවිභාවනය පිණිස යි.

**පදතො චතුත්ථිඡට්ඨීසූති ච වත්තතෙ.**

## 247. තෙමෙකවචනෙ 2-2-29.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං පදස්මා පරෙසං තෙමෙ ආදෙසා හොන්ති යථාක්කමං චතුත්ථීඡට්ඨීසු එකවචනෙසු නවා.**

---

නො, අපට; රජ්ජෙන, රාජ්‍යයෙන්; සංවිභජෙථ, බෙදව්; දෙව් සී සේ සි—මෙහි සංවිභජෙථ යනු නො යන පදයාගේ පෙදෙන් පර බවද චතුර්ථ්‍යන්ත බවද හඟවන පිණිසය, රජ්ජෙන යනු සූත්‍රවිභාවනය පිණිස යි.

වො, තොපගේ; පකතියා, ප්‍රකෘතියට; තුට්ඨො අස්මි, සතුටිමි; මෙහි තුට්ඨොස්මි යනු වො යන පදයාගේ පෙදෙන් පර බව හඟවන පිණිසය, පකතියා යනු ෂෂ්ඨ්‍යන්තභාවය හඟවනපිණිස යි.

භගවා, භාග්‍යවත් තෙම; නො, අපගේ; සත්ථා, අනුශාසකය—මෙහි සත්ථා යනු නො යන පදයාගේ පෙදෙන් පරබවද ෂෂ්ඨ්‍යන්ත බවද හඟවන පිණිසය, භගවා යනු සූත්‍රවිභාවනය පිණිස යි.

නවා ඉති, නවා යනු; කිං, කුමටය? භයං තුම්හාක නො සියා, එසො අම්හාකං සත්ථා යන තන්හි පෙදෙන් පර බවක් ඇද්ද තුම්හ අම්හ යන ශබ්දයන් දෙන්නාට වො නො ආදෙශ නො වන පිණිස යි; තුම්හාකං, (රත්නත්‍රය අනුස්මරණය කරන්නා වූ) තොපට; භයං, භයෙක්; නො සියා, නො වන්නේය; එසො, මෙ තෙම; අම්හාකං, අපගේ; සත්ථා, ශාස්තෘය—මෙහි භයං යනු තුම්හාකං යන පදයාගේ පෙදෙන් පරබව හඟවන පිණිසය, නො යනු චතුර්ථ්‍යන්තභාවය හඟවන පිණිස යි, මෙහි තුම්හාකං නො සියා යන තන්හි අනුස්වාර ලොපය යි, එසො යනු අම්හාකං යන පදයාගේ පෙදෙන් පර බව දක්වන පිණිසය, සත්ථා යනු ෂෂ්ඨ්‍යන්තභාවය දක්වන පිණිස යි.

පදතො, පදතො දුතියා චතුත්ථී ඡට්ඨීසු වො නො 2-2-28 යන සූත්‍රයෙන් පදතො යනුද; චතුත්ථී ඡට්ඨීසූති ච, එම සූත්‍රයෙන් චතුත්ථීඡට්ඨී යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ යී යොදනු.

තෙමෙ ය එකවචනෙ ය යනු පද යි.

**දදාමි තෙ ගාමවරානි පඤ්ච, දදාහි මෙ ගාමවරං-ඉදං තෙ රට්ඨං, අයං මෙ පත්තො.**

**නවාති කිං?-ඉමං චීවරං තුය්හං විකප්පනත්ථාය දම්මි, සුණාථ වචනං මම.**

**50 නවාධිකාරතො වෙත්ථ වො නො තෙ මෙති සෙ ඉමෙ**
**පාදාදො ච චවෙවාදි යොගෙ ච න ච හොන්ති තෙ.**

**යථා-න සොචාමි න රොදාමි තව සුත්වාන මාණව. තුය්හං චාපි මහාරාජ මය්හං ච රට්ඨවඩ්ඪන. එවමිදං භික්ඛවෙ දීඝ මද්ධානං සන්ධාවිතං සංසරිතං මමඤ්චෙව තුම්හාකඤ්චාති.**

---

තෙ ච මෙ ච තෙමෙ—මෙහි දුතියා යනු කුමැ සි අනුවෘත්ත නො කොළේද යත්? ආචාර්‍ය්‍යයන් විසින් අනීප්සිත හෙයින් ම මත්තෙහි "නාමහි" යි චිතීයෙක වචනයා පරකල්හි තෙ මෙ යනාදෙශ ප්‍රතිෂෙධ වන හෙයිනි.

චතුත්ථීඡට්ඨීසු එකවචනෙසු, චතුර්ථී ෂෂ්ඨී සඞ්ඛ්‍යාත එකවචන යන් පරකල්හි; පදසමා පරෙසං, පෙදෙන් පර වූ; සවිභත්තීනං, එම චතුර්ථ්‍යාදී විභක්තීන් දෙන්නා හා සහිත වූ; සබ්බෙසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හ අම්හ ශබ්දයන් දෙන්නාට; යථාක්කමං, පඨිතානුක්‍රමය නොයික්ම; නවා, සමහර තැනෙක්හි; තෙමෙ ආදෙසා හොන්ති, (එම පදයා හා එකවාක්‍යබවක් ඇති කල්හි) තෙ මෙ යන ආදෙශයෝ වෙත්-චතුර්ථී ෂෂ්ඨ්‍යෙකවචන යන් පරකල්හි පෙදෙන් පර විභක්ති සහිත වූ තුම්හ යන ශබ්දය හට ඒ පදය හා එකවාක්‍යත්වයක් ඇතිකල්හි විකල්පයෙන් තෙ වෙ යි එසේ ම අම්හ යන ශබ්දය හට විකල්පයෙන් මෙ වෙයි සී තැනී.

තෙ, තට; පඤ්ච ගාමවරානි, පස්ගම්වර කෙනකුන්; දදාමි, දෙමි; මෙ, මට; ගාමවරං, ගම්වරයක්; දදාහි, දේ; තෙ, තාගේ; ඉදං රට්ඨං, මේ රටය; මේ, මාගේ; අයං පත්තො, මේ පාත්‍රය ය—මෙහි දදාමි දදාහි ඉදං අයං යනු තෙ මෙ යන පදයන්ගේ පෙදෙන් පරබව හා චතුර්ථී ෂෂ්ඨ්‍යන්ත බව හඟවනු පිණිසය, ගාමවරානි පඤ්ච රට්ඨං පත්තො යනු සූත්‍රවිභාවනය පිණිස යි.

නවාති, නවා යනු; කිං? කුමටය; ඉමං චීවරං තුය්හං විකප්පනත්ථාය දම්මි, සුණාථ වචනං මම යන තන්හි පෙදෙන් පර බවක් ඇතද තුම්හ අම්හ යන ශබ්දයන් දෙන්නාට තෙ මෙ

නොවන පිණිසයි; ඉමං චීවරං. මේ සිවුර; තුයහං, තට; විකප්ප නත්ථාය, විකප්පනය පිණිස; දමි, දෙමි; මම වචනං, මාගේ වචන නෙපල; සුණාථ, අසව්—මෙහි ඉමං චීවරං යනු තුයහං යන පද යාගේ පෙදෙන් පරබව හඟවන පිණිසය, දමි යනු වතුර්ථ්‍යන්ත භාවය හඟවන පිණිසය. විකප්පනත්ථාය යනු සූත්‍රවිභාවනය පිණිසය. වචනං යනු මම යන පදයාගේ පෙදෙන් පරබව දක්වන පිණිසය, සුණාථ යනු සූත්‍රවිභාවනය පිණිස යි, දැන් මෙහි "අපා දාදෞ පදදෙක වාක්‍යෙ න වවාභාහෙවයොගෙ" යන පර සූත්‍ර මෙන් ගාථා පදාදියෙහිද වවාදීන්ගේ යොගයක් ඇතිකල්හි ද වො නො තෙ මෙ ආදෙශ නිවෘත්තිය පිණිස සූත්‍ර නැතද නවාධි කාර බලයෙන් ම එහි යථොක්ත ආදෙශ නො වන්නේය යි දක් වනුවෝ "නවාධිකාරතො ංවෙත්ථ" යනාදිය කීහු.

එත්ථ ච, මේ පදතො යනාදි සූත්‍රයන් කෙරෙහිද; නවාධිකාර තො, නවංමමං ච නවා 2–2–25 යන සූත්‍රයෙන් නවා යනු මණ්ඩූක ගතියෙන් අනුවෘත්ත හෙයින්; වො නො තෙ මෙති යෙ ඉමෙ, පෙදෙන් පර තුම්හ අම්හ යන ශබ්දයන්ට විධීයමාන වො නො තෙ මෙ යන යම් මේ ආදෙශ කොතෙක් ඇත්ද; තෙ, ඒ සියලු ආදෙශයෝ; පාදාදෞ ච, ගාථාපාදයාගේ ආදියෙහිද; චවාඑවාදි යොගෙ ච, ච ය වා ය එව ය යනාදීන් හා යොගයක් ඇති කල්හි ද; න ච හොන්ති, නො වෙත්.

යථා යනු උදාහරණ නිදර්ශනයෙහි නිපාතයෙකි. න සොචාමි න රොදාමි තව සුත්වාන මාණව යනුද තුයහංචාපි මහාරාජ මයහංච රට්ඨවඩ්ඪන යනුද පාදාදියෙහි ලා පෙදෙන් පර විධි නොවීමෙහි උදාහරණ යි, එවමිදං දීඝමද්ධානං සන්ධාවිතං සංසරිතං මමඤ්චෙව තුම්හාකඤ්චාති, එවමිදං–පෙ–තුම්හාකඤ්ච යනු චාදියොගයෙහි ලා පෙදෙන් පර විධි නො වීමෙහි උදාහරණ යි—මෙහි න රොදාමි යන පෙදෙන් පර බවක් ඇත්ද තව සුත්වාන යන ගාථා පදයාගේ ආදියෙහි වැටෙන හෙයින් තුම්හ යන ශබ්දය හට තෙ ආදෙශ නොවෙත් මය තවආදෙශ ම වෙයි, මහාරාජ යන පෙදෙන් පර බවක් ඇත්ද මයහංච රට්ඨවඩ්ඪන යන ගාථාපදයාගේ ආදියෙහි වැටෙන හෙයින් අම්හ යන ශබ්දය හට මෙ ආදෙශ නොව මයහං යන ආදෙශ වෙයි මමඤ්චෙව තුම්හාකඤ්ච යන මෙහි දු සංසරිතං යන පෙදෙන්ද එව යන පෙදෙන්ද පර බවක් ඇත්ද ච යන නිපාතයා හා යොග ඇති හෙයින් අම්හ යන ශබ්දය හට මෙ යන

**පදතොති කිං? තව ඤාති මම ඤාති.**

**තෙමෙති වත්තතෙ.**

## 248. නාමහි 2-2-30.

**සබ්බසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං පදස්මා පරෙසං තෙමෙ ආදෙසා න හොන්ති අම්හි විභත්තිම්හි.**

**පස්සෙය්‍ය තං වස්සසතං අරොගං, සො මමබ්‍රවීති.**

---

ආදෙශද තුම්හ යන ශබ්දය හට වො යන ආදෙශද නොව මමං යන ආදෙශද තං හට අංකං යන ආදෙශද වෙයි; යථා, ඒ පදාදි යෙහි ප්‍රතිෂෙධ වන නියා මෙසේ සි.

මාණව, මාණවය (තරුණය); සුත්වාන, තා මළය යනු අසා, තව, තට; න සොචාමි, නො සොචිමි; න රොදාමි, නො හඬමි; රට්ඨවඩ්ඪන,රට වර්ධනය කරන්නා වූ; මහාරාජ,මහරජ; තුය්හඤ්චාපි, තටද; මය්හඤ්ච, මටද; භික්ඛවෙ, මහණෙනි; දීඝමද්ධානං, දීර්ඝකාලයක් මුළුල්ලෙහි; මමඤ්චෙව, මාගේද; තුම්හාකංච, තොපගේද; සන්ධාවිතං සංසරිතං, සංසාරයෙහි චුතිප්‍රතිසන්ධි වශයෙන් සන්ධාවනයද සංසරණයද වී; ඉදං යනු නිපාත මාත්‍රයකි—තුම්හාකවාති යන මෙහි ඉති ශබ්ද ආද්‍යර්ථයෙහි වැටේ

පදතොති, අනුවෘත්ත වූ පදතො යනු; කිං, කුමටය; තව ඤාති මම ඤාති යන තන්හි පරබවක් නැති හෙයින් තුම්හ අම්හ යන ශබ්දයන්ට තෙ මෙ යන ආදෙශ නොවන පිණිස සි.

තෙමෙති, තෙමෙකාවචනෙ 2-2-29 යන සූත්‍රයෙන් තෙ මෙ යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ

න ය අම්හි ය යනු පද සි.

අම්හි විභත්තිම්හි, අං විභක්ති පරකල්හි; පදස්මා පරෙසං, පෙදෙන් පර වූ; සවිභත්තීනං, එම අං යන විභක්ති හා සහිත වූ; සබ්බසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හ අම්හ ශබ්දයන්ට; තෙමෙ ආදෙසා න හොන්ති, තෙ මෙ යන ආදෙශයෝ නො වෙත්; තං,

**තෙමෙකවචනෙති වත්තතෙ.**

## 249. වා තතියෙ ච 2-2-31.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං පදස්මා පරෙසං තෙමෙ ආදෙසා හොන්ති වා යථාසඞ්ඛ්‍යං තතියෙකවචනෙ පරෙ.**

**කතං තෙ පාපං, කතං තයා පාපං, කතං මෙ පුඤ්ඤං, කතං මයා පුඤ්ඤං.**

**වා තතියෙති ච වත්තතෙ.**

## 250. බහුවචනෙසු වොනො 2-2-32.

**සබ්බෙසං තුම්හාම්හසද්දානං සවිභත්තීනං පදස්මා පරෙසං වොනො ආදෙසා හොන්ති වා යථාසඞ්ඛ්‍යං තතියා බහුවචනෙ පරෙ.**

**කතං වො කම්මං, කතං නො කම්මං.**

---

තා; වස්සසතං, අවුරුදු සියයක් මුළුල්ලෙහි; අරොගං, රොග නැතිව; පස්සෙය්‍ය, දක්නේ සී; මං, මට; සො, හෙතෙම; අබ්‍රවි, කී-මෙහි පස්සෙය්‍ය යනු තං යන පදයාගේ පෙදෙන් පර භාවයද ද්විතීයාන්තභාවයද හඟවන පිණිස යි, වස්සසතං අරොගං යනු සූත්‍රවිභාවනය, සො යනු පදයාගේ පෙදෙන් පර බව හඟවන පිණිස යි, අබ්‍රවි යනු වනාහි ද්විතීයාන්තභාවය හඟවන පිණිස යි.

තෙමෙකවචනෙති, තෙමෙකවචනෙ යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

වා ය තතියෙ ය ච ය යනු පද යි.

තතියෙ ච යන මෙහි ච ශබ්ද තෙමෙනුකර්ෂණය පිණිස යි.

තතියෙකවචනෙ පරෙ, තෘතීයෛකවචනයා පරකල්හි; පදස්මා පරෙසං, පෙදෙන් පර වූ; සවිභත්තීනං, ඒ නාවිභක්ති හා සහිත වූ; සබ්බෙසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හ අම්හ ශබ්ද යන්ට; යථාසඞ්ඛ්‍යං, පඨිතානුක්‍රමයෙන්; වා, විකල්පයෙන්; තෙමෙ ආදෙසා හොන්ති, (පූර්වපදයා හා එකවාක්‍යබවක් ඇතිකල්හි තෙ මෙ යන ආදෙශයෝ වෙත්.

**බහුවචනනිද්දෙසෙන ක්වචි යොම්හි පඨමෙ ච වොනො හොන්ති-ගාමං වො ගච්ඡෙය්‍යාථ ගාමං නො ගච්ඡෙය්‍යාම.**

**තථා පක්ඛාදිනමඤ්ඤාදසන්නානං. ඤාතිසද්දස්ස චාලිඞ්ගත්තා තිලිඞ්ගෙපි සමානං රූපං-අලිඞ්ගත්තා එව පක්ඛාදිතො ඉත්ථිපච්චයාභාවො. පඤ්ච යො ඉතිධ-**

---

තෙ, තා විසින්; පාපං, අපුණ්‍යය; කතං, කරන ලදී; කතං තයා පාපං යනුද එසේ මැයි; මෙ, මා විසින්; පුඤ්ඤං, පුණ්‍යය; කතං, කරන ලදී; කතං මයා පුඤ්ඤං යනුද එසේ මැයි—මෙහි කතං යනු තෙ යනාදි පදයන්ගේ පෙදෙන් පරබවද තෘතීයාන්ත බවද හඟවන පිණිසය; පාපං පුඤ්ඤං යනු සූත්‍රවිභාවනය පිණිස යි.

වා තතියෙති ච, වා තතියෙ ච යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

බහුවචනෙසු ය වොනො ය යනු පද යි.

තතියා බහුවචනෙ පරෙ, තෘතීයා බහුවචනයා පරකල්හි; පදසමා පරෙසං, පෙදෙන් පර වූ; සවිභත්තීනං, එම තෘතීයා බහුවචන විභක්තිය හා සහිත වූ; සබ්බෙසං තුම්හාම්හසද්දානං, සියලු තුම්හඅම්හ ශබ්දයන්ට; යථාක්කමං, පඨිතානුක්‍රමය නො ඉක්ම; වා, විකල්පයෙන්; වොනො ආදෙසා හොන්ති, පූර්වපදයාගේ එකවාක්‍ය බවක් ඇති කල්හි වො නො යන ආදෙශයෝ වෙත්; වො, තොප විසින්; කම්මං, කර්මය; කතං, කරන ලද; නො, අප විසින්; කම්මං, කර්මය; කතං, කරන ලදී—මෙහි දු කතං යනු වො නො යන පදයන්ගේ පෙදෙන් පරබවද තෘතීයාන්ත බවද හඟවන පිණිසය, කම්මං යනු සූත්‍රවිභාවනය පිණිස යි.

බහුවචනනිද්දෙසෙන, බහුවචන හෙයින් දක්වීමෙන්; ක්වචි, කිසි විෂයෙක්හි; පඨමෙ යොම්හි ච ප්‍රථමා යො පරකල්හිද; වොනො හොන්ති, වොනො යන ආදෙශ වෙත්—තෘතීයා බහුවචනයාගේ( සවරූපයෙන්)එකත්වය හෙතුකොට ගෙන බහුවචනෙ යි වක්තව්‍යකල්හි බහුවචනෙසු යි බහුවචනාන්ත කොට සූත්‍රකාරකයන් දක් වූ සාමර්ථ්‍යයෙන් ප්‍රථමා බහුවචනය පරකල්හි ද

**යොසු ච්නන්නං වෙචාති ඉතො යොසූ'ති වත්තතෙ, ඉත්ථිපුමනපුංසක සංඛ්‍යන්ති ච-**

## 251. පඤ්චාදීනමකාරො 2-2-15.

**අනනාපෙක්ඛා'යං ඡසී-පඤ්චාදීනමට්ඨාදසන්තානං සඞ්ඛ්‍යානං ඉත්ථිපුමනපුංසකෙ වත්තමානානමන්තස්ස සවිභත්තිස්ස අකාරො හොති යොසු පරෙසු.**

---

පෙදෙන් පර වූ තුම්හ අම්හ යන ශබ්දයන්ට වොනො ආදෙශ වෙති සී තැනි—යොමහි පඨමෙ ච යන මෙහි ච ශබ්දය වනාහි චිතීයා යො (විභක්තිය) සම්පිණ්ඩනය කෙරේ.

වො, තොපි; ගාමං, ගමට; ගච්ඡෙය්‍යාථ, යව්; නො, අපි; ගාමං, ගමට; ගච්ඡෙය්‍යාම, යන්නෙමු—ගාමං යනු වොනො යන පදයන්ගේ පෙදෙන් පර බව හඟවන පිණිස යි; ගච්ඡෙය්‍යාථ ගච්ඡෙය්‍යාම යනු ඔවුන්ගේ ප්‍රථමා බහුවචනාන්තභාවය දක්වන පිණිස යි.

පඤ්චාදීනං, පඤ්ච යන ශබ්දය ආදිකොට ඇති; අට්ඨාදසන්තානං, අට්ඨාදස ශබ්දයා අවසන් කොට ඇති සඞ්ඛ්‍යාශබ්දයන්ගේ ද; කති සද්දස්ස ච, කතිශබ්දයාගේද; අලිඞ්ගත්තා, ස්ත්‍රීපුන්නපුංසකලිඞ්ග විරහිත බව හෙතුකොට ගෙන; තිලිඞ්ගෙ'පි, ලිඞ්ගත්‍රයෙහි ම; රූපං, විභක්ත්‍යන්තරූප; තථා සමානං, ඒ තුම්හ අම්හ යන ශබ්දයන්ගේ රූප මෙන් ලිඞ්ගත්‍රයෙහි සම යි—පඤ්චකඛන්ධා පඤ්ච ගතියො පඤ්ච ඉන්ද්‍රියානි කති ඛන්ධා කති ගතියො කති ඉන්ද්‍රියානි යි මෙසේ ලිඞ්ගත්‍රයෙහි ම රූප සම යි; අලිඞ්ගත්තා එව, ස්ත්‍ර්‍යාදි ලිඞ්ග විරහිත බව හෙතු කොට ගෙන; පඤ්චාදිතො, පඤ්ච යනාදි වූ අකාරාන්තසඞ්ඛ්‍යාවාචී ශබ්දයන් කෙරෙන් පරව; ඉත්ථිපච්චයාභාවො, ස්ත්‍රීවිධිවිෂයක ප්‍රත්‍යයන්ගේ අභාවය යි—ආප්‍රත්‍යයාදීන්ගේ නොවීමය යි සේ යි

පඤ්ච යො ඉති, පඤ්ච යො යන; ඉධ, මෙහි සඞ්ඛ්‍යාවිධි කියනු ලැබේ.

යොසු ච්නන්නං වෙ ච ඉති, යොසු ච්නන්නං වෙ ච 2-2-13 යන; ඉතො, මේ සූත්‍රයෙන්; යොසු ඉති, යොසු යනුද; ඉත්ථිපුමනපුංසකසඞ්ඛ්‍යන්ති ච, ඉත්ථිපුමනපුංසකසඞ්ඛ්‍යං 2-2-12 යන සූත්‍රය ද වත්තතෙ, මතු සූත්‍රයට වැටෙ යි යනුද යොදනු.

**ආඑආදෙසාපවාදො'යං—පඤ්චක්ඛන්ධා, පඤ්ච ගතියො, පඤ්චින්ද්‍රියානි. එවං දුතියායඤ්ච. සුනංහිසු චාති වත්තතෙ-**

## 252. පඤ්චාදීනමත්තං 2-1-39.

**පඤ්චාදීනමට්ඨාදසන්තානං සඞ්ඛ්‍යානමන්තො සරො අත්තමාපජ්ජතෙ සුනංහි ඉච්චෙතෙසු පරෙසු.**

**එත්තාදීසාපවාදො'යං. පඤ්චහි පඤ්චහි, පඤ්චන්නං, පඤ්චහි පඤ්චහි, පඤ්චන්නං, පඤ්චසු.**

**එවං ඡ සත්ත අට්ඨ නව දස සද්දා. එකඤ්ච දසචාති අත්ථෙ ද්වන්දසමාසෙ, එකෙනාධිකා දසා'ති අත්ථෙ තප්පුරිසෙ වා කතෙ-**

---

පඤ්චාදීනං ය අකාරො ය යනු පද සි.

පඤ්චාදීනං යන මෙහි ආදි ශබ්ද ප්‍රකාරයෙහි වැටේ.

අයං ඡට්ඨී, මේ පඤ්චාදීනං යන ෂෂ්ඨී තොම; අන්තාපෙක්ඛා, අන්තස්වරයා අපෙක්ෂා කරන්නී සි—එසින් සූත්‍රයෙහි පඤ්චාදීනං යී අනියමයෙන් කිවද අන්තස්ස යනු සිඩය යන අභිප්‍රාය සි.

යොසු පරෙසු, යොවචනයන් පරකල්හි; ඉත්ථිපුමනපුංසකෙ වත්තමානානං, ස්ත්‍රීපුන්නපුංසක ලිඟුයෙහි වැටෙන්නා වූ; පඤ්චාදීනං, පඤ්චශබ්දයා ආදිකොට ඇති; අට්ඨාදසන්තානං, අට්ඨාදස ශබ්දයා අන්තකොට ඇති; සඞ්ඛ්‍යානං, සඞ්ඛ්‍යාශබ්දයන්ගේ; සවිභත්තිස්ස අන්තස්ස, එම යො විභක්ති සහිත වූ අන්තස්වරය හට; අකාරො හොති, අකාරාදෙශ වේ.

අයං, මේ අකාරාදෙශවිධි; ආඑආදෙසාපවාදො, සබ්බයොනීනමාඑ 2-1-56 සි යො හට විධීයමාන ආකාරාදෙශ එකාරාදෙශ දෙන්නාට; අපවාද සි-බාධකය සි සේ සි.

පඤ්චක්ඛන්ධා යනාදිය වේ; දුතියායඤ්ච, විතීයා විෂයෙහි ද පඤ්චශබ්දයාගේ රූප; එවං, මේ ප්‍රථමා විෂයෙහි රූප හා සම සි- දුතියායඤ්ච යන මෙහි ච ශබ්ද ප්‍රථමා සමුච්චය කෙරේ.

සුනංහිසු චාති, සුනංහිසු ච යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

පඤ්චාදීනං ය අන්තං ය යනු පද යි.

පඤ්චසඞ්ඛ්‍යා ආදි පකාරෙ යෙසං තෙ පඤ්චාදයො, තෙසං පඤ්චාදීනං.

සුනංහිසු ඉති,සුය නංය හිය යන;එතෙසු පරෙසු, මේ විභක්ති වචනයන් පරකල්හි; පඤ්චාදීනං, පඤ්චශබ්දයා ආදිකොට ඇති; අට්ඨාරසන්තානං, අට්ඨාදස ශබ්දයා අවසන් කොට ඇති; සඞ්ඛ්‍යානං, සඞ්ඛ්‍යාවාචී ශබ්දයන්ගේ; අන්තො සරෙ, අන්තස්වර තෙම;අත්තං, ආපජ්ජතෙ, අත්ව බවට පැමිණේ—මෙහි දූ පඤ්චාදීනං යී අනියම වශයෙන් කී කල්හිද ෂෂ්ඨී තොම අන්තාපෙක්ෂා නු සි අන්තො සරෙ යි කීහ යි දතයුතු, එසේ කල්හි ප්‍රයොග සිද්ධියද ප්‍රයොග සිද්ධිය පිණිස සූත්‍රොපදෙශ ද වන හෙයින් පඤ්චාදීහු ම අකාරාන්ත යහ, එසේ කල්හිද අන්තය හට කවර හෙයින් අත්වය හඳුරණ ලදද යත්? ප්‍රයොජනාන්තරයක්හුගේ සම්භවය හෙයිනි—මේ සූත්‍රය නැති කල්හි පඤ්චාදීන්ගේ අන්තය හට සුනංහිසු ච 2–1–38 යන සූත්‍රයෙන් දීර්ඝ හෝ වෙයි, සුහිස්වකාරෙ එ 2–1–50 යි එත්වය හෝ වෙයි. එහෙයින් තන්නිවෘත්තිය පිණිස යි. මේ (අර්ථය) පඤ්චාද්‍යන්තයාට විහිත අකාර බව හෙතු කොට ගෙන විය යුතු ම වේද යත්? නොවිය යුතුයි, කවරහෙයින්ද යත්? සූත්‍රොපදෙශයාගේ නිරර්ථකභාවය හෙතු කොටගෙන යි—.ඉදින් එත්වදීර්ඝයෝ වෙත් නම් මෙයින් අත්ව කොට එත්වාදිකරණයට වඩා ඒ නො කොට කිරීම සුකර නු යි මේ සූත්‍රය අනධ්‍යයනීය වන්නේ යි, හෙද හඳුරණ ලද හෙයින් එත්වාදීහු නො වෙති යි. හැගේ

අයං,මේ අත්ව විධි; එත්තදීඝාපවාදෙ. සුහිස්වකාරෙ එ 2–1–50 යන සූත්‍රයෙන් සුනංහි යන මොවුන් පරකල්හි සම්ප්‍රාප්ත එත්වය සුනංහිසු ච 2–1–38 යන සූත්‍රයෙන් නං පරකල්හි සම්ප්‍රාප්ත දීර්ඝය යන මොවුන්ට අපවාද යි-ප්‍රතික්ෂෙපය යි සේ යි.

පඤ්චහි පඤ්චන්නං යනාදිය වේ;ඡ සත්ත අට්ඨ නව දස සඞ්ඛ්‍යා,ඡ සත්ත අට්ඨ නව දස යන මේ ශබ්දයෝ; එවං,මේ පඤ්චශබ්දයා මෙන්; එකාදස චාති අත්ථෙ, එකාච දස ච යන අර්ථයෙහි; ද්වන්ද්වසමාසෙ, ද්වන්ද්ව සමාසය හෝ, එකෙනාධිකාදසාති අත්ථෙ, එකෙනාධිකා දස යන අර්ථයෙහි; තප්පුරිසෙ වා, තත්පුරුෂ සමාස හෝ; කතෙ, කරන ලද කල්හි—

**සඞ්ඛ්‍යානෙති වත්තතෙ.**

## 253. වෙකට්ඨානමාකාරො වා 2-8-40.

**ද්වි එක අට්ඨ ඉච්චෙතෙසමන්තො ආකාරො හොති වා සඞ්ඛ්‍යානෙ උත්තරපදෙ පරෙ.**

**ද්වාදස, එකාදස, අට්ඨාදස-වවත්ථිතවිභාසා වායං.**

**සඞ්ඛ්‍යානෙති කිමත්ථං?-එකදන්තො ද්විදන්තො අට්ඨත්ථම්භා.**

**වාති වත්තතෙ-**

## 254. එකාදිතො දස ර සඞ්ඛ්‍යානෙ 2-8-38.

**එකාදිතො සඞ්ඛ්‍යාතො පරස්ස දසස්ස ආදිස්ස දකාරස්ස රකාරො හොති වා සඞ්ඛ්‍යානෙ වත්තමානස්ස. සෙසං සමං.**

**එකාරස එකාදස.**

**ද්වෙ ච දස ච වීසි වා අධිකා දසාති ද්විදස ඉතීධ-**

---

සඞ්ඛ්‍යානෙති, එකාදිතො දස ර සඞ්ඛ්‍යානෙ 2-8-38 යන සූත්‍රයෙන් සඞ්ඛ්‍යානෙ යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

වෙකට්ඨානං ය ආකාරො ය වා ය යනු පද යි.

ද්වි ච එක ච අට්ඨ ච වෙකට්ඨා, තෙසං වෙකට්ඨානං. යට "ස ඡස්ස වා" 2-8-3 යන සූත්‍රයෙහි වා ශබ්දය ඇති කල්හි ම නැවත මෙහි වාග්‍රහණය මත්තේ සූත්‍රයෙහි වාග්‍රහණානුවෘත්තිය වළකනු පිණිස යි.

සඞ්ඛ්‍යානෙ, සඞ්ඛ්‍යා විෂයෙහි නොහොත් සඞ්ඛ්‍යාවාචී වූ; උත්තරපදෙ, උත්තරපදයා පරව සිටි කල්හි; ද්වි එක අට්ඨ ඉති, ද්වි එක අට්ඨ යන; එතෙසං, මේ සඞ්ඛ්‍යාශබ්දයන්ගේ; අන්තො, අන්තස්වර තෙම; වා, විකල්පයෙන්; ආකාරො හොති, ආකාරාදෙශ (වූයේ) වේ; ද්වාදස යනාදිය වේ. අයං ච, මේ විභාෂාවද; වවත්ථිතවිභාසා, ව්‍යවස්ථිතවිභාෂාවාචී යි-මේ සූත්‍රපරිග්‍රහ වශයෙන්

අසංකීර්ණ විභාෂාවය යි නැති, එහෙයින් වි එක අඩ යන මොවුන්ගේ අන්තය හට දස ශබ්දය පරකල්හි නිත්‍යයෙන් ආකාර වෙයි, විශබ්දයාගේ අන්තය හට වීසතිශබ්දය පටන් නවුති ශබ්දයා දක්වා විකල්පයෙන් වෙයි, එක අඩ යන මොවුන්ගේ අන්තය හට නො වේ මැ යි.

සඞ්ඛ්‍යානෙති, අනුවෘත්ත වූ සංඛ්‍යානෙ යනු; කිමත්ථං, කුමක් ප්‍රයොජන කොට ඇත්තේද–කුමක් පිණිසදැ යි සේ යි?

එකාදසන්නා විදසන්නා අඩ්ඪත්‍ථමෙහා යන තන්හි සංඛ්‍යාවාචී උත්තරපදයකු නො පර හෙයින් එකාදීන්ගේ අන්තය හට ආත්ව නො වීම ප්‍රයොජන කොට ඇත්තේ යි (නො වන පිණිසය යි සේ යි;) එකො දසන්නා අස්සාති එකාදසන්නා, වෙ දසන්නා අස්සාති විදසන්නා, අඩ්ඪත්‍ථමහානි අස්ස පාසාදස්සාති අඩ්ඪත්‍ථමෙහා, මෙහි සංඛ්‍යානයාගේ පරත්වයක් නැති හෙයින් ආත්ව නො වේ. මේ (පදවය)අන්‍යපදාර්ථ හෙයින් සංඛ්‍යාසංඛෙය්‍ය නො වේ; එකාදසන්න ශබ්දයෙන් ගණපතීහු කියත්;විදසන්න ශබ්දයෙන් හසතීහු කියත්; අඩ්ඪත්‍ථමහ ශබ්දයෙන් ප්‍රාසාද කියත්

වාති, ස ජස්ස වා 2–8–3 යන සූත්‍රයෙන් වා යනු; වත්තතෙ, මණ්ඩූකගති හෙයින් වැටේ.

එකාදිතො ය දස ය ර ය සඞ්ඛ්‍යානෙ ය යනු පද යි.

දසස්ස රෙ යි වත්තව්‍ය කල්හි දස ර යි ෂෂ්ඨ්‍යෙකවචන ලොප යෙන් කියන ලදැ යි දතයුතු.

එකාදිතො සංඛ්‍යාතො පරස්ස, එකශබ්දාදි වූ සංඛ්‍යාවාචී ශබ්දයා කෙරෙන් පර වූ; සංඛ්‍යානෙ වත්තමානස්ස දසස්ස, සංඛ්‍යානයෙහි වැටෙන්නා වූ දසශබ්දයාගේ; ආදිස්ස දකාරස්ස, ආදි වූ දකාරය හට; රකාරො හොති, රකාරයෙක් වේ.

සෙසං, සෙසු කාර්‍යයී; සමං, පචශබ්දයා හා සම යි.

එකාරස එකාදස යනු වේ—එකාරසාදි උදාහරණයෙහි සමාස කොට විභක්තිලොපය කරන ලද කල්හි ච ශබ්දයන්ට හෝ අධිකශබ්දය හට හෝ අප්‍රයොග වේ, මත්තෙහි දු මෙසේමැ යි.

**වාති වත්තතෙ.**

## 255. වීසතිදසෙසු බා ද්විස්ස තු 2-8-31.

**වීසති දස ඉච්චෙතෙසු පරෙසු ද්විසද්දස්ස බා හොති වා, තුසද්දෙන තිංසායං'පි.**

**රකාරො ආ තත්ථං ච-බාරස බාදස.**

**තයො ච දස චාති තෙරස-එත්ථ තෙසු වුද්ධීති ආදිනා තිසද්දස්ස තෙ ආදෙසො ආ නවුතියා.**

**චත්තාරො ච දස චාති චතුද්දස ඉච්චත්‍ර-**

**ගණනෙ දසස්සාති ච වත්තතෙ.**

## 256. චතූපපදස්ස ලොපො තුත්තරපදාදිචස්ස චුචො'පි නවා 2-8-47.

**ගණනෙ දසස්සාදිම්හි ඨිතස්ස චතු ඉච්චෙතස්ස උපපදස්ස තුසද්දා ලොපො හොති, උත්තරපදාදිභූතස්ස චතූපපදචකාරස්ස චුචො ආදෙසා ච හොන්ති නවා.**

**චුද්දස චොද්දස චතුද්දස.**

---

ද්වෙ ච දස ච, ද්වෙ ච දස ච යන අර්ථයෙහි හෝ; ද්වීහි අධිකා දසාති වා, ද්වීහි අධිකා දස යන අර්ථයෙහි හෝ; ද්විදස ඉති, ද්විදස යන; ඉධ, මෙහි සංඛ්‍යාවිධි කියනු ලැබේ.

වාති, ස ඡස්ස වා 2-8-31 යන සූත්‍රයෙන් වා යනු; වත්තතෙ, මණ්ඩූකගති හෙයින් මතු සූත්‍රයට වැටේ.

වීසතිදසෙසු ය බා ය ද්විස්ස ය තු ය යනු පද සි.

වීසති ච දස ච වීසතිදස, තෙසු වීසතිදසෙසු. වීසතිදස ඉති, වීසතිදස යන; එතෙසු පරෙසු, මේ සංඛ්‍යාශබ්දයන් පරකල්හි; ද්විසද්දස්ස, ද්වි ශබ්දය හට; වා, විකල්පයෙන්; බා හොති, බා යනාදෙශ වෙයි; තුසද්දෙන, මේ සූත්‍රයෙහි තුශබ්දයෙන්; තිංසායපි, තිංසා යන මේ ශබ්දයා පරකල්හිද විකල්පයෙන් ද්විශබ්දය හට බා යනාදෙශ වේ.

රකාරෙ, එකාදිතො දස ර සංඛ්‍යානෙ 2-8-38 යන සූත්‍රයෙන් දසශබ්දයාගේ දකාරය හට රකාරාදෙශද; ආත්තං ච, වෙකඩ්ඪාතමාකාරො වා 2-8-40 යන සූත්‍රයෙන් ආකාරද වේ. බාරස වාදස යනු වේ; තයො ච දස චාති තෙරස, තයො ච දස ච යන අර්ථයෙහි සමාසාදී ව තෙරස යනු වේ.

එහි, මේ තිශබ්දය හා දසශබ්දාදීහුගේ සමාසොදාහරණයෙහි; තෙසු වුඩ්ඪිති ආදිනා, තෙසු වුඩ්ඪි යනාදි සූත්‍රයෙන්; තිසද්දස්ස, තිශබ්දය හට; ආනවුතියා, නවුතිශබ්දය දක්වා; තෙ ආදෙසො, තෙ යන ආදෙශ වෙයි—ආ නවුතියා යන මෙහි ආකාර අභිවිධි යෙහි වැටෙයි.

චත්තාරො ච දස චාති, චත්තාරො ච දස ච යන මේ අර්ථයෙහි; චතුද්දස ඉති, චතුද්දස යන; අත්‍ර, මෙහි (සංඛ්‍යාවිධි වුච්චතෙ; සංඛ්‍යාවිධි කියනු ලැබේ.)

ගණනෙ දසස්සාති ච, ගණනෙ දසස්ස යනාදි සූත්‍රයෙන් ගණනෙ යනුද දසස්ස යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

චතූපපදස්ස ය ලොපො ය තු ය උත්තරපදාදිචස්ස ය චුචො ය අපි ය නවා ය යනු පද සි.

චතු එව උපපදං චතූපපදං, තස්ස චතූපපදස්ස, උත්තරපදස්ස ආදි (මරියාදා) උත්තරපදාදි, උත්තරපදාදි ච සො වො චාති උත්තරපදාදිචො, තස්ස උත්තරපදාදිචස්ස, චු ච චො ච චුචො—මෙහි උපපද නම් චතුශබ්දයාය, උත්තරපද නම් දස ශබ්දයා යි.

ගණනෙ, සංඛ්‍යානයෙහි වැටෙන්නා වූ; දසස්ස ආදිම්හි ඨිතස්ස, දස යන ශබ්දයාගේ ආදියෙහි සිටියා වූ; චතු ඉති එතස්ස උපපදස්ස, චතු යන මේ උපපදයාගේ අවයව වූ; තුසද්දො, තුශබ්ද; ලොපො හොති, ලොප් කටයුතු වෙයි; උත්තරපදාදිභූතස්ස, පර පදය හට මයඹාදාභූත වූ; චතූපපදචකාරස්ස, උපපදභූත චතු ශබ්දයා සම්බන්ධි වූ චකාරය හට; චුචො ආදෙසා ච, චු ය චො ය යන ආදෙශයෝද; නවා හොන්ති, කිසිතැනෙක්හි වෙත්; චුද්දස චොද්දස චතුද්දස යනු වේ.

**අපිග්ගහණේන අනුපපදස්සාපි ගණනෙ පදාදි චකාරස්ස ලොපො චුචො'පි හොන්ති නවා.**

**යථා-තාලීසං, චුත්තාලීසං, චොත්තාලීසං, චත්තාලීසං. පඤ්ච ච දස චාති පඤ්චදස තෙසු වුද්ධීති ආදිනා පඤ්චසද්දස්ස දස වීසතිසු ක්වචි පන්නපන්නු ආදෙසා. පන්නරස.**

**ඡ ච දස චාති ඡද්දස ඉතීධ-**

**ඡස්සාති වත්තතෙ.**

## 257. දසෙ සො නිච්චං ච 2-8-33.

**ඡ ඉච්චෙතස්ස සඞ්ඛ්‍යාසද්දස්ස නිච්චං සො ඉච්චාදෙසො හොති දසෙ පරෙ.**

---

අපිග්ගහණෙන, මේ සූත්‍රයෙහි අපිග්‍රහණය හෙතුකොට ගෙන; අනුපපදස්සාපි, පරපදයක්හු නැති හෙයින් උපපද නො වන්නා වූ; ගණනෙ පදාදිචකාරස්ස, සංඛ්‍යානයෙහි වැටෙන පදයාගේ ආදි වූ චකාරය හට; ලොපො, ලොපද; චුචොපි, චුචො යන ආදෙශයෝද; නවා හොන්ති, කිසි තැනෙක්හි වෙත්; යථා, ඒ මෙසේ යි; තාලිසං යනාදිය වේ—තාලීසං යන තැන්හි මෙහි අපිග්‍රහණයෙන් චකාරය හට ලොප් කරන ලද කල්හි තකාරය හට තෙසු වුද්ධ්‍යාදි සූත්‍රයෙන් ලොප් වේ; පඤ්ච ච දස චාති, පසද දසයද යන අර්ථයෙහි ද්වන්ද්වසමාස ව පඤ්චදස යනු වේ; තෙසු වුද්ධීති ආදිනා, තෙසු වුද්ධ්‍යාදී සූත්‍රයෙන්; දසවීසතිසු, දසවීසති යන මේ ශබ්දයන් දෙන්නා පරකල්හි; පඤ්චසද්දස්ස, පඤ්චශබ්දය හට; ක්වචි, විවක්ෂිත විෂයෙක්හි; පන්නපන්නු ආදෙසා, යථාක්‍රමයෙන් පන්න පන්නු යන ආදෙශයෝ වෙත්; පන්නරස යනු වේ.

ඡ ච දස චාති, සයද දසයද යි යන අර්ථයෙහි; ඡද්දස ඉති, ඡ දස යන; ඉධ, මෙහි සංඛ්‍යාවිධි කියනු ලැබේ.

ඡස්සාති, ස ඡස්ස වා 2-8-3 යන සූත්‍රයෙන් ඡස්ස යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

දසෙ ය සො ය නිච්චං ය ච ය යනු පද යි.

**සඞ්ඛ්‍යානං වාති ච වත්තතෙ.**

## 258. ළ දරානං 1-8-36.

**සඞ්ඛ්‍යානං දකාරරකාරානං ළකාරාදෙසො හොති වා. ලළානමවිසෙසො-වවත්ථිතවිභාසත්ථො'යං වාසද්දො, තෙන සොළස ඉති නිච්චං.**

**තෙළස තෙරස, චත්තාළීසං චත්තාරීසමිති විභාසා. දස පන්නරසාදිසු න ච හොති.**

**සත්ත ච දස චාති සත්තරස සත්තදස. අඪ ච දස චාති අඪදස ඉතිඛ.**

---

දසෙ සො නිච්චං ච යන මෙහි ච ශබ්ද ඡිග්‍රහණයාගේ අනු කර්ෂණය පිණිස යි; දසෙ පරෙ, දස ශබ්දයා පරකල්හි; ඡ ඉති, ඡ යන; එතස්ස සංඛ්‍යාසද්දස්ස, මේ සංඛ්‍යාවාචී ශබ්දය හට; නිච්චං, අවිකල්පයෙන්; සො ඉති ආදෙසො හොති, සො යන ආදෙශ වේ.

සංඛ්‍යානං, සංඛ්‍යාපූරණෙ මො 2-8-30 යන සූත්‍රයෙන් සංඛ්‍යානං යනුද; වාති ච, ස ඡස්ස වා 2-8-31 යන සූත්‍රයෙන් වා යනුද; වත්තන්තෙ, මතු සූත්‍රයට වැටේ—"ලො දරානං" යි කියයුතු තන්හි ප්‍රථමා විභක්තියට ලොප් කිරීමෙන් "ළ දරානං" යි කියන ලදී.

ළ ය දරානං ය යනු පද යි.

දො ච රො ච දරා, තෙසං දරානං; සංඛ්‍යානං, සංඛ්‍යාවාචක වූ; දකාරරකාරානං, දකාර රකාරයන් දෙන්නාට; වා, විකල්පයෙන්; ළකාරාදෙසො හොති, ළකාරාදෙශ වේ.

ලළානමවිසෙසො, ලකාර ළකාර දෙන්නාගේ සමහර තැනෙක්හි වෙනසක් නැති, එහෙයින් මේ සූත්‍රයෙන් ළකාරා දෙශ (හෝ ළකාරාදෙශ)වෙයි යනු භාව යි; අයං වා සද්දො, මේ වා ශබ්ද තෙම; වවත්ථිතවිභාසත්ථො, ව්‍යවස්ථිතවිභාෂාව ම අර්ථකොට ඇත්තේ යි;තෙන,ඒ වා ශබ්දයා ව්‍යවස්ථිතවිභාෂාර්ථ ඇති හෙයින්; සොළස ඉති, සොළස යන මෙහි; නිච්චං, දකාරය හට අවිකල්ප

**ආත්තෙ කතෙ–**

**වා දස ර සඞ්ඛ්‍යානෙති ච වත්තතෙ.**

## 259. අට්ඨාදිතො ච 2–8–39.

**අට්ඨාදිතො ච දසසද්දස්ස දස්ස රකාරො හොති වා සඞ්ඛ්‍යානෙ.**

**අට්ඨාරස අට්ඨාදස.**

**අට්ඨාදිතොති කිං?–චතුද්දස.**

**කතිසද්දො බහුවචනන්තො. කති යො ඉතිධ.**

**නිච්චං යොලොපාදි, රස්සත්තං.**

**කති (තිට්ඨන්ති), කති (පස්සසි), කතිහි කතිභි, කතිනං, කතිහි කතිභි, කතිනං, කතිසු.**

**අලිඞ්ග සබ්බනාමං.**

---

යෙන් ළකාරාදෙශ වේ තෙලස–පෙ–චත්තාරීසං ඉති,තෙලස–පෙ–චත්තාරීසං යන මෙහි; විභාසා, රකාරය හට ළකාරාදෙශ විකල්පයෙන් වේ; පන්නරසාදිසු, පන්නරස සත්තරස යනාදියෙහි; න ච හොති, දකාර රකාරයන්ට ළකාරාදෙශ නොවේ.

මෙම කීහ සප්‍රපඤ්ච සූත්‍රයෙහි.

“ළො නිච්චං සොළසෙ වාස්ස චත්තාරීසෙ ච තෙරසෙ
නාඤ්ඤත්ථ වාධිකාරස්ස වවත්ථිතවිභාසතො.”

යන ගාථාව මෙම නිසා කීහු

සත්තච දස චාති, සත ද දසයද යන අර්ථයෙහි; සත්තරස, සත්තදස යනු වේ; අට්ඨ ච දස චාති, අට ද දසයද යන අර්ථයෙහි; අට්ඨදස ඉති, අට්ඨදස යන; ඉධ, මෙහි සංඛ්‍යාවිධි කියනු ලැබේ.

ආත්තෙ කතෙ, වෙකට්ඨානමාකාරො වා 2–8–40 යන සූත්‍රයෙන් අට්ඨ ශබ්දයාගේ අන්තය හට ආත්ව කරන ලද කල්හි.

වා, ස ඡස්ස වා 2-8-31 යන සූත්‍රයෙන් වා යනුද; දස ර සංඛ්‍යානෙති ච, එකාදිතො දස ර සංඛ්‍යානෙ 2-8-38 යන සූත්‍රයෙන් දස යනුද ර යනුද සංඛ්‍යානෙ යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

අට්ඨාදිතො ච ච ය යනු පද යි.

අට්ඨාදිතො ච, අට්ඨාදී වූ සංඛ්‍යාවාචී ශබ්දයා කෙරෙන් ද පර වූ; සංඛ්‍යානෙ, සංඛ්‍යානයෙහි වැටෙන්නා වූ; දසසද්දස්ස, දස ශබ්දයාගේ; දස්ස, දකාරය හට; වා, විකල්පයෙන්; රකාරො හොති, රකාරයෙක් වේ—මෙම සූත්‍රයෙහි ච ශබ්ද (එකාදි තො යි) ගෘහීතයාගේ අනුකර්ෂණය පිණිස යි; අනන්තර සූත්‍රයෙන් ම සිද්ධ කල්හි අට්ඨාදිතො ච යි පුනරාරම්භග්‍රහණය කුමැයි ද යත්? අර්ථාන්තරයක් හඟවන පිණිස යයි දතයුතු, එහෙයින් ම චතුද්දස සොළස යන මෙහි එකාදීන් කෙරෙන් පර වූ දස ශබ්දය ඇති කල්හිද අනන්තර සූත්‍රයෙන් උක්ත විධානය නො වන්නේ යි.

අට්ඨාරස අට්ඨාදස යනු වේ; අට්ඨාදිතොති කිං? අට්ඨාදිතො යනු කුමටය? චතුද්දස යන්නෙහි නො වන පිණිස යි.

කතිසද්දො, කති ශබ්දය තෙම; බහුවචනන්තො, බහුවචන විභක්ති අන්ත කොට ඇති වෙයි; එක වචන විභක්තියක් ඇත්තේ නො වෙයි යූ තැනි; කතියො ඉති, කතියො යන; ඉධ, මෙහි "වියි වුච්චතෙ" යි යොදනු; නිච්චං යොලොපාදි, නිත්‍යයෙන් යො හට ලොප තන්නිමිත්ත දීර්ඝය යන කාර්ය්‍ය වෙයි—සපතො ච යො නං ලොපො 2-1-67 යන සූත්‍රයට අනුවෘත්ත වා ශබ්දයාගේ ව්‍යවස්ථිත විභාෂාව හෙතුකොට ගෙන "අමූ තිට්ඨන්ති" යනාදියෙහි මෙන් කති (තිඨන්ති) කති (පස්සසි) යන මෙහි ද නිත්‍යයෙන් යො හට ලොප එම ලොපය නිමිත්ත කොට ගෙන පූර්ව්ය හට දීර්ඝය යන මේ කාර්ය්‍ය වන්නේ යයි යූ තැනි; රස්සත්තං, දීර්ඝව කති යි සිටි කල්හි ක්වචාදී සූත්‍රයෙන් අන්තස්වරයා හට හ්‍රස්ව වේ; කති (තිඨන්ති) යනාදිය වේ; කතිහි කතිසු යන මෙහි සුනංහිසු ච 2-1-38 යන සූත්‍රයෙහි ච ශබ්දයෙන් විහිත දීර්ඝභාවය දතයුතු.

අලිඞ්ගසබ්බනාමං.

අලිඞ්ග සර්වනාම වර්ණනාව යි.

**අථ විභත්තිප්පච්චයන්තා වුච්චන්තෙ.**

**තෙසං පනාලිඞ්ගත්තා නිපාතත්තා ච තිලිඞ්ගෙ වචනද්වයෙ ච සමානං රූපං.**

**පුරිසස්මා පුරිසෙසු වාති අත්ථො.**

## 260. ක්වචි තො පඤ්චම්‍යත්ථෙ 2-5-2.

**සබ්බස්මා සුද්ධනාමතො සබ්බනාමතො ච ලිඞ්ගම්හා ක්වචි තොප්පච්චයො හොති පඤ්චම්‍යත්ථෙ.**

## 261. ත්වාදයො විභත්තිසඤ්ඤායො 2-5-1.

**තො ආදි යෙසං දුනිපරියන්තානං පච්චයානං තෙ හොන්ති පච්චයා ත්වාදයො, තෙ පච්චයා විභත්තිසඤ්ඤා හොන්ති.**

**තෙන තදන්තානම්පි විභත්‍යන්තත්තා පදත්තං සිද්ධං හොති.**

---

අථ, යථොක්ත අලිඞ්ගසර්වනාමානන්තරයෙන්; විභත්තිප්පච්චයන්තා, අපාදනාදි විභක්ත්‍යර්ථයෙහි විහිතප්‍රත්‍යයන් අන්ත කොට ඇති නාමයෝ නොහොත් යථොක්ත විභක්ත්‍යර්ථයෙහි විහිත ත්වාදීන් හෙතුකොට ගෙන විභක්ති භූත වූ ත්වාදිප්‍රත්‍යයන් අන්ත කොට ඇති නාමයෝ; වුච්චන්තෙ, කියනු ලැබෙත්; විභත්‍යත්ථෙ විහිතා පච්චයා විභත්තිප්පච්චයා, අථ වා යස්මා විභත්තීනමත්ථෙ විධීයන්ති විභත්තිසඤ්ඤඤ්ච ලභන්ති තස්මා විභත්තිභූතා පච්චයාපි විභත්තිප්පච්චයා, තෙ අන්තා එතෙසන්ති විභත්තිප්පච්චයන්තා— "තෙසං පන රූපං සමානං" යි යොදනු.

තෙසං පන, ඒ විභක්ති ප්‍රත්‍යයාන්තයන්ගේ; අලිඞ්ගත්තා, අලිඟු බව හෙතු කොට ගෙනද; නිපාතත්තා ච, නිපාත බව හෙතුකොට ගෙනද; තිලිඞ්ගෙ, ස්ත්‍රීපුන්නපුංසක ලිඟුයෙහිද; වචනද්වයෙ ච, එකවචන බහුවචන දෙක්හිද; රූපං, රූප; සමානං, (තතො ඉත්ථියා] තතො ඉත්ථීහි, තතො පුරිසා තතො පුරිසෙහි, තතො නපුංසකා තතො නපුංසකෙහි යනාදීන්) සම යි.

පුරිසසමා, එක්පුරුෂයක්හු කෙරෙන් හෝ; පුරිසෙහි වාති, බොහෝ පුරුෂයන් කෙරෙන් හෝ යහ; අත්‍ථෙ, අර්ථයෙහි විභක්ති ප්‍රත්‍යයන්දක් වනු ලැබේ—මෙයින් වක්ෂ්‍යමාණ තො ප්‍රත්‍යයාගේ වචනවයට සාධාරණභාවය කීහු.

සබ්බ ය තො ය පඤ්චම්‍යත්‍ථෙ ය යනු පද යි.

සබ්බසමා, සියලු; සබ්බනාමතො ච, පුරුෂාදි ශුද්ධනාම වූ ද; සබ්බනාමතො ච, ත්‍රිලිඞ්ගිකසර්වනාම වූ ද; ලිඞ්ගම්හා, ලිඞ්ගයා කෙරෙන් පරව; පඤ්චම්‍යත්‍ථෙ, පඤ්චම්‍යර්ථයක් කියයුතු කල්හි; ක්වචි, සමහර විවක්ෂිත ස්ථානයෙක්හි; තොප්පච්චයො හොති, තො යන ප්‍රත්‍යය වේ—මෙහි ත්‍රට සත්තමියා සබ්බනාමෙහි 2–5–3 යනාදි සූත්‍රයෙහි මෙන් අසෝ නාමයකු කෙරෙන් යයි අනිර්දිෂ්ට බැවින් “සබ්බසමා සුද්ධනාමතො සබ්බනාමතො” යනු අර්ථ හෙයින් සිද්ධ යයි දතයුතු. ශුද්ධනාමයයිද සර්වාදි කායර්යයෙන් අමිශ්‍රනාමය කියනු ලැබේ.

ත්‍වාදයො ය විභත්තිසඤ්ඤයො ය යනු පද යි.

තො ආදි යෙසං තෙ ත්‍වාදයො, විභත්තීති සඤ්ඤ එතෙසන්ති විභත්තිසඤ්ඤයො—ක්වචාදි සූත්‍රයෙහි ක්වචිග්‍රහණබලයෙන් හෝ මෙම නිපාතයෙන් හෝ මෙහි හ්‍රස්වත්වයාගේ අභාව යයි.

තො, තොප්‍රත්‍යය තෙම; ආදි, මයර්යාද වූයේ; දුතිපරියන්තානං, දුතිප්‍රත්‍යය අවසන් කොට ඇති; යෙසං පච්චයානං, යම් ප්‍රත්‍යය කෙනෙක් නටද; තෙ පච්චයා, ඒ ප්‍රත්‍යයෝ; ත්‍වාදයො හොන්ති, තොප්‍රත්‍යයාදීහු නම් වෙත්.

තෙ පච්චයා, ඒ තො ආදි ප්‍රත්‍යයෝ; විභත්තිසඤ්ඤ හොන්ති, විභක්තිසංඥ ඇත්තාහු නම් වෙත්.

තෙන, එහෙයින්; තදන්තානම්පි, ඒ තො ආදි ප්‍රත්‍යය අන්ත කොට ඇත්තවුන්ගේද; විභත්‍යන්තත්තා, විභක්ති අන්තකොට ඇති බැවින්; පදත්තං සිද්ධං හොති, පද බව සිද්ධ වන්නේ යි—“විභත්‍යන්තං පදං” යි කොට ඔවුන්ට පද ව්‍යවහාරය ලැබි නෑ යි සේ යි.

**පුරිසතො, එවං රාජතො වා චොරතො වා අග්ගිතො වා ගහපතිතො හත්ථිතො ධෙනුතො යුවතිතො ඉත්ථිතො භික්ඛුනිතො.**

**එත්ථ ච ඝවාදිමජ්ඣුත්තරානං දීඝරස්සාපච්චයෙසු චාති තොපච්චයෙ රස්සත්තං.**

**යාගුතො ජම්බුතො වීතතතො ආයූතො ඉච්චාදි.**

**සබ්බනාමතො-සබ්බස්මා සබ්බෙහීති වා සබ්බතො. එවං යතො තතො කතරතො කතමතො ඉතරතො අඤ්ඤතො එකතො උභයතො පුබ්බතො පරතො අපරතො දක්ඛිණතො උත්තරතො අමුතො.**

**කිස්ස කු ඉති ච වත්තතෙ.**

## 262. ත්‍රතොථෙසු ච 2-4-20.

**කිමිච්චෙතස්ස කු හොති ත්‍ර තො ථ ඉච්චෙතෙසු ච පරෙසු.**

**කස්මා කෙහීති වා කුතො.**

---

පුරිසතො, පුරුෂයා කෙරෙන්; රජතො-පෙ-භික්ඛුනිතො, රජතො-පෙ-භික්ඛුනිතො යනු; එවං, මේ පුරිසස්මා පුරිසෙහි වා යන අර්ථයෙහි සිද්ධ වූ පුරිසතො යනු මෙනි—රජතො වා යනාදී උදාහරණත්‍රයෙහි වා ශබ්ද සූත්‍රවිභාවනය පිණිස දතයුතු.

එත්ථ ච,මෙහි (හත්ථිතො ඉත්ථිතො භික්ඛුනිතො යන උදාහරණ යන්හි); ඝවාදිමජ්ඣුත්තරානං දීඝරස්සාපච්චයෙසු චාති, ඝවාදි මජ්ඣුත්තරානං දීඝරස්සාපච්චයෙසු ච 2-8-7 යන සූත්‍රයෙන්; තොපච්චයෙ, තොප්‍රත්‍යයා පරකල්හි; රස්සත්තං, අන්තයෙහි ඊකාරය හට හ්‍රස්ව බව වේ; යාගුතො ජම්බුතො යනාදිය වේ—ජම්බුතො යන තන්හිද හ්‍රස්ව මෙසේ මැයි

සබ්බනාමතො, සර්වනාමයා කෙරෙන් තොප්‍රත්‍යය දක්වනු ලැබේ,සබ්බස්මා සියල්ල කෙරෙන් හෝ; සබ්බෙහි වාති,සියල්ලන් කෙරෙන් හෝ යන අර්ථයෙහි; සබ්බතො, සබ්බතො යනු වේ; යතො-පෙ-අමුතො, යතො-පෙ-අමුතො යනුද; එවං, මේ එක වචනයට සාධාරණ වූ සබ්බතො යනු මෙනි.

**තොථෙසූති වත්තතෙ.**

## 263. සබ්බස්සෙතස්සාකාරො වා 2-4-21.

**සබ්බස්ස එතසද්දස්ස අකාරො හොති වා තො ථ ඉච්චෙතෙසු. අතස්මා අත්‍රාය වාති අතො.**

**සබ්බස්සෙතස්සාති ච වත්තතෙ.**

## 264. ථ තොථෙසු වා 2-4-23.

**සබ්බස්ස එතසද්දස්ස එකාරො හොති වා තො ථ ඉච්චෙතෙසු.**

---

කිස්ස, කිස්ස ක වෙ ච 2-4-17 යන සූත්‍රයෙන් කිස්ස යනුද; කු ඉති ච, කු හිංහංසු ච 2-4- 8 යන සූත්‍රයෙන් කු යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

ත්‍රතොථෙසු ය ච ය යනු පද සි.

ත්‍රො ච තො ච ථො ච ත්‍රතොථා, තෙසු ත්‍රතොථෙසු. මෙහි ච ශබ්ද කුග්‍රහණානුකර්ෂණය පිණිස යි.

ත්‍රතොථ ඉති, ත්‍රප්‍රත්‍යය තොප්‍රත්‍යය ථප්‍රත්‍යය යන; එතෙසු ච පරෙසු, මේ ප්‍රත්‍යයන් පරකල්හිද; කිං ඉති, කිං යන; එතස්ස, මෝ හට; කු හොති, කු යන ආදෙශ වේ; කුසමා, කවරක්හු කෙරෙන් යන අර්ථයෙහි හෝ; කොහි වා, කවුරුන් කෙරෙන් යන අර්ථයෙහි හෝ; කුතො, කුතො යනු වේ.

තොථෙසු ඉති, ත්‍රතොථෙසු ච 2-4-20 යන සූත්‍රයෙන් තො ථෙසු යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

සබ්බස්ස ය එතස්ස ය අකාරො ය වා ය යනු පද සි.

තො ථ ඉති, තොප්‍රත්‍යය ථප්‍රත්‍යය යන; එතෙසු, මේ ප්‍රත්‍ය යන් දෙන්නා පරකල්හි; සබ්බස්ස එතසද්දස්ස, සියලු එතශබ්දය හට; වා, විකල්පයෙන්; අකාරො හොති, අකාරයෙක් වේ—මේ සූත්‍රයෙහි සර්ව්ග්‍රහණය සර්වාදෙශය පිණිසය යි දතයුතු; එතස්මා, මොහු කෙරෙන් යන අර්ථයෙහි හෝ; එත්‍රාය වාති, මෑ කෙරෙන් යන අර්ථයෙහි හෝ; අතො, අතො යනු වේ—එත්‍රාය වා යනු අතො යන රූපයාගේ ස්ත්‍රීලිඞ්ගයේ සමාන බව හඟවන පිණිස යි.

**ඒතතං, එතෙතා.**

**සබ්බස්සාති වත්තතෙ.**

## 265. ඉමස්සිත්ථංදානිහතොධෙසු ච 2-4-24.

**ඉමසද්දස්ස සබ්බස්සෙව ඉකාරො හොති ථං දානි හ තො ධ ඉච්චෙතෙසු ච.**

**ඉමස්මාති ඉතො.**

---

සබ්බස්සෙතස්සාති ච, සබ්බස්සෙතස්සකාරො වා 2-1-21 යන සූත්‍රයෙන් සබ්බස්ස යනුද එතස්ස යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

එ ය තොථෙසු ය වා ය යනු පද සි.

තො ච ථො ච තොථා, තෙසු තොථෙසු; තොථ ඉති, තො ය ථ ය යන; එතෙසු, මේ ප්‍රත්‍යයන් දෙන්නා පරකල්හි; සබ්බස්ස එතසද්දස්ස, සියලු ම එතශබ්දය හට; වා, විකල්පයෙන්; එකාරො හොති, එකාරාදෙශ වේ.

ඒතතං, පරවෙභාවො ඨානෙ 1-3-6 යන සූත්‍රයෙන් ඒත්ව වේ; එතෙතා යනු වේ.

සබ්බස්සාති ච, සබ්බස්සෙතස්සකාරො වා 2-4-21 යන සූත්‍රයෙන් සබ්බස්ස යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

ඉමස්ස ය ඉ ය ථංදානිහතොධෙසු ය ච ය යනු පද සි.

ථං ච දානි ච හො ච තො ච ධො ච ථංදානිහතොධා, තෙසු ථංදානිහතොධෙසු—චග්‍රහණය "අකො රස්සං" යනාදි සූත්‍රයෙහි මෙන් අවධාරණ පිණිස සි.

ථං දානි හ තො ධ ඉති, ථංප්‍රත්‍යය දානිප්‍රත්‍යය හප්‍රත්‍යය තොප්‍රත්‍යය ධප්‍රත්‍යය යන; එතෙසු ච, මේ ප්‍රත්‍යයන් පරකල්හිද; සබ්බස්සෙව ඉමසද්දස්ස, සියලු ඉමශබ්දය හට; ඉකාරො හොති, ඉකාරාදෙශ වේ; ඉමස්මාති, මොහු කෙරෙන් යන අර්ථයෙහි; ඉතො, යනු වේ; ඉමෙහිති වා ඉතො සිද්ද යොදනු.

පරිවජ්ජනං පරිහාරො. අධිහරණං අධිකං කත්වා ගහණං අධිහාරො, අභිහරණං උපනාමනං අභිහාරො, පති හරණං පුන ගහණං පතිහාරො, සුට්ඨු හරණං සොභනො වා හාරො මුත්තාදිමොති සුහාරො, ආහරණං ආහරති වා අත්තනො ඵලන්ති ආහාරො, අතික්කමිත්වා හරණං අතිහාරො, අපි හරණං පුන ගහණං අපිහාරො, අප හරණං අපනෙත්වා ගහණං අපහාරො, උප හරණං සක්කාර කරණං උපහාරො.

පරාභවො, පරිහානිය; නිවාසො, විසීම; නීහාරො, ගැන්ම; උද්ධාරො, නැගීම; දුහාරො, දුකින් ගැන්ම; සංහාරො, හැකිලීම; විහාරො, විහාරය; අවහාරො, සොරා ගැන්ම; අනුහාරො, අනුව ගැන්ම; පරිහාරො, දුරු කිරීම; අධිහාරො, අධික කොට ගැන්ම; අභිහාරො, එළඹීම; පතිහාරො, නැවත නැවත ගැන්ම; සුහාරො, සුවයෙන් ගැන්ම; ආහාරො, ආහාරය-එළවීම; අතිහාරො, ඉක්ම ගැන්ම; අපිහාරො, නැවත ගැන්ම; අපහාරො, පහකොට ගැන්ම; උපහාරො, පූජාව යන මොහු; එවං, මෙසේ සී; පහාරො යනු මෙතැ සි දතයුතු—මේ නාමපදයන් හා උපසර්ග යෙදුනු නියා සී මෙසේ යථානුරූපයෙන් නාම විශෙෂකත්වය දක්වා දැන් ආඛ්‍යාත විශෙෂකත්වය දක්වනුවෝ පහරති යනාදි කීහු; පහරති, පහරයි; පරාභවති, පරිහානියට යේ; නිවසති, වෙසේ; නීහරති, පහකෙරේ; උද්ධරති, උදුරා; ඉති ආදි, මේ ආදී ක්‍රියාපද; යොජෙතබ්බං, යෙදිය යුතුය—මෙහි උපසර්ගයා කෙරෙන් පර වූ සි හට ලොප් වත් මුත් සමාස නොවේ—පාදීහුද ධාතු නාමයන් කෙරෙන් පූර්වයෙහි ප්‍රයොග කටයුත්තාහ යි දක්වන පිණිස පහාරො පහරති යනාදී සියලු නාමාඛ්‍යාත ප්‍රයොගයෙහි පූර්වකොට ම යොදන ලදහු "යස්මාදපෙති භයමාදත්තෙ වා තද පාදානං" යන සූත්‍රයෙහි අපෙති ආදත්තෙ අපාදානං යනාදිය මෙහි ඥාපක වන්නේ යි, දැන් උපසර්ගයන්ගේ නාමාඛ්‍යාතයන්ට විශෙෂණ භාවයෙන් ම අර්ථයෙහි ප්‍රවෘත්තාකාර විශෙෂය දක්වනුවෝ 'ධාත්වත්ථං බාධතෙ" යනාදි ගාථාව කීහු.

කොචි (උපසග්ගො), කිසි උපසර්ගයෙක්; ධාත්වත්ථං, ධාතුහුගේ ප්‍රසිද්ධාර්ථය; බාධතෙ, වළක්නේය; කොචි, කිසි උපසර්ගයෙක්; තං, ඒ ධාත්වර්ථයට; අනුවත්තතෙ, අනුව පවත්නේය; අඤ්ඤො, අන්‍ය වූ උපසර්ගයෙක්; තං එව, ඒ ධාත්වර්ථය ම; විසෙසෙති, විශෙෂණය කරන්නේය සි; උපසග්ගගතී, උපසර්ගයන්ගේ

අර්ථයෙහි ප්‍රවෘත්ති නොම්; තිධා, තුන්ප්‍රකාරයකින් වන්නී සී; කිසේද යත්? ප්‍රසිද්ධ ධාත්වර්ථය අප්‍රසිද්ධ ධාත්වර්ථය සි ධාතුහුගේ අර්ථය ද්විවිධ වෙයි, එහි "පධානං අපරජ්ඣති" ය කී කල්හි ප ශබ්ද අප ශබ්දයෝ දෙන්න ධා යන ධාතුහුගේ ප්‍රසිද්ධ වූ ධාරණාර්ථයද රුධ යන ධාතුහුගේ ප්‍රසිද්ධ වූ සංසිද්ධ්‍යාර්ථයද වළකා ප්‍රධාන අපරාධ සඞ්ඛ්‍යාත අප්‍රසිද්ධාර්ථයක් ද්‍යෝතනය කෙරෙති "නිවාසො ආරුධෙති"යී කී කල්හි නි ආ යන උපසර්ගයෝ දෙන්න වස යන ධාතුහුගේ හා රුධ යන ධාතුහුගේ වාස ආරුධනාඛ්‍ය වූ අර්ථයට ම අනුව පවත්නාහ. "විප්පසාපාං ආසෙවති" යී කී කල්හි වනාහි වි ආ යන උපසර්ගයෝ දෙන්න කාර සෙවු යන ධාතූන්ගේ කාරණ සෙවනාඛ්‍ය සාමාන්‍ය ධාත්වර්ථය ම විශෙෂ කෙරෙත්, විශෙෂය සී ද "ලඞාන පුබ්බාපරියං විසෙසං" යනාදියෙහි උතකාමී යද කියනු ලැබෙ සි, "අරහත්තප්පත්තානං පන තෙසං හි සියා විසෙසො සියා නානා කාරණං"යනාදියෙහි විභාගද කියනු ලැබේ; ඖපසර්ගික පදය තෙම නාමපදයා කරා හෝ ආඛ්‍යාත පදයා කරා හෝ එළඹ ඒ පදයාගේ අර්ථය මැඩ "ආගතො සො මහා සමණො මාගධානං ගිරිබ්බජං"යනාදියෙහි මෙන් අතික්‍රම අර්ථයක් වෙසෙසයි; නොහොත් එම සාමාන්‍ය ධාත්වර්ථය එක් පර්යායයෙකින් "ආසෙවිතො භාවිතො" යනාදියෙහි මෙන් විශෙෂ කෙරෙයි; උපසර්ගයන්ගේ වනාහි කෙවල ප්‍රයොගයක් නැති හෙයින් එම අර්ථයාගේ ප්‍රකටත්වයෙක් නැත; එතකුදුවත් එම පදයෙන් උක්ත වූ ම අර්ථවිශෙෂයෙහි තබත්නු සි විශෙෂකත්වය කියන ලදී, "ගච්ඡති" යී කී කල්හි ගමන හැඟෙ සි "ආගච්ඡති"යී කී කල්හි අභිමුඛ ගමනය හැඟෙ සි "තිඨති" යී කී කල්හි ගමනා භාවය හැඟෙ සි "පතිඨාති" යී කී කල්හි ගමනාර්ථය නො හැඟෙයි, එහෙයින් උපසර්ග සන්නිධානයෙහි යම් අර්ථයෙක් දක්නා ලැබේද ඔහුගේ ම අර්ථය සි දක්වන්නට පිළිවනි, කවර හෙයින් ද යත්? ශබ්දයන් අනෙකාර්ථ හෙයිනි, එසේ කල්හි උපසර්ගෝපාදාන කුමැයි ද යත්? යම්සේ "සින්ධවමානය"යයි කියන ලද කල්හි සින්ධව ශබ්දය අශ්ව ලවණ යන්ට සාධාරණ නමක් හෙයින් අශ්ව මානය යනු හෝ ලවණමානය යනු හෝ ප්‍රයොග දක්වනු ලැබේද; එසේ ම විශෙෂයෙහි ප්‍රයුක්ත වූ ද ශබ්දය රූප භෙදයක් නැති හෙයින් ඒ විශෙෂය හඟවන්නට අසමර්ථනු සි විශෙෂ විෂය පිණිස උපසර්ග ගන්නා ලැබේ; උපෙච්චත්ථං සජතීති උපසග්ගා උපසග්ග මෙව ඔපසග්ගිකං, ඔපසග්ගිකං ච තං පදං චාති ඔපසග්ගිකපදං.

ඔපසග්ගික පදං.

ඔපසග්ගික පද වර්ණනාව සි.

**සමුච්චයවිකප්පනපටිසෙධපූරණාදි අත්ථං අසත්තවාචිකං නෙපාතිකං.**

**නනු ච ඉති සමුච්චයන්වාචයෙතරෙතරයොගසමාහාරාවධාරණාදිසු.**

---

මෙසේ "සබ්බාසමාවුසො" යනාදි සූත්‍රයෙහි උද්දිෂ්ට ක්‍රමයෙන් ඖපසර්ගික පදයාගේ නිර්දේශය කොට දැන් අවසරප්‍රාප්ත වූ නෛපාතික පදයාගේ නිර්දේශ කරණය පිණිස ලක්ෂණයක් තබනු වෝ "සමුච්චය විකප්පන පටිසෙධ පූරණාදි අත්ථං අසත්ත වාචිකං නෙපාතිකං" යි කීහු.

සමුච්චය, සමුච්චයාර්ථය; විකප්පන, විකල්පනාර්ථය; පටිසෙධ, ප්‍රතිෂෙධාර්ථය; පූරණාදි අත්ථං, පූරණාදී අර්ථය යනාදීන් අර්ථකොට ඇත්තේ; අසත්තවාචිකං, අද්‍රව්‍ය වාචිවූයේ; නෙපාතිකං, නෛපාතික පද නම්; "සමුච්චයනං රාසිකරණං සභාව භින්න අඤ්ඤමඤ්ඤසාපෙක්ඛා කරණං සමුච්චයො; සාරිපුත්තොති වුත්තෙ එවං නාමකො ථෙරොති විඤ්ඤායති සාරිපුත්තො චාති වුත්තෙ අඤ්ඤොපි අත්ථීති බුද්ධි ජායති සොයං සමුච්චයො, විවිධා කප්පනං අනෙකත්ථභාවො විකප්පනං, පටිසෙධනං නිවාරණං පටිසෙධො, උස්සන්නං අධිකභාව කාරණං පූරණං, සමුච්චයො ච විකප්පනං ච පටිසෙධො ච පූරණං ච සමුච්චය විකප්පන පටිසෙධ පූරණානි, තානි ආදීනි යෙසං තෙ සමුච්චය විකප්පනපටිසෙධපූරණාදීනි, තානි අත්ථා යස්ස තං සමුච්චය විකප්පන පටිසෙධ පූරණාදි අත්ථං, සත්තං දබ්බං, තතො අඤ්ඤං අසත්තං, තං වදතී ති අසත්තවාචී, සත්තං න වදතී ති වා අසත්තවාචී, අසත්ත වාචී එව අසත්තවාචිකං, "යං විසෙසතො සත්තං න වදති තදෙව අසත්තවාචිකං, අසත්තවාචිකනති නිපාත පදමෙව වුච්චති, ආඛ්‍යාත පදං හි සත්තනිස්සිතං ක්‍රියං වදති උපසග්ගා ච තං විසෙසයන්තීති තෙ උභොපි සත්ත වාචිනො, නිපාතපදං සබ්බථා සත්තතො දූරීභූතං සමුච්චයාදිං වදතී ති" නිපාතමෙව නෙපාතිතකං—"කක්ඛල ලක්ඛණා පඨවී ධාතු" යනු මෙන් අසාධාරණ ලක්ෂණයා විසින් විය යුතුය, අසත්ත වාචිකත්වය වනාහි සත්ත්වාභිධාන වූ නාමයා හැර ආඛ්‍යාතිකොපසර්ගයන්ට ඇත් නු යි හේ කිසේ ලක්ෂණ වේද යත්? මේ නියමය නැති යම් ලක්ෂණයෙක් සාධාරණ වූ යේද යම් තැනෙක්හි විශෙෂ

යෙන් ලැබේද හෙද "රූප්පනතො රූපං" යනු මෙන් ලක්ෂණ වේ මැයි, එසේ මැයි රූප්පනය නම් විරොධප්‍රත්‍යයසන්නිධාන යක් ඇති කල්හි විෂදෘශොත්පත්තිය,හෙද අරූපයන්ටද ඇත්මය, එතකුදු වුවත් රූපධර්මයන්ගේ රූප්පනය ශීතාදී සන්නිධානොත්ප ත්තියෙන් ප්‍රකට කාරණා ඇත්තේ නු සි හෙම රූප්පනය යි කියන ලද. එසේ මෙහි ද යමක විශෙෂයෙන් සත්වය නො කියාද හෙමු අසත්ව වාචකය සි නිපාත පද ම කියනු ලැබේ, ආඛ්‍යාතික පදය සත්වනිශ්‍රිත වූ ක්‍රියාව කියයි උපසර්ගද හේ ක්‍රියා වෙසෙසානු යි ඔහු දෙන්න ම සත්වවාචීන් වැන්නහ. නිපාත පද වනාහි සර්ව ප්‍රකාරයෙන් සත්වයෙන් දූරීභූත සමුච්චයාදී කියානු යි හෙම අසත්ව වාචික නම් වෙයි දතයුතු, දැන් හේ නිපාතයන්ගේ ස්වරූප හෙද ද අර්ථවිභාග ද දක්වනුවෝ "තත්‍ර ච ඉති" යනාදීන් නිපාත සූත්‍රය ආරම්භ කළෝ.

තත්‍ර, ඒ නිපාතයන් අතුරෙහි; ච ඉති ච යන මේ නිපාත තෙම, සමුච්චය, සම්පිණ්ඩ කරණය; අන්වාචය, අන්වාචය ය; ඉතරී තරයොග, අන්‍යොන්‍යය හා යෙදීමය; සමාහාර, සමූහය; අව ධාරණාදිසු, නිශ්චය යනාදී අර්ථයන් කෙරෙහි වැටේ; සමුච්චයො ච අන්වාචයො ච ඉතරීතරයොගො ච සමාහාරො ච අවධාරණං ච සමුච්චයන්වාචයෙතරෙතරයොගසමාහාරාවධාරණානි, තානි ආදීනි යෙසං තෙ තදාදයො, තෙසු සමුච්චයන්වාචයෙතරෙතරයොග සමාහාරාවධාරණාදිසු—එහි සමුච්චය යට කියන ලද මය "අදං අන්නඤ්ච පානඤ්ච වත්ථසෙනාසනානි ච" යනු සමුච්චයොදාහරණ සි, අන්වාචය නම් එකාර්ථයක්හුගේ ප්‍රධාන භාවයෙන් විධාන කොට නැවත අන්‍ය අර්ථයක්හුගේ ගුණභාවයෙන් විධානය ය "භික්ඛං චර ගාවං ච ආනෙහි" යනු අන්වාචයොදාහරණ සි; මෙහි භික්ෂා චරණය ප්‍රධානය, ඒ කරන්නේ ඉදින් ගෙරි ලද්දේ වී නම් හෙද ගෙනේ නුයි, ගාවං යන්න අප්‍රධාන සි; ඉතරෙතර යොග නම් "ඉතරෙන ච ඉතරෙන ච යොගො ඉතරෙතර යොගො"සී බැවින් ශාරිපුත්‍රාදී ශබ්දයාගේ මෞද්ගල්‍යායනාදිශබ්දයා හා ද මෞද්ග ල්‍යායනාදී ශබ්දයාගේ ශාරිපුත්‍රාදිශබ්දය හා ද යෙදීමය, හෙද ශාරි පුත්‍රමෞද්ගල්‍යායන යනාදී ඉතරෙතර වන්ව සමාස විෂයෙහි මැයි;සමාහාර නම් පදයන් දෙන්නකුගේ හෝ බොහෝ දෙන කුගේ හෝ සඞ්ඝතිය ම ප්‍රධාන කොට ඇත්තේය, හෙද "අජෙ ලකං"යනාදි සමාහාර වන්වසමාස විෂයෙහි මැයි; අවධාරණය යට කියන ලද මය "න් චාහු න ච භවිස්සති න චෙතරහි විජ්ජති"

**වා ඉති විකප්පනූපමානසමුච්චයවවත්ථිතවිභාසාසු.**

**න නො මා අ අලං හලං ඉච්චෙතෙ පටිසෙධනත්ථෙ.**

**අලං පරියත්තිභූසනෙසු ච-පූරණත්ථං දුවිධං අත්ථපූරණං පදපූරණඤ්ච.**

**තත්ථ-අථ ඛලු වත වථ අථො අස්සු යග්ඝෙ හි චරහි නං තං ච තු ව වෙ පන හවෙ කීව හ තතො යථා සුදං ඛො වෙ හං එනං සෙය්‍යථීදං-ඉච්චෙවමාදීනි පදපූරණානි.**

---

යනු අවධාරණොදාහරණ යි; අවධාරණාදිසු යන මෙහි ආදි ශබ්දයෙන් වාක්‍යොපන්‍යාසාදි ගත්හ "සා ච පඨමං භාසති" යනාදී එහි උදාහරණ යි.

වා ඉති, වා යන නිපාත තෙම; විකප්පන, විකල්පය; උපමාන, උපමානය; සමුච්චය, සම්පිණ්ඩීකරණය; වවත්ථිතවිභාසාසු, ව්‍යවස්ථිත විභාෂාය යන මෙතෙක් අර්ථයන් කෙරෙහි වැටේ—එහි "සමණං වා බ්‍රාහ්මණං වා අඤ්ඤං වාපි වණිබ්බකං" යනු විකල්පයෙහි උදාහරණ යි, "මධුවා මඤ්ඤති බාලො" යනු උපමායෙහි උදාහරණ යි; "රාජතො වා චොරතො වා" යනාදී සමුච්චයෙහි උදාහරණ යි; "වා පරො අසරූපා" යනු ව්‍යවස්ථිත විභාෂාවෙහි උදාහරණ යි.

න, න යන නිපාතය; නො, නො යන නිපාතය; මා, මා යන නිපාතය; අ, අ යන නිපාතය; අලං, අලං යන නිපාතය; හලං ඉති, හලං යන නිපාතය යන; එතෙ මොහු; පටිසෙධනත්ථෙ, නිෂෙධාර්ථයෙහි වැටෙත්—"න වා හං පණ්ණං භුඤ්ජාමි න හෙතං මය්හං භොජනං" යනු න යන නිපාතය හට උදාහරණ යි; "සුභාසිතං යෙව භාසස්සු නො ච දුබ්භාසිතං භණෙ" යනු නො යන නිපාතයට උදාහරණ යි "මාහං කාකොව දුම්මෙධො කාමානං වසමන්වගුං" යනු මා යන නිපාතයට උදාහරණ යි; අඤ්ඤාතතා අසුණතා අදිට්ඨං අවිදිතං අසච්ඡිකතං අඵස්සිතං පඤ්ඤාය" යනු අ යන නිපාතයට උදාහරණ යි; "අලං බුද්ධෙනාත් වදති විඤ්ඤූ පෙති" යනු අලං යන නිපාතයට උදාහරණ යි; හලං දානි පකාසිතුං" යනු හලං යන නිපාතයට උදාහරණ යි.

අලං,අලං යන නිපාත තෙම; පරියත්තිභූසනෙසු ච, සාමත්‍ථ්‍යය අලංකාරය යන මෙහි දු වැටේ, භූසනෙසු ච යන මෙහි ච ශබ්ද ප්‍රතිෂෙධය සමුච්චය කෙරේ—“අලං මල්ලො මල්ලස්ස” යනු පරියත්තියෙහි උදාහරණ සි; “අලඞ්කතො චෙපි සමං චරෙය්‍ය” යනු භූෂණාර්ථයෙහි උදාහරණ සි. පූරණත්‍ථං,පූරණය අර්‍ථ කොට ඇති නිපාතය; අත්‍ථපූරණං ච, අර්ථපූරණයද; පදපූරණඤ්ච, පද පූරණය ද සි; දුවිධං, දෙවැදෑරුම් වන්නේ සී; පූරියති අනෙනාති පූරණං, තං අත්‍ථො එතස්සාති පූරණත්‍ථං; අත්‍ථස්ස පූරණං අත්‍ථ පූරණං—පදාන්තරයකින් ප්‍රකාශිත වූ අර්ථයාගේ ද්‍යොතන වශයෙන් අධිකභාව කරණය සි යු තැති; පදස්ස පූරණං පදපූරණං අර්‍ථවිශෙෂාභිධානයක් නැති කල්හිද වචන ශ්ලිෂ්ටතායෙන් ජනිත වූ අර්ථය වෙසෙසීම් වශයෙන් අනන්තරදී අර්‍ථ කියාමය, අර්ථය චනාහි ඔහු නැතිවද් පදාන්තරයෙන් ම දන්නට පිළිවන් නු සි පදපූරණමය සි කියන ලදී; නොහොත් විනෙයාධ්‍යාශයානු රූප වශයෙන් භගවත්හුගේ දෙශනා නයප්‍රවෘත්තිය ය, විනෙය යෝද අනාදිමතයෙහි ලෞකික වූ ම ශබ්දයන් කෙරෙහි පරිභාවිත වූ සිත් ඇත්තාහ; ලෞකිකයෙහි අර්‍ථ විශෙෂාවබොධයක් නැති කල්හි දු වචන ශ්ලිෂ්ටතාව හෙතු කොට ගෙන “ලබ්භති ලබ්භති වජති වජති ආගච්ඡති අජ්ඣාගච්ඡති” යනාදී ශබ්ද ප්‍රයොග පැනෙන්නේය, එසේ පරිචිතයන්ට තථාවිධ වූ ම ශබ්ද ප්‍රයොගයෙන් අර්‍ථාවගමය සුදුසු නු සි පදපූරණප්‍රයොගය නො යෙදෙන්නේ නො වෙයි; ඉත්‍ථං යනු ගුණනිර්ධාරණයෙහි සප්තමී සී–ඒ අර්ථපූරණ පද පූරණ දෙන්නා අතුරෙහි පදපූරණය බහුවිධය අනෙකප්‍රකාරය,එහෙයින් මාතෘකාවගේ උත්පරිපාටියෙනු දු පදපූරණය ම ප්‍රථම කොට දර්ශිත නු සි, භෙද දක්වනු පිණිස “අථ බලු” යනාදි කීහු.

තත්‍ථ, එහි; අථ, අථ යන නිපාතය; බලු, බලු යන නිපාතය; වත, වත යන නිපාතය; වථ, වථ යන නිපාතය; අථො, අථො යන නිපාතය; අස්සු, අස්සු යන නිපාතය; යග්ගෙ, යග්ගෙ යන නිපාතය; හි, හි යන නිපාතය; චරහි, චරහි යන නිපාතය; තං, තං යන නිපාතය; තං, තං යන නිපාතය; ච, ච යන නිපාතය; තු, තු යන නිපාතය; ච, ච යන නිපාතය; වෙ, වෙ යන නිපාතය; පන, පන යන නිපාතය; හවෙ, හවෙ යන නිපාතය; කීව, කීව යන නිපාතය; හ, හ යන නිපාතය; තතො, තතො යන නිපාතය; යථා, යථා යන නිපාතය; සුදං, සුදං යන නිපාතය; බො, බො

යන නිපාතය; වො, වො යන නිපාතය; හං, හං යන නිපාතය; එතං, එතං යන නිපාතය; සෙය්‍යථීදං ඉති, සෙය්‍යථීදං යන නිපාත යයි; එවමාදීනි, මේ ආදී වූ නිපාත පදයෝ, පදපූරණානි, පද පුරා සිටිනා හෙයින් පද පූරණයෝ යි—එහි "අථ පුරිසො ආගච්ඡෙය්‍ය" යනු අථ යන නිපාතයට උදාහරණය, "සමණො ඛලු භො ගොතමො" යනු ඛලු යන නිපාතයට උදාහරණය, "අච්ඡරියං වත භො අබ්භුතං වත භො" යනු වත යන නිපාතයට උදාහරණය, "තං වථ ජයසෙනො රාජකුමාරො" යනු වථ යන නිපාතයට උදාහරණය, "අථො මං අනුකම්පය" යනු අථො යන නිපාතයට උදාහරණය, "නාස්සුධ කොචි භගවන්තං උපසඞ්කමතු" යනු අස්සු යන නිපාතයට උදාහරණය, "යග්ඝෙ මහාරාජ ජානෙය්‍යාසි" යනු යග්ඝෙ යන නිපාතයට උදාහරණය, "සො හි භගවා ජානං ජානාති පස්සං පස්සති" යනු හි යන නිපාතයට උදාහරණය, "කථං චරහි මහා පඤ්ඤො" යනු චරහි යන නිපාතයට උදාහරණය, "න තං සුජානො සමණො ගොතමො" යනු තං යන නිපාතයට උදාහරණය, "යථා තං යුවා යුවතිං මාතුගාමං දුට්ඨුල්ලාහි වාචාහි ඔභාසෙය්‍ය" යනු තං යන නිපාතයට උදාහරණය, "කිඤ්ච භික්ඛවෙ රූපං වදෙථ නිච්චං වා අනිච්චං වාති" යනු ච යන නිපාතයට උදාහරණය, "තත්වෙව වරතරං" යනු තු යන නිපාතයට උදාහරණය, "අයංච සො මහානාගො" යනු ච යන නිපාතයට උදාහරණය, "සදෙවකස්ස ලොකස්ස තෙ වෙ සුඛ සම්මතා" යනු වෙ යන නිපාතයට උදාහරණය, "කිම්පන භවං ගොතමො දහරො චෙව ජාතියා නවො ච පබ්බජ්ජාය" යනු පන යන නිපාතයට උදාහරණය, "හවෙ තෙ හොන්ති සමණ බ්‍රාහ්මණා" යනු හවෙ යන නිපාතයට උදාහරණය, "යාවකීවඤ්ච භික්ඛවෙ භික්ඛූ" යනු කීව යන නිපාතයට උදාහරණය, "තඞ්ඝ පන මෙ භන්තෙ භගවා ඉද්ධිපාටිහාරියං කරොති" යනු ඝ යන නිපාතයට උදාහරණය, "තතො ච මඝවා සක්කො අත්ථදස්සී පුරින්දදො" යනු තතො යන නිපාතයට උදාහරණය, "යථා කථම්පන භන්තෙ භගවති බ්‍රහ්මචරියං වුස්සති" යනු යථා යන නිපාතයට උදාහරණය, "තත්‍ර සුදං භගවා නාදිකෙ විහරති ගිඤ්ජකාවසථෙ" යනු සුදං යන නිපාතයට උදාහරණය, "තත්‍ර ඛො භගවා භික්ඛූ ආමන්තෙසි" යනු ඛො යන නිපාතයට උදාහරණය, "සවෙ එතෙන යානෙන නිබ්බාණස්සෙව සන්තිකෙ" යනු වෙ යන නිපාතයට උදාහරණය, "හං එක පුත්තක" යනු හං යන නිපාතයට උදාහරණය, යත්වාධිකරණමෙතං චක්ඛුන්ද්‍රියං අසං

**තත්‍ථ අථ ඉති පඤ්හානන්තරියාධිකාරාදිසු ච.**
**ඛලු ඉති පටිසෙධාවධාරණපසිද්ධිසු ච.**
**වත ඉති එකංසඛෙදානුකම්පාසංකප්පෙසු ච.**
**අථො ඉති අන්වාදෙසෙ ච.**
**හි ඉති හෙතුඅවධාරණෙසු ච.**
**තු ඉති විසෙසහෙතුනිවත්තනාදිසු ච.**
**පන ඉති විසෙසෙපි.**
**හවෙ වෙ ඉච්චෙතෙ එකංසත්ථෙපි.**
**හං විසාදසම්භමෙසුපි.**
**සෙය්‍යථීදන්ති තං කතමන්ති අත්ථෙපි.**
**අත්ථපූරණං දුවිධං විභත්තියුත්තං අවිභත්තියුත්තඤ්ච.**

---

වුත්තං විහරන්තං" යනු එතං යන නිපාතයට උදාහරණය, "සෙය්‍යථීදං රූපූපාදානක්ඛන්ධො' යනු සෙය්‍යථීදං යන නිපාතයට උදාහරණය.

තත්‍ථ, ඒ "අථ ඛලු" යනාදීන් දක්වන ලද පදපූරණ නිපාත යන් අතුරෙහි; අථ ඉති, අථ යන මේ නිපාත තෙම; පඤ්හ, ප්‍රශ්නය; අනන්තරිය, අනන්තරභාවය; අධිකාරාදිසු ච, ප්‍රස්තාවය යනාදි අර්ථයන් කෙරෙහි වැටේ—මෙහි ච ශබ්ද පදපූරණාර්ථය සමුච්චය කෙරේ, මත්තෙහි ද ච ශබ්ද එසේ මැයි, "අථ රාජගහං වරරාජගහං" යනාදි අනන්තරිය උදාහරණය, "අථ ඛො අඤ්ඤතරා දෙවතා" යනු අධිකාරයෙහි උදාහරණය.

ඛලු ඉති, ඛලු යන මේ නිපාත තෙම; පටිසෙධ, නිෂෙධය; අවධාරණ, නිශ්චය ය; පසිද්ධිසු ච, ප්‍රසිද්ධිය යන මෙහි ද වැටේ— "ඛලු පච්ඡා භත්තිකාඞ්ගං" යනාදි එහි උදාහරණය; වත ඉති, වත යන නිපාත තෙම; එකංස, එකාන්තය; ඛෙද, විෂාදය; අනුකම්පා, අනුකම්පාවය; සංකප්පෙසු ච, සංකල්පනය යන මෙහි ද වැටේ— "අජ්ජාය වත මෙ බුද්ධො වාසායාලවිමාගමි" යනාදි එහි උදාහරණය; අථො ඉති, අථො යන නිපාත තෙම; අන්වාදෙසෙ ච, අනුකථනයෙහි වැටේ—අන්වාදෙශ නම් "සවාගතං තෙ මහාරාජ අථො තෙ අධුරාගතං" යනාදියෙහි මෙන් ප්‍රථමකොට එක් කොට කියා නැවත එකක්හුගේ කීම යි; හි ඉති, හි යන නිපාත තෙම;

**අත්ථි සක්කා ලබ්භා ඉච්චෙතෙ. පඨමායං.**

**ආවුසො අම්භො හම්භො අරෙ හරෙ රෙ ජෙ ඉච්චෙතෙ ආමන්තනෙ.**

---

හෙතු, "මරණන්තං හි ජීවිතං" යනාදියෙහි මෙන් කාරණයෙහිය; අවධාරණෙසු ච, "ජිනවචනයුත්තං හි" යනාදියෙහි මෙන් අවධාරණයෙහිය යන මේ අර්ථයන් කෙරෙහි වැටේ; තු ඉති. තු යන නිපාත තෙම; විසෙසහෙතුනිවත්තනාදිසු ච, විශෙෂ හෙතු නිවාරණාදි අර්ථයන් කෙරෙහිද වැටේ; පන ඉති, පන යන නිපාත තෙම; විසෙසෙපි, "කිං පන කාරණං" යනාදියෙහි මෙන් විශෙෂයෙහිද වැටේ—මෙහි අපි ශබ්ද පදපූරණාර්ථ සමුච්චය කෙරේ, මත්තෙහි අපි ශබ්ද ද එසේ මැයි; හවෙ වෙ ඉති, හවෙ වෙ යන; එතෙ, මේ නිපාතයෝ දෙන්න; එකංසත්ථෙපි, එකාන්තාර්ථයෙහිද වැටෙත් "යො හවෙ දහරො භික්ඛු යුඤ්ජති බුද්ධසාසනෙ" "සවෙ උත්තමපොරිසො" යනු එහි උදාහරණ යි; හං, හං යන නිපාත තෙම; විසාදසම්භමෙසුපි, ඛෙද සම්භම දෙක්හි වැටේ—"හං එක පුත්තක" යනු විෂාදයෙහි උදාහරණ යි; "හං සම්ම කිං ත්වං පස්සසි උප්පබ්බතෙ ඨිතො" යනු සම්භමයෙහි උදාහරණය; සෙය්‍යථීදං ඉති, සෙය්‍යථීදං යන නිපාතය තෙම; තං කතමන්ති අත්ථෙපි, හේ කෙසේද යන මේ ප්‍රශ්නාර්ථයෙහි වැටේ; "කතමා ච රාහුල අජ්ඣත්තිකා පඨවිධාතු යං අජ්ඣත්තං පච්චත්තං කක්ඛළං ඛරිගතං සෙය්‍යථීදං කෙසා–පෙ–කරීසං" යනු සෙය්‍යථීදං යන නිපාතයට උදාහරණ ය; මෙසේ පද පූරණ වූ ද එහි ම සමහර අත්ථ පූරණ වූ ද නිපාත පදයන් දක්වා දැන් හුදු අර්ථපූරණ පදපූරණ නිපාත පද දක්වනුවෝ "අත්ථපූරණං දුවිධං" යි :කියා හෙම ස්වරූප හෙයින් දක්වන පිණිස "විභත්ති යුත්තං අවිභත්ති යුත්තං ච" යි කියා ප්‍රභෙද හෙයින් දක්වනුවෝ "අත්ථි සක්කා" යනාදීන් කීහු; අත්ථපූරණං, අර්ථපූරණ නිපාත පදය තෙම; විභත්ති යුත්තං අවිභත්ති යුත්තං ච දුවිධං, විභක්ති යුක්තය අවිභක්ති යුක්තය යි මෙසේ විභක්ත්‍යර්ථ යොග වශයෙන් දෙවැදෑරුම් ඇත්තේ යි; විභජීයති විභාගසො අට්ඨවීසති අනෙනාත්ථාති විභත්ති, තෙන යුත්තං විභත්තියුත්තං, යදඤ්ඤමවිභත්ති යුත්තං—යමක්හුගේ භූත වූ අර්ථය විභක්ත්‍යර්ථ ප්‍රධාන වූයේ ම හැගේද විභක්ති යුක්තයට විපරීතය අවිභක්ති යුක්තය යි දතයුතු.

අත්ථි, අත්ථි යන නිපාතය; සක්කා, සක්කා යන නිපාතය; ලබ්භා ඉති, ලබ්භා යන නිපාතය යි; එතෙ, මොහු තුන්දෙන; පඨමායං, ප්‍රථමා විභක්තියගේ අර්ථයෙහි වෙත්—"අත්ථි දින්නං

**දිවා භිය්‍යො නමො ඉච්චෙතෙ පඨමාය දුතියාය ච.**

**සහං සාමං සං සම්මා කින්ති ඉච්චෙතෙ තතියත්ථෙ.**

**සොතොධාප්පච්චයන්තා ච-සුත්තසො, පදසො, අනිච්චතො දුක්ඛතො, එකධා ද්විධා ඉච්චාදි.**

**තවෙතුං පච්චයන්තා චතුත්ථියා-කාතවෙ දාතවෙ කාතුං කාරෙතුං දාතුං දාපෙතුමිච්චාදි.**

**සොතොප්පච්චයන්තා පඤ්චමියත්ථෙ-දීඝසො ඔරසො, රාජතො වා චොරතො වා ඉච්චාදි.**

---

අත්ථි සිද්ධං” යී ද “සක්කා භික්ඛවෙ අකුසලං පජහිතුං” යී ද “ලබ්භා භික්ඛවෙ පඨවිං කොතුං විකෙකතුං යපෙතුං ඔචිනිතුං විචිකිතුං”යී ද මොවුන් තුන්දෙනාට යථාක්‍රමයෙන් උදාහරණ යි-මෙහි අත්ථි යී ආඛ්‍යාත පදයක් වේද යත්? නිපාත පදයකු දු ඇති “අත්ථි ඛීරා බ්‍රාහමණී” යන මේ සමාස ප්‍රයොගයෙහි අත්ථි යන නිපාතපදයකු දු ඇත් මැයි, ආඛ්‍යාතපදය හා සමාස නො ම වෙයි, එයින් කීහු “නාමානං සමාසො යුත්තත්ථො” යී; ආවුසො, ආවුසො යන නිපාතය; අම්භො, අම්භො යන නිපාතය; අරෙ, අරෙ යන නිපාතය; හරෙ, හරෙ යන නිපාතය; රෙ, රෙ යන නිපාතය; ජෙ ඉති, ජෙ යන නිපාතය යන; එතෙ, මේ සත් දෙන; ආමන්තණෙ, ආලපනාර්ථයෙහි යෙදෙත්—එහි දු ආවුසො යනු සමානයන්ගේ ආලපනයෙහිය, අම්භො හම්භො අරෙ රෙ යනු හීනයන්ගේ ආලපනයෙහිය, ජෙ යනු දාසීන්ගේ ආලපන යෙහි යී; “අපි ආවුසො අම්හාකං සත්ථාරං ජානාසි, අම්භො මත්තිකාභාජනං භින්දිත්වා සුවණ්ණභාජනං ගණ්හන්තො විය, හම්භො පුරිස කිං තුය්හිමිනා පාපකෙන දුජ්ජීවිතෙන මතං තෙ ජීවිතා සෙය්‍යො, කො රෙ තුවං හොසි අදක්ඛිණෙය්‍යො, හරෙ දුට්ඨ චාමතික, අහො වත රෙ අම්හාකං පණ්ඩිතක, වෙ ජෙ සබ්බං වදෙසි” යනු ආවුසො යනාදීන්ට යථාක්‍රමයෙන් උදාහරණ යි.

දිවා, දිවා යන නිපාතය; භීයො, භීයො යන නිපාතය; නමො ඉති, නමො යන නිපාතය යන; එතෙ, මොහු තුන්දෙන; පඨමාය දුතියාය ච, ප්‍රථමාවගේ අර්ථය හා ද විතීයාවගේ අර්ථය හා ද යෙදෙත්—“යඤ්ච රත්තිංයෙවසමානං දිවාති සංජානන්ති,

උපපජ්ජති සුඛං සුඛා භීය්‍යො සොමනස්සං, නමො තෙ බුද්ධ වීරත්ථු විප්පමුත්තොසි සබ්බධි," යනු දිවාදීන්ට යථාක්‍රමයෙන් ප්‍රථමායෙහි උදාහරණය; "දිවාසෙව සමාතං රතනීති සඤ්ජානාති, භීය්‍යො පල්ලොමමාපාදිං අරඤ්ඤෙ විහාරය, නමො කරොහි නාගස්ස" යනු යථාක්‍රමයෙන් විතීයායෙහි උදාහරණ සි; සයං, සයං යන නිපාතය; සාමං, සාමං යන නිපාතය; සං, සං යන නිපාතය; සම්මා, සම්මා යන නිපාතය; කින්ති ඉති, කින්ති යන නිපාතය යි; එතෙ, මේ නිපාතයෝ පස්දෙන; තතියත්ථෙ, තෘතීයාවගේ අර්ථයෙහි යෙදෙත්—"සයං අභිඤ්ඤාය කාමුද්දි සෙය්‍යං, සාමං සච්චානි අභිසම්බුජ්ඣිත්වා, සම්බුද්ධො දීපඞ්කරනාමො, යෙ එවං ජානන්ති තෙ සම්මා ජානන්ති, කින්ති මෙ සාවකා සද්ධාය වඩ්ඪෙය්‍යුං," යනු යථාක්‍රමයෙන් සයමාදීන්ට උදාහරණ සි.

සොතොධාපච්චයන්තා ච, සො ප්‍රත්‍යයාන්ත තො ප්‍රත්‍යයාන්ත ධා ප්‍රත්‍යයාන්ත නිපාතයෝ ද; තතියත්ථෙ සි යොදනු; සුත්තසො යනාදි එහි උදාහරණ සි; සුත්තසො, සූත්‍රහෙයින්; වුත්තං යී යොදනු; පදසො, පද හෙයින්; ධම්මං දෙසෙති යී යොදනු; අනිච්චතො, අනිත්‍යාකාරයෙන්; දුක්ඛතො, දුඃඛාකාරයෙන්; පස්සතී යී යොදනු; එකධා, එකප්‍රකාරයෙන්; විධා, විප්‍රකාරයෙන්; භවති යී යොදන්න; ඉච්චාදි යන මෙහි ආදි ශබ්දයෙන් තිධා චතුධා යනාදි ගත්තු.

තවෙතුංපච්චයන්තා, තවෙ ප්‍රත්‍යයාන්ත තුං ප්‍රත්‍යයාන්ත නිපාතයෝ; චතුත්ථියා, චතුර්ථියගේ අර්ථය හා යෙදෙත්; කාතවෙ යනාදි එහි උදාහරණ සි; කාතවෙ, කරන්නට; දාතවෙ, දෙන්නට; කාතුං, කරන්නට; කාරෙතුං, කරවන්නට; දාතුං, දෙන්නට; දාපෙතුං, දෙවන්නට; වජ්ජති යී යොදනු; (ඉච්චාදි යන මෙහි ආදි ශබ්දයෙන් කාරයිතුං කාරාපයිතුං යනාදිය සඞ්ගෘහීත සි.)

සොතොපපච්චයන්තා, සො ප්‍රත්‍යයාන්ත තො ප්‍රත්‍යයාන්ත නිපාතයෝ; පඤ්චමියත්ථෙ, පඤ්චමියගේ අර්ථයෙහි යෙදෙත්; දීඝසො යනාදි එහි උදාහරණ සි; දීඝසො, දිගින්; නවවිදත්ථියො යී යොදනු; ඔරසො, මැතින්; ගච්ඡතී යී යොදනු; රාජතො වා, රජුන් කෙරෙන් ද; චොරතො වා, සොරුන් කෙරෙන් ද; ආරක්ඛං ගණ්හාති යී යොදනු.

**තො සත්තම්‍යත්ථෙපි ත්‍රථාදිප්පච්චයන්තා ච-එකතො පුරතො පච්ඡතො පස්සතො පිට්ඨිතො පාදතො සීසතො අග්ගතො මූලතො-යත්‍ර යත්ථ යහිං තත්‍ර තත්ථ තහිං තහං ඉච්චාදි.**

**සමන්තා සාමන්තා පරිතො අභිතො සමන්තතො එකජ්ඣං එකමන්තං හෙට්ඨා උපරි උද්ධං අධො තිරියං සම්මුඛා පරම්මුඛා ආවි රහො තිරො උච්චං නීචං අන්තො අන්තරා අන්තරං අජ්ඣත්තං බහිද්ධා බාහිරා බාහිරං බහි ඔරං පාරං ආරා ආරකා පච්ඡා පුරෙ හුරං පෙච්ච ඉච්චෙවමෙතෙ සත්තමියා.**

**සම්පති ආයති අජ්ජ අපරජ්ජු පරජ්ජු සුවෙ සෙව උත්තර සුවෙ හියෙය්‍යා පරෙ සජ්ජු සායං පාතො කාලං කල්ලං දිවා රත්තං නිච්චං සතතං අභිණ්හං අභික්ඛණං මුහුං මුහුත්තං භූත පුබ්බං පුරා යදා තදා ඉච්චාදයො කාලසත්තමියා.**

**ඉති විභත්තිසුත්තානි.**

———o———

---

තො, තො ප්‍රත්‍යය තෙම; සත්තම්‍යත්ථෙපි, සප්තමියගේ අර්ථයෙහි ද යෙදේ—අපි ශබ්ද පඤ්චම්‍යර්ථාදිය සමුච්චය කෙරේ; ත්‍රථාදිප්පච්චයන්තා ච, ත්‍ර ප්‍රත්‍යය හිං ප්‍රත්‍යය යනාදී ප්‍රත්‍යයයන් අන්ත කොට ඇත්තෝ ද "සත්තම්‍යත්ථෙ" යී යොදනු; එකතො යනාදි එහි උදාහරණ යි; එකතො, එකස්ථානයෙහි; පුරතො, අභිමුඛයෙහි; පච්ඡතො, පස්සෙහි; පස්සතො, පාර්ශ්වයෙහි; පිට්ඨිතො, පෘෂ්ඨයෙහි; පාදතො, පාදයෙහි; සීසතො, මස්තකයෙහි; අග්ගතො, අග්‍රයෙහි; මූලතො, මූලයෙහි තිබෙති යී යොදනු; යත්‍ර, යම් තැනෙක්හි; යත්ථ යහිං යනු දු එසේ මැයි; තත්‍ර, එහි; තත්ථ තහිං තහං, යනු දු එසේ මැයි; ඉච්චාදි, යන මේ ආදිය වේ—මෙහි ආදි ශබ්දයෙන් "කුත්‍ර කත්ථ කුහිං කුහං ක්ව කුහිඤ්චනං" යනාදිය වේ.

සමන්තා-පෙ-පෙච්ච ඉති, සමන්තා-පෙ-පෙච්ච යන; එතෙ, මේ නිපාතයෝ; සත්තමියා, සප්තමියගේ අර්ථය හා යෙදෙත්; අධිකරණාර්ථය හා යෙදෙතී යී සේ යි; සමන්තා යනාදි එහි උදාහරණ යි; සමන්තා, හැමතන්හි; සාමන්තා, සමීපයෙහි; පරිතො, හාත්පස්හි; අභිතො, අභිමුඛයෙහි නොහොත්; පරිතො අභිතො, ආසන්නයෙහි; සමන්තතො, හැම පාර්ශ්වයෙහි; එකජ්ඣං, එක් තැනෙක්හි; එකමන්තං, එක් අනුරූපස්ථානයෙක්හි; හෙට්ඨා, යට; උපරි, මත්තෙහි; උද්ධං, උඩ; අධො, යට; තිරියං, සරස; සම්මුඛා, අභිමුඛයෙහි; පරම්මුඛා, නො හමුයෙහි; ආවි, ප්‍රකාශ

**අවිභත්තියුත්තෙතසු අපෙව අපෙවනාම නු ඉච්චෙතෙ සංසයෙන්**.

**අථා අසැසැදක්‍ඛු නගස ජතු කාමං සසකකං ඉච්චෙතෙ එකංසතෙව**.

---

යෙහි; රහො, රහස්හි; තිරො, ප්‍රච්ඡන්නයෙහි; උච්චං, උච්චස්ථාන යෙහි;නීචං, නීචස්ථානයෙහි; අන්තො, අභ්‍යන්තරයෙහි; අන්තරා, මධ්‍යයෙහි; අන්තරං, ඇතුළෙහි; අජ්ඣත්තං, අධ්‍යාත්මයෙහි; බහිද්ධා, පිටත; බාහිරා බාහිරං බහි යනු දු එසේ මැයි; ඔරං, මෑත් පස; පාරං, ඈත්පස; ආරා, දුර; ආරකා යනු දු එසේ මැයි මේ දෙකින් සමීපය ද කියත්; පච්ඡා, අතික්‍රාන්තයෙහි; පුරෙ, පෙර; හුරං, පරලොකයෙහි; පෙච්ච යනු දු එසේ මැයි; එතෙ, මේ නිපාතයෝ; සත්තම්යා,සප්තමියගේ අර්ථය හා යෙදෙත්; "සමන්තා පරි කරිංසු" යනාදි පදන්තර සම්බන්ධය ද කටයුතු.

සම්පති-පෙ-යදා ඉති, සම්පති-පෙ-යදා යන; ආදයො, මේ ආදීහු; කාලසත්තම්යා, කාලසප්තමියගේ අර්ථය හා යෙදෙත්; සම්පති යනාදි එහි උදාහරණ යි; සම්පති, දැන්; ආයති, අනාගත කාලයෙහි; අජ්ජ, මෙදවස; අපරජ්ජු, පෙරවිදා; සුවෙ, සෙට; සෙව යනු දු එසේ මැයි; උත්තරසුවෙ, තියදා; හීයො, ඊයේ; පරෙ, අතීත දිනයෙහි; සජ්ජු, එකෙණෙහි; සායං, සවස; පාතො, ප්‍රභාත යෙහි හෙවත් උදෑසන; කාලං, කාලයෙහි; කල්ලං යනු දු එසේ මැයි; දිවා, දහවල; රත්තං, රාත්‍රියෙහි; නිච්චං, එක්වන්; සතතං අභිණ්හං යනු දු එසේ මැයි; අභික්ඛණං, ක්‍ෂණයෙහි; මුහුං, ඇසිල් ලෙහි; මුහුත්තං යනු දු එසේ මැයි; භූතපුබ්බං, පෙර; පුරා යනු දු එසේ මැයි; යදා, යම්කලෙක්හි; ඉච්චාදයො යන මෙහි ආදි ශබ්ද යෙන් තදා සබ්බදා යනාදි ගත්හු—මෙහි දු "සම්පති ජාතො බොධි සත්තො" යනාදී පදන්තර සම්බන්ධය යෙදියයුතු.

විභත්තියුත්තානි, විභක්ත්‍යර්ථ යුක්ත නිපාතපදයෝ;
ඉති, මෙසේ යි.

---

අවිභත්තියුත්තෙතසු, අවි භක්ති යුක්ත නිපාත පදයන් අතු රෙන්; අපෙව අපෙවනාම නු ඉති, අපෙව අපෙවනාම නු යන; එතෙ, මේ නිපාතයෝ තුන්දෙන; සංසයත්ථෙ, සංසයාර්ථයෙහි

**එව ඉති අවධාරණෙ.**

**කච්චිනු නනු කථං කිංසු කිං ඉච්චෙවමාදයො පුච්ඡනත්ථෙ.**

**එවං ඉති ඉත්ථං ඉච්චෙවමාදයො නිදස්සනෙ.**

**ඉති හෙතුවාක්‍යපරිසමත්තීසු ච.**

**යාව යාවතා තාව තාවතා කිත්තාවතා එත්තාවතා කීව ඉච්චෙවමාදයො පරිච්ඡේදනත්ථෙ.**

**එවං සාහු ලහු ඔපායිකං පතිරූපං ආම සාධු ඉති සම්පටිච්ඡනත්ථෙ.**

**යථා තථා යථෙව තථෙව එවං එවමෙව එවමෙවං එවම්පි යථාපි සෙය්‍යථාපි සෙය්‍යථාපිනාම විය ඉව යථරිව තථරිව යථානාම යථාහි යථාච ඉච්චෙවමාදයො පටිභාගත්ථෙ-යථා ඉති යොග්ගතාවිච්ඡාපදත්ථානතිවත්තිනිදස්සනෙසු ච.**

---

වැටෙත්—"අප්පෙව මං භගවා ඔවදෙය්‍ය, අප්පෙවනාම අයමා යස්මා අනුලොමිකානි සෙනාසනානි පටිසෙවමානො අඤ්ඤං ආරාධෙය්‍ය, අහං නු ඛොස්මි නො නු ඛොස්මි" යනු අප්පෙව යනාදීන්ට යථා ක්‍රමයෙන් යෙදිය යුතු; අද්ධා-පෙ-සක්කං ඉති, අද්ධා -පෙ-සක්කං යන; එතෙ, මේ නිපාතයෝ; එකංසත්ථෙ, එකාන්තාර්ථයෙහි වැටෙත්—"අද්ධා ආවුසො භගවා ජානං ජානාති පස්සං පස්සති, අඤ්ඤදත්ථු මාණවකානඤ්ඤෙව සුත්වා, තග්ඝ භගව බොජ්ඣඞ්ගා තග්ඝ සුගත බොජ්ඣඞ්ගා ති, න ඉදං ඉති හි තීහි, කාමං වජ්ජම අසුරෙසු පාණං, එවරූපං තෙ රාහුල යෙන කම්මං සක්කං තඤ්ච කරණීයං" යනු අද්ධා යනාදීන්ට යථා ක්‍රමයෙන් උදාහරණ යි.

එව ඉති, එව යන නිපාත තෙම; අවධාරණෙ, අවස්ථානයෙහි වැටේ—"පුබ්බෙව මෙ භික්ඛවෙ සම්බොධා අනභිසම්බුද්ධස්ස බොධිසත්තස්සෙව සතො එතදහොසි" යනු එහි උදාහරණ යි; කච්චි -පෙ-කිං ඉති, කච්චි-පෙ-කිං යන; එතෙ, මේ නිපාතයෝ; පුච්ඡනත්ථෙ, ප්‍රශ්නාර්ථයෙහි වැටෙත්; කච්චි යනාදිය එහි උදාහරණ යි- "කච්චි භික්ඛවෙ ඛමනීයං කච්චි යාපනීයං? කො නු ඛො භන්තෙ භගවතො සිතස්ස පාතුකම්මාය හෙතු කො පච්චයො? නනු ත්වං

එගගුණි කුලපුත්තා සද්ධා අගාරස්මා අනගාරියං පබ්බජිතො? ඉදං භන්තෙ කථං? කිංසූධ වික්තං පුරිසස්ස සෙට්ඨං? කිං කාරණා මෙ න කරෙසි දුක්ඛං"? යනු කච්චි යනාදීන්ට යථා ක්‍රමයෙන් උදාහරණ සි.

එවං ඉති ඉත්ථං ඉති, එවං යන නිපාතය ඉති යන නිපාතය ඉත්ථං යන නිපාතය යන; එතෙ, මොහු තුන් දෙන; නිදස්සනෙ, නිදර්ශනාර්ථයෙහි වැටෙත්—"එවම්පි තෙ මතො, ඉතිපි තෙ මතො, ඉත්ථම්පි තෙ මතො" යනු එහි උදාහරණ සි; ඉති, ඉති යන නිපාතය තෙම; හෙතු, හෙතුය; වාක්‍යපරිසමත්තිසු ච, වාක්‍යයාගේ පරිසමාප්තිය යන මෙහි ද වැටේ; ච ශබ්ද නිදර්ශිත සමුච්චය කෙරේ—"ඉතිපි සො භගවා අරහං, අත්තමනා තෙ භික්ඛූ භගවතො භාසිතං අභිනන්දුන්ති" යනු එහි උදාහරණ සි.

යාව-පෙ-කීව ඉති, යාව-පෙ-කීව යන; එතෙ, මොහු; පරිච්ඡෙදනත්ථෙ, කාලාදීන්ගේ නියමාර්ථයෙහි වැටෙත්—"යාවස්ස කායො ඨස්සති තාව නං දක්ඛින්ති දෙවමනුස්සා, යාවතා භික්ඛවෙ කාසිකොසලා තාවතා ත්වං භවිස්සසි, ඉති ච ඉසි තං තාව වා පටිපණ්ණො, කිත්තාවතා භන්තෙ උපාසකො හොතී ති, එත්තාවතා ඛො මහානාම උපාසකො හොතී ති, කීව මහන්තං ආකඞ්ඛසි"යනු යාවාදීන්ට යථා ක්‍රමයෙන් උදාහරණ සි.

එවං-පෙ-සාධු ඉති, එවං-පෙ-සාධු යන මේ නිපාතයෝ සත්දෙන; සම්පටිච්ඡනත්ථෙ, උක්තයාගේ වචනයෙන් ප්‍රතිග්‍රහණාර්ථයෙහි වැටෙත්—"එවං භන්තෙති ඛො සො භික්ඛු භගවතො පටිස්සුත්වා, උපජ්ඣායො මෙ භන්තෙ හොහීති වුච්චමානො සාහූති වා ලහූති වා ඕපායිකන්ති වා පතිරූපන්ති වා පාසාදිකෙන සම්පාදෙහීති වා සම්පටිච්ඡති, අපි ආවුසො අම්හාකං සත්ථාරං ජානාසීති ආමාවුසො ජානාමීති, සාධු භන්තෙති ඛො සො භික්ඛු භගවතො භාසිතං අභිනන්දිත්වා අනුමොදිත්වා" යනු එවං යනාදීන්ට යථා ක්‍රමයෙන් උදාහරණ සි.

යථා-පෙ-යථාච ඉති, යථා-පෙ-යථාච යන; එතෙ, මේ නිපාතයෝ;පටිභාගත්ථෙ,සදෘශාර්ථයෙහි වැටෙත්—"යථා පච්චන්තං ගුත්තං සන්තරබාහිරං, තදූපමං වදාමි, යථෙව රුක්ඛසද්දෙන, තථෙව සද්ධො දත්වාන අභිසඞ්ඛට භොජනං, එවං විජිතසඞ්ගාමං සත්ථවාහං අනුත්තරං, එවමෙව ත්වම්පි පමුඤ්චස්සු සද්ධං, එවමෙවං

**එවං ඉති උපදෙසපඤ්හාදිසු ච.**
**කිඤ්චාපි ඉති අනුග්ගහණත්ථෙ.**
**අහො ඉති ගරහපසංසනපත්ථනෙසු.**
**නාම ඉති ගරහපසංසනසඤ්ඤාපඤ්හෙසු.**
**සාධු ඉති පසංසනයාචනෙසු.**
**ඉඞ්ඝ හන්ද ඉච්චෙතෙ චොදනත්ථෙ.**
**සාධු සුට්ඨු එවමෙතන්ති අනුමොදනෙ.**
**කිර ඉති අනුස්සවනඅස්සද්ධෙය්‍යෙසු.**
**නූන ඉති අනුමානානුස්සරණපරිවිතක්කනෙසු.**
**කස්මා ඉති කාරණපුච්ඡනෙ.**
**යස්මා තස්මා තථාහි තෙන ඉච්චෙතෙ**
**කාරණාවච්ඡෙදනත්ථෙ.**

---

භොතා ගොතමෙන අනෙකපරියායෙන ධම්මො පකාසිතො, එවමපි යො වෙදගූ භාවිතත්තො, යථාපි සෙලා විපුලා නභං ආහච්ච පබ්බතා, සෙය්‍යථාපි භික්ඛවෙ මහාරුක්ඛො, සෙය්‍යථාපි නාම මහතී නඞ්ගලීසා, හත්ථිප්පභින්නං විය අංකුසග්ගහො, තුලං භණ්ඩංව මාලුතා, යථරිව භොතා ගොතමෙන, තථරිව භගවා ති" යනාදී යථාදීන්ට යථාක්‍රමයෙන් උදාහරණ යි; යථා ඉති, යථා යන නිපාත තෙම; යොග්‍යතා, යොග්‍යබවය; වීච්ඡා, ව්‍යාපනෙච්ඡාය; පදත්ථානතිවත්ති, පදාර්ථයාගේ නො ඉක්ම පැවැත්මය; නිදස්සනෙසු ච, දක්වීමය යන මේ අර්ථයන් කෙරෙහි ද වැටේ— "යථා සරූපං, යථා යථා ජිනවචනයුත්තං හි ලිඞ්ගං, යථාබලං, යථා භික්ඛූ සුඛණ්ඩිතාසන්තිං කරොන්ති" යනු එහි උදාහරණ යි.

එවං ඉති, එවං යන නිපාත තෙම; උපදෙස, ඉගැන්වීමය; පඤ්හාදිසු ච, ප්‍රශ්නය යනාදී අර්ථයන් කෙරෙහි ද වැටේ—"එවං නිසීදිතබ්බං, සච්චං කිර ත්වං එවං වදෙසි?" යනාදී එහි උදාහරණ යි; කිඤ්චාපි ඉති, කිඤ්චාපි යන මේ නිපාතය තෙම; අනුග්ගහණත්ථෙ, සම්භාවනාර්ථයෙහි වැටේ—"කිඤ්චාපි සො කම්මං කරොති පාපකං" යනු එහි උදාහරණ යි; අහො ඉති, අහො යන නිපාතය තෙම; ගරහ, නින්දාය; පසංසන, ප්‍රශංසාය; පත්ථනෙසු, ප්‍රාර්ථනාය යන මේ අර්ථයන් කෙරෙහි වැටේ—"අහො වත රෙ අම්හාකං බහුස්සුතක, අහො නො සත්ථු සම්පදා, අහො වත මං දහරං සමානං

රජ්ජෙ අභිසිඤ්චෙය්‍යුං ති" යනු එහි උදාහරණ යි; නාම ඉති, නාම යන නිපාතය තෙම; ගරහ, නින්‍දාය; පසංසන, ප්‍රශංසාය; සඤ්ඤ, සංඥාය; පඤ්හෙසු, ප්‍රශ්නය යන මේ අර්ථයන් කෙරෙහි වැටේ—"අත්ථි නාම තුම්හෙ ආනන්‍ද භික්ඛුං විහෙසියමානං අජ්ඣුපෙක්ඛිස්සථ, සාවකො හි නාම එවං මහිද්ධිකො භවිස්සති එවං මහානුභාවො, ඉදං නාම, කිං නාමෙතං?" යනාදී එහි උදාහරණ යි; සාධු ඉති, සාධු යන නිපාතය තෙම; පසංසනයාචනෙසු, ප්‍රශංසා යාච්ඤා දෙක්හි වැටේ—"සාධු සාධු සාරිපුත්ත ආනන්‍දෙව සම්මා ව්‍යාකරමානො ව්‍යාකරෙය්‍ය, සාධු මෙ භන්තෙ භගවා ධම්මං දෙසෙතු භගවතො ධම්මං සුත්වා ආජානෙය්‍යන්ති" යනු එහි උදාහරණ යි.

ඉඞ්ඝ හන්‍ද ඉති, ඉඞ්ඝ හන්‍ද යන; එතෙ, මේ නිපාතයෝ දෙන්න; චොදනත්ථෙ, චොදනාර්ථයෙහි වැටෙත්—චොදනා නම් වචනයෙන් සඤ්චලන යයි "ඉඞ්ඝ මෙ ත්වං ආනන්‍ද පානීයං ආහර පිපාසිතොම්හි පිවිස්සාමීති, හන්‍දදානි භික්ඛවෙ ආමන්තයාමි වො වයධම්මා සඞ්ඛාරා අප්පමාදෙන සම්පාදෙථාති" යන මේ ඉඞ්ඝාදී නිපාතයන් දෙන්නාට උදාහරණ යි; සාධු සුඨු එවමෙතනති, සාධු සුඨු එවමෙතං යන නිපාතයෝ තුන්දෙන; අනුමොදනෙ. අනුමොදනාර්ථයෙහි වැටෙත්—අනුමොදන නම් සන්තොෂය පිළිගැන්වීම යි "පරෙහි පත්තියා දින්නාය සාධු සුඨුතිපි අනුමොදෙති, එවමෙතං මහාරාජ සබ්බෙ සත්තා මරණධම්මා මරණ පරියොසානා" යනු සාධු ආදී නිපාතයන්ට උදාහරණ යි.

කිර ඉති, කිර යන මේ නිපාතය තෙම; අනුස්සවනඅස්සද්ධෙය්‍යෙසු, පූර්වයෙහි ශ්‍රැතයාගේ තදනුසාරයෙන් ප්‍රකට කිරීමය, නො ඇදහිය යුත්තය යන මෙහි වැටේ—"එවං කිරෙවමාහංසු නරා එකච්චියා ඉධ, පඨමාභිනිපාතත්තා චිත්තස්සාරම්මණෙ කිර" යනු මේ දෙකට උදාහරණ යි; නූන ඉති, නූන යන නිපාතය තෙම; අනුමාන, අනුමානය; අනුස්සරණ, අනුසමරණය; පරිවිතක්ක නෙසු, පරිවිතර්කය යන මේ අර්ථයන් කෙරෙහි වැටේ—මෙහි අනුමාන නම් ඵලදර්ශියෙන් කාරණයාගේ අස්තිත්වය සම්භාවනා වශයෙන් අනුව ගොස් උප පරීක්ෂා කොට දැනීම යි; "නහනූන සො ධම්මවිනයො ඔරකො (පබ්බජ්ජා)" යනු අනුමානාර්ථයෙහි උදාහරණ යි; "සා නූන සා කපණිකා අන්ධා අපරිනායිකා" යනු අනුසමරණාර්ථයෙහි උදාහරණ යි; "යන්නූනාහං අනුපබ්බජ්ජ ජීවිතා වොරොපෙය්‍යන්ති" යනු පරිවිතර්කාර්ථයෙහි උදාහරණ යි.

සහ සද්ධිං අමා ඉති සමක්‍රියායං.
විනා රිතෙ විප්පයොගෙ.
නානා පුථු බහුප්පකාරෙ.
පුථු විසුං අසංඝාතෙ ච.
දුට්ඨු කු කුච්ඡායං.
පුන අප්පඨමෙ.
කථඤ්චි කිච්ඡත්ථෙ.
ධා කඛත්තුං සකිං සඞ්ඛාවිභාගෙ.
ඊසකං අප්පමත්තෙසු.
සණිකං මන්දත්ථෙ.
ඛිප්පං අරං ලහු ආසු තුණ්ණං අචිරං සීඝත්ථෙ.
චිරං චිරස්සං දීඝකාලෙ.
චෙ යදි සඞ්කාවට්ඨානෙ.
ධුවං ථිරවධාරණෙසු.
හා විසාදෙ.
තුණ්හී අභාසනෙ.
සච්ඡි පච්චක්ඛෙ.
මුසා මිච්ඡා අලිකං අසච්චෙ.
සුවත්ථි ආසිසෙ ඉච්චාදි.

---

කස්මා ඉති, කස්මා යන නිපාතය තෙම; කාරණපුච්ඡනෙ, හෙතුවිචාරණාර්ථයෙහි වැටේ—“කස්මා විජනමරඤ්ඤමස්සිතො තතො ඉධ කුබ්බසි බ්‍රහ්මුප්පත්තියා” යනු එහි උදාහරණ යි; යස්මා තස්මා තථාහි තෙන ඉති, යස්මා ය තස්මා ය තථාහි ය තෙන ය යන; එතෙ, මේ නිපාතයෝ; කාරණාවච්ඡෙදනත්ථෙ, කාරණයාගේ දශීතයෙන් පිරිසිඳීම් අර්ථයෙහි වැටේ—“යස්මා ච ඛො භික්ඛවෙ රූපං අනත්තා තස්මා රූපං ආබාධාය සංවත්තති, තථා හි පනමෙ අය්‍යපුත්තා බුද්ධපමුඛො භික්ඛුසඞ්ඝො නිමන්තිතො, සුඤ්ඤං මෙ අගාරං පවිසිතබ්බං තෙන පාවිසි” යනු යස්මාදීන්ට යථා ක්‍රමයෙන් උදාහරණ යි.

සහ සද්ධිං අමා ඉති, සහ සද්ධිං අමා යන නිපාතයෝ තුන් දෙන; සමක්‍රියායං, සමානක්‍රියාවෙහි හෙවත් සමව කිරීමෙහි වැටෙත්; “චිරත්තතිරත්තං සහසෙය්‍යංකප්පයෙය්‍ය” “භගවතා සද්ධිං සම්මොදි” “සාමච්චා සපරිජනා” යන මොවුන් තුන්දෙනාට යථා ක්‍රමයෙන් උදාහරණ යි.

විනා රිතෙ, විනා රිතෙ යන නිපාතයෝ දෙන්න; විප්පයොගෙ, විප්‍රයොගයෙහි වැටෙත් "සත්තිකො මරණං තුය්හං විනා භාවො භවිස්සති" "රිතෙ සද්ධම්මා" යනු ඒ නිපාතයන් දෙන්නාට උදාහරණ යි; නානා පුථු, නානා පුථු යන නිපාතයෝ දෙන්න; බහුප්පකාරෙ, බොහෝ ප්‍රකාරයෙහි වැටෙත්. "නානාකුලා පබ්බජිතා" සන්තප්පිතා පුථුසමණා ච" යනු ඒ නිපාතයන් දෙන්නාට උදාහරණ යි; පුථු විසුං, පුථු විසුං යන නිපාතයෝ දෙන්න; අසංඝාතෙ ච, සමූහ නොවීමෙහි ද වැටෙත්—ච ශබ්ද පුථු යන නිපාතයාගේ බහුප්‍රකාර සමුච්චය කෙරේ "අරියෙහි පුථුභූතො" "විසුං කම්මං කරිංසු" යනු එහි උදාහරණ යි; දුට්ඨු කු, දුට්ඨු කු යන නිපාතයෝ දෙන්න; කුච්ඡායං, කුත්සිතාර්ථයෙහි වැටෙත්. 'දුට්ඨු චරිතං" "කුම්මග්ගො" යනු එහි උදාහරණ යි; පුන, පුන යන නිපාත තෙම; අප්පඨමෙ, අප්‍රථමාර්ථයෙහි වැටේ—දෙවන අර්ථවිෂයෙහිය යු තැනි—"දුක්ඛො පුනබ්භවො සක්ක ශරීරස්ස ච භෙදනං" යනු එහි උදාහරණ යි; කථඤ්චි, කථඤ්චි යන නිපාත තෙම; කිච්ඡත්ථෙ, කිච්ඡාර්ථයෙහි වැටේ—කිච්ඡ නම් දුක යි—"කො වා පි පජ්ජලිතලොහගුලං ගහෙතුං සක්කොති කථඤ්චිදපි පාණිතලෙන භූමිං" යනු එහි උදාහරණ යි; ධා, ධා ප්‍රත්‍යය ද; ක්ඛත්තුං, ක්ඛත්තුං ප්‍රත්‍යය ද; සකිං, සකිං යන නිපාතය ද; සංඛ්‍යාවිභාගෙ, ගණන පරිච්ඡේදයෙහි වැටේ; "තච පඤ්චදසධා ඨිතං," සත්තක්ඛත්තුං දෙවෙසු ච මනුස්සෙසු ච සන්ධාවිත්වා සංසරිත්වා දුක්ඛස්සන්තං කරොති" "සකිදෙව ඉමං ලොකං ආගන්ත්වා" යනු එහි යථාක්‍රමයෙන් උදාහරණ යි; ඊසකං, ඊසකං යන නිපාත තෙම; අප්පමත්තෙසු, අල්පය සෙමින යන අර්ථයෙහි වැටේ; "ඊසක්කාරං" යනු අල්පාර්ථයෙහි උදාහරණ යි; ඊසකං අතිවත්තන්තං" යනු මන්දාර්ථයෙහි උදාහරණ යි; සනිකං, සනිකං යන නිපාත තෙම; මන්දත්ථෙ, මන්දාර්ථයෙහි වැටේ; නාතිසනිකං ගච්ඡති" යනු එහි උදාහරණ යි; ඛිප්පං, ඛිප්පං යන නිපාතය; අරං, අරං යන නිපාතය; ලහු, ලහු යන නිපාතය; ආසු, ආසු යන නිපාතය; තුණ්ණං, තුණ්ණං යන නිපාතය; අචිරං, අචිරං යන නිපාතය යන මේ නිපාතයෝ සදෙන; සීඝත්ථෙ, ශීඝ්‍රාර්ථයෙහි වැටෙත්; "ඛිප්පං යානං නියොජෙන්තු" "එවං ලහුපරිවත්තං යථයිදං චිත්තං" "ආසු ගමනත්ථාය අසෙසා" "අචිරං වතයං කායො පඨවිං අධිසෙස්සති"යනු එහි උදාහරණ යි; චිරං චිරස්සං, චිරං චිර

**තුනත්වානත්වාපච්චයන්තා උස්සුක්කනත්ථෙ භවන්ති.**

**යථා-පස්සිතුන පස්සිත්වාන පස්සිත්වා පස්සිය දිස්වාන දිස්වා දස්සෙතවා දතුන දත්වාන දත්වා උපාදය දපෙත්වා විස්සජ්ජාය විචෙය්‍ය විනෙය්‍ය නිහච්ච සමෙච්ච උපෙච්ච ආරබ්භ ආගම්ම ඉච්චාදි.**

---

සස්සං යන නිපාතයෝ දෙදෙන; දීඝකාලෙ, දීර්‍ඝකාලයෙහි වැටෙත්; "යො චිරං ජීවති වස්සසතං අප්පං වා භිය්‍යො" "චිරස්සං වායමන්තාපි"යනු එහි උදාහරණ යි; වෙ යදි,වෙ යන නිපාතය යදි යන නිපාතය යන මොහු දෙන්න; සඞ්කාවට්ඨානෙ, සඞ්කාවෙහි පිහිටා ගැන්මේ වැටෙත්; "එවං චෙ සත්තා ජානෙය්‍යුං" "යදිහන්තාස්ස කුජ්ඣෙය්‍යං බණ්ණෙන ජාරිකං කාරෙ" යනු එහි උදාහරණ යි; ධුවං, ධුවං යන නිපාත තෙම; ථිරාවධාරණෙසු, ස්ථිරය අවධාරණය යන මෙහි වැටේ; "යස්ස නත්ථි ධුවං ඨිති" යනු ස්ථිරයෙහි උදාහරණ යි; "ධුවං බුද්ධො භවිස්සති" යනු අවධාරණයෙහි උදාහරණ යි; හා, හා යන නිපාත තෙම; විසාදෙ, ඛෙදයෙහි වැටේ; "හා කස්ස පොපි න කාරෙති මමානුකම්පං" යනු එහි උදාහරණ යි; තුණ්හී, තුණ්හී යන නිපාත තෙම; අභාසනෙ, නොබිණීමෙහි වැටේ; "තුණ්හීභූතං භික්ඛවෙ භික්ඛුසඞ්ඝං අනුවිලොකෙත්වා" යනු එහි උදාහරණ යි; සච්ඡි, සච්ඡි යන නිපාත තෙම; පච්චක්ඛෙ, ප්‍රත්‍යක්ෂයෙහි වැටේ; "සච්ඡිකත්වා පවෙදෙති" යනු එහි උදාහරණ යි; මුසා මිච්ඡා අලිකං, මුසාය මිච්ඡාය අලිකංය යන නිපාතයෝ තුන්දෙන; අසච්චෙ, අසත්‍යයෙහි වැටෙත්; "මුසා මෙ භණමානාය මුද්ධා ඵලතු සත්තධා" "ඉදං තෙ මිච්ඡා" "අලිකං භාසති යං ධුත්තො" යන මොවුන් තුන්දෙනාට උදාහරණ යි; සුවත්ථි, සුවත්ථි යන නිපාත තෙම; ආසිඨෙ, ආසිංසනාර්‍ථයෙහි වැටේ; "එතෙන සච්චෙන සුවත්ථි හොතු" යනු එහි උදාහරණ යි; ඉච්චාදි, මේ ආදී (අර්‍ථ යුක්ත) නිපාතපද යෙදිය යුතු යි.

තුන ත්වාන ත්වාපච්චයන්තා, තුනප්‍රත්‍යයාන්ත ත්වානප්‍රත්‍යයාන්ත ත්වාප්‍රත්‍යයාන්ත නිපාතයෝ; උස්සුක්කනත්ථෙ භවන්ති, උස්සුක්කනයෙන් යුක්ත අර්‍ථයෙහි වැටෙත්—යමෙක් එක ම ක්‍රියා පදයකින් අපරිසමාප්ත වූයේ "කො දිස්වා නප්පසීදෙය්‍ය" යනු මෙන් ක්‍රියාපදාන්තරයක් අපෙක්ෂා කෙරේ ද හේ මෙහි උස්සුක්ක නම්; යථා එහි උදාහරණ මෙසේ යි; පස්සිතුන, දැක; පස්සිය පස්සිත්වා දිස්වාන දිස්වා යනුද මෙසේ මැයි; දස්සෙත්වා,

**එවං නාමාඛ්‍යාතොපසග්ගවිනිමුත්තං යදව්‍යය ලක්ඛණං තං සබ්බං නිපාතපදන්ති වෙදිතබ්බං-වුත්තඤ්ච.**

**54** **"මුත්තං පදත්තයා තස්මා නිපතන්ත්‍යන්තරන්තරා**
**නෙපාතිකන්ති තං වුත්තං යං අව්‍යයසලක්ඛණ"න්ති**

**නෙපාතිකපදං.**

---

**55** **පුල්ලිඞ්ගං ඉත්ථිලිඞ්ගඤ්ච නපුංසකමථාපරං**
**තිලිඞ්ගඤ්ච අලිඞ්ගඤ්ච නාමිකං පඤ්චධා ඨිතං.**

**ඉති රූපසිද්ධියං නාමකණ්ඩො දුතියො.**

---

දක්වා; දතුන, දී; දක්වාන දක්වා යනුද මෙසේ මැයි; උපාදය, නිසා; දපෙක්වා, දෙවා; විස්සජ්ජය, දන; විචෙය්‍ය, පරීක්‍ෂා කොට; විනෙය්‍ය, හික්මවා; නිහච්ච, නසා; සමෙච්ච, එක්ව; උපෙච්ච, එලඹ; ආරබ්භ, අරභයා; ආගම්ම, අවුත්—මේ හැම ගච්ඡති යනාදී ක්‍රියාපදන්තරයක් අපෙක්‍ෂා කරන හෙයින් උස්සුක්කනයෙහි නිපාත යි; ඉච්චාදි,මේ ආදී උස්සුක්කනාර්ථවාචී නිපාත පද දතයුතු.

එවං, මෙසේ; නාමාඛ්‍යාතොපසග්ගවිනිමුත්තං,නාමය ආඛ්‍යාතය උපසර්ගය යන මේ පදත්‍රයෙන් විනිර්මුක්ත වූ; අව්‍යය සලක්ඛණං, අව්‍යය ස්වභාව වූ; යං, යම් පදයෙක් ඇද්ද; තං සබ්බං, ඒ සියළු පදය; නිපාතපදං ඉති, නිපාත පදය යි; වෙදිතබ්බං, දතයුතු—දුන් හේ නිපාතපද ලක්‍ෂණ සප්‍රමාණ පාඨ හෙයින් සමර්ථනය කරනුවෝ වුත්තඤ්ච යනාදි කීහු.

යං, යමෙක්; තස්මා පදත්තයා, ඒ නාමාඛ්‍යාතොපසර්ග සඞ්ඛ්‍යාත පදත්‍රයෙන්; මුත්තං, විමුක්ත වූයේ; අන්තරන්තරා නිපතති, පදයන්ගේ අතරතුරෙහි හේද; අව්‍යය සලක්ඛණං තං, විභක්තිවචන භෙදයෙහි දු ව්‍යය නොවීම අසාධාරණ ලක්‍ෂණ කොට ඇති ඒ පදය;නෙපාතිකන්ති වුත්තං, නිපාතපදය යි කියන ලදි. තයො අවයවා (සමාහටා) තයං, සමුදායාපෙක්ඛී එකවචනං. අවයව විනිමුත්තස්ස පන සමුදායස්ස අභාවතො තීණි එව පදානි වුච්චන්ති-යථා තිදණ්ඩකන්ති. පදානං තයං පදත්තයං, තස්මා පදත්තයා, විභත්තිවචනභෙදෙපි න වික්‍රියං අයතීති අව්‍යයං-අව්‍ය

**අථ විභත්තීනමත්ථභෙදා වුච්චන්තෙ.**

**තත්ථ එකම්පි අත්ථං කම්මාදිවසෙන එකත්තාදිවසෙන ච විභජන්තීති විභත්තියො ස්‍යාදයො, තා පන පඨමාදි භෙදෙන සත්තවිධා.**

---

සත්තං,භාවප්පධානො හි නිද්දෙසො. යථා"ඉදම්පි බුද්ධෙ රතනන්ති" සං (අසාධාරණං) ලක්ඛණන්ති සලක්ඛණං, අව්‍යයං සලක්ඛණං එතස්සාති අව්‍යය සලක්ඛණං;අථවා ව්‍යයො වුච්චති අඤ්ඤථත්තං, නව්‍යයො අව්‍යයො, සො සලක්ඛණං එතස්සාති අව්‍යයසලක්ඛණං.

නෙපාතිකපදං, (අලිඞ්ගාදි ලක්ෂණයෙන් විශිෂ්ට) නිපාත පදයන්ගේ වර්ණනාව යි.

පුල්ලිඞ්ගඤ්ච, පුරුෂාදි වූ පුල්ලිඟු වත් නාමයද; ඉත්ථි ලිඞ්ගඤ්ච, කඤ්ඤාදි වූ ස්ත්‍රීලිඞ්ගවත් නාමයද; අථ, නැවත; අපරං, අනික්; නපුංසකඤ්ච, චිත්තාදි වූ නපුංසක ලිඟුවත් නාමයද; තිලිඞ්ගං ච, සබ්බාදි වූ ත්‍රිලිඞ්ගවත් නාමයද;අලිඞ්ගඤ්ච, යුෂ්මදස්මත් ශබ්දාදි වූ ලිඞ්ග විරහිත නාමය ද යි මෙසේ; නාමිකං, නාමිකපද තෙම; පඤ්චධා ඨිතං, පඤ්චප්‍රකාරයෙන් සිටියේ යි—ව්‍යවස්ථිතය යි සේ යි.

රූපසිද්ධියං, පද රූපසිද්ධි ප්‍රකරණයෙහි; දුතියො, දෙවන වූ; නාමකණ්ඩො, නාමකාණ්ඩය තෙම; ඉති, මෙසේ සමාප්ත යි.

සන්දෙහවිඝාතනී නම් වූ පද රූපසිද්ධි වර්ණනායෙහි
නාමකාණ්ඩ වර්ණනාව සමාප්ත යි.

---

මෙසේ සලිඞ්ගනාමවිෂයෙහි නාමිකවිභක්ත්‍යවතාරයක් දක්වා දැන් එම විභක්තීන්ගේ අර්ථවිභාගය දක්වන පිණිස කියත් "අථ විභත්තීනමත්ථභෙදා වුච්චන්තෙ"යනාදි,යට"ලිඞ්ගත්ථෙ පඨමා"යනාදීන් විභක්තීන්ගේ අර්ථභෙදය දර්ශිත නොවේද යත්? දර්ශිතය, හේ වනාහි ස්වරූප හෙයින් නිර්දේශයක් මුත් වචනාර්ථාදි හෙයින් නිර්දේශයක් නො වේ;වචනාර්ථාදිවශයෙනු දු විභක්තීන්ගේ අර්ථභෙදය කියයුතුමය, අනිකෙකු දු ශබ්දශාස්ත්‍රයෙහි "ලිඞ්ගත්ථෙ පඨමා" යනාදීන් විභක්තීන්ගේ අර්ථයෝ නියමිතයහ, බුද්ධවචන යෙහි දු තමන් තමන්ට ප්‍රතිනියත අන්‍ය අර්ථයෙහි විභක්ති

විපයඝාස ද පෙනෙන්නේය, එසේ කල්හි හේ කෙසේ ගතයුතු දෝ හෝ යි සඳෙහ වේනු යි තන්නිවෘත්තිය පිණිස අන්‍ය අර්ථයෙහි විභක්තිවිපයඝාස ද දැක්විය යුතුය, එහෙයින් මේ සියලු අර්ථ විභාගය විභක්ත්‍යවතාරනන්තරයෙහි දැක්වියට්ව "අථ විභත්තීන මත්‍ථභෙදා වුච්චන්තෙ" යි කීහ යි දතයුතු.

අථ, යථොක්ත විභක්ත්‍යවතාරනන්තරයෙහි; විභත්තීනං, ස්‍යාදිවිභක්තීන්ගේ; අත්‍ථභෙදා, අර්ථවිභාගයෝ; වුච්චන්තෙ, කියනු ලැබෙත්—ස්‍යාද්‍යර්ථාදි භෙද නම් කිම යත්? ලිඞ්ගාර්ථාදීහුය. "ලිඞ්ගස්ස අත්‍ථො ලිඞ්ගත්‍ථො" හේ කර්මාදීන් සම්මිශ්‍රිතය ශුද්ධය යි ද්විවිධ වෙයි, ඒ කර්මාද්‍යභිහිත වූ ද ශුද්ධ වූ ද ලිඞ්ගාර්ථයෙහි ප්‍රථමා වන්නීය, කරීයතීති කම්මං, කම්මමෙව අත්‍ථො කම්මත්‍ථො; හේ නිර්වර්ත්‍යාදී භෙදයෙන් සප්තවිධ වෙයි; අභිහිත කර්මවර්ජිත වූ එහිද නිරන්තර සංයොගාද්‍යර්ථයෙහිද ද්විතීයා වන්නීය, කරොතීති කත්තා, හේ ශුද්ධකර්ත්‍රාදී භෙදයෙන් පඤ්චවිධ වෙයි; කර්මකර්තෘ අභිහිතකර්තෘ වර්ජිත වූ එහිද සහාර්ථාදියෙහිද තෘතීයා වන්නීය, කරීයතෙනෙනාතිකරණං, හේ ආධ්‍යාත්මිකාදී භෙදයෙන් ද්විවිධ වෙයි; උක්තකරණ වර්ජිත වූ එහි ද තෘතීයා ම වන්නීය; සම්මා පදීයතෙ අස්සාති සම්පදානං, අනිරාකෘතාදී භෙදයෙන් ත්‍රිවිධ වෙයි; උක්තසම්ප්‍රදාන වර්ජිත වූ එහිද කර්මාර්ථාදියෙහිද චතුර්ථී වන්නීය; අපනෙත්වා ඉතො ආදදාතීති අපාදානං, හේ නිර්දිෂ්ට විෂයාදී භෙදයෙන් පඤ්චවිධ වෙයි; අභිහිත අපාදාන වර්ජිත වූ එහිද කාරණාර්ථාදියෙහිද පඤ්චමී වන්නීය; සං එතස්ස අත්‍ථීති සාමි, හේ විශෙෂණාදි භෙදයෙන් ත්‍රිවිධ වෙයි; එහිද කර්ත්‍රර්ථාදියෙහිද ෂෂ්ඨී වන්නීය; ආධාරීයති අස්මින්ති ආධාරො, හේ ව්‍යාපිකාදි භෙදයෙන් චතුර්විධ වෙයි; අභිහිතාධාර වර්ජිත වූ එහිද කර්මාර්ථාදියෙහිද සප්තමී වන්නීය යි මෙසේ ස්‍යාදි විභක්තීන්ගේ අර්ථ භෙද අප විසින් දක්වනු ලැබෙ යි යූ කැ ති;දූත් "විභත්තීනමත්‍ථභෙදා වුච්චන්තෙ" යන මෙයින් අභිමත විභක්ති වචනාර්ථ භෙද දක්වනුවෝ "තත්‍ථ එකම්පි අත්‍ථං" යනාදි කීහු.

තත්‍ථ, ඒ අථ යනාදීන් දක්වන ලද වාක්‍යයෙහි; එකම්පි අත්‍ථං, එකම පුරුෂාදී අර්ථය; කම්මාදිවසෙන, පුරිසං පුරිසෙන යනාදී කර්මකාරකාදී වශයෙන්ද; එකත්තාදිවසෙන ච, පුරිසං පුරිසෙ යනාදී එකත්ව බහුත්ව සඞ්ඛ්‍යා වසයෙන් ද; විභජන්තීති,

වෙන් වෙන් කොට ද්‍යොතනය කෙරෙත්නු යි; විභත්තියො, විභක්තීහු නම් වෙති—මෙහි දු සමහර ආචාර්‍ය කෙනෙක් පුරුෂ කාත්‍යා චිත්තාදීන් සම්බන්ධි වූ ද්‍රව්‍ය ලිඞ්ග පරිමාණත්‍රිකය ශබ්දාර්ථ නම, සේ විභක්ති වචන භෙදයෙන් සමුපලභ්‍යමාන වූ යම් සඞ්ඛ්‍යා කර්මාදියක් අනුව විභාග කරනු ලැබේද, ඒ විභක්ත්‍යර්ථ නමැ යි කියති; එකත්වාදී සඞ්ඛ්‍යා වනාහි එකාදී සඞ්ඛ්‍යාශබ්දයන්ගේම අර්ථය, කර්මාදිය වනාහි කෘදාදීන් විසින් අභිහිත කර්මාදි කෘදන්තාදී ශබ්දයන්ගේ ම අර්ථය, එහෙයින් ද්‍රව්‍ය ලිඞ්ග පරිමාණත්‍රිකයද සඞ්ඛ්‍යාකර්මාදියද යන මේ පංචවිධ වූ ම අර්ථය ප්‍රකෘතිශබ්දාර්ථ වෙයි, විභක්ති වනාහි "ලිඞ්ගත්ථෙ පඨමා" යනාදීන් ඒ පඤ්චවිධ වූ නාමාර්ථයාගේ ද්‍යොතනය කෙරේ, යම්සේ වෘක්ෂශබ්දයා විසින් සාමාන්‍යයෙන් කියන ලද්දා වූ වෘක්ෂාර්ථය ධවඛදිරාදී වූ ශබ්ද ප්‍රයොගයක් ඇති කල්හි ම අභිව්‍යක්ති ප්‍රතීත වේද, එසේ ම සාමාන්‍ය නාමයා විසින් සාමාන්‍යයෙන් කියන ලද්දා වූ ද්‍රව්‍ය ලිඞ්ගපරිමාණසඞ්ඛ්‍යාකර්මාදි වූ විශෙෂය වූ විභක්තීන්ගේ ප්‍රයොගයක් ඇතිකල්හි ම අභිව්‍යක්ත වේ, අනිකෙකු දු යම්සේ විද්‍යමාන වූ ද නීලාදි අර්ථය ප්‍රදීප සූර්‍ය්‍යාලොකාදී සන්නිධානයක් ඇති කල්හි ම අතිප්‍රකාශ වේද, එසේම ද්‍රව්‍ය ලිඞ්ගාදී වූ අර්ථයද ස්‍යාදි විභක්තීන්ගේ සන්නිධානයක් ඇතිකල්හි ම අති ප්‍රකාශ වේ, මෙම කීහ ශබ්දාර්ථ චින්තා කාරයෝ:—

"යථෛව වෘක්ෂශබ්දෙන ගදිතො'පි ධවාදිකඃ,
විශෙෂො න විනා ශබ්දෛ ර්විශෙෂෛස්සම්ප්‍රතීයතෙ."

"තථා නාමභිරුක්තො'පි කර්ත්‍රාදි ර්විශෙෂතඃ,
අර්ථො විශෙෂතඃ සුබන්ති ව්‍යජ්‍යතෙ භෙදවර්ත්තිභිඃ."

"විද්‍යමානො'පි නීලාදි ර්යථා දීපාදි සන්නිධෙඃ,
ව්‍යක්තිමායාති කර්ත්‍රාදි රර්ථස්සුපසන්නිධෙ සතථා" යි.

(ඒ විභක්තීහු නම් කවරහ යත්?) ස්‍යාදයො, ස්‍යාදීහු යි; තා පන, ඒ ස්‍යාදි විභක්තීහු වනාහි; පඨමාදිභෙදෙන, ප්‍රථමා ද්විතීයාදි භෙද හෙයින්; සත්තවිධා, සත්වැදෑරුම් ඇත්තාහු යි—එකම්පි අත්ථං යනාදීන් වචනාර්ථ දැක්වූහ, ස්‍යාදයො යන මෙයින් ස්වරූප දැක්වූහ, තා පන යනාදීන් ප්‍රභෙද දැක්වූහ.

**තත්ථ කස්මිං අත්ථෙ පඨමා?**

## ලිඞ්ගත්ථෙ පඨමා.

**ලිඞ්ගත්ථාභිධානමත්තෙ පඨමා විභත්ති හොති.**

**ලිඞ්ගස්ස අත්ථො ලිඞ්ගත්ථො, එත්ථ ච ලීනං අඞ්ගන්ති ලිඞ්ගං–අපාකටො අවයවො–පුරිසොති ආදීනං හි පකතිපච්චයාදිවිභාගකප්පනාය නිප්ඵාදිතානං සද්දපතිරූපකානං නාමික පදානං පඨමං ඨපෙතබ්බං පකතිරූපං අපාකටත්තා අවයවත්තා ච ලිඞ්ගන්ති වුච්චති.**

---

තත්ථ, ඒ ප්‍රථමාදී භෙදයෙන් සත්වැදෑරුම් ඇති විභක්තීන් අතුරෙහි; පඨමා, ප්‍රථමා තොම; කස්මිං අත්ථෙ, කවර අර්ථයෙක්හි වන්නීද?

ලිඞ්ගත්ථෙ ය පඨමා ය යනු පද යි.

ලිඞ්ගත්ථාභිධානමත්තෙ, වෘක්ෂාදී වචනාර්ථයාගේ කථන මාත්‍රය ම ද්‍යෝතනය කටයුතු කල්හි; පඨමා විභත්ති හොති, ප්‍රථමා විභක්ති වන්නීය; ලිඞ්ගස්ස, ශබ්දයාගේ; අත්ථො, අර්ථය තෙම; ලිඞ්ගත්ථො, ලිඞ්ගාර්ථ නම් වේ—ලිඞ්ග නම් කිම්ද? ලිඞ්ගාර්ථ නම් කිම්ද? යන අනුයොගය සිත තබා දෙක ම යථාක්‍රමයෙන් විභාග කරනුවෝ "එත්ථ ච" යනාදි කීහු; එත්ථ ච, මේ සූත්‍රයෙහි ද; ලීනං අඞ්ගන්ති, නිලීන වූ අඞ්ගයෙක්නු යි; ලිඞ්ගං, ලිඞ්ග නම් වේ; හේ කිම්ද යත්? අපාකටො අවයවො, ප්‍රච්ඡන්න වූ අවයවයෙකි— මෙහි "ලීනං අඞ්ගන්ති ලිඞ්ගං" යන මෙයින් මෙබලා ශබ්දයා සෙයින් ලිඞ්ග ශබ්දයාගේද නෛරුක්තික නිෂ්පත්ති දර්ශිතය, ඒ එසේ ම නු-යම්සේ "මෙහනස්ස ඛස්ස මාලා මෙඛලා" යි කියයුතු තන්හි නෛරුක්තික නය හෙයින් හකාර නකාර මකාරයන්ට ලොප්කොට මෙඛලා යි කියන ලද්ද, එසේම "ලීනං අඞ්ගන්ති ලිඞ්ගං" යි කියයුතු තන්හි නකාර අකාරයන්ට ලොප් කොට ලිඞ්ගං යි කියන ලදි, "අපාකටො අවයවො" යන මෙයින් වනාහි ලීන ශබ්දයාගේ තිරොහිතාර්ථ වෘත්තිත්වයද අඞ්ග ශබ්දයාගේ අවයවාර්ථ වෘත්තිත්වයද කියනලද්දු යි දතයුතු, දැන් යථොක්තාර්ථ යාගේ ම විවරණය කරනුවෝ "පුරිසොති ආදීනං හි" යනාදි කීහු, හි ශබ්ද විවරණයෙහි වැටේ; "පකතිපච්චයාදිවිභාගකප්පනාය නිප්ඵාදිතානං සද්දපතිරූපකානං පුරිසොති ආදීනං නාමික පදානං පඨමං ඨපෙතබ්බං පකතිරූපං අපාකටත්තා අවයවත්තා ච ලිඞ්ගන්ති වුච්චති" යි යොදනු.

පකතිප්පච්චයාදිවිභාගකප්පනාය, පුරිස අග්ගි විනතා යනාදි ප්‍රකෘතිය එය්‍ය යනාදී ප්‍රත්‍යය යන මේ ආදීන්ගේ භේද පරිකල්පනායෙන්; නිප්ඵාදිතානං, (ශබ්ද ලක්ෂණ හෙයින්) නිපද වන ලද; සද්දපතිරූපකානං, ශ්‍රැත ශබ්දය හට ප්‍රතිරූපක වූ—සදෘශ වූ යයි සේ යි; පුරිසොති ආදීනං, පුරිස අග්ගි විනතා යනාදී වූ; නාමිකපදානං, නාමික පදයන්ගේ; පඨමං ඨපෙතබ්බං, (අබුද්ධයන්ට බොධය පිණිස)පළමුකොට තිබියයුතු වූ; පකතිරූපං, (පුරිස අග්ගි විනතා යනාදි) ප්‍රකෘති රූපය තෙම; අපාකටත්තා, (අන්ධකාරයෙහි රූප මෙන් නමා) අප්‍රකට බැවින්ද; අවයවත්තා ච, (රම්භාදීන්ගේ ගර්භපත්‍ර මෙන් පුරිසො යනාදී නිෂ්පන්න පදයන්ගේ නමා) අවයවයක් බැවින්ද; ලිඞ්ගන්ති වුච්චති, ලිඞ්ගය යි කියනු ලැබේ. පකති ච පච්චයො ච පකතිපච්චයා, තෙ ආදයො යෙසං තෙ පකතිපච්චයාදයො, තෙසං විභාගො පකතිපච්චයාදි විභාගො, තස්ස කප්පනා පකතිපච්චයාදිවිභාගකප්පනා, තාය පකතිපච්චයාදිවිභාගකප්පනාය—මෙහි ආදි ශබ්දයෙන් ලොපාදෙශාදී කාර්‍ය්‍යවිධිය ගන්නු; සද්දස්ස පතිරූපකානි සද්දපතිරූපකානි, තෙසං සද්දපතිරූපකානං, පුබ්බෙ සුතස්ස චිත්තසමුට්ඨාන වචීඝොසස්ස සභාගානං තෙන සදිසානන්ති අත්ථො—මේ කියමි යි අනුවිතර්කණය අනුවිචාරණය කරන්නා හට උපන් චිත්තජ පෘථිවීධාතුවගේ උපාදින්නකඝට්ටනයෙහි ජනිත චිත්තසන්තානය හා වාග්ඝොෂය උච්චාරණානන්තරව ප්‍රධ්වංසියමානය. ඒ එසේමනු—පුරුෂය යි කී කල්හි පුකාරයා අසා රුකාරයාගේ ශ්‍රවණ කාලයෙහි පුකාරයා න(ස්)සි. රුකාරයා අසා ෂකාරයාගේ ශ්‍රවණ කාලයෙහි රුකාරයා නසී, මෙසේ උච්චාරණානන්තරයෙහි ස්වරය නැසී යන සුලු වූ කල නැවත නිෂ්පාදනය කරන්නට අශක්‍ය වූ චිත්තජ ශබ්දය හට පුරුෂය යනාදි නාමිකපදයාගේ ප්‍රතිරූපකත්වය කෙසේ සිද්ධ ද යත්? යම්සේ පරිභ්‍රමවත් වූ ආදිප්තාලාතය බලන්නා හට ඒ චක්‍රයක් මෙන් පැනේ ද; එකල්හි එකක්ෂණයෙහි හැම තැන්හි ම උපලභ්‍යමාන වේද; එකල්හි දු ඒ ඒ ස්ථාන ගත අලාතය අරමුණු කොට පවත්නා වූ නා නා චිත්තසන්තානය නිරුද්ධව ගිය කල්හි පූර්වයෙහි ගෘහීත වූ සියලු ආකාරය සිතින් පිණ්ඩනය කොට සමුදිතාකාරයෙන් ගත් කල්හි අලාතචක්‍රය මෙන් පැනේද,හැමතැන ම උපලභ්‍යමානයක්හු මෙන් වන්නේද, එසේ ම පුරුෂාදි ශබ්දය අසන්නා හට වෙන වෙන පුකාරාදි

**අථ වා විසදවිසදෙභයරහිතාකාරවොහාරසඞ්ඛාතෙන තිවිධලිඞ්ගෙන සහිතත්ථස්ස තබ්බිනිමුත්තස්සූපසග්ගාදීනමත්ථස්ස ච ලීනස්ස ගමනතො ලිඞ්ගනතො වා ලිඞ්ගන්ති අන්වත්ථනාමවසෙන වා "ධාතුප්පච්චයවිභත්තිවජ්ජිතමත්ථවල්ලිඞ්ගන්ති" වචනතො පරසමඤ්ඤාවසෙන වා, ලිඞ්ගන්ති ඉධ පාටිපදිකාපරනාමධෙය්‍යං ස්‍යාදිවිභත්ත්‍යන්තපදපකතිරූපමෙව වුත්තන්ති දට්ඨබ්බං.**

---

වර්ණයන් අරමුණුකොට පවත්නා වූ නානාචිත්තසන්තානය නිරුද්ධව ගිය කල්හි (චිත්ත)සන්තානයා විසින් පූර්වයෙහි ගෘහීත වූ සියල්ල සිතින් සම්පිණ්ඩනය කොට සමුදිතාකාරයෙන් ගත් කල්හි පුරුෂ යනාදි නාමිකපදයාගේ ශ්‍රැතශබ්දප්‍රතිරූපකත්වය සිද්ධය යි දතයුතු, මේද චිත්තසන්තානයාගේ අතිලඝුප්‍රවෘත්තිය හෙතුකොට ගෙන ම වන්නේ යි. "නාහං භික්ඛවෙ අඤ්ඤං එකධම්මම්පි සමනුපස්සාමි යං එවං ලහුපරිවත්තං යථයිදං භික්ඛවෙ චිත්තං" යනු මෙහි පිළිවදනි.

ලීනමත්ථං ගමයති අත්ථං වා ලිඞ්ගයතීති ලිඞ්ගං යි මෙසේ ගම් ලිගි ධාතුවයෙන් සිද්ධ වූ අර්ථානුගත නාම වශයෙන් ද පර සංඥාවශයෙන් ද ලිඞ්ග නම් ලද ප්‍රාතිපදිකය දක්වනුවෝ කියත් අථවා යනාදි–

අථවා, නොහොත්; "ලීනස්ස විසදවිසදෙභයරහිතාකාරවොහාරසඞ්ඛාතෙන තිවිධලිඞ්ගෙන සහිතත්ථස්ස ච තබ්බිනිමුත්තස්ස උපසග්ගාදීනමත්ථස්ස ච ගමනතො තස්සෙව ලිඞ්ගනතො වා ලිඞ්ගන්ති" යී යොදනු; ලීනස්ස, (පුරුෂාදී ශබ්දයාගේ ප්‍රයොගයෙහි) අප්‍රකට වූ; විසදවිසදෙභයරහිතාකාරවොහාරසඞ්ඛාතෙන තිවිධලිඞ්ගෙන සහිතත්ථස්ස ච, විශදාකාර ව්‍යවහාර අවිශදාකාර ව්‍යවහාර උභයමුක්තාකාර ව්‍යවහාර යයි කියන ලද ත්‍රිවිධ ලිඞ්ගයා හා සහිතාර්ථයාගේ ද; තබ්බිනිමුත්තස්ස උපසග්ගාදීනං අත්ථස්ස ච, ඒ ත්‍රිවිධ ලිඞ්ගයෙන් විනිර්මුක්ත වූ උපසර්ග නිපාත යන් සම්බන්ධි වූ අර්ථයාගේ ද; ගමනතො, සමොධානය හෙතු කොට ගෙන; වා, නොහොත්; (තස්සෙව) ලිඞ්ගනතො, (එම අර්ථයාගේ) හැඟවීම හෙතු කොටගෙන; ලිඞ්ගන්ති, ලිඞ්ගය යි; අන්වත්ථනාමවසෙන වා, මෙසේ අර්ථානුගත සංඥා වශයෙන් හෝ; ධාතුප්පච්චයවිභත්තිවජ්ජිතමත්ථවල්ලිඞ්ගන්ති වචනතො පරසමඤ්ඤා

වසෙන වා, ධාතුය ප්‍රත්‍යය විභක්තිය යන මොවුන් වර්ජිත වූයේ අර්ථ යුක්ත වූයේ ලිඞ්ග නම් වෙයි කී බැවින් පරයන්ගේ සංඥ වශයෙන් හෝ; ලිඞ්ගන්ති, ලිඟුය යි; ඉධ, මෙහි (කාත්‍යායන යෙහි;) පාටිපදිකාපරනාමධෙය්‍යං, ප්‍රාතිපදිකය යන අන්‍ය අභිධානයක් ඇති; ස්‍යාදිවිභත්ත්‍යන්තපදපකතිරූපමෙව, ස්‍යාදි විභක්තීන් අන්ත කොට ඇති නාමිකපදයන්ගේ ප්‍රකෘති රූපය ම; වුත්තන්ති, කියන ලද්දී යි; දට්ඨබ්බං, දතයුතු.

විසදවිසදෙහයරහිතාකාරො ච සො (අපරත්ථතාය)වොහාරො චාති විසදවිසදෙහයරහිතාකාරවොහාරො, විසදවිසදෙහයරහිතා කාරවොහාරො ඉති සඞ්ඛාතො විසදවිසදෙහයරහිතාකාරවොහාර සඞ්ඛාතො. තෙන විසදවිසදෙහයරහිතාකාරවොහාරසඞ්ඛාතෙන; සහිතො යුත්තො අත්ථො සහිතත්ථො, තස්ස සහිතත්ථස්ස; තෙන විසදවිසදෙහයරහිතාකාරවොහාරසඞ්ඛාතෙන, තිවිධලිඞ්ගත විනිම්මුත්තො විනිස්සටොති තබ්බිනිම්මුත්තො, තස්ස තබ්බි නිම්මුත්තස්ස; පාටිපදිකන්ති අපරං නාමධෙය්‍යං (ලිඞ්ගන්ති නාමතො අඤ්ඤං අභිධානමස්සාති) පාටිපදිකාපරනාමධෙය්‍යං; ස්‍යාදිවිභත්තියො අන්තා එතෙසන්ති ස්‍යාදිවිභත්ත්‍යන්තානි; ස්‍යාදි විභත්ත්‍යන්තානි ච තානි පදානි චෙති ස්‍යාදිවිභත්ත්‍යන්තපදානි, පකතිසඞ්ඛාතං රූපන්ති පකතිරූපං, ස්‍යාදිවිභත්ත්‍යන්තපදානං පකතිරූපං ස්‍යාදිවිභත්ත්‍යන්තපදපකතිරූපං.

ලීනං අඞ්ගන්ති ලිඞ්ගං යනාදී මේ සියලු වචනයෙන් වනාහි ලිඞ්ග ශබ්දයාගේ මෙහි ප්‍රඥප්ති පර්‍ය්‍යායභාවය දක්වත්. ප්‍රඥප්තිද විද්‍යමාන ප්‍රඥප්තිය, අවිද්‍යමාන ප්‍රඥප්තිය, විද්‍ය මානයෙන් අවිද්‍යමාන ප්‍රඥප්තිය, අවිද්‍යමානයෙන් විද්‍යමාන ප්‍රඥප්තිය, විද්‍යමානයෙන් විද්‍යමාන ප්‍රඥප්තිය, අවිද්‍යමානයෙන් අවිද්‍යමාන ප්‍රඥප්ති යයි මෙසේ ෂඞ්විධ වන්නීය, එහි "රූපං වෙදනා සඤ්ඤා චෙතනා චිත්තං" යනාදී පරමාර්ථයෙන් විද්‍යමාන නාමරූප ධර්මයන් විෂය කොට ඇති බැවින් විද්‍යමාන ප්‍රඥප්ති නම් වෙයි, "භූමි පබ්බතො රථො සත්තො දිසා කාලො" යනාදී ස්වභාවයෙන් අවිද්‍යමාන සමූහ සන්තානාදී සංවෘති අර්ථය විෂය කොට ඇති බැවින් අවිද්‍යමාන ප්‍රඥප්ති නම් වෙයි, "ඡළභිඤ්ඤා සමන්තචක්ඛු අනන්තඤාණො" යනාදි අභිඥාදීන් ස්වභාවයෙන් විද්‍යමාන හෙයින් ද තත්ප්‍රතිලාභී පුද්ගලයන් අවිද්‍යමාන හෙයින් ද විද්‍යමානයෙන් විශිෂ්ට වූ අවිද්‍යමාන ප්‍රඥප්ති නම් වෙයි; "ඉත්ථිසද්දො ඉත්ථිරූපං ඉත්ථිඵොට්ඨබ්බො" යනාදීන් ස්ත්‍රිය

**ලිඞ්ගසඞ්ඛෙපො නාම පබන්ධවිසෙසාකාරෙන පවත්තමානෙ රූපාදයො උපාදාය පඤ්ඤාපියමානො තදඤ්ඤානඤ්ඤභාවෙන අනිබ්බචනීයො සමූහසන්තානාදිභෙදො උපාදාපඤ්ඤත්ති සඞ්ඛාතො ඝටාදිවොහාරභෙදො ච පඨවිඵස්සාදීනං සභාවධම්මානං කාලදෙසාදිභෙදභින්නානං විජාතීයවිනිවත්තො සජාතීය සාධාරණො යථා සංකෙත මාරොපසිද්ධො තජ්ජාපඤ්ඤත්ති සංඛාතො කක්ඛළත්තාදිසාමඤ්ඤාකාරො ච.**

---

ස්වභාවයෙන් අවිද්‍යමාන හෙයින් ද ශබ්දාදීන් එසේ විද්‍යමාන හෙයින් ද අවිද්‍යමාන විශිෂ්ට විද්‍යමාන ප්‍රඥප්තිය, "චක්ඛු විඤ්ඤාණං සොතවිඤ්ඤාණං ඝාණවිඤ්ඤාණං" යනාදී ප්‍රසාදචක්ෂුරාදීන්ද තන්නිශ්‍රිත විඥානාදීන් ද ස්වභාවයෙන් ඇති හෙයින් විද්‍යමාන විශිෂ්ට විද්‍යමාන ප්‍රඥප්තිය, "රජපුරිසො සාරිපුත්තො දෙවරාජා" යනාදියෙහි රජාදීන්ද පුරුෂාදීන්ද සංවෘතිසත්‍ය මාත්‍රයක් හෙයින් අවිද්‍යමාන විශිෂ්ට අවිද්‍යමාන ප්‍රඥප්ති යයි මෙසේ විද්‍යමානාවිද්‍යමානාදි භෙදයෙන් ප්‍රඥප්තිය ෂඩ්විධය.

වාක්ශබ්දය ශ්‍රොත්‍රප්‍රසාදයට යැවූ කල්හි ඒ ශබ්දගත අක්ෂර යන් යථාක්‍රමයෙන් අරමුණු කොට ශ්‍රොත්‍රද්වාරික වීථිචිත්තයන් ඉපද නිරුද්ධානන්තරයෙහි අක්ෂර සමුදායාලම්බණිකව ප්‍රවෘත්ත මනොද්වාරික විඥාන වීථියට අනතුරුව මේ මෙබඳු අර්ථයකට නමෙකැයි නාමචින්තාකාරයෙන් උපදිනා මනොද්වාරික විඥාන සන්තානයට අරමුණු වන්නා වූ ඒ නාමග්‍රහණාකාර යෙන් ප්‍රවෘත්ත විඥාන වීථියෙන් මත්තෙහි මේ අර්ථය කියන ලදැයි අර්ථයාගේ ග්‍රහණයට කාරණ වූ නාමප්‍රඥප්ති තොම මෙහි ලිඞ්ගශබ්දයෙන් කියන ලදැයි දතයුතු, අන්වර්ථපරසංඥා වශයෙන් ලිඞ්ග ශබ්දය විභාග කොට දැන් තදර්ථය විභාග කරණුවෝ කියත් "ලිඞ්ගසඞ්ඛෙපො නාම" යනාදි—

පබන්ධවිසෙසාකාරෙන පවත්තමානෙ රූපාදයො උපාදාය පඤ්ඤාපියමානො තදඤ්ඤතානඤ්ඤභාවෙන අනිබ්බචනීයො සමූහසන්තානාදිභෙදො උපාදාපඤ්ඤත්තිසංඛාතො ඝටාදිවොහාරභෙදො ච කාලදෙසාදිභෙදභින්නානං පඨවිඵස්සාදීනං සභාවධම්මානං විජාතීයවිනිවත්තො සජාතීයසාධාරණො යථා සංකෙතං ආරොපසිද්ධො තජ්ජාපඤ්ඤත්ති සංඛාතො කක්ඛළත්තාදිසාමඤ්ඤාකාරො ච ලිඞ්ගසඞ්ඛෙපො නාම, යී සම්බන්ධ යි.

පබන්ධවිසෙසාකාරෙන පවත්තමානෙ,(කලාපසන්තතිසංඛ්‍යාත) ප්‍රබන්ධ විශෙෂාකාරයෙන් පවත්නා වූ; රූපාදයො උපාදාය,(අනින්ද්‍රියසන්තානගත පඨවි ආපො තෙජො වායො වණ්ණ ගන්ධ රස ඔජා සංඛ්‍යාත ශුද්ධාෂ්ටකාදි) රූපධර්මය (ඉන්ද්‍රිය සන්තාන ගත) රූපාරූප ධර්මය යන මොවුන් නිසා—නිමිත්තකොට ගෙණ යයි සේයි; සඤ්ඤපියමානො, (ඒ ඒ ඝටපටාදි ප්‍රකාරයෙන් ද දිව්‍යමනුෂ්‍යාදි ප්‍රකාරයෙන් ද) හඟවනු ලබන්නා වූ; තදඤ්ඤතඤ්ඤභාවෙන අනිබ්බචනීයො, (ශුද්ධාෂ්ටක භූත රූපාදී නිමිත්තයන් කෙරෙන්) අන්‍යත්වයෙන් ද අනන්‍යත්වයෙන් ද නො කිය යුත්තා වූ; සමූහ සන්තානාදි භෙදො, සමූහය සන්තානය අවස්ථාය යනාදී භෙද ඇති; උපාදා පඤ්ඤත්ති සංඛාතො, (සමහාර සන්නිවෙසාද්‍යාකාරය නිසා පණවනු ලබන හෙයින්) උපාදාය ප්‍රඥප්තිය යි කියන ලද; ඝටාදි වොහාරත්ථො ච, ඝටපටාදී වූ ද දිව්‍ය මනුෂ්‍යාදී වූ ද ව්‍යවහාරාර්ථය ද; කාලදෙසාදි භෙද භින්නානං, (අතීතාදී) කාලභෙදයෙන් ද (අපායාදී) දෙශ භෙදයෙන් ද (ආධ්‍යාත්මික සන්තානාදී අවස්ථා භෙදයෙන් ද) භින්න වූ; පඨවි ඵස්සාදීනං සභාවධම්මානං, පෘථිව්‍යාදී ස්පර්ශාදී වූ ස්වභාව ධර්මයන්ගේ; විජාතිය විනිවත්තො, අපෘථිව්‍යාදී අස්පර්ශාදී විජාතීය ධර්මයන් කෙරෙන් වෙන්ව පවත්නා වූ; සජාතීය සාධාරණො, පෘථිව්‍යාදී ස්පර්ශාදී සමාන ජාති ධර්මයන්ට සාධාරණ වූ; යථා සඞ්කෙතං, ("පත්ථටත්තා පඨවී" "ඵුසතීති ඵස්සො" යනාදීන් ප්‍රවෘත්ත) පූර්වසඞ්කෙතානුරූපයෙන්; ආරොපසිද්ධො, තිරොහිතාවයවභෙදලක්ෂණ මාත්‍ර වූ ලිඞ්ගත්වයට අධ්‍යාරොපණය කිරීමෙන් සමානජාතීය ධර්මයන්ට සාධාරණ වූ යථාසංකෙතසිද්ධ වූ; තජ්ජාපඤ්ඤත්තිසංඛාතො, පෘථිව්‍යාදි ස්පර්ශාදි ස්වභාවානුරූප ප්‍රඥප්ති යයි කියන ලද; කක්ඛලත්තාදිසාමඤ්ඤාකාරො ච, කඨිනත්වාදි ස්පර්ශත්වාදි සාමාන්‍යාකාරය ද; ලිඞ්ගස්සත්ථො නාම, යථොක්ත ලිඞ්ගයාගේ අභිධෙය නම් වේ. ශුද්ධාෂ්ටකාදී කලාපසන්තාන වශයෙන් පැවැත්තා වූ භූත භෞතික භෙද රූපාදිය නිමිත්තකොට ගෙන ඝටපටාදී ප්‍රකාරයෙන් හඟවනු ලබන්නා වූ ඒ රූපාදී නිමිත්තයා කෙරෙන් අන්‍යය යි ද අනන්‍යයයි ද නො කියයුතු වූ ඝටාදී සමූහ භෙදයෙන් ද කොසාදී සන්තාන භෙදයෙන් ද ස්ථවිර මධ්‍යම නවාදී අවස්ථා භෙදයෙන් ද භින්න වූ සමහාර සන්නිවෙසාද්‍යාකාරය නිසා පණවනු ලබන හෙයින් උපාදාය ප්‍රඥප්ති යයි කියන ලද ඝටපටාදී දිව්‍ය මනුෂ්‍යාදී ව්‍යවහාරාර්ථයද අතීතාදී කාලභෙදයෙන්ද අපායාදී දෙශ භෙදයෙන්ද ආධ්‍යාත්මික බාහිර සන්තානාදී භෙද

"ක්‍රියානිමිත්තභාවෙන යත් කිඤ්චි දභිධීයතෙ,
කාරකං තදවිදුස්සාච්ච පඤ්චධා ඡිප්‍රභෙදතඃ" සි.

'ශබ්දං වකති' යනාදියෙහි ශබ්දයාගේ කාරකය සි ප්‍රමාණත්ව යක් ඇතිකල්හි අපිප්‍රභෙද හෙයින් කාරකයාගේ පඤ්චවිධත්වය කිසේද යත්? ශබ්දය තමාගේ ආකාශගුණත්වයෙන් ගුණප්‍රධානාපි සඞ්ගෘහීතනු සි එයින් අව්‍යතිරිකතය සි හැගේ, ශබ්දයා තමා සමහර තැනක ශබ්දානතර වාච්‍ය බැවින් ඔහුගේ අතනාත්‍රත්ව යද අවිරුඬමැ සි; වෘඬි යන මේ ශබ්දරූපයෙන් ආ-ඓ-ඖ කාර සඞ්ඛ්‍යාත වර්ණයෝ කියනු ලැබෙත්නු සි ශබ්දය වාච්‍ය බැවින් ඔහුගේ අතනාත්‍රත්වයද දතයුතු.

එයින් ක්‍රියා නිමිත්තාපි වූ කාරකාපිය විවක්ෂා වූ පරිද්දෙන් පවත්නේ යී, "කටං කරොති අභූතං කාපෙති සංයොගො ජායති ගාමා අපෙනති ගඞ්ගායං වසති විජ්ජමානං යාචති" යනාදියෙහි නිර්තීනාදී ක්‍රියාවන්ගේ සිඞියට නිමිත්ත වූ සවභාවයෙන් විද්‍යමාන කටාදි වූ කර්මාදී හැමදෙනට ම කාරක ව්‍යවහාරය කිසේ සිඞවේද යන චොද්‍යය සිතනබා පරිහාර දක්වනුවෝ "තත්‍ථ සභාවතො" යනාදි කීහු.

තත්‍ථ, තමපන කාරකං ඡබ්බිධං යනාදීන් කියන ලද ඒ කාරකාධිකාරයෙහි; සභාවතො, රූපං පස්සති යනාදියෙහි මෙන් සවභාවයෙන් හෝ; පරිකප්පතො වා, ඝටං කරොති යනාදියෙහි මෙන් අවිද්‍යමානයාගේ විද්‍යමානභාව පරිකල්පනයෙන් හෝ; කම්මාදිම්හි සතියෙව, ක්‍රියා නිෂ්පත්තියට නිමිත්ත භාවයෙන් කර්මාදී කාරකය විද්‍යමාන කල්හි ම; ක්‍රියාභාවතො, නිර්තීනාදී ක්‍රියාවන්ගේ සම්භවය හෙතු කොටගෙන; කම්මාදීනං ජන්නම්පි, කර්මාදී වූ සදෙනාට ම; කාරකවොහාරො, සාමාන්‍ය නාම වූ කාරකව්‍යවහාරය තෙම; සිඬෝව හොති, සිඬ ම වේ-නිබ්බත්තනාදී ක්‍රියාවන් තමන් සවරූප වශයෙන් හෝ පරිකල්පනා වශයෙන් හෝ කර්මාදීනුගේ භාවයෙහි සම්භව හෙයින්ද අභාවයෙහි අසම්භව හෙයින්ද ඔවුන්ගේ තද්භාවභාවිභාවය හෙතුකොට ගෙන කර්මාදී හැමදෙනාට ම ක්‍රියා නිෂ්පත්ති කාරණභාවයෙන් කාරකය යන ව්‍යවහාරය අවිරොධය සි යු තැනි, කාරක නම් කිම්ද යත්? ශක්තිය සි, කවරහෙයින් ශක්තිය කාරක නම් වේද යත්? යම්සේ නර්තක තෙම සවරූප හෙයින් අභින්න වූයේද නටිතව්‍ය රාම රාවණාදි භෙදය හෙතුකොටගෙන රාමො'ය මිදානීම්, ශිරෙ

**තම්පන කම්මං තිවිධං-නිබ්බත්තනීයං විකරණීයං පාප ණීයඤ්චාති-යථා.**

**මාතා පුත්තං විජායති, ආහාරෙ සුඛං ජනයති, කටං කරොති දෙවදත්තො, කට්ඨමඞ්ගාරං කරොති, සුවණ්ණං කෙයූරං කටකං වා කරොති, වීහයො ලුනාති, දෙවදත්තො නිවෙසනං පවිසති, ආදිච්චං පස්සති, ධම්මං සුණාති, පණ්ඩිතෙ පයිරුපාසති-වුත්තඤ්ච.**

---

වතීනං සම්පතති, භීමො ද්‍රුයෝධනඃ, යනාදීන් නෛමිත්තක භෙදයෙන් භින්නව හැගේද, එසේම ක්‍රියානිර්වර්තන ස්වරූපශක්ති භෙදය හෙතුකොටගෙන ස්ථාල්‍යාදී එක අර්ථයක්හුගේද ස්ථාලී පචති, ස්ථාල්‍යාං පචති යනාදීන් කත්‍රීධිකරණාදි භෙදය වන හෙයිනි. එයින් කීහ:—

"ශක්තිවෛචිත්‍ර්‍යසම්බන්ධා දෙකො'ප්‍යර්ථඃ ප්‍රපද්‍යතෙ
කත්‍රාදිභෙදතො භින්නො නටවන්නෛකභෙදතඃ" යි.

එසේ කල්හි අර්ථයද කාරක නම් වේද යත්? එසේමය, ශේ වනාහි ශක්තියොගයෙන් කාරකය යි කියනු ලැබේ.

කීයේ මැනෝ, ශබ්දාර්ථ චින්තායෙහි—

"අර්ථඃ කාරක මෙව ස්‍යාත් තත්‍ර ශක්තිර්විශෙෂ්‍යතෙ
තස්‍යාඃ ක්‍රියාභිසම්බන්ධාත් කාරකත්වං ප්‍රතීයතෙ" යි.

කියන ලදමැ යි—

"ශක්තිඃ කාරකං, ශක්තිමානෝ'පි කාරකං—තයා ශක්ත්‍යා සම්බන්ධවානර්ථඃ, සාපිතත්‍ර සම්වෙතා—තත්සත්ද්වාරෙණාප්‍යර්ථඃ කාරකමුපචර්‍ය්‍යතෙ, තතො මුඛ්‍යං කාරකං ශක්තිරර්ථස්තු ගෞණං කාරකං, තතො'ත්‍ර න කශ්චිද්විරොධ ඉති" යි.

අර්ථය මුඛ්‍ය කාරක නොවන්නේ කුමැයි ද යත්? අභින්න වස්තුහුගේ ස්වභාවයෙන් කර්ත්‍රාදී භෙදය නොසැටෙන හෙයිනි, මෙසේ භෙද භෙද දෙන්නාගේ එක්තැනෙක සාක්ෂාත් සම්භවය විරොධය වන හෙයින් අර්ථය තෙම මුඛ්‍යවශයෙන් කාරක නම් නො වේ. මෙම කීහු:—

"මුඛ්‍යං කාරකමර්ථශ්චෙ න්න තත්‍ර ශක්තිර්විෂ්‍යතෙ
එකස්‍යා නෛකතා සාක්ෂාත් කථං යුජ්‍යෙත වස්තුනඃ" යි.

තම්පන කම්මං, ඒ කර්මකාරකද; නිබ්බත්තනීයං, ස්වරූප යෙන් නිෂ්පාද්‍යමාන කර්මයද; විකරණීයං, විද්‍යමානයාගේ අන්‍යථාත්වාපාදනයෙන් වික්‍රියමාණ කර්මයද; පාපනීයං චාති,

ක්‍රියාදියෙන් ප්‍රාප්‍යමාන කර්මයද යි මෙසේ; තිවිධං, ත්‍රිප්‍රකාරයක් ඇත්තේ යි—මෙහි විකරණීයය ද පරිත්‍යක්ත ප්‍රකෘතිය අපරිත්‍යක්තප්‍රකෘතිය යි විවිධ වේ, එහි පරිත්‍යක්ත ප්‍රකෘතිය නම් "කට්ඨමඞ්ගාරං කරෙති" යනුයෙහි මෙන් ප්‍රකෘතියගේ විනාශයෙන් සම්භූත දෙයය, අපරිත්‍යක්ත ප්‍රකෘතිය නම් "සුවණ්ණං කෙයූරං කටකං වා කරොති" යනු යෙහි මෙන් කාරණභූතවස්තූහු විද්‍යමාන කල්හි ම ගුණාන්තරොත්පත්තියෙන් ව්‍යවහාර භෙදයට ගියේ යි; යථා, ඒ ත්‍රිවිධකර්ම විෂයෙහි උදාහරණ මෙසේ යි; මාතා, ජනනී තොම; පුත්තං, පුත්‍රයෙක්; විජායති, වදා; ආහාරො, ආහාරය තෙම; සුඛං, කායික චෛතසික සුඛය; ජනයති, උපදවා; දෙවදත්තො, දෙවදත්ත නම් පුරුෂ; කටං, කළාලක්; කරොති, කෙරේ—මෙහි "මාතා" යනු විජායන ක්‍රියාවට විද්‍යමාන කර්තෘකාරකය, "පුත්තං" යනු විද්‍යමාන කර්මකාරකය, විජායති යනු කර්තෘසමවෙත වූ කර්මය නිමිත්තකොට ඇති විජායනක්‍රියාය, ඉදින් පුත්‍රයා අවිද්‍යමාන කල්හි හෝ තොම කුමක් විජායනය කරන්නීද එහෙයින් පුත්‍රයා විජායනක්‍රියාවට නිමිත්ත බැවින් විද්‍යමාන කර්මකාරක මැයි, "ආහාරො" යනු ජනනක්‍රියාවට හෙතු කර්තෘකාරකය, "සුඛං" යනු අවිද්‍යමාන කර්මනිර්දෙශය, "ජනයති" යනු කර්මසන්නිශ්‍රිතජනනක්‍රියාය, ආහාර යයිද භුක්ත කබලීකාරාහාර සන්නිශ්‍රිතඕජා යි, "දෙවදත්තො" යනු මනඃ පරිකල්පිත වූ කට කර්මයට කර්තෘකාරකය, "කටං" යනු විද්‍යමාන කර්මනිර්දෙශය, "කරොති" යනු කර්තෘසමවෙත වූ කරණක්‍රියා යි, මේ හැම නිර්වර්ත්‍යකර්මයට උදාහරණ යි; දෙවදත්තො, දෙවදත්ත තෙම; කට්ඨං, ඉන්ධනය; අඞ්ගාරං කරොති, අඟුරු කෙරේ; සුවණ්ණං, සවර්ණය; කෙයූරං කටකං වා කරොති, බාහු පළඳනා හෝ පාදාභරණ හෝ කෙරේ—මෙහි "අඞ්ගාරං කෙයූරං කටකං" යනු විකර්මික කරණක්‍රියාවෙන් පැමිණෙන්ට අතිශයින් ඊප්සිත බැවින් කථිතකර්මනිර්දෙශය, "කට්ඨං සුවණ්ණං" යනු අඞ්ගාරාදි විකාර්‍යකර්මයට නිමිත්ත වූ අකථිත කර්මනිර්දෙශ යි; වීහයො, ව්‍රීහීන්; ලුනාති, කපා—මේ හැම විකාර්‍ය කර්මයට උදාහරණ යි; දෙවදත්තො, දෙවදත්ත තෙම; නිවෙසනං, ගෘහයට; පවිසති, වදී; ආදිච්චං, සූර්‍යයා; පස්සති, බලා; ධම්මං, ධර්මය; සුණොති, අසා; පණ්ඩිතෙ, නුවනැත්තවුන්; පයිරුපාසති, නිසා හිඳි—ඔවුන් විසින් කියන ලද වචනයාගේ සකසා ශ්‍රවණය පිණිස සමීපයට ගොස් හිඳිනේ යයි යි තැනී, මෙහි "නිවෙසනං" යනු කායික වූ ප්‍රවෙශනක්‍රියායෙන් ප්‍රාප්‍ය වූ විද්‍යමානකර්ම යි, "ආදිච්චං ධම්මං

**58 "නිබ්බත්තිවිකතිප්පත්තිභෙදෙන තිවිධං මතං
කත්තු ක්‍රියාභිගම්මං තං සුඛඞ්ගාර නිවෙසන"න්ති.**

**එත්ථ ච ඉච්ඡිතානිච්ඡිතකථිතාකථිතාදිභෙදමනපෙක්ඛිත්වා සබ්බසඞ්ගාහකවසෙන යං කරොති තං කම්මන්ති වුත්තත්තා අත්ථන්තරවික්ඛපනවාධිකාරතො ච සබ්බත්ථ ඉමිනාව කම්මසඤ්ඤා හොති.**

**තත්ථ අනිච්ඡිතකම්මං යථා-කණ්ටකං මද්දති, විසං ගිලති, ගාමං ගච්ඡන්තො රුක්ඛමූලං උපගච්ඡති.**

---

පණ්ඩිතෙ" යනු වනාහි දර්‍ශිතාදි සඞ්ඛ්‍යාත මානසිකක්‍රියායෙන් ප්‍රාප්‍ය වූ විද්‍යමානකර්‍ම යි, සෙසු තන්හිද නිර්‍වර්‍ත්‍යාදි කර්‍මයන්හි උක්තනයානුසාරයෙන් දන්න, මේ හැම මංජූසායෙහි කියන ලදැ යි දක්වනුවෝ "වුත්තං" යනාදි කීහු; මත්තෙහි ද මෙසේ මැයි.

(යං) කත්තුක්‍රියාභිගම්මං තං නිබ්බත්තිවිකතිප්පත්තිභෙදෙන තිවිධං මතං, (තස්සොදාහරණං-) සුඛඞ්ගාරනිවෙසනං යි සම්බන්ධ කරනු-නොහොත් කත්තුක්‍රියාභිගම්මං තං නිබ්බත්ති විකතිප්පත්ති භෙදෙන තිවිධං මතං (තස්සොදාහරණං) සුඛඞ්ගාරනිවෙසනං යි සම්බන්ධ කරනු. නොහොත් කත්තුක්‍රියාභිගම්මං (යං) නිබ්බත්ති විකතිප්පත්තිභෙදෙන තිවිධං මතං තං—සුඛඞ්ගාරනිවෙසනං යි යොදනු.

(යං, යමෙක්;) කත්තු, කර්‍තෘහුගේ; ක්‍රියා, (නිර්‍වර්‍තනාදි) ක්‍රියායෙන්; අභිගම්මං, පැමිණියයුතුද; තං, හේ (කර්‍ම)ය; නිබ්බත්ති, නිර්‍වර්‍ත්‍ය (කර්‍ම)ය; විකති, විකාර්‍ය (කර්‍ම)ය; පත්ති, ප්‍රාප්‍ය (කර්‍ම)ය (යන මොවුන්ගේ); භෙදෙන, නානාත්වයෙන්; තිවිධං, ත්‍රිප්‍රකාරයක් ඇත්තේ; මතං, දන්නා ලද; සුඛඞ්ගාරනිවෙසනං, සුඛය අඞ්ගාරය නිවෙසනය (යන මේ); තස්සොදාහරණං, එහි උදාහරණ යි. (මේ පුරිමසම්බන්ධයෙහි ගාථාර්‍ථය.)

පශ්චිම සම්බන්ධයෙහි වනාහි; කත්තු, කර්‍තෘහුගේ; ක්‍රියා, නිර්‍වර්‍තනාදී ක්‍රියාවෙන්; අභිගම්මං, පැමිණිය යුතු වූ; (යං, යමෙක් තෙම;) නිබ්බත්තිවිකතිප්පත්ති භෙදෙන, නිර්‍වර්‍තනීය විකරණීය ප්‍රාපණීය භෙදයෙන්; තිවිධං, ත්‍රිප්‍රකාරයක් ඇත්තේ දන්නා

ලදද; තං, යේ ත්‍රිවිධ වූ කර්මය; සුඛඞ්ගාර නිවෙසනං, සුඛය
අඞ්ගාරය නිවෙසනය යයි ගාථාර්ථ කියයුතු—මෙහි සුඛං ජන
යති යනු නිර්වර්ත්‍යකර්මය, අඞ්ගාරං කරොති යනු විකාර්‍ය්‍යකර්මය,
නිවෙසනං පවිසති යනු ප්‍රාප්‍ය කර්මයි; නිබ්බත්තීයති අවිජ්ජ
මානං විජ්ජමානං ච උප්පාදියතීති නිබ්බත්ති, විකරීයති විජ්ජමාන
මෙව අඤ්ඤථා කරීයතීති විකති, පාපීයති විජ්ජමානමෙව විසයී
කරීයතීති පත්ති, කම්මණී තිප්පච්චයො, යථා “ගන්තබ්බා ගති”,
තාසං භෙදෙ නානත්තං නිබ්බත්ති විකතිපත්ති භෙදෙ, තෙන
නිබ්බත්ති විකතිපත්ති භෙදෙන; කත්තුනො ක්‍රියා කත්තුක්‍රියා,
කත්තුක්‍රියාය අභිගම්මං පාපුණිතබ්බං කත්තුක්‍රියාභිගම්මං; සුඛං ච
අඞ්ගාරෙ ච නිවෙසනං ච සුඛඞ්ගාර නිවෙසනං—දූන් පාණිනීයෙහි
“කර්තුරීප්සිතතමං කර්ම” යන සූත්‍රයෙන් ඊප්සිත කථිතකර්මසංඥා
විහිත බැවින් “අනිච්ඡිතඤ්ච අකථිතඤ්ච” යී අනීප්සිතාදීනට වෙන
වෙන ම සූත්‍රයෙන් කර්මසංඥා කරන ලද; මේ කාත්‍යායනයෙහි
ඊප්සිතාදිභෙදයක් අපෙක්‍ෂා කොට කර්මසංඥා අවිහිතය, එහෙ
සින් ඊප්සිතාදි වූ සියලු විෂයෙහි කර්මසංඥා කිසේ සිද්ධ යන
පර්‍ය්‍යානුයොගය සිත තබා “එත්ථ ච” යී කීහු.

එත්ථ ච, මේ කර්මසංඥා විධානසූත්‍ර ප්‍රස්තාවෙහිද; ඉච්ඡිත,
අභිමතකර්මය; අනිච්ඡිත, අනභිමතකර්මය; කථිත, ප්‍රධානකර්මය;
අකථිත, අප්‍රධානකර්මය යන; ආදිභෙදං, මේ ආදිවිශෙෂය;
අනපෙක්ඛිත්වා, අපෙක්‍ෂා නො කොට; සබ්බසඞ්ගාහකවසෙන,
(ඊප්සිතාදි වූ සියල්ලන්ගේ) සඞ්ග්‍රහ කිරීම් වශයෙන්; යං කරොති
තං කම්මන්ති වුත්තත්තා, “යං කරොති තං කම්මං” යන සූත්‍රය
කියන ලද බව හෙතු කොට ගෙනද; අත්ථන්තර විකප්පන වාධි
කාරතො ච, අන්‍ය අර්ථයන්ගේ විකල්පනය කරන්නා වූ වාධි
කාර්‍යා ඇති බව හෙතුකොට ගෙනද; සබ්බත්ථ, සියලු ඊප්සිතාදි
කර්මවිෂයෙහි; ඉමිනාව කම්මසඤ්ඤා හොති, මේ “යං කරොති තං
කම්මං” යන සූත්‍රයෙන් ම කර්මසංඥා වන්නී යි—“ඉච්ඡිතානිච්ඡිත
කථිතාකථිතාදිභෙදං” යන මෙහි ආදිශබ්දයෙන් ඊප්සිතා
නීප්සිතය ගන්නා ලදැ යි දතයුතු.

තත්ථ, ඒ ඊප්සිතාදිකර්මයන් අතුරෙහි; අනිච්ඡිතකම්මං,
අනීප්සිතකර්මය තෙම; යථා, උදාහරණ හෙයින් මෙසේ යි;
කණ්ටකං, කටුව; මද්දති, මඩී; විසං, විස; ගිලති, ගිලින්නේ යි;
ගාමං ගච්ඡන්තො, ග්‍රාමයට යන්නේ; රුක්ඛමූලං, වෘක්ෂසමීපයට;

**අකථිතකම්මං යථා-යඤ්ඤදත්තං කම්බලං යාචතෙ බ්‍රාහ්මණො.**

**එත්ථ හි කම්බලමිති කථිතකම්මං, විකම්මකාය යාචන ක්‍රියාය පත්තුමිච්ඡිතතරත්තා, යඤ්ඤදත්තමිති අප්පධානත්තා අකථිතකම්මං; තථා සම්ඩං ධනං භික්ඛතෙ, අජං ගාමං නයති, පරාභවන්තං පුරිසං මයං පුච්ඡාම ගොතමං, භගවා භික්ඛූ එතදවොච ඉච්චාදි.**

---

උපගච්ඡති, පැමිණේ—“කණ්ටකා මද්දති විසං ගිලති” යන මෙහි මැඩීමට හා ගිලීමට කණ්ටකයෝ හා විෂය අනභිමත හෙයින් “කණ්ටකං” යනුද “විසං” යනුද අනීප්සිතකර්ම්ම නම් වෙයි “ගාමං ගච්ඡන්තො රුක්ඛමූලං උපගච්ඡති”යන මෙහි වනාහි ග්‍රාමගමනය ඉෂ්ටය වෘක්ෂමූලොපගමනය ප්‍රසඞ්ගාගතනු යි ඉෂ්ට වූ ගමන ක්‍රියායෙන් සම්බන්ධ කරනු ලබන හෙයින් “ගාමං” යනු ඊප්සිත කර්ම්මය,අයත්නයෙන් සම්භව වූ උපගමනක්‍රියායෙන් සම්බන්ධ කරනු ලබන හෙයින් “රුක්ඛමූලං” යනු අනීප්සිතකර්ම්ම නම් වේ—මේ දෙක එකප්‍රයොගයෙක්හි පෙනෙන කල්හි ඊප්සිතානීප්සිත කර්ම්මය යි කියත්,ඊප්සිතකර්ම්මයට උදාහරණ වෙන වෙන දක්වූවද යට නිර්වෘත්‍යාදියෙහි කී පරිද්දෙන් දත්ත.

අකථිතකම්මං, අකථිතකර්මය තෙම; යථා, උදාහරණ හෙයින් මෙසේ යි; බ්‍රාහ්මණො, බමුණු තෙම; යඤ්ඤදත්තං, යඤ්ඤදත්තයා; කම්බලං,පලස; යාචතෙ, ඉල්වා; එත්ථ හි, මේ උදාහරණයෙහි; කම්බලං ඉති, කම්බලං යනු; කථිතකම්මං, ප්‍රධානකර්ම නම් වේ; කවරහෙයින්ද යත්? විකම්මකාය යාචනක්‍රියාය, කර්මයක් ඇත්තා වූ යාචනක්‍රියායෙන්;පත්තුං,පැමිණෙන්ට(ලබන්ට);ඉච්ඡිත තරත්තා, අතිශයින් කැමැති වනු ලබන බැවිනි; යඤ්ඤදත්තමිති, යඤ්ඤදත්තං යනු;අප්පධානත්තා, අප්‍රධාන බැවින්; අකථිතකම්මං, අකථිතකර්ම නම් වේ; කවරක්හු විසින් අකථිතද යත්? “කත්‍රීප්සි තතමං කර්ම” යන මේ සූත්‍රයා විසින් අකථිත යි—හෙද විකර්මක ධාතුයොගයෙහි ම ලැබෙයි දතයුතු යි, විකර්මකධාතුහු නම් යට කියන ලද දුහාදීහු යි; සම්ඩං ධනං භික්ඛතෙ—පෙ—භගවා භික්ඛූ එතදවොච ඉති,සම්ඩං ධනං භික්ඛතෙ—පෙ—භගවා භික්ඛූ එතදවොච යන; ආදි, මේ ආදි උදාහරණද; තථා, එසේමැ යි—යඤ්ඤදත්තං කම්බලං යාචතෙ බ්‍රාහ්මණො යනු මෙනැයි සේයි;

**අභිහිතකම්මෙ පන න හොති.**

**යථා-කතො කරීයතෙ දෙවදත්තෙන, සුගතෙන දෙසිතො ධම්මො, යඤ්ඤදත්තෙන කම්බලං යාචීයතෙ බ්‍රාහ්මණෙන ඉච්චාදි.**

**දුතියාති අධිකාරො.**

## 282. ගතිබුධිභුජපඨහරකරසයාදීනං කාරිතෙ වා 2-6-30.

**ගමු සප්ප ගතිම්හි, බුධ බොධනෙ, බුධ අවගමනෙ වා, භුජ පාලනබ්‍යවහරණෙසු, පඨ ව්‍යත්තියං වාචායං, හර හරණෙ, කර කරණෙ, සී සයෙ ඉච්චෙවමාදීනං ධාතූනං පයොගෙ කාරිතෙ සති පයොජ්ජකත්තුභූතෙ කම්මණි ලිඞ්ගම්හා දුතියා විභත්ති හොති වා.**

---

සමිද්ධං, ධනසමෘද්ධයා; ධනං, ධනය; භික්ඛතෙ, ඉල්වා—මෙහි ද්විකර්මක වූ භික්ෂාක්‍රියායෙන් පැමිණෙන්ට අතිශයින් ඊප්සිත බැවින් ධනං යනු කථිතකර්මය සමිද්ධං යනු එසේ නොවන අප්‍රධාන බැවින් අකථිතකර්ම යි; අජං, එළුවා; ගාමං, ගමට; නයති, පමුණුවා—මෙහි අජං යනු ද්විකර්මක නයනක්‍රියායෙන් පැමිණෙන්ට ඊප්සිත තර බැවින් කථිතකර්මය ගාමං යනු ඒ ක්‍රියායෙන් පැමිණෙන්නට ඊප්සිත තර නො වන හෙයින් අකථිත කර්ම යි; මයං, අපි; පරාභවන්තං පුරිසං, පරිහාණියට යන්නා වූ පුරුෂයා; ගොතමං පුච්ඡාම, ගෞතම ගොත්‍රසම්භූත වූ තථාගතයා විචාරමෝ—මෙහි පරාභවන්තං පුරිසං යනු ද්විකර්මකපුච්ඡනක්‍රියාවෙන් අතිසයින් පැමිණියයුතු බැවින් කථිතකර්මය, ගොතමං යනු එසින් අතිසයෙන් පැමිණිය යුතු නොවන බැවින් අකථිතකර්ම නම්; භගවා, භාග්‍යවත් තෙම; භික්ඛූ. භික්ෂූන්ට; එතං, මේ වචනය; අවොච, කී—මෙහි ද්විකර්මක වචනක්‍රියායෙන් අතිශයින් ප්‍රාප්‍ය බැවින් එතං යනු කථිතකර්මය භික්ඛූ යනු අප්‍රධාන බැවින් අකථිත කර්ම නම් වේ.

අභිහිතකම්මෙ පන; උක්තකර්මයෙහි වනාහි; න හොති, ද්විතීයා විභක්ති තොම නො වන්නී යි; යථා, අභිහිත කර්මවිෂයෙහි උදාහරණ මෙසේ යි; දෙවදත්තෙන, දෙවදත්තයා විසින්; කතො,

කට්ටය තෙම; කාරියති, සාරනු ලැබෙයි; සුගතෙන, තථාගතයා විසින්; ධම්මො,ධර්මය තෙම; දෙසිතො, දෙසන ලදි—මෙහි කාරියති දෙසිතො යන මෙහි ආඛ්‍යාත කිතක දෙන්නා විසින් උක්ත හෙයින් සාටො ධම්මො යනු උක්තව්‍යාප්‍ය(කර්ම)ය දෙවදත්තෙන සුගතෙන යනු අනුක්ත කර්තෘකාරක යි; බ්‍රාහ්මණෙන, බමුණා විසින්; යඤ්ඤදත්තො, යඤ්ඤදත්ත තෙම; කම්බලං, පලස; යාචී යතෙ, ඉල්වනු ලැබේ—මෙහිද යාචියතෙ යන ආඛ්‍යාතයා විසින් උක්ත හෙයින් යඤ්ඤදත්තො යනු උක්තව්‍යාප්‍යය කම්බලං යනු අනුක්තව්‍යාප්‍යය බ්‍රාහ්මණෙන යනු අනුක්තකර්තෘකාරක යි; ඉච්චාදි, යන මේ ආදිය වේ; මෙහි ආදිශබ්දයෙන් සම්බොධනං භික්ඛීයතෙ යනාදි ගත්හු.

දුතියාති, (කම්මත්‍ථෙ දුතියා" යන සූත්‍රයෙන්) දුතියා යනු; අධිකාරෙ, මතු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ.

ගතිබුධිභුජපඨහරකරසයාදීනං ය කාරිතෙ ය වා ය යනු පද යි.

ගති ච බුධි ච භුජො ච පඨො ච හරො ච කරො ච සයො ච ගතිබුධිභුජපඨහරකරසයා, තෙ ආදයො යෙසං තෙ තදාදයො, තෙසං ගතිබුධිභුජපඨහරකරසයාදීනං—මෙහි ගතිබුධි යි සවාමී යෙහි තිප්‍රත්‍යයාගේ වශයෙන් ගමු බුධ යන ධාතූහු ම කියන ලදහ.

ගමු සප්ප ගතිම්හි,ගමු සප්ප ගතිම්හි යන ධාතුය;බුධ බොධනෙ, බුධබොධනෙ යන ධාතුය; වා, නොහොත්; බුධ අවගමනෙ, බුධ අවගමනෙ යන ධාතුය; භුජ පාලනභ්‍යවහරණෙසු, භුජ පාලනභ්‍ය වහරණෙසු යන ධාතුය; පඨ බ්‍යත්තියං වාචායං, පඨ බ්‍යත්තියං වාචායං යන ධාතුය; හර හරණෙ, හර හරණෙ යන ධාතුය; කර කරණෙ, කර කරණෙ යන ධාතුය; සි සයෙ ඉති, සි සයෙ යන ධාතුය යි; එවමාදීනං ධාතූනං පයොගෙ, මේ ආදි ධාතූන්ගේ ප්‍රයොගයක් ඇතිකල්හි; කාරිතෙ සති, කාරිතප්‍රත්‍යයක්හු විද්‍ය මාන කල්හි; පයොජ්ජකත්තුභූතෙ කම්මණි, හෙතුකර්තෘහු විසින් ගමනාදියෙහි ප්‍රයොක්තව්‍ය හෙයින්ද ඒ ගමනාදික්‍රියාව තමාම කරන හෙයින්ද ප්‍රයොජ්‍යකර්තෘ වූ කර්ම විෂයෙහි; ලිඞ්ගම්හා, තද්දීපකශබ්දයා කෙරෙන් පරව;වා, විකල්පයෙන්; දුතියා විභත්ති හොති, විතීයා විභක්ති වන්නීය; පයොජෙජා ච සො කත්තා,

**නිච්චං සම්පත්තෙන විකප්පනත්ථායං, තෙන පක්ඛෙ තතියා හොති-යො කොචි පුරිසො ගාමං ගච්ඡති තමඤ්ඤො පයොජ යති පුරිසො පුරිසං ගාමං ගමයති, පුරිසෙන වා ගාමං ගමයති.**

**එවං සිස්සං ධම්මං බොධෙති ආචරියො-මාතා පුත්තං භොජනං භොජයති-සිස්සං ධම්මං පාඨෙති ආචරියො-පුරිසො පුරිසං භාරං හාරයති-පුරිසො පුරිසං කම්මං කාරයති, පුරිසෙ න වා කම්මං කාරාපයති-පුරිසො පුරිසං සායයති.**

**එවං සබ්බත්ථ කාරිතෙ කත්තුකම්මණි දුතියා.**

---

වාති පයොජ්ජකත්තා, පුරිසො පුරිසං ගාමං ගමයතීති ආදිසු හි කාරිතප්පයොගෙසු හෙතුකත්තාරො ගමනාදික්‍රියායං පයො ජීයති තච ගමනාදික්‍රියං සයමෙව කරෙති තස්මා පයොජ්ජ කත්තාති වුච්චති.

නිච්චං සම්පත්තෙන, "කම්මත්ථෙ දුතියා" යන සූත්‍රයෙන් අවිකල්පයෙන් සම්ප්‍රාප්ත කල්හි; අයං, මේ සූත්‍රාරම්භය තෙම; විකප්පනත්ථො, විකල්පනය ප්‍රයොජන කොට ඇත්තේ සි— "කම්මත්ථෙ දුතියා" යන සූත්‍රය ඇති කල්හි මේ සූත්‍රය කුමැ සි ද යත්? "සිද්ධෙ සත්‍යාරම්භො නියමාය භවති විකප්පනාය වා" යන න්‍යාය හෙයින් කාරිතප්‍රත්‍යය යොගයක් ඇති කල්හි ප්‍රයොජ්‍ය කර්තෘ වාචී ලිඞ්ගයා කෙරෙන් විතීයා විභක්තියගේ විකල්පය පිණිස යයි සී තැති; තෙන, ඒ (ගත්‍යාදිසූත්‍රයාගේ විකල්පාර්ථය ම) හෙතු කොට ගෙන; පක්ඛෙ තතියා හොති, මේ සූත්‍රයෙන් විතීයා වගේ අභාව පක්ෂයෙහි "කත්තරි ච" යන සූත්‍රයෙන් තෘතියා වන්නී සි; යො කොචි පුරිසො, යම් කිසි පුරුෂයෙක්; ගාමං, ග්‍රාමයට; ගච්ඡති, යන්නට සමර්ථ ය; තං, ඒ ග්‍රාමගමනට සමර්ථ පුරුෂයා; අඤ්ඤො, අනික් පුරුෂයෙක්; පයොජෙති, මෙහෙය සි— යන මේ හෙත්වර්ථයෙහි පුරිසො පුරිසං ගාමං ගමයති යි සිද්ධ වේ; පුරිසො, පුරුෂ තෙම; පුරිසං, පුරුෂයා; ගාමං, ග්‍රාමයට; ගමයති, පමුණුවා—මෙහි "පුරිසං" යනු මේ සූත්‍රයට විෂය ය, "ගාමං" යනු "කම්මත්ථෙ දුතියා" යන සූත්‍රයට විෂය සි, මත් තෙහිද කර්මකර්තෘ වාචී ලිඞ්ගයා කෙරෙන් විතීයා මේ සූත්‍රයෙන් ම සිද්ධය, ශුද්ධකර්ම වාචී ලිඞ්ගයා කෙරෙන් පූර්වසූත්‍රයෙන් ම සිද්ධ ය සි දතයුතු, පුරිසෙන ගාමං ගමයති, යනු විකල්පොදාහරණය, එහි අර්ථ පෙරසේ මැ සි.

**කාරිතෙති කිං? පුරිසො ගාමං ගච්ඡති.**

**අභිහිතෙ න භවති-පුරිසෙන පුරිසො ගාමං ගමයීයතෙ.**

**සිස්සො ධම්මං බොධීයතෙ ඉච්චාදි.**

## 284. කාලද්ධානමච්චන්තසංයොගෙ 2-6-28.

**අච්චන්තං නිරන්තරං සංයොගො අච්චන්තසංයොගො.**

**කාලද්ධානං දබ්බගුණක්‍රියාහි අච්චන්තසංයොගෙ තෙහි කාලද්ධානවාචීහි ලිඞ්ගෙහි දුතියා විභත්ති හොති.**

---

සිස්සං ධම්මං බොධයති, ආචරියො-පෙ-පුරිසො පුරිසං සායයති, සිස්සං ධම්මං බොධයති ආචරියො-පෙ-පුරිසො පුරිසං සායයති යන උදාහරණද; එවං, වාක්‍ය හෙයින් මේ පුරිමොදාහරණය සේ මැයි; යො කොචි සිස්සො ධම්මං බුජ්ඣති තමඤ්ඤො පයොජෙති, සිස්සං ධම්මං බොධයති ආචරියො යනාදීන් වාක්‍යය ගතයුතුයයි සේයි; ආචරියො,ආචාර්‍ය්‍ය තෙම; සිස්සං,ශිෂ්‍යයා ලවා; ධම්මං,ධර්‍මය; බොධයති, දන්වා; මාතා, මව් තොම; පුත්තං, පුත්‍රයා ලවා; භොජනං, ආහාරය; භොජයති, වලඳවා; ආචරියො, ආචාර්‍ය්‍ය තෙම; සිස්සං, ශිෂ්‍යයා ලවා; ධම්මං, ධර්‍මය; පාඨයති, කියවා; පුරිසො, පුරුෂ තෙම; පුරිසං, පුරුෂයා ලවා; භාරං, බර; හාරයති, ගෙන්වා; පුරිසො, පුරුෂ තෙම; පුරිසං, පුරුෂයා ලවා; කම්මං, කර්‍මය; කාරයති, කරවා; පුරිසෙන වා කම්මං කාරයති කියා හෝ වේ; පුරිසො, පුරුෂ තෙම; පුරිසං, පුරුෂයා; සායයති, හොවා; සබ්බත්‍ථ, සියලු ධාතූන්ගේ ප්‍රයොගයෙහි; කාරිතෙ, කාරිතප්‍රත්‍යයක්හු ඇති කල්හි; කත්තුකම්මණි, ප්‍රයොජ්‍යකර්‍තෘභූත කර්‍මාර්‍ථ විෂයෙහි; දුතියා, විතීයා විභක්ති තොම; එවං, මෙසේ ම වන්නී යි; පුරිසො පුරිසං ලෙඛං ලෙඛයති; පුරිසෙන වා ලෙඛං ලෙඛයති යනාදීන් යෙදියයුතු.

කාරිතෙති, කාරිතෙ යන විශෙෂණය; කිං?, කුමටය; පුරිසො ගාමං ගච්ඡති, පුරිසො ගාමං ගච්ඡති යන තන්හි විතීයා නො වන පිණිස යි—මෙහි කාරිතයක්හු නැති හෙයින් මේ සූත්‍රයෙන් විතීයා නොවේ; අභිහිතෙ න භවති, කාරිතප්‍රත්‍යයක් ඇති කල්හිද උක්තකර්‍තෘකර්‍ම විෂයෙහි මේ සූත්‍රයෙන් විතීයා නො වන්නී යි; පුරිසෙන යනාදි එහි උදාහරණ යි; පුරිසෙන, (ප්‍රයො

**කාලෙ-සත්තාහං ගවපානං, මාසං මංසොදනං, සරදං රමණීයා නදී, සබ්බකාලං රමණීයං නන්දනං, මාසං සජ්ඣායති, තයො මාසෙ අභිධම්මං දෙසෙසි.**

**අද්ධනි-යොජනං වනරාජි, යොජනං දීඝො පබ්බතො, කොසං සජ්ඣායති.**

**අච්චන්තසංයොගෙ ති කිං? මාසෙ මාසෙ භුඤ්ජති, යොජනෙ යොජනෙ විහාරං පතිට්ඨාපෙසි.**

---

ජක) පුරුෂයා විසින්; පුරිසො, පුරුෂ තෙම; ගාමං, ගමට; ගමයීයතෙ, පමුණුවනු ලැබෙයි; සිස්සො, ශිෂ්‍ය තෙම; ධම්මං, ධර්මය; බොධීයතෙ, දන්වනු ලැබේ—මේ හැම ගමයීයතෙ යන ක්‍රියාපදයෙන් පුරිසො යනු උක්තව්‍යාප්‍යය, ගාමං යනු අනුක්ත ව්‍යාප්‍යය, පුරිසෙන යනු අනුක්ත හෙතුකර්තෘකාරක යි, බොධීයතෙ යන ක්‍රියාපදයෙන් සිස්සො යනු උක්තව්‍යාප්‍යය ධම්මං යනු අනුක්තව්‍යාප්‍ය යි; ඉච්චාදි යන මෙහි ආදිශබ්දයෙන් "මාතරා පුත්තො භොජනං භොජාපීයතෙ" යනාදි ගත්හු.

කාලද්ධානං ය අච්චන්තසංයොගෙ ය යනු පද යි.

කාලො ච අද්ධා ච කාලද්ධා, තෙසං කාලද්ධානං, අච්චන්තං, අත්‍යන්තයෙනැ යි සේයි; නිරන්තරං, නිත්‍යයෙන්; සංයොගො, යෙදීම; අච්චන්තසංයොගො, අච්චන්තසංයොග නම් වේ.

කාලද්ධානං, මාසාදි කාල කොසාදි අද්ධාන යන මොවුන්ගේ; දබ්බගුණක්‍රියාහි අච්චන්තසංයොගෙ, ද්‍රව්‍යය ගුණය ක්‍රියාය යන මොවුන් හා නිත්‍යයෙන් සංයොගයක් ඇති කල්හි; තෙහි කාල ඬානවාචීහි ලිඞ්ගෙහි, ඒ කාල අද්ධාන දෙක කියන්නා වූ ශබ්දයන් කෙරෙන් පරව; දුතියා විභත්ති හොති, විතීයා විභක්ති වන්නීය; කාලද්ධානවාචීහි ලිඞ්ගෙහි යනු සූත්‍රයෙහි අත්‍යයක්හු අනාශ්‍රිත බැවින් සාමර්ථ්‍යය හෙයින් සිද්ධය යි දතයුතු.

කාලෙ, කාලයාගේ ද්‍රව්‍යගුණක්‍රියාවන් හා නිරන්තර සංයොග යක් ඇති කල්හි ප්‍රයොග කියනු ලැබේ; සත්තාහං, සතියක් මුළුල්ලෙහි; ගවපානං, සප්පිනවනීතක්ෂීරදධිතක්‍රසඞ්ඛ්‍යාත පංච ගොරසපානය යි—මෙහි සප්තාහය මුළුල්ලෙහි ම ගොරසපානය

හෙයින් ඒ ගවපානද්‍රව්‍යය හා සප්තාහසඞ්ඛ්‍යාත කාලයාගේ අත්‍යන්තසංයොගය ඇත්තු යි මේ සූත්‍රයෙන්"සත්තාහං"යි විතීයා වන්නීය, ක්‍රියාසංයොගයක් නැති හෙයින් "කම්මත්‍ථෙ දුතියා" යි විතීයා නො වන්නී යි, මත්තෙහි ද මෙසේ මැයි; මාසං, මසක් මුළුල්ලෙහි; මංසොදනං, මසවුලෙන් යුක්ත වූ ඔදන යයි—මෙහි මංසොදනාඛ්‍යද්‍රව්‍යය හා මාංශයාගේ සංයොගය නිරන්තර වී; නදී, ගඞ්ගා තොම; සරදං, ශරත්කාලය මුළුල්ලෙහි; රමණීයා, සිත්කලු යි—මෙහි රමණීයත්ව ගුණය හා ශරත්කාලයාගේ සංයොගය අවිච්ඡින්නය, ශරත්කාලයයි වප් ඇසිල් දෙමස යි; තන්‍දනං, තන්‍දනොද්‍යානය; සබ්බකාලං, සියලු ම කාලය මුළුල්ලෙහි; රමණීයං, සිත් අලවන්නේ යි—මෙහි තන්‍දනොද්‍යානයාගේ රමණීයත්ව ගුණය යි; මාසං, මසක් මුළුල්ලෙහි; සජ්ඣායති, හදාරා—මෙහි අධ්‍යයන ක්‍රියාව හා මාසයාගේ නිත්‍යයොගය වී; තයො මාසෙ, තුන්මාසයක් මුළුල්ලෙහි; අභිධම්මං, පරමාර්ථධර්මය; දෙසෙසි, දෙසී—මෙහි අභිධර්මයාගේ දෙශනක්‍රියාව හා ආෂාඪාදි මාසත්‍රයාගේ සංයොගය නිබඩ වී.

අඩනි, අධ්වනයාගේ ද්‍රව්‍යගුණක්‍රියාවන් හා නිරන්තරසංයොගයක් ඇතිකල්හි උදාහරණ දක්වනු ලැබේ; යොජනං, යොදුන මුළුල්ලෙහි, වනරාජි, වනපෙතයි, මෙහි යොදුන මුළුල්ලෙහි වන රේඛාව නු යි ඒ වනරාජිසඞ්ඛ්‍යාත ද්‍රව්‍යයා හා යොජන සඞ්ඛ්‍යාත අධ්වනයාගේ අත්‍යන්තසංයොගය ඇති හෙයින් මේ සූත්‍රයෙන් යොජනය විතීයා වන්නේ යි; පබ්බතො, පර්වතය තෙම;යොජනං, යොදුනක් මුළුල්ලෙහි; දීඝො, දිගි—මෙහි දීර්ඝත්ව ගුණය හා යොජනයාගේ සංයොගය නිරන්තර වී; කොසං, ක්‍රොශය මුළුල්ලෙහි; සජ්ඣායති, හදාරා—මෙහි සජ්ඣානාඛ්‍ය වූ ක්‍රියාව හා ක්‍රොශයාගේ සංයොගය නිත්‍යයි.

ක්‍රොශ ද—

"ධනුපඤ්චසතං කොසො චතුකොසඤ්ච ගාවුතං
ගාවුතානි ච චත්තාරි යොජනන්ති පවුච්චති" යි

බැවින් දුනු පන්සියයෙක් කියනු ලැබේ නොහොත් "වෛ ක්‍රොශො පුංසි ගව්‍යූතිඃ" යනු නිඝණ්ඩු බැවින් ගව්සමාරෙක් ක්‍රොශ නම්.

අච්චන්තසංයොගෙති කිං? අච්චන්තසංයොගෙ යනු කුමටය; මාසෙ මාසෙ, මසෙක්හි මසෙක්හි; භුඤ්ජති, කා—මෙහි භොජන ක්‍රියාව මසෙක්හි මසෙක්හි කෙලවර එක දවසක මුත් නිරන්තර

## 285. කම්මප්පවචනීයයුත්තෙ–2–6–29.

**කම්මප්පවචනීයෙහි නිපාතොපසග්ගෙහි යුත්තෙ යොගෙ සති ලිඞ්ගම්හා දුතියා විභත්ති හොති.**

**කම්මං පවචනීයං යෙසං තෙ කම්මප්පවචනීයා–පරසමඤ්ඤාවසෙන වා අන්වාදයො කම්මප්පවචනීයා–තස්ස අනු සද්දස්ස ලක්ඛණෙ සහත්ථෙ හීනෙ ච කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා–යථා–පබ්බජිතමනුපබ්බජිංසු–නදිමන්වවසිතා බාරාණසී–නදියා සහ අවබද්ධාති අත්ථො–අනුසාරිපුත්තං පඤ්ඤවා භික්ඛු.**

---

යෙත් නො පවත්නා හෙයින් භොජනක්‍රියාව හා අත්‍යන්ත සංයොගයක් නැත් නු යි මෙයින් ද්විතීයා නොව සප්තමී ම වන්නී යි; යොජනෙ යොජනෙ, යොදුනෙක්හි යොදුනෙක්හි; විහාරං, විහාරයක්; පතිට්ඨාපෙසි, පිහිටවී--මෙහි ද විහාරප්‍රතිෂ්ඨාපනය යොදුනෙහි කෙළවර මුත් මුළු තැන නැති බැවින් ප්‍රතිෂ්ඨාපනක්‍රියාව හා නිරන්තර සංයොගය නැත් නු යි සප්තමී වන්නී යි, මේ දෙකම වීප්සාප්‍රයොග යි.

කම්මප්පවචනීයයුත්තෙ යනු එක පද යි.

පවුච්චතෙති පවචනීයං, කම්මං පවචනීයං යෙහි තෙ කම්මප්පවචනීයා, යුජ්ජනං යුත්තං, කම්මප්පවචනීයෙහි යුත්තං (යොගො) කම්මප්පවචනීයයුත්තං, තස්මිං කම්මප්පවචනීයයුත්තෙ.

කම්මප්පවචනීයෙහි, කර්මාර්ථද්‍යොතක වූ නොහොත් කර්මප්‍රවචනීයසංඥ ඇති; නිපාතොපසග්ගෙහි, (ධි විනා යනාදි) නිපාත හා (අනු අභි යනාදි) උපසර්ගය යන මොවුන් හා; යුත්තෙ, යුත්තය යි සේ යි; යොගෙ සති, ප්‍රයොගයක් ඇති කල්හි; ලිඞ්ගම්හා, (ලක්ෂණාද්‍යර්ථ වාචී) ලිඞ්ගයා කෙරෙන් පරව; දුතියා විභත්ති හොති, (බොහෝ සේ තෘතීයා ෂෂ්ඨී සප්තම්‍යර්ථ විෂයෙහි) ද්විතීයා විභක්ති වන්නී යි—මෙහි දු යුත්තශබ්දයාගේ භාවසාධනය ඇති බව හඟවන පිණිස යොගෙ යි අනුප්‍රයොගය කළෝ.

කම්මං, කර්මාර්ථය; පවචනීයං, කියයුතු වූයේ හෙවත් අභිධේය වූයේ; යෙසං, යම් නිපාතෝපසර්ගී කෙනෙක්හට ඇද්ද, තෙ, ඔහු; කම්මප්පවචනීයා, කර්මප්‍රවචනීය නම් වෙත්—යම් නිපාතොප සර්ගී කෙනකුන් විසින් "රිතෙ සද්ධම්මා, අපසාලාය ආයන්ති වාණිජා, ආබ්‍රහ්මලොකා සද්දො අබ්භුග්ගච්ඡති" යනාදි යුක්තස්ථාන යෙහි කර්මාර්ථය ප්‍රකාශ කටයුතු වේද ඔහු කර්මප්‍රවචනීය හ යි කියනු ලැබෙති යි යු තැති—මෙසේ අන්වර්ථවශයෙන් සිද්ධකර්මප්‍රවචනීය සංඥ දැන් පරසංඥ වශයෙනු දු දක්වනුවෝ "පරසමඤ්ඤා වසෙන වා" යනාදි කීහු; පරසමඤ්ඤාවසෙන වා, පරසංස්කෘත ව්‍යාකරණ යෙහි සංඥ වශයෙන් හෝ; අනවාදයො, අනු අභි ආදීහු; කම්මප්ප වචනීයා, කර්මප්‍රවචනීය නම් වෙත්—දැන් ගේ සංස්කෘත ව්‍යාකර ණයෙහි අනවාදීන්ට මේ මේ අර්ථයෙහි කර්මප්‍රවචනීයසංඥ විහිතය යි සවරූප හෙයින් දක්වනුවෝ කියත් "තත්‍ථ" යනාදි; "තත්‍ථ කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා" යි යොදනු; තත්‍ථ, ඒ සංස්කෘත ග්‍රන්ථයෙහි-පාණිනීයයෙහි යයි සේයි; අනුසද්දස්ස, අනුශබ්දය හට; ලක්ඛණෙ, ලක්ෂණාර්ථවිෂයෙහි ද; සහත්‍ථෙ, සහාර්ථවිෂයෙහි ද; හීනෙ ච, හීනාර්ථවිෂයෙහි ද; කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා, කර්මප්‍ර වචනීයසංඥ කියන ලද නොහොත් "ලක්ඛණෙ සහත්‍ථෙ හීනෙ ච වත්තමානස්ස අනුසද්දස්ස කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා" යි යොදනු; ලක්ඛීයති එතෙනාති ලක්ඛණං (ව්‍යඤ්ජකං), තස්මිං ලක්ඛණෙ; යථා, එහි උදාහරණ මෙසේ යි; පබ්බජිතමනු, ප්‍රව්‍රජි තයා ලක්ෂණකොට ගෙන; පබ්බජිංසු, පැවිදි වූ යි—ඔහු ප්‍රව්‍රජිත කල්හි සෙස්සෝ ප්‍රව්‍රජිතවූහ යි සේයි, මෙහි පුරිමයාගේ ප්‍රව්‍රජිත භාවය පශ්චිමයාගේ ප්‍රව්‍රජිතභාවයට උපලක්ෂණ යි, එහි අනු ශබ්දයා විසින් ප්‍රව්‍රජිතශබ්දයාගේ ලක්ෂණාර්ථ වෘත්තිත්වය ප්‍රකාශ කරණු ලැබේනු යි ප්‍රව්‍රජිතශබ්ද තෙම අනුශබ්දයා හා යුක්ත නම්, බාරාණසි, බාරාණසී නම් පුරී තොම; නදී අන්වසිතා, නදිය හා එකාබද්ධ යි—දිගු යි සේයි; "නදියා සහ අවබද්ධාති අත්‍ථො" යන මේ අනුශබ්දයා විසින් නදීශබ්දයාගේ සහාර්ථ වෘත්තිත්වය ප්‍රකාශ කරන ලද බව හඟවන පිණිස කියන ලදී; පඤ්ඤවා භික්ඛු, ප්‍රඥවත් භික්ෂු තෙම; අනුසාරිපුත්තං, ශාරීපුත්‍රමහාස්ථවිරයන්ට හීන යි—මෙහි අනුශබ්ද හීනාර්ථ යි, එහෙයින් ශාරිපුත්‍රයාගේ උත්කර්ෂ ප්‍රාඥභාවදීපනයෙන් ම ඉතරයාගේ තදනුගතභාවය ද ප්‍රඥවෙන් හීනභාවය ද හැඟෙන "ලක්ඛණාදිසු කම්මප්පවචනීය සඤ්ඤා වුත්තා" යි යොදනු.

**ලක්ඛණාදිසු—ලක්ඛණිත්ථම්භූතක්ඛානභාගවිච්ඡාසු පති පරි අනවොති පති පරිඅනූනං කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා.**

**උපලක්ඛණෙ—සුරියුග්ගමනං පති දිබ්බා භක්ඛා පාතුභවෙය්‍යුං—රුක්ඛම්පති විජ්ජොතතෙ චන්දො, රුක්ඛං පරි, රුක්ඛං අනු.**

**ඉත්ථම්භූතක්ඛානෙ—සාධු දෙවදත්තො මාතරම්පති, මාතරම්පරි, මාතරං අනු**

---

ලක්ඛණාදිසු, ලක්ෂණ ඉත්ථම්භූතාඛ්‍යාන භාගවීප්සාර්ථ විෂයෙහි; ලක්ඛණිත්ථම්භූතක්ඛානභාගවිච්ඡාසු පති පරි අනවොති, "ලක්ඛණිත්ථම්භූතක්ඛානභාගවිච්ඡාසු පති පරි අනවො" යන සූත්‍රයෙන්; පති පරි අනූනං, පති පරි අනු යන උපසර්ගයන් තුන් දෙන හට; කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා, (පාණිනීයයෙහි) කර්මප්‍රවචනීයසංඥා කියන ලදූ.

උපලක්ඛණෙ, උපලක්ෂණාර්ථයෙහි වැටෙන පත්‍යාදීන්ගේ උදාහරණ කියනු ලැබේ; සුරියස්ස, සූර්‍ය්‍යයාගේ; උග්ගමනං පති, නැගීම ලක්ෂණ කොට, සූර්‍ය්‍යෝදයෙහි යයි සේ යි; දිබ්බා භක්ඛා, දිව්‍යභොජනයෝ; පාතුභවෙය්‍යුං, පහළවන්වා—මෙහි දිවාකරයාගේ උද්ගතභාවය දිව්‍යාහාරයන්ගේ ප්‍රාදුර්භාවයට උපලක්ෂණ යි; දිවි භවා දිබ්බා, භක්ඛිතබ්බා භක්ඛා; චන්දො, සඳ තෙම; රුක්ඛම්පති, වෘක්ෂය ලක්ෂණ කොට ගෙන; විජ්ජොතතෙ, බබළා—මෙහි වෘක්ෂ තෙම විද්‍යොතමාන වූ චන්ද්‍රයා හට උපලක්ෂණභාවයෙන් ගන්නා ලදී, චන්ද්‍ර තෙම ලක්ෂිතව්‍යභාවයෙන් ගන්නා ලදී; රුක්ඛං පරි විජ්ජොතතෙ චන්දො, රුක්ඛමනු විජ්ජොතතෙ චන්දො, යී වෙන වෙන යෙදියයුතු, අර්ථ හේ මැයි.

ඉත්ථම්භූතක්ඛානෙ, කිචිත් ප්‍රකාරයකට ප්‍රාප්තයාගේ කථනයෙහි වැටෙන පත්‍යාදීන්ගේ උදාහරණ දක්වනු ලැබේ; අනෙන පකාරෙන ඉත්ථං, ඉත්ථං ඉමං පකාරං භූතො ආපන්නොති ඉත්ථම්භූතො, අථවා, ඉත්ථං එවං පකාරෙ භූතො ජාතොති ඉත්ථම්භූතො, තස්ස අක්ඛානං කථනං ඉත්ථම්භූතක්ඛානං, තස්මිං ඉත්ථම්භූතක්ඛානෙ; දෙවදත්තො, දෙවදත්ත තෙම; මාතරම්පති, මව කෙරෙහි නොහොත් මව සම්බන්ධව; සාධු, සම්‍යක් ප්‍රතිපන්න යි; මාතරම්පරි මාතරමනු, යන්නෙහි ද අර්ථ හේ මැයි—මෙහි පත්‍යාදීන් හා යුක්ත බැවින් දෙවදත්තයාගේ ජනනිය කෙරේ සාධු ප්‍රාප්තිය හැඟේ.

**භාගෙ-යදෙත්ථ මමපතිසියා, මමපරි, මං අනු තං දීයතු.**

**විච්ඡායොගෙ-අත්ථමත්ථම්පති සද්දො නිවිසති-රුක්ඛං රුක්ඛම්පති විජ්ජොතතෙ චන්දො, රුක්ඛං රුක්ඛම්පරි, රුක්ඛං රුක්ඛං අනු.**

**“අභිරභාගෙ”ති අභිස්ස භාගවජ්ජිතෙසු ලක්ඛණාදිසු කම්මප්පවචනීයසඤ්ඤා වුත්තා-තං ඛො පන භගවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො-සාධු දෙවදත්තො මාතරං අභි.**

---

භාගෙ, භාගාර්ථයෙහි වැටෙන පත්‍යාදීන්ගේ ප්‍රයොග දක්වනු ලැබේ; භාග නම් කොඨාස යයි; එත්ථ, මෙහි; යං, යමෙක්; මං පති සියා, මා උදෙසා වේද (මට කොටස් වේද); තං දීයතු, හේ දෙනු ලැබේවා—මා නිසා තබන ලද යම් භාගයෙක් ඇද්ද හේ දෙනු ලැබේවා යී තැනි; මං පරි මං අනු යනුද එසේ මැයි, මෙහි පත්‍යා දීන් විසින් අසමත් ශබ්දයාගේ භාගාර්ථ වෘත්තිය ප්‍රකාශ කරනු ලැබේ.

වීච්ඡායොගෙ, වීප්සාප්‍රයොගයෙහි පත්‍යාදීන්ගේ ප්‍රයොග දක්වනු ලැබේ—වීප්සා ස්වරූපයට “සරූපානමෙකසෙසවසකිං” යන සූත්‍ර වර්ණනායෙහි කියන ලද මැ යි; සද්දො, ශබ්දය තෙම; අත්ථං අත්ථං පති, අර්ථයෙක්හි අර්ථයෙක්හි; නිවිසති, (වාචකභාව යෙන්) ප්‍රවෙශ වේ—යම් යම් වචනාර්ථයෙක් ඇද්ද ඒ ඒ සියලු වචනාර්ථ විෂයෙහි වෙන වෙන ම වාචකශබ්දය ප්‍රවෘත්ත යී සේයි, මෙහි භින්න වූ වාචාර්ථයන් නිවිසනක්‍රියාවෙන් එක් කොට කියනු කැමැති බව වීච්ඡා නම්; චන්දො, සඳ තෙම; රුක්ඛං රුක්ඛං පති, වෘක්ෂයෙහි වෘක්ෂයෙහි; විජ්ජොතතෙ, බබළා; රුක්ඛං රුක්ඛං පරි යනාදියෙහි ද අර්ථ මෙසේ මැයි—මෙහි ද භින්න වූ ම වෘක්ෂාර්ථ යන් විජ්ජොතනක්‍රියායෙන් එක්කොට කියනු කැමැතිවීම වීප්සා නම් වේ, මේ දෙතැන්හි ම වීප්සායෙහි වැටෙන පත්‍යාදීන් හා යොගයක් ඇතිකල්හි අර්ථශබ්ද වෘක්ෂශබ්ද දෙන්නා කෙරෙන් ද්විතීයා කොට අත්ථං රුක්ඛං යන ද්විතීයාන්තය හට් තෙසු වුඩ්‍යාදි සූත්‍රයෙන් ද්විත්ව කටයුතු, හැමතැන්හි ම වීප්සාවිෂය ද්විත්ව මෙසේමැ යි.

අභිරභාගෙති, "අභිරභාගෙ" යන පර සූත්‍රයෙන්; අභිස්ස, අභිශබ්දය හට; භාගවජ්ජිතෙසු, භාගාර්ථ වර්ජිත වූ; ලක්ඛණාදීසු, ලක්ෂණ ඉත්ථම්භූතාඛ්‍යාන වීප්සාර්ථවිෂයෙහි; කම්මප්පවචනීය සඤ්ඤ වුත්තා, කර්‍මප්‍රවචනීයසංඥ කියන ලද්දීය, "තං ඛො පන" යනාදිය එහි උදාහරණ යි; තං ඛො පන භගවන්තං ගොතමං, ඒ භගවත් වූ ගෞතමයාගේ; කල්‍යාණො, සුන්දර වූ; කිත්තිසද්දො, කීර්ත්තිඝොෂාව; එවං, මේ (වක්ෂ්‍යමාණ වූ "ඉතිපි සො භගවා අරහං" යනාදි) ප්‍රකාරයෙන්; අබ්භුග්ගතො, (අනන්‍යසාධාරණ ගුණයන් අරහයා ප්‍රවෘත්ත බැවින් දෙවියන් සහිත ලොකයා අභිභවනය කොට) නැංගේ යි—මෙහි "තං භගවන්තං ගොතමං" යන මේ ඉත්ථම්භූතාඛ්‍යානාර්ථයෙහි විතීයා යි, "තස්ස භගවතො ගොතමස්ස" යී තැනි, "අබ්භුග්ගතො" යන මෙහි අභිශබ්ද තෙම අභිභවනය කොට උද්ගමනප්‍රකාරදීපනය කෙරේනු යි ඉත්ථම්භූතාඛ්‍යානාර්ථ ද්‍යොතක අභිශබ්දයොගයෙන් "තං භගවන්තං ගොතමං යන විතීයා ඉත්ථම්භූතාඛ්‍යානය ප්‍රකාශ කරන හෙයින් ඉත්ථම්භූතාඛ්‍යානාර්ථයෙහි යයි කියන ලදී, යම්සේ සාධුදෙවදත්තො මාතරමභි යන මෙහි අභිශබ්දයොගයෙන් ඉත්ථම්භූතාඛ්‍යානයෙහි විතීයා කරන ලදද එසේ ම මෙහිද "තං ඛො පන භගවන්තං ගොතමං අභි එවං කල්‍යාණො කිත්තිසද්දො උග්ගතො" යි අභිශබ්දයොගයෙන් ඉත්ථම්භූතාඛ්‍යානයෙහි විතීයා කරන ලදූ යි තැනි, "සාධු දෙවදත්තො මාතරමභි" යන මෙහි යම්සේ "දෙවදත්තො මාතුවිසයෙ මාතුයා වා සාධු" යයි අධිකරණාර්ථයෙහි සප්තමිය හෝ ස්වාම්‍යර්ථයෙහි ෂෂ්ඨිය හෝ ප්‍රසඞ්ග කල්හි ඉත්ථම්භූතාඛ්‍යානාර්ථ ද්‍යොතක වූ අභිශබ්දයා හා යොගයෙහි විතීයා කරන ලදද, එසේ ම "තං ඛො පන භගවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්ති සද්දො අබ්භුග්ගතො" යන මෙහි දු "තස්ස ඛො පන හොතො ගොතමස්ස විසයෙ වා තස්ස ඛො පන හොතො ගොතමස්ස වා එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො"යි අධිකරණාර්ථයෙහි සප්තමිය හෝ ස්වාම්‍යර්ථයෙහි ෂෂ්ඨි හෝ ප්‍රසඞ්ග කල්හි එම අභිශබ්දයා හා යොගයෙහි විතීයා කරන ලදූ, යම්සේ එහි "දෙවදත්තො මාතු විසයෙ මාතුසම්බන්ධි වා සාධුත්තං සාධුප්පකාරං පත්තො" යන මේ අර්ථය හැගේද, එසේ ම මෙහි දු "තස්ස හොතො ගොතමස්ස විසයෙ තස්ස හොතො ගොතමස්ස සම්බන්ධි වා කිත්තිසද්දො අභිභවිත්වා උග්ගමනප්පකාරං පත්තො" යන මේ අර්ථය හැගේ—එහි දෙවදත්තශබ්දයාගේ ග්‍රහණය මෙන් මෙහි කිත්තිශබ්දයාගේ ග්‍රහණය දතයුතුය, එහි මාතරං යන වචනය

**නිපාතෙ-ධි බ්‍රාහ්මණස්ස හන්තාරං ඉච්චෙවමාදි.**

## 286. ක්වචි දුතියා ඡට්ඨීනමත්ථෙ-2-6-36.

**ඡට්ඨීනමත්ථෙ ක්වචි දුතියාවිභත්ති හොති-අන්තරාභිතො පරිතොපතිපටිභාදියොගෙචායං-අන්තරා ච රාජගහං අන්තරා ච නාළන්දං අද්ධානමග්ගපටිපන්නො-රාජගහස්ස ච නාළන්දාය ච විවරභූතෙ මජ්ඣෙති අත්ථො-අභිතො ගාමං වසති, නදිං නෙරඤ්ජරං පති-නෙරඤ්ජරාය නදියා සමීපෙති අත්ථො-පටිභන්තු තං චුන්ද බොජ්ඣඞ්ගා-උපමා මං පටිභාති-උපමා මය්හං උපට්ඨහන්තීති අත්ථො.**

---

මෙන් මෙහි "තං ඛො පන භගවන්තං ගොතමං" යන වචනය දතයුතුය, එහි සාධුශබ්දයාගේ ග්‍රහණය මෙන් මෙහි උග්ගත ශබ්දයාගේ ග්‍රහණය දතයුතුය; දෙවදත්ත තෙම; මාතරං අභි, මව කෙරෙහි; සාධු, සාධුගුණයෙන් යුක්තයි—ලක්ෂණාර්ථාදීන් විෂයෙහි අභිශබ්දයාගේ ප්‍රයොග "රුක්ඛමභි විජ්ජොතතෙ චන්දො" යනාදීන් යෙදියයුතු.

නිපාතෙ, කර්මප්‍රවචනීයසංඥක නිපාතයොගයෙහි ප්‍රයොග දක්වනු ලැබේ; බ්‍රාහ්මණස්ස, බාහිතපාප ඇති බැවින් බ්‍රාහ්මණය යි කියන ලද ක්ෂීණාශ්‍රවයා; හන්තාරං, නසන්නා වූ පුරුෂයා හට; ධි, නින්දා වේවා—ක්ෂීණාශ්‍රවයා නසන්නහුට ගර්හා කෙරෙමි යි සේයි—මෙහි කර්මාර්ථද්‍යොතක ධි යන නිපාතයා හා යොගයෙහි "හන්තාරං" යි ද්විතීයා වන්නී යි, "බ්‍රාහ්මණස්ස" යනු හන්තාරං යන කෘදන්තයා හා යොගයෙහි කර්මාර්ථයෙහි ෂෂ්ඨී යි, ඉච්චාදි යන මෙහි ආදිශබ්දයෙන් "තං විනා කස්ස සොචතෙ රිතෙ සද්ධම්මං" යනාදි ගත්හු.

ක්වචි ය දුතියා ය ඡට්ඨීනං ය අත්ථෙ ය යනු පද යි.

ඡට්ඨීනමත්ථෙ යන මෙහි ඡට්ඨීනං යි බහුවචනනිර්දේශයෙහි ස්වාම්‍යර්ථයාගේ ම අනෙකප්‍රකාරයෙන් භින්න බව හෙතුකොට ගෙන කරන ලදි; ඡට්ඨීනං අත්ථෙ, ෂෂ්ඨී විභක්තියගේ අර්ථය ද්‍යොතක කල්හි; දුතියා විභත්ති හොති, ද්විතීයා විභක්ති වන්නී යි; අයං, මේ ෂෂ්ඨ්‍යර්ථයෙහි ද්විතීයා තොම; අන්තරා, අන්තරා යන

නිපාතය; අභිතො, අභිතො යන නිපාතය; පරිතො, පරිතො යන නිපාතය; පති, පති යන උපසර්ගය; පටිභාදි, පටි යනු පූර්ව කොට ඇති භා දිත්තිමති යන ධාතුය යන මේ ආදිශබ්දයන් හා; යොගෙච,සම්බන්ධයක් ඇති කල්හි මැ යි—මේ නියමය ද ඝවිග්‍රහණ බලයෙන් සිඬ යයි දතයුතු; "අන්තරා ච රාජගහං" යනාදි එහි උදාහරණ යි—එහි "අන්තරා ච රාජගහං අන්තරා ච නාලන්දං" යන තැන අන්තරා ශබ්ද තෙම කාරණලක්ෂණ චිත්ත වෙමධ්‍ය විවරාදියෙහි පැනේ—එසේ ම නු "තදන්තරං කො ජානෙය්‍ය අඤ්ඤත්‍ර තථාගතා" යනාදියෙහි අන්තරා ශබ්ද කාරණයෙහි වැටෙයි. "අද්දසාම භන්තෙ අඤ්ඤතරං ඉත්ථිං විජ්ජන්තරිකාය භාජනං ධොවන්තිං" යනාදියෙහි ලක්ෂණයෙහි වැටෙයි, යස්සන්ත රතො න සන්ති කොපා" යනාදීයෙහි චිත්තයෙහි වැටෙයි, "අන්තරා වොසානමාපජ්ජි" යනාදියෙහි වෙමධ්‍යයෙහි වැටෙයි, "අථවායං තපොදා ද්වින්නං මහා නිරයානං අන්තරිකාය ආගච්ඡති" යන මෙහි විවරයෙහි වැටෙ යි, මෙහි ද විවරයෙහි වැටෙයි, එහෙයින් "රාජගහස්ස ච නාලන්දාය ච විවරෙ" යි මෙසේ අර්ථ දතයුතු—ආචාර්‍ය්‍යයන් විසින් වනාහි "රාජගහස්ස ච නාලන්දාය ච වෙමජ්ඣෙති අත්ථො" යි මෙසේ අන්තරා ශබ්දයාගේ අර්ථ කියන ලදී,හෙ ද දෙන්නාගේ විවරදෙශය ම ශෙත කියන ලදූ යි දතයුතු, මෙබඳු වූ ස්ථානයෙහි පරශබ්දශාස්ත්‍රවිද්‍දහු "අන්තරා ගාමංච නදිංච යාති" මෙසේ එක ම අන්තරා ශබ්දයා ප්‍රයොග කෙරෙති, හේ ද්විතීය පදයා හා ද යෙදිය යුතු වන්නේය, නො යෙදෙන කල්හි ද්විතීය පදයෙහි උපයොගවචන නො පැමිණේ යි, කවර හෙයින්ද යත්? ස්වාමිවචනයාගේ ප්‍රසඞ්ගයක් ඇති කල්හි අන්තරා ශබ්ද යොගයෙන් උපයොගවචනයා ඊප්සිත බැවින් මෙහි වනාහි ඒ යොදා ම කියන ලදී; අන්තරා ච රාජගහං අන්තරා ච නාලන්දං, රාජගෘහයාගේ ද නාලන්දාවගේද විවරදෙශයෙහි වූ; අද්ධානමග්ග පටිපන්නො, දීර්ඝමාර්ගයට ප්‍රතිපන්න යි—අද්ධානමාර්ගය යි ද දික් මග කියනු ලැබේ, මෙහි අද්ධාන ශබ්ද දීර්ඝපර්‍ය්‍යාය යි; අභිතො ගාමං, ග්‍රාමයාගේ සමීපයෙහි; වසති, වෙසේ; "ගාමස්ස සමීපෙ" යි නැති; පරිතො ගාමං, ග්‍රාමයාගේ හාත්පස; වසති, (සෙනා) වසන්නී යි; "ගාමස්ස සමන්තතො" යි නැති; නෙරඤ්ජරං නදිං පති, නෙරඤ්ජරා නදියගේ සමීපයෙහි; නෙරඤ්ජරාය නදියා සමීපෙති අත්ථො, නෙරඤ්ජරා නම් නදියගේ සමීපයෙහිය යන අර්ථයි—මෙයින් "නදිං නෙරඤ්ජරං පති" යන මෙහි පති ශබ්දයාගේ සමීපාර්ථ බව කීහු; චුන්ද, චුන්දය; බොජ්ඣඞ්ගා, (ස්මෘති ධර්මවිචයාදි වූ සප්ත)

**ක්වචි දුතියා අත්ථෙ ති ච වත්තතෙ.**

## 287. තතියාසත්තමීනඤ්ච-2-6-37.

**තතියා සත්තමීනමත්ථෙ ච ක්වචි ලිඞ්ගම්හා දුතියා විභත්ති හොති.**

**තතියත්ථෙ-සචෙ මං නාලපිස්සති, ත්වං ච මං නාභිභාසසි-විනා ධම්මං කුතො සුඛං-උපායමන්තරෙන න අත්ථි.**

**සත්තමියත්ථෙ-කාලෙ උපන්වජ්ඣාවසස්ස පයොගෙ අධිසීඨාසානං පයොගෙ තප්පානාචාරෙ ච දුතියා.**

---

බොධ්‍යඞ්ග ධර්මයෝ; තං, තට; පටිභන්තු, වැටහෙත්වා; "තව පටිභන්තු" සි නැති; උපමං, උපමාවක්; මං, මට; පටිභාති, වැට හෙන්නී සි; උපමා මය්හං උපට්ඨහතීති අත්ථො, මට උපමාවක් තොමෝ වැටහෙන්නීය යන අර්ථ සි.

ක්වචි දුතියා අත්ථෙති ච, "ක්වචි දුතියා ඡට්ඨීනමත්ථෙ" යන සූත්‍රයෙන් ක්වචි යනු ද දුතියා යනු ද අත්ථෙ යනු ද; වත්තතෙ,මතු සූත්‍රයට වැටේ.

තතියාසත්තමීනං ය ච ය යනු පද සි.

තතියා ච සත්තමී ච තතියාසත්තමී, තාසං තතියාසත්තමීනං-මෙහි ච ශබ්ද අප්‍රධානාර්ථයෙහි විතීයා විධානය පිණිස සි, පුබ්බෙන ගාමං යනු එහි උදාහරණ සි, ගාමස්මා පුබ්බස්මිං සී නැති.

තතියාසත්තමීනං අත්ථෙ ච, තෘතීයා සප්තමීන් දෙන්නාගේ අර්ථයෙහි ද; ක්වචි, කිසි විවක්ෂිතස්ථානයෙක්හි; ලිඞ්ගම්හා, ශබ්දයා කෙරෙන්; දුතියා විභත්ති හොති, විතීයා විභක්ති වන්නී ය.

තතියත්ථෙ, තෘතීයා විභක්තියගේ අර්ථයෙහි විතීයා විභක්ති කියනු ලැබේ; මං, මා හා; සචෙ, ඉදින්; නාලපිස්සති, නො බෙණේ ද—"මයා සද්ධිං නාලපිස්සති" සි නැති; ත්වං ච, තෝ ද; මං, මා හා; නාභිභාසසි, නො බෙණෙහි ද—"මයා නාභිභාසසි" සි නැති; ධම්මං විනා, ධර්මය හැර; සුඛං, සුවයෙක්; කුතො,

**කාලෙ තාව-පුබ්බණ්හසමයං නිවාසෙත්වා, එකං සමයං භගවා, ඉමං රත්තිං චත්තාරො මහාරාජා-උපාදි පුබ්බස්ස වස ධාතුස්ස පයොගෙ ගාමං උපවසති, ගාමං අනුවසති, විහාරං අධිවසති, ගාමං ආවසති, අගාරං අජ්ඣාවසති.**

**තථා-පඨවිං අධිසෙස්සති, ගාමං අධිතිට්ඨති ගාමං අජ්ඣාවසති.**

---

කොයින් ද; නැතැ යි සේ යි—මෙහි "ධම්මෙන විනා" යි කියයුතු තන්හි තෘතීයාර්ථයෙහි විතීයා යි; උපායං අන්තරෙන, උපායෙන් වෙන් ව; න අත්ථසිද්ධි, අර්ථයාගේ සැදීමෙක් නැති—"උපායෙන විනා" යයි තැනි.

සත්තමියත්ථෙ, සප්තම්‍යර්ථවිෂයෙහි; කාලෙ, කාලයක් කියයුතු කල්හි; උපන්වජ්ඣාවසස්ස පයොගෙ, උප අනු අධි ආ පූර්ව වස-නිවාසෙ යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇතිකල්හි ද; අධිසිඨාසානං පයොගෙ, අධිපූර්ව වූ සි-සයෙ, ඨා-ගති නිවුත්තිම්හි, ආස-උපවෙසනෙ, යන ධාතූන්ගේ ප්‍රයොගයක් ඇතිකල්හි ද; තප්පානාචාරෙ ච, එහි බොයි එහි හැසිරෙ යි යන මේ අර්ථ කියයුතු කල්හි ද; දුතියා, විතීයා වේ—මේ නියම ද අනුවෘත්ත ක්‍රවිග්‍රහණයෙන් සිඩ යි; උපො ච අනු ච අධි ච ආ ච උපන්වජ්ඣා, තෙහි යුත්තො තං පුබ්බකො වසො උපන්වජ්ඣාවසො, තස්ස උපන්වජ්ඣාවසස්ස; සි ච ඨා ච ආසො ච සිඨාසා, අධිනා යුත්තා තං පුබ්බකා සිඨාසා අධිසිඨාසා, තෙසං අධිසිඨාසානං; පානං ච ආචාරො ච පානාචාරං, තස්මිං පානාචාරං තප්පානාචාරං, තස්මිං තප්පානාචාරෙ; "චන්දාදි සද්දෙ පච්චෙකං සම්බන්ධිතබ්බො"ති ඤායා තප්පානෙ තදාචාරෙති යොජෙතබ්බං.

තාව, පළමු කොට; කාලෙ, කාලයෙහි ප්‍රයොග දක්වනු ලැබේ; පුබ්බණ්හසමයං, පූර්වාහ්නකාලයෙහි; නිවාසෙත්වා, හඳනා සිවුර ත්‍රිමණ්ඩල ප්‍රතිච්ඡාදනය කොට හැඳ පෙර ව; "පත්තචීවර මාදාය [illegible]ජගහං පිණ්ඩාය පාවිසි" යි යොදනු—"පුබ්බණ්හසමයෙ"යි නැති; භගවා, භාග්‍යවත් තෙම; එකං සමයං, එක් සමයෙක්හි; "සාවත්ථියං විහරති"යි සම්බන්ධ කරනු "එකස්මිං සමයෙ"යි නැති—අත්‍යන්තසංයොගයෙහි ද මේ විතීයාව කියත්, එසේ ම නු යි, යම් සමයෙක්හි භාග්‍යවත් තෙම ශ්‍රාවස්තියෙහි වෙසේ ද එසමයෙහි

**තප්පානාචාරෙසු-නදිං පිබති, ගාමං චරති ඉච්චාදි. කස්මිං අත්ථෙ දුතියා.**

## කරණෙ තතියා.

**කරණකාරකෙ තතියා විභත්ති හොති-කිං කරණං?**

### යෙන වා කයිරතෙ තං කරණං.

**යෙන වා කත්තා උපකරණභූතෙන වත්ථුනා කිරියං අව්‍යව ධානෙන කරොති යෙන වා විකරොති යෙන වා පාපුණාති තං කාරකං කරණසඤ්ඤං හොති.**

---

නිරන්තරයෙන් ම පරහිත ප්‍රතිපත්ති සඞ්ඛ්‍යාත කරුණාවිහාර යෙන් විසී යි; ඉමං රත්තිං, මේ රාත්‍රියෙහි; චත්තාරො මහාරාජා, සතරවරම් මහරජහු; “මං අභිවාදෙත්වා එකමන්තං නිසීදිංසු” යි යොදනු “ඉමිස්සං රත්තියං” යි තැනි—මේ හැම කාලයෙහි ලා ද්විතීයා ප්‍රයොග යි; උපාදිපුබ්බස්ස, උප ආදි උපසර්ග පූර්වකොට ඇති (උප අනු අධි ආ යන උපසර්ගයන් පූර්වකොට ඇති); වස ධාතුස්ස පයොගෙ, වස-නිවාසෙ යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි උදාහරණ කියනු ලැබේ; ගාමං උපවසති, ග්‍රාමයෙහි වෙසේ, “ගාමෙ” යි තැනි, මත්තෙහි “ගාමං අනුවසති, විහාරං අධිවසති, ගාමං ආවසති,අගාරං අජ්ඣාවසති” යනුදු මෙසේ මැ යි.

තථා, එසේ ම—අධිපූර්ව සි-සයෙ යනාදි ධාතූන්ගේ ප්‍රයොග යක් ඇති කල්හි උදාහරණ දක්වනු ලැබේ; පථවිං අධිසෙස්සති, පෘථිවියෙහි හොවී නොහොත් පෘථිවියගේ මත්තෙහි හොවී; “පථවියං පථවියා” යි තැනි; ගාමං අධිතිට්ඨති, ග්‍රාමයෙහි සිටී; ගාමං අජ්ඣාවසති, ග්‍රාමයෙහි වෙසේ; “ගාමෙ” යි තැනි.

තප්පානාචාරෙසු, තත්පාන තදාචාරාර්ථයන් දෙන්නා කිය යුතු කල්හි ද්විතීයා ප්‍රයොග දක්වනු ලැබේ; නදිං, නදියෙහි; පිබති, ජල පානය කෙරෙයි; ගාමං, ග්‍රාමයෙහි; චරති, හැසිරේ; “නදියං, ගාමෙ” යි තැනි—“සුඛං සෙති” යනාදියෙහි වනාහි ක්‍රියා විශෙෂණත්වය හෙතු කොට ගෙන කර්මාර්ථයෙහි ම ද්විතීයා යි. ඒ ක්‍රියාවිශෙෂණත්වය කිසේ ද යත්? භූ-සත්තායං, කර-කාරණෙ

යන ධාතු දෙන්න සකල ධාත්වර්ථ විෂයෙහි සම සේ විද්‍යමානයහ, එහෙයින් සෙති යි කී කල්හි "සයනං කරෙති" යන අර්ථය, කිං විසිඨං සයනං යි අපෙක්‍ෂාවක් ඇති කල්හි සුඛං යි අපෙක්‍ෂා කරනු ලබන හෙයින් සයනක්‍රියාවට සුඛං යනු විශෙෂණ නු යි සයන ශබ්දයා හා සමානාධිකරණ බව හෙතුකොට ගෙන ඒ සයන ශබ්දසථ වූ විතීයෙක වචනය ද නපුංසකත්වය ද සුඛශබ්ද තෙම ලබන්නේ යි. කීයේ මැනො:—

"ක්‍රියා විසෙසනං යාව තං සබ්බං හි නපුංසකො
සියා ච එකවචනං යථා භික්ඛු සුඛං සීතා" යි.

විතියා වණ්ණනා යි.

---

**කස්මිං අත්‍ථෙ, කවර අර්ථයෙක්හි; තතියා, තෘතීයා වේ ද යත්?**

කරණෙ ය තතියා ය යනු පද යි.

කරණ කාරකෙ, කරණ කාරකයෙහි; තතියා විභත්ති හොති, තෘතීයා විභක්ති වන්නී යි; කිං කරණං, කරණ නම් කිම් ද? සරූප පෘච්ඡා යි.

යෙන ය වා ය කයිරතෙ ය තං ය කරණං ය යනු පද යි.

කත්තා උපකරණභූතෙන යෙන වත්‍ථුනා කිරියං අව්‍යව ධානෙන කරෙති වා උපකරණ භූතෙන යෙන වත්‍ථුනා අව්‍යව ධානෙන විකරෙති වා උපකරණ භූතෙන යෙන වත්‍ථුනා අව්‍යව ධානෙන පාපුණාති වා යි යොදනු.

කත්තා, කර්තෘ තෙම; උපකරණ භූතෙන, තම හට අතිශයින් උපකරණ වූ—වහල් වූ යයි සේයි; යෙන වත්‍ථුනා, හස්තාදී වූ යම් වස්තුවක් හෙතු කොට ගෙන; කිරියං, නිර්වෘත්ති ලක්‍ෂණ වූ ක්‍රියාව; අව්‍යවධානෙන,(කිසිවකින්) ව්‍යවධානයක් නැති වී මෙන්-අතුරක් නැති ව යි සේ යි; කරෙති වා, නිපදවා ද; උපකරණභූතෙන, තම හට උපකරණ වූ; යෙන වත්‍ථුනා, යම් වස්තුවක් කරණ කොට ගෙන; අව්‍යවධානෙන, ව්‍යවධානයක් නැති ව; විකරෙති වා, විද්‍යමාන ව්‍රීහ්‍යාදිය විකාරයට පමුණුවා ද; උපකරණභූතෙන, තම හට උපකරණ වූ; යෙන වත්‍ථුනා, නෙත්‍රාදි යම් වස්තුවක්

**කරීයතෙනෙනාති කරණං-එත්ථ සතිපි සබ්බකාරකානං කිරියාසාධකත්තෙ යෙන වා කයිරතෙති විසෙසෙත්වා වචනං කත්තුපකරණභූතෙසු සාධනෙසු සාධකතමස්සෙව ගහණත්ථං-වුත්තනව.**

**51) "යස්ස සබ්බවිසෙසෙන ක්‍රියාසංසිද්ධිහෙතුතා සම්භාවීයති තං වුත්තං කරණං නාම කාරක"න්ති.**

---

කරණ කොට ගෙන; අව්‍යවධානෙන, අව්‍යවධානයෙන්; පාපුණාති වා, (විද්‍යමාන වූ) රූපාදිය විෂය කෙරේ ද; තං කාරකං, කර්‍තෲප කාරණ වූ ඒ කාරකය; **කරණසඤ්ඤං හොති, කරණසංඥ** ඇත්තේ ද වේ.

අනෙන, මේ (භේදකයා) හෙතු කොට ගෙන; කරීයතෙති, කර්‍තෲහු කර්‍මය කරනු ලැබේ නු යි; කරණං, කරණ නම්—කර යන ධාතුහු කෙරෙන් කාරණයෙහි යු ප්‍රත්‍යය යි. දැන් "යෙන කයිරතෙ" යන මෙහි "යෙන" යන පදයාගේ කර්‍තෲකාරකයෙහි සම්භව ඇති බැවින්; යෙන, යමක්හු විසින්; කයිරතෙ, කරනු ලැබේ ද යි මෙසේ කර්‍තෲ අර්‍ථය ද ලබන්නේ ය, එසේ කල්හි සියලු කාරකයන් විසින් ම ක්‍රියාව කරනු ලබන බවෙක් ඇත් නු යි ඔවුන්ගේ කර්‍තෲත්වය ප්‍රසඞ්ග වන්නේ ය, එහෙයින් මේ කිසේ දත යුතු ද යන අනුයොගය සිත තබා පරිහාර දක්වනුවෝ කියත් "එත්ථ" යනාදි.

**එත්ථ සබ්බකාරකානං කිරියාසාධකත්තෙ සතිපි යෙන වා කයිරතෙති විසෙසෙත්වා වචනං කත්තූපකරණභූතෙසු සාධනෙසු සාධකතමස්සෙව ගහණත්ථං,** යී යොදනු.

එත්ථ, මේ සූත්‍රයෙහි; සබ්බකාරකානං, සියලු කර්‍මාදි කාරකයන්ගේ; කිරියා සාධකත්තෙ සතිපි, නිෂ්පත්ත්‍යාදි ක්‍රියා සිඩියට හෙතු බවක් ඇති කල්හි දු;යෙන වා කයිරතෙති විසෙසෙත්වා වචනං,යෙන වා කයිරතෙ යන වචනයෙන් වෙසෙසා කීම;කත්තූප කරණභූතෙසු සාධනෙසු,කර්‍තෲ හට උපකරණ වූ කර්‍මකරණාදි වූ සාධනයන් අතුරෙහි; සාධකතමස්සෙව, අතිශයින් සාධක වූවහු ගේ ම; ගහණත්ථං, ගැන්ම ප්‍රයොජන කොට ඇත්තේ යි—කුම යු තැන යත්? කිසිසේත් සියලු කාරකයන් විසින් ම ක්‍රියා කරනු ලබන්නී ය, එතකුදු වත් "යෙන කයිරතෙ" යන විශෙෂණ පදය

**තං පන දුවිධං අජ්ඣත්තිකබාහිරවසෙන.**

**යථා-හත්ථෙන කම්මං කරොති, චක්ඛුනා රූපං පස්සති, මනසා ධම්මං විඤ්ඤාය, දාත්තෙන වීහයො ලුනාති, අග්ගිනා කුටිං ඣාපෙති.**

**තතියාති අධිකාරො.**

## කත්තරි ච.

**කත්තරි ච කාරකෙ ලිඞ්ගම්හා තතියා විභත්ති හොති- චග්ගහණෙන ඉත්ථම්භූතලක්ඛණෙ කිරියාපවග්ගෙ පුබ්බසදිස සමොනත්ථ කලහනිපුණමිස්සකසඛිලත්ථාදිප්පයොගෙ කාලද්ධානෙසු පච්චත්තකම්මත්ථපඤ්චමියත්ථාදිසු ච තතියා.**

---

කර්තෘය අපෙක්ෂා කොට කියන ලද නො වෙයි කර්තෘ හට උප කරණ වූ සියලු කාරක සම්ප්‍රයොගයෙහි යමෙක් අතිශයින් ක්‍රියාව කෙරේ ද යමක්හුගේ ව්‍යාපාරානන්තරයෙහි ක්‍රියා නිෂ්පත්තිය වේ ද හේ කර්තෘ හට අතිශයොපකාර වූ අර්ථය අපෙක්ෂා කොට කියන ලද හෙයින් සියලු කාරකයන්ට වඩා සාධකතම වූ යි කරණ නමැයි යු තැනි, කත්තුනො උපකරණභූතා කත්තූපකරණ භූතා, තෙසු කත්තූපකාරණභූතෙසු, අතිසයෙන සාධකානන්ති සාධක තමං, තස්ස සාධකතමස්ස.

වුත්තං ච, මඤ්ජූසායෙහි කියන ලදී.

සබ්බවිසෙසෙන,කර්මාදි සියලු කාරකයන්ට වඩා අතිශයෙන්; ක්‍රියාසංසිද්ධිහෙතුතා, කර්තෘහුගේ නිර්වර්තනාදි ක්‍රියානිෂ්පත්තියට කාරණ බව; යස්ස, යමක් හට; සම්භාවීයති, සම්භාවනා කරනු ලැබේ ද; තං,හේ; කරණං නාම කාරකං, කරණ නම් කාරක යයි; වුත්තං, කියන ලදී; සබ්බෙහි විසෙසො සබ්බවිසෙසො, තෙන සබ්බවිසෙසෙන, සබ්බකාරකෙහි අතිසයෙනාති අත්ථො, ක්‍රියාය සංසිද්ධි (නිප්ඵත්ති) ක්‍රියාසංසිද්ධි, හෙතුනො භාවො හෙතුතා, ක්‍රියා සංසිද්ධියා හෙතුතා ක්‍රියාසංසිද්ධි හෙතුතා.

තං පන, හේ කරණකාරක වනාහි; අජ්ඣත්තිකබාහිරවසෙන, අභ්‍යන්තරකරණබාහ්‍යකරණවශයෙන්; දුවිධං, දෙවැදෑරුම් ඇත්තේ යි; අජ්ඣත්තෙ ඉන්ද්‍රියපටිබද්ධෙ කායෙ භවං අජ්ඣත්තිකං, තතො බාහිරභූතං බාහිරං, අජ්ඣත්තඤ්ච බාහිරඤ්ච අජ්ඣත්තික

බාහිරං, තස්ස වසෙන; හත්ථෙන යනාදි එහි උදාහරණ යි—මෙහි හස්තාදිත්‍රය අභ්‍යන්තර වූයේ කර්තෘහුගේ කරණාදි ක්‍රියාසිද්ධියෙහි ලා අතිශයින් වහල් නු යි ආධ්‍යාත්මිකකරණ නම් වේ, දාත්‍රාදිවය බාහ්‍යවූයේ කර්තෘහුගේ ලායනාදි ක්‍රියාසිද්ධියෙහි ලා අතිශයින් වහල් නු යි බාහ්‍යකරණ නම් වෙයි.

යථා, ඒ කරණකාරකයා ආධ්‍යාත්මිකබාහ්‍යවශයෙන් දෙවැදෑරුම් වූ නියාව මෙසේ යි; හත්ථෙන, තමාගේ අතකරණකොට ගෙන; කම්මං, බැළ ආදි කර්මය; කරොති, (පුරුෂ) කෙරෙයි; මෙහි "කරොති" යනු කර්තෘකාරකයෙහි ක්‍රියාපද ය, එයින් උක්ත බැවින් පුරිසො යනු උක්තකර්තෘ ය, කම්මං යනු අනුක්ත ව්‍යාප්‍ය කර්ම ය, හත්ථෙන යනු අනුක්ත කරණ යි, එහි හස්තය නැති වූයේ කර්මයාගේ කරණක්‍රියාව පුරුෂයාට අසිද්ධ හෙයින් හස්තය ප්‍රධාන වූ සාධන යි,සෙස්සෙහි ද මෙසේ මැ දතයුතු;චක්ඛුනා, ඇස කරණ කොට ගෙන; රූපං, රූපය (වර්ණායතනය); පස්සති, බලා; මනසා, සිත කරණ කොට ගෙන; ධම්මං, ධර්මාලම්බනය; විඤ්ඤාය, දැන; "න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී" යි යොදනු; දාත්තෙන, දාත්‍රය කරණ කොට ගෙන; වීහයො ලුනාති, ව්‍රීහීන් කපා-ගොයම් යස් සේයි; අග්ගිනා, ගින්න කරණ කොට ගෙන; කුටිං, කිළිය; ඣාපෙති, දවා.

තතියාති, "කරණෙ තතියා" යන සූත්‍රයෙන් තතියා යනු; අධිකාරෙ, මතු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ.

**කත්තරි ය ච ය යනු පද යි.**

**කරොතීති කත්තා, තස්මිං කත්තරි.**

කත්තරි ච කාරකෙ, කර්තෘකාරකයෙහි ද; ලිඞ්ගම්හා, ශබ්දයා කෙරෙන්, තතියා විභත්ති හොති, තෘතීයා විභක්ති වේ;"ඉත්ථම්භූත ලක්ඛණෙ-පෙ-පඤ්චමියත්ථාදිසු ච වග්ගහණෙන තතියා"යි යොදනු.

ඉත්ථම්භූතලක්ඛණෙ, කිඤ්චිත් ප්‍රකාරයකට ප්‍රාප්තයාගේ ලක්ෂණය ද්‍යෝත්‍ය කල්හි ද; කිරියාපවග්ගෙ, ක්‍රියාවගේ ආශු පරිසමාප්තිය කියයුතු කල්හි ද; පුබ්බ,පුබ්බශබ්දය; සදිස, සදිසශබ්දය; සම, සමශබ්දය; ඌනත්ථ, ඌනාර්ථවාචී ශබ්දය; කලහ,කලහශබ්දය; නිපුණ, නිපුණශබ්දය; මිස්සක, මිස්සකශබ්දය; සඛිල, සඛිලශබ්දය; අත්ථාදි, අර්ථශබ්දය යන මේ ආදී ශබ්දයන් හා; යොගෙ, යොග

**කො ච කත්තා?.**

## යො කරොති ස කත්තා.

**යො කිරියං අත්තප්පධානො හුත්වා කරොති සො කත්තු සඤ්ඤො හොති-සො තිවිධො සුද්ධකත්තා හෙතුකත්තා කම්මකත්තාති, තත්ථ යො සයමෙව කිරියං කරොති සො සුද්ධකත්තා-යො අඤ්ඤං කාතුං අකාරෙන්තං කම්මණි නියොජෙති සො හෙතුකත්තා.**

---

යක් ඇතිකල්හි ද; කාලද්ධානෙසු, කාලද්ධාන විෂයෙහි ද; පච්චත්ත, ප්‍රථමාර්ථය; කම්මත්ථ, කර්මාර්ථය; පඨමියත්ථ, පඨම්‍යර්ථය යන; ආදීසු ච, මේ ආදී අර්ථයන් ද්‍යොත්‍ය කල්හි ද; වග්ගහණෙන, වග්‍රහණය හෙතුකොට ගෙන; තතියා, තෘතීයා විභක්ති වන්නී ය; ඉත්ථම්භූතස්ස ලක්ඛණං ඉත්ථම්භූතලක්ඛණං, තස්මිං ඉත්ථම්භූත ලක්ඛණෙ; කිරියාය අපවග්ගො—සීඝසමාපනං කිරියාපවග්ගො, තස්මිං කිරියාපවග්ගෙ; පුබ්බො ච සදිසො ච සමො ච ඌනත්ථො ච කලහො ච නිපුණො ච මිස්සකො ච සඛිලො ච අත්ථො ච පුබ්බ සදිසසමොනත්ථකලහනිපුණමිස්සකසඛිලත්ථා, තෙ ආදයො යෙසං තෙ තදාදයො, තෙසං යොගො පුබ්බ-පෙ-සඛිලත්ථාදි යොගො, තස්මිං පුබ්බ-පෙ-සඛිලත්ථාදියොගෙ—මෙහි ආදි ශබ්දයෙන් තුල්‍යසමානහීනාධිකාදි ශබ්දයන්ගේ ග්‍රහණය යි; පච්චත්තං ච කම්මත්ථො ච පඨමීඅත්ථො ච පච්චත්තකම්මත්ථපඨමි අත්ථා, තෙ ආදයො යෙසං තෙ තදාදයො, තෙසු පච්චත්තකම්මත්ථ පඨමිඅත්ථාදිසු—මෙහි ආදිශබ්දයෙන් සප්තම්‍යර්ථාදීන් ගන්නු.

කො ච කත්තා, කර්තෘ නම් කවර යත්? යමෙක් යමෙක් කෙරේ ද ඒ කර්තෘ නම් වේ.

යො ය කරොති ය සො ය කත්තා ය යනු පද යි.

යො, යමෙක් තෙම; ක්‍රියං, ගමනාදි ක්‍රියාව; අත්තප්පධානො හුත්වා කරොති (මෙහෙයන ලදුව හෝ මෙහෙයන නො ලදු ව හෝ අන්‍ය කාරකයන්ට වඩා) තොමේ ම ප්‍රධාන වූයේ කෙරේ ද; සො, හෙතෙම; කත්තුසඤ්ඤො හොති, කර්තෘසංඥක වේ—හැමදෙනා ගේ ම ක්‍රියාවට උපනිශ්‍රයභාවයක් ඇතිකල්හි දු නැවත මෙසේ කී, යම්සේ "රජ්ජරජ රූපරූපං" යනාදි විශිෂ්ටතර වූ රජාදීනු

හැඟෙද්ද, එසේ ම සියලු කාරකයන්ගේ සමවධානයක් ඇති
කල්හි යමෙක් ස්වතන්ත්‍ර ව කර්මස්ථ වූ හෝ කර්තෘස්ථ වූ හෝ ක්‍රියාව
කෙරේ ද, හේ කර්තෘ නමැ යි දක්වනු පිණිස ය යනු මෙහි භාව යි,
එසේ ම නු "සූදෙන ථාලියං කට්ඨෙහි ඔදනො පච්චතෙ, රඤ්ඤා
පාසාදෙ පාදෙහි ඨීයතෙ" යන මෙහි ස්ථාල්‍යාදි වූ කාරක සමූහය
සූදදීන් විසින් යොදන ලද්දේ ම ස්වකීය ස්වකීය ධාරණාදි
ව්‍යාපාරයෙන් පාකාදික්‍රියාව නිපදවානු යි සූද රජ සඞ්ඛ්‍යාත
කාරකාවය ම උත්සාහ වත් බැවින් ප්‍රධාන ය, ඒ ස්ථාල්‍යාදිය
ප්‍රධාන නො වේ, ඒ මෙහි ආධාර වූ ස්ථාලි ප්‍රාසාද දෙන්නා ඔදන
නරේන්ද්‍ර දෙන්නා ධරත් නු යි ධාරණව්‍යාපාරය කෙරෙති, කාෂ්ඨ
පාද දෙන්නා ජ්වලන සංස්ථාන ව්‍යාපාරය කෙරෙති, කර්ම වූ
ඔදනය විකෙලදන ව්‍යාපාරය කෙරෙ යි, මෙහි ද පාකක්‍රියාව
කර්මස්ථ ය, ස්ථිතික්‍රියාව කර්තෘස්ථ ය යි දත යුතු. එයින් කීහ·—

> "යො යොජයං සකසකෙ බලු කාරකානි
> අඤ්ඤෙ ක්‍රියෙ යතනයුත්තතයා පධානො
> කම්මට්ඨිතං ක්‍රියමථාත්තඨිතං කරොති
> කත්තාති සො නිගදිතො ස ච නෙකභෙදො" යි.

ස ච නෙකභෙදොති එත්ථ පන අයං තාව කත්තුභෙදො,
දුවිධො හි කත්තා සචෙතනො අචෙතනොති; තත්ථ තිවිධො සචෙ
තනො කම්මකත්තා හෙතුකත්තා සුද්ධකත්තාති, තෙසු කම්මකත්තා
නාම හෙතුකත්තාරා පයොජියමානො, යො පයොජ්ජකත්තාති ච
වුච්චති, සො දුවිධො අත්තඨකිරියාහෙතුකො කම්මඨකිරියා
හෙතුකොති, තත්ථ යො සචෙතනො අඤ්ඤෙන පයොජියමානො
අත්තඨං කිරියං කරොති සො සචෙතනො අත්තඨකිරියාහෙතු
කම්මකත්තාති වුච්චති, යථා රාජනියොගතො තිට්ඨති දෙව
දත්තොති, යො පන වුත්තනයෙන කම්මඨං කිරියං කරොති සො
සචෙතනො කම්මඨකිරියාහෙතුකම්මකත්තාති වුච්චති, යථා
රාජනියොගතො ගාමං දහතීති, හෙතුකත්තා නාම තස්ස කම්ම
කත්තුනො පයොජකො සො පයොජකකත්තාති ච වුච්චති, සො
තිවිධො පෙසකො අජ්ඣෙසකො ආනුකූල්‍යභාගීති, තත්ථ යො
අනාදරෙන පයොජ්ජකත්තාරං පෙසෙති අයං සචෙතනො
පෙසකො හෙතුකත්තා නාම, යථා සාමි දාසං ගාමං ගමයතීති,
යො ආදරෙන තං පයොජෙති සො සචෙතනො අජ්ඣෙසකො
හෙතුකත්තා නාම, යථා සද්ධො භික්ඛූ භොජයතීති, යො ආදරෙන
වා අනාදරෙන වා කම්මකත්තාරං නෙව පයොජෙති කෙවලං පන

තස්ස කිරියාය ආනුකූල්‍යතං භජති සො සචෙතනො ආනුකූල්‍ය භාගී හෙතුකත්තා නාම, යථා පුත්තො පිතරං තොසෙතීති, එත්ථ ච පුත්තො පිතරං තොසෙතුං ආදරයුත්තො වා අනාදර යුත්තො වා නප්පයොජෙති කෙවලං පනස්ස තොසුප්පත්තියා ආනුකූල්‍යං භජන්තො තං පයොජෙති නාමාති කත්වා සචෙතනො ආනුකූල්‍යභාගී හෙතුකත්තාති වුච්චති, සුද්ධකත්තා නාම තදුභය විනිම්මුත්තො යො පයොජ්ජපයොජකරූපාභාවතො අනුභය රූපො සතන්තොති වුච්චති, සොපි පයොජ්ජකත්තා විය දුවිධො, තත්ථ යො සචෙතනො අඤ්ඤෙන අප්පයුජ්ජමානො සයච අඤ්ඤං අප්පයොජෙන්තො අත්තට්ඨං කිරියං කරොති සො සචෙතනො අත්තට්ඨකිරියා හෙතුකො සුද්ධකත්තා නාම, යථා දෙවදත්තො සෙතීති, යො පන වුත්තනයෙන කම්මට්ඨං කිරියං කරොති සො සචෙතනො කම්මට්ඨකිරියාහෙතුකො සුද්ධකත්තා නාම, යථා සූදො ඔදනං පචතීති.

අචෙතනො සචෙතනො විය තිවිධො, තඤ්ඤ අචෙතනො කම්මකත්තාපි සචෙතනො කම්මකත්තා විය තිවිධො, තත්ථ යො අචෙතනො අඤ්ඤෙන පයොජියමානො අත්තට්ඨං කිරියං කරොති සො අචෙතනො අත්තට්ඨකිරියාහෙතුකො කම්මකත්තා නාම, යථා වායුනා කම්පියමානො පල්ලවො කම්පතෙති, අචෙතනො කම්මකත්තා සචෙතනො කම්මකත්තා විය දුවිධො, තත්ථ යො අචෙතනො අඤ්ඤෙන පයොජියමානො අත්තට්ඨං කිරියං කරොති සො අචෙතනො,වායු පල්ලවං පාතෙති, යො පන තථෙව කම්මට්ඨං කිරියං කරොති සො අචෙතනො කම්මට්ඨකිරියාහෙතුකො කම්ම කත්තා නාම, යථා කාකෙන පාතියමානං පූගඵලං භූමියං පතතීති, අචෙතනො හෙතුකත්තා පන කෙවලං ආනුකූල්‍යභාගී හොති, න ච පෙසකො අජ්ඣෙසකො වා, කස්මා? අචෙතනො සචෙතනො විය සචෙතනෙන කාරෙතුං න සක්කුණෙය්‍ය ආද රෙන වා අනාදරෙන වා විධානෙ සාමත්ථියාභාවතො, තත්‍රොදාහ රණං—භික්ඛා භික්ඛුං වාසයතීති,එත්ථ ච භික්ඛා අචෙතනා සමානා භික්ඛුනො නිවාසහෙතුත්තා තස්ස ආනුකූල්‍යං භජති තං පයො ජෙති නාමාති කත්වා අචෙතනො ආනුකූල්‍යභාගී හෙතු කත්තාති වුච්චති, අචෙතනො සුද්ධකත්තා ච සචෙතනො සුද්ධකත්තා විය දුවිධො, තත්ථ යො අචෙතනො අඤ්ඤෙන අප්පයොජියමානොති ආදිනා පුබ්බෙ වුත්තනයෙන යොජෙතබ්බං, තත්‍රොදාහරණං— අග්ගි ජලති, පාවකො ඉන්ධනං දහතීති, රජනියොගතො තිට්ඨති

**යථා-ගන්තුං සමත්ථො දෙවදත්තො තම්මඤ්ඤො පයොජෙති ගමයති දෙවදත්තන්ති.**

**සම්පන තත්ථ තත්ථ ගච්ඡති දෙවදත්තො තමඤ්ඤො පයොජයති ගමයති දෙවදත්තන්ති හෙතුකත්තුනිදස්සනං නාමපි කාමත්ථියදස්සනවසෙන වුත්තන්ති ගහෙතබ්බං-අඤ්ඤථා යදි සයමෙව ගච්ඡති කිං තත්ථ පයොජකව්‍යාපාරෙන අකාරෙන්තං බලෙන කාරයති පාසාණං වුට්ඨාපයතීති ආදිකඤ්ච න සිජ්ඣෙය්‍ය.**

---

දෙවදත්තොති ආදිසු පන දෙවදත්තාදයො සබ්බෙ කත්තාරො "තිට්ඨතී"ති ආදිනා ආඛ්‍යාතෙන අභිහිතත්තා වුත්තකම්මකත්තාදයො නාම භවන්ති යදා තු රාජනියොගතො දෙවදත්තෙන ඨීයතෙච්චාදිපයොගො සියා තදා ඨීයතෙච්චාදිනා ආඛ්‍යාතෙන දෙවදත්තාදයො අනභිහිතාති අවුත්තකත්තාදයො නාම, එත්තාවතා ස ච නෙකභෙදෙති එත්ථ කත්තුභෙදෙ අමෙහති දස්සිතො හොති.

ආචරියො පයොජ්ජකත්තුසඞ්ඛාතං කම්මකත්තාරං (සතන්ත කත්තාරච)සුද්ධකත්තාරමෙව කත්වා සුකරත්තා සයමෙව සිජ්ඣන්තං කම්මකත්තාරං පයොජකකත්තාරු සඞ්ගං සචෙතනාදි සකල භෙද සඞ්ගාහකො ස කත්තා තිධා වෙදිතබ්බොති දස්සෙන්තො සො තිවිධොති ආදිමාහ.

සො, හේ කර්තෘ තෙම; සුද්ධකත්තා; ස්වතන්ත්‍ර කර්තෘ ය; හෙතු කත්තා, ප්‍රයොජක කර්තෘ ය; කම්මකත්තාති, කර්මකර්තෘ ය යි; තිවිධො, ත්‍රිප්‍රකාරයෙක් ඇත්තේ යි—සුද්ධො කෙවලො හෙත්වාදි විසෙසනරහිතො කත්තාති සුද්ධකත්තා, හෙතු ච සො පයොජක ව්‍යාපාරස්ස කත්තාති හෙතුකත්තා, කම්මභූතො කත්තා කම්ම කත්තා; තත්ථ, ඒ ත්‍රිවිධ කර්තෘන් අතුරෙහි; යො, යම් කෙනෙක්; සයමෙව ක්‍රියං කරොති, ප්‍රෙරිත වූයේ හෝ අප්‍රෙරිත වූයේ තෙමේ ම ව්‍යාපාර්‍යකර්තෘස්ථ වූ ක්‍රියාව කෙරේ ද; සො, හෙතෙම; සුද්ධකත්තා, ශුද්ධකර්තෘ නම; යො, යම් කාරකයෙක්; කාතුං සමත්ථං, ක්‍රියාව සිඩ කරන්නට ශක්ති ඇති ව; අකාරෙන්තං, ක්‍රියාව සිඩ නො කරන්නා වූ; අඤ්ඤං, අනිකෙක්හු; කම්මණි නියොජෙති, ක්‍රියාවෙහි යොදා ද; සො, හෙතෙම; හෙතුකත්තා, හෙතු කර්තෘ නම් වේ.

යථා, එහි උදාහරණ මෙසේ යි; දෙවදත්තො, දෙවදත්ත තෙම; ගන්තුං සමත්ථො, යන්නට සමර්ථ ය; තං, ඕහු; අඤ්ඤො, අනිකෙක්; පයොජෙති, ගමනක්‍රියායෙහි යොදා ද යන අර්ථයෙහි;

ගමයති දෙවදත්තං, ගමයති දෙවදත්තං යි සිද්ධ වේ—දෙවදත්තයා
පමුණුව යි යනු මෙහි අර්ථ යි, ඉදින් මෙහෙයන්නට සමර්ථ වූ නො
යන දෙවදත්තයා මෙහෙයන්නේ ම හෙතුකර්තෘ නම් වේ, සෙසු
කාරිතවිධානයෙහි "ගච්ඡති දෙවදත්තො තමඤ්ඤො පයො
ජයති" යි මෙසේ හෙත්වර්ථනිර්දේශය කිසේ ද යන ආසංකාව පෙර
දැරි කොට "යම්පන" යනාදි කීහු, "යම්පන තත්‍ථ හෙතුත්‍ථනි
දස්සනං" යි යොදනු—මෙහි පන යනු විශෙෂයෙහි වැටේ; තත්‍ථ
තත්‍ථ, ඒ ඒ කාරිතවිධානයෙහි; දෙවදත්තො ගච්ඡති, දෙවදත්ත
තෙම යෙයි; තං අඤ්ඤො පයොජයති, ඔහු අනිකෙක් යන්නට
මෙහෙය යි යන අර්ථයෙහි "ගමයති දෙවදත්තං" යි මෙසේ; යං
පන හෙත්වත්‍ථනිදස්සනං, (අබුද්ධබොධය පිණිස) යම් හෙත්වර්ථ
නිදර්ශනයෙක් ඇද්ද; තම්පි, හේ හෙත්වර්ථ නිදර්ශනය ද, සාමත්‍ථිය
දස්සනවසෙන වුත්තනති, ගමනෙහි සමර්ථභාවයාගේ දක්වීම්
වශයෙන් කියන ලද යි; ගහෙතබ්බං, ගතයුතු ය; අඤ්ඤථා,
නො එසේ වීනම් යන්නට සමර්ථයාගේ දක්වීම වශයෙන්
කියන ලද යි නො ගෙන යන්නහුගේ වශයෙන් කියන
ලද යි ගනුත් හොත් යයි සේයි; යදි, ඉදින්; සයමෙව ගච්ඡති,
(නියොගයක් නැති ව) තෙමේ ම යේ නම්; තත්‍ථ, ඒ විෂයෙහි;
පයොජකව්‍යාපාරෙන කිං, ප්‍රයොජකයාගේ ව්‍යාපාරයෙන්
හෙවත් ප්‍රයොගයෙන් කිම් ද—ඒ ඒ තැන කාරිතවිධානයෙහි
"ගච්ඡති දෙවදත්තො තමඤ්ඤො පයොජයති" යි මෙසේ විග්‍රහ
දක්වීම යන්නට සමර්ථයා මෙහෙයන්නහු ම ප්‍රයොජක වත් මුත්
යන්නහු ප්‍රයොජක නම් නො වෙයි දක්වන පිණිස ය. ඉදින්
පෙර ම යන දෙවදත්තයා ගමනෙහි යොදා නම් මේ ප්‍රයොජක
යාගේ ව්‍යාපාරය නිෂ්ඵලවන්නේ ය, කවර හෙයින් ද යත්? අන්‍ය
ප්‍රයොජකයක් නැති ව ස්වතන්ත්‍ර ව ම ගමනක්‍රියාව කොරෙමින් සිටි
හෙයින් යයි නැති, ඉදින් තෙමේ ම යේ නම් හුදෙක් ප්‍රයොජක
ව්‍යාපාරය ම නිෂ්ඵල වෙයි, සමහර ප්‍රයොගයක් අසිද්ධවන බැවින්
අනිෂ්ටප්‍රසඞ්ග දක්වන්නේ යයි දක්වනුවෝ "අකාරෙන්තං" යනාදී
කීහු; අකාරෙන්තං, නො කරන්නහු ලවා; බලෙන කාරයති,
බලවත්කමින් කරව යි; පාසාණං, පාෂාණය; උඩ්ඩාපයතීති,
නඟව යි යන; ආදිකාව, මේ ආදි ලොකප්‍රසිද්ධොදාහරණ ද; න
සිජ්ඣෙය්‍ය, සිද්ධ නො වන්නේ යි—කුම යු තැන යත්? ඉදින්
ගමනාදි ක්‍රියාව කරන්නහු මෙහෙයන්නේ ම ප්‍රයොජක වේ නම්
කරන්නහු ලවා මුත් නො කරන්නහු ලවා බලයෙනුදු නො කරවිය
යුතු නු යි "අකාරෙන්තං බලෙන කාරයති" යන කාරිතප්‍රයොගය ද

**එත්ථ පන.**

**කත්තාති වත්තතෙ.**

## 288. යො කාරෙති ස හෙතු-2-6-12.

**යො කත්තාරං කාරෙති සො හෙතුසඤ්ඤො හොති කත්තා චාති හෙතුකත්තුසඤ්ඤො-යො පන පරස්ස කිරියං පටිච්ච කම්මභූතොපි සුකරත්තා සයමෙව සිජ්ඣන්තො විය හොති සො කම්මකත්තා නාම.**

**යථා-සයං කරීයතෙ කටො-සයමෙව පච්චතෙ ඔදනොති.**

**වුත්තච.**

---

කිසිකලෙක්හි දූ පාෂාණයා ස්වතන්ත්‍ර ව නො යන බැවින් නො නැඟෙන පාෂාණය නො නැඟිය යුතු නු යි "පාසාණං උඨාපයති" යන කාරිතප්‍රයොගය ද යන එවමාදි කාරිතප්‍රයොග ලොකයෙහි නො විය යුතු ය, නො ද එසේ ඇත, එහෙයින් ඒ ඒ කාරිතවිධාන යෙහි ගච්ඡති යනාදීන් හෙත්වර්ථනිර්දේශය සාමර්ථ්‍ය දර්ශන වශයෙන් කළහ යි තැති.

"එත්ථ පන හෙතුකත්තුසඤ්ඤො" යි යොදනු; එත්ථ පන, මේ "ගන්තුං සමත්ථො දෙවදත්තො" යනාදීන් දක්වන ලද ප්‍රයොජක කර්තෘ විෂයෙහි වනාහි.

කත්තාති, "යො කරොති ස කත්තා" යන සූත්‍රයෙන් කත්තා යනු; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

යො ය කාරෙති ය සො ය හෙතු ය යනු පද යි.

යො, යමෙක්; කත්තාරං, ගමනාදි ක්‍රියා කරන්නට සමර්ථ වූ ශුද්ධකර්තෘහු ලවා; කාරෙති, ඒ ඒ ක්‍රියාව කරවා ද; සො, හෙතෙම; හෙතුසඤ්ඤො හොති, හෙතුසංඥ ඇත්තේ ද වෙයි; කත්තා චාති, කර්තෘ නමුදු වෙයි; හෙතුකත්තුසඤ්ඤො, හෙතුකර්තෘ සංඥ වන්නී යි; යො පන, යමෙක් වනාහි; පරස්ස කිරියං පටිච්ච, මෙරමාගේ නිර්මිතනාදි ක්‍රියාව නිසා; කම්මභූතොපි, නිර්මිතනීයාදි කර්ම වූයේ; සුකරත්තා, සාධකසම්පත්තියෙන් සුව සේ කට හැකි බැවින් සයමෙව සිජ්ඣන්තො විය හොති, තෙමේ ම නිපදින්නක් හු මෙන්

**60 අත්තප්පධානො කිරියං යො නිබ්බත්තෙති කාරකො
අප්පයුත්තො පයුත්තො වා ස කත්තාති පවුච්චති.**

**61 හෙතුකත්තාති කථිතො කත්තුනො යො පයොජකො
කම්මකත්තාති සුකරෙ කම්මභූතො කථීයතෙ''ති.**

---

වේ ද; සො, හෙතෙම; කම්මකත්තා නාම, කර්මකර්තෘ නම් වේ; යථා, එහි උදාහරණ මෙසේ යි; කටො, කළාල තෙම; සයං කරීයතෙ, තෙමේ ම කරනු ලැබේ; ඔදනො, තණ්ඩුලය; සයමෙව පච්චතෙ, තෙමේ ම පිසනු ලැබේ—කටෞදනාදිය තෘණාදි ස්ථාල්‍යාදි සාධනයන්ගේ අවිකලත්වයෙන් නිදුකින් කරනු ලබන්නේ තෙමේ ම සිඬවන්නක් හු මෙන් වේ නු යි කර්මවූයේ ද කර්තෘ වූයේ ද හේ මැ යි, මේ කර්මකර්තෘ හට "කර්මකර්තා කර්මණා තුල්‍යඃ"යන සූත්‍රයෙන් පාණිනීයයෙහි ද "කර්මවත් කර්මකර්තා"යන සූත්‍රයෙන් කාතන්ත්‍රයෙහි ද කර්මවත්භාවය කළ බැවින් ඒ පාණිනීයාදියෙහි ලා කර්මකර්තෘ විෂයෙහි ආත්මනෙපද යවිකරණයෝ දෙන්න සිඬයහ, මේ කාච්චායනයෙහි වනාහි කර්මකර්තෘ හට කර්මාතිදෙශ සූත්‍රයෙක් හෝ එහි ම ආත්මනෙපදාදි විධායක සූත්‍රයෙක් හෝ නැත් නු යි ඒ කර්මකර්තෘ විෂයෙහි ආත්මනෙපදාදි විධානය කිසේ වේ ද යත්? "අත්තනොපදානි භාවෙ ච කම්මණි' යන සූත්‍රයෙහි ච ශබ්දයෙන් ආත්මනෙපද "යොග විභාගාදිෂ්ටසිඬිඃ" යි බැවින් "භාවකම්මෙසු යො" යන යොග විභාගයෙන් යවිකරණ ද සිඬ වෙයි, ආචාර්‍ය්‍යයන්ගේ මතය බාලාවතාරයෙහි වනාහි "යදනුපපන්නා නිපාතනා සිජ්ඣන්ති" යන සූත්‍රයෙන් කර්මවත් කරන ලද කල්හි "අත්තනොපදානි භාවෙ ච" යනු සූත්‍ර හෙයින් ආත්මනෙපද යවිකරණයෝ දෙන්න සිඬයහ යි කියන ලදි, කීයේ මැ නු එහි "කම්මකත්තා කම්මම්වෙති වත්තබ්බං කම්මාතිදෙසතො ච කම්මාත්තරිපි කම්මණි විය අත්තනොපද යවිකරණා සිජ්ඣන්ති ඉදංච යදාදිනා සඞ්ගහිතං"යි.

වුත්තඤ්ච, කියන ලද මැ යි.

යො කාරකො, යම් සාධකයෙක් තෙම; අප්පයුත්තො, අන්‍යයක්හු විසින් කර්මයෙහි ප්‍රේරිත නො වූයේ හෝ; පයුත්තො වා, එසේ ම ප්‍රේරිත වූයේ හෝ; කිරියං, නිර්වර්තනාදි භෙද ඇති ක්‍රියාව; අත්තප්පධානො, ස්වප්‍රධාන වූයේ ම (කාරණය මෙන් පරතන්ත්‍ර නො වූයේ); නිබ්බත්තෙති, සිඬ කෙරේ ද; සො, හෙතෙම; කත්තාති පවුච්චති, ශුඬකර්තෘ නමැ යි කියනු ලැබේ.

**නනු ච සංයොගො ජායතෙති ආදීසු කථං පුරෙ අසතො ජනනක්‍රියාය කත්තුභාවො සියාති වුච්චතෙ-ලොකසංකෙතසිද්ධි සද්දප්පයොගො අවිජ්ජමානම්පි හි ලොකො සද්දාභිධෙය්‍යතාය විජ්ජමානං විය ගහෙත්වා වොහරති-විකප්පබුද්ධි ගහිතාකාරෙනෙව හි සද්දෙනාභිධීයතෙ න තු වත්ථුසභාවො.**

**අඤ්ඤථා සුතමයඤාණෙනපි පච්චක්ඛඤාණෙන විය වත්ථුසභාව සච්ඡිකරණප්පසඞ්ගා මුසාවාදකුදිට්ඨිවාදාදීනමභාවප්පසඞ්ගා ච සියා, තස්මා බුද්ධිපරිකප්පිතසඤ්ඤාතිවසෙන සද්දප්පවත්ති හොතීති අසතො සංයොගාදිස්සපි හොන්තෙව ජනනක්‍රියාය කත්තුකාරකතාති-යථාහ.**

---

යො, යමෙක්; කත්තුනො පයොජකො, ශුද්ධකර්තෘහු සම්බන්ධ ව ප්‍රයොජක වේ ද—මේ කරව යි කෙවල කර්තෘහු ක්‍රියාවෙහි යොදන්නේ දූ යි සේ යි; සො, හෙතෙම; හෙතුකත්තාති කථිතො, පෙසනාධ්‍යෙසනාදි ක්‍රියා නිෂ්පත්තියට හෙතු බැවින් හෙතුකර්තෘ නමැ යි කියන ලදි; යො, යමෙක් තෙම; කම්මභූතො, මෙරමා විසින් කරනු ලබන හෙයින් කර්ම වූයේ ද, සුකරො, සාධනසාමග්‍රියෙන් සුව සේ කරනු ලැබේ ද; සො, හේ දුසාදි අර්ථය තෙම; කම්මකත්තාති, කර්මකර්තෘ නමැ යි; කථීයතෙ, ශබ්ද ශාස්ත්‍රඥයන් විසින් කියනු ලැබේ—"කම්මභූතො" යන මෙහි අපි ශබ්ද ගම්‍යමානාර්ථ ඇති බැවින් අප්‍රයුක්ත ය යි දත යුතු;මෙහි චොදක තෙම නිෂ්පන්න ස්වරූපයාගේ කර්තෘත්වය මුත් අනිෂ්පන්න ස්වරූපයාගේ කර්තෘත්වය විසටනය කරන්නේ "නනු ච" යනාදි කියා.

මෙහි "නනු ච"යන නිපාතසමුදය තෙම පරයාගේ චොදෙතු කාම්‍යතායෙන් අභිමුඛීකරණයෙහි වැටේ; නනු ච, (චොදයාමි) අභිමුඛීභාව සී තැනි; කත්තුභාවො සියාති, යන මෙහි ඉති ශබ්ද වනාහි වාක්‍ය පරිසමාප්ති ය කියා, සංයොගො ජායතෙති ආදීසු, සංයොගො ජායතෙ යනාදි ප්‍රයොගයෙහි ලා; පුරෙ අසතො, තමාගේ උත්පත්තියෙන් පූර්වයෙහි අවිද්‍යමානසංයොගයාගේ; ජනනක්‍රියාය කත්තුභාවො, ජනනක්‍රියාවට කර්තෘභාවය තෙම; කථං සියා නනු චාති, කිසේ වේ ද?—කුම යූ තැන යත්?—"දෙවදත්තො ගච්ඡති" යනාදියෙහි දෙවදත්තාදි නිෂ්පන්න වස්තුව තෙම තමාගේ ක්‍රියාජන්‍යසාමර්ථ්‍යය අවිකල බැවින් තදර්ථ නිෂ්පත්තියට සාධක වෙයි. "ජායතෙ සංයොගො" යනාදියෙහි

චනාහි සංයොගාදි අනිෂ්පන්න වස්තුවක් තෙම ක්‍රියා ජනකත්වයට අසමර්ථ බැවින් කිසේ සාධක වේ ද යත්? එසේ ම නු—මෙහි සංයොගය තෙම ජයතෙ යන ශබ්දයාගේ ස්වරූප ප්‍රතිලාභය කෙරේ යි යන අර්ථයක් නැත ද අවිද්‍යමානයාගේ ස්වරූප ප්‍රතිලාභය යෙදේ යි, පෙර ම ඔහුගේ ප්‍රතිලභිතව්‍ය ස්වරූප ඇති හෙයිනි. යමක්හුගේ ස්වරූප දූන් ප්‍රතිලභිතව්‍ය වේ නම් හේ විද්‍යමානය යි කියන්නට නො පිළිවන, අවිද්‍යමානයාගේ ද ක්‍රියාවට කර්තෘභාවය නො යෙදෙන්නේය, අකර්තෘ වූ එහි ලා "යො කරොති ස කත්තා" යන සූත්‍රයෙන් කර්තෘසංඥා නො විය යුතු ය යි යූ තැනි, දූන් සිද්ධාන්තවාදී තෙම එයට පරිහාර දක්වනුයේ වුච්චතෙ යනාදි කීය; වුච්චතෙ,(තා විසින් කරන ලද ආක්ෂෙපයට පරිහාර) කියනු ලැබේ.

සද්දප්පයොගො, ශබ්දයාගේ අර්ථයෙහි ලා ප්‍රවෘත්තිය; ලොකසංකෙතසිද්ධො හි, වෘද්ධලොකයාගේ ව්‍යවහාරයෙන් සිද්ධ ම ය—ලෝ වැසි තෙම ව්‍යවහාරය හැර හුදෙක් පරමාර්ථ වශයෙන් ශබ්ද ප්‍රයොගය නො කෙරේ යි යූ තැනි, එසේ ම නු—ලොකො, ලෝ වැසි තෙම; අවිජ්ජමානම්පි, පරමාර්ථ හෙයින් අවිද්‍යමාන වස්තුව ද; සද්දාභිධෙය්‍යතාය, නාමශබ්දයාගේ ම අර්ථයක් බැවින්—විද්‍යමාන විෂය නාම ශබ්දයා විසින් ම කිය යුතු බැවිනැ යි සේ යි; විජ්ජමානං විය ගහෙත්වා, පරමාර්ථ හෙයින් විද්‍යමාන වස්තුවක් මෙන් ගෙන; වොහරති, ව්‍යවහාර කෙරේ යි—ලෝ වැසි තෙම හුදු විද්‍යමාන වූ කර්කශත්වාදි ස්පර්ශනාදි ධර්මස්වභාවය ම ශබ්දයෙන් කියන්නේ නො වෙයි, අවිද්‍යමාන වූ සමූහ සන්තානාවස්ථාභාව දිශා ආකාශ කාලාදිය ද ශබ්දයෙන් ම කියන්නේ ය යි යූ තැනි. එසේ ම නු—විකප්පබුද්ධිගහිතාකාරො යෙව හි, නාමචින්තාකාර වූ විකල්පඥානයෙන් ගන්නා ලද ඝටාදි ආකාරය ම; සද්දෙන අභිධීයතෙ, ශබ්දයා විසින් කියනු ලබයි; න තු වත්ථුසභාවො, වස්තු ස්වරූප කියනු ලබන්නේ නො වෙයි—ඝටාදි ශබ්ද උච්චාරිත කල්හි ඝටාකාරාදි අර්ථයන් වෙන වෙන විෂය කොට ශ්‍රොත්‍රද්වාරික මනොද්වාරික චිත්තසන්තානයා යථාක්‍රමයෙන් ඉපද නිරුද්ධාන්තයෙහි අක්ෂරසමුදාය විෂය කොට නාමචින්තාකාරයෙන් ඉපද නිරුද්ධ වූ මනොද්වාරික විඥාන වීථියෙන් මත්තෙහි මේ ඝට ය මේ පට ය මේ ස්ත්‍රී ය මේ පුරුෂ ය මේ දිශ ය මේ ආකාශ ය මේ අභාව ය මේ ශශවිෂාණය යනාදීන් අර්ථච්ඡායාකාරයෙන් චිත්තොත්පාදයට විෂය වූ ප්‍රඥප්තිය ම මෙ බඳු වූ ස්ථානයෙහි ශබ්දයා විසින් කියනු ලබත් මුත් විද්‍යමාන වස්තුවක් කියනු ලබන්නේ නො වෙයි යි තැනි.

අඤ්ඤථා, නො එසේ වී නම්—ඉදින් ශබ්දප්‍රයොගය වස්තු ස්වභාව විෂයක වී නම් යි සේ යි; සුතමයඤාණෙනපි, ශ්‍රවණයෙන් නිෂ්පන්න ඥානය කාරණ කොට ගෙන ද නොහොත් ශ්‍රැතශබ්දය නිසා උත්පන්න ඥානය කරණ කොට හෝ; පච්චක්ඛඤාණෙන විය, ප්‍රත්‍යක්‍ෂඥානය කරණ කොට ගෙන මෙන්; වත්ථුසභාවසංචජි කරණප්පසඞ්ගා, දෙශකාලාදිභෙදභින්න වූ පදාර්ථයාගේ තදාකාර විශිෂ්ටස්වභාවයෙන් ප්‍රත්‍යක්‍ෂක්‍රියා ප්‍රාප්තිය ද; මුසාවාද කුදිට්ඨි වාදදීනමභාවප්පසඞ්ගා ච, මෘෂාවාදය නාස්තිකවාදාදි කුදෘෂ්ටි වාදය වඣ්‍යාසුත ශශවිෂාණාදි ව්‍යවහාරය යන මොවුන්ගේ අභාවප්‍රාප්තිය ද; සියා,වන්නේ යි—ඉදින් ශබ්ද වස්තුස්වභාවය ම කියා නම් චන්ද්‍ර සූර්‍ය්‍ය දෙන්න යුගන්ධරපර්‍වතය හා සමප්‍රමාණ ආකාශයෙහි හැසිරෙති, අතීතයෙහි මහාසම්මත නම් රජෙක් විය, යනාදි ශබ්ද අසා ඒ ශ්‍රැතයන්ගේ නිෂ්පන්නඥානය කරණ කොට ගෙන දෙශකාලතිරොහිත පදාර්ථය දත් කල්හි ද ඉන්ද්‍රිය විඥාන අභිඥාදි වූ රූපාදිවස්තුස්වභාව ප්‍රතිභාෂක ප්‍රත්‍යක්‍ෂඥානයෙන් දැන අභූත කොට ක්‍රම වශයෙන් ප්‍රවෘත්ත මෘෂාවාදය “නත්ථි දින්නං” යනාදි අයථා ස්වභාවයෙන් ගත් කල්හි මෙසේ අනිෂ්ට ප්‍රවෘත්ත වූ නාස්තිකදෘෂ්ටි අහෙතුකදෘෂ්ටි අක්‍රියාදෘෂ්ටි ආදි වූ මිථ්‍යාදෘෂ්ටිය යන මොවුන්ගේ අභාවය වෙයි, “ශශ විෂාණය, උදුම්බරකුසුම විකසිතවය” යනාදි අවිද්‍යමාන වස්තූන්ගේ ව්‍යව හාරය කිසි කලෙක්හි දු ලොකයෙහි පැනෙන්නේ යි යු නැති. තස්මා, එහෙයින් හුදු ඒ වස්තු ස්වභාව ම ශබ්දාභිධෙය භාවයෙන්; බුද්ධිපරිකප්පිතපඤ්ඤත්තිවසෙන, විකල්පඥානයා විසින් සංකල්පිත වූ උපාදාය ප්‍රඥප්තියගේ වශයෙන්; සද්දප්පවත්ති හොතීති, අර්ථ විෂයෙහි ශබ්දයාගේ වාචකභාවයෙන් ප්‍රවෘත්ති වන්නී ය යි; අසතො සංයොගාදිස්සපි, පෙර අවිද්‍යමාන වූ ද සංයොගාදීහුගේ; ජනනක්‍රියාය කත්තුකාරකතා,ජනනක්‍රියාවට කර්තෘ කාරකභාවය; හොතෙව, වේ මැ යි—හුදු පරමාර්ථය ම අපෙක්‍ෂා නො කොට විකල්පබුද්ධියෙන් ගෘහීත සමූහාදි සංවෘතිය අපෙක්‍ෂා කොට ශබ්ද ප්‍රවෘත්තිය වන බැවින් ශබ්දාභිධෙය වශයෙන් ගන්නා ලද අර්ථය සාධන කොට අවිද්‍යමානාර්ථය ද විද්‍යමානාර්ථයක් මෙන් ලොක තෙම ව්‍යවහාර කෙරේ නු යි සංයොගය කර්තෘ වශයෙන් ගෙන තන්නිෂ්පත්තිය වූ ජනනය සාධ්‍යවශයෙන් ගන්නා ලද කල්හි “සංයොගො ජායතෙ” යනු වේ ම ය යි යු නැති; අභිධීයතෙ කථියතෙනෙනාති අභිධෙය්‍යො, සද්දස්ස අභිධෙය්‍යො සද්දාභි ධෙය්‍යො තස්ස භාවො සද්දාභිධෙය්‍යතා, තාය සද්දාභිධෙය්‍යතාය,

**62 “වොහාරවිසයො සද්දො නෙකන්තපරමත්ථිකො**
**බුද්ධිසංකප්පිතො අත්ථො තස්සත්ථොති පවුච්චති.**

**63 බුද්ධියා ගහිතත්තා හි සංයොගො ජායතෙ ඉති**
**සංයොගො විජ්ජමානොව කත්තා භවති ජාතියා”ති.**

**තත්‍ර තතියා-ජිනෙන දෙසිතො ධම්මො, බුද්ධෙන ජිතො මාරො, අග්ගිනා දඩ්ඪො නගරො, බුද්ධෙන බොධිතො ලොකො, සඞ්ඝෙන කාරිතා විහාරා.**

---

විකප්පනං විකප්පො, අයං ඉත්ථී අයං පුමා අයං දිසා අයං මාසො අයං භාවො ඉදං සසවිසාණන්ති එවමාදිනා පරිකප්පො, අථ වා විකප්පෙති අවිජ්ජමානම්පි යථා වුත්තනයෙන විජ්ජමානං විය සංකප්පතීති විකප්පො, තෙන යුත්තා බුද්ධි විකප්පබුද්ධි, තාය ගහිතො පරිකප්පිතො විකප්පබුද්ධිගහිතො, අපරත්ථාය සො එව ආකාරො චාති විකප්පබුද්ධිගහිතාකාරො, වත්ථුනො පදත්ථස්ස භාවො සරූපං විජ්ජමානතා වත්ථුසභාවො, සුතෙන සවණෙන සුතසද්දෙන වා නිබ්බත්තං සුතමයං, සුතමයඤ්ච තං ඤාණං චාති සුතමයඤාණං, තෙන සුතමයඤාණෙන, අක්ඛං චක්ඛාදි ඉන්ද්‍රියං, තං පතිගතං නිස්සිතනන්ති පච්චක්ඛං, පච්චක්ඛඤ්ච තං ඤාණං චාති පච්චක්ඛඤාණං, ඉන්ද්‍රිය විඤ්ඤාණ අභිඤ්ඤා ඤාණාදීනං එතං නාමං, තෙන පච්චක්ඛඤාණෙන, සභාවෙන සච්ඡිකරණං සභාවසච්ඡිකරණං, වත්ථුනො සභාවසච්ඡිකරණං වත්ථුසභාවසච්ඡිකරණං, තස්ස පසඞ්ගා වත්ථුසභාවසච්ඡිකරණප්පසඞ්ගා, දෙස කාලාදි භෙදභින්නස්ස අත්ථස්ස තදාකාරවිසිට්ඨභාවෙන පච්චක්ඛකිරියාය පත්තීති වුත්තං හොති, බුද්ධියා පරිකප්පිතා බුද්ධිපරිකප්පිතා, බුද්ධි පරිකප්පිතා ච සා පඤ්ඤත්ති චාති බුද්ධිපරිකප්පිතපඤ්ඤත්ති, තස්සා වසෙන. එත්ථ ච පඤ්ඤත්තීති උපාදා පඤ්ඤත්ති සංඛාතා අත්ථපඤ්ඤත්ති වුත්තා, සා හි තං තං උපාදාය කාරණං කත්වා ඝටො පටො භූමි පබ්බතො දෙවො මනුස්සො තිරච්ඡානොති ආදිනා පකාරෙන ඤාපියති බොධියතීති උපාදා පඤ්ඤත්තීති වුච්චති, යථාහ, මංජූසාකාර ද මෙසේ කී.

“හි (යස්මා කාරණා) සද්දො, වොහාරවිසයො, න එකන්ත පරමත්ථිකො තස්ස බුද්ධිසංකප්පිතො අත්ථො අත්ථොති පවුච්චති (තස්මා) බුද්ධියා සංයොගො ජායතෙ ඉති ගහිතත්තා අවිජ්ජ මානොව සංයොගො ජාතියා කත්තා භවති” යි යොදන්න.

හි (යස්මා කාරණා), යම් කාරණයෙකින්; සද්දො, ශබ්දය තෙම; වොහාරවිසයො, ව්‍යවහාර සඞ්ඛ්‍යාත සංවෘති අර්ථය විෂය කොට ඇත්තේ වේ ද; න එකන්තපරමත්ථිකො, කාඨින්‍යත්වාදී විෂය වූ පෘථිව්‍යාදි ශබ්දය මෙන් එකාන්තයෙන් පරමාර්ථ ඇත්තේ නොවේ යි; තස්ස, ඒ ව්‍යවහාරාදි විෂය වූ සංයොගාදි ශබ්දයාගේ; බුද්ධිසංකප්පිතො අත්ථො අත්ථොති පවුච්චති, බුද්ධියෙන් පරිකල්පිත වූ සංවෘති අර්ථය ම අභිධෙය යි කියනු ලැබේ ද; (තස්මා, ඒ කාරණයෙන්); බුද්ධියා, විකල්පබුද්ධිය කරණ කොට ගෙන; සංයොගො ජායතෙ ඉති ගහිතත්තා, සංයොගය උපදනේය යි මෙසේ ගන්නා ලද බැවින්; අවිජ්ජමානොව සංයොගො, පෙර අවිද්‍යමාන වූම සංයොගය, ජාතියා කත්තා භවති, විද්‍යමාන යක්හු මෙන් තමාගේ ජනනක්‍රියාවට කර්තෘ වේ—කර්තෘභාවයෙන් ව්‍යවහාර කරනු ලැබෙ යි සේ යි; තන්නාමූපාදය වොහරිතබ්බාති වොහාරො, සම්මුතිඅත්ථො, සො විසයො පවත්තිට්ඨානමස්සාති වොහාරවිසයො.

තත්‍ර, ඒ ශුද්ධකර්තෘ හේතුකර්තෘ විෂයෙහි; තතියා, තෘතීයා වේ. ජිනෙන දෙසිතො ධම්මො යනු උදාහරණ යි; ජිනෙන, පඤ්චමාරයන් දිනූ හෙයින් ජින ය යි කියන ලද තථාගතයා විසින්; ධම්මො, ධර්මය; දෙසිතො, දෙසන ලදි; බුද්ධෙන, පරොපදෙශ රහිත ව සත්‍ය ප්‍රතිවෙධය කළ බැවින් බුද්ධ ය යි කියන ලද සර්වඥයා විසින්; මාරො, මාර තෙම; ජිතො, දිනන ලදි; අහිනා, සර්පයා විසින්; නරො, නර තෙම; දට්ඨො, ඩහන ලදි—මෙහි දෙසිතො යනාදි කෘදන්තයන් විසින් අනුක්ත හෙයින් ජිනෙන යනාදි අනුක්තශුද්ධකර්තෘකාරක ය, ධම්මො යනාදි එයින් අභිහිත හෙයින් උක්තකර්මකාරක යි; බුද්ධෙන, ප්‍රඥාවබොධය කරවන හෙයින් බුද්ධ නම් ශාස්තෘහු විසින්; ලොකො, සදෙවමනුෂ්‍ය ලොක තෙම;බොධිතො, අවබොධ කරවන ලදි; සද්ධෙහි, කර්මඵල හදහන්නවුන් විසින්; විහාරා, විහාරයෝ; කාරිතා, කරවන ලදහු—මෙහි බොධිතො යනාදි කෘදන්තයන් විසින් අනභිහිත නු යි බුද්ධෙන යනාදි අනුක්තහෙතුකර්තෘකාරක ය, ලොකො යනාදි එයින් අභිහිත නු යි උක්තකර්මකාරක යි.

**අභිහිතෙ න භවති-කටං කරොති දෙවදත්තො කාරයති වා.**

**ඉත්ථම්භූතස්ස ලක්ඛණෙ-සා භින්නෙන සීසෙන පග්ඝරන්තෙන ලොහිතෙන පටිවිස්සකානං උජ්ඣාපෙසි-ඌනපඤ්චබන්ධනෙන පත්තෙන අඩ්ඪං නවං පත්තං චෙතාපෙය්‍ය-තිදණ්ඩෙන පරිබ්බාජකමද්දක්ඛි.**

**අපවග්ගෙ-එකාහෙනෙව බාරාණසිං පායාසි නවහි මාසෙහි විහාරං නිට්ඨාපෙසි.**

**කිරියාපවග්ගො කිරියාය ආසුනිට්ඨාපනං.**

**පුබ්බාදියොගෙ-මාසෙන පුබ්බො.**

*** පිතරා සදිසො-මාතරා සමො-කහාපණෙන ඌනො-ධනෙන විකලො-අසිනා කලහො-ආචාරෙන නිපුණො-වාචාය නිපුණො-ගුළෙන මිස්සකං-තිලෙන මිස්සකං-වාචාය සඛිලො-මණිනා අත්ථො-ධනෙන අත්ථො-පිතරා තුල්‍යො.**

---

අභිහිතෙ න භවති, උක්තශුද්ධකර්තෘ හෙතුකර්තෘ විෂයෙහි තෘතීයා නො වන්නී යි; දෙවදත්තො, දෙවදත්ත තෙම; කටං, කලාලක්; කරොති, කෙරෙ යි යනාදි එහි උදාහරණ යි—මෙහි කරොති යනු ශුද්ධකර්තෘ විෂය ය, කාරයති යනු හෙතුකර්තෘ විෂය යි, ඒ උභයකර්තෘ විෂය වූ ආඛ්‍යාතයන් දෙන්නා විසින් අභිහිත බැවින් කටං කරොති දෙවදත්තො කටං කාරයති දෙව දත්තො යි ප්‍රථමා වන් මුත් තෘතීයා නො වන්නී යි, දූන් ච ශබ්ද යෙන් සඞ්ගෘහීතාර්ථ විෂයෙහි තෘතීයා විධාන කරනුවෝ ඉත්ථම්භූතස්සලක්ඛණෙ යනාදි කීහු; "ඉත්ථම්භූතස්ස ලක්ඛණෙ තතියා විධීයතෙ" යි යොදනු, මත්තෙහි ද මෙසේ මැ යි; සා, හේ කාලී තොම; භින්නෙන සීසෙන පග්ඝරන්තෙන ලොහිතෙන, භින්නශීර්ෂයෙන් ද විෂ්‍යන්දමාන රුධිරයෙන් ද උපලක්ෂිත ව; පටිවිස්සකානං උජ්ඣාපෙසි, සමීප ගෘහවාසීන් ලවා උජ්ඣායනය කර වූ—අවඥ කොට බැණ ලූවයි සේ යි; ඌනපඤ්චබන්ධනෙන පත්තෙන, උනුපස් බාන් ඇති පයින් උපලක්ෂිත ව; අඩ්ඪං නවං පත්තං, අතික් නවමූවා පාත්‍රයක්; (යම්කිසි භික්ෂුවක්) චෙතාපෙය්‍ය, විණවා

---

* එත්ථ සන්දෙහවිඝාතනිමනුගච්ඡතා "සඛිලත්ථාදීනං යොගෙ-වාචාය සඛිලො මණිනා අත්ථො පිතරා සදිසො" ත්‍යාදිපාඨො යුජ්ජතෙති ගම්‍යතෙ.

නම්; (ඉල්වා නම්) "තිසසගසිංසංපාචිතතියං" යනු සම්බන්ධ යි; තිදණ්ඩකෙන, ත්‍රිදණ්ඩයෙන් උපලක්ෂිත වූ; පරිබ්බාජකං, පරිබ්‍රාජකයා; අද්දක්ඛි, දිටී—ත්‍රිදණ්ඩය සලකුණු කොට ගෙන පරිබ්‍රාජකයා හැඳින්නේ ය යි නැති, මේ උදාහරණ ත්‍රයෙහි කාලි භික්ඛු පරිබ්බාජක යන මොහු තුන්දෙන භින්න ශීෂාදියෙන් යුක්තත්වලක්ෂණ වූ ප්‍රකාරයට ප්‍රාප්තයෝ නු යි ඉත්ථම්භූත නම් වෙති. භින්නශීෂ විෂ්‍යන්දමානරුධිර ඌනපඤ්චබන්ධනපාත්‍ර ත්‍රිදණ්ඩ යන මොහු ඔවුන්ගේ ලක්ෂණ නම් වෙත්, ඒ උදාහරණයෙහි උපලක්ඛාපනක්‍රියාවට කාලි කර්තෘකාරක ය, භින්නෙන සීසෙන පග්ඝරන්තෙන ලොහිතෙන යනු ඒ කාලියගේ උපලක්ඛාපන ලක්ෂණ වූ භින්නශීෂාදිය හඟවානු යි ලක්ෂණාර්ථයෙහි කරන ලද තෘතීයා ය, පටිවිස්සකානං යනු අනුක්තකර්තෘ ය (කර්තෘ්‍ර්ථයෙහි ෂෂ්ඨිය,) ඌනපඤ්චබන්ධනෙන පත්තෙන යනු භික්ෂුහුගේ අන්‍ය පාත්‍ර විඥාපනයට නිමිත්ත වූ අපරිපූර්ණ පඤ්චබන්ධන ඇති පාත්‍ර ප්‍රකාශ කරන හෙයින් ලක්ෂණාර්ථයෙහි තෘතීයා යි, තෘතීය උදාහරණයෙහි පරිබ්‍රාජකදර්ශනයට පුරුෂ කර්තෘ ය, නෙත්‍ර කාරණ ය, තිදණ්ඩකෙන යනු වනාහි පරිබ්‍රාජකභාවඥනයට චිහ්නත්‍රිදණ්ඩය දීපනය කරන්නා වූ තෘතීයා යි.

අපවග්ගෙ, ක්‍රියාවගේ වහා නිමවීමෙහි උදාහරණ කියනු ලැබේ; එකාහෙනෙව, එකදවසින් ම; බාරාණසිං, බරණැස්නුවරට; පායාසි, ගියේ යි—මෙහි එක්දින මාත්‍රයෙන් බරණැස් ගමන නිෂ්ටාප්‍රාප්ත නු යි ක්‍රියාපවර්ග ය යි; නවහි මාසෙහි, නවමසින්; විහාරං නිට්ඨාපෙසි, විහාරය නිමවී—මෙහි දසමාසයට නො ගොස් නවමාසයාගේ ඇතුළත ම නිමා ලූ ය යි නැති.

කිරියාපවග්ගො, ක්‍රියාපවර්ග නම්; කිරියාය, ක්‍රියාවගේ; ආසු නිට්ඨාපනං, වහා නිමවීම යි; පුබ්බාදියොගෙ, පුබ්බ ශබ්දාදීන්ගේ යොගයෙහි උදාහරණ මෙසේ යි; මාසෙන, මසකින්; පුබ්බො, වැඩිමාලු යි; සබ්ලත්ථාදීනං, සබ්ල ය අත්ථ ය යනාදී ශබ්දයන්ගේ; යොගෙ, ප්‍රයොගයක් ඇති කල්හි තෘතීයාවට උදාහරණ කියනු ලැබේ—වාචාය සබ්ලො,වචනයෙන් මෙළෙකි. මෙළෙක් තෙපුල් ඇත්තේ ය යි සේ යි; මණිනා අත්ථො, මැණිකින් ප්‍රයොජන යි; පිතරා සදිසො, පියා වැනි යි; මාතරා සමො, මව හා සම යි; කහාපණෙන ඌනො, මස්සෙකින් අඩු යි; ධනෙන විකලො, ධනයෙන් විකල යි—ධන නැතැ යි සේ යි; අසිනා, කඩුවෙන් වූ; කලහො, ඩබර යි; ආචාරෙන නිපුණො, ආචාරයෙන් ව්‍යක්ත යි හෙවත්

**කාලද්ධානෙසු-මාසෙන භුඤ්ජති, යොජනෙන ගච්ඡති. පච්චත්තෙ-අත්තනාව අත්තානං සම්මන්නති.**

**කම්මත්ථෙ-තිලෙහි ඛෙත්තෙ වපති.**

**පඤ්චම්‍යත්ථෙ-සුමුත්තා මයං තෙන මහාසමණෙන.**

## 289. සහාදියොගෙ ච-2-6-17.

**සහ සද්ධිං සමං නානා විනා අලං කිමිච්චෙවමාදීහි යොගෙ සහත්ථෙ වා ලිඞ්ගම්හා තතියා විභත්ති හොති.**

---

දක්ෂ යි—සම්පන්න ආචාර ඇත්තේ ය යි සේ යි; වාචාය නිපුණො, වචනයෙන් දක්ෂ යි; ගුළෙන මිස්සකං, උක්සකුරෙන් මුසු යි; තිලෙන මිස්සකං, තලයෙන් මුසු යි; ධනෙන අත්ථො, ධනයෙන් ප්‍රයොජන යි; පිතරා තුල්‍යො, පියා හා සම යි—සබිලත්ථාදීනං යන මෙහි ආදිශබ්දයෙන් සංගෘහීත ශබ්දයොගයෙහි උදාහරණ යි; පිතරා සමානො ගුණෙන හීනො ගුණෙන අධිකො යනාදි ද එසේ මැ යි.

කාලද්ධානෙසු, කාල මාර්ග දෙක්හි උදාහරණ දක්වනු ලැබේ. මාසෙන භුඤ්ජති, මසෙකින් කා—මසෙක්හි කයි සේ යි; යොජනෙන ගච්ඡති, යොදුනකින් යෙයි—යොදුනෙක්හි යෙයි සේ යි.

පච්චත්තෙ, ප්‍රථමායෙහි තෘතීයා දක්වනු ලැබේ.

අත්තනාව, තෙමේ ම; අත්තානං, තමා; සම්මන්නති, සඞ්ඝ මධ්‍යයෙහි කතිකාවත්හි ආත්මච්ඡායෙන් සම්මත කෙරේ—මෙහි අත්තා යි ප්‍රථමා සම්භවයෙහි අත්තනා යි තෘතීයා වූ.

කම්මත්ථෙ, කර්මාර්ථයෙහි තෘතීයා දක්වනු ලැබේ.

තිලෙහි, තිලයන්; ඛෙත්තෙ වපති, ක්ෂෙත්‍රයෙහි වපුරේ—මෙහි තිලානි යි කර්මසම්භවයෙහි තිලෙහි යි තෘතීයා කරන ලදු.

පඤ්චම්‍යත්ථෙ, පඤ්චම්‍යර්ථයෙහි තෘතීයා දක්වනු ලැබේ.

තෙන මහාසමණෙන, ඒ මහා ශ්‍රමණයා කෙරෙන්; මයං, අපි; සුමුත්තා, මනා කොට මිදුණමෝ—මෙහි තම්හා මහා සමණා යි කිය යුතු තන්හි තෙන මහාසමණෙන යි පඤ්චම්‍යර්ථයෙහි තෘතීයා යි.

සහාදියොගෙ ය ච ය යනු පද යි.

**තත්‍ථ සහසද්දෙන යොගො කිරියාගුණදබ්බසමවායෙ සම්භවති.**

**යථා-විතක්කෙන සහවත්තති-පුත්තෙන සහ ථූලා-අන්තෙවාසිකා සද්ධිවිහාරිකෙහි සහ ආචරියුපජ්ඣායානං ලාභො-නිසීදි භගවා සද්ධිං භික්ඛුසඞ්ඝෙන-සහස්සෙන සමං මිතා-සබ්බෙහි මෙ පියෙහි මනාපෙහි නානාභාවො විනාභාවො-සඞ්ඝා විනාපි ගණෙන උපොසථං කරෙය්‍ය-අලන්තෙ ඉධවාසෙන-කිම්මෙ එකෙන තිණ්ණෙන පුරිසෙන ථාම දස්සිනා, කිංතෙ ජටාහි දුම්මෙධ කිංතෙ අජිනසාටියා.**

---

සහසද්දො ආදි යෙසං (සහ සද්ධිං සමං නානා විනා අලං කිම්චෙවමාදිසද්දානං) තෙ සහාදයො, තෙහි යොගො සහාදි යොගො, තස්මිං සහාදියොගෙ, භාවසත්තමී චායං, චසද්දග්ගහණෙන සහසද්දස්ස අත්‍ථසම්භවෙපි හොතීති දස්සෙතුං සහත්‍ථෙ වාති වුත්තං හොති.

සහ සද්ධිං සමං නානා විනා අලං කිං ඉති, සහ සද්ධිං සමං නානා විනා අලං කිං යන; එවමාදීහි යොගෙ, මේ ආදි ශබ්දයන් හා සම්බන්ධයක් ඇති කල්හි; සහත්‍ථෙ වා, සහශබ්දයා නැත ද තදර්‍ථ සම්භවයක් ඇති කල්හි හෝ; ලිඞ්ගම්හා, සහාදියුක්ත නාමයා කෙරෙන් පර ව; තතියා විභත්ති හොති, (අප්‍රධානයා කෙරෙහි) තෘතීයා විභක්ති වන්නී යි

තත්‍ථ, ඒ සහාදිශබ්දයන් අතුරෙහි; සහසද්දෙන යොගො, සහශබ්දයා හා යොගය තෙම; කිරියාගුණදබ්බසමවායෙ, ක්‍රියාය ගුණය ද්‍රව්‍යය යන මොවුන් හා වෙන වෙන ම සම්බන්ධයක් ඇති කල්හි; සම්භවති, ඒ සහශබ්ද යුක්තය හට සම්භව වේ—සහශබ්ද පර්‍ය්‍යාය වූ සද්ධිං යනාදි ශබ්දයා හා යොගය ද එසේ ම යි; යථා, ක්‍රියාදීන් හා සම්බන්ධයක් ඇති සහ ශබ්දයාගේ යොගයෙහි විතක්කාදී ශබ්දයන් කෙරෙන් තෘතීයා වන නියා මෙසේ යී; විතක්කෙන සහ වත්තති යනාදී එහි උදාහරණ යි. චිත්තනයාගේ ක්‍රියාදීන් හා සම්බන්ධයක් ඇති කල්හි විතර්කාදිය සහායත්‍ව හෙයින් ප්‍රතීයමාන වේ නු යි විතක්කෙන යනාදි අප්‍රධානයෙහි තෘතීයා යී; විතක්කෙන සහ, ආලම්බනාභිනිරොපණ ලක්ෂණ වූ විතර්කය හා සමග;වත්තති, සිත පවත්නේ යි– මෙහි“වත්තති”යනු ක්‍රියායොග

නිද්දේශ යි; පුත්තෙන සහ, පුත්‍රයා හා සමඟ; ථූලො, (පියෝ) ස්ථූල යි—මෙහි "ථූලො"යනු ගුණයොග නිද්දේශ යි; අන්තෙවාසිකා සද්ධිවිහාරිකෙහි සහ; ආචාර්‍ය්‍යශිෂ්‍ය වූ අන්තෙවාසිකය හ උපාධ්‍යාය ශිෂ්‍ය වූ සද්ධිවිහාරිකය ඝ යන මොවුන් හා සමඟ; ආචරියුපජ්ඣායානං, ආචාර්‍ය්‍ය උපාධ්‍යාය දෙන්නාට; ලාභො, චීවරාදී ලාභය යි—මෙහි "ලාභො"යනු ද්‍රව්‍ය සහයොග නිද්දේශ යි; භගවා, භාග්‍යවත් තෙම, භික්ඛුසඞ්ඝෙන සද්ධිං, භික්ෂු සමූහයා හා සමඟ; නිසීදි, ප්‍රඥප්තවර බුද්ධාසන මස්තකයෙහි හුන්නේ ය; සහස්සෙන සමං, සහස්‍රයෙන් සම කොට; මිතා, පරිච්ඡින්න යි—දහසෙකින් ඌනාතිරෙක නො කොට පිරිසිඳින ලද්ද යි යී තැනී; සබ්බෙහි, සියලු; පියෙහි මනාපෙහි, ප්‍රෙමණීයයන් හා මන වඩන්නන් හා ද; මෙ, මාගේ; නානා භාවො, කයින් නානා භාවය ද—වෙන් වීම ද; විනා භාවො, මරණින් විනා භාවය ද—හැර යාම ද වන්නේය; "ඉති පබ්බජිතෙනාභිණ්හං පච්චවෙක්ඛිතබ්බං" යි යොදනු; සඞ්ඝො, භික්ෂුසඞ්ඝ තෙම; ගඞ්ගෙන විනාපි, ගඞ්ග නම් භික්ෂුනු හැර; උපොසථං කරෙය්‍ය, ප්‍රාතිමොක්ෂොද්දෙශය කරන්නේ යි; ඉධ, මෙහි; වාසෙන, විසීමෙන්; තෙ, තට; අලං, පමණි—මෙහි "වාසෙන" යනු අලංයොගයෙහි තෘතීයා ය; "තෙ" යනු අලමර්ථයෙහි චතුර්ථී යි—අලං ශබ්ද ද "අලම්භූෂණපර්‍ය්‍යාප්තිවාරණෙෂු ප්‍රයුජ්‍යතෙ"යි බැවින් නිවාරණයෙහි වැටෙ යි, එහෙයින් මෙහි ලානාගේ විසීම නො කැමැත්තේ යි තැනී; එකෙන, එකාකී ව; තිණ්ණෙන, සංසාරසාගරයාගේ පාරයට ගියා වූ; ථාමදස්සිනා, තමාගේ බල දක්නා වූ; පුරිසෙන, පුරුෂයක් හු වීමෙන්; කිමෙම, මට කවර ඵලයෙක් ද—හුදකලා ව සංසාර සාගරයාගේ පරතෙරට යාමෙන් ප්‍රයොජන නැතැ යි තැනී—මෙහි "එකෙන තිණ්ණෙන පුරිසෙන ථාමදස්සිනා" යනු ප්‍රතික්ෂෙපවාචි වූ කිං ශබ්ද ප්‍රයොගයෙහි තෘතීයා ය, "මෙ" යනු අලමර්ථයෙහි චතුර්ථී යි; දුම්මෙධ, අඥානය; ජටාහි, ජටාමණ්ඩලයෙන්; තෙ, තට; කිං, ප්‍රයොජන කිම් ද?; අජිනසාටියා, අඳුන් දිවිසමින්; කිං තෙ, තට ප්‍රයොජන කිම් ද?—මෙහි ද "ජටාහි අජිනසාටියා" යනු කිං යොගයෙහි තෘතීයා ය; "තෙ" යනු අලමර්ථයෙහි චතුර්ථී යි.

70.

**සහත්ථෙ-දෙවදත්තෙන රාජගහං පාවිසි කොකාලිකෙන පච්ඡාසමණෙන-දුක්ඛා බාලෙහි සංවාසො.**

## 290. හෙත්වත්ථෙ ච-2-6-19.

**හෙත්වත්ථෙ හෙත්වත්ථප්පයොගෙ ච ලිඞ්ගම්හා තතියා විභත්ති හොති.**

**කිස්මිඤ්චි ඵලෙ දිට්ඨසාමත්ථියං කාරණං හෙතු, සොයෙව අත්ථො හෙත්වත්ථො, තස්මිං හෙත්වත්ථෙ-අන්නෙන වසති, ධම්මෙන වසති, විජ්ජාය වසති.**

**64 න ජච්චා වසලො හොති න ජච්චා හොති බ්‍රාහ්මණො**
**කම්මුනා වසලො හොති කම්මුනා හොති බ්‍රාහ්මණො.**

---

සහත්ථෙ, සහ ශබ්දයාගේ අර්ථ සම්භවයක් ඇති කල්හි තෘතීයා ප්‍රයොග දක්වනු ලැබේ; දෙවදත්තෙන, දෙවදත්ත ස්ථවිර තෙම; කොකාලිකෙන පච්ඡාසමණෙන, කොකාලික නම් පසු මහණහු හා සමග; රාජගහං පාවිසි, රාජගෘහ නගරයට වනී—මෙහි සහ ශබ්දයාගේ ප්‍රයොගයක් නැත ද සහාර්ථයෙහි විහිත තෘතීයාව විසින් ම "කොකාලිකෙන පච්ඡාසමණෙන" යි සහ යන මේ අර්ථය හැගේ, මත්තේ උදාහරණයෙහි ද මෙසේ මැ යි, බාලෙහි සංවාසො, කායදුශ්චරිතාදීන් සමන්විත බැවින් බාලයා ය යි කියන ලද අඥානයා හා විසීම; දුක්ඛා, දුඃඛයට නිමිත්ත හෙයින් දුක යි.

හෙත්වත්ථෙ ය ච ය යනු පද යි.

හෙතු එව අත්ථො හෙත්වත්ථො, තස්මිං හෙත්වත්ථෙ; චග්ගහණං යොගග්ගහණානුකඩ්ඪනත්ථං,(තෙනායමත්ථො සිජ්ඣති හෙත්වත්ථෙ හෙත්වත්ථප්පයොගෙ චාති); හෙත්වත්ථෙ, හෙතුසඞ්ඛ්‍යාත අර්ථයක් කිය යුතු කල්හි ද; හෙත්වත්ථප්පයොගෙ ච, හෙතුව අර්ථ කොට ඇති නිමිත්තපයොජනාදි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; ලිඞ්ගම්හා, ඒ හෙත්වර්ථ සම්භවය ඇත්තා වූ ද හෙත්වර්ථ ශබ්දයුක්ත වූ ද ලිඞ්ගයා කෙරෙන් පර ව; තතියා විභත්ති හොති, තෘතීයා විභක්ති වන්නී ය; හෙතු අත්ථො එතෙසන්ති හෙත්වත්ථා, හෙත්වත්ථස්ස වාචකා නිමිත්තප්පයොජනාදිසද්දා, තෙසං පයොගො

හෙත්වත්ථප්පයොගො, තස්මිං හෙත්වත්ථප්පයොගෙ; හෙතු නම් කිම් ද යත්? කිස්මිච් ඵලෙ, කිසි වාසාදි ඵලයෙක්හි; දිඨසාමත්ථියං, දක්නා ලද ශක්ති ඇති; කාරණං, කාරණ තෙම; හෙතු, හෙතු නම් වේ—යමක්හුගේ ඵලනිෂ්පාදන සාමර්ථ්‍යය අන්වය ව්‍යතිරෙක වශයෙන් ප්‍රතීයමාන වේ ද ඒ කාරණය හෙතු නමැ සි යූ තැනි, එසේ ම නු, "අවිජ්ජාය සඞ්ඛාරා සම්භවන්ති" යනාදියෙහි අවිද්‍යාදීන්ගේ සම්භවයෙහි සංස්කාරාදීන්ගේ සම්භවය ය තදභාවයෙහි ඔවුන්ගේ ද අභාවය ය, එහෙයින් අවිද්‍යාදිය හෙතු කොට ගෙන ම සංස්කාරාදිය ද තදභාවයෙහි සංස්කාරාදීන්ගේ අභාවය ද සම්භව වෙයි සිතන්නා හට ඒ අවිද්‍යාදීන්ගෙන් සංස්කාරාදි ඵලොත්පාදනයෙහි සමර්ථභාවය අන්වය ව්‍යතිරෙක හෙයින් හැගේ, මෙහි අන්වය ය යි ද හෙතු භාවයෙහි ඵලභාවය ය, ව්‍යතිරෙක ය යි ද හෙත්වභාවයෙහි ඵලාභාවය යි, මෙයින් හෙත්වර්ථයාගේ කාරකාර්ථයා කෙරෙන් වෙනස කියූ වෙත්, යම් තෙනෙක්හි "අන්නෙන වසති' යනාදියෙහි මෙන් යමක්හු පිණිස ක්‍රියාව වේ ද ඒ හෙතු නම් වෙයි, යම් තැනෙක්හි "කුද්දාලෙන ඛණති" යනාදියෙහි මෙන් ක්‍රියාව පිණිස යමෙක් වේ ද හේ කාරණ නම් වෙයි, එහෙයින් ම තෘතීයා වචනය ද මෙ බඳු තන්හි කරණාර්ථද්‍යොතක ය, මෙ බඳු තන්හි හෙත්වර්ථද්‍යොතක ය යි ප්‍රයොග හෙයින් හැගේ, මෙ ම නිසා කීහු "සාරාර්ථදීපනී" නම් විනයටීකායෙහි—"හෙතු අත්ථා කිරියා කාරණං න කරණං විය කිරියත්ථං, තස්මා නානප්පකාර ගුණවිසෙසාධිගමනත්ථං ඉධ උපසඞ්කමන කිරියාති' "අන්නෙන වසතී"ති ආදිසු විය හෙතුඅත්ථමෙවෙතං කරණවෙ වචනං යුත්තං කරණත්ථං තස්ස යුජ්ජමානත්තාති වුත්තං"යෙන වා කාරණෙනාති" යි. අන්නෙන වසති, අන්නය හෙතු කොට ගෙන වෙසේ—අන්නය අපෙක්ෂා කොට හෝ පිණිස වෙසෙ යි සේ යි, ධම්මෙන, ධර්මය හෙතු කොට ගෙන; වසති, වෙසේ; විජ්ජාය, විද්‍යාව හෙතු කොට ගෙන; වසති, වෙසේ.

ජච්චා, චණ්ඩාලකුල සඞ්ඛ්‍යාත හීන කුලයෙහි උත්පත්තිමාත්‍රය හෙතු කොට ගෙන; න වසලො හොති, චණ්ඩාල නම් නො වෙයි; ජච්චා, බ්‍රාහ්මණකුල සඞ්ඛ්‍යාත උත්තම කුලයෙහි උත්පත්තිමාත්‍රය හෙතු කොට ගෙන; න බ්‍රාහ්මණො හොති, බ්‍රාහ්මණ නම් නො වෙයි; එතකුදු වත්; කම්මනා වසලො හොති, කාය දුශ්චරිතාදි වූ නිකෘෂ්ට කර්මය හෙතු කොට ගෙන චණ්ඩාල නම් වෙයි; කම්මනා බ්‍රාහ්මණො හොති, කායසුචරිතාදී වූ උත්කෘෂ්ට කර්මය හෙතු කොට ගෙන බ්‍රාහ්මණ නම් වේ.

ධනෙන භොගවා ආචාරෙන කුලී.

65 කෙන පාණි කාමදදො, කෙන පාණි මධුස්සවො
කෙන තෙ බ්‍රහ්මචරියෙන පුඤ්ඤං පාණිම්හි ඉජ්ඣති.

හෙත්වත්ථප්පයොගෙ-කෙන නිමිත්තෙන, කෙන පයොජනෙන, කෙනත්ථෙන, කෙන හෙතුනා වසති.

## 291. සත්තම්‍යත්ථෙ ච-2-6-20.

සත්තම්‍යත්ථෙ ච ලිඞ්ගම්හා තතියා විභත්ති හොති.

කාලද්ධානදිසාදෙසාදිසු චායං-තෙන සමයෙන-තෙන කාලෙන-කාලෙන ධම්මසවණං-සො වො මමච්චයෙන සත්ථා-මාසෙන භුඤ්ජති-යොජනෙන ධාවති-පුරත්ථිමෙන ධතරට්ඨො-දක්ඛිණෙන විරූළ්හකො-පච්ඡිමෙන විරූපක්ඛො-උත්තරෙන කපිවතෙනා ජනොසම්පරෙන ච-යෙන භගවා තෙනුපසඞ්කමි ඉච්චාදි.

---

ධනෙන, ධනය නිමිත්ත කොට ගෙන; භොගවා, භොග ඇති වේ; ආචාරෙන, ආචාරය නිමිත්ත කොට ගෙන; කුලී, කුල ඇත්තේ වේ.

තෙ පාණි, තාගේ හස්තතලය තෙම්; කෙන, කවර කාරණයෙකින්; කාමදදො, කැමැති වස්තුව දේ ද; තෙ පාණි, තාගේ හස්තතලය තෙම; මධුස්සවො, (කවර කාරණයකින්) මධුර රස වහන්නේ ද; කෙන බ්‍රහ්මචරියෙන, කවර උත්තම චරණයක් නිමිත්ත කොට ගෙන (කවර වෙයාවතක් කාරණකොට ගෙන); තෙ පාණිම්හි, තාගේ හස්තතලයෙහි; පුඤ්ඤං ඉජ්ඣති, පුණ්‍ය ඵලය සමෘද්ධ වේ ද.

හෙත්වත්ථප්පයොගෙ, හෙතුව අභිධෙය කොට ඇති නිමිත්තාදි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි; (උදාහරණං දස්සියති) කෙන නිමිත්තෙන, කවර නිමිත්තක් හෙතු කොට ගෙන; කෙන පයොජනෙන, කවර ප්‍රයොජනයක් හෙතු කොට ගෙන; කෙන හෙතුනා වසති, කවර හෙතුවක් නිමිත්ත කොට ගෙන වෙසේ ද; "කෙන හෙතුනා වසති" යන මෙහි "වසති" ශබ්දයා "කෙන නිමිත්තෙන වසති කෙන පයොජනෙන වසති" යනාදීන් වෙන

වේත ම යෙදිය යුතු—මෙහි ද නිමිත්ත ය ප්‍රයොජන ය අර්ථ ය යන හෙතු පර්‍ය්‍යාය ශබ්දයන්ගේ යොගයෙහි නවිශෙෂණ වූ කිං ශබ්දයා කෙරෙන් ද විශෙෂ්‍ය වූ ඒ නිමිත්තාදි ශබ්දයන් කෙරෙන් ද මේ තෘතීයා වන්නී සි යූ තැනි.

සත්තම්‍යත්ථෙ ය ච ය යනු පද සි.

සත්තමියා අත්ථෙ සත්තම්‍යත්ථෙ, තස්මිං සත්තම්‍යත්ථෙ-මෙහි ච ශබ්ද සමුච්චයාර්‍ථ සි; සත්තම්‍යත්ථෙ ච, සප්තම්‍යර්ථයෙහි ද; ලිඞ්ගම්හා, ශබ්දයා කෙරෙන්; තතියා විභත්ති හොති, තෘතීයා විභක්ති වන්නී සි; අයං, මේ සප්තම්‍යර්ථයෙහි තෘතීයා තොම; කාල, කාලය; අද්ධාන, මාර්ගය; දිසා, දිගය; දෙසාදිසු ච, දෙශය යනාදි අර්ථයන් කිය යුතු කල්හි ම දත යුත්තී ය—මේ නියමය "තදනුපරොධෙන" යන පරිභාෂා හෙයින් සිඩ සි, මෙහි ද තෘතීයා තොම "කත්තරි ච" යන සූත්‍රයෙහි ච ශබ්දයෙන් ම සිඩ ය, එතකුදු වත්, තෙන සමයෙන, එසමයෙහි; (භගවා වෙරඤ්ජායං විහරති" සී යොදනු), "තස්මිං සමයෙ" සි සප්තම්‍යර්ථ සම්භවයෙහි තෘතීයා සි, නොහොත් කාරණාර්ථයෙහි ද හෙත්වර්ථ යෙහි ද මේ තෘතීයා වචනය සිඩ සි මෙසින් "සික්ඛාපද පඤ්ඤත්තියා හෙතුභූතෙන කාරණභූතෙන ච තෙන සමයෙන විහරති", තස්මිං සමයෙ සි කිය යුතු තන්හි "තෙන සමයෙන" සී වේ,මත්තෙහි ද මෙ සේ මැ සි; කාලෙන ධම්මසවණං,යුක්තප්‍රාප්ත කාලයෙහි ධර්මශ්‍රවණ ය; "උත්තමං මඞ්ගලං" සී යොදනු;සො, ඒ ධර්මය ද විනය ද; මමච්චයෙන, මාගේ ඇවෑමෙහි; වො, තොපට; සත්ථා, අනුශාසක වේ; මාසෙන, මසෙක්හි; භුඤ්ජති, අනුභව කෙරේ; යොජනෙන, යොදුනෙක් හි; ධාවති, දිවේ; පුරත්ථි මෙන, පූර්වදිග්භාගයෙහි; ධතරට්ඨො, ගන්ධබ්බරාජ ය; දක්ඛිණෙන, දක්ෂිණදිශාභාගයෙහි; විරූළ්හකො, කුම්භණ්ඩරාජ ය; පච්ඡිමෙන, පශ්චිමදිශාභාගයෙහි; විරූපක්ඛො, විරූපාක්ෂ නම් නාගරාජය; උත්තරෙන, උත්තරදිශාභාගයෙහි; කපිලවත්ථු, කපිලවස්තුපුරය; අපරෙන ච, අපරදිග්භාගයෙහි; ජනොසං, ජනොස නම් නගරය සි; භගවා, භාග්‍යවත් තෙම; යෙන, යම් ප්‍රදෙශයෙක්හි වෙසේ ද; තෙන, ඒ ප්‍රදෙශයෙහි ලා; උපසඞ්කමි, එළඹියේ; ඉති ආදි, යනාදිය වේ—කාරණාර්ථයෙහි ද මේ තෘතීයා වචනය කැමැති කල්හි "යෙන කාරණෙන භගවා උපසඞ්කමිතබ්බො තෙන කාරණෙන උපසඞ්කමි" සි තැනි, මෙහි "තෙන සමයෙන" යනාදි

## 292. යෙනඞ්ගවිකාරො–2–6–21.

**යෙන ව්‍යාධිමතා අඞ්ගෙන අඞ්ගිනො විකාරො ලක්ඛීයතෙ තත්‍ථ තතියා විභත්ති හොති–එත්‍ථ ච අඞ්ගමස්ස අත්‍ථීති අඞ්ගං සරීරං–අක්ඛිනා කාණො–හත්‍ථෙන කුණී–පාදෙන ඛඤ්ජො–පිට්ඨියා ඛුජ්ජො.**

## 293. විසෙසනෙ ච–2–6–22.

**විසෙසීයති විසෙසිතබ්බමනෙනාති විසෙසනං ගොත්තාදී, තස්මිං ගොත්තනාමජාති සිප්පවයොගුණසංඛාතෙ විසෙසනෙ තත්‍ථ තතියා විභත්ති හොති–ච සද්දෙන පකතිආදීහි ච.**

**ගොත්තෙන ගොතමො නාථො.**

---

උදාහරණ පචකය කාලයෙහි උදාහරණ ය, "යොජනෙන ධාවති" යනු අධානයෙහි උදාහරණ ය, "පුරත්‍ථිමෙන ධතරට්ඨො" යනාදී පචකය දිග්විෂයෙහි උදාහරණ ය, "යෙන භගවා" යනාදිය දෙශවිෂයෙහි තෘතීයාවට උදාහරණ යි.

යෙන ය අඞ්ගවිකාරො ය යනු පද යි.

අඞ්ගස්ස විකාරො අඞ්ගවිකාරො, සරීරස්ස අඤ්ඤථා භාවොති අත්‍ථො.

ව්‍යාධිමතා, ව්‍යාධියුක්ත වූ; යෙන අඞ්ගෙන, යම් නෙත්‍රාදී අවයවයක් කරණ කොට ගෙන; අඞ්ගිනො, ශරීරයාගේ; විකාරො, අන්‍යථා භාවය; ලක්ඛීයතෙ, දන්නා ලැබේ ද; තත්‍ථ, ඒ ව්‍යාධිමත් අඞ්ගයා කිය යුතු කල්හි; තතියා විභත්ති හොති, ඒ සරොගභාව වාචී ශබ්දයා කෙරෙන් තෘතීයා විභක්ති වන්නී යි; එත්‍ථ ච, මේ සූත්‍රයෙහි; අඞ්ගං, නෙත්‍රාදී අවයවය; අස්ස, මේ සමූහයාට; අත්‍ථීති, ඇත් නු යි; අඞ්ගං, අඞ්ග නම් වේ; හේ කිම් ද යත්? සරීරං, ශරීර ය යි; අඞ්ගී යි තැනි—මෙයින් අවයවාර්‍ථ වූ අඞ්ගශබ්දයා කෙරෙන් අස්ත්‍යර්‍ථයෙහි ණප්‍රත්‍යය දර්ශිත යි"අග–ගතිම්හි" යන ධාතුහු කෙරෙන් අඞ්ගීයතෙ යන වාක්‍යයෙහි "සබ්බතො ණ්වුත්වා වී වා" 4–1–4 යන සූත්‍රයෙන් අප්‍රත්‍යය කරන ලද කල්හි අඞ්ග යන රූපය සිද්ධ වෙයි, අක්ඛිනා යනාදී එහි උදාහරණ යි; අක්ඛිනා, ඇසින්; කාණො, අන්ධ යි; මෙහි ව්‍යාධි නම් අන්ධව්‍යාධි යි, අඞ්ග

**66 සාරිපුත්තොති නාමෙන විස්සුතො පඤ්ඤවා ච සො.
ජාතියා ඛත්තියො බුද්ධො ලොකෙ අප්පටිපුග්ගලො.
තාදිසු පබ්බජිතො සන්තො ජාතියා සත්තවස්සිකො.**

---

නම් ඇස යි; ඔත්තෙහි ද මෙසේ ම දන්න; හත්ථෙන, අතින්; කුණි, කොර යි; පාදෙන, පයින්; ඛඤ්ජො, ඛඤ්ජ යි—අක්පතුල් ආදීන් ඇක්මෙන්නේ ඛඤ්ජ නම්; පිඨියා, පිටින්; ඛුජ්ජො, කුදු යි—වක්‍ර යි සේ යි.

විසෙසනෙ ය ච ය යනු පද යි.

අනෙන, මේ විශෙෂණයා කරණ කොට ගෙන; විසෙසි තබ්බං, විශෙෂ්‍ය වූ වස්තුව තෙම; විසෙසීයතීති, අන් වස්තුවෙන් වෙන් කරනු ලැබේ නු යි; විසෙසනං, විශෙෂණ නම්; හේ කිම් ද යත්? ගොත්තාදි, ගොත්‍රාදිය යි—ජාති ශිල්ප වයො ගුණ යන මේ යි; ගොත්තනාමජාතිසිප්පවයොගුණසඞ්ඛාතෙ, ගොත්‍ර ය නාම ය ජාති ය ශිල්ප ය වයස ය ගුණ ය යි කියන ලද; තස්මිං විසෙසනත්ථෙ, ඒ විශෙෂණාර්ථය ද්‍යොත්‍ය කල්හි; තතියා විභත්ති හොති, තෘතීයා විභක්ති වන්නී ය—නාථාදීන්ට විශෙෂණභූත ගොත්‍රාදි වාචක ගොතමාදි ශබ්දයන් හා සමග එකාර්ථයෙහි වැටෙන්නා වූ ගොත්‍රාදි ශබ්දයන් කෙරෙන් පර ව තෘතීයා විභක්ති වන්නී යි "ගොත්තං නාම වංසො" යී බැවින් ගොත්‍රය යි වංශය කියනු ලැබේ. මෙතැන්හි වනාහි නාමයා වෙනස් කරන හෙයින් ගොත්‍රය යි වංශය ගන්නා ලදි; චසද්දෙන, මෙහි ච ශබ්ද යෙන්; පකති ආදීහි ච, ප්‍රකෘත්‍යාදි ශබ්දයන් කෙරෙන් ද තෘතීයා විභක්ති වේ.

නාථො, තථාගත තෙම; ගොතෙතන ගොතමො, ගොත්‍ර යෙන් ගොතම නම්, "ගොතම ගොත්තො" යී තැනි-මෙහි ගෞතම ගොත්‍රය තෙම භාරද්වාජාදි ගොත්‍රයා කෙරෙන් නාථයාගේ ව්‍යවච්ඡෙදයී කොට සිටී නු යි ඕ හට විශෙෂණ යි.

සො, හේ උපතිස්ස තෙම; නාමෙන සාරිපුත්තොති විස්සුතො, සබ්‍රහ්මචාරීන් විසින් තබන ලද නාමයෙන් ශාරීපුත්‍ර ය යි ප්‍රසිද්ධ යි; පඤ්ඤවා ච, ප්‍රඥ ඇත්තේ ද වේ—"සාරිපුත්තනාමො" යි තැනි; මෙහි ශාරීපුත්‍ර නාමය තෙම මෞද්ගල්‍යායනාදි නාමයා කෙරෙන් උපතිස්සයා වෙසෙසා නු යි තව්ශෙෂණ වේ; බුද්ධො, සර්වඥ තෙම;

**සිප්පෙන නළකාරො සො-එකූනතිංසො වයසා-විජ්ජාය සාධු-පඤ්ඤාය සාධු-තපසා උත්තමො-වණ්ණෙන අභිරූපො.**

**පකති ආදිසු-පකතියා අභිරූපො-යෙභුය්‍යෙන මත්තිකා-සමෙන ධාවති විසමෙන ධාවති, ද්විදොණෙන ධඤ්ඤං කිණාති-සහස්සෙන අස්සකෙ විකිණාති ඉච්චාදි.**

---

ජාතියා ඛත්තියො, කුලයෙන් ක්‍ෂත්‍රිය ය; "ඛත්තිය ජාතිකො" සි යු තැනි, මෙහි ක්‍ෂත්‍රිය ජාති තොම බ්‍රාහමණ ජාතිය කෙරෙන් භගවත්හු වෙන් කෙරේ නු සි ඔ හට විශෙෂණ සි; ලොකෙ, ලෙව්හි ලා; අප්පටිපුග්ගලො, තමා හා ප්‍රතිභාග පුද්ගලයක්හු නැත්තේ සි හෙවත් අසදෘශ සි—තදහු පබ්බජිතො සන්තො, එදවස් ප්‍රව්‍රජිත (මහණ) වූ—එක් දවසක් ඇත්තා වූ ය සි සේ සි; ජාතියා සත්ත වස්සිකො, තමාගේ ජාතියෙන් සත්හැවිරිදි වූ; "සොපි මං අනුසාසෙය්‍ය" යී යොදනු, "සත්තවස්සජාතො" සී තැනි—මෙහි සප්තවර්‍ෂ ජාති තොම අෂ්ටවර්‍ෂජාත්‍යාදීන් කෙරෙන් සාමණෙරයා වෙසෙසා නු සි තද්විශෙෂණ සි.

සො, හෙ තෙම; සිප්පෙන නළකාරො, හස්තකර්‍මයෙන් නලකාර සි, "නළකාරසිප්පො" සී තැනි—මෙහි නලකාරශිල්ප තෙම අයකාර ශිල්පාදීන් කෙරෙන් පුරුෂයාගේ ව්‍යවච්ඡෙදය කරන හෙයින් ඔ හට විශෙෂණ වෙ සි; වයසා, වයස විසින්; එකූනතිංසො, එකුන් තිසක් ඇත්තේ සි "එකූනතිංස වයො" සී තැනි—මෙහි එකොනත්‍රිංශත් වර්‍ෂ පරිච්ඡින්න වයස තෙම සෙසු ත්‍රිංශත් වර්‍ෂ පරිච්ඡින්නාදිවයසින් භගවත්හු පිරිසිඳිනා හෙයින් ඔ හට විශෙෂණ සි; විජ්ජාය, විද්‍යාවෙන්; සාධු, සුන්දර සි; පඤ්ඤාය, ප්‍රඥාවෙන්; සාධු, සුන්දර සි; තපසා උත්තමො, තපසින් උත්තම සි; වණ්ණෙන අභිරූපො, ඡවිවර්‍ණයෙන් අභිරූප සි "සාධු විජ්ජා සාධු පඤ්ඤා උත්තමරූපො අභිරූපවණ්ණො" සී තැනි—මෙහි සාධුවිද්‍යාදීහු අසාධුවිද්‍යාදීන් කෙරෙන් පුරුෂයන් පිරිසිඳිත් නු සි ඔවුන්ට විශෙෂණයෝ සි; පකතිආදිසු, පකතිශබ්දාදීන් විෂයෙහි උදාහරණ දක්වනු ලැබේ.

පකතිසද්දො ආදි යෙසන්තෙ පකතිආදයො, තෙසු පකති ආදිසු, ආදිසද්දෙන යෙභුය්‍යසච්චසමපරිමාණාදීනං ගහණං. පකතියා යනාදි එහි උදාහරණ සි; පකතියා අභිරූපො, ස්වභාව යෙන් විශිෂ්ට රූප ඇත්තේ සි; යෙභුය්‍යෙන මත්තිකා, බාහුල්‍ය

**කස්මිං අත්ථෙ චතුත්ථී?**

## සම්පදානෙ චතුත්ථී.

**සම්පදානකාරකෙ ලිඞ්ගම්හා චතුත්ථී විභත්ති හොති.**

**කිඤ්ච සම්පදානං?**

## යස්ස දාතුකාමො රොචතෙ ධාරයතෙ වා තං සම්පදානං.

**යස්ස වා යං දාතුකාමො යස්ස වා රොචතෙ යස්ස වා ධාරයතෙ තං කාරකං සම්පදානසඤ්ඤං හොති—සම්මා පදීයතෙ අස්සාති සම්පදානං පටිග්ගාහකො.**

---

යෙන් මැටි යි; සමෙන ධාවති, සමයෙන් දිවේ—සම කොට ධාවනය කෙරෙ යි සේ යි—යම් කාලෙක්හි වනාහි "සමෙන භූමිභාගෙන ධාවති" යි අර්ථ වේද එකල්හි "සමෙන ධාවති" යි කරණයෙහි තෘතීයා යි; දොණෙන, දෙකුරුණියකින්; ධඤ්ඤං කිණාති, ව්‍රීහ්‍යාදි ධාන්‍ය විකිණි ගනී; සහස්සෙන, දහසෙකින්; අස්සකෙ, අසුන්; විකක්කිණාති, විකුණේ—මසුරන් දහසකට අසුන් දෙ යි සේ යි.

තෘතීයා වර්ණනා යි.

---

කස්මිං අත්ථෙ චතුත්ථී, කවර අර්ථයෙක්හි චතුර්ථී වේ ද යත්?

සම්පදානෙ ය චතුත්ථී ය යනු පද යි.

සම්මා පදීයති එතස්සාති සම්පදානං, තස්මිං සම්පදානෙ, සම්පදානකාරකෙ, සම්ප්‍රදාන සඞ්ඛ්‍යාත කාරකයක් ද්‍යොත්‍ය කල්හි; ලිඞ්ගම්හා, ඒ සම්ප්‍රදානවාචි ලිඞ්ගයා කෙරෙන් පර ව; චතුත්ථී විභත්ති හොති, චතුර්ථී විභක්ති තොම වන්නී යි; කිඤ්ච සම්පදානං, සම්ප්‍රදානය කුමක් ද යත්.?

යස්ස ය දාතුකාමො ය රොචතෙ ය ධාරයතෙ ය වා ය තං ය සම්පදානං ය යනු පද යි.

යස්ස යං දාතුකාමො වා යස්ස යං රොචතෙ වා යස්ස යං ධාරයතෙ වා යි යොදනු; මෙහි වා ශබ්ද සමුච්චයෙහි වැටේ.

**තම්පන තිවිධං—දීයමානස්සානිවාරණාපෙක්ඛනානුමති වසෙන.**

**යථා බුද්ධස්ස පුප්ඵං යජති-බොධිරුක්ඛස්ස ජලං දදාති.**

**අපෙක්ඛනෙ-යාචකානං ධනං දදාති.**

**අනුමතියං-භික්ඛූනං දානං දෙති-යථාහ.**

---

යස්ස, (සචෙතන වූ හෝ අචෙතන වූ හෝ) යමක්හට; යං, යමක්; දාතුකාමො වා, (පූජාබුද්ධියෙන් හෝ අනුග්‍රහබුද්ධියෙන් හෝ) දෙනු කැමැත්තේ ද; යස්ස, යම් (ශ්‍රමණබ්‍රාහ්මණාදියක් හට; යං, යමක්; රොචතෙ වා, රුස්නේ හෝ වේ ද; ප්‍රීතිය හෝ කෙරේ ද, යස්ස, (දෙවදත්තාදි) යමක්හට; යං, ඡත්‍රාදි යමක්; ධාරයතෙ වා, ධරන්නේ හෝ වේ ද; තං කාරකං, ඒ කාරක ය; සම්පදානසඤ්ඤං හොති, සම්ප්‍රදාන සංඥ වන්නේ යි; අස්ස, මෝහට; සම්මා, මනා කොට; පදීයතෙති, පැමිණ දෙනු ලැබේ නු යි; සම්පදානං, සම්ප්‍රදාන නම්; සං ප පූර්ව වූ, “දා-දානෙ” යන ධාතුනු කෙරෙන් සම්ප්‍රදානාර්ථයෙහි යු ප්‍රත්‍යය යි—එහි සම්මා යන විශෙෂණ ය කුමැ යි ද යත්? “රජකස්ස වත්ථං දදාති, දෙවදත්තස්ස ඉණං දදාති” යනාදියෙහි වතුර්ථි නිවෘත්තිය පිණිස යි, හෙම සම්ප්‍රදාන නම් කිම් ද යත්? පටිග්ගාහකො, පිළිගන්නේ යි—මෙයින් සචෙතනවත් මැන, අචෙතනවත් මැන, ප්‍රතිග්‍රාහක භාව යෙන් අපෙක්ෂා කරන ලද්දේ ම සම්ප්‍රදාන නමැ යි දක්වත්.

තම්පන, ඒ සම්ප්‍රදානය වනාහි; දීයමානස්ස, (පූජාබුද්ධියෙන් හෝ අනුග්‍රහබුද්ධියෙන් හෝ) දෙනු ලබන වස්තුහුගේ; අනිවාරණ, අප්‍රතිෂෙධය; අපෙක්ඛන, ආරාධනය; අනුමතිවසෙන, අනුඥය යන මොවුන්ගේ වශයෙන්; තිවිධං, ත්‍රිප්‍රකාරයෙක් ඇත්තේ යි— අනිරාකෘතෘය ආරාධනය අනුමන්තෘය යි මෙසේ ප්‍රභෙද හෙයින් සම්ප්‍රදානකාරකය තුනෙක් වෙ යි සේ යි, අනිවාරණච අපෙක්ඛනච අනුමති ච අනිවාරණාපෙක්ඛනානුමතයො, තෙසං වසෙන අනිවාරණාපෙක්ඛනානුමතිවසෙන; අපෙක්ඛනං නාම ගරුඨානියං පයිරුපාසිත්වා ගරුතරං පයොජනං උද්දිස්ස අභිපත්ථනා ආයාචනාති අත්ථො.

**07 "අනිරාකරණාරාධනාබ්භනුඤ්ඤවසෙන හි
සම්පදානං තිධා වුත්තං රුක්ඛයාචකභික්ඛවො"ති.**

**දාතුකාමොති කිං? රඤ්ඤො දණ්ඩං දදාති.**

**රොචනාදිසු පන-සමණස්ස රොචතෙ සච්චං-මා ආයස්මන්තානම්පි සඞ්ඝභෙදො රුච්චිත්ථ-යස්සායස්මතො ඛමති-දෙවදත්තස්ස සුවණ්ණච්ඡත්තං ධාරයතෙ යඤ්ඤදත්තො.**

---

බුද්ධස්ස යනාදී එහි උදාහරණ යි; බුද්ධස්ස, සර්වඥයහට; පුප්ඵං, කුසුම; යජති, දේ; බොධිරුක්ඛස්ස, බොධිද්‍රුමයට; ජලං, ජලය; දදාති, දේ—මෙහි කුසුමජලදානය පූජාබුද්ධියෙන, ඒ යජනදාන ක්‍රියාවයට පුරුෂ කර්තෘය ඔහු විසින් දීයමාන වූ කුසුමජලයන් හුදු නො නවත්වන හෙයින් බුද්ධබොධිද්‍රුම දෙන්න අනිරාකර්තෘ නම් වූ සම්ප්‍රදාන යි; අපෙක්ඛසතෙ, ආරාධනාවිෂයෙහි සම්ප්‍රදාන කාරකය දක්වනු ලැබේ; යාචකානං, යාචකයන්ට; ධනං දදාති, ධනය දේ—මෙහි ධනදානය අනුග්‍රහබුද්ධියෙන, ඒ දානක්‍රියාවට පුරුෂ කර්තෘය, ඔහු විසින් දීයමාන ධනය හුදු ඉල්වන හෙයින් යාචක ආරාධක නම් වූ සම්ප්‍රදාන යි; අනුමතියං, අනුමතිවිෂයෙහි සම්ප්‍රදානකාරකය දක්වනු ලැබේ; භික්ඛූනං, භික්ෂූන්ට; දානං දෙති, අන්නපානාදි වස්තුව දේ—මෙහි අන්නාදිදානය පූජාබුද්ධියෙන, ඒ දානයට පුරුෂ කර්තෘය, ඔහු විසින් දීයමාන වූ අන්නාදිය හුදු සිතින් අනුදන්නා හෙයින් භික්ෂූහු අනුමන්තෘ නම් වූ සම්ප්‍රදාන යි; යථාහ, මේ ත්‍රිප්‍රකාරය ම මඤ්ජූෂාකාර ද කී යි.

**අනිරාකරණ, දීයමානයාගේ අනිවාරණය; ආරාධන, ආයාචනය; අබ්භනුඤ්ඤවසෙන හි, අනුමතිය යන මොවුන්ගේ වශයෙන්; සම්පදානං, සම්ප්‍රදානකාරකය තෙම; තිධා වුත්තං, ත්‍රිප්‍රකාරයකින් කියන ලද; රුක්ඛයාචකභික්ඛවො, වෘක්ෂය යාචකය භික්ෂූය යන මේ එහි උදාහරණ යි, මෙහි වෘක්ෂය තෙම යාචකයා සේ යාචඤාවකුදු භික්ෂූහු සේ අබ්භ්‍යනුමතියකුදු නො කොට අනිවාරණය කෙරේ නු යි අනිරාකරණයට උදාහරණය, යාචක තෙම වෘක්ෂයා සේ අනිවාරණයකුදු භික්ෂූහු සේ අබ්භ්‍යනුමතිය කුදු නො කොට හුදු යාචඤා කෙරේ නු යි ආරාධනයට උදාහරණය, භික්ෂු තෙම වෘක්ෂයා සේ අනිවාරණයකුදු යාචඤාවකුදු නො කොට හුදු අබ්භ්‍යනුමතිය කෙරේ නු යි අබ්භ්‍යනුඥවට උදාහරණ යි.**

දාතුකාමොති, දාතුකාමො යනු; කිං, කුමටය; රඤ්ඤො, රජහට; දණ්ඩං, දඩය; දදාති, දෙයි කී කල්හි සම්ප්‍රදාන සංඥා නො වන පිණිස යි—මෙහි පුරුෂයාගේ දණ්ඩදානය හුදෙක් රාජඥාවෙන් මුත් දාතුකාම්‍යතාවෙන් නො වේ නු යි අදාතුකාම්‍යතාවෙන් දෙන දෙයට රජ සම්ප්‍රදාන නම් නො වෙයි, එහෙයින් චතුර්ථී නො ව ෂෂ්ඨී ම වන්නී යි, මෙද "යස්ස වා පරිග්ගහො" යනාදී සූත්‍රයෙහි වා ශබ්දයෙන් සඞ්ගෘහීත යි, මේ මෙසේ දානාර්ථවිෂයෙහි උදාහරණ දක්වා දැන් රොචනාර්ථධාරණාර්ථවිෂයෙහි උදාහරණ දක්වනුවෝ "රොචනාදිසු" යී කීහ.

රොචනාදිසු, රොචනාදි අර්ථයෙහි උදාහරණ දක්වනු ලැබේ. සමණස්ස, ශ්‍රමණයාහට; සච්චං, සත්‍යය; රොචතෙ, රුස්නේ යි—ප්‍රිය යී සේ යි—මෙහි සත්‍යය රොචනක්‍රියාවට කර්තෘය, ශ්‍රමණයා නිමිත්ත යි; ආයස්මතොනම්පි, ආයුෂ්මතුන්ට ද; සඞ්ඝභෙදො, සමගි සඞ්ඝයාගේ භෙද ය; මා රුච්චිත්ථ, නො ම රුස්වා; යස්ස ආයස්මතො, යම් ආයුෂ්මතෙක්හට; ඛමති, මේ සඞ්ඝකර්මය රුසිද—"සො තුණ්හස්ස" යනාදිය හා සබඳී—මේ උදාහරණව යෙහි ද සඞ්ඝභෙදසඞ්ඝකර්ම දෙක රොචනක්‍රියාවට කර්තෘය, ආයුෂ්මත්හු තන්නිමිත්තයෝ යි; යඤ්ඤදත්තො, යඤ්ඤදත්ත තෙම; දෙවදත්තස්ස, දෙවත්තයහට; සුවණ්ණච්ඡත්තං, රන්සත; ධාරයතෙ, ධරා—හිසට ලයි සේ යි—මෙහි යඤ්ඤදත්ත තෙම ඡත්‍ර ධාරණයට කර්තෘය, දෙවදත්ත තෙම තන්නිමිත්ත යි, සම්‍යක් ප්‍රදීයතෙ යස්මෙ තත් සම්ප්‍රදානම්" යී බැවින් රොචනාද්‍යර්ථවිෂයෙහි සම්ප්‍රදානත්වය කිසේද එසේ ම නු "බුඞ්ඪස්ස පුප්ඵං යජති" යනාදියෙහි මෙන් "සමණස්ස රොචතෙ සච්චං" යනාදියෙහි දානය නො වේ, එහෙයින් ශ්‍රමණාදිහුගේ සම්ප්‍රදානත්වය නො යෙදෙන්නේ වේද යත්? යෙදෙන්නේ මැ යි, කවර හෙයින්ද යත්? සම්ප්‍රදානශබ්දය යම්කිසි ක්‍රියාවක් පිළිගන්නහු කෙරෙහි නිරූඪය රොචනාදි ක්‍රියාවෙන් ශ්‍රමණාදිහු ප්‍රතිග්‍රාහකරූපයෙන් විවක්ෂිත හෙයිනි.

**සම්පදානන්ති වාති ච වත්තතෙ.**

**294. සිලාඝහනුඨාසපධාරපිහකුධදුහිස්සාසූයරාධික්ඛපච්චාසුණඅනුපතිගිණපුබ්බකත්තාරොචනත්ථතදත්ථතුමත්ථාලමත්ථමඤ්ඤනාදරප්පාණිනි ගත්‍යත්ථකම්මණි සංසඨසම්මුතිභියසත්තම්‍යත්ථෙසු ච. 2-6-7.**

---

සම්පදානන්ති වාති ච, "යස්ස දාතුකාමො" යනාදි සූත්‍රයෙන් සම්පදානං යනුද වා යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

සිලාඝහනුඨාසපධාරපිහකුධදුහිස්සාසූයරාධික්ඛපච්චාසුණඅනුපතිගිණපුබ්බකත්තාරොචනත්ථතදත්ථතුමත්ථාලමත්ථමඤ්ඤනාදරප්පාණිනි ය ගත්‍යත්ථකම්මණි ය සංසඨසම්මුතිභියසත්තම්‍යත්ථෙසු ය ච් ය යනු පද සි.

සිලාඝො ච හනු ච ඨා ච සපො ච ධාරො ච පිහො ච කුධො ච දුහො ච ඉස්සා ච උසූයො ච රාධො ච ඉක්ඛො ච සිලාඝහනුඨාසපධාරපිහකුධදුහිස්සාසූයරාධික්ඛා, පච්චාපුබ්බො සුණො පච්චාසුණො, අනුපතිපුබ්බො ගිණො අනුපතිගිණො, පච්චාසුණො ච අනුපතිගිණො ච පච්චාසුණඅනුපතිගිණා, පුබ්බස්ස කම්මස්ස කත්තා පුබ්බකත්තා, පච්චාසුණඅනුපතිගිණානං පුබ්බකත්තා පච්චාසුණඅනුපතිගිණපුබ්බකත්තා, ආරොචනං අත්ථො යෙසන්තෙ ආරොචනත්ථා, යො බුද්ධාදි අත්ථො පයොජනං යස්ස ජීවිතපරිච්චාගාදිකස්ස සො තදත්ථො, යස්ස වා ජීවිතපරිච්චාගාදිකස්ස අත්ථො බුද්ධාදි සො තදත්ථො, තුං පච්චයෙන සමානත්ථො තුමත්ථො, අලං සද්දස්ස අත්ථො අලමත්ථො, ආරොචනත්ථො ච තදත්ථො ච තුමත්ථො ච අලමත්ථො ච ආරොචනත්ථතදත්ථතුමත්ථාලමත්ථා, න පාණීති අප්පාණී, අනාදරවිසයො අප්පාණී අනාදරප්පාණී, මඤ්ඤතිස්ස අනාදරප්පාණී මඤ්ඤනාදරප්පාණී, සිලාඝ-පෙ-තුමත්ථාලමත්ථා ච මඤ්ඤනාදරප්පාණී ච සිලාඝ-පෙ-මඤ්ඤනාදරප්පාණී, සමාහාරද්වන්ද්වෙ, තස්මිං සිලාඝ-පෙ-මඤ්ඤනාදරප්පාණිනි, ගති අත්ථො යෙසන්තෙ ගත්‍යත්ථා, තෙසං කම්මං ගත්‍යත්ථකම්මං, තස්මිං ගත්‍යත්ථකම්මණි, සංසනං ආසිංසනං සංසො, සොයෙව අත්ථො සංසඨො, ථකාරස්ස ඨකාරං කත්වා යථා දුක්ඛස්ස පීළනට්ඨොති,

**චතුප්පදමිදං-සිලාඝ කත්ථනෙ, හනු අපනයනෙ, ඨා ගති නිවුත්තිම්හි, සප අක්කොසෙ, ධාර ධාරණෙ, පිහ ඉච්ඡායං ඉච්චෙවමන්තානං ධාතූනං පයොගෙ-කුධ කොපෙ, දුහ ජිඝිංසායං, ඉස්ස ඉස්සායං, උසූය දොසාවිකරණෙ ඉච්චෙවමාදීනං තදත්ථ වාචීනඤ්ච ධාතූනං පයොගෙ ච-රාධ හිංසාසංරාධෙසු, ඉක්ඛ දස්සනංකෙසූති ඉමෙසං පයොගෙ ච-පති ආපුබ්බස්ස සු සව ණෙතිමස්ස ච, අනුපතිපුබ්බස්ස ගීසද්දෙතිමස්ස ච, පුබ්බකත්තා ච-ආරොචනත්ථප්පයොගෙ තාදත්ථෙ තුමත්ථෙ අලමත්ථප්පයො ගෙ ච-මඤ්ඤතිප්පයොගෙ අනාදරෙ අප්පාණිනි ච-ගත්‍යත්ථා නං කම්මණි ච-ආසිංසනත්ථයොගෙ ච-සම්මුතිභිය්‍යප්පයොගෙ සු ච-සත්තම්‍යත්ථෙ චාති තං කම්මාදිකාරකං සම්පදානසඤ්ඤං හොති-චසද්දග්ගහණෙන පහිණාති කප්පති පහොති උප මඤ්ජලීකරණඵාසුඅත්ථසෙය්‍යප්පභුතියොගෙ ච පුරෙ විය චතුත්ථී.**

---

සම්මන්නනා සම්මුති, භිය්‍යොති අතිරෙකත්ථෙ නිපාතො, සත්තමියා අත්ථො සත්තම්‍යත්ථො, සම්මුති ච භිය්‍යො ච සත්තම්‍යත්ථො ච සම්මුතිභිය්‍ය සත්තම්‍යත්ථා, තෙසු සම්මුතිභිය්‍යසත්තම්‍යත්ථෙසු.

ඉදං, මේ සිලාඝාදි සූත්‍රය; චතුප්පදං, සිවුපදයෙක් ඇත්තේයි. සිලාඝ කත්ථනෙ-පෙ-පිහ ඉච්ඡායං ඉති, සිලාඝකත්ථනෙ යන ධාතුය-පෙ-පිහ ඉච්ඡායං යන ධාතුය යි; එතෙසං ධාතූනං පයොගෙ, මේ ධාතූන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; කුධ කොපෙ-පෙ-උසූයදොසාවිකරණෙ ඉති, කුධ කොපෙ යන ධාතුය -පෙ-උසූය දොසාවිකරණෙ යන ධාතුය යි; එතෙසං, මේ ධාතූන්ගේ ද; තදත්ථවාචීනං ධාතූනං පයොගෙ ච, ඒ ක්‍රොධාද්‍යර්ථ වාචි වූ අන්‍යධාතූන්ගේ ද ප්‍රයොගයක් ඇති කල්හි; රාධ හිංසා සංරාධෙසු ඉක්ඛ දස්සනඞ්කෙසු ඉති, රාධ හිංසාසංරාධෙසු යන ධාතුය ඉක්ඛ දස්සනඞ්කෙසු යන ධාතුය යි; ඉමෙසං පයොගෙ ච, මේ ධාතූන් දෙන්නාගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; පති ආපුබ්බස්ස, පති ආ දෙන්න පූර්ව කොට ඇති; සු සවණෙති ඉමස්ස ච, සු සවණෙ යන මේ ධාතුහුගේ ද; අනුපතිපුබ්බස්ස, අනුපති දෙන්න පූර්ව කොට ඇති; ගි සද්දෙති ඉමස්ස ච, ගි සද්දෙ යන මේ ධාතු හුගේ ද; පුබ්බකත්තා ච, පූර්වක්‍රියාවට කර්තෘ වූ තැනැත්තේ ද; ආරොචනත්ථප්පයොගෙ, ආරොචනාර්ථ ඇති ධාතූන්ගේ ප්‍රයොග යක් ඇති කල්හි ද; තාදත්ථෙ, ජීවිත පරිත්‍යාගාදි වූ තාදර්ථයෙහි ද

(ඒ ක්‍රියාවගේ ඵලය අර්ථ කොට ඇති ශබ්දයෙහි ද); තුමත්ථෙ, අනුකම්පනාදි වූ තුං ප්‍රත්‍යයා සම්බන්ධි වූ අර්ථයෙහි ද හෙවත් තුං ප්‍රත්‍යයාර්ථ ශබ්දයෙහි ද; අලමත්ථප්පයොගෙ ච, අභිප්‍රතික්‍ෂෙප සඞ්ඛ්‍යාත වූ අලං ශබ්දය සම්බන්ධි අර්ථය යන මොවුන්ගේ ප්‍රයොග යක් ඇති කල්හි ද; මඤ්ඤතිප්පයොගෙ, මන ඤාණෙ යන ධාතු හුගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; අනාදරෙ අප්පාණිනි ච, අනාදර විෂයෙහි අප්‍රාණිභූතකර්මාර්ථ විෂයෙහි ද; ගත්‍යත්ථානං කම්මණි ච, ගත්‍යර්ථවාචි ධාතූන්ගේ කර්මාර්ථයෙහි ද; ආසිංසනත්ථප්පයොගෙ ච, ආශංසනාර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; සම්මුති භිය්‍යප්පයොගෙසු ච, සම්මුතිභිය්‍ය යන ශබ්දයන් දෙන්නාගේ ප්‍රයොයක් ඇති කල්හි ද; සත්තම්‍යත්ථෙ චාති, සප්තමියගේ අර්ථ යෙහි ද යන මෙහි;තං කම්මාදිකාරකං,ගේ කර්මාදිකාරකය තෙම; සම්පදානසඤ්ඤං හොති, ප්‍රතිග්‍රාහක රූපයෙන් අභිප්‍රෙත නු සි සම්ප්‍රදාන සංඥ ඇත්තේ වේ—සිලාඝාදි ධාතූන් හා යොගයෙහි සිලාඝාදි ක්‍රියාවට නිමිත්ත වූ අර්ථය ද කුධාදි ධාතූන් හා තදර්ථ වාචි වූ අන්‍ය ධාතූන් හා යොගයෙහි කුජ්ඣනාදියට නිමිත්ත වූ අර්ථය ද පති ආ පූර්ව සු සවණෙ ය අනු පති පූර්ව ගි සද්දෙ ය යන ධාතූන් දෙන්නාගේ පූර්වක්‍රියාකර්තෘ ද ආරෙචනාර්ථ ධාතූන් හා යොගයෙහි ආරෙචනාර්ථයට නිමිත්ත වූ අර්ථය ද තාදර්ථ්‍යය ද තුමර්ථය ද අභිප්‍රතික්‍ෂෙපාඛ්‍ය වූ අලමර්ථයොගයෙහි තන්නිමිත්ත වූ අර්ථය ද මන ඤාණෙ යන ධාතුහුගේ යොගයෙහි අනාදරයක් හැඟෙන කල්හි අප්‍රාණිවාචක වූ කර්මාර්ථය ද ගත්‍යර්ථධාතූන්ගේ කර්මය ද ආශංසනාර්ථප්‍රයොගයෙහි තන්නිමිත්ත වූ අර්ථය ද සම්මුතිභිය්‍යො යොගයෙහි සම්මන්නිතව්‍යයා හා ප්‍රමාණාර්ථය ද සප්තම්‍යර්ථය ද සම්ප්‍රදානසංඥ ලබන්නේය යි සේ යි. මෙහි සිලාඝ යන ධාතු ස්තොමනයෙහි වැටෙ යි, හනු යන ධාතු වැළකීමෙහි වැටෙ යි, ඨා යන ධාතු ගතිනිවෘත්තියෙහි වැටෙ යි, සප යන ධාතු තිඤූයෙහි වැටෙ යි, ධාර යන ධාතු ධැරීමෙහි වැටෙ යි, මෙහි ධාරණය නම් ඉණදෙය්‍යතායෙන් (පූර්ව ගෘහීතය) ඉසිලීම යි, පිහ යන ධාතු ප්‍රාර්ථනායෙහි වැටෙ යි, කුධ යන ධාතු ක්‍රොධයෙහි වැටෙ යි, දුහ යන ධාතු ජනතෙවජ්ඣාවෙහි වැටෙ යි, ඉස්ස යන ධාතු අක්‍ෂමායෙහි වැටෙ යි, උසූය යන ධාතු දොෂාවීකරණයෙහි වැටෙ යි, රාධ යන ධාතු හිංසාආරාධනා දෙක්හි වැටෙ යි, ඉක්ඛ යන ධාතු දර්ශනචින්ත දෙක්හි වැටෙ යි, සු යන ධාතු ශ්‍රවණයෙහි වැටෙ යි, ගී යන ධාතු ශබ්ද කිරීමෙහි වැටෙ යි.

**සිලාඝාදි යොගෙ තාව-බුද්ධස්ස සිලාඝතෙ-උපජ්ඣායස්ස සිලාඝතෙ-ථොමෙතීති අත්ථො.**

---

පති ආ ඉච්චෙතෙ උපසග්ගා පුබ්බා ආදිභූතා යස්මා සො පතිආපුබ්බො, තස්ස පතිආපුබ්බස්ස, අනුපතිපුබ්බස්සාති එත්ථාපි එසෙව නයො, මන ඉච්චයං ධාතු එව මඤ්ඤති, තස්ස පයොගො මඤ්ඤතිප්පයොගො, තස්මිං මඤ්ඤතිප්පයොගෙ, කම්මං ආදි යස්ස තං කම්මාදි, කම්මාදි ච තං කාරකං චාති කම්මාදිකාරකං, ආදිසද්දෙන කත්තු අධිකරණකාරකානි ගහිතානි, ඉදං ච යෙභුය්‍යවසෙන වුත්තං, තදඤ්ඤෙසුපි අත්ථෙසු ඉමිනාව සම්පදානසඤ්ඤාය සම්භවතො, තථාහි ඉදං සුත්තං පත්තවිධිවිසයො ච හවති අප්පත්තවිධිවිසයො ච, කථං? යත්ථ කත්තු කම්ම අධිකරණකාරකානි සන්ති තත්ථ අඤ්ඤෙහි සුත්තෙහි දුතියාදිම්හි සම්පත්තෙ ඉමිනා සම්පදාන සඤ්ඤං කත්වා තතො චතුත්ථියා විධීයමානත්තා පත්තවිධිවිසයො ච හවති එවං සති කම්මාදි සඤ්ඤාහි සම්පදානසඤ්ඤාය සංකරභාවො නාපජ්ජතීති? න ආපජ්ජති යං කත්තුනො කිරියාය කෙවලං පාපුණිතබ්බාදිවසෙන අධිප්පෙතං තං කම්මාදි නාම යං පන කිරියාය පටිග්ගාහකරූපෙන අධිප්පෙතං තං සම්පදානං නාමාති වුත්තෙන භින්නලක්ඛණත්තා කාරකෙසුපි යො යො විසෙසො ලබ්භති තං තං ගහෙත්වා භෙද වොහාරො සාත්ථකොති, යත්ථ පන තානි සන්ති තත්ථ අඤ්ඤෙහි සුත්තෙහි කාරියෙ අසම්පත්තෙයෙව ඉමිනා සම්පදානසඤ්ඤං කත්වා චතුත්ථියා විධීයමානත්තා අප්පත්තවිධිවිසයොව.

චසද්දග්ගහණෙන, අනුක්‍රමසමුච්චයාර්ථ වූ චශබ්දයාගේ ග්‍රහණයෙන්; පහිණාති, ප යන උපසර්ගයා පූර්වකොට ඇති හි ගතිම්හි යන ධාතුය; කප්පති, කප්ප සාමර්ථ්‍යෙ යන ධාතුය; පහොති, ප යන උපසර්ගයා ම පූර්වකොට ඇති භූ සත්තායං යන ධාතුය; උපමඤ්ජලීකරණ, උපමාකරණ අඤ්ජලීකරණය; ඵාසු, ඵාසුශබ්දය; අත්ථ, අත්ථශබ්දය; සෙය්‍යප්පභූති, සෙය්‍යශබ්දය යන මේ ආදීන් හා; යොගෙ ච, යොගයක් ඇති කල්හි ද තද්‍යුක්ත වූ අර්ථය සම්ප්‍රදාන සංඥා ඇත්තේ වේ; පුරෙ විය, පෙර මෙන්— "සම්පදානෙ චතුත්ථී" යන සූත්‍රයෙන් ම ය යි සේ යි; චතුත්ථී, චතුර්ථී විභක්ති වේ.

සිලාඝාදියොගෙ, සිලාඝාදි ධාතූන් හා යොගයක් ඇති කල්හි; තාව, ප්‍රථම කොට; ("සම්පදානස්ස යොගො දස්සීයතෙ" යි යොදනු) බුද්ධස්ස, සර්වඥයා හට; සිලාඝතෙ, (නව අරහාදි ගුණෙන්

**හනුතෙ මය්හමෙව—හනුතෙ තුය්හමෙව—අපලපතීති අත්ථො—උපතිඨෙය්‍ය සක්‍යපුත්තානං වඩ්ඪකී—එත්ථ ච උපඨානං නාම උපගමනං—භික්ඛුස්ස භුඤ්ජමානස්ස පානීයෙන වා විධූපනෙන වා උපතිඨෙය්‍ය—මය්හං සපතෙ, තුය්හං සපතෙ—එත්ථ ච සපනං නාම සච්චකරණං.**

---

සිලාඝාදියොගෙ, සිලාඝාදි ධාතූන් හා යොගයක් ඇති කල්හි; තාව, ප්‍රථම කොට; ("සම්පදානස්ස යොගෙ දස්සීයතෙ"යි යොදනු) බුද්ධස්ස, සර්වඥයා හට; සිලාඝතෙ, (තව අර්හාදි ගුණෙන් බුදුන් හා සමානයෙක් නැතැ යි) ස්තුති කෙරෙයි; උපජ්ඣායස්ස, උපාධ්‍යායයා හට; සිලාඝතෙ, (ජාතියෙන් මාගේ උපාධ්‍යායයා කවරෙක් සදෘශ ද යි) සන්මානය කෙරේ—"බුද්ධං සිලාඝතෙ උපජ්ඣායං සිලාඝතෙ" යි කියයුතු තැන්හි මෙයින් සම්ප්‍රදාන සංඥා කොට චතුර්ථ්‍යෙකවචනයෙන් යොද "බුද්ධස්ස සිලාඝතෙ උපජ්ඣායස්ස සිලාඝතෙ" යි කියන ලදී; ථොමෙතීති, ස්තුති කෙරෙ යි යන; අත්ථො, අර්ථ යි.

මය්හමෙව, මට ම; හනුතෙ, වළහා;"හනුතෙ තුය්හමෙව" යන මෙහි ද අර්ථ මේ මැයි—"මමෙව හනුතෙ තමෙව හනුතෙ" යි නැති; අපලපතීති අත්ථො, වළහා කෙරෙයි යන මේ අර්ථ යි; වඩ්ඪකී, වඩු තෙම; සක්‍යපුත්තානං, ශාක්‍යපුත්‍රයන්ට; උපතිඨෙය්‍ය, උපස්ථාන කෙරේ—"සක්‍යපුත්තෙ උපතිඨෙය්‍ය" යි නැති; එත්ථ ච, මෙහි ද; උපඨානං නාම, උපස්ථාන නම්; උපගමනං, සමීපයට යාම යි; භුඤ්ජමානස්ස භික්ඛුස්ස, වළඳන්නා වූ භික්ෂු හට; පානීයෙන වා විධූපනෙන වා උපතිඨෙය්‍ය, බොන පැනින් හෝ විජනිපත්‍රයෙන් හෝ යුක්තව උපස්ථාන කෙරේ; භික්ඛුං භුඤ්ජමානං උපතිඨෙය්‍ය යි නැති—මෙහි උපශබ්දයොගයෙන් ඨා යන ධාතු සකර්මක වී; මය්හං, මට; සපතෙ, සපථ කෙරේ—දිව්රයි සේ යි; තුය්හං සපතෙ යනුයෙහි ද අර්ථ හේමැ යි;මං සපතෙ තං සපතෙ යි නැති; එත්ථ ච, මෙහි ද; සපනං නාම, සපථය නම්; සච්ච කරණං, තුඹට පිණිස සබවස් කිරීම යි.

**ධාරයතිප්පයොගෙ ධනිකොයෙව සම්පදානං-සුවණ්ණං තෙ ධාරයතෙ, ඉණං ධාරයතීති අත්ථො-තස්ස රඤ්ඤො මයං නාගං ධාරයාම-පිහප්පයොගෙ ඉච්ඡිතොයෙව-දෙවාපි තස්ස පිහයන්ති තාදිනො, දෙවාපි තෙසං පිහයන්ති සම්බුද්ධානං සතීමතං-පත්ථෙන්තීති අත්ථො.**

**කොධාදි අත්ථානං පයොගෙ යම්පති කොපො-තස්ස කුජ්ඣ මහාවීර-යදිහං තස්ස පකුප්පෙය්‍යං-දුභයති දිසානං මෙසො, යො මිත්තානං නදුභති-තිත්ථියා ඉස්සයන්ති සමණානං-දුජ්ජනා ගුණවන්තානං උසූයන්ති-කා උසූයා විජානතං.**

---

ධාරයතිප්පයොගෙ, ධාර යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි; ධනිකොයෙව සම්පදානං, උත්තමර්‍ණ සම්ප්‍රදාන නම් වේ; ධනමස්ස අත්‍ථීති ධනිකො, ඉණසාමිකො; තෙ,තට; සුවණ්ණං, රත්රන්; ධාරයතෙ. ධරු; ඉණං ධාරයතීති අත්ථො,ණය ධරයි යන අර්‍ථ යි; තස්ස රඤ්ඤො, ඒ රජ හට; මයං, අපි; නාගං ධාරයාම, ඇතකු ණය ධරමු; පිහප්පයොගෙ, පිහ යන ධාතුහුගේ ප්‍රයොග යක් ඇති කල්හි; ඉච්ඡිතොයෙව, ඊප්සිත වූයේ ම; සම්පදානං යි යොදනු; දෙවාපි, දෙවියෝ ද; තාදිනො තස්ස, ඉෂ්ටානිෂ්ටයෙහි අකම්පයතා යයි කියන ලද තාදි ගුණයෙන් යුක්ත වූ ඕ හට; පිහයන්ති, පතත්—තං තාදිනං පිහයන්ති යි තැනි; දෙවාපි, දෙවි යෝ ද; සතීමතං, ස්මෘතියෙන් යුක්ත වූ; තෙසං සම්බුද්ධානං, ඒ සම්බුද්ධවරයන්ට; පිහයන්ති, පතත්—තෙ සම්බුද්ධෙ සතිමන්තෙ පිහයන්ති යි තැනි; කොධාදි අත්‍ථානං පයොගෙ, ක්‍රොධාදිය අර්‍ථ කොට ඇති ධාතූන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි; යම්පති කොපො, යමෙක් පිණිස කොපය ද; තං සම්පදානං යි යොදනු; මහාවීර, ප්‍රශස්ත වූ වීරය; තස්ස, ඕහට; කුජ්ඣ, කිප- තං කුජ්ඣ යි තැනි; අහං, මම; තස්ස, ඕහට; යදිපකුප්පෙය්‍යං, ඉදින් කිපියෙම් වීනම්; බණෙන ඡාරිකං කාරයිං” යි යොදනු; “තං පකුප්පෙය්‍යං” යි තැනි; මෙසො, ප්‍රද්‍යුම්න තෙමේ; දිසානං, දිගුන්; දුභයති, නසා; දුභප්පපූරණෙ යන ධාතුහු ගත් කල්හි දිගුන් පුරයි යන අර්‍ථද යෙදේමැ යි—දිසායො දුභයති යි තැනි; යො, යමෙක්; මිත්තානං, මිත්‍රයන්ට; න දුභති, ද්‍රොහි නො වේද හෙවත් නො වෛරිද—මිත්තෙ න දුභති යි තැයි—මේ තදර්‍ථවාචී අන්‍යධාතූන්ගේ ප්‍රයොග යෙහි උදාහරණ යි; තිත්ථියා, අන්‍යතීර්‍ථකයෝ; සමණානං, ශ්‍රමණ

**රාධික්ඛප්පයොගෙ යස්ස විපුච්ඡනං කම්මවිඛ්‍යාපනත්‍ථං-චාධිකාරතො දුතියා ච-ආරාධො මෙ රඤ්ඤො-රඤ්ඤො ආරජ්ඣති-රාජිනං වා ආරජ්ඣති-ක්‍යාහං අය්‍යානං අපරජ්ඣාමි-ක්‍යාහං අය්‍යෙ අපරජ්ඣාමි වා-ආයස්මතො උපාලිත්ථෙරස්ස උපසම්පදාපෙක්ඛො උපතිස්සො ආයස්මන්තං වා.**

**පච්චාසුණඅනුපතිගිණානං පුබ්බකත්තා ච-සුණොතිස්ස ධාතුස්ස පච්චායොගෙ ගිණස්ස ච අනුපතියොගෙ පුබ්බස්ස කම්මුනො යො කත්තා සො සම්පදාන සඤ්ඤො හොති.**

---

යන්ට; ඉස්සයන්ති, ඊර්ෂ්‍යා කෙරෙත්—ක්‍ෂමා නො කෙරෙති යි සේ යි—සමණෙ ඉස්සයන්ති යි තැනි; දුජ්ජනා, දුර්ජනයෝ; ගුණවන්තානං, ගුණවතුන්ට; උසූයන්ති, ද්වෙෂ කෙරෙත්—"ගුණවන්තෙ උසූයන්ති" යි තැනි; විජානතං, නුවණැත්තන්ට; කා උසූයා, කවර නම් ද්වෙෂ පහළ කිරීමෙක් ද—විජානතෙ" යි තැනි.

රාධික්ඛප්පයොගෙ, රාධ ඉක්ඛ යන ධාතූන් දෙන්නාගේ ප්‍රයොගයක් ඇති කල්හි; යස්ස, යමක්හුගේ; විපුච්ඡනං, විවිධ ප්‍රශ්නය තෙම; කම්මවිඛ්‍යාපනත්‍ථං, ශුභාශුභ කර්මප්‍රකාශය ම ප්‍රයොජන කොට ඇත්තේ ද; (තං කාරකං සම්පදානං, හේ සම්ප්‍රදාන කාරක නම් වෙයි යූ තැනි) විවිධං පුච්ඡනං විපුච්ඡනං, විවිධො පඤ්හොති අත්‍ථො, තං කස්ස පටිබද්ධන්ති චෙ? යස්ස ආරාධකාදිකස්ස සම්බන්ධි ආරාධනාදිකං සුභාදිකම්මං පුච්ඡනස්ස; චාධිකාරතො දුතියා ච, (මේ සූත්‍රයට "යස්ස දාතුකාමො" යනාදි සූත්‍රයෙන්) චා යනු වැටුණු හෙයින් (මේ ධාතූහු විෂයෙහි සම්ප්‍රදානසංඥ විකල්ප හෙයින් සම්ප්‍රදානසංඥ නො වූ තැන "කම්මත්‍ථෙ දුතියා" යන සූත්‍රයෙන්) ද්විතීයා වන්නීය; මෙ, මාගේ; ආරාධො, ආරාධනය; රඤ්ඤො, රජහට යි—තාගේ ආරාධනාව කවරෙක් හට දූ යි රජහු විසින් නානාප්‍රකාරයෙන් පුළුවුස්නා ලද්දේ මාගේ ආරාධනාව රජ හට යයි තමාගේ ආරාධනය කියයි සේ යි—මෙහි විපුච්ඡනය තෙම පුරුෂයා සම්බන්ධි වූ ආරාධනාඛ්‍ය ශුභ කර්මය විචාරන රජහු පිළිබඳ යැයි දතයුතු; රාජිනං ආරජ්ඣති වා, "රාජිනං ආරජ්ඣති" යි ද්විතීයා හෝ වේ; රජහු අයදිම් යන අර්ථ යි; අහං, මම; අය්‍යානං, ආර්යයන්ට; කිං අපරජ්ඣාමි, කවර කාරණයකින් හිංසා කෙරෙම්ද—තාගේ අපරාධය කව්රුන්ටදූ යි ආර්යයන් විසින් නානාප්‍රකාරයෙන් ප්‍රශ්න කරන ලද්දේ "ක්‍යාහං අය්‍යානං අපරජ්ඣාමි" යි තමාගේ අපරාධභාවය හඟවන්

**යථා-භගවා භික්ඛූ එතදවොච-එත්ථ භික්ඛූති අකථිත කම්මං, එතන්ති කථිතකම්මං, පුබ්බස්ස වචනකම්මස්ස කත්තා භගවා-භික්ඛූ භගවතො පච්චස්සොසුං, ආසුණන්ති බුද්ධස්ස භික්ඛූ-තථා භික්ඛු ජනං ධම්මං සාවෙති, තස්ස භික්ඛුනො ජනො අනුගිණාති, තස්ස භික්ඛුනො පතිගිණාති-සාධුකාර දානාදිනා තං උස්සහතීති අත්ථො.**

---

තේය සි සේ යි—මෙහි විප්‍රවජනය තෙම පුරුෂයා සම්බන්ධි අපර ධාත්‍ය වූ අශුභකර්මය විචාරණ ආයතියන් ප්‍රතිබද්ධ යි—දෙවන විකල්ප උදාහරණයෙහි අර්ථ හේ මැයි; උපතිස්සො, උපතිස්ස තෙමේ; ආයස්මතො උපාලිත්ථෙරස්ස, ආයුෂ්මත් වූ උපාලිස්ථවිරයා හට; උපසම්පදාපෙක්ඛො, උපසම්පත්තිය පිණිස අපෙක්ෂා කරන්නේ යි—උපතිස්සයාගේ උපසම්පදාපෙක්ෂාව කවරක් හටද යි උපාලිස්ථවිර යන් විසින් නානාප්‍රකාරයෙන් පුළුවුස්නා ලදුයේ උපතිස්සයාගේ උපසම්පදාපෙක්ෂණය උපාලිස්ථවිරයන්ට යයි කිය යි සේ යි—මෙහි විප්‍රවජනය තෙමේ උපතිස්සයා සම්බන්ධි උපසම්පදාපෙක්ෂණ සඞ්ඛ්‍යාත ශුභකර්මයා විචාරණ උපාලිස්ථවිරයන් පිළිබඳ යි; ආයස්මන්තං වා, ආයස්මන්තං උපාලිත්ථෙරං, කියා විතීයා හෝ වන්නීය.

"පච්චාසුණඅනුපතිගිනානං පුබ්බකත්තා ච සම්පදානං නාම"යි යොදනු—දුන් හෙම විස්තර හෙයින් දක්වනුවෝ "සුණොතිස්ස" යනාදි කීහු; සුණොතිස්ස ධාතුස්ස, සු සවණෙ යන ධාතුහුගේ; පච්චායොගෙ, පති ආ දෙන්නාගේ සම්බන්ධයක් ඇතිකල්හි ද; ගිණස්ස, ගි සද්දෙ යන ධාතුහුගේ; අනුපතියොගෙ ච, අනුපති දෙන්නා හා සම්බන්ධයක් ඇතිකල්හි ද; පුබ්බස්ස කම්මුනො යො කත්තා, ශ්‍රවණාදියෙන් පූර්ව වූ වචනාදි කර්මයට යම් භගවත් යනාදි අර්ථයක් කර්තෘත්වය වේද; සො සම්පදානසඤ්ඤො හොති, හේ අර්ථය සම්ප්‍රදාන සංඥ ඇත්තේ වේ—යම් අර්ථයෙක් ශ්‍රවණාදි ක්‍රියායෙන් පූර්ව වූ වචනාදි ක්‍රියාවට කර්තෘ වී ද හේ අර්ථය පතිපූර්ව වූ හෝ ආපූර්ව වූ හෝ සු යන ධාතු හා යොගයක් ඇති කල්හි සම්ප්‍රදාන නමැ යි සේ යි.

යථා, හේ මෙසේ යි; භගවා, භාග්‍යවත් තෙම; භික්ඛූ, භික්ෂූන්ට; එතං, මේ වචනය; අවො ච, කී යි; එත්ථ, මේ උදාහරණ යෙහි; භික්ඛූති, භික්ඛූ යන මේ; අකථිත කම්මං, කර්තෘහු විසින්

**68 යො වදෙති ස කත්තාති වුත්තං කම්මන්ති වුච්චති<br>යො පටිග්ගාහකො තස්ස සම්පදානං විජානියාති.**

**ආරොචනත්ථප්පයොගෙ, යස්ස ආරොචෙති තං සම්පදානං.**

**ආරොචයාමි වො භික්ඛවෙ පටිවෙදයාමි වො භික්ඛවෙ- ආමන්තයාමි තෙ මහාරාජ-ආමන්ත ඛො තං ගච්ඡාමාති වා.**

---

විකර්මක වූ වචන ක්‍රියාවෙන් පැමිණෙන්ට අතිශයින් ඊප්සිත නො වන බැවින් අප්‍රධාන කර්මය; එතදන්ති, එතං යන මේ; කථිත කම්මං, ඔහු විසින් ඒ ක්‍රියායෙන් පැමිණෙන්නට අතිශයින් ඊප්සිත බැවින් ප්‍රධානකර්මය; පුබ්බස්ස වචන කම්මස්ස, ශ්‍රවණයෙන් පූර්ව වූ එතං යන ප්‍රධානභූත වචන කර්මයට; කත්තා, කර්තෘ වූ භගවත් නිර්ණාතක වූ; භගවා, භගවත් තෙම; (සම්පදාන සඤ්ඤො හොති, සම්ප්‍රදාන සංඥ ඇත්තේ වේ) භික්ඛූ, භික්ෂූහු; භගවතො, භගවත් හට; පච්චස්සොසුං, ප්‍රතිඥ දුන්හු—භගවත්හුගේ වචනය පිළිගත්හ යි සේ යි; ආසුණන්ති බුද්ධස්ස භික්ඛූ යනුයෙහි අර්ථ ද හේ මැයි; මෙහි දු භගවා භික්ඛූ යනාදියෙහි වචනකර්මයට කර්තෘ වූ යමෙක් වේද, භික්ඛූ භගවතො යනාදියෙහි ඒ පූර්ව කර්මයට කර්තෘවූවහුගේ ම පසුව යථොක්ත ධාතුයොගයෙහි සම්ප්‍රදාන භාවය දක්වත්, එසේ ම නු, පළමු භගවා භික්ඛූ එතද වොච යන මෙහි එතං යන වචන කර්මයට කර්තෘ වූ භගවත් ම පසුව පති ආ පූර්ව සු යන ධාතුහුගේ යොගයක් ඇතිකල්හි; භික්ඛූ භගවතො පච්චස්සොසුං, ආසුණන්ති බුද්ධස්ස භික්ඛූ යී සම්ප්‍රදාන වී- භික්ඛූ-පෙ-පති ගිණාති, භික්ඛූ-පෙ-පතිගිණාති යනු දු; තථා, එසේමැ යි—යම්සේ "භගවා භික්ඛූ එතදවොච" යන මෙහි භික්ඛූ යනු අකථිතකර්මද එතං යනු කථිතකර් ද, එහි එතං යන පූර්වකර්මයට කර්තෘ වූ භගවත් තෙම පසුව ප්‍රත්‍යාඞ් පූර්ව ශෘධාතු යොගයෙහි භික්ඛූ-පෙ-ආසුණන්ති භික්ඛූ යි සම්ප්‍රදාන වී ද. එසේ ම මෙහි දු ජනං යනු අකථිතකර්මය. ධම්මං යනු කථිතකර් යි. එහි ධම්මං යන පූර්වකර්මයට කර්තෘ වූ භික්ෂු තෙම අනුපති පූර්ව ගි ධාතුයොගයෙහි තස්ස-පෙ-පතිගිණාති යි සම්ප්‍රදාන වෙයි සේ යි.

භික්ඛු, මහණ තෙම; ජනං, සත්වයා; ධම්මං, දහම්; සාවෙති, අස්වයි; ජනො, ජන තෙම; තස්ස භික්ඛුනො, ඒ මහණ හට; අනුගිණාති, අනුදනී; පතිගිණාති යන්නෙහි දු අර්ථ හේ මැයි;

**එත්ථ ච ආරොචනසද්දස්ස කථනප්පකාරත්ථතා දෙසනත්ථාදි යොගෙපි චතුත්ථී-ධම්මං තෙ දෙසෙස්සාමි-දෙසෙතු භන්තෙ භගවා ධම්මං භික්ඛූනං-යථා නො භගවා ව්‍යාකරෙය්‍ය-නිරුත්තිං තෙ පවක්ඛාමි ඉච්චාදි.**

---

සාධුකාරදානාදිනා තං උස්සහති යන්නෙහි ද අනුඥාව ම දක්වූහු; තං, ඒ බුඬාදීහු; සාධුකාරදානාදිනා, සාධුකාරදානාදියෙන්; උස්සහතීති අත්ථො, උත්සාහයට පමුණුව යි යන අර්ථ යි—මේ ධාතුන් දෙදෙනා අතුරෙහි ප්‍රත්‍යාඞ් පූර්ව ශෘ ශ්‍රවණෙ යන ධාතුපොම ප්‍රතිඥානුඥා දෙකෙහි ම වේ, අනුපතිපූර්ව වූ ගිසද්දෙ යන ධාතුතෙම අනුඥායෙහි වැටෙ යි දතයුතු—දූන් කාත්‍යායන වෘත්තියෙහි කියන ලද සඞ්ග්‍රහශ්ලොක "යො වදෙති" යනාදීන් කීහු.

යො, (සර්ඥාදි) යමෙක්; වදෙති, (එතදවොච යනාදි) වචන කියාද; සො, හෙ තෙම; (භගවත් හෝ භික්ෂු හෝ යයි සේ යි) කත්තාති වුච්චති, (ඒ කර්මයට) කර්තෘ යයි කියනු ලැබේ; වුත්තං, (ඔහු විසින්) කියන ලද වචනය; කම්මන්ති වුච්චති, (වාක්ක්‍රියාවට) කර්මය යි කියනු ලැබේ; තස්ස, ඒ වචනය හට; යො, යමෙක්; පටිග්ගාහකො, ප්‍රතිග්‍රාහක වීද (ඒ වචනය පිළිගනී ද); තස්ස, ඔහුගේ—භික්ෂුසඞ්ඝයාගේ හෝ ජනයාගේ හෝ යි සේ යි; සම්පදානං, සම්ප්‍රදානභාවය; විජානියා, දන්නේ යි.

ආරොචනත්ථප්පයොගෙ, ආරොචනය අර්ථකොට ඇති ධාතූන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි; යස්ස ආරොචෙති, යමක් හට කියාද; තං, ඒ ආරොචන පිළිගන්නේ; සම්පදානං, සම්ප්‍රදානසංඥ වේ; භික්ඛවෙ, මහණෙනි; වො, තොපට; ආරොචයාමි, කියමි; පතිවෙදයාමි, දන්වමි—තුමෙහ ආරොචයාමි තුමෙහ පතිවෙදයාමි සී තැනි; මහාරාජ, මහරජ; තෙ, තට; ආමන්තයාමි, භගවම්—තං ආමන්තයාමි සී තැනි—ආමන්ත ඛො තං ගච්ඡාම යන මෙහි කර්මාර්ථයෙහි විතීයා යි; තං, තට; ආමන්ත, භගවා; ගච්ඡාම, යමු.

එත්ථ ච, මේ සූත්‍රයෙහි ද නොහොත් මේ ආරොචනත්ථ යන වචනයෙහි ද; ආරොචනසද්දස්ස, ආරොචනශබ්දයාගේ; කථනප්පකාරත්ථතා, කථනප්‍රකාරය ම අර්ථකොට ඇති බව හෙතුකොට ගෙන; දෙසනත්ථාදියොගෙපි, දෙශනාර්ථව්‍යාකරණාර්ථධාතූන් හා යොගයක් ඇති කල්හි ද; චතුත්ථී, චතුර්ථී වේ—මෙහි ආරොචන

**තදත්ථෙ-සම්පදානසඤ්ඤා චතුත්ථී ච.**

**අතො වාති ච වත්තතෙ.**

## 205. ආය චතුත්ථෙකවචනස්ස තු 2-1-58.

**අකාරන්තතො ලිඞ්ගම්හා පරස්ස චතුත්ථෙකවචනස්ස ආයාදෙසො හොති වා-සරලොපාදි.**

---

ශබ්දයා කථන විෂයෙහි වැටෙන බැවින් දෙශනාදි හුදු කථනාර්ථ වෙත් නු සි තදර්ථයක් ඇති කල්හි ද ඒ දෙශනාදිය පිළිගන්නා සම්ප්‍රදානාර්ථයට තද් වාචකශබ්දයා කෙරෙන් පරව චතුර්ථී විභක්ති වන්නීය සි සේ ඕ; කථනමෙව පකාරො කථනප්පකාරො, සො අත්ථො යස්ස සො කථනප්පකාරත්ථො, තස්ස භාවො කථනප්පකාරත්ථත්තං, තස්මා කථනප්පකාරත්ථත්තා; පකාරොති චෙත්ථ විසෙසො අධිප්පෙතො.

තෙ, තට; ධම්මං, ධර්මය; දෙසෙස්සාමි, දෙසමි—තං දෙසෙස්සාමි යී තැනි; භන්තෙ, ස්වාමීනි; භගවා, පින්වත් තෙම; භික්ඛූනං, භික්ෂූන්ට; ධම්මං, ධර්මය; දෙසෙතු, දෙසාවා; භික්ඛූ දෙසෙතු යී තැනි; භගවා, භාග්‍යවත් තෙම; නො, අපට; යථා ව්‍යාකරෙය්‍ය, යම් ප්‍රකාරයකින් වදාරද; (තථා ධාරෙස්සාම යී යොදනු)—අමෙන ව්‍යාකරෙය්‍ය යී තැනි; තෙ, තට; නිරුත්තිං, ව්‍යවහාර යුක්ත ශබ්දය; පවක්ඛාමි, ප්‍රකාරයෙන් කියමි—තං පවක්ඛාමි යී තැනි,ඉත්‍යාදි යන මෙහි ආදි ශබ්දයෙන් මොනෙය්‍යං තෙ උපඤ්ඤිස්සං යනාදි ගත්හු.

තදත්ථෙ, තදර්ථයෙහි; සම්පදාන සඤ්ඤා, සම්ප්‍රදාන සංඥාවේ; චතුත්ථී ච, චතුර්ථීද වේ.

අතො, අතො නෙන 2-1-52 යන සූත්‍රයෙන් අතො යනුද; වාති ච, සොවා 2-1-54 යන සූත්‍රයෙන් වා යනුද; වත්තතෙ, මතු සූත්‍රයට වැටේ.

ආය ය චතුත්ථෙකවචනස්ස ය තු ය යනු පද සි.

චතුත්ථියා එකවචනං චතුත්ථෙකවචනං, තස්ස චතුත්ථෙකවචනස්ස, අකාරන්තතො ලිඞ්ගම්හා පරස්ස, අකාරයා අන්තාවයව කොට ඇති ශබ්දයා කෙරෙන් පර වූ; චතුත්ථෙකවචනස්ස,

**බුද්ධස්සත්ථාය ධම්මස්සත්ථාය සඞ්ඝස්සත්ථාය ජීවිතං පරිච්චජාමි-පිණ්ඩපාතං පටිසෙවාමි නෙව දවාය න මදාය න මණ්ඩනාය න විභූසනාය-ඌනස්ස පාරිපූරියා-අත්ථාය හිතාය සුඛාය සංවත්තති.**

**තුම්හෙ-ලොකානුකම්පකාය, ලොකමනුකම්පිතුනති අත්ථො-තථා ඵාසුවිහාරාය-අලංසද්දස්ස අත්ථො අරහපටික්ඛෙපා. අරහත්ථ-අලං මෙ රජ්ජං-අලං භික්ඛු පත්තස්ස-අක්ඛධුත්තො පුරිසපුග්ගලො නාලං දරභරණාය-අලං මල්ලො මල්ලස්ස, අරහති මල්ලො මල්ලස්ස.**

**පටික්ඛෙපෙ-අලන්තෙන ඉධ වාසෙන-අලමෙම හිරඤ්ඤසුවණ්ණෙන-කිමෙම එකෙන තිණ්ණෙන-කිං තෙ ජටාහි දුම්මෙධ, කිං තස්ස ච තුළස්ස.**

---

චතුර්ථියගේ එකවචනය හට; වා, විකල්පයෙන්; ආයාදෙසො හොති, ආය යන ආදෙශ වේ; සරලොපාදි, සරලොපො යනාදි සූත්‍රයෙන් සවරලොපාදිය වේ.

බුද්ධස්සත්ථාය යනාදි එහි උදාහරණ සි— මේ ආදි උදාහරණත්‍රයෙහි බුද්ධස්ස ධම්මස්ස සඞ්ඝස්ස යනු ආයාදෙශාභාවයෙහි සකාරාගමරූපද අත්ථාය යන ආයාදෙශ රූපයට විශෙෂණය "ජීවිතං පරිච්චජාමි" යනු "බුද්ධස්සත්ථාය ජීවිතං පරිච්චජාමි ධම්මස්සත්ථාය ජීවිතං පරිච්චජාමි සඞ්ඝස්සත්ථාය ජීවිතං පරිච්චජාමි" යි ප්‍රත්‍යෙකයෙන් සම්බන්ධ කටයුතු සි.

බුද්ධස්සත්ථාය, බුද්ධසඞ්ඛ්‍යාත ප්‍රයොජනය පිණිස; ජීවිතං, ජීවිතය; පරිච්චජාමි, දෙමි—බුදුන් පිණිස ජීවිතය දෙමි යි සේ සි; ධම්මස්සත්ථාය යනාදියෙහි ද මෙම නය යි, මෙහි ජීවිත පරිත්‍යාගයට ප්‍රයොජන වූවෝ බුද්ධාදීහු ය යි දතයුතු; පිණ්ඩපාතං, අහර; දවාය නෙව පටිසෙවාමි, ග්‍රාමදාරකයන් මෙන් කෙළනා පිණිස නොම වළඳමි; මදාය නෙව පටිසෙවාමි, මුෂ්ටිමල්ලයාදීන් මෙන් බල මද පිණිස නොම වළඳමි; මණ්ඩනාය නෙව පටිසෙවාමි, අවරොධාදින් මෙන් සරීරමණ්ඩනය පිණිස නොම වළඳමි; විභූසනාය නෙව පටිසෙවාමි, නටනාටිකාදීන් මෙන් ඡවිරාගකරණය පිණිස නොම වළඳමි—මෙහි පිණ්ඩපාතප්‍රතිසෙවනයට ප්‍රයොජන වූයේ දවාද්‍යභාවය සි; ඌනස්ස පාරිපූරියා යන මෙහි ඌනස්ස යන

ෂෂ්ඨීය, පාරිපූරියා යනු තදර්ථයෙහි චතුර්ථී යි; ඌනස්ස, ඌනයාගේ; පාරිපූරියා, පරිපූරණය පිණිස; (තං චීවරං නික්ඛිපිතබ්බං යි යොදනු—මෙහි චීවරනිඃක්ෂෙපයට ප්‍රයොජන වූයේ ඌනයාගේ පරිපූරණය යි; අත්ථාය, අර්ථ පිණිස; හිතාය, හිතපිණිස; සුඛාය, සුඛ පිණිස; සංවත්තති, පවතී—මෙහි සංවර්තනයට ප්‍රයොජන වූයේ අර්ථාදිය යි, එහි අර්ථ නම් වැඩය, හිත නම් ඒ වැඩට කාරණය යි.

තුමත්ථෙ, තුං ප්‍රත්‍යයාගේ අර්ථයෙහි උදාහරණ කියනු ලැබේ; තුංපච්චයස්ස අත්ථෙ තුමත්ථෙ, තස්මිං තුමත්ථෙ, ලොකානුකම්පකාය යන මෙහි චතුර්ථ්‍යෙකවචනයහට ආයාදෙශ වේ, ඵාසු විහාරාය යන මෙහි ද එසේමැ යි; ලොකානුකම්පකාය, ලොවට අනුකම්පා පිණිස; "උප්පජ්ජති" යි යොදනු; ලොකමනුකම්පිතුනති අත්ථෙ, ලොවට අනුකම්පා කරන්නටය යන අර්ථ යි; ඵාසු විහාරාය යනු ද; තථා, එසේමැ යි; 'ඵාසු විහරිතුං" යනු ද තුමර්ථයෙහි ම චතුර්ථීය යි සේ යි, ඵාසුවිහාරාය, සුව වෙහෙර කරනු පිණිස; "සංවත්තති" යි යොදනු; අලං සද්දස්ස අත්ථෙ, අලං යන මේ ශබ්දයාගේ අර්ථයෝ නම්; අරහපටික්ඛෙපා, අර්හප්‍රතික්ෂෙප යන මේ දෙක යි—මෙහි අලං ශබ්ද අර්හාර්ථයෙහි ද ප්‍රතික්ෂෙපාර්ථයෙහි ද වැටෙයි සේ යි, අර්හාර්ථ නම් අනුරූපාර්ථය, ප්‍රතික්ෂෙපාර්ථ නම් ප්‍රතිෂෙධාර්ථ යි; අරහත්ථෙ, අර්හාර්ථයෙහි; මෙ, මට; රජ්ජං, රාජ්‍යය; අලං, සුදුසු යි; භික්ඛු, මහණ තෙම; පත්තස්ස, පාත්‍රයට; අලං, සුදුසු යි; අක්ඛධුත්තො, අක්ෂයෙහි ධූර්ත වූ හෙවත් ද්‍යූතක්‍රීඩා විෂයෙහි ව්‍යාසක්ත වූ; පුරිසපුග්ගලො, පුරුෂසඞ්ඛ්‍යාත පුද්ගල තෙම; දාරභරණාය, කලත්‍රපරිපාලනය පිණිස; නාලං, සමර්ථ නො වේ—අක්ෂ ශබ්දයෙන් පස ඇට කියත් මෙතැන්හි වනාහි ප්‍රකරණ හෙයින් ක්‍රීඩාව කියන ලදි; මල්ලො, මල්ලයොධ තෙම; මල්ලස්ස, මල්ලයොධයා හට; අලං, සමර්ථ යි; අරහති යන මෙහි ද අර්ථ ඒම යි, මල්ලං අරහති යි තැති; මම, මට; හිරඤ්ඤසුවණ්ණෙන, හිරණ්‍ය සුවර්ණ දෙකින්; අලං, පමණි—ප්‍රයොජන නැතැ යි සේ යි, මෙහි හිරඤ්ඤසුවණ්ණෙන යනු සහාදියොගෙ ච-4-6-17 යන සූත්‍රයට විෂය යි, හිරණ්‍යය යි කාර්ෂාපණය කියති, සුවර්ණය යි රත්රන් කියති; තුට්ඨස්ස, සතුටු වූ; තස්ස, ඔහු විසින්; කිං, කිමෙක්ද? කවර ප්‍රයොජනයෙක්දැ යි සේ යි; සෙසු උදාහරණයන්හි අර්ථ යට කියන ලදමය.

**මඤ්ඤතිප්පයොගෙ අනාදරෙ අප්පාණිකම්මණියෙව*, කට්ඨස්ස තුවං මඤ්ඤෙ-කලිඞ්ගරස්ස තුවං මඤ්ඤෙ-ජීවිතං තිණායපි න මඤ්ඤමානො. අනාදරෙති කිං? සුවණ්ණං තං මඤ්ඤෙ.**

**අප්පාණීති කිං? ගද්‍රභං තං මඤ්ඤෙ.**

**ගත්‍යත්ථකම්මණි, වාධිකාරතො දුතියා ච-අප්පො සග්ගාය ගච්ඡති-අප්පො සග්ගං ගච්ඡති-නිබ්බානාය වජන්තියා-නිබ්බානං වජන්තියා-මූලාය පටිකස්සෙය්‍ය-මූලං පටිකස්සෙය්‍ය.**

**ආසිංසත්ථෙ ආයුභද්දකුසලාදියොගෙයෙව-ආයස්මතො දීඝායු හොතු-තොතිතා සස්මින්නාසු ති න්තුස්ස සවිභත්තිස්ස තො ආදෙසො. භද්දං භවතො හොතු-කුසලං භවතො හොතු-අනාමයං භවතො හොතු-සුඛං භවතො හොතු-අත්ථං භවතො හොතු-හිතං භවතො හොතු-ස්වාගතං භවතො හොතු-සුවත්ථි හොතු සබ්බසත්තානං.**

**සම්මුතිප්පයොගෙ-සාධු සම්මුති මෙ තස්ස භගවතො දස්සනාය.**

---

මඤ්ඤතිප්පයොගෙ, මන ඤාණෙ යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි; අනාදරෙ(ගම්‍යමානෙ ,අනාදරයක් ගම්‍යමාන කල්හි; අප්පාණිකම්මණියෙව, ඔහුගේ අප්‍රාණිභූත වූ කර්මාර්ථවිෂයෙහි ම; (සම්පදාන සඤ්ඤා, සම්ප්‍රදාන සංඥා වේ); න පාණී අප්පාණී, අප්පාණී ච තං කම්මං චාති අප්පාණිකම්මං, තස්මිං අප්පාණිකම්මණි; තුවං, තා; කට්ඨස්ස මඤ්ඤෙ, කාෂ්ඨයක් කොට සිතමි; තුවං, තා; කලිඞ්ගරස්ස මඤ්ඤෙ, දරුඛණ්ඩයක් කොට සිතමි; ජීවිතං, ජීවිතය; තිණායපි,තෘණයක් කොට ද; න මඤ්ඤමානො,නො සිතන්නේ— "කට්ඨං මඤ්ඤෙ කලිඞ්ගරං මඤ්ඤෙ තිණමපි න මඤ්ඤමානො" යි නැති; අනාදරෙත කිං?, අනාදරෙ යනු කුමට ද යත්?; තං, තා; සුවණ්ණං, සවර්ණයක් කොට; මඤ්ඤෙ, සිතමි—මෙහි මඤ්ඤති යොගයක් ඇති කල්හි ද අනාදරයක් නැති හෙයින් අප්‍රාණි කර්මාර්ථයෙහි විතීයා ම වන පිණිස යි; අප්පාණීති කිං?, අප්පාණී

---

* "අප්පාණීති කම්මණියෙව" ඉතිපි පාඨො,

යනු කුමට ද යත්?; ත්වං, තා; ගද්‍රභං, බුරුවෙකු කොට; මඤ්ඤෙ, සිතමි—මෙහි ගද්‍රභයාගේ මත යන ධාතුහට අනාදරණීය කර්ම භාවයෙක් ද ඇත එතකුදුවත් ගද්‍රභ ශබ්දයාගේ ප්‍රාණිවාචක බව හෙතුකොට ගෙන චතුර්ථී නො වන්නීය.

ගත්‍යර්ථකම්මණි, ගමනාර්ථ වාචී ධාතූන්ගේ කර්මවිෂයෙහි (සම්ප්‍රදානසංඥ වේ); වාධිකාරතො දුතියා ච, වා යන අධිකාරය හෙතු කොට ගෙන විතීයා ද වන්නීය—ච ශබ්ද චතුර්ථීය ද වන් නීය යි සමුච්චය කෙරේ; අප්පො, මඳෙක්; සග්ගාය, ස්වර්ගයට; ගච්ඡති, ගේ—මෙහි ස්වර්ගයා ගමනාර්ථ වූ ගච්ඡති යන ආඛ්‍යාතය හට ප්‍රාප ණීය කර්ම හෙයින් සිලාසාදි සූත්‍රයෙන් සම්ප්‍රදාන සංඥ කොට චතුර්ථී හට ආයාදෙශ කරන ලද කල්හි සග්ගාය යනු වේ, මත් තෙහි උදාහරණයෙහි ද මෙසේ මැ යි; අප්පො සග්ගං ගච්ඡති කියා විතීයා ද වේ; නිබ්බානාය, නිවනට; වජන්තියා, යන්නි යට—කිං වක්ඛාමි යි යොදනු, නිබ්බානං වජන්තියා යි තැනි; මූලාය, මූලාපත්තියට ම; පටිකස්සෙය්‍ය, බසින් යි—මූලා පත්තිය ම ආකර්ෂණය කෙරෙ යි සේ යි, "මූලං පටිකස්සෙය්‍ය" යී තැනි.

ආසිංසත්‍ථෙ, ආශංසනාර්ථයක් ගම්‍යමාන කල්හි; ආයුභද්‍ද කුසලාදියොගෙච, ආයුශබ්ද භද්‍දශබ්ද කුසල ශබ්දාදීන් හා යොග යෙහි ම (සම්පදානසඤ්ඤ, සම්ප්‍රදානසංඥ වේ); ආයස්මතො, ඇවැත් හට; දීඝායු හොතු, දීර්ඝායු වේවා; තොතිතා සස්මිංනාසුනි, "තොතිතා සස්මිංනාසු" 2–2–8 යන සූත්‍රයෙන්; සවිභත්තිස්ස න්තුස්ස, ආයස්මන්තු ශබ්දයාගේ විභක්ති සහිත න්තුප්‍රත්‍යයාහට; තො ආදෙසො, තො යනාදෙශ වේ; භවතො, භවත් හට; භද්‍දං හොතු, භූෂ්ටයෙක් වේවා; මත්තෙහි උදාහරණයන්හි; කුසලං, ආරොග්‍යය; අනාමයං, ස්වාස්ථ්‍යය; ස්වාගතං, ආරොග්‍යය මැ යි; සබ්බසත්තානං, සියලු සත්වයන්ට; සුවත්ථි හොතු, ඓහලෞකික පාරලෞකික කල්‍යාණ ධර්මයන්ගේ අස්තිත්වයෙක් වේවා යි තැනි, මෙහි හොතු යන ආඛ්‍යාතපදය ආශංසනාර්ථයෙහි විහිත පඤ්චමිය අන්තකොට ඇති බැවින් ආසිංසනාර්ථය ගම්‍යමානනු යි තද්යොගයෙහි නාමනිමිත්තයාහට විධීයමාන සම්ප්‍රදාන සංඥ තොම ආසිංසනාර්ථයෙහිය යි කියනු ලැබේ.

සම්මුතිප්පයොගෙ, සම්මුතිශබ්දයාගේ කර්මකාරකය හා සම්බන්ධය ඇති කල්හි (සම්ප්‍රදානසංඥ වේ); තස්ස භගවතො දස්ස නාය, ඒ භාග්‍යවතුන්ගේ දර්ශනය පිණිස; මෙ, මට; සම්මුති,

**භීයොපයොගෙ-භීය්‍යො සො මත්තාය.**

**සත්තමියත්ථෙ—ආවිකරණපාතුභාවාදියොගෙ—තුය්හඤ්චස්ස ආවිකරොමි-තස්ස මෙ සක්කො පාතුරහොසි-චග්ගහණෙන පහිණාදි ක්‍රියායොගෙ ඵාසු ආදිනාමප්පයොගෙ ච-තස්ස පහිණෙය්‍ය-භික්ඛූනං දූතං පාහෙසි-කප්පති සමණානං ආයොගො-එකස්ස දිවසං මිතකං තිණ්ණං පහොති-උපමන්තෙ කරිස්සාමි-අඤ්ජලිං තෙ පග්ගණ්හාමි-තථා තස්ස ඵාසු ඉති-ලොකස්සත්ථො-මණිනා මෙ අත්ථො-සෙය්‍යො මෙ අත්ථො ඉච්චාදි.**

---

සම්මන්නනාය හෙවත් සම්මත කිරීම; සාධු, මැනවි—මෙහි තස්ස භගවතො යනු ෂෂ්ඨිය, දස්සනාය යනු තාදර්ථ්‍යයෙහි චතුර්ථිය, මෙ යනු සම්මුතියොගයෙහි චතුර්ථී යි.

භීයොපයොගෙ, භීය්‍යො යන නිපාතයාගේ යොගයෙහි; මත්තාය, පමණට; සො, හෙ තෙම; භීයො, බොහෝ වී—මෙහි මත්තාය යනු භීයො යන නිපාතයොගයෙහි චතුර්ථිය; සො යනු ප්‍රථමාන්ත සබ්බනාමිකපදය, සෙසු තැන වනාහි භියොසො මත්තාය යී විභක්ත්‍යන්තපද රූපක නිපාතය කුදු ඇති, බොහෝ සේය යනු එහි අර්ථ යි.

සත්තමියත්ථෙ, සප්තම්‍යර්ථ විෂයෙහි; ආවිකරණපාතුභාවාදි යොගෙ, ආවිකරණය ප්‍රාදුර්භාවය යනාදි ක්‍රියාවන් හා යොගයක් ඇති කල්හි (සම්පදාන සඤ්ඤා, සම්ප්‍රදානසංඥා වේ); අස්ස තුය්හං ච, හේ තට ද; ආවිකරොමි, පහළ කෙරෙම්—කියමි යී සේ යි; තස්ස මෙ, ඒ මට; සක්කො, ශක්‍ර තෙම; පාතුරහොසි, පහළ වී—පැතිණ යී සේ යි; "අසම්ං තයි තසම්ං මයි" යී තැනි, මෙසේ සූත්‍රයෙන් සඞ්ගෘහීත අර්ථවිශෙෂයෙහි සම්ප්‍රදානසංඥා ද චතුර්ථී විභක්ති ද දක්වා දුන් ච ශබ්දයෙන් සඞ්ගෘහීත අර්ථවිෂයෙහි ද භෙද දක්වනුවෝ චග්ගහණෙන යනාදි කීහු.

චග්ගහණෙන, මේ සූත්‍රයෙහි ච ශබ්දග්‍රහණය හෙතුකොට ගෙන;පහිණාදි ක්‍රියායොගෙ, පහිණ යනාදි ක්‍රියාවන් හා යොගයක් ඇති කල්හි ද; ඵාසු ආදි නාමප්පයොගෙ ච, ඵාසු ආදි නාම ශබ්දයන් හා යොගයක් ඇති කල්හි ද (යත්ථං සම්පදානසඤ්ඤා හොති යී යොදනු); තස්ස, ඕ හට; පහිණෙය්‍ය, යවන්නේ යි;

**චතුත්ථීති වත්තතෙ.**

## 296. නමොයොගාදිස්වපි ච-2-6-24.

**නමස්ස යොගෙ සොත්ථි ස්වාගතාදීසු'පි ච පයොගෙ ලිඞ්ග'ම්හා චතුත්ථීවිභත්ති හොති.**

**නමො තෙ බුද්ධ වීරත්ථු-නමො කරොහි නාගස්ස-නමත්ථු බුද්ධානං නමත්ථු බොධියා-සොත්ථි පජානං-ස්වාගතනෙත මහාරාජ අථො තෙ අදුරාගතං.**

---

භික්ඛූනං, භික්ෂූන්ට; දූතං, දූතයකු; පාහෙසි, යැවී; සමණානං, ශ්‍රමණයන්ට; ආයොගො, යොගිප්‍රතිපත්තිය; කප්පති. කැප යි— වටී යී සේ යි; එකස්ස දින්නං, එකක් හට දෙන ලද්දේ; ද්වින්නං තිණ්ණං පහොති, දෙන්නකුට තුන්දෙනකුට පොහෝනේ යි— සෑහෙන්නේ යයි සේ යි, මෙහි "එකස්ස දින්නං" යනු "යස්ස දාතු කාමො" යනාදි සූත්‍රයට විෂය ය, "ද්වින්නං තිණ්ණං පහොති" යනු මෙහි ච ශබ්දයට විෂය යි; තෙ, තට; උපමං කරිස්සාමි, උපමාවක් කෙරෙමි; තෙ, තට; අඤ්ජලිං, හස්තපුටය; පග්ගණ්හාමි, ප්‍රග්‍රහණය කොරෙමි— දෑ හොත් නඟා වඳිමි යි සේ යි; තස්ස-පෙ-අත්ථො ඉති, තස්ස-පෙ-අත්ථො යන; ආදි, මේ ආදි ද; පාඨා, එසේමැ යි— පතිණාදි ක්‍රියායොගයෙහි චතුර්ථිමෙනැ යි සේ යි; තස්ස, ඕ හට; ඵාසු ඉති, ඵාසු යි; ලොකස්ස, ලොකයාහට; අත්ථො, වැඩ යි; මණිනා, මැණිකින්; මෙ, මට; අත්ථො, ප්‍රයොජන ඇති; අත්ථො, අර්ථය තෙම; මෙ, මට; සෙය්‍යො, උතුම්.

චතුත්ථීති වත්තතෙ ("සම්පදානෙ චතුත්ථී" ති ඉතො, "සම්පදානෙ චතුත්ථී" යන මේ සූත්‍රයෙන්) චතුත්ථී යනු මතු සූත්‍රයට වැටේ.

නමොයොගාදිසු ය අපි ය ච ය යනු පද යි.

නමස්ස යොගො නමොයොගො, නමොයොගො ආදි යෙසං තෙ නමොයොගාදයො, තෙසු නමොයොගාදීසු.

මේ සූත්‍රයෙන් චතුර්ථී විභක්ති තොම හුදු සම්ප්‍රදානාර්ථයෙහි වන්නී නො වෙයි, නමශ්ශබ්දාදියොගයෙහි ද වන්නීය යි කියන ලදි, මෙහි අපි ශබ්දය නමොයොගාදීන්හි ද කිසිතැනක චතුර්ථිය ප්‍රතිෂෙධ කෙරෙ යි, ච ශබ්දය වනාහි එම චතුර්ථීග්‍රහණයාගේ අනුකර්ෂණය ප්‍රයොජන කොට ඇත්තේ යි.

**කාලෙ භවිස්සන්ති ච වත්තතෙ.**

## 297. භාවවාචිම්හි චතුත්ථී 4-6-30.

**භාවවාචිම්හි චතුත්ථී විභත්ති හොති භවිස්සති කාලෙ. භවනං භාවො-පච්චිස්සතෙ පචනං පාකො, පාකාය වජති පචිතුං ගච්ඡතීති අත්ථො-එවං භොගාය වජති ඉච්චාදි.**

---

නමස්සා යොගෙ, 'නමො' ශබ්දයා හා යොගයක් ඇති කල්හි ද; සොත්ථිස්වාගතාදීහිපි ච පයොගෙ, ස්වස්තිය ස්වාගතය යනාදි ශබ්දයන් හා ප්‍රයොගයක් ඇතිකල්හි ද; ලිඞ්ගම්හා, ලිඞ්ගයා කෙරෙන්; චතුත්ථී විභත්ති හොති, චතුර්ථී විභක්ති වේ; බුද්ධවීර, බුද්ධවීරය; තෙ, තට; නමො අත්ථු, නමස්කාර වේවා; නාගස්ස, ක්ෂීණාශ්‍රවයා හට; නමො කරොහි, නමස්කාර කර; බුද්ධානං, බොහෝ බුදුන්ට; නමො අත්ථු, නමස්කාර වේවා; බොධියා, අභීත් මාගීඥානයට; නමො අත්ථු, නමස්කාර වේවා; පජානං, සත්ත්වයන්ට, සොත්ථි, වැඩ යි; මහාරාජ,මහරජ; තෙ,තට; ස්වාගතං, ආරොග්‍ය ද; අථො, නැවත; තෙ, තට; අදූරාගතං, නපුරු නො වේ ද;—තාගේ ආගමනය ස්වාගමන මිස දුරාගමන නො වේ ද යි සේ යි.

කාලෙ භවිස්සන්තීති ච, "කාලෙ වත්තමානාතීතෙ ණ්වාදයො" 4-6-27 යන සූත්‍රයෙන් කාලෙ යනු ද "භවිස්සති ගමාදීහි ණී ඝින්" 4-6-28 යන සූත්‍රයෙන් භවිස්සති යනු ද; වත්තතෙ, වැටේ.

**භාවවාචිම්හි ය චතුත්ථී ය යනු පද යි.**

භවනං භාවො-කාරකන්තරෙනාසංසට්ඨො සුද්ධො භවන ලචනාදිකො ධාත්වත්ථො, තං භාවං වක්ඛතීති භාවවාචි; තස්මිං භාවවාචිම්හි.

භවිස්සති කාලෙ, එෂ්‍යත් කාලයක් ගම්‍යමාන කල්හි; භාව වාචිම්හි, ක්‍රියාවාචි ශබ්දය කෙරෙහි; චතුත්ථී විභත්ති හොති, චතුර්ථී විභක්ති වේ; අනාගතකාල (ශුද්ධ) ක්‍රියා වාචක වූ නාමයා කෙරෙන් චතුර්ථී විභක්ති වන්නේය යි සේ යි.

භවනං, වීම; භාවො, භාව නම් වේ; පච්චිස්සතෙ, පච්චිස්සතෙ යි සේ යි; පචනං, මතු පිසීම; පාකො, පාක නම් වෙයි; පාකාය වජති, ආයති පාකය පිණිස දූත් යේ; "පාකාය වජති" යන මෙහි

**කස්මිං අත්ථෙ පඤ්චමී? අපාදානෙ පඤ්චමී, කිමපාදානං?**

## 298. යස්මාදපෙති භයමාදත්තෙ වා තදපාදානං 2-6-1.

**යස්මා වා අවධිතො අපෙති යස්මා වා භයහෙතුතො භයං භවති යස්මා වා අක්ඛාතාරා විජ්ජං ආදදාති තං කාරකං අපාදානසඤ්ඤං භවති.**

**අපනෙත්වා ඉතො ආදදාතීති අපාදානං-තම්පන තිවිධං විසයභෙදෙන නිද්දිට්ඨවිසයං උපාත්තවිසයං අනුමෙය විස යඤ්චාති-අපාදාන සඤ්ඤාවිසයස්ස ක්‍රියා විසෙසස්ස නිද්දිට්ඨත්තා නිද්දිට්ඨවිසයං.**

---

පාකාය යන චතුර්ථිය අනාගතභාවවාචි පාක ශබ්දයා කෙරෙන් පර වූ බව හඟවන පිණිස "පචිස්සතෙ පචනං පාකො" යි නිර්වචන දැක්වූහු; එහි 'පචිස්සතෙ' යන මේ අනාගතාඛ්‍යාත පදයාගේ භාව වාචි බව දක්වන පිණිස 'පචනං' යි අනුප්‍රයොග කළහ. 'පචිස්සතෙ' යි ද 'ය' විකරණලුප්ත නිර්දේශ යි. පචිතුං ගච්ඡතීති අත්ථො, පචනය කරන්නට යෙයි යනඅර්ථ යි; භොගාය වජති, භොගාය වජති යනු ද; එවං, මෙසේ මැ යි; 'පචිස්සතෙ පචනං පාකො, පාකාය වජති' යනු මෙන් භුඤ්ජිස්සතෙ භුඤ්ජනං භොගො භොගාය වජති යි වෙයි සේ යි; භොගාය, මතු වළඳනය කරන පිණිස; වජති. දුන් යේ; ඉච්චාදි, මේ ආදිය වේ; 'ඉච්චාදි' යන මෙහි ආදි ශබ්දයෙන් "නච්චාය වජති" යනාදි ගත්හු.

චතුර්ථී වර්ණනා යි.

---

කස්මිං අත්ථෙ, කවර අර්ථයෙක්හි; පඤ්චමී, පඤ්චමී විභක්ති වන්නී ද යත්; අපාදානෙ, අපාදාන කාරකයෙහි; පඤ්චමී, පඤ්චමී විභක්ති වන්නී ය; අපාදානං, අපාදාන නම්; කිං, කිම යත්?

යස්මා ය අපෙති ය භයං ය ආදත්තෙ ය වා ය තං ය අපාදානං ය යනු පද යි.

යස්මා අවධිතො, යම් ග්‍රාමාදි අවධියක්හු කෙරෙන්; අපෙති වා, පහ වේ ද; යස්මා භයහෙතුතො, යම් චෞරාදි භයකාරණයක්හු කෙරෙන්; භයං භවති වා, භය වේ ද; යස්මා අක්ඛාතාරු, යම් උපාධ්‍යායාදි ආඛ්‍යාතෘකක්හු කෙරෙන්; විජ්ජං ආදදති වා, විද්‍යාව ගනී ද; තං කාරකං, ඒ ග්‍රාමාදි කාරකය; අපාදානසඤ්ඤං භවති, කර්තෘහුගේ අපගමනාදි ක්‍රියාවන්ට සීමාභූතනු යි අපාදාන සංඥා ඇත්තේ වේ.

මෙහි "යස්මා අක්ඛාතාරු විජ්ජං ආදදති" යන වචනයෙන් ම නියම පූර්ව වූ විද්‍යාග්‍රහණ විෂයෙහි අපාදාන සංඥා ද ආදානග්‍රහණයෙන් ම සිද්ධය යි දක්වත්. එසේ ම නු—ඒ පිණිස පරයන්ගේ මෙන් මෙහි සූත්‍රාන්තරයක් නැති කල්හි දු "සාමාන්‍යතො විහිතා විධයඃ ප්‍රයොගමනුසරන්ති"යි බැවින් සාමාන්‍යයෙන් විහිත ආදාන ග්‍රහණය හෙතු කොට ගෙන ම ප්‍රයොගානුසාරයෙන් එහි ද අපාදානසංඥා සිද්ධ මැ යි. ආචරියතො අධීතෙ, ආචරියතො සුණාති යනු එහි උදාහරණ යි; නියම පූර්ව වූ විද්‍යාග්‍රහණය නම් මෙතෙක් කල් මෙසේ ශාස්ත්‍රාභ්‍යාස කෙරෙමි යි නියමය පෙරදැරි කොට විද්‍යා උගැන්ම යි.

මේ "යස්මා අක්ඛාතාරු විජ්ජං ආදදති" යනු ද නිදර්ශන මාත්‍රයෙකැ යි ගතයුතු. එහෙයින් "නගරම්හා ගච්ඡ" යනාදියෙහි යම්කිසිවක්හුගේ ආදානයට අවධි වූ නරාදි අනාඛ්‍යාතෘ ද අපාදාන නම වේ.

ඉතො, මේ අවධිහු කෙරෙන්; අපනෙත්වා, වෙන් කොට; ආදදති, ගනිතු යි; අපාදානං, අපාදාන නමි; අප ආ යන උප සර්ගයන් දෙන්නා පූර්වකොට ඇති 'දා' යන ධාතුහු කෙරෙන් අවධියෙහි 'යු' ප්‍රත්‍යය යි. තං පන, ඒ අපාදාන කාරකය තෙම; නිද්දිට්ඨ විසයං, නිර්දිෂ්ට ක්‍රියා භූත විෂය ඇත්තේ ද; උපාත්ත විසයං, අධ්‍යාහෘත වූ ක්‍රියා ලක්ෂණ විෂය ඇත්තේ ද; අනුමෙය විසයං, අනුමෙය වූ ක්‍රියා සඞ්ඛ්‍යාත විෂයක් ඇත්තේ දූ යි; විසය භෙදෙන, ප්‍රවෘත්තිස්ථාන විෂය හෙයින්; තිවිධං, තුන්වැදෑරුම් ඇත්තේ යි; නිද්දිට්ඨො නිදස්සිතො අපගමනාදි ක්‍රියාභූතො විසයො යත්ථ තං නිද්දිට්ඨ විසයං. උපාත්තො අජ්ඣාහටො නික්ඛමනාදි ක්‍රියාලක්ඛණො විසයො යස්මිං තං උපාත්ත විසයං, අනුමෙයො ක්‍රියාවිසෙසසඞ්ඛාතො විසයො එත්ථාති අනුමෙය විසයං. දැන් ඒම විභාවනය කරනුවෝ "අපාදානසඤ්ඤ විසයස්ස" යනාදී කීහු. අපාදානසඤ්ඤ විසයස්ස, අපාදාන සංඥාවට ප්‍රවෘත්ති ස්ථාන

**යථා-ගාමා අපෙනති මුනයො-නගරා නිග්ගතො රාජා-එත්ථ ච පාපා චිත්තං නිවාරයෙ-පාපා නිවාරෙන්තීති ආදිසු යදිපි කායසංයොගපුබ්බකාපගමනං නත්ථි තථාපි චිත්ත සංයොග පුබ්බකස්ස අපගමනස්ස සම්භවතො ඉමිනාව අපාදාන සඤ්ඤා-යත්ථ අපගමනක්‍රියං උපාත්තං අජ්ඣාහටං විසයං කත්වා පවත්තති තං උපාත්තවිසයං.**

---

වූ; ක්‍රියාවිසෙසස්ස, අපගමනාදි ක්‍රියා විශෙෂයක්හුගේ; නිද්දිට්ඨත්තා, දක්වන ලද බව හෙතු කොට ගෙන; නිද්දිට්ඨවිසයං, (හේ අපාදානය) නිර්දිෂ්ට විෂය නම්.

යම් තැනෙක්හි "ගාමා අපෙනති මුනයො" යනාදියෙහි මෙන් අපාදාන සංඥවට ප්‍රවෘත්ති ස්ථාන වූ ක්‍රියාවිශෙෂයක් ඉදුරා පෙනේ ද ඒ නිර්දිෂ්ට විෂය නම් අපාදානය යි සේ යි.

යථා, ඊට උදාහරණ මෙසේ යි; මුනයො, මුනීහු; ගාමා, ග්‍රාමයා කෙරෙන්; අපෙනති, පහවෙත්; රාජා, රජ තෙම; නගරා, නගරයා කෙරේන්; නිග්ගතො, නික්මිණි; මෙහි ග්‍රාම නගරයෝ දෙන්න අපගමනක්‍රියාවට අවධිකාරක ය. මුනීහු ද රජ ද කර්තෘ කාරක යි. දුන් ආශංකා පරිහාරයක් දක්වනුවෝ කියත් "එත්ථ ච" යනාදි.

එත්ථ ච, මේ අපගමනාපාදාන ප්‍රස්තාවයෙහි ද; "පාපා චිත්තං නිවාරයෙ, පාපා නිවාරෙන්ති ආදිසු ඉමිනා අපාදාන සඤ්ඤා" යි යොදනු. මෙහි නිවාරයෙ නිවාරෙන්ති යන ක්‍රියා පදයෙන් උක්ත වූ හෙතුකර්තෘන් විසින් චිත්තාදිය පාප කෙරෙන් වළකනු ලැබෙනු යි ඒ චිත්තාදිහුගේ අපගමනයට පාපය අවධි කාරක යි; පාපා, අකුසලයා කෙරෙන්; චිත්තං, සිත; නිවාරයෙ, වළකන්නේ යි. පාපා, පාපයා කෙරෙන්; නිවාරෙන්ති, සත්‍වයා වළකන්නාහ යන; ආදිසු, මේ ආදි ප්‍රයොග විෂයෙහි; කායසංයොග පුබ්බකං, කායසංයොග පූර්වකොට ඇති; අපගමනං, අපගමනයෙක්; යදිපි නත්ථි, කිසිසේත් නැත; තථාපි, එතකුදු වුවත්, චිත්තසංයොග පුබ්බකස්ස, මනස්සංයොග පූර්වකොට ඇති; අපගමනස්ස, අප ගමනයාගේ; සම්භවතො, සම්භවය හෙතු කොට ගෙන; ඉමිනාව, මේ යස්මාදි සූත්‍රයෙන් ම; අපාදානසඤ්ඤා, අපාදානසංඥ වේ;

'යස්මාදපෙති' යි අවිශෙෂයෙන් කී බැවින් ඉදින් "ගාමා අපෙන්ති මුනයො" යනාදීන් කායසංයොගපූර්ව වූ හෝ අපගමනයෙක් ඇද්ද "පාපා චිත්තං නිවාරයෙ" යනාදීන් චිත්තසංයොග පූර්ව වූ හෝ අපගමනයෙක් ඇද්ද හැම තැන ම අපගමනමාත්‍රය කියයුතු එකල්හි මෙයින් ම අපාදානසංඥා කටයුතුය යි තැති.

කායෙන සංයොගො කායසංයොගො, සො පුබ්බො යස්ස තං කායසංයොගපුබ්බං, අපගමනං, තදෙව කායසංයොගපුබ්බකං; පුබ්බෙ ගාමාදිනා සහ කායෙන සංසග්ගමාපජ්ජිත්වා පච්ඡා තතො කායෙනෙව අපගමනන්ති වුත්තං හොති, චිත්තෙන සංයොගො චිත්තසංයොගො; සො පුබ්බො යස්ස අපගමනස්ස තං චිත්තසංයොග පුබ්බං, තදෙව චිත්තසංයොග පුබ්බකං. පුබ්බෙ පාණාතිපාතාදිනා පාපෙන සහ චිත්තෙන සංයොගමාපජ්ජිත්වා පච්ඡා තතො චිත්තෙනෙව අපගමනන්ති වුත්තං හොති

මෙහි අපගමන නම් වියොගයාගේ ද උභය ප්‍රතිබද්ධ ම වත් මුත් ඒකප්‍රතිබද්ධ වන්නේ නො වෙ යි; එසේ ම නු—"ගාමා අපෙන්ති මුනයො" යි කී කල්හි ග්‍රාමයා කෙරෙන් මුනිහු වියුක්ත වෙති. මුනීන් කෙරෙන් ග්‍රාම වියුක්ත වෙයි. මෙසේ අපගමනය උභය ප්‍රතිබද්ධ කල්හි ග්‍රාම මුනි දෙන්නාට ම අපාදානත්වය ප්‍රසඞ්ග නො වේ ද යත්? නො වේ. පූර්වාවස්ථාවෙන් අන්‍යාවස්ථාවකට අප්‍රාප්ත ස්වරූපයෙන් සිටිනාක් හට ම අපාදාන සංඥා විවක්ෂිත හෙයිනි. පාණිනීයයෙහි වියොගයක් ඇති කල්හි ස්ථිර භූතයාට ම අපාදාන සංඥා පිණිස ආරබ්ධ වූ "ධ්‍රුවමපායෙ'පාදානම්" යන සූත්‍රයෙන් "ධ්‍රුවම්" යන විශෙෂණයා මෙන් මෙහි විශෙෂණයක් නොලා 'යස්මාදපෙති' යි සාමාන්‍යයෙන් කී කල්හි ද 'තදනුපරොධෙන' 2-1-5 යන පරිභාෂා සූත්‍ර සාමර්ථ්‍යයෙන් පෙර යම් ස්වරූපයෙක් ඇද්ද හෙම ස්වරූපයෙන් යුක්ත හෙයින් පූර්වාවස්ථාවෙන් අන්‍යාවස්ථාවකට අප්‍රාප්ත වූ ග්‍රාමය ම අපාදාන නම් වත් මුත් පෙර ඇති ස්ථිති ස්වරූපය හැර පසුව ගමන ස්වරූපයෙන් යුක්ත හෙයින් පූර්වාවස්ථාවෙන් අන්‍යාවස්ථාවකට ප්‍රාප්ත වූ මුනිහු අපාදාන නම් නොවෙත් යතු, යම් ප්‍රයොගයෙක්හි; උපාත්තං, උපාත්තං යි සේ යි; අජ්ඣාහටං, අධ්‍යාහාර කරන ලද; අපගමනක්‍රියං, නිස්සරණ ක්‍රියාව; විසයං කත්වා, ප්‍රවෘත්තිස්ථාන කොට; පවත්තතීති, අපාදාන සංඥා යොම පවතී ද; තං, හේ අපාදානය; උපාත්ත විසයං, උපාත්ත විෂය නම් වේ.

**යථා-වලාහකා විජ්ජෝතතෙ විජ්ජු, කුසූලතො පවත්තීති. එත්ථ ච වලාහකා නික්ඛම්ම කුසූලතො අපනෙත්වාති ච පුබ්බ කිරියා අජ්ඣාහරීයති-අනුමෙය්‍ය විසයං යථා-මධුරා පාටලි පුත්තකෙහි අභිරූපා-එත්ථ හි කෙනචි ගුණෙන උක්කංසි යන්තීති අනුමෙය්‍යොව ක්‍රියාවිසෙසො-ඉධ පන දූරත්ථිකාදි සුත්තෙන විභත්තිගහණෙන අපාදානසඤ්ඤා-වුත්තං ච.**

**69 "නිද්දිට්ඨ විසයං කිංචි උපාත්ත විසයං තථා<br>අනුමෙය්‍ය විසයඤ්චාති අපාදානං තිධා මත"න්ති.**

---

වලාහකා විජ්ජෝතතෙ විජ්ජු, කුසූලතො පවති ඉති යථා, වලාහකා විජ්ජෝතතෙ විජ්ජු, කුසූලතො පවති යනු මෙහි; එත්ථ ච පුබ්බකිරියා අජ්ඣාහරීයති යි යොදනු. එත්ථ ච, මේ වලාහකා විජ්ජෝතතෙ යනාදි උදාහරණයන්හි දු; වලාහකා නික්ඛම්ම, වලාහකා නික්ඛම්ම යි ද; කුසූලතො අපනෙත්වාති ච, කුසූලතො අපනෙත්වා යි ද යි; පුබ්බකිරියා, පූර්වක්‍රියාවක් තොම; අජ්ඣාහරීයති, අධ්‍යාහාර කරන ලබන්නී යි. "වලාහකා විජ්ජෝතතෙ විජ්ජු, කුසූලතො පවති" යන මෙහි "වලාහකා, කුසූලතො" යන අපාදානය "නික්ඛම්ම" යි ද අපනෙත්වා යි ද අධ්‍යාහෘත පූර්වක්‍රියාවක් අපෙක්ෂා කොට ම පවතීනු යි උපාත්ත විෂය නමැ යි හැනි විජ්ජු, විදුලිය; වලාහකා, මෙඝයා කෙරෙන් නික්ම; විජ්ජෝතතෙ, බබලා; කුසූලතො, කොෂ්ඨාගාරය කෙරෙන් හැර ගෙන; පවති, පිසෙ යි යනු මෙහි අර්ථ යි.

අනුමෙය්‍ය විසයං, අනුමෙය විෂයය; යථා, මෙසේ යි; මාධුරා, මධුරා නගරවාසීහු; පාටලිපුත්තකෙහි, පාටලිපුත්‍ර නගරවාසීන් කෙරෙන්; අභිරූපා, විශිෂ්ට රූප ඇත්තාහු යි; පාටලිපුත්‍ර නගර වාසීන්ට වඩා මධුරා නගරවාසීහු උත්කෘෂ්ටයැහ යි යි හැනි. "එත්ථ හි කිරියා විසෙසො අනුමෙය්‍යොව" යි යොදනු එත්ථ හි, මේ යථොක්ත උදාහරණයෙහි; කෙනචි ගුණෙන, ආචාරාදි කිසි ගුණයක් කාරණ කොට ගෙන; උක්කංසීයන්තීති, මාධුරයෝ පාටලිපුත්‍රයන් කෙරෙන් උත්කර්ෂ කරනු ලැබෙත් නු සී; කිරියා විසෙසො අනුමෙය්‍යොව, ක්‍රියාවිශෙෂය අනුමාන කටයුතු ම වේ. "මාධුරා පාටලිපුත්තකෙහි අභිරූපා" යන මෙහි "පාටලිපුත්තකෙහි" යන අපාදානය තෙම මාධුරයන් තමන් ආචාරාදි එක්තරා ගුණයක් හෙතු කොට ගෙන පාටලිපුත්‍රයන් කෙරෙන් උත්කර්

**තදෙව චලාචලවසෙන දුවිධම්පි හොති.**

**චලං යථා-ධාවතා හත්ථිම්හා පතිතො අංකුසධාරී.**

**අචලං යථා-පබ්බතා ඔතරන්ති වනචරා.**

**භයහෙතුම්හි-චොරා භයං ජායති, තණ්හාය ජායති භයං, පාපතො උත්තසති, නත්ථි සොකතො කුතො භයං.**

**අක්ඛාතරි-උපජ්ඣායම්හා සික්ඛං ගණ්හාති, ආචරියම්හා අධීතෙ, ආචරියතො සුණාති.**

---

කාරන ලැබෙන හෙයින් උත්කෂ්ක්‍රියා විශෙෂය අනුමෙය වේ නු යි අනුමීයමාන වූ ඒ ක්‍රියා විශෙෂය නිසා පවත්නා හෙයින් අනුමෙය විෂය නැමැ යි තනි. උපාත්ත විෂයෙහි මෙන් මෙහි අධ්‍යාහෘත වූ කිසි ක්‍රියාවිශෙෂයක් නැත්නු යි මොහුගේ උපාත්ත විෂයා කෙරෙන් වෙනස යි.

ඉධ පන, 'මාධුරා පාටලිපුත්තකෙහි අභිරූපා' යන මෙහි වනාහි; දූරන්තිකාදිසුත්තෙන විභත්තිග්ගහණෙන, වක්ෂ්‍යමාණ වූ 'දූරන්තිකද්ධකාලනිම්මානත්වාලොපදිසායොග' යනාදි සූත්‍රයෙහි විභක්තිග්‍රහණයෙන්; අපාදානසඤ්ඤා, අපාදාන සංඥා වන්නීය. මේ අනුමෙය විෂයෙහි විභජනාපි සම්භවය හෙතු කොට ගෙන 'දූරන්තිකද්ධ කාලාදි සූත්‍රයෙන් අපාදාන සංඥා කටයුත්තීය යි සේ යි; වුත්තං ච, මඤ්ජුෂාවෙහි කියන ලද මැ යි.

“කිඤ්චි අපාදානං නිද්දිට්ඨවිසයං, තථා උපාත්තවිසයං, තථා අනුමෙය විසයං” යි යොදනු. තථා ශබ්දය තෙම 'කිඤ්චි' යන ආකර්ෂණය කෙරේ. කිඤ්චිඅපාදානං, කිසි අපාදානයෙක්; නිද්දිට්ඨ විසයං, කථිත ක්‍රියාවිෂය කොට ඇත්තේ ද වෙයි; තථා, එසේ ම කිසි අපාදානයෙක්; උපාත්තවිසයං, අධ්‍යාහෘත ක්‍රියාව විෂය ඇත්තේ ද වෙයි; තථා, එසේ ම කිසි අපාදානයෙක්; අනුමෙය විසයඤ්චාති, අනුමීයමාන ක්‍රියාවවිෂය කොට ඇත්තේ ද වෙයි; මෙසේ; අපාදානං, අපාදාන කාරකය තෙම; තිධා මතං, ත්‍රිප්‍රකාර යෙකින් දන්නා ලදී යි.

තදෙව, හෙම අවධිභූත වූ අපාදානය තෙම; චලාචලවසෙන, ජඞ්ගම ස්ථාවර වශයෙන්; දුවිධම්පි හොති, දෙවැදෑරුම් ඇත්තේ ද වේ; 'අපි' ශබ්ද පූර්වොක්තප්‍රකාර සම්පිණ්ඩනය කෙරේ; චලං යථා, චලාපාදානය මෙසේ යි; අඞ්කුසධාරී, අංකුසදරී; ධාවතා හත්ථිම්හා,

**අපාදානන්ති අධිකාරෙ.**

## 299. ධාතුනාමානමුපසග්ගයොගාදිස්වපි ච 2-6-2.

**ධාතවො ච නාමානි ච ධාතුනාමානි, තෙසං අවිහිත ලක්ඛණානං ධාතුනාමානං පයොගෙ උපසග්ගයොගෙ ච ආදි සද්දෙන නිපාතයොගෙ ච සංයුත්තං කාරකමපාදානසඤ්ඤං හොති.**

---

දුවන ඇතකු කෙරෙන්; පතිතො, ගිළිහිණි; මෙහි හස්ති තෙම ජඞ්ගම වූයේ පෙර කර හුන් අංකුසධාරිහුගේ පතනයට අවධි වීනු සි චලාපාදාන නමි. "ධාවතා හත්ථිම්හා" යන මේ නිදර්ශන ශබ්ද පූර්වෝක්තප්‍රකාර සම්පිණ්ඩන මාත්‍රයෙක. එහෙයින් ධාවන ක්‍රියා විරහිතව ද අපාදාන නම් වේ මැ සි කවර හෙයින් ද යත්? ජඞ්ගම ස්වභාවය නො ඉක්මෙන හෙයිනි. අචලං යථා, අචලාපාදානය මෙසේ සි; වනචරා, වනචරයෝ; පබ්බතා, ශෛලයෙන්; ඔතරන්ති, බසිත්; මෙහි පර්වත ස්ථාවර වූයේ වනචරයන්ගේ අවතරණයට අවධි වීනු සි අචලාපාදාන නමි.

භයහෙතුම්හි, භයකාරණ විෂයෙහි අපාදාන ප්‍රයොග දක්වනු ලැබේ; චොරා, සොරූ කෙරෙන්; භයං, බිය; ජායති, උපදී සි; තණ්හාය, තෘෂ්ණාව නිමිති කොට ගෙන; භයං, බිය; ජායති, උපදී සි; පාපතො, පාපය නිමිති කොට ගෙන; උත්තසති, භය පත් වේ; සොකො, ශොචනයෙක්; නත්ථි, නැත; භයං කුතො, භය කොයින් ම වේද? අක්ඛාතරි, ආඛ්‍යාතෘ විෂයෙහි අපාදාන ප්‍රයොග දක්වනු ලැබේ; උපජ්ඣායම්හා, උපාධ්‍යායයා කෙරෙන්; සික්ඛං ගණ්හාති, ශිල්ප උගනී; ආචරියම්හා, ආචාර්‍ය්‍යයා කෙරෙන්; අධීතෙ, හදාර සි; ආචරියතො, ආචාර්‍ය්‍යයා කෙරෙන්; සුණාති, ශ්‍රවණය කෙරේ.

අපාදානං ඉති, අපාදානං යනු; අධිකාරෙ, මතු සූත්‍ර හා සම්බන්ධ කරනු ලැබේ.

ධාතුනාමානං ය උපසග්ගයොගාදිසු ය අපි ය ච ය යනු පද සි.

**ධාතුප්පයොගෙ තාව-පරාජියොගෙ යො අසය්හො-පභූයොගෙ පභවො-ජනියොගෙ ජායමානස්ස පකති ච.**

**යථා-බුද්ධස්මා පරාජෙන්ති අඤ්ඤතිත්ථියා, හිමවතා පභවන්ති පඤ්චමහානදියො, අනවතත්තම්හා මහාසරා පභවන්ති, අචිරවතියා පභවන්ති කුන්නදියො, කාමතො ජායති සොකො, යස්මා සො ජායතෙ ගිනි, උරස්මා ජාතො පුත්තො, කම්මතො ජාතං ඉන්ද්‍රියං.**

---

ධාතවො ච නාමානි ච ධාතුනාමානි, තෙසං ධාතුනාමානං; උපසග්ගානං යොගො උපසග්ගයොගො, සො ආදො යෙසං තෙ උපසග්ගයොගාදයො, තෙසු උපසග්ගයොගාදිසු මෙහි ධාත්වාදීහු කිසිසේත් අනියම කොට කියන ලදහ. එතකුදුවත් යම් ධාත්වාදි කෙනකුන් හා සම්ප්‍රයුක්ත කල්හි අපාදාන සංඥා විසින් අර්ථයෙක් සම්භව ද ඔහු මෙහි ගන්නා ලදහ යි දතයුතු ය. නො එසේ වීනම් ධාතු ය නාම ය උපසර්ග ය නිපාත ය යන මොවුන් හැර අනිකක් නැති හෙයින් කියත් 'අවිහිත ලක්ඛණානං' යි—තෙසං, ඒ අවිහිත ලක්ඛණානං, විහිත ලක්ෂණ ඇති ධාත්වාදීන් කෙරෙන් අන්‍ය වූ; ධාතුනාමානං පයොගෙ, පරා පූර්ව ජි ආදි ධාතුය අන්‍ය ඉතරාදි නාමය යන මොවුන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; උපසග්ගයොගෙ ච, පරි ආදි උපසර්ගයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; ආදි සද්දෙන නිපාතයොගෙ ච, මේ සූත්‍රයෙහි ආදිග්‍රහණයෙන් රිතෙ නානා ආදි නිපාතයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; තංයුත්තං කාරකං, ඒ ධාතුනාමොපසර්ග නිපාතයන් හා යුක්ත වූ කර්මාදි කාරක තෙම; අපාදානසඤ්ඤං හොති, අපාදාන සංඥා ඇත්තේ වේ; විහිතානි ලක්ඛණානි යෙසං තෙ විහිත ලක්ඛණානි, න විහිතලක්ඛණානි අවිහිත ලක්ඛණානි, විහිත ලක්ඛණෙහි අඤ්ඤනීති අත්‍ථො,අඤ්ඤත්‍ථො හි අයමකාරෙ අව්‍යාකතාඃ ධම්මාති ආදිසු විය.

ධාතුප්පයොගෙ, ධාතුන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි; තාව, පළමුකොට අපාදාන සංඥා දක්වනු ලැබේ; හේ සවරූප හෙයින් දක්වනුවෝ පරා ජියොගෙ යනාදි කීහු,මත්තෙහි ද මෙසේ මැ යි.

පරාජියොගෙ, පරා යන උපසර්ගයා පූර්වකොට ඇති ජි ජයෙ යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි; යො, යමෙක්; අසය්හො, අභිභවනයට අශක්‍ය වූයේ ද; පභූයොගෙ, ප යන උපසර්ගය පූර්ව

කොට ඇති හූ සත්තායං යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි; පභවො, උත්පත්තිස්ථානය වූයේ ද; ජනියොගෙ, ජන ජනනෙ යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි; ජායමානස්ස පකති ච, ජායමාන වස්තුවට කාරණ වූයේ ද; අපාදානං නාම හොති යි යොදනු.

පරා පුබ්බො ජී පරාජි, පරාජිස්ස යොගෙ පරාජියොගෙ තස්මිං, සහිතුමභිභවිතුමසක්කුනෙය්‍යොති අසය්හො, ප පුබ්බො හූ පභූ, තස්ස යොගෙ පභූයොගෙ තස්මිං, පභවති එතස්මා ඵලම්ති පභවො- උප්පත්තිට්ඨානං, ජන ඉච්චයං ධාතුරේව ජනි ජනිස්ස යොගෙ-ජනියොගෙ, පකාරෙති නිබ්බත්තෙති අත්තනො ඵලම්ති පකති. පරා පුබ්බස්ස ජී ධාතුස්ස යොගෙ යො ජෙය්‍යො අනභිභවනීයො සො අපාදාන සඤ්ඤො හොති, තථා ප පුබ්බස්ස හූ ධාතුස්ස යොගෙ යො අවිච්ඡින්නපපභවහෙතු සො ච, ජනි ධාතුස්ස යොගෙ ජායමානස්ස වත්ථුනො යා පකති කාරණං සා ච අපාදානසඤ්ඤා හොතීති වුත්තං හොති.

යථා, බුද්ධස්මා යනාදි එහි උදාහරණ යි; අඤ්ඤතිත්ථියා, අන්‍යතීර්ථකයෝ; බුද්ධස්මා, බුදුන්; පරාජෙන්ති, මැඩපවත්නට නො පොහොසත්හ; මෙහි 'පරාජෙන්ති' යනු සකර්මක බැවින් "රිපුං පරාජෙති වීරො" යනාදියෙහි මෙන් කර්ම සංඥාව ප්‍රාප්ත කල්හි ද අන්‍ය තීර්ථකයන් විසින් බුදුහු අභිභවනීය නොවෙත්නු යි තදපවාදයෙන් පරා ජී ධාතුයොගයෙහි අනභිභවනීයයා හට මින් අපාදාන සංඥාම විහිත යි. එහෙයින් "බුද්ධමභි හවිතුමසමත්ථා" යි තනි. පඤ්චමහානදියො, ගඞ්ගා යමුනා ආදී වූ පඤ්චමහා ගඞ්ගාවෝ; හිමවතා, හිමාලය පර්වත විෂයෙහි; පභවන්ති, සෙසු නදීන්ට පළමු කොට උපදිත්; මෙහි හිමවත්හු පඤ්චමහානදීන්ගේ ප්‍රථමොත්පත්තියට විෂයාධාර බැවින් අවකාශ සංඥාව ප්‍රාප්ත කල්හි හෙ වලකා පභූයොගයෙහි ප්‍රභවස්ථාන වූ ඕහට මේ සූත්‍රයෙන් අපාදාන සංඥා කරන ලද හෙයින් "හිමවතො විසයෙ පඨමමුප්පජ්ජන්ති" යි තනි. අනවතත්තම්හා, සූර්යරශ්මියෙන් තප්ත නොවන බැවින් අනවතප්ත නම් වූ මහාසර විෂයෙහි; මහාසරා පභවන්ති, කණ්ණමුණ්ඩරථකාරාදි සප්තමහාසරයෝ කල්පාන්තය දක්වා නො සිඳී පවතිත්; කුන්නදියො, ක්ෂුද්‍රනදීහු; අචිරවතියා අචිරවතී නම් ගඞ්ගා විෂයෙහි; පභවන්ති, හට්ගනිත්; සොකො, අන්තශ්ශොෂණ ලක්ෂණ වූ ශොකය තෙම; කාමතො, කාම තෘෂ්ණාව හෙතු කොට ජායති, උපදී; මෙහි 'කාමතො'

**නාමප්පයොගෙ-අඤ්ඤත්ථෙතරාදීහි යුත්තෙ-නාඤ්ඤත්‍ර දුක්ඛා සම්භොති, නාඤ්ඤං දුක්ඛා නිරුජ්ඣති, තතො අඤ්ඤත කාමෙම්හ, තතො ඉතරං, උභතො සුජාතො පුත්තො ඉච්චාදි.**

**උපසග්ගයුත්තෙසු-අපපරීහි වජ්ජනත්ථෙහි යොගෙ, මරියාදාභිවිධි අත්ථෙ ආ යොගෙ, පතිනා පතිනිධි පතිදානත්ථෙන යොගෙ ච.**

**යථා-අප සාලාය ආයන්ති වාණිජා-සාලං වජ්ජෙත්වාති අත්ථො, තථා පරිපබ්බතා දෙවො වස්සති-පබ්බතං වජ්ජෙත්වාති අත්ථො, මරියාදායං-ආ පබ්බතා ඛෙත්තං, අභිවිධිම්හි-ආ බ්‍රහ්ම ලොකා සද්දො අබ්භුග්ගච්ඡති-බ්‍රහ්මලොකමභිව්‍යාපෙත්වාති අත්ථො.**

---

යතු 'ජනි' යොගයෙහි කාම ශබ්දය හට අපාදාන සංඥ කොට 'ඛචිතො' යනාදි සූත්‍රයෙන් තො ප්‍රත්‍යය කරන ලද කල්හි සිද්ධ යි. මත්තෙහි ද මෙසේ මැ යි. සො ගිනි, හේ හුතාසනාය තෙම; යස්මා, යම් කාෂ්ඨයෙක්හි; ජායතෙ, උපදී ද; 'තමෙව ඩහති කට්ඨං' යි යොදනු. උරස්මා ජාතො පුත්තො, ළෙහි උපන් පුත්‍ර යි. ඉන්ද්‍රියං, චක්ඛුරාදි ඉන්ද්‍රිය තෙමේ; කාමමතො, කාමිය හෙතුකොට ගෙන; ජාතං, උපනි; මෙහි ජායමාන වස්තු නම් ශොකාග්නි පුත්‍රෙන්ද්‍රිය යන මොහු ය. ඔවුනට ප්‍රකෘති නම් කාම කාමෝචාරඃ කාමී යන මොහු යි.

නාම්පපයොගෙ, නාමයොගයක් ඇති කල්හි අපාදාන සංඥාව දක්වනු ලැබේ; අඤ්ඤත්ථෙතරාදීහි යුත්තෙ, අන්‍යාර්ථයක් ඇති ශබ්දයා හා ඉතර ශබ්ද යන මේ ආදි ශබ්දයන් හා යුක්ත කල්හි; අඤ්ඤොති අත්ථො යෙසං තෙ අඤ්ඤත්ථා, අඤ්ඤත්ථා ච ඉතරෙ ච අඤ්ඤත්ථෙතරා, තෙ ආදි යෙසං තෙ තදාදයො තෙහි, නාඤ්ඤත්‍ර යනාදි එහි උදාහරණ යි. දුක්ඛා අඤ්ඤත්‍ර, සඞ්ඛාර දුක්ඛාදි වූ දුක්ඛය හැර අනික් ආත්මාදියෙක්; න සම්භොති, සම්භව නො වේ; දුක්ඛා අඤ්ඤං, ස්කන්ධපඤ්චක සංඛ්‍යාත දුඃඛයා කෙරෙන් අන්‍ය සත්ත්වාදියෙක්; න නිරුජ්ඣති, නිරුද්ධ නො වේ; තතො අඤ්ඤත කාමෙම්හ, ඒ ප්‍රතිසන්ධි දායක කාමියා කෙරෙන් අන්‍ය කාමියකුහු විසින්; 'ජාතං' යි යොදනු, තතො ඉතරං, ඔහු කෙරෙන් ඉතර යි; පුත්තො, පුත්‍ර තෙම; උභතො සුජාතො, මාතෘපක්ෂ පිතෘපක්ෂ සංඛ්‍යාත උභය පක්ෂයෙන් සුන්දර ජාති ඇත්තේ යි.

උපසග්ගයුත්තෙසු, උපසර්ගයන් හා යුක්ත නාමයන් විෂයෙහි අපාදාන සංඥා දක්වනු ලැබේ; වජ්ජනත්ථෙහි, පරිවර්ජනය අර්ථ කොට ඇති; අපපරීහි යොගෙ, අප පරි යන උපසර්ගයන් දෙන්නා හා යොගයක ඇති කල්හි ද; මරියාදාභිවිධි අත්ථෙ, හිම හැර ගැන්ම හා හිම හා එක්කොට ගැන්ම අර්ථකොට ඇති; ආ යොගෙ, ආ යන උපසර්ගයා හා යොගයක් ඇති කල්හි ද; පතිනිධි පතිදානත්ථෙන, සදෘශයාය පතිදානය යන මේ දෙක අර්ථ කොට ඇති; පතිනා යොගෙ ච, පති යන උපසර්ගයා හා යොගය ඇති කල්හි ද අපාදාන සංඥා වන්නී යි. වජ්ජනං අත්ථො යෙසං තෙ වජ්ජනත්ථා. තෙහි, මරියාදා ච අභිවිධි ච මරියාදාභිවිධී, තෙ අත්ථා යස්ස සො මරියාදාභිවිධි අත්ථො, මරියාදාභිවිධි අත්ථො ච සො ආ චාති මරියාදාභිවිධිඅත්ථආ; තෙන යොගො මරියාදාභිවිධි අත්ථ ආ යොගො, තස්මිං, පතිනිධි ච පතිදානං ච පතිනිධි පතිදානානි, තෙ අත්ථා යස්ස සො පතිනිධිපතිදානත්ථො, තෙන, 'අපසාලාය' යනාදි එහි උදාහරණ යි.

වාණිජා, වණික් ජනයෝ; අපසාලාය, ශාලාව හැර; ආයන්ති, යෙත්; සාලං වජ්ජෙත්වාති, ශාලාව හැර ය යන; අත්ථො, අර්ථ යි; දෙවො, මෙඝය තෙම; පරි පබ්බතා වස්සති, පර්වතය හැර වසී යි යනු ද; තථා, එසේ මැ යි; මෙහි පරිවර්ජනාර්ථයෙහි වැටෙන අප පරි යන මොවුන්ට කර්මප්‍රවචනීය සංඥා විහිත බැවින් "කම්මප්පවචනීයයුත්තෙ" යන සූත්‍රයෙන් ද්විතීයා ප්‍රසඞ්ග කල්හි උපසර්ගයොගයෙහි මේ සූත්‍රයෙන් අපාදාන සංඥා කොට ශාලා ශබ්ද පර්වත ශබ්දයන් දෙන්නා කෙරෙන් පඤ්චමී විහිතය යි දක්වනුවෝ "සාලං වජ්ජෙත්වාති අත්ථො, පබ්බතං වජ්ජෙත්වාති අත්ථො" යි කීහු, මරියාදායං, මර්යාදාර්ථයෙහි උදාහරණ කියනු ලැබේ; ආ පබ්බතා, පර්වතය දක්වා; ඛෙත්තං, කුඹුරය; පර්වතය හැර කුඹුරය යි සේ යි. මෙහි මර්යාදාර්ථයෙහි වැටෙන ආ උපසර්ගය හට කර්මප්‍රවචනීය සංඥා විහිත හෙයින් එම සූත්‍රයෙන් ද්විතීයා ප්‍රාප්තියෙහි මෙයින් අපාදාන සංඥා කරන ලද බැවින් පඤ්චමී ම වේ, සද්දෙ, ශබ්දය තෙම; ආබ්‍රහ්මලොකා, බ්‍රහ්ම ලොකය අභිව්‍යාප්ත කොට, අබ්භුග්ගච්ඡති, නැගේ; අභිව්‍යාපනය නම් පැතිරීම යි. "බ්‍රහ්මලොකමභිව්‍යාපෙත්වාති අත්ථො" යන මෙයින් අභිවිධි අර්ථ ඇති අභි යන උපසර්ගය හට ද කර්මප්‍රවචනීය සංඥා විහිත බැවින් ද්විතීයා ප්‍රසඞ්ගයෙහි අපාදාන සංඥා විහිතය යි හඟවත්.

**පතිනිධිම්හි-බුද්ධස්මා පති සාරිපුත්තො ධම්මදෙසනාය ආලපති තෙමාසං.**

**පතිදානෙ-සතමස්ස තෙලස්මා පතිදදාති, කනකමස්ස හිරඤ්ඤස්මා පතිදදාති.**

**නිපාතයුත්තෙසු-රිතෙනානාවිනාදීහි යොගෙ-රිතෙ සද්ධම්මා කුතො සුඛං-තෙ භික්ඛූ නානා කුලා-විනා සද්ධම්මා නත්ථඤ්ඤො කොචි නාථො-අරියෙහි පුථගෙවායං ජනො-යාව බ්‍රහ්මලොකා සදෙව අබ්භුග්ගඤ්ඡි-අපිග්ගහණෙන කම්මාපාදන කාරකම්මපෙක්ඛපි පඤ්චමී කාලද්ධානෙහි-පක්ඛස්මා විජ්ඣති මිගං, ලුද්දකො ඉතො පක්ඛස්මා මිගං විජ්ඣතීති වුත්තං හොති, එවං මාසස්මා භුඤ්ජති භොජනං, කොසා විජ්ඣති කුඤ්ජරං.**

---

පතිනිධිම්හි, සදෘශයෙහි අපාදන සංඥ කියනු ලැබේ; සාරිපුත්තො, ධර්මසෙනාපති ශාරීපුත්‍ර මහාස්ථවිර තෙම; තෙමාසං ධම්මදෙසනාය, වස් තුන්මස මුළුල්ලෙහි ධර්මදෙශනා කරන පිණිස; බුද්ධස්මා පති ආලපති, බුදුන් හා සදෘශව මහාජනයා හට ආහ්වාන කෙරේ; මෙහි ප්‍රඥාදි ගුණයෙන් බුදුහු මුඛ්‍යය, ශාරීපුත්‍ර තෙම එනාහි සදෘශ යි. පතිදානෙ, ප්‍රතිදානයෙහි අපාදනසංඥ කියනු ලැබේ; 'පච්චාදානං-නිය්‍යාතනං-පතිදානං, තස්මිං; විනිමය පිණිස උපාත්තයාගේ පසුව දීමය යි සේ යි. අස්ස, මෝහට; තෙලස්මා පති, තෙලට වඩා; සතං, ඝෘතය; දදාති, දෙයි; තෛලය තෙම ඝෘතය පිණිස ප්‍රථම කොට දෙන ලදය ඒ තෛලය පිණිස ඝෘතය තෙම නැවත දෙනු ලැබේ; තෛලය ගෙන ඝෘතය දෙයි සේ යි. අස්ස, ඔහට; හිරඤ්ඤස්මා පති, කාර්ෂාපණයට වඩා; කනකං පතිදදාති, සවර්ණය දේ; හිරණ්‍යය ගෙන කනකය දෙයි සේ යි.

නිපාතයුත්තෙසු, නිපාතයන් හා යුක්ත නාම විෂයෙහි අපාදන සංඥ දක්වනු ලැබේ. රිතෙනානාවිනාදීහි යොගෙ, රිතෙ ය නානා ය විනා ය පුථ ය යන මේ ආදී නිපාතයන් හා යොගයක් ඇති කල්හි අපාදන සංඥ කියනු ලැබේ; 'රිතෙ සද්ධම්මා' යනාදි එහි උදාහරණ යි රිතෙ සද්ධම්මා, සද්ධර්මය හැර; කුතො සුඛං, සැපයෙක් කොයින් ද? තෙ භික්ඛූ, ඒ භික්ෂූහු; නානාකුලා, නොයෙක් කුලයෙන් නික්ම; පබ්බජිතා යි යොදනු. සද්ධම්මා විනා, සද්ධර්මය හැර; අඤ්ඤො කොචි නාථො, නත්ථි, අනික් කිසි පිළිසරණෙක් නැති; අයං ජනො, මේ ජන තෙම; අරියෙහි පුථගෙව, අෂ්ටාර්‍ය්‍ය පුද්ගලයන් කෙරෙන්

**චසද්දග්ගහණෙන පභුත්‍යාදි අත්ථෙ තදත්ථප්පයොගෙ ච.**

**යතොහමන්තගිනි අරියාය ජාතියා ජාතො-යතො සරාමි අත්තානං යතො පත්තොස්මි විඤ්ඤුතං-යත්වාධිකරණමෙනං, යතො පභුති, යතො පට්ඨාය, තතො පට්ඨාය ඉච්චාදි.**

---

වෙන් මැ යි; සද්දො, ශබ්දය තෙම; යාව බ්‍රහ්මලොකා, බ්‍රහ්ම ලොකය අභිව්‍යාප්ත කොට; අබ්භුග්ගඤ්ඡි, උස්ව නැංගේ යි; මෙහි ද අභිවිධි අර්ථ වූ යාව යන නිපාතය හට කර්මප්‍රවචනීය සංඥ බැවින් 'කම්මප්පවචනීයා'දි සූත්‍රයෙන් ද්විතීයාව පැමිණි කල්හි අපාදානසංඥ කරන ලදි. අපිග්ගහණෙන, මේ සූත්‍රයෙහි අපිග්‍රහණ යෙන්; කම්මාපාදාන කාරකමජ්ඣෙපි, යමකට විජ්ඣනාදි ක්‍රියා වෙන් පැමිණේ ද යම් තැනෙක විජ්ඣනාදි ක්‍රියාව කෙරේ ද හේ) කර්මකාරක අපාදාන කාරකයන් දෙන්නාගේ මධ්‍යයෙහි ද; කාලද්ධානෙහි, පක්ෂාදිකාලවාචි වූ ද ක්‍රොශාදි අධ්වවාචි වූ ද ශබ්දයන් කෙරෙන් පර ව; පඤ්චමී, පංචමී විභක්ති වේ; 'පංචමී' යි ද විෂය නිර්දේශයෙන් විෂයභූත අපාදාන සංඥ කියන ලදැ යි ගතයුතු. එහෙයින් මෙහි අපි ග්‍රහණයෙන් කාරක මධ්‍යයෙහි අපාදානසංඥ කරන ලද කල්හි ඒ අපාදාන සංඥ ඇති ශබ්දයා කෙරෙන් "අපාදානෙ පංචමී" යි පඤ්චමී විභක්ති යි. පක්ඛස්මා යනාදි එහි උදාහරණ යි. පක්ඛස්මා, පක්ෂයකින්; මිගං, මෘගයා; විජ්ඣති, විදී; අද විද මෙයින් අර්ධමාසයෙක්හි මෘගයා විදි යි සේ යි. දැන් හේ දක්වනුවෝ 'ලුද්දකො' යනාදි කීහු. මෙහි 'ලුද්දකො' යි කර්තෘදර්ශිතය, 'ඉතො' යි අපාදාන දර්ශිතය, 'මිගං' යි කර්මදර්ශිතය, 'පක්ඛස්මා'යි ඒ 'ඉතො' යන අපාදාන කාරකයාගේ ද 'මිගං' යන කර්මකාරකයාගේ ද මධ්‍යයෙහි අර්ධමාස සඞ්ඛ්‍යාත කාල වාචි පක්ෂ ශබ්දයා කෙරෙන් පඤ්චමී දර්ශිත යි. "මාසස්මා භුඤ්ජති භොජනං, කොසා විජ්ඣති කුඤ්ජරං" යන මෙහි දු එසේ ම යෙදියයුතු. අථවා කරණං කාරො; කාරො එව කාරකො, ක්‍රියා; තස්සාපි මජ්ඣෙ කාරකමජ්ඣෙ නාම. තදයමෙත්ථ සම්බන්ධො. ලුද්දකො අජ්ජ විජ්ඣිත්වා පක්ඛස්මා විජ්ඣති, අජ්ජ භුඤ්ජිත්වා මාසස්මා භුඤ්ජති, ඉධ විජ්ඣිත්වා කොසා විජ්ඣතීති. (එත්ථ ද්වින්නං ද්වින්නං විජ්ඣනක්‍රියානඤ්චෙව භොජනක්‍රියානඤ්ච මජ්ඣගතො පක්ඛො චෙව කොසො ච අපාදානසඤ්ඤො හොති.)

චසද්දග්ගහණෙන, මෙම සූත්‍රයෙහි චග්‍රහණයෙන්; පභුත්‍යාදි අත්ථෙ, පභුති පට්ඨාය ආරබ්භ යනාදි ශබ්දයන්ගේ අර්ථ කියයුතු කල්හි ද; තදත්ථප්පයොගෙ ච, ඒ පභුති පට්ඨාය ආරබ්භ යනාදි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; 'පඤ්චමී' යි යොදනු.

## 299. රක්ඛණත්ථානමිච්ඡිතං-2-6-3.

**රක්ඛණත්ථානං ධාතූනං පයොගෙ යං ඉච්ඡිතං තං කාරක මපාදානසඤ්ඤං හොති.**

**චකාරාධිකාරතො අනිච්ඡිතඤ්ච-රක්ඛණත්ථෙඤ්ච නිවාරණං තායනඤ්ච, කාකෙ රක්ඛන්ති තණ්ඩුලා-යවා පටිසෙධෙන්ති ගාවො.**

---

"යතො අහං" යනාදි ප්‍රභෘත්‍යර්ථාදියෙහි උදාහරණය. "තතොප්පභුති" යනාදි ප්‍රභෘත්‍යාදි යොගයෙහි උදාහරණ යි. භගිනි, බුහුන; ප්‍රියවචනය යි. යතො, යම් තැනෙක පටන්; අහං, මම; අරියාය ජාතියා ජාතො, ආර්‍ය්‍යශීලයෙහි පිහිටියෙම් වීම් ද; "නාභිජානාමි සඤ්චිච්ච පාණං ජීවිතා වොරොපෙතා" යි යොදනු. යතො, යම් කාලෙක පටන්; අත්තානං, තමන්; සරාමි, සිහි කෙරෙම් ද; යතො, යම් කාලෙක පටන්; විඤ්ඤුතං, විඥත්වයට; පත්තො අසමි, පැමිණියෙම් ද; "එත්ථන්තරෙ බලිතං නත්ථීති" යි යොදනු. යත්වාධිකරණං, යම් චක්ෂුරින්ද්‍රියාදි අසංවර කාරණයක් අරභයා; එනං, මේ පුද්ගලයා; "අභිජ්ඣා දොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං" යන සබඳි. "යතො අධිකරණා" යි කියයුතු තන්හි උත්තරපදයෙහි පඤ්චම්‍යර්ථයෙහි ද්විතීයා කොට 'අධිකරණං' යි කියන ලදැ යි දතයුතු. නොහොත් චක්ෂුරින්ද්‍රියාදි අසංවරයක් නිදාන කොට ගෙන යනු මෙහි අර්ථ යි. මේ පක්ෂයෙහි තොප්‍රත්‍යය ප්‍රථමාර්ථයෙහි වේ, එසේ මැ නු—යො (චක්ඛුන්ද්‍රියාදිසු අසංවරො අධිකරණං නිදානං) එතස්සාති-'යදධිකරණං' යි වක්තව්‍ය කල්හි 'යත්වාධිකරණං' යි පූර්වපදයෙහි ප්‍රථමාර්ථයෙහි තො ප්‍රත්‍යය ද ඔහුගේ අලොපය ද කොට නිර්දේශය කරන ලදි.

රක්ඛණත්ථානං ය ඉච්ඡිතං ය යනු පද යි.

රක්ඛණමත්ථො යෙසං තෙ රක්ඛණත්ථා; කෙ තෙ? රක්ඛ-පාලනෙ, පාල-රක්ඛණෙ, පා-රක්ඛණෙ, ගුප-රක්ඛණෙ, තා-පාලනෙ, අව-රක්ඛණෙති එවමාදයො; රක්ඛිතබ්බා රක්ඛණා වා රක්ඛණා; රක්ඛණා ච තෙ අත්ථා චෙති රක්ඛණත්ථා; තෙසං රක්ඛණත්ථානං; එත්ථ ච පච්ඡිමෙ අත්ථවිකප්පෙ රක්ඛණත්ථානන්ති නිද්ධාරණෙ ඡට්ඨී; තස්මා රක්ඛිතබ්බානං අත්ථානං මජ්ඣෙ යං ඉච්ඡිතං තං කාරකමපාදානසඤ්ඤං හොතීති එවමත්ථො ගහෙතබ්බො, තත්‍රොදාහරණං "යවා පටිසෙධෙන්ති ගාවො ඛෙත්තො"ති

**අනිච්ඡිතං යථා-පාපා චිත්තං නිවාරයෙ, පාපා නිවාරෙන්ති රාජතො වා චොරතො වා අග්ගිතො වා උදකතො වා නානාභයතො වා නානාරොගතො වා නානාඋපද්දවතො වා ආරක්ඛං ගණ්හන්තු.**

---

අත්‍ර හි යවො රක්ඛිතබ්බො ඛෙත්තඤ්ච; තථා පි තෙසං යෙව රක්ඛනත්ථානමන්තරෙ යවො යෙව මුඛ්‍යතො රක්ඛිතබ්බ භාවෙන ඉච්ඡිතො න ඛෙත්තන්ති යවස්සෙවාපාදානසඤ්ඤා.

රක්ඛනත්ථානං ධාතූනං පයොගෙ, රක්ෂණය අභිධෙය කොට ඇති "රක්ඛ-පාලනෙ" යනාදි ධාතූන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි; යං ඉච්ඡිතං, යම් වස්තුවෙක් කැමති වන ලද ද; තං කාරකං අපාදානසඤ්ඤං හොති, ඒ කාරකය අපාදානසංඥ ඇත්තේ වේ.

චකාරාධිකාරතො, 'ධාතුනාමානං' යනාදි සූත්‍රයෙන් චකාර්‍යාගේ අනුවර්තනය හෙතුකොට ගෙන; අනිච්ඡිතඤ්ච, අනීප්සිත වස්තුව ද; 'අපාදානසඤ්ඤං හොති' සි යොදනු, රක්ඛනං ච, රක්ෂණ නමුදු; එත්ථ, මෙහි; නිවාරණං තායනං ච, නිෂෙධය ද පාලනය ද යන මේ දෙක සි; "රක්ඛනත්ථානමිච්ඡිතං" යන මේ සූත්‍රයෙහි 'රක්ඛන' යන ශබ්දය නිවාරණය ද පාලනය ද කියයි. එහෙයින් "යවා පටිසෙධෙන්ති ගාවො, කාකෙ වාරය මච්ඡමහා" යනාදි ප්‍රයොගය ද සිද්ධය සි තනි.

**තණ්ඩුලා, සහලින්; කාකො, කපුටුවන්; රක්ඛන්ති, වළකත්; යවා, යව ශස්‍යයෙන්; ගාවො, ගෙරි; පටිසෙධෙන්ති, වළකත්.**

**අනිච්ඡිතං යථා-අනීප්සිත වස්තුවට අපාදාන සංඥ මෙසේ සි. පාපා, පාපයෙන්; චිත්තං, සිත; නිවාරයෙ, වළකන්නේය; පාපා, අකුසලින්; නිවාරෙන්ති, වළකත්; රාජතො වා, රජුන්ගෙන් ද; චොරතො වා, සොරැ කෙරෙන් ද; අග්ගිතො වා, ගින්නෙන් ද; උදකතො වා, දියෙන් ද; නානාභයතො වා, නානාප්‍රකාර භයඞ්කර භය කාරණයෙන් ද; නානාරොගතො වා, නානාප්‍රකාර රොගයෙන් ද; නානාඋපද්දවතො වා, නානාප්‍රකාර උපද්‍රවයෙන් ද; ආරක්ඛං ගණ්හන්තු, දෙවනාගාදීහු භික්ෂුසඞ්ඝාදීන්ට ආරක්ෂා ගනිත්වා; මෙහි දෙවනාගාදීන් විසින් භික්ෂුසඞ්ඝාදීන් ම රක්ෂිතව්‍ය භාවයෙන් ඊප්සිත මුත් රාජාදීහු ඊප්සිත නො වෙත්නු සි 'රාජ**

**ඉච්ඡිතමිති වත්තතෙ.**

## 300. යෙන වා දස්සනං–2–6–4.

**යෙන අදස්සනමිච්ඡිතං අන්තරධායනෙන තං කාරකං අපාදානසඤ්ඤං හොති වා.**

**අන්තරධානෙවායං–උපජ්ඣායා අන්තරධායති සිස්සො–නිලීයතීති අත්ථො–මාතාපිතූහි අන්තරධායති පුත්තො.**

**වාති කිං? ජෙතවනෙ අන්තරහිතො.**

**යෙනාති කිං? යක්ඛා තත්ථෙවන්තරධායථ.**

---

නො වා' යනාදි අනීප්සිතයෙහි අපාදාන යි. එහි 'රක්ඛනත්ථානං' යනු 'අභිධම්මමධීතෙ' යනාදියෙහි අපාදාන සංඥා නො වන පිණිසය. 'ඉච්ඡිතං' යනු "හත්ථකො යවං රක්ඛති" යනාදියෙහි නො වන පිණිස යි. මෙහි හත්ථක තෙම හුදු තමා විසින් අභිමත බැලු නො ලැබේ දෝ හෝ යන සිතින් යව රක්ෂා කරත් මුත් රක්ෂිතව්‍ය භාවයෙන් මුඛ්‍ය ව ඉෂ්ට හෙයින් රක්ෂා කරන්නේ නො වෙයි. එහෙයින් 'රක්ඛති' යන සකර්මක ධාතුයොගයෙහි යවයට කර්මසංඥා වන්නී යි.

ඉච්ඡිතං ඉති, ඉච්ඡිතං යනු; වත්තතෙ, මතු සූත්‍රයෙහි වැටේ.

යෙන ය වා ය අදස්සනං ය යනු පද යි.

යෙන අදස්සනං, යමක්හු විසින් නො දක්ම; අන්තරධායනෙන ඉච්ඡිතං, සැඟවෙන්නහු විසින් කැමති වන ලද ද; තං කාරකං අපාදානසඤ්ඤං හොති, ඒ කාරකය අපාදානසංඥා ඇත්තේ වේ; උපාධ්‍යායාදි වූ යම් ද්‍රෂ්ටෘවක්හු විසින් කර්තව්‍ය වූ දර්ශනය සැඟවෙන ශිෂ්‍යාදි ද්‍රෂ්ටව්‍යයා විසින් නො කැමැති වන ලද ද උපාධ්‍යායාදි ඒ කාරකය විකල්පයෙන් අපාදානසංඥා ලබන්නේ ය යි තනි.

මෙහිද දිට්ඨි දස්සනං; න දස්සනං අදස්සනං යි දර්ශන ශබ්දයා හා සමස්‍යමාන වූ ද නඤ් තෙම පූර්වසූත්‍රයෙන් වැටෙන 'ඉච්ඡිත' ශබ්දයා හා සම්බන්ධයට යෙයි දතයුතු. මේ බඳු ස්ථාන යෙහි සමාස ද "ගමකත්තම්පි සමාසස්ස නිබන්ධනං" යන න්‍යාය හෙයින් සිද්ධය. එසේ ම නු—දස්සනං න ඉච්ඡිතං' යි කී කල්හි යම් අර්ථයෙක් ප්‍රතීයමාන වේ ද "අදස්සනං ඉච්ඡිතං" යි කී කල්හි ද හෙම අර්ථ ප්‍රතීයමාන වන්නේ යි.

අයං, මේ සූත්‍රාරම්භය; අන්තරධානෙච, නිලීයන විෂයෙහි මැ යි. "උපජ්ඣායා" යනාදි එහි උදාහරණ යි. සිස්සො, ශිෂ්‍ය තෙම; උපජ්ඣායා, උපාධ්‍යායයා කෙරෙහි; අන්තරධායති, අතුරු දන් වේ; සැඟවෙ යි සේ යි. මෙහි දර්ශනක්‍රියාවට කර්තෘ වූ උපාධ්‍යායයා විසින් තමාගේ අදර්ශනයට ද්‍රෂ්ටව්‍ය වූ අතුරුධන් වන කැමැති ශිෂ්‍ය තෙම හඳුරන්නට මැලි වේ උපාධ්‍යායයා විසින් කර්තව්‍ය වූ තමාගේ දර්ශනය හඳුරන්නට මැලි ශිෂ්‍ය තෙම නො කැමැති වෙයි යන අර්ථ යි. පුත්තො, පුත්‍ර තෙම; මාතාපිතූහි, මවුපියන් දෙන්නා කෙරෙහි; අන්තරධායති, සැඟවෙයි; මෙහිද අර්ථ එසේමැ යි.

වාති, සූත්‍රයෙහි වා යනු; කිං, කුමටය යත්; ජෙතවනෙ, ජෙතවනස්ථ ජනයා කෙරෙහි; අන්තරහිතො, සැඟවිණි; මෙහි ජෙතවනස්ථ වූ ද්‍රෂ්ටෘන් විසින් දර්ශනය ද්‍රෂ්ටව්‍යයා නො කැමැති කල්හි ද වා ශබ්දබලයෙන් අපාදානසංඥා නවෘත්ත වෙයි ජෙතවන ශබ්දයා කෙරෙන් පඤ්චමී නොව ආධාරයෙහි සප්තමී වන්නී යි. ජෙතවන යන මෙහි ද ජෙතවනස්ථයන් කෙරෙහි ය යන අර්ථ කිසේ හැගේ ද යත්? දර්ශනක්‍රියාවට ජෙතවනස්ථ ජනයා ම කර්තෘ වන් මුත් අචෙතන වූ ජෙතවනය කර්තෘ නොවේ නු යි "ගාමො ආගච්ඡති" යනාදියෙහි මෙන් ආධාරාධෙය දෙදෙනාගේ අභෙද විවක්ෂායෙන් ජෙතවන ශබ්දයෙන් ජෙතවනස්ථයන් ම ගත් බැව් ති. යෙනාති, යෙන යනු; කිං, කුමටය යත්; යක්ඛො, යක්ෂ තෙම; තත්ථෙව, එහි ම; අන්තරධායථ, අතුරුධන්ව ගියේ; මෙහි යක්ෂයා තමාගේ කායාර්ථයෙකින් ගිය බව මුත් අන්‍යජනයාගේ අදර්ශනය කැමැති ව නොගිය බැවින් අපාදානසංඥා නැත්නු යි 'තත්ථ' යි සප්තමීම වේ.

**301. දූරන්තිකද්ධකාලනිම්මානත්වාලොපදිසායොගවිභත්තාරප්පයොග සුද්ධප්පමොචනහෙතුවිවිත්තප්පමාණපුබ්බයොගබන්ධනගුණවචනපඤ්හකථනථොකාකත්තුසු ච-2-6-5.**

**දූරතො අන්තිකතො අද්ධනිම්මානෙ කාලනිම්මානෙ ත්වාලොපෙ දිසායොගෙ විභත්තෙ ආරතිප්පයොගෙ සුද්ධප්පයොගෙ පමොචනත්ථප්පයොගෙ හෙතුවතො විවිත්තත්ථයොගෙ පමාණතො පුබ්බයොගෙ බන්ධනත්ථයොගෙ ගුණවචනෙ පඤ්හෙ කථනෙ ථොකතො අකත්තරි ච යදවධිභූතං හෙතු කම්මාදිභූතං ච තං කාරකං අපාදාන සඤ්ඤං හොති.**

---

දූරන්තිකද්ධකාලනිම්මාන ත්වාලොපදිසායොග විභත්තාරප්පයොග සුද්ධප්පමොචන හෙතුවිවිත්තප්පමාණ පුබ්බයොගබන්ධන ගුණවචන පඤ්හකථනථොකාකත්තුසු යන පදය ච යනු පද යි.

දූරං ච අන්තිකං ච දූරන්තිකං; අද්ධා ච කාලො ච අද්ධකාලා, තෙසං නිම්මානං අද්ධකාලනිම්මානං; ත්වාපච්චයස්ස ලොපො ත්වාලොපො; දිසාහි යොගො දිසායොගො; විභජනං විභත්තං; ආරතිප්පයොගො ආරප්පයොගො; සුඛුච්චාරණත්ථං හෙත්ථ 'ති' සද්දො ලුත්තාතිදිට්ඨො. පුබ්බසද්දෙන යොගො පුබ්බයොගො; ගුණස්ස වචනං ගුණවචනං; න කත්තා අකත්තා; දූරන්තිකං ච අද්ධකාලනිම්මානං ච ත්වාලොපො ච දිසායොගො ච විභත්තං ච ආරප්පයොගො ච සුද්ධං ච පමොචනං ච හෙතු ච විවිත්තං ච පමාණං ච පුබ්බයොගො ච බන්ධනං ච පඤ්හා ච කථනං ච ථොකං ච අකත්තා ච දූරන්තිකද්ධකාලනිම්මානත්වාලොපදිසායොගවිභත්තාරප්පයොගසුද්ධප්පමොචනහෙතුවිවිත්තප්පමාණපුබ්බයොගබන්ධනගුණවචනපඤ්හකථනථොකාකත්තාරො, තෙසු.

දූරතො, දූරාර්ථයෙහි ද දූරාර්ථවාචී ශබ්දයන් හා ප්‍රයොගයක් ඇති කල්හි ද; අන්තිකතො, අන්තිකාර්ථ විෂයෙහි ද අන්තිකාර්ථවාචී ශබ්දයන් හා ප්‍රයොගයක් ඇති කල්හි ද; අද්ධනිම්මානෙ, මාර්ගපරිමාණයක් ගම්‍යමාන කල්හි ද; කාලනිම්මානෙ, කාලපරිමාණයක් ගම්‍යමාන කල්හි ද; ත්වාලොපෙ, ත්වාප්‍රත්‍යයාගේ ලොප

යක් ඇති කල්හි ද; දිසායොගෙ, දිග්වාචි ශබ්දයන් හා යොගයක් ඇති කල්හි ද; විභත්තෙ, (ස්වයං විභක්තයාගේ ම අතිකාක්හු කෙරෙන් ගුණ හෙයින්) වෙන් කිරීමක් ඇති කල්හි ද; ආරතිපප යොගෙ, විරමණාර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; සුද්ධප්පයොගෙ, පරිශුද්ධාර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; පමොචනත්ථප්පයොගෙ, පරිමොචනාර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; හෙත්වත්ථෙ, හෙත්වර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; විවිත්තත්ථයොගෙ, විවික්තාර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි ද; පමාණත්ථෙ, පරිමාණාර්ථ යක් හැඟෙන කල්හි ද; පුබ්බයොගෙ,(ප්‍රථමාර්ථවාචි)පූර්වශබ්දයා හා යොගයක් ඇති කල්හි ද; බන්ධනත්ථයොගෙ, බන්ධනාර්ථවාචි ශබ්ද යන් හා ප්‍රයොගයක් ඇති කල්හි ද; ගුණවචනෙ, ඵලසාධන හෙතු වූ ඓශ්වර්යාදි ගුණයාගේ කථනයක් ඇති කල්හි ද; පඤ්හෙ, ප්‍රශ්නයක් ගම්‍යමාන කල්හි ද; කථනෙ, විසඳීමක් හැඟෙන කල්හි ද;ථොකත්ථෙ,ස්තොකාර්ථ විෂයෙහි ද; අකත්තරි ච, ඥාපක හෙතු සඞ්ඛ්‍යාත අකාරක විෂයෙහි ද; අවධිභූතං, පදාර්ථය නට සීමා වූ ද; හෙතුකම්මාදිභූතං ච, හෙතු කර්මකරණ අධිකරණ ස්වාමි වූ ද; යං, යමෙක් ඇද් ද; තං කාරකං, හේ කාරකය ද අකාරකය ද; අපාදානසඤ්ඤං හොති, අපාදාන සංඥා ඇත්තේ වේ; මෙහි 'කාරකං' යි භූයොවෘත්තීන් ක්හු—දූරාර්ථය ද දූරාර්ථ ශබ්දප්‍රයොගයක් ද ඇති කල්හි අන්‍ය වූ අවධි ද අනතිකාර්ථය ද අනතිකාර්ථශබ්දප්‍රයොගයක් ද ඇති කල්හි එයට ස්වාමිභූතයා ද අධ්වකාලපරිමාණයක් ගම්‍යමාන කල්හි මර්යාදාර්ථය ද ත්වාලො පයක් හැඟෙන කල්හි කර්මකාරකය හා අධිකරණ කාරකය ද දිගර්ථය ද දිගර්ථශබ්දප්‍රයොගයක් ද ඇති කල්හි සීමාභූතය ද විභ ජනාර්ථයක් කිය යුතු කල්හි අධිකාර්ථ ද පරිමාණාර්ථ ශුද්ධාර්ථ පරිමො චනාර්ථශබ්දප්‍රයොගයක් ඇති කල්හි මර්යාදාර්ථය ද කාරකහෙතුව ද විවික්තාර්ථයොගයක් ඇති කල්හි සීමාර්ථය ද දිගර්ථවාචි පූර්වාදි ශබ්දප්‍රයොගයක් ඇති කල්හි අවධිභූතය ද බන්ධනාර්ථ යොගයක් ඇති කල්හි බන්ධනහෙතු වූ ඍණය ද ඵලසාධන හෙතු වූ ගුණය ද ප්‍රශ්නොත්තරයක් ඇති කල්හි පෘච්ඡිතව්‍යයා හා විසර්ජිතව්‍යයා ද ස්තොකාර්ථයක් කිය යුතු කල්හි අද්‍රව්‍ය වූ කාරණය ද ඥාපක හෙතුව ද මෙයින් අපාදාන සංඥා ලබන්නේය යි සී තති.

**ච සද්දෙන යථායොගං දුතියා තතියා ඡට්ඨී ච.**

**එත්ථ දූරන්තිකඤ්ච දූරන්තිකත්ථඤ්චාති දූරන්තිකන්ති සරූපෙක සෙසං කත්වා වුත්තන්ති දට්ඨබ්බං-තෙන දූරන්තිකත්ථප්පයොගෙ තදත්ථෙ ච අපාදානසඤ්ඤා හොති.**

**දූරත්ථප්පයොගෙ තාව-කීව දූරෙ ඉතො නළකාර ගාමො, තතො භවෙ දූරතරං වදන්ති, ගාමතො නාතිදූරෙ, ආරකා තෙ මොඝපුරිසා ඉමස්මා ධම්මවිනයා, ආරකා තෙහි භගවා.**

**දූරත්ථෙ-දූරතොව නමස්සන්ති, අද්දස දූරතොව ආගච්ඡන්තං.**

**අන්තිකත්ථප්පයොගෙ-අන්තිකං ගාමා, ආසන්නං ගාමා, සමීපං ගාමා ගාමස්ස සමීපන්ති අත්ථො.**

**දුතියා ච තතියා ච-දූරං ගාමං ආගතො දූරෙන ගාමෙන ආගතො-දූරතො ගාමා ආගතොති අත්ථො, දූරං ගාමෙන වා, අන්තිකං ගාමං ආගතො අන්තිකං ගාමෙන වා, ආසන්නං ගාමං ආසන්නං ගාමෙන වා ඉච්චාදි.**

---

ච සද්දෙන, සූත්‍රයෙහි ච ශබ්දයෙන්; යථායොගං, ප්‍රයොගානුරූපයෙන් සමහර තැනෙක්හි; දුතියා තතියා ඡට්ඨී ච, ද්විතීයා තෘතීයා ෂෂ්ඨී යන මොහු ද වෙත්.

එත්ථ, මෙහි; දූරන්තිකඤ්ච දූරන්තිකත්ථඤ්චාති, 'දූරන්තිකඤ්ච දූරන්තිකත්ථඤ්ච' යන අර්ථයෙහි සමාස කොට; දූරන්තිකන්ති, 'දූරන්තිකං' යි; සරූපෙකසෙසං කත්වා වුත්තන්ති දට්ඨබ්බං, සමානරූප ඇති පදයන් අතුරෙහි එකක්හුගේ ශෙෂය කොට කියන ලදැ යි දතයුතු ය; තෙන, ඒ සවරූපෛකශෙෂනයින් 'දූරන්තිකං' යි කී බැවින්; දූරන්තිකත්ථප්පයොගෙ, දූරාර්ථ අන්තිකාර්ථ ඇති ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි සෙස්ස වුත්ට ද; තදත්ථෙ ච, ඒ දූරාර්ථ අන්තිකාර්ථ විෂයෙහි ද; අපාදාන සඤ්ඤා හොති, අපාදානසංඥා වන්නී යි—'දූරන්තිකඤ්ච දූරන්තිකඤ්ච' යන අර්ථයෙහි ද්වන්ද්ව සමාසකොට 'දූරන්තිකං දූරන්තිකං' යි වක්තව්‍ය කල්හි "සරූපානමෙකසෙසව්සකිං" 2-8-45 යන සූත්‍රයෙන් 'දූරන්තික' ශබ්දයන් දෙන්නා කොරෙන්

එකක් හට ලොප කොට 'දූරන්තිකං' යි කී බැවින් දූරාර්ථයන්ට ද දූරාන්තිකාර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයෙහි අන්‍යයන්ට ද අපාදාන සංඥ වන්නීය යි යු තති—මෙහි ද දූරාර්ථ නම් අනාසන්නාර්ථ යි. දූර ය අනාසන්ති ය අනන්තික ය අසමීප ය ආරක ය යනාදි පර්‍ය්‍යාය යි. අන්තිකාර්ථ නම් ආසන්නාර්ථ යි. අන්තික ය ආසන්ති ය ආසන්න ය අදූර ය සමීප ය සන්තික ය යනාදි පර්‍ය්‍යාය යි.

තාව, පළමු කොට; දූරත්ථප්පයොගෙ, දූරාර්ථ ඇති ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි අපාදාන සංඥ දක්වනු ලැබේ. නළකාරගාමො, නළකාර චණ්ඩාලයන්ගේ ග්‍රාමය තෙම; ඉතො කීව දූරෙ, මෙයින් කිපමණ දුර ද; තතො, ඒ නභඃ පෘථිවීන්ට වඩා; හවෙ දූරතරං වදන්ති, සත්පුරුෂ ධර්ම අසත්පුරුෂධර්ම දෙක ඒකාන්තයෙන් අන්‍යොන්‍යයන් හට අතිදූරය යි කියත්,(මේ උදාහරණය විභක්ත්‍යර්ථයට යෙදෙ යි හැගේ;) ගාමතො, ග්‍රාමයෙන්; නාතිදූරෙ, අතිදූර නො වන තැන යි; තෙ මොඝපුරිසා, ඒ නිරර්ථක පුරුෂයෝ; ඉමසමා ධම්මවිනයා, මේ ධර්ම විනය දෙකින්; ආරකා, දුරු යි; භගවා, භගවත් තෙම; තෙහි, ඒ අසත්පුරුෂයන් කෙරෙන්; ආරකා, සුවිදූර යි.

දූරත්ථෙ, දූරාර්ථයෙහි අපාදාන සංඥ කියනු ලැබේ; දූරතොව, දුරින් ම; නමස්සන්ති, වදිත්; ආගච්ඡන්තං, එන්නහු; දූරතොව, දුරින් ම; අද්දස, දිටී.

අන්තිකත්ථප්පයොගෙ,අන්තිකාර්ථවාචි වූ ශබ්දයන්ගේ ප්‍රයොගයෙහි අපාදානසංඥ දක්වනු ලැබේ; "අන්තිකං ගාමා" යනාදි එහි උදාහරණ යි. ගාමස්ස සමීපන්ති, ග්‍රාමයාගේ සමීපය යනු; අත්ථො, 'අන්තිකං ගාමා' යන ආදියෙහි අර්ථ යි.

දුතියා ච තතියා ච, මේ සූත්‍රයෙහි ච ශබ්දයෙන් වක්ෂ්‍යමාණ වූ 'දූරං ගාමං' යනාදියෙහි ලා පඤ්චමී විෂයෙහි ද්විතීයා විභක්ති ද තෘතීයා විභක්ති ද වන්නී යි; දූරං ගාමං, දූරගමින්; ආගතො, ආයේය; දූරෙන ආගතො, මෙම අර්ථයෙහි දූරෙන ආගතො කියා හෝ වේ; දූරතො, අනාසන්න වූ; ගාමා,ග්‍රාමයෙන්; ආගතොති, ආයේය යන; අත්ථො, අභිප්‍රාය යි; දූරං වා, මෙම අර්ථයෙහි දූරං යනු හෝ වේ; අන්තිකං, ආසන්න වූ; ගාමං, ග්‍රාමයෙන්; ආගතො,ආයේය—මෙම අර්ථයෙහි අන්තිකං ගාමෙන

**අද්ධකාලානං නිම්මානං නාම පරිමාණං, තස්මිං ගම්‍යමානෙ-ඉතො මධුරාය චතූසු යොජනෙසු සංකස්සං, රාජගහතො පඤ්චචත්තාලීස යොජනමත්තෙ සාවත්ථි.**

**කාලනිම්මානෙ-ඉතො එකනවුතිකප්පමත්තෙ විපස්සී භගවා ලොකෙ උදපාදි, ඉතො වස්සසහස්සස්ස අච්චයෙන බුද්ධො ලොකෙ උප්පජ්ජිස්සති.**

**ත්වාපච්චයන්තස්ස ලොපො නාම තදත්ථ සමභවෙපි අවිජ්ජමානතා, තස්මිං ත්වා ලොපෙ කම්මාධිකරණෙසු-පාසාදං සඞ්කමෙය්‍ය, පාසාදමභිරුහිත්වා සඞ්කමෙය්‍යාති අත්ථො-හත්ථික්ඛන්ධා සඞ්කමෙය්‍ය, අභිධම්මා පුච්ඡන්ති අභිධම්මං සුත්වා වා-අභිධම්මා කථයන්ති අභිධම්මං පඨිත්වා වා, ආසනා වුට්ඨහෙය්‍ය ආසනෙ නිසීදිත්වා වා.**

---

යතු හෝ වේ; ආසන්නං ගාමේන වා යතු ද එසේමැ යි. ඉච්චාදී, යන මේ ආදිය වේ—'දූරං ගාමේන' යන මෙහි විශෙෂ්‍ය වූ ග්‍රාම ශබ්දයා කෙරෙන් තෘතීයා ය. විශෙෂණ වූ දූරශබ්දයා කෙරෙන් ද්විතීයා යි. "අන්තිකං ගාමේන, ආසන්නං ගාමේන" යන මෙහි ද එසේ මැ යි. විශෙෂ්‍යයා කෙරෙහි පැනෙන ලිඞ්ග සඞ්ඛ්‍යා විභක්තීහු තුල්‍යාධිකරණ වූ විශෙෂණයා කෙරෙන් බාහුල්‍යයෙන් වෙති යි කී බැවින් මෙහි විශෙෂ්‍යයා කෙරෙහි පැනෙන තෘතීයා විභක්ති ම විශෙෂණයා කෙරෙහි නො කොට ද්විතීයා විභක්ති ම කරන ලද යි දතයුතු.

අද්ධකාලානං, මාර්ගකාල දෙදෙනාගේ; නිම්මානං නාම, නිර්මාණ නම්; පරිමාණං, ප්‍රමාණය යි; තස්මිං ගම්‍යමානෙ, එය හැඟෙන කල්හි අපාදාන සංඥ දක්වනු ලැබේ; ඉතො මධුරාය, මේ මධුරා නම් නුවරින්; චතූසු යොජනෙසු, සතරයොදනෙක්හි; සංකස්සං, සකස්පුරය යි-මධුරා නම් නුවරට සකස් නම් පුරය සතර යොදනෙකින් මත්තෙහි ය යි සේ යි. රාජගහතො, රාජගෘහ නගරයෙන්; පඤ්චචත්තාලීස යොජනමත්තෙ, පන්සාලිස් යොදනෙකින් මත්තෙහි; සාවත්ථි, ශ්‍රාවස්ති නම් නුවර යි-රජගහ නුවරට සැවැත්නුවර පන්සාලිස් යොදනකින් මත්තෙහි විය යි සේ යි. මේ අධ්වනිර්මාණයෙහි උදාහරණ යි.

කාලනිම්මානෙ, කාලනිර්මාණයෙහි උදාහරණ දක්වනු ලැබේ; ඉතො, මෙ කපින්; එකනවුතිකප්පමත්ථකෙ, පූර්ව කොටි වශයෙන් එකානූකපකින් මත්තෙහි; විපස්සී භගවා, විදර්ශි නම් භාග්‍යවත් තෙම; ලොකෙ උදපාදි, ලොකයෙහි පහළ වී–මෙ කපට යට එකානූ කපකින් මත්තෙහි විදර්ශි නම් තථාගත තෙම සත්ව ලොකයෙහි උපනැ යි සේ යි. ඉතො, මේ සංවත්සරයෙන්; වස්ස සහස්සස්ස අච්චයෙන, සංවත්සර සහස්‍රයක්හු ඇවෑමෙන්; බුද්ධො, සර්වඥ තෙම; ලොකෙ උප්පජ්ජිස්සති, ලොකයෙහි උපදනේ යි– මේ හවුරුද්ද හිමිකොට හවුරුදු දහසක් ගිය කල බුදුකෙනෙක් ලොව උපදිති යි සේ යි. මේ කාල නිර්මාණයෙහි උදාහරණ යි.

ත්වාපච්චයන්තස්ස, ත්වාප්‍රත්‍යයාන්ත පදයාගේ; ලොපො නාම, ලොප් නම්; තදත්ථසම්භවෙපි, ඒ ත්වාප්‍රත්‍යයාන්ත පදයාගේ අර්ථ සම්භවයක් ඇති කල්හි ද; අවිජ්ජමානතා, ඔහුගේ අවිද්‍යමාන බව යි. ‘පාසාදා සඞ්කමෙය්‍ය’ යනාදියෙහි අභිරොහණාර්ථ සම්භව යක් ඇති කල්හි ද “අභිරුහිත්වා” යනාදි ත්වාන්තයාගේ අනුච්චා රණය මෙහි ත්වාලොප නමැ යි තති. තස්මිං ත්වාලොපෙ, ඒ ත්වාලොපය ගම්‍යමාන කල්හි; කම්මාධිකරණෙසු, කර්ම අධිකරණ විෂයෙහි අපාදාන සංඥා දක්වනු ලැබේ; පාසාදා, ප්‍රාසාදයට නැඟී; සංකමෙය්‍ය, යන්නේ යි; මෙහි අභිරොහණ ක්‍රියා සම්බන්ධයක් ඇති කල්හි ඒ ක්‍රියාව වාචක වූ ත්වාන්තයා අප්‍රයුක්ත හෙයින් ප්‍රාසාදයට කර්මසංඥා නොව අපාදාන සංඥා වන්නී යි. “පාසාද මභිරුහිත්වා” යන මෙහි වනාහි ත්වාන්ත ප්‍රයුක්ත හෙයින් අපාදාන සංඥා නො ව කර්මසංඥා වන්නී යි. මත්තෙහි ද මෙ ම නය යි. හත්ථික්ඛන්ධා සංකමෙය්‍ය, ‘හත්ථික්ඛන්ධා සංකමෙය්‍ය’ යනු ද; තථා, එසේ මැ යි; “හත්ථික්ඛන්ධමභිරුහිත්වා සඞ්කමෙය්‍ය” යි තති. අභි ධම්මා, අභිධර්මපිටකය අසා; පුච්ඡන්ති, අභිධර්මය විචාරත්; අභි ධම්මං සුත්වා වා, “අභිධම්මං සුත්වා පුච්ඡන්ති” කියා හෝ වේ; අභිධම්මා, අභිධර්මය පඨනය කොට; කථයන්ති, අභිධර්මය කියත්; මේ හැම කර්මකාරක විෂයෙහි ප්‍රයොග යි. ආසනා, ආසනයේ හිඳ; වුට්ඨහෙය්‍ය, නැඟී සිටින්නේ යි; මෙහි ත්වාන්තයා අප්‍රයුක්ත හෙයින් ආසනයට අවකාශ සංඥා නොව අපාදාන සංඥා වන්නී යි. “ආසනෙ නිසීදිත්වා වුට්ඨහෙය්‍ය” යන මෙහි වනාහි ත්වාන්තයා ප්‍රයුක්ත හෙයින් අපාදානසංඥා නොව අවකාශ සංඥා ම වන්නී යි. මේ ආධාරකාරක විෂයෙහි ප්‍රයොග යි. මෙහි දු ‘ත්වාලොපෙ’ යි ත්වාන්තයාගේ ලොපය අවිශෙෂයෙන් කී කල්හි “පාසාද

**දිසත්ථවාචීහි යොගෙ දිසත්ථෙ ච-ඉතො සා පුරිමා දිසා, ඉතො සා දක්ඛිණා දිසා, ඉතො සා පච්ඡිමා දිසා, ඉතො සා උත්තරා දිසා-අවීචිතො උපරි භවග්ගං-උද්ධං පාදතලා අධො කෙසමත්ථකා ඉච්චාදි.**

**දිසත්ථෙ පුරත්ථිමතො දක්ඛිණතොති ආදි-එත්ථ පන සත්තමියත්ථෙ තොපච්චයොපි භවිස්සති.**

**විභත්තං නාම සකං විභත්තස්සෙව තදඤ්ඤතො ගුණෙන විභජනං තස්මිං විභත්තෙ-යතො පණීතතරෙ වා, විසිට්ඨතරෙ වා නත්ථි-අත්තදන්තො තතො වරං-කිඤ්චාපි දන්තො සීලමෙව වරං-තතො මයා අසුතෙන වා බහුතරං සුතං-සීලමෙව සුතා සෙය්‍යො.**

**ඡට්ඨී ච-ඡන්නවුතීනං පාසණ්ඩානං පවරං යදිදං සුගත විනයො.**

---

සඞ්කමෙය්‍ය" යනාදි උදාහරණයෙහි "අභිරූහිත්වා" යනාදි ත්වාන්තයාගේ ම ලොපය කිසේ හැගේ ද යත්? සංක්‍රමණාදි ක්‍රියාවන් තමන් අභිරොහණාදි ක්‍රියාවන් ම පූර්‍ව කොට ඇති හෙයිනි. එසේ ම ප්‍රාසාදාදි සංක්‍රමණය තෙම තදභිරොහණය හැර අසිද්ධය. අභිධර්‍ම පෘච්ඡාව හා තත්කථනය ද අභිධර්‍මියාගේ ශ්‍රවණය හා වාචොද්ගතාදි කාරණ වශයෙන් පඨනය නැති ව සිද්ධ නො වෙයි. ආසනස්ථානය ද ආසනයෙහි නිසීදනය විනා නො වේ නු යි සංක්‍රමණාදිය තෙම අභිරොහණාදිය පූර්‍වකොට ඇත්තේ යි.

දිසා ච දිසායොගො ච දිසාදිසායොගො යි වක්තව්‍ය කල්හි එකශෙෂ කොට 'දිසායොගෙ' යි කී බැවින් දිගර්‍ථවාචි ශබ්ද යන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි සෙස්සන්ට ද දිගර්‍ථවාචි ශබ්ද යන්ට ද අපාදානසංඥ වන්නීය යි දක්වනුවෝ "දිසත්ථ වාචීහි යොගෙ දිසත්ථෙ ච" යි කීහු. දිසත්ථවාචීහි යොගෙ, දිශාර්‍ථවාචී ශබ්දයන් හා යොගයෙහි ද; දිසත්ථෙ ච, දිශාර්‍ථයෙහි ද උදාහරණ දක්වනු ලැබේ. ඉතො, මේ අවධි කෘත දෙශයෙන්; සා පුරිමා දිසා, හේ පූර්‍වදිග ය; "ඉතො සා දක්ඛිණා දිසා" යනාදියෙහි ද අර්‍ථ මෙසේ ම දතයුතු. අවීචිතො, අවීචිමහනරකයෙන්; උපරි, මත්තෙහි; භවග්ගං, භවාග්‍රය ගසා; "අනන්තරං න මයා විසිට්ඨතරං සමනු පස්සාමි" යි යොදනු. පාදතලා උද්ධං, පාදතලයෙන් මත්තෙහි; කෙසමත්ථකා අධො, කෙශාග්‍රයෙන් යට; "තචපරියන්තං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති" යි යොදනු.

දිසත්ථෙ, දිගර්ථයෙහි; පුරත්ථිමතො දක්ඛිණතොති ආදි, පුරත්ථිමතො දක්ඛිණතො යනාදි උදාහරණ යි. මෙහි ආදි ශබ්ද යෙන් "පච්ඡිමතො උත්තරතො වා යතො අස්සොසුං භගවන්තං" යනු ගත්හු. පුරත්ථිමතො, පැදුම් දිශාභාගයෙන් හෝ; දක්ඛිණ තො, දකුණුදිශාභාගයෙන් හෝ; පච්ඡිමතො, පැළදිග්භාග යෙන් හෝ; උත්තරතො වා, උතුරු දිග්භාගයෙන් හෝ; යතො, යම් දිග්භාගයෙකින්; භගවන්තං, භගවත්හු; අස්සොසුං, ඇසූහු ද යන මෙහි අර්ථ යි. එත්ථ පන, 'පුරත්ථිමතො' යනාදි මේ ප්‍රයොගයෙහි; සත්තමියත්ථෙ තොපපච්චයොපි, සප්තම්‍යර්ථ යෙහි තො ප්‍රත්‍යය ද; භවිස්සති, ("ක්වචි තො" යන යොගවිභාග යෙන්) වන්නේ යි; මේ පක්ෂයෙහි; පුරත්ථිමතො, පැදුම් භාගයෙහි හෝ; දක්ඛිණතො, දකුණුදිග්භාගයෙහි හෝ; යනාදීන් අර්ථ කියයුතු.

'විභත්තං නාම විභජතං' යි යොදනු. විභත්තා නාම විභක්ත නම්; සයං විභත්තස්සෙව, තමා විසින් වෙන් ව සිටියහුගේ ම; තදඤ්ඤතො, ඒ ස්වයං විභක්තය හැර අනිකෙකු කෙරෙන්; ගුණෙන විභජනං, ගුණහෙයින් පෘථක් කරණය යි–පෙර ම සමුදායයා කෙරෙන් විනිර්මුක්ත ව සිටි වස්තුහුගේ ම කිසි ගුණයක් හෙතු කොට ගෙන එයින් අන්‍යවස්තුවෙකින් වෙන් කිරීම මෙහි විභක්ත නම් වෙයි සේ යි. කුම යු තැන යත්? "සාමා නාරීනං දස්සනීයතමා" යනාදියෙහි මෙන් අවිභක්ත විභජනය මෙහි අභිමත නො වෙයි "ඡන්නවුතීනං පාසණ්ඩානං පවරං යදිදං සුගත විනයො" යනාදියෙහි මෙන් විභක්ත විභජනය ම අභිමතය යි තනි, එසේ ම නු—"සාමා නාරීනං දස්සනීයතමා" යි කී කල්හි නාරිසමුදායයා කෙරෙන් සාමා තොම අවිනිර්මුක්ත වූවාම ගුණ හෙයින් වෙන් කරනු ලැබෙ යි; 'ඡන්නවුතීනං පාසණ්ඩානං ධම්මානං පවරං යදිදං සුගතවිනයො" යි කී කල්හි ඡන්නවුති පාසාණ්ඩධර්ම සඞ්ඛ්‍යාත සමුදායයා කෙරෙන් 'සුගතවිනය' ය යි එකදෙශය තෙම විනිර්මුක්ත වූයේ ම ඒ ඡන්නවුතිපාසාණ්ඩයා හා සමඟ ගුණ හෙයින් වෙන් කරනු ලැබේ. එහි දු අවිභක්ත විභජනය තෙම "නිද්ධාරණෙ ච 2–6–34" යන සූත්‍රයට විෂය යි තස්මිං විභත්තෙන, ඒ විභක්ත විභජනය ගම්‍යමාන කල්හි අපාදාන සංඥා වන්නී යි. යතො, යම් නිර්ධාරනීය ධර්මයකට වඩා; පණීත තරො වා, අතිශයින් ප්‍රණීත ධර්මයෙක් හෝ; විසිට්ඨ තරො වා, අතිශයින් අධික ධර්මයෙක් හෝ; නත්ථි, නැත් ද; අත්තදනතො,

**ආරතිප්පයොගො නාම විරමණත්ථසද්දප්පයොගො-තත්ථ- ආරති විරති පාපා, පාණාතිපාතා වෙරමණී, අදින්නාදානතො පටිවිරතො, අප්පටිවිරතො මුසාවාදා.**

**සුද්ධප්පයොගෙ-ලොභනීයෙහි ධම්මෙහි සුද්ධො අසංසට්ඨො-මාතිතො ච පිතිතො ච සුද්ධො අනුපක්කුට්ඨො අගරහිතො.**

**පමොචනත්ථප්පයොගෙ-පරිමුත්තො දුක්ඛස්මාති වදාමි-මුත්තො මාරබන්ධනා-න තෙ මුච්චන්ති මච්චුනා-මුත්තොහං සබ්බපාසෙහි.**

---

තමා විසින් ම දැමුණේ; තතො වරං, ආජානීයාදීන්ට වඩා උතුම්; කිඤ්චාපි, කිසිසේත්; දන්තො, දන්තයට වඩා; සීලමෙව වරං, පඤ්චාඞ්ගාදි ශීලය ම උතුම්; තතො, ඕහට වඩා; මයා, මා විසින් හෝ; අසුකෙන වා, අසවල්හු විසින් හෝ; සුතං, ශ්‍රැතස්ථාන; බහුතරං, අතිශයින් බෙහෙව; සුතා, ශ්‍රැතයට වඩා; සීලමෙව, පඤ්චාඞ්ගාදි ශීලය ම; සෙය්‍යො, අතිශයින් ප්‍රශස්තය.

ඡට්ඨී ච, මේ සූත්‍රයෙහි ච ග්‍රහණයෙන් ම විභක්ත්‍යර්ථයෙහි ෂෂ්ඨී ද වන්නී සි; ඡන්නවුතීනං, සයානුවක් පමණ ඇති; පාසණ්ඩානං, තෘෂ්ණාපාශ දෘෂ්ටිපාශයෙන් ඔඩ්ඩනය කරන හෙයින් පාෂාණ්ඩය සි කියන ලද පරප්පවෙදිත සමයවාදයන්ට වඩා; යදිදං සුගත විනයො, යම් මේ සුගත විනයෙක් ඇද් ද; පවරං, හේ උතුම්—මෙහි 'යදිදං' යනු සියලු ලිඞ්ගවිභක්ති වචනයන් කෙරෙහි එකාකාරයෙන් වූ නිපාතයෙකි. එහෙයින් මේ "සුගත විනයො" යනු බලා "යො අයං" සි පෙරළිය යුතු.

ආරතිප්පයොගො නාම, ආරතිප්පයොග නම්; විරමණත්ථසද්දප්පයොගො, විරතිය අර්ථ කොට ඇති ආරති විරති ශබ්දයන්ගේ ප්‍රයොග සි; තත්ථ, ඒ විරමණාර්ථ ශබ්දප්‍රයොගයාගේ විෂයෙහි සෙස්සන්ට අපාදාන සංඥා වන්නී සි; පාපා, දුශ්චරිතයෙන්; ආරති, මනසින් අනභිරතිය; විරති, කායවාක් දෙකින් විරමණය ය; පාණාතිපාතා, පාණාතිපාත සඞ්ඛ්‍යාත වූ ජීවිතෙන්ද්‍රියයාගේ හෝ සත්ත්වයාගේ ශීඝ්‍රපාතන ප්‍රයොග සමුත්ථාපිකා වූ වධකචෙතනාවෙන්; වෙරමණී, වැළැක්ම ය; අදින්නාදානතො, කායවාක් දෙකින් අදින්නවස්තුහුගේ ග්‍රහණප්‍රයොග සමුත්ථාපිකා වූ ථෙන

**හෙත්වත්ථෙ සරූපෙකසෙසස්ස ගහිතත්තා හෙත්වත්ථප්පයොගෙ ච සබ්බනාමෙහි-තස්මා නු තුම්හෙ දහරා න මීයථ-කස්මා ඉධෙව මරණං භවිස්සති-කස්මා හෙතුනා-යස්මා ච කම්මානි කරොන්ති-යස්මාතිහ සික්ඛෙථ-තස්මාතිහ සික්ඛෙථ එවං සික්ඛිතබ්බං-තස්මා බුද්ධොස්මි බ්‍රාහමණ-යස්මා කාරණා-තස්මා කාරණා-කිංකාරණා.**

**දුතියා ජට්ඨී ච-කිං කාරණං, කං කිස්ස හෙතු,කිස්ස තුම්හෙ කිලමථ, කෙන හෙතුනා, යෙන කාරණෙන,යෙනම්හෙධකමෙව සත්තා, තෙන නිමිත්තෙන, තෙන වුත්තම්ච්චාදිසු "හෙත්වත්ථෙ චා"ති තතියා.**

---

චෙතනාවෙන්; පටිවිරතො, වැළැක්කා; මුසාවාදා, මෘෂා සඞ්ඛ්‍යාත අභූත වස්තුහුගේ භූත කොට කීමැයි කියන ලද මෘෂාවාද ප්‍රයොග උපදවන්නා වූ විසංවාදකචෙතනාවෙන්; අප්පටිවිරතා, නො වැළැක්කාහ.

සුද්ධප්පයොගෙ, "සුධ-සොචෙය්‍යෙ" යන ධාතුහුගේ හා තදර්ථ වාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි අපාදාන සංඥ වන් නීය. ලොභනීයෙහි ධම්මෙහි, ලොභ කටයුතු වූ නොහොත් ලොභයහට හිත වූ ධර්මයන්කෙරෙන්; සුද්ධො, සුද්ධා යි සේ යි; අසංසට්ඨො, අමිශ්‍රය; මාතිතො ච පිතිතො ච, මාතෘපක්ෂයෙන් ද පිතෘපක්ෂයෙන් ද; සුද්ධො, ශුද්ධය; අනුපක්කුට්ඨො, ගොත් ඇ දක්වා උපක්‍රොශ කට යුතු නො වෙයි; අගරහිතො, අනින්දිත ය- අසංසට්ඨ ය අනුපක්කුට්ඨ ය අගරහිත ය යනු ශුද්ධ පර්‍ය්‍යාය යි.

පමොචනත්ථප්පයොගෙ, "මුච-මොචනෙ" යන ධාතුහුගේ හා තදර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි අපාදාන සංඥ වන්නී යි; දුක්ඛස්මා, දුඃඛයෙන්; පරිමුත්තොති වදාමි, මිදුණැ යි කියමි; මාරබන්ධනා, කෙලශ බන්ධනයෙන්; මුත්තො, මිදිණි; තෙ, ඔහු; මච්චුනා, මරණු කෙරෙන්; න මුච්චන්ති, නො මිදෙත්; අහං, මම; සබ්බපාසෙහි, සියලු කෙලශපාශයෙන්; මුත්තො, මිදිණිමි.

හෙත්වත්ථෙ, කාරණ සඞ්ඛ්‍යාත හෙත්වර්ථයක් හැඟෙන කල්හි ද; සරූපෙකසෙසස්ස ගහිතත්තා, (හෙතු ච හෙත්වත්ථො ච=හෙතු යි මෙසේ) සරූපෛකශෙෂයාගේ ගත්තා ලද බව හෙතුකොට ගෙන; හෙත්වත්ථප්පයොගෙ ච, හෙත්වර්ථවාචි ශබ්දයන්ගේ ප්‍රයොග

යක් ඇති කල්හි ද; සබ්බනාමතො, සර්වනාම ශබ්දයා කෙරෙන් පර ව; පඤ්චමී වන්නීය යි යොදනු—මෙහි සබ්බනාමතො යන වචනයෙන් හේත්වර්ථයක් ගම්‍යමාන කල්හි කෙවල වූ යත්තදාදි සර්වනාමයන් කෙරෙන් ද හෙතුවාචිශබ්ද ප්‍රයොග යක් ඇති කල්හි ඒ හෙතුවාචි ශුද්ධනාමයන් කෙරෙන් හා තත්සමානාධිකරණ වූ යථොක්ත සර්වනාමයන් කෙරෙන් ද පඤ්චමිය වන්නීය යි ඥාපිත ය. එහෙයින් යථොක්ත සර්ව නාමයන්ට සමානාධිකරණ වූ හෙතුවාචි ශුද්ධනාමයන්ට ද මෙයින් අපාදාන සංඥා වන්නී යි. එයින් කියත් "කස්මා හෙතුනා, යස්මා කාරණා, තස්මා කාරණා" යි. "කාරණත්ථෙ ච" 2-6-26" යන සූත්‍රයෙන් විධීයමාන පඤ්චමී විභක්ති වනාහි කාරණ හෙතුවක්හු ම කියයුතු කල්හි "අනනුබොධා අප්පටිවෙධා" යනාදියෙහි ශුද්ධනාමයා කෙරෙන් ම වන්නීය යි දතයුතු දහරු, තරුණ වූ; තුම්හෙ, තෙපි; කස්මා න මීයථ, කවර හෙතුවකින් නො මියහු ද? කස්මා, කවරහෙතුවකින්; ඉධෙව, මෙහි ම; මරණං, මරණ ය; භවිස්සති, වන්නේ ද? කස්මා හෙතුනා, කවර හෙතුව කින්; යස්මා ච, යම් කාරණයෙකින්; කාමමානි,කාමීයන්; කාරෙථ, කෙරෙත් ද? යස්මාතිහ භික්ඛවෙ, යම්හෙයකින් මහණෙනි තොප විසින් හික්මිය යුතු ද; තස්මාතිහ භික්ඛවෙ, එහෙයින් මහණෙනි; එවං, මෙසේ; සික්ඛිතබ්බං,හික්මිය යුතු යි; මෙහි"තිහ" යන තැන තකාර ආගම ය. "ඉහ" යනු නිපාත හෙයින් "යස්මා කාරණා, තස්මා කාරණා" යි යී තාති බ්‍රාහමණ, බමුණ; තස්මා, ඒ දුඃඛාදීන්ගේ පරිඥතාදිය කල හෙයින්; බුද්ධො අස්මි, බුද්ධ නම් වෙම්; යස්මා කාරණා, යම් හෙතුවකින්; තස්මා කාරණා, ඒ හෙතු වෙන්; කිංකාරණා, කවර හෙතුවකින්.

දුතියා ඡට්ඨී ච, ද්විතීයා ද ෂෂ්ඨී ද වන්නී යි; "කිංකාරණා" යන මේ සමාසපදයෙකි; තං කිස්ස හෙතු, ඒ කවර හෙතුවකින් වේ ද? 'හෙතු' යනු මෙහි විභක්ති ලුප්ත නිර්දේශ යි; තුම්හෙ, තෙපි; කිස්ස කිලමථ, කවර හෙයකින් දුඃඛිතයහ ද? කෙන හෙතුනා -පෙ-තෙන වුත්තං ඉති, කෙන හෙතුනා-පෙ-තෙන වුත්තං යන; ආදිසු, මේ ආදි ප්‍රයොගයන්හි; හෙත්වත්ථෙ ච ඉති, හෙත්වත්ථෙ ච 2-6-19 යන සූත්‍රයෙන්; තතියා, තෘතීයා විභක්ති වන්නීය කෙන හෙතුනා,කවර හෙතුවකින්? යෙන කාරණෙන, යම් කාරණයකින්; යෙන, යම් හෙතුවකින්; ඉධ, මේ ලොකයෙහි; එකච්චෙ සත්තා, ඇතැම් සත්වකෙනෙක්; තෙන නිමිත්තෙන, ඒ කාරණයෙන්; තෙන වුත්තං, ඒ කාරණයෙන් කියන ලදි- දූරන්තිකාදි සූත්‍රයෙන්

**විවිත්තං නාම විවෙචනං, තදත්ථයොගෙ-විවිත්තා පාපකා ධම්මා, විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි.**

**පමාණත්ථෙ තතියා ච-ආයාමතො ච විත්ථාරතො ච යොජනං ගම්භීරතො ච පුථුලතො ච යොජනං චන්දභාගාය පරිමාණං-පරික්ඛෙපතො නවයොජනසතපරිමාණො මජ්ඣිමදෙසො-දීඝසො නව විදත්ථියො සුගතවිදත්ථියා පමාණිකා කාරෙතබ්බා-එත්ථ ච "සමාසම්භිතං" ඉච්චාදිතො සමා ච සො චාති වත්තතෙ.**

## 302. දීඝොරෙහි 2-1-55.

**දීඝ ඔර ඉච්චෙතෙහි සමා වචනස්ස සො ආදෙසො හොති වාති සො ආදෙසො-දීඝසො දීඝතො වා.**

---

අපාදානසංඥ නො වූ පක්ෂයෙහි ප්‍රයොගානුසාරයෙන් ද්විතීයා තෘතීයා ෂෂ්ඨී විධානය පිණිස එහි ම ච ශබ්දය ප්‍රක්ෂිප්ත නු යි ඒ ච ශබ්දයෙන් ම හෙත්වර්ථයෙහි ද හෙත්වර්ථශබ්දප්‍රයොගයෙහි ද සර්වනාමයා කෙරෙන් පඤ්චමී නො වූ පක්ෂයෙහි ද්විතීයා ෂෂ්ඨී විධාන කළ සේ ම තෘතීයා ද කරන්නට පිළිවන් කල්හි "කෙන හෙතුනා" යනාදියෙහි "හෙත්වත්ථෙ ච" 2-6-19 යන සූත්‍රයෙන් තෘතීයා විභක්ති විධානය කෙළේ කුමට ද යත්? ච ශබ්දයෙන් තෘතීයා විධානයක් ඇති කල්හි "හෙත්වත්ථෙ ච" යන සූත්‍රයාගේ අනවකාශ බව හෙතුකොට ගෙන යි. එසේ හෙයින් "සාවකාශානවකාශයොරනවකාශවිධිරෙව බලීයාන්" යි බැවින් සාවකාශ විධියට වඩා අනවකාශ විධිය ම බලවත් නු යි සාවකාශ වූ ච ශබ්දයෙන් එහි තෘතීයා නොව අනවකාශ වූ සූත්‍රයෙන් වන්නීය යි දතයුතු.

විවිත්තං නාම, විවිත්ත නම්; විවෙචනං, වෙන් කිරීම යි; තදත්ථයොගෙ, ඒ විවෙකය අර්ථ කොට ඇත් ශබ්දයන් හා යොගයක් ඇති කල්හි අපාදාන සංඥ වන්නී යි; පාපකා ධම්මා, ලාමක ධර්මයා කෙරෙන්; විවිත්තා, වෙන් වූයේ ය; කාමෙහි, වස්තුකාමයන් කෙරෙන් හා ක්ලෙශකාමයන් කෙරෙන්; විවිච්චෙව, වෙන්ව ම; අකුසලෙහි ධම්මෙහි, ක්ලෙශ සඞ්ඛ්‍යාත අකුශල ධර්මයන් කෙරෙන් නොහොත් උක්තාවශෙෂ සර්වාකුශල ධර්මයන් කෙරෙන්; විවිච්චෙව, වෙන්ව ම; "පඨමජ්ඣානං උපසම්පජ්ජ විහරති" යි යොදනු.

**තතියා ච-යොජනං ආයාමෙන යොජනං විත්ථාරෙන යොජනං උබ්බෙධෙන සාසපරාසි.**

**පඨමත්ථවාචකෙන පුබ්බසද්දෙන යොගෙ පුබ්බයොගෙ, එත්ථ ච පුබ්බග්ගහණං අදිසත්ථවුත්තිනො පුබ්බාදිගණස්සුප ලක්ඛණන්ති දට්ඨබ්බං තෙන පරාදියොගෙපි.**

---

පමාණතෝ, පෘථුලායාමාදි වූ ප්‍රමාණාර්ථයක් කියයුතු කල්හි අප්‍රධාන සංඥා වන්නී ය; තතියා ච, තෘතීයා ද වන්නී යි; ආයාමතො ච, දිගින් ද; විත්ථාරතො ච, පළලින් ද; යොජනං, යොදුනෙකි; චන්දභාගාය, චන්ද්‍රභාගා නම් නදියගේ; පරිමාණං, පමණ; ගම්භීරතො ච පුථුලතො ච යොජනං, ගැඹුරින් ද පළලින් ද යොදුනෙකි—චන්ද්‍රභාගා තොම ගැඹුරෙන් ද යොදනක් පමණ ඇත්තීය පළලින් ද යොදනක් පමණ ඇත්තීය යි සේ යි. මජ්ඣිමදෙසො, ජම්බුද්වීපයාගේ මධ්‍යදෙශය තෙම; පරික්ඛෙපතො, වටින්; නවයොජනසත පරිමාණො, නවසියයක් යොදුන් පමණ ඇත්තේ යි; දීඝසො, දිගින්; සුගතවිදත්ථියා, තථාගත වියතින්; නව විදත්ථියො,නව වියත් කෙනෙක්; පමාණිකා, පමණ ඇත්තී; කාරෙතබ්බා, කරවිය යුත්තී ය.

එත්ථ ච, තවද මෙහි කියයුතු විධ්‍යන්තරයෙකු දු ඇති- සමාසම්මන්තං ඉච්චාදිතො, 'සමාසම්මන්තං' යනාදි සූත්‍රයෙන්; සමා ච, සමා යනු ද; සො වාති,සො වා 2–1–54 යන සූත්‍රයෙන් සො යනු ද; වත්තතෙ, වැටේ.

දීඝොරෙහි යනු එකපද යි.

දීඝො ච ඔරො ච දීඝොරා, තෙහි දීඝොරෙහි. 'එත්ථ ච-සො ආදෙසො' යි යොදනු.

දීඝ ඔර ඉති, දීඝ ඔර යන; එතෙහි, මේ ශබ්දයන් දෙන්නා කෙරෙන් පර වූ; සමා වචනස්ස, සමා වචනය හට; වා, විකල්ප යෙන්;සො ආදෙසො හොති ඉති,සො යන ආදෙශ වන්නේ තු යි; සො ආදෙසො, මෙහි සො යන ආදෙශ වේ; දීඝසො, දීඝසො යනු වේ; දීඝතො වා, විකල්ප හෙයින් දීඝතො කියා හෝ වේ.

තතියා ච, තෘතීයා ද වන්නී ය; සාසපරාසි, සිදුබු රැස තෙම; ආයාමෙන යොජනං, අයමින් යොදන ය; විත්ථාරෙන යොජනං, විතරින් යොදන ය; උබ්බෙධෙන යොජනං, උසින් යොදන යි.

**යථා-පුබ්බෙව මෙ භික්ඛවෙ සම්බොධා, ඉතො පුබ්බෙ නාහොසි, තතො පරං පච්චන්තිමා ජනපදා, ධාතුලිඞ්ගෙහි පරප්පච්චයා, තතො අපරෙන සමයෙන, තතො උත්තරිම්පි ඉච්චාදි.**

---

පඨමත්ථවාචකෙන, ප්‍රථම ශබ්දයාගේ අර්ථවාචි වූ; පුබ්බ සද්දෙන යොගෙ, පුබ්බශබ්දයා හා යොගය හෙම; පුබ්බයොගෙ, පුබ්බයොග නම්; එත්ථ ච, මේ සූත්‍රයෙහි ද; පුබ්බග්ගහණං, ප්‍රථමාර්ථ වාචි පූර්වශබ්දයාගේ ග්‍රහණය තෙම; අදිසත්ථවුත්තිනො, දිගර්ථ යෙන් අන්‍ය වූ දෙශකාලාදි අර්ථයෙහි ප්‍රවෘත්ති ඇති; පුබ්බාදි ගහණස්ස, පුබ්බපරාදි වූ ශබ්දග්‍රහණයට; උපලක්ඛණත්ති දට්ඨබ්බං, උපලක්ෂණය යි දතයුතු;තෙන, ඒ ප්‍රථමාර්ථවාචි පූර්වශබ්ද ග්‍රහණොපලක්ෂණයෙන්; පරාදියොගෙපි, පර අපර ආදි ශබ්දයන් හා යොගයක් ඇති කල්හි ද අපාදාන සංඥ වන්නී ය—දිගර්ථවාචි ශබ්ද "දිසායොගෙ" යන මෙහි ම සංගෘහීත වන බැවින් "පුබ්බ යොගෙ" යන මෙහි පූර්වශබ්දය අදිශාර්ථවාචි වූයේ ම අභිමත නු යි තද්ග්‍රහණොපලක්ෂණයෙන් අදිශාර්ථවාචි වූ පූර්වාදි ශබ්දග්‍රහණය මෙහි කරන ලද, එහෙයින් "පුබ්බයොගෙ" යි කී කල්හි පුරිම කාලාද්‍යර්ථයෙහි වැටෙන පුබ්බපරාදි වූ සියලු ශබ්දයන් හා ම යොගයක් ඇති කල්හි තද්‍යුක්තයන්ට මෙයින් අපාදාන සංඥ වන්නීය යනු මෙහි භාව යි.

**දිසත්ථතො අඤ්ඤො අදිසත්ථො-දෙසාදි; තස්මිං වුත්ති-වාචක භාවෙන පවත්ති එතස්සාති-අදිසත්ථවුත්ති,තස්ස අදිසත්ථවුත්තිනො.**

යථා, උදාහරණ මෙසේ යි; භික්ඛවෙ, මහණෙනි; සම්බොධා පුබ්බෙව, සම්‍යක් සම්බොධියෙන් පළමු ම—සම්‍යක් සම්බොධිඥාන සමධිගම කාලයෙන් පුරිමකාලයෙහි ම යයි සේ යි. "මෙ එවං පරිවිතක්කො උදපාදි" යි යොදනු. ඉතො පුබ්බෙ, මෙයින් පුරිම කාලයෙහි; නාහොසි, නො වූව; තතො පරං, ඒ අවධිකෘත දෙශයෙන් මත්තෙහි; පච්චන්තිමා ජනපදා, ප්‍රත්‍යන්තජනපදයහ; ධාතුලිඞ්ගෙහි, භූවාදි ධාතූය පුරුෂාදි ලිඞ්ගය යන මොවුන් දෙදෙනා කෙරෙන්;පරා,පර ව; පච්චයා, ත්‍යාදි ස්‍යාදි වූ ප්‍රත්‍යයෝ වෙත්; තතො අපරෙන සමයෙන, එයින් අන්‍යකාලයෙක්හි; 'එවං වදෙය්‍ය' යි යොදනු. තතො උත්තරිම්පි, එයින් මත්තෙහි ද; 'කරණීයං අත්ථි' යී යොදනු.

**බන්ධනත්ථයොගෙ බන්ධනහෙතුම්හි ඉණෙ-තතියා ච, සතස්මා බද්ධො නරො රඤ්ඤා, සතෙන වා බද්ධො නරො.**

**ඵලසාධනහෙතුභූතස්ස ගුණස්ස වචනං ගුණවචනං, තස්මිං ගුණවචනෙ, තතියා ච-ඉස්සරියා ජනං රක්ඛති රාජා ඉස්සරියෙන වා, සීලතො නං පසංසන්ති, සීලෙන වා-පඤ්ඤාය විමුත්තමනො ඉච්චාදි.**

**පඤ්හකථනෙසු-කුතොසි ත්වං? කුතො භවං? පාටලිපුත්තතො, එත්ථ ච කථනං නාම විස්සජ්ජනං.**

---

බන්ධනත්ථයොගෙ, "බධ-බන්ධනෙ" යන මොහුගේ අර්ථ ඇති ශබ්දයන් හා සම්බන්ධයක් ඇති කල්හි; බන්ධන හෙතුම්හි ඉණෙ, බන්ධනයට කාරණ වූ ඍණ විෂයෙහි අපාදාන සංඥා වන්නී ය; තතියා ච, තෘතීයා ද වන්නී ය; රඤ්ඤා, ඍණාර්පි වූ රජහු විසින්; නරො, නර තෙම්; සතස්මා බද්ධො, සියය හෙතුකොට ගෙන බඳනා ලදි; සතෙන වා බද්ධො නරො, 'සතෙන බද්ධො නරො' යි තෘතියා හෝ වන්නී ය; එහි දු අර්ථ හේ ම යි.

ඵලසාධනහෙතුභූතස්ස ගුණස්ස, ලොකානුරඤ්ජනයෙන් සඤ්ජාත ප්‍රශංසාදි ඵලයාගේ නිෂ්පත්තියට කාරණ වූ ඓශ්වර්‍ය්‍යාදි ගුණයාගේ; වචනං, වාචක ශබ්ද තෙම; ගුණවචනං, ගුණ වචන නම; තස්මිං ගුණවචනෙ, ඒ ගුණවාචීහු කෙරෙහි අපාදාන සංඥා වන්නී ය; තතියා ච, තෘතීයාව ද වේ—ඵලස්ස සාධනං ඵලසාධනං තස්ස හෙතුභූතො(ගුණො)ඵලසාධන හෙතුභූතො, තස්ස-මෙයින් යම් ගුණයක් ඵලසාධනය නො කෙරේ නම් හේ මෙහි නො ගන්නාලද යි දක්වත්. රාජා, රජතෙම; ඉස්සරියා, ඉසුරු ගුණය හෙතුකොට ගෙන; ජනං රක්ඛති, ජනයා රක්ෂා කෙරේ; ඉස්සරියෙන වා, මෙතන්හි 'ඉස්සරියෙන' යි තෘතීයා හෝ වන් නී ය; නං, ඒ පුද්ගලයා; සීලතො පසංසන්ති, ශීල ගුණය හෙතු කොට ගෙන ප්‍රශංසා කෙරෙත්; සීලෙන වා, මෙහි දු 'සීලෙන' කියා හෝ වේ; පඤ්ඤාය, ප්‍රඥා ගුණය හෙතු කොට ගෙන; විමුත්ත මනො, කෙලෙසුන් කෙරෙන් මිදුණු සිත් ඇත්තේ යි.

පඤ්හකථනෙසු, ප්‍රශ්න හා විසඳීම් විෂයෙහි අපාදාන සංඥා වන්නී ය; "කුතොසි ත්වං, කුතො භවං" යන මේ ප්‍රශ්නයෙහි උදාහරණ යි; පාටලිපුත්තතො" යනු විසර්ජනයෙහි උදාහරණ යි.

එත්ථ ච, මෙහි දු; කථනං නාම, කථනය නම්; විස්සජ්ජනං, විසර්ජනය යි.

**ථොකත්ථෙ අසත්වවචනෙ කරණෙ, තතියා ච-ථොකා මුච්චති, ථොකෙන වා මුච්චති-අප්පමත්තකා මුච්චති, අප්පමත්තකෙන වා, කිච්ඡා මුච්චති කිච්ඡෙන වා.**

**අකත්තරි අකාරකෙ ඤාපක හෙතුම්හි-කම්මස්ස කතත්තා උපචිතත්තා උස්සන්නත්තා විපුලත්තා උප්පන්නං හොති චක්ඛුවිඤ්ඤාණං-න තාවිදං නාමරූපං අහෙතුකං සබ්බතො සබ්බදා සබ්බෙසඤ්ච එකසදිසභාවාපත්තිතො.**

---

“කුතොසි ත්වං” යි මෙපමණක් විචාරණ ලද කල්හි ද “පාටලිපුත්තතො” යි මෙපමණක් විසඳන ලද කල්හි ද මෙයින් ප්‍රශ්නාදියෙහි අපාදානසංඥා වන්නී ය. ඉදින් “කුතොසි ත්වමාගතො? කුතො භවමාගච්ඡති? පාටලිපුත්තතො ආගච්ඡාමි” යි ක්‍රියායොගයක් ඇති කල්හි යස්මාදි සූත්‍රයෙන් ම සිද්ධය යි දතයුතු. කාත්‍යායන වෘත්තියෙහි ලා ප්‍රශ්නාදියෙහි යම් උදාහරණයෙක් දක්වන ලද ද හේ ත්‍යාලොපයෙහි අධිකරණ විෂයෙහි අපාදානයෙන් ම සිද්ධ හෙයින් මෙහි නො දක්වන ලදි.

ථොකත්ථෙ, ස්තොකාර්ථ ඇති; අසත්වවචනෙ, අද්‍රව්‍ය වාචීහු කෙරෙහි; කරණෙ, කරණකාරකයක් ද්‍යොතක කල්හි අපාදාන සංඥා වන්නී ය; අද්‍රව්‍යාර්ථ ඇති ස්තොකාල්ප කෘච්ඡ්‍ර කතිපය ශබ්දයන්ට කරණ කාරක විෂයෙහි අපාදාන සංඥා වන්නීය යි තනි. “ස්තොකාල්පකෘච්ඡ්‍රකතිපයාදසත්වාර්ථාත් කරණෙ” යනු මෙහි පරසූත්‍ර යි. ථොකං අප්පමත්තකං අත්ථො යස්ස තං ථොකත්ථං, තස්මිං, අසත්වස්ස අදබ්බස්ස වචනං අසත්වවචනං තස්මිං; අසත්වවචනෙ අසත්වෙ, ථොක අප්ප කිච්ඡ කතිප යෙහීති වුත්තං හොති. මෙහි “අසත්වවචනෙ” යන වචනයෙන් ස්තොකාර්ථය ම වෙසෙසූහු යි දතයුතු. ථොකා, ස්වල්පයක් කරණ කොට ගෙන; මුච්චති, මිදේ; “අප්පමත්තකා මුච්චති” යනාදි උදාහරණයෙහි ද අර්ථ හේ මැ යි. මෙහි ස්තොකාදි ශබ්දයෝ ස්වල්පාර්ථභූත අද්‍රව්‍ය කියත්; කිච්ඡා, කෘච්ඡ්‍රයත්නයකින් මුච්චති, මිදේ; කිච්ඡෙන වා, කිච්ඡෙන යි ද මෙහි විකල්පයෙන් යෙදේ.

අකත්තරි, කර්තෘකාරකයෙන් අන්‍යය වූ; අකාරකෙ, කාරකයෙන් අන්‍ය වූ; ඤාපකහෙතුම්හි, ඥාපක හෙතුහු කෙරෙහි; (නිච්චං අපාදාන සඤ්ඤා, නිත්‍යයෙන් අපාදාන සංඥා වන්නී යි )එතො අකත්ත

රීති වුත්තෙන කත්තාරං අඤ්ඤං අකත්තාති ඤත්වා කත්තුකාරකතො අඤ්ඤං කම්මාදිකාරකං ගය්හතීති අකාරකෙති වුත්තං, අකාරකෙති වුත්තෙ කාරකා අඤ්ඤං අකාරකන්ති කත්වා සාමීපි ගය්හතීති ඤාපකහෙතුම්හීති වුත්තන්ති ගහෙතබ්බං, ඤාපෙතීති ඤාපකො ඤාපකො ච සො හෙතු චාති ඤාපකහෙතු තස්මිං ඤාපකහෙතුම්හි. ඉමිනා සෙසහෙතුවයං නිවත්තෙති. තිවිධො හි හෙතු කාරකහෙතු ඤාපකහෙතු සම්පාපකහෙතු චාති. තත්ථ කාරකහෙතු නාම යො කාරෙති සහෙතූති වුත්තො. ඤාපකහෙතු නාම අවුත්තස්සාපි වුත්තනයානුසාරෙන ගහණහෙතු; සම්පාපකහෙතු නාම අවස්සං පාපුණිතබ්බො අජ්ඣාහරිතබ්බො හෙතු. තෙසු අකත්තරීති එත්ථ හෙතුකත්තුසඞ්ඛාත කාරකහෙතු පටික්ඛෙපෙන ඤාපකහෙතුයෙව අධිප්පෙතො, න සම්පාපකහෙතු. එත්ථ පන සුද්ධකත්තුපටික්ඛෙපෙන හෙතුකත්තුසඞ්ඛාත කාරකහෙතු අධිප්පෙතොති සක්කා වත්තුන්ති ඊදිසිචොදනායානවකාසො අස්ස ඉධෙව හෙතුග්ගහණෙන කාරකත්ථෙ චාති ඉමිනා ච ගහිතත්තා. කම්මස්ස, කර්මයා නම්; කතත්තා, කරන ලද බව හෙතු කොට ගෙන; උපචිතත්තා, රැස් කරන ලද බව හෙතු කොට ගෙන; උස්සන්නත්තා, අධික බව හෙතු කොට ගෙන; විපුලත්තා, මහත් බව හෙතුකොට ගෙන; චක්ඛුවිඤ්ඤාණං, චක්ෂුර්විඥානය; උප්පන්නං හොති උත්පාදක්ෂණයෙන් යුක්ත වන්නේ යි; කර්මයා කළ බැවින් චක්ෂුර්විඥානයා උපදුත් මුත් ඵලොත්පාදය දක්වා ඒ කර්මයා අවිච්ඡින්නව සිටි බැවින් නො වෙසි යූ නති. මෙහි චක්ෂුර්විඥනොත්පත්තිය ඥතව්‍ය කර්මයා හෙතු කරන ලද බවට ඥාපක යි. සබ්බත්ථ, හැම භූමියෙහි ද; සබ්බදා, හැම කල්හි ද; සබ්බෙසං ච, හැම සත්වයන්ට ද; එකසදිසාභාවාපත්තිතො, එකසදෘශත්වයාගේ නො පැමිණෙන බව හෙතු කොට ගෙන; ඉදං නාමරූපං, මේ නාමරූප දෙක; අහෙතුකං න, හෙතු විරහිත ව උපදනේ නො වේ; ඉදින් වෙදනාදි ස්කන්ධ චතුෂ්ටය සංඛ්‍යාත නාමය පෘථිව්‍යාදි භූත භෞතික සංඛ්‍යාත රූපය යන මේ නාමරූප දෙන්නාගේ කුශලාකුශලකර්මාදිභෙදවිශෙෂහෙතුවිරහිතත්වයෙක් හෝ ඊශ්වරාදි එකහෙතුකත්වයෙක් හෝ ඇද්ද එකල්හි අපායෙහි ද කාමසුගතිභූමි ආදියෙහි ද ප්‍රතිසන්ධියෙන් යට ද චුතියෙන් මත්තෙහි ද පඤ්චවිධගතියෙහි ද චතුර්විධයොනියෙහි ද නාම රූප හෙයින් එක් වැනි බව ප්‍රසඞ්ග වන්නේ නො වේ ද? එසේ

**70** **හුත්වා අභාවතො 'නිච්චා උදයව්‍යයපීළනා**
**දුක්ඛා අවසවත්තිත්තා අනත්තාති තිලක්ඛණං.**

**පඤ්චමීති වත්තතෙ.**

## 303. කාරණත්ථෙ ච 2–6–26.

**කරොති අත්තනො ඵලන්ති කාරණං කාරකහෙතු, තස්මිං කාරණත්ථෙ ච පඤ්චමී විභත්ති හොති-විකප්පෙනා'යං. හෙත්වත්ථෙ තතියා ච විහිතත්තා-අනනුබොධා අප්පටිවෙධා චතුන්නං අරියසච්චානං යථාභූතං අදස්සනා එවමිදං දීඝමද්ධානං සන්ධාවිතං සංසරිතං, අවිජ්ජාපච්චයා සඞ්ඛාරා, සඞ්ඛාරපච්චයා විඤ්ඤාණං-අවිජ්ජායත්වෙව අසෙසවිරාගනිරොධා සඞ්ඛාරනිරොධො, සඞ්ඛාරනිරොධා විඤ්ඤාණනිරොධො ඉච්චාදි.**

---

පැමිණේ යි. එහෙයින් මෙසේ දෙශකාලාදි භෙදයෙන් භෙද ප්‍රාප්තිය හෙතු කොට ගෙන මේ නාමරූප තෙම හෙතු විරහිත වූයේ නොවේ යි යනු භාව යි. මෙහි නාමරූපයාගේ නාහෙතුකත්වය ඥාප්‍ය ය, දෙශකාලාදිභෙදභාවප්‍රාප්තිය එයට ඥාපක යි.

(සඞ්ඛාරා, සියලු සංස්කාරයෝ;) හුත්වා අභාවතො අනිච්චා, ඇතිව නැතිවන හෙයින් අනිත්‍යයහ; උදයව්‍යයපීළනා, තමන්ගේ උත්පාදව්‍යය දෙකින් පෙළෙන බැවින්; දුක්ඛා, දුඃඛයහ; අවසවත්තිත්තා, කාරක වෙදක සංඛ්‍යාත වූ වශවර්ත්තික ආත්මාදියක්හු විරහිත හෙයින්; අනත්තාති, අනාත්මයහයි; තිලක්ඛණං, හුත්වාඅභාවාකාරය උදයව්‍යයපීළනාකාරය අවශවර්ත්තිතාකාරය යන ලක්ෂණත්‍රය වේ; සියලු සංස්කාරයෝ ඉපද නිරුද්ධ වන හෙයින් අනිත්‍යයහ යන මේ හුත්වාභාවාකාර අනිත්‍ය ලක්ෂණ ය, එසේ ම උත්පාදභඞ්ග දෙකින් පෙළෙන බැවින් දුඃඛයහ යන මේ උදයව්‍යය පීළනාකාර දුඃඛලක්ෂණය, නාමරූප ධර්මයන්ගේ උත්පාද ජරා භඞ්ගයක් ඇති කල්හි නො ම උපදිත්ව යි නො දිරත්ව යි නො බිඳෙත්ව යි මෙසේ වශවර්ත්තියක්හු නැති හෙයින් අනාත්මයහ යන මේ අවශවර්ත්තිතාකාර අනාත්මලක්ෂණය යි මෙසේ සංස්කාරයන්ගේ සාමාන්‍ය ලක්ෂණ තුනෙක් වේ යි සේ යි. මෙහි අනිත්‍යදුඃඛානාත්ම භූත සංස්කාරයෝ ඥාප්‍යයහ හුත්වාභාවාකාරාදිය ඔවුන්ට ඥාපක යි.

**පඤ්චමීති වත්තතෙ "අපාදානෙ පඤ්චමී"ති ඉතො.**

**කාරණත්ථෙ ය ච ය යනු පද යි.**

අඤ්ඤාතො ඵලං, තමා සම්බන්ධි ඵලය; කරෙතීති, සිද්ධ කෙරේ නු යි; කාරණං, කාරණ නම් වෙයි; මෙයින් 'කර' ධාතුහු කෙරෙන් කර්තෘර්ථයෙහි යු ප්‍රත්‍යය කොට 'කරණං' යි වක්තව්‍ය කල්හි "කාරණත්ථෙ ච" යන මේ නිපාතනයෙන් දීර්ඝ කොට 'කාරණං' යි කියන ලද්දී යි දක්වත්. හේ කාරණ නම් කිම් ද යත්? කාරකහෙතු, "යො කාරෙති ස හෙතු" 2-6-12 යන සූත්‍රයෙන් කියන ලද හෙතුකර්තෘසංඛ්‍යාත කාරකහෙතුව යි; තස්මිං කාරණත්ථෙ ච, ඒ කාරකහෙතු සංඛ්‍යාත කාරණාර්ථය කියයුතු කල්හි ද; පඤ්චමී විභත්ති හොති, පඤ්චමී විභක්ති වන්නී ය; මේ සූත්‍රයෙහි චශබ්ද පඤ්චමී ග්‍රහණයාගේ ආකර්ෂණය පිණිස යි. අයං, මේ "කාරණත්ථෙ ච" යන සූත්‍රයෙන් විධීයමාන පඤ්චමී තොම; විකප්පෙන, විකල්පයෙනි; කවර හෙයින් ද යත්? හෙත්වත්ථෙ තතියාය ච විහිතත්තා, "හෙත්වත්ථෙ ච" යන සූත්‍රයෙන් හෙත්වර්ථයෙහි තෘතීයාවගේ ද විහිත බව හෙතු කොට ගෙන යි; චතුන්නං අරියසච්චානං, දුඃඛාදි චතුරාර්යසත්‍යයන්ගේ; අනනුබොධා, අනුමානඥානයෙන් අවබොධ නො කළ බව කරණ කොට ගෙන; අප්පටිවෙධා, ප්‍රත්‍යක්ෂඥානයෙන් ප්‍රතිවෙධ නො කළ බව කරණ කොට ගෙන; යථාභූතං අදස්සනා, ප්‍රත්‍යවෙක්ෂා ඥානයෙන් යාථාතථ්‍ය හෙයින් නුදුටු බව කාරණ කොට ගෙන; ඉදං දීඝමද්ධානං, මේ දීර්ඝකාලය මුළුල්ලෙහි; එවං, මෙසේ භවාදියෙහි ච්‍යුතිප්‍රතිසන්ධි වශයෙන්; සන්ධාවිතං සංසරිතං, අනවරාග්‍ර සංසාරයෙහි සන්ධාවනය ද සංසරණය ද වී; අවිජ්ජාපච්චයා, දුඃඛාදීන් කෙරෙහි අඥාන කාරණයෙන්; සංඛාරා, කුශලාදි භෙද වූ ත්‍රෛභූමක සංස්කාරයෝ; සම්භවන්ති යි යොදනු. සංඛාරපච්චයා, යථොක්ත සංස්කාර කාරණයෙන්; විඤ්ඤාණං, භවත්‍රයෙහි ප්‍රතිසන්ධ්‍යාදි විපාක විඥානය; 'සම්භවති' යි යොදනු. අවිජ්ජායත්වෙව, අඥානයාගේ ම; අසෙස විරාග නිරොධා, අශෙෂයෙන් විරාග සංඛ්‍යාත මාර්ගීය කාරණ කොට ගෙන නිරුද්ධ වීම් කාරණයෙන්; සංඛාර නිරොධො, ත්‍රෛභූමක සංස්කාරයන්ගේ නිරොධය වන්නේ යි, අර්හත්මාර්ගඥානය කාරණ කොට ගෙන අවිද්‍යාවගේ අශෙෂ කොට අප්‍රවෘත්තිය කළ හෙයින් සංස්කාරයන්ගේ අප්‍රවෘත්තිය වෙ යි සේ යි; සංඛාර නිරොධා, ඒ සංස්කාරයන්ගේ අප්‍රවෘත්ති

**කස්මිං අත්ථෙ ඡට්ඨී?**

## 304. සාමිස්මිං ඡට්ඨී 2-6-31.

**කො ච සාමි?**

## 305. යස්ස වා පරිග්ගහො තං සාමි 2-6-13.

**පරිගය්හතීති පරිග්ගහො-යො යස්ස පරිග්ගහො ආයත්තො සම්බන්ධී නාමපති සො අත්ථො සාමිසඤ්ඤො හොති.**

**වාග්ගහණෙන සාමිතබ්බරූජාදියොගෙපි-එත්ථ ච ක්‍රියාහි සම්බන්ධාභාවා න කාරකතා සම්භවති-සාමිභාවො හි ක්‍රියා කාරකභාවස්ස ඵලභාවෙන ගහිතො-තථාහි රඤ්ඤො පුරිසොති වුත්තෙ යස්මා රාජා දදාති පුරිසො ච පතිගණ්හාති තස්මා රාජපුරිසොති විඤ්ඤායති, එවං යො යස්ස ආයත්තො සෙවකාදිභාවෙන වා භණ්ඩභාවෙන වා සමීපසමූහාවයව විකාරකාරියඅවත්ථාජාතිගුණක්‍රියාදිවසෙන වා තස්ස සබ්බස්සපි සො සම්බන්ධාධාරභූතො විසෙසනට්ඨානීආගමිවසෙන තිවිධොපි අත්ථො සාමීනාමාති ගහෙතබ්බො.**

---

සංඛ්‍යාත නිරොධ කාරණයෙන්; විඤ්ඤාණ නිරොධො, භවත්‍රයෙහි ප්‍රතිසන්ධි විඥානයාගේ අප්‍රවෘත්ති සංඛ්‍යාත නිරොධය වන්නේ යි; ඉච්චාදි, මේ ආදිය වේ.

පඤ්චමී වර්ණිතා යි.

කස්මිං අත්ථෙ, කවර අර්ථයෙක්හි; ඡට්ඨී, ෂෂ්ඨී විභක්ති වන්නී ද යත්.?

සාමිස්මිං ය ඡට්ඨී ය යනු පද යි.

සාමී, ස්වාමි නම්; කො ච, කවරෙක් ද යත්.?

යස්ස ය වා ය පරිග්ගහො ය තං ය සාමි ය යනු පද යි.

පරිගය්හති ඉති, අයත් කරනු ලැබේ නු යි; පරිග්ගහො, පරිග්‍රහ නම් වෙයි; 'පරි' යන උපසර්ගයා පූර්ව කොට ඇති "ගහ" යන ධාතුහු කෙරෙන් කර්මයෙහි අ ප්‍රත්‍යය යි. යො, යම් අර්ථයෙක් තෙම; යස්ස, යමක්හුගේ; පරිග්ගහො යි සේ යි; ආයත්තො, ප්‍රති

බද්ධ ද; සම්බන්ධී, සම්බන්ධ ඇත්තේ ද; තං පති, ඔහු නිසා; සො අත්ථො, ඒ අර්ථය තෙම; සාමිසඤ්ඤො හොති, ස්වාමි සංඥ ඇත්තේ වේ; "රඤ්ඤො පුරිසො" යනාදියෙහි යම් පුරුෂාදි අර්ථයෙක් තෙම යම් රාජාදි වස්තුවක් සම්බන්ධී ද පුරුෂාදි වූ ඒ සම්බන්ධීනු පිණිස රාජාදි වූ හේ සම්බන්ධාධාර අර්ථය තෙම සාමි නම් වෙයි සේ යි. පරිග්‍රහය ආයත්තය සම්බන්ධිය යනු පර්‍ය්‍යාය යි.

වාගගහණෙන, එහි ම වාශබ්දයෙන්; සාමිතබ්බරාජාදි යොගෙපි, ස්වාමිවාචිශබ්දය තබ්බප්‍රත්‍යයාන්ත ය "රාජ-රෙගෙ" "දා-දාතෙ" යනාදි ධාතුය යන මොවුන් හා යොගයක් ඇති කල්හි ද; 'සාමිසඤ්ඤො' යි යොදනු. "දෙවානමින්දො" යනාදියෙහි දෙවාදීන්ගේ ස්වාමිත්වයක් නැති බැවින් සූත්‍රයෙන් ස්වාමිසංඥ නො පැමිණේ නු යි "වාගගහණෙන සාමිතබ්බරාජාදියොගෙපි"යි හේ වාග්‍රහණයෙන් * සිඬ කළහ යි දතයුතු. උපයොගාර්ථාදියෙහි කාරකව්‍යවහාරය කවර හෙයින් අවසිත ද යන චොද්‍යය සිත තබා 'එත්ථ ච' යනාදි කීහු. එත්ථ ච, මේ ස්වාම්‍යර්ථ විෂයෙහි දු; ක්‍රියාභිසම්බන්ධාභාවා, ක්‍රියාසම්බන්ධයක්හුගේ අභාවය හෙතු කොට ගෙන; න කාරකතා සම්භවති, කාරකභාවය සම්භව නොවේ; කාරක නම් "කටං කාරෙති දෙවදත්තො" යනාදීන් නිර්තීතාදි ක්‍රියාසම්බන්ධය ම පූර්වාඞ්ගම කොට ඇත්තේ ය, හෙ ද ස්වාමි විෂයෙහි අසම්භව ය, එහෙයින් ක්‍රියායොග විරහිත වූ මෙහි කාරක ව්‍යවහාරය නො ලැබේ නු යි යූ තනි හෙ ම් සමර්ථනය කරනුවෝ "සාමිභාවො හි" යනාදි කීහු. සාමිභාවො, ස්වාමිභාවය තෙම; ක්‍රියාකාරකභාවස්ස, ක්‍රියාකාරකභාවයාගේ; ඵලභාවෙන ගහිතො හි, ඵලත්වයෙන් ගන්නා ලදී; දැන් හේ 'සාමිභාවොහි' යනාදීන් සංක්ෂෙපයෙන් කියන ලද අර්ථය ම විවෘත කොට දක්වනුවෝ කියත් "රඤ්ඤො පුරිසොති වුත්තෙ" යනාදි. "රඤ්ඤො පුරිසොති වුත්තෙ-පෙ-රාජපුරිසොත් විඤ්ඤායති" යි යොදනු.

රඤ්ඤො පුරිසොති වුත්තෙ, 'රඤ්ඤො පුරිසො' යි කියන ලද කල්හි; යස්මා, යම් හෙයකින්; රාජා, රජ තෙම; දදාති, වෘත්ති දේ ද; පුරිසො, පුරුෂ තෙම; පතිගණ්හාති, වෘත්ති පිළිගනී ද; තස්මා, එහෙයින්; රාජපුරිසොති විඤ්ඤායති, රජහු සම්බන්ධී පුරුෂයා ය යි හැගේ; ඉදින් රජ නො දේ නම් පුරුෂයා නො පිළිගනී නම් කෙසේ රාජපුරුෂය යි හැගේ ද? එහෙයින් පූර්ව කාලික ක්‍රියාකාරක සම්භවය ඇති කල්හි ම සම්භව වේ නු යි

---

* ස්වාමිශබ්දයොගයෙහි ෂෂ්ඨිය සාමිස්සරාදි සූත්‍රයෙන් විහිත බැවින් මෙය අධිකොක්තියක් නොවේ ද? ස්වාමිශබ්දාදිය රාජශබ්දාදීන්ට උපලක්ෂණ හෙයින් පූර්වෝක්ත සූත්‍රයෙන් හෝ සෙව්‍ය සෙවක සම්බන්ධයෙන් මූල සූත්‍රයෙන් හෝ මේ ෂෂ්ඨිය වියයුතුය යි හැගේ.

තදභාවාභාවයෙන් ඒ ක්‍රියාකාරක දෙදෙනාගේ ඵලවශයෙන් ම ස්වාමිභාවය අපෙක්‍ෂා කරන ලද යි සේ යි. සාමිනො භාවො සාමිභාවො; ක්‍රියාය අභිසම්බන්‍ධො යොගො ක්‍රියාභිසම්බන්‍ධො, තස්ස අභාවො ක්‍රියාභිසම්බන්‍ධාභාවො, තස්මා. එවං "යො යස්ස ආයත්තො තස්ස සම්බන්‍ධාධාරභූතො සො අත්‍ථො සාමි නාම" යි සම්බන්‍ධ කරනු එවං, මෙකී පරිද්දෙන්; ක්‍රියාකාරකත්‍වයක් ඇති කල්හි ම ය යි සේ යි. යො, යම් අර්‍ථයෙක් තෙම; සෙවකාදි භාවෙන වා; සෙවකාදි භාවයෙන් හෝ; භණ්ඩභාවෙන වා, ධනාදි උපකරණ වශයෙන් හෝ; සමීප-පෙ-ක්‍රියාදිවසෙන වා, ආසන්න දෙශ සඞ්ඛ්‍යාත සමීපය රාශි සඞ්ඛ්‍යාත සමූහය ශීර්‍ෂාදි අවයව ය ශක්තු ආදි විකාර ය අඞ්කුරාදි කාර්‍ය්‍යය උත්පාදාදි අවස්ථා ය සාමාන්‍යාකාර සඞ්ඛ්‍යාත ජාති ය ශීලාදි ගුණ ය උපෙක්‍ෂණාදි ක්‍රියා ය යන මේ ආදීන්ගේ වශයෙන් හෝ; යස්ස ආයත්තො, යම් අර්‍ථයක්හුගේ සම්බන්‍ධි ද; තස්ස සබ්බස්සපි, ඒ භාණ්ඩාදි සියලු ආයතන සංඛ්‍යාත සම්බන්‍ධීහුගේ; සම්බන්‍ධාධාරභූතො, භාණ්ඩාදි ආයතන සංඛ්‍යාත සම්බන්‍ධයට නිශ්‍රය වූ; විසෙසනට්ඨානි ආගමිවසෙන තිවිධොපි සො අත්‍ථො, විශෙෂණය ආදෙශයා සම්බන්‍ධි ස්ථානී ය ආගමයා සම්බන්‍ධි ආගමි ය යන මොවුන් තුන් දෙනාගේ වශයෙන් ත්‍රිප්‍රකාරයක් ඇත්තා වූ ම ඒ අර්‍ථය තෙම; සාමිනාමාති ගහෙතබ්බො, ස්වාමි නමැ යි ගතයුතු. භාණ්ඩ සමීපාදි යම් වස්තුයෙක් තෙම භාණ්ඩසාමීප්‍යාදි යම් වස්තුවක්හු පිළිබඳ වේ ද ඒ භාණ්ඩාදි නෛකභෙදභින්න වස්තුහුගේ භාණ්ඩසම්බන්‍ධාදි නෛකසම්බන්‍ධයට ආශ්‍රය වූ උපාධි ස්ථාන්‍යාගමී සංඛ්‍යාත වූ පුරිමකාලසිද්‍ධ කාලක්‍රියා දෙකින් සඤ්ජාත වූ ඒ වස්තුව මෙහි ස්වාමි නමැ යි කියනු ලැබෙ යි, එහෙයින් පාණිනීය යෙහි භාණ්ඩසම්බන්‍ධයෙහි ෂෂ්ඨී ය ස්වාමිසම්බන්‍ධයෙහි ෂෂ්ඨී ය සමූහසම්බන්‍ධයෙහි ෂෂ්ඨී ය අවයව සම්බන්‍ධයෙහි ෂෂ්ඨී ය විකාර සම්බන්‍ධයෙහි ෂෂ්ඨී ය යනාදි අනෙක ෂෂ්ඨී මේ කාත්‍යායනයෙහි ස්වාමිෂෂ්ඨීයෙහි ම පිළිපැද්ද යුතු ය යන මේ භාව යි.

සමීපො ච සමූහො ච අවයවො ච විකාරො ච කාරියඤ්ච අවත්‍ථා ච ජාති ච ගුණො ච ක්‍රියා ච-සමීප-පෙ-ක්‍රියායො; තා ආදයො යෙසං නාමගොත්තාදි විසෙසවොහාර කාරණාදීනං තෙ සමීපසමූහාවයවවිකාරකාරියඅවත්‍ථාජාතිගුණක්‍රියාදයො තෙ සංවසෙන; එත්‍ථ ච විකාරො වාති අඤ්ඤථත්තාපගමනං; කාරියන්ති කාරණස්ස ඵලං; සම්බන්‍ධස්ස ආධාරභූතො සම්බන්‍ධාධාර

වුත්තඤ්ච.

71 "ක්‍රියාකාරක සඤ්ජාතො අස්සෙදම්භාව හෙතුකො,
සම්බන්ධො නාම සො අත්ථො තත්ථ ඡට්ඨී විධීයතෙ.
පාරතන්ත්‍ර්‍යං හි සම්බන්ධො තත්ථ ඡට්ඨී භවෙ තිතො,
උපාධිට්ඨානාගමිතො න විසෙස්‍යාදිතො තිතො"ති.

---

භූතො; විසෙසෙති අත්ථන්තරතො නිවත්තෙතීති විසෙසනං, ඨානමස්ස අත්ථීති ඨානී; ආගමො අස්ස අත්ථීති ආගමී; විසෙසනඤ්ච ඨානී ච ආගමී ච විසෙසනට්ඨානී ආගමිනො; තෙසං වසෙන.

මෙහි "හණ්ඩභාවෙන" යනාදීන් ආයත්තයාගේ භාණ්ඩසමීපාදි වශයෙන් බහුවිධත්ව දර්ශනද්වාරයෙන් ම ආයත්තිහුගේ භාණ්ඩසාමීප්‍යාදි වශයෙන් බහුවිධත්වය ද දර්ශිත ය, 'සම්බන්ධාධාරභූතො' යන වචනයෙන් සම්බන්ධියාගේ ස්වාම්‍යාශ්‍රයත්වලක්ෂණය දර්ශිත ය, "විසෙසනඨානී ආගමීවසෙන තිවිධො" යන මෙයින් ආයත්තිහුගේ ත්‍රිප්‍රකාරත්ව දර්ශනොපායෙන් ම තදායත්තයාගේ විශෙෂ්‍යාදෙශාගමවශයෙන් ත්‍රිප්‍රකාරත්වය ද දර්ශිතය යි දතයුතු.

"ක්‍රියාකාරකසඤ්ජාතො අස්සෙදම්භාව හෙතුකො යො අත්ථො අත්ථි සො අත්ථො සම්බන්ධො නාම" යි යොදනු. ක්‍රියාකාරකසඤ්ජාතො, දානාදි ක්‍රියාය ප්‍රතිග්‍රාහකාදි කාරකය යන මේ දෙකින් ප්‍රභව වූ; (එහෙයින් ම) අස්සෙදම්භාව හෙතුකො, මේ වස්තුහුගේ මේ වස්තුව අයත් ය යන මේ විශෙෂණ විශෙෂ්‍ය භාවයට නිමිත්ත වූ; යො, යම් පදාර්ථයෙක් ඇද්ද; සො අත්ථො, හේ පදාර්ථය තෙම; සම්බන්ධො නාම, සම්බන්ධ නම් වෙයි; තත්ථ, ඒ සම්බන්ධයා ද්‍යොත්‍ය කල්හි; ඡට්ඨී, ෂෂ්ඨී විභක්ති තොම; විධීයතෙ, කරනු ලබන්නී යි.

සම්බන්ධො, අර්ථ හෙයින් සම්බන්ධය නම් කිම් ද යත්? පාරතන්ත්‍ර්‍යං හි, පර අයත් බව යි; ඒ සම්බන්ධය කියයුතු කල්හි කවරක්හු කෙරෙන් ෂෂ්ඨී වන්නී ද යත්? තත්ථ, ඒ පාරතන්ත්‍ර්‍ය ලක්ෂණ වූ සම්බන්ධයා ද්‍යොත්‍ය කල්හි; උපාධිට්ඨානාගමිතො තිතො, ස්වාමිසංඥ ඇත්තා වූ විශෙෂණය ස්ථානි ය ආගමි ය යන

මොවුන් තුන්දෙනා කෙරෙන් ම; ඡට්ඨී, ෂෂ්ඨී විභක්ති වන්නී ය; විසෙසසාදිතො තිතො, විශෙෂ්‍යාදි තුන්දෙනා කෙරෙන්; න, නො වන්නීය යි; වුත්තං ච, මඤ්ජූෂාවෙහි කියන ලද මැ යි.

ක්‍රියාකාරකෙහි සඤ්ඤාතො නිබ්බත්තො ක්‍රියාකාරක සඤ්ඤාතො, අසෙසදම්මස්ස භාවො අසෙසදම්භාවො තස්ස හෙතු අසෙසදම්භාව හෙතු, සො එව අසෙසදම්භාවහෙතුකො; පරස්ස තන්තං පරතන්තං තස්ස භාවො පාරතන්ත්‍ර්‍යං පරපටිබද්ධතා. හේ මෙසේ දතයුතු. සම්බන්ධය තෙම වස්තූන් දෙන්නක්හු කෙරෙහි පිහිටියේ යි.

කීයේ මැනො ශබ්දාර්ථ චින්තායෙහි:—

"කාත්‍රාදිපරිශිෂ්ටො'ය මර්ථස්සම්බන්ධ සංඥකඃ,
සම්බන්ධො විවිධාකාරෂ්ෂෂ්ඨ්‍යවතත්ප්‍රතීතිකෘත්" යි.

සම්බන්ධගත වස්තුවය සම්බන්ධිත්වයෙන් අවිශෙෂ කල්හි ඒ වස්තූන් දෙදෙනා කෙරෙහි කිසි වස්තුවෙක් විශෙෂ්‍ය ය කිසිවස්තුවෙක් විශෙෂණ ය, එසේ වූ ඔවුන් දෙදෙනාගේ සම්බන්ධ ය කුමක් නිසා ප්‍රවෘත්ත වි ද යත්? කිසි ක්‍රියාවක් ආශ්‍රය කොට ප්‍රවිත්ත යි. කිසේ ද යත්? "රාජපුත්‍රඃ" යි කී කල්හි යම් හෙයකින් රජ තෙම ජනක වේ ද පුත්‍රයා ජන්‍ය වේ ද එහෙයින් මොවුන් දෙදෙනාගේ සම්බන්ධය ජනනක්‍රියාව ආශ්‍රය කොට ප්‍රවෘත්තය යි හැගේ. එසේ ම නු–"රාජා ජනයති" යි කී කල්හි කවරක්හු දැ යි විශෙෂාපෙක්ෂායෙහි පුත්‍රයා යයි අපෙක්ෂා කරන ලබන හෙයින් පුත්‍රයා හා රජහුගේ සම්බන්ධයවේ. "පුත්‍රො ජන්‍යතෙ" යි කී කල්හි කවරක්හු විසින් දැ යි විශෙෂාපෙක්ෂායෙහි රජහු විසිනැ යි අපෙක්ෂා කරනු ලබන හෙයින් රජහු හා පුත්‍රයාගේ සම්බන්ධය වේ. මෙහි "බ්‍රාහමණස්‍ය පුත්‍රඃ" යි හෝ "වෛශ්‍යස්‍ය පුත්‍රඃ" යි කියන්නට පිළිවන් හෙයින් බ්‍රාහමණාදීන්ට සාමාන්‍ය වූ පුත්‍රයා ඒ බ්‍රාහමණාදීන් කෙරෙන් රජ වෙසෙසා නු යි විසෙසන නම් වේ, පුත්‍ර වනාහි රජහු විසින් වෙසෙසන ලද බැවින් විශෙෂ්‍ය නම් වේ.

"විශෙෂ්‍යස්තත්‍ර කශ්චිත් ස්‍යාත් සම්බන්ධෙ'න්‍යො විශෙෂකඃ,
ස ක්‍රියාං කාඤ්චිදාශ්‍රිත්‍ය සම්බන්ධස්තු ප්‍රවර්තතෙ" යි.

ඒ සම්බන්ධයා දක්ෂය කල්හි "රාඥඃ පුත්‍රඃ" යන මෙහි විශෙෂණයා කොරෙන් ෂෂ්ඨී කුමැ යි වූ ද යත්? ඔහු කොරෙන් ම වූ ෂෂ්ඨිය සම්බන්ධය කියත් මුත් විශෙෂ්‍යයා කොරෙන් වූ ෂෂ්ඨිය නො කියන හෙයිනි. මෙම කීහ:—

"විශෙෂ්‍යො'පි තත්‍ර සම්බන්ධ ෂෂ්ඨී මිච්ඡන්ති භෙදකාත්,
තස්මාදෙව හි සඤ්ජාතාං සම්බන්ධං වක්ති නාන්‍යතඃ" යි.

විශෙෂණ විශෙෂ්‍ය දෙදෙනා ම සම්බන්ධී බැවින් ඔවුන් දෙදෙනා ම කෙරෙන් ෂෂ්ඨී කුමැ යි නො වන්නී ද යත්? එසේ කල්හි සම්බන්ධය අතිශයින් ප්‍රකාශ වන්නේ නො වේ ද යත්? දෙදෙනා කෙරෙහු ද වීම ප්‍රයොග නො වෙයි; කුමැ යි ද යත්? ව්‍යර්ථ හෙයිනි, එසේ නම් කෙසේ හැගේ ද යත්? එකක්හු කෙරෙන් ම ප්‍රයුක්ත වූ ෂෂ්ඨිය විසින් විශෙෂණවිශෙෂ්‍යසංඛ්‍යාත උභය සම්බන්ධීන් කෙරෙහි ම පවත්නා සම්බන්ධයාගේ සර්වප්‍රකාර යෙන් ප්‍රතීතිය වන හෙයිනි.

එයින් කීහ:—

"න වයා දපි ජායෙත ෂෂ්ඨී ජායත එකතඃ;
උභයො රපි සම්බන්ධ ප්‍රතීතිඃ සර්වථා භවෙත්." යි.

එසේ කල්හි දෙදෙනා කෙරෙන් කිසි කලෙක්හි විශෙෂණයා කෙරෙහු ද කිසි කලෙක්හි විශෙෂ්‍යයා කෙරෙහු ද ෂෂ්ඨී විය යුතු නො වේ ද යත්? නො වන්නී යි. කුමැ යි ද යත්? විශෙෂ්‍යයා කෙරෙන් ප්‍රයුක්ත වූ ෂෂ්ඨිය විසින් සම්බන්ධයාගේ අප්‍රකාශය හෙයිනි.

කීයේ මැ නො:—

"එකස්මා ජ්ජායමානාපි න භෙද්‍යාත් කුත්‍රචිද් භවෙත්,
ජායා පත්‍යයා යස්මාත් සම්බන්ධො නාභිධීයතෙ." යි.

විශෙෂණයා කෙරෙන් ප්‍රයුක්ත වූ ෂෂ්ඨිය සම්බන්ධයා ප්‍රකාශ කෙරෙ යි, විශෙෂ්‍යයා කෙරෙන් ප්‍රයුක්ත වූවා නො කෙරෙ යි යන මේ කෙසේ හැගේ ද යත්? ශබ්දශක්ති ස්වභාව හෙයින් හැගේ, විශෙෂණයෙන් වූ ෂෂ්ඨියගේ සම්බන්ධ ප්‍රකාශනයෙහි සාමර්ථ්‍යය හෙයින් ප්‍රතීයමාන වෙ යි යේ යි.

ඉදින් මේ ශබ්දශක්ති ස්වභාවයෙනැ යි හැගේ නම් හුදු ප්‍රතීතිය ම ප්‍රමාණ නියා ය, එසේ කල්හි මරීචි කාලයෙහි ජලප්‍රතීතිය ප්‍රමාණ නො වේ ද යත්? නැති—ලොකප්‍රතීත්‍යනුසාරයෙන් ම ශබ්දාර්ථ නියමය වන හෙයින් ශබ්දවිෂයෙහි ප්‍රතීතිය ම ප්‍රමාණ වෙ යි යනු දූෂ්‍ය නො වෙයි ගන්න. මෙම කීහ:—

"ශබ්දශක්තිස්වභාවො'යමිති වාත්‍ර ප්‍රතීයතෙ,
අන්‍යථා කථ මෙෂා ස්‍යාත් සම්බන්ධො'ර්ථවයස්ථිතෙ." යි.

**විසෙසනතො තාව-රඤ්ඤො පුරිසො, එත්ථ ච රාජා පුරිසං අඤ්ඤසාමිතො විසෙසෙති නිවත්තෙතීති විසෙසනං-පුරිසො තෙන විසෙසියතීති විසෙසිතබ්බො-එවං සබ්බත්ථ විසෙසිතබ්බ යොගෙ විසෙසනතොව ඡට්ඨී.**

**භණ්ඩාන සම්බන්ධෙ, පහූතං මෙ ධනං සක්ක, එකස්ස පටිවිංසො, භික්ඛුස්ස පත්තචීවරං.**

**සමීපසම්බන්ධෙ—අම්බවනස්ස අවිදූරෙ, නිබ්බානස්සෙව සන්තිකෙ.**

---

මෙබඳු සම්බන්ධයක් ඇතැ යි කොයින් හැඟේ ද යත්? ඥාන යෙන් හැඟේ, එසේ ම නු—ඥානය හැර ඥෙය වස්තූන්ගේ ව්‍යවස්ථාව නො මි යුක්ත ය, එහෙයින් මේ රාජ පුරුෂ දෙදෙනා අන්‍යොන්‍ය සම්බන්ධීහ යි එවම්ාකාර වූ බුද්ධි තොම යමක්හු නිමිත්ත කොට ගෙන උපදී ද එ බඳු වූ සෙව්‍යසෙවක භාවාදි භෙදභින්න වූ පදාර්ථ විශෙෂය සම්බන්ධය යි කියනු ලැබෙ යි, එයින් කීහ:—

> "යතඃ සම්බන්ධිනා වෙතෞ බුඬිඃ සමුපජායතෙ,
> සම්බන්ධ ඉති විඥෙයඃ පදාර්ථස්ස පෘථග්විධඃ" යි.

දැන් "උපාධිට්ඨානාගම්තො නිතො ඡට්ඨී භවෙ" යි යූ බැවින් තුන්දෙනා කෙරෙන් යථාක්‍රමයෙන් ෂෂ්ඨී විධාන කරනුවෝ කියත් "විසෙසනතො තාව" යනාදි.

තාව, පළමු කොට; විසෙසනතො, විශෙෂණවාචි ශබ්දයා කෙරෙන්; "සම්බන්ධෙ අභිධෙය්‍යෙ ඡට්ඨී විධීයතෙ" යි යොදනු. රඤ්ඤො, රජහු සම්බන්ධි වූ; පුරිසො, පුරුෂ යි; මේ ස්වාමිසම්බන්ධ යෙහි ෂෂ්ඨී යි. එත්ථ ච, "රඤ්ඤො පුරිසො" යන මෙහි දූ; රාජා, රජ තෙම; පුරිසං, පුරුෂයා; අඤ්ඤසාමිතො, සෙසු බ්‍රාහමණාදි ස්වාමිහු කෙරෙන්; විසෙසෙති, වෙනස් කෙරේ නු යි; නිවත්තෙති, ව්‍යවච්ඡෙද කෙරේ නු යි; විසෙසනං, විශෙෂණ නම් වෙයි; පුරිසො, පුරුෂ තෙම; තෙන, ඒ රජහු විසින්; විසෙසියතීති, වෙනස් කරනු ලැබේ නු යි; විසෙසිතබ්බො, විශෙෂ්‍ය නම් වේ; එවං, මෙසේ; සබ්බත්ථ, හැම තන්හි ම; විසෙසිතබ්බයොගෙ, විශෙෂ්‍යයා හා සම්බන්ධයක් ඇති කල්හි; විසෙසනතොව ඡට්ඨී, විශෙෂණවාචි ශබ්දයා කෙරෙන් ම සම්බන්ධයෙහි ෂෂ්ඨී වන්නී යි;

**සමූහසම්බන්ධෙ-සුවණ්ණස්ස රාසි, භික්ඛූනං සමූහො.**

**අවයවසම්බන්ධෙ-මනුස්සස්සෙව තෙ සීසං, රුක්ඛස්ස සාඛා.**

**විකාරසම්බන්ධෙ-සුවණ්ණස්ස විකති-හටකධඤ්ඤාදීනං සත්තු.**

**කාරියසම්බන්ධෙ-යවස්ස අඞ්කුරො, මෙඝස්ස සද්දො, පුඤ්ඤාපි ත්‍යස්ස බහවො, කම්මානං ඵලං විපාකො.**

**අවත්ථාසම්බන්ධෙ-ඛන්ධානං පාතුභාවො, ඛන්ධානං ජරා, ඛන්ධානං භෙදො.**

**ජාතිසම්බන්ධෙ-මනුස්සස්ස භාවො, මනුස්සානං ජාති-ගුණසම්බන්ධෙ-සුවණ්ණස්ස වණ්ණො, වණ්ණො න බීසෙඑ තථාගතස්ස-බුද්ධස්ස ගුණඝොසො-පුප්ඵානං ගන්ධො, ඵලානං රසො, චිත්තස්ස ඵුසනා, සිප්පියානං සතං නත්ථි-තිලානං මුට්ඨි-තෙසං සමායොගො.**

---

යම්සේ "රඤ්ඤො පුරිසො" යන තැන්හි විශෙෂ්‍යයා හා සම්බන්ධයක් ඇති කල්හි විශෙෂණයා කෙරෙන් ෂෂ්ඨී ප්‍රයුක්ත ද එසේ ම වක්ෂ්‍යමාණ වූ "පහූතං මෙ ධනං සක්ක" යනාදි සියලු ප්‍රයොගයෙහි ද විශෙෂ්‍යයා හා සම්බන්ධයක් ඇති කල්හි විශෙෂණයා කෙරෙන් ම ෂෂ්ඨී ප්‍රයුජ්‍යමාන වන්නීය යි සේ යි.

භණ්ඩසම්බන්ධෙ, භාණ්ඩයා හා භාණ්ඩිහුගේ සම්බන්ධයක් කියයුතු කල්හි විශෙෂණයා කෙරෙන් ෂෂ්ඨී දක්වනු ලබන්නී යි; භාණ්ඩ භාණ්ඩිහුගේ සම්බන්ධය යි ද ස්වාමිසම්බන්ධය මැ යි. සක්ක, ශක්‍රය; මෙ, මා සම්බන්ධි වූ; ධනං, ධනය; පහූතං, විපුල යි; එකස්ස, එකෙක්හුගේ; පටිවිංසො, කොට්ඨාසය යි; භික්ඛුස්ස, මහණහුගේ; පත්තචීවරං, පාසිවුරු යි.

සමීපසම්බන්ධෙ, සමීපයා හා සමීපිහුගේ සම්බන්ධයක් කියයුතු කල්හි ෂෂ්ඨී විධානය කරන ලබන්නී යි; සමීපෙන සම්බන්ධො සමීපසම්බන්ධො තස්මිං, සමීපසමීපීභාව සම්බන්ධෙ ති වුත්තං හොති. එවමුපරිපි විග්ගහො වෙදිතබ්බො. අම්බවනස්ස, ආම්‍රවනයාගේ; අවිදූරෙ, සමීපයෙහි; නිබ්බාණස්සෙව, අමෘතමහානිර්වාණයාගේ ම; සන්තිකෙ, ආසන්නයෙහි යි.

සමූහසම්බන්ධෙ, සමූහයා හා සාමිහුගේ සම්බන්ධය ද්‍යොතක කල්හි ෂෂ්ඨී යොදන ලබන්නී යි; සුවණ්ණස්ස, ස්වර්ණයාගේ; රාසි, රැස යි; භික්ඛූනං, භික්ෂූන්ගේ; සමූහො, සමූහය යි.

අවයවසම්බන්ධෙ, අවයවය හා අවයවීහුගේ සම්බන්ධයක් කිවමනා කල්හි ෂෂ්ඨී යොදන ලබන්නී යි; තෙ, තාගේ; සීසං, හිස; මනුස්සස්සෙව, මනුෂ්‍යයෙකුගේ ශීර්ෂය බඳු ය; රුක්ඛස්ස, වෘක්ෂයාගේ; සාඛා, ශාඛාව යි.

විකාරසම්බන්ධෙ, විකාරසම්බන්ධයෙහි ෂෂ්ඨී වන්නී යි; සුවණ්ණස්ස, සුවර්ණයාගේ; විකති, වලයාදි විකාර යි; හටයබද්ධානං, බඳනා ලද ව්‍රීහ්‍යාදි ධාන්‍යයාගේ; සත්තු, හත්වට යි.

කාරියසම්බන්ධෙ, කාර්‍ය්‍යය හා කාර්‍ය්‍යීහුගේ සම්බන්ධයක් කිය යුතු කල්හි ෂෂ්ඨී කියන ලබන්නී යි; යවස්ස, යව ශස්‍යයාගේ; අඞ්කුරෝ, පැළය යි; මෙඝස්ස, මෙඝයාගේ; සද්දො, ශබ්දය යි. මෙඝස්ස සද්දො යන මෙහි කිසිසේත් අවිඥානක ශබ්දය සෘතුජය, එතකුදුවත් 'මෙඝස්ස' යි නිශ්‍රය වශයෙන් විශෙෂණ යි. තස්ස, ඔහුගේ; පුත්තාපි, පුත්‍රයෝ ද; බහවො, බොහෝ හ; කම්මානං, කුශලාකුශලකර්මයන්ගේ; ඵලං විපාකො, ඵල සඞ්ඛ්‍යාත විපාකය යි.

අවත්ථාසම්බන්ධෙ, අවස්ථාව හා අවස්ථාසහිතයක්හුගේ සම්බන්ධය අභිධාතව්‍ය කල්හි ෂෂ්ඨී ප්‍රයුජ්‍යමාන වන්නී යි; ඛන්ධානං, පඤ්චස්කන්ධයන්ගේ; පාතුභාවො, උත්පත්තිය යි; ජරා, පරිපාකය යි; භෙදො, භඞ්ගය යි; මෙහි "ඛන්ධානං පාතුභාවො" යනු උත්පාදාවස්ථා සම්බන්ධයෙහි ෂෂ්ඨී යි. "ඛන්ධානං ජරා" යනු ස්ථිත්‍යවස්ථා සම්බන්ධයෙහි ෂෂ්ඨී ය. ඛන්ධානං භෙදො යනු භඞ්ගාවස්ථා සම්බන්ධයෙහි ෂෂ්ඨී යි.

ජාතිසම්බන්ධෙ, ජාතිය හා ජාතිමත්හුගේ සම්බන්ධය ප්‍රකාශ කළ යුතු කල්හි ෂෂ්ඨී ප්‍රයොග කරනු ලබන්නී යි; මනුස්සස්ස, මනුෂ්‍යශබ්දයාගේ; භාවො, ප්‍රවෘත්ති නිමිත්තය යි; මනුස්සානං, මනුෂ්‍යයන්ගේ; ජාති, ජාතිය යි; "මනුස්සස්ස භාවො" යන මෙහි භාව නම් මනුෂ්‍ය ශබ්දයාගේ ප්‍රවෘත්තිනිමිත්ත වූ විජාතීය විනිවර්ත්ති වූ සවජාතීය සාධාරණ වූ සාමාන්‍යාකාරය යි. ගුණසම්බන්ධෙ, ගුණ ගුණීහුගේ සම්බන්ධය කියයුතු කල්හි ෂෂ්ඨී යොදන ලබන්නී යි; සුවණ්ණස්ස, * භූතසඞ්ඝාතමය වූ කනකයාගේ; වණ්ණො, පීත වර්ණය යි; තථාගතස්ස, සම්බුද්ධවරයාගේ; වණ්ණො, ශීලාදි ගුණය; න ඛීයෙථ, ක්ෂය නොවේ; කියා ගෙවා ගන්නට නො පිළිවනැ යි සේ යි. බුද්ධස්ස, බුදුවරයාගේ; ගුණඝොසො, කීර්ති ඝොෂාව යි; පුප්ඵානං, පුෂ්පයන්ගේ; ගන්ධො, ගන්ධය යි; ඵලානං, ඵලයන් පිළිබඳ වූ; රසො, රසය යි; චිත්තස්ස, විඥානයාගේ;

---

* භූතසාරමය යි හැඟේ.

**සඞ්ඛතො විමොක්ඛො - තථාගතස්ස පඤ්ඤාපාරමිං ආරබ්භ පුබ්බචරියං වා - සුඛං තෙ - දුක්ඛං තෙ - චෙතසො පරිවිතක්කො උදපාදි - පඤ්ඤාය පටුභාවො, රූපස්ස ලහුතා, රූපස්ස මුදුතා රූපස්ස උපචයො.**

**ක්‍රියා සම්බන්ධෙ - පාදස්ස උක්ඛෙපනං, පාදස්ස අවක්ඛෙපනං වා - හත්ථස්ස සම්මිඤ්ජනං - පාදානං පසාරණං, ධාතූනං ගමනං, ධාතූනං යෙව ඨානං නිසජ්ජා සයනං වා - තථාගතස්ස නාම ගොත්තාදි - තස්ස කාරණං, තස්ස මාතාපිතරො, තස්ස පුරතො පාතුරහොසි - තස්ස පච්ඡතො පච්ඡතො - නගරස්ස දක්ඛිණතො - වස්සානං තතියෙ මාසෙ - න තස්ස උපමා - කුමාරස්ස බලි ඉච්චාදි - ඨානිතො, යමෙදන්තස්සාදෙසො, ඔ අවස්ස - ආගමිතො, පුථස්සාගමො ඉච්චාදි.**

**සාමියොගෙ - දෙවානම්පියො, මිගානං රාජා.**

**තබ්බිරුද්ධියොගෙ - මහාසෙනාපතීනං උජ්ඣාපෙතබ්බං විකන්දිතබ්බං විරවිතබ්බං - දෙවදත්තස්ස රුජති - තස්ස රොගො උප්පජ්ජි - රජකස්ස වත්ථං දදාති - මුසාවාදස්ස ඔත්තප්පං ඉච්චාදි.**

---

ඵුසනා, භිත්ති ස්පර්ශ කරන හිරු රැස් මෙන් අරමුණු ස්පර්ශ කිරීම් ගුණය යි; ශත ය මුෂ්ටි ය සමායොග ය යනාදි සඞ්ඛ්‍යාපරිමාණාදීහු ද ලොකයෙහි ගුණභාවයෙන් ම ව්‍යවහාර කරනු ලැබෙති, එහෙයින් "සිප්පිකානං සතං නත්ථි" යනාදි ගුණසම්බන්ධයෙහි ෂෂ්ඨිය ම උදාහරණ කරන ලදැ යි දතයුතු. සිප්පිකානං, බොල්ලන් සම්බන්ධි වූ; සතං නත්ථි, සියයෙක් නැති; තිලානං, තල පිළිබඳ; මුට්ඨි, මුෂ්ටිය යි; තෙසං, ඔවුන්ගේ; සමායොගො, එක්විම යි.

සඞ්ඛතො, සඞ්ඛතාර්ථසම්බන්ධීහුගේ; විමොක්ඛො, විශෙළෂය යි; තථාගතස්ස, තථාගතයන් වහන්සේගේ; පඤ්ඤාපාරමිං ආරබ්භ, ප්‍රඥාසඞ්ඛ්‍යාත පාරමිතාගුණය අරභයා; 'කථෙසි' යි යොදනු "තථාගතස්ස පුබ්බචරියං ආරබ්භ" යි යොදන්න. තෙ, තා සම්බන්ධි වූ; සුඛං, සුඛ ය; 'අහොසි' යි යොදනු. "දුක්ඛං තෙ" යනුයෙහි ද එසේ මැ යි. චෙතසො, චිත්තයාගේ; පරිවිතක්කො **උදපාදි, පරිවිතර්කණයෙක් උපනි; පඤ්ඤාය, ප්‍රඥාවගේ; පටුභාවො,**

ව්‍යක්ත බව යි; රූපස්ස, රූපයාගේ; ලහුතා, සුධෞත සුවර්ණයක්හුගේ මෙන් ලඝුත්වය යි; මුදුතා, සුපරිමර්දිත චර්මයක්හුගේ මෙන් මෘදුත්වය යි; උපචයො, රැස්වීම යි නොහොත් මදක් රැස් වීම යි.

ක්‍රියාසම්බන්ධ,ක්‍රියාව හා ක්‍රියාවත්හුගේ සම්බන්ධය පහළ කට යුතු කල්හි විශෙෂණයා කෙරෙන් ෂෂ්ඨී විධීයමාන වන්නී යි; පාදස්ස, චරණයාගේ; උක්ඛෙපනං, උඩට නැගීම යි; අවක්ඛෙපනං වා, යට බලා හෙළීම හෝ වෙයි; හත්ථස්ස, හස්තයාගේ; සම්මිඤ්ජනං, සඞ්කොචනය යි හෙවත් හැකිළීම යි; පාදානං, පාදයන්ගේ; පසාරණං, ආයමනය යි හෙවත් දික්කිරීම යි; ධාතූනං, පෘථිව්‍යාදි ධාතූන්ගේ; ගමනං, (පාදෙතපාතාවපතන ලක්ෂණ) ගමනය; ධාතූනං යෙව, පෘථිව්‍යාදි ධාතූන්ගේ ම; ඨානං, ගති නිවෘත්තිය;"ධාතූනං නිසජ්ජා,ධාතූනං සයනං"යනාදිය ද මෙසේ යි. දූන් "සමීප-පෙ-ක්‍රියාදිවසෙන වා" යන මෙහි ආදිශබ්දසංගෘහීත යන්ගේ සම්බන්ධයෙහි විශෙෂණයා කෙරෙන් ෂෂ්ඨී විධාන කරනුවෝ කියත් * "තස්ස නාමගොත්තාදි" යනාදි—"තස්ස නාමගොත්තාදි-පෙ-කුවෙරස්ස බලි" ඉති, "තස්ස නාමගොත්තාදි -පෙ-කුවෙරස්ස බලි" යන මේ ආදි; තථා, එසේ මැ යි; විශෙෂණයා කෙරෙන් ම ප්‍රයුක්ත වූ සම්බන්ධ ෂෂ්ඨිය යි සේ යි; මෙහි "තස්ස නාමගොත්තාදි" යනු නාමගොත්‍රාදි සම්බන්ධයෙහි ෂෂ්ඨී ය, 'තස්ස කාරණං' යනු කාරණ සම්බන්ධයෙහි ෂෂ්ඨී ය, 'තස්ස මාතාපිතරො' යනු ව්‍යවහාර සම්බන්ධයෙහි ෂෂ්ඨී ය, ජන්‍ය ජනකභාව සම්බන්ධයෙහි ෂෂ්ඨිය යි ද කියත්-යෙදේ මැ යි; "තස්ස පුරතො" යනාදි දෙශසම්බන්ධෂෂ්ඨියට ය. "වස්සානං තතියෙ මාසෙ" යනු පූරණ සම්බන්ධයෙහි ෂෂ්ඨී ය. "න තස්ස උපමා" යනු උපමා සම්බන්ධයෙහි ෂෂ්ඨී ය. "කුවෙරස්ස බලි" යනු උපහාර සම්බන්ධයෙහි ෂෂ්ඨී යි.

තස්ස ඔහුගේ; නාමගොත්තාදි, නාමගොත්‍රාදිය යි; තස්ස, ඔහුගේ; කාරණං, කරුණ යි; තස්ස පුරතො, ඔහුගේ අභිමුඛ දෙශයෙහි; පාතුරහොසි, පහළ වී; තස්ස පච්ඡතො පච්ඡතො, ඔහුගේ පසු පස්සෙහි; අනුබන්ධි, යි යොදනු. නගරස්ස, නගරයාගේ; දක්ඛිණතො, දකුණු දිගින්; වස්සානං, වර්ෂයන්ගේ; තතියෙ මාසේ, තුන්වන මසැ; "වස්සානං" යි වස් එළඹෙන

---

* "තථාගතස්ස" පෙළ.

කාලය කියත්; බහුවචනය වනාහි අවයවාපෙක්‍ෂායෙන් කරන ලදි. තස්ස, ඔහු සම්බන්‍ධි ව; උපමා න, උපමාවෙක් නැති; කුවේරස්ස, වෛශ්‍රවණයා සම්බන්‍ධි වූ; බලි, පුෂ්පාද්‍යුපහාරය යි; යානිතො, ආදෙශිනු කොරෙන් සම්බන්‍ධය කිවමනා කල්හි ෂෂ්ඨී දක්වනු ලැබේ; එදන්තස්ස, පදන්ත එකාරයා සම්බන්‍ධි ව; යං ආදෙසො, ය යන රූපය ආදෙශ වේ; අවස්ස, අව ශබ්දයා සම්බන්‍ධි ව; ඔ, ඔකාරයෙක් ආදෙශ වේ;මේ දෙක ආදෙශ සම්බන්‍ධයෙහි ෂෂ්ඨී යි. ආගම්තො,ආගම්නු කොරෙන් ෂෂ්ඨී විධාන කරනු ලැබේ; පුථස්ස, පුථ ශබ්දයාගේ අන්තස්වරය සම්බන්‍ධ ව, ආගමො, ගකාරයෙක් ආගම වෙයි යන; ඉති ආදි, මේ ආදිය යි; 'පුථස්සාගමො' යන මෙහි පුථ යන ශබ්ද තෙම ආගම ශබ්දය හට විශෙෂණ නො වෙ යි, එතකුදු වත් පුථ ශබ්දයගේ සමීපයෙහි ආගම වේ නු යි ආගම සම්බන්‍ධයෙහි ෂෂ්ඨී යි.

වාග්‍රහණයෙහි ඵල දක්වනුවෝ "සාමි යොගෙ" යනාදි කීහු. සාමියොගෙ, ස්වාමිවාචක ශබ්දයන්ගේ ප්‍රයොගයක් ඇති කල්හි උදාහරණ කියනු ලැබේ දෙවානං, සුරයන්ගේ; ඉස්සෙ, ස්වාමි යි; මිගානං, මෘගයන්ගේ; රාජා, රජ යි; මෙහි ඉස්ස ශබ්ද රාජ ශබ්ද දෙකින් කියන ලද ස්වාමීහු දෙව මෘගයන්ගේ පරිග්‍රහ නො වෙත් නු යි "යස්ස වා පරිග්ගහො තං සාමි" යන සූත්‍රයෙහි 'වා' ශබ්දයෙන් ස්වාමි සංඥා කරන ලද කල්හි "සාමිස්මිං ඡට්ඨී" යි ෂෂ්ඨී විභක්ති වන්නී යි.

තබ්බරූජාදියොගෙ, තබ්බරූජාදි යොගයෙහි ෂෂ්ඨී දක්වනු ලැබේ; මහාසෙනාපතීනං, යක්‍ෂ මහාසෙනාපතීන් ලවා; උජ්ඣාපෙතබ්බං, "අයං යක්ඛො ගණ්හාති" යනාදීන් කෘතාපරාධ කියා අවඥා කටයුතු; "මහාසෙනාපතීනං වික්කන්දිතබ්බං" "මහාසෙනාපතීනං විරවිතබ්බං" යි යොදනු. මේ තබ්බයොගයෙහි ෂෂ්ඨී යි; දෙවදත්තස්ස, දෙවදත්තයා හට; රුජති, පීඩා කෙරේ; තස්ස, ඔහට; රොගො, ව්‍යාධියක්; උප්පජ්ජි, උපන; රජකස්ස, රදවුට; වත්ථං, වස්ත්‍රය; දදාති, දෙවන පිණිස දේ; මෙහි දෙවන පිණිස වස්ත්‍රය දෙන බැවින් සම්‍යක්ප්‍රදානයෙක් නැත්නු යි "සම්පදානෙ චතුත්ථී" යි චතුර්ථී විභක්ති නො වන්නීය යි දතයුතු; මුසාවාදස්ස, මෘෂාවාදයට; ඔත්තප්පං, බන්නේ යි; "ඔත්තප්පං" යනු අනත්‍ය ප්‍රත්‍යයාන්ත ය, එහෙයින් "ඔත්තප්පනෙතා" යි නැති ත්‍රාසනවන්නේය යන අර්ථ යි; ඉච්චාදි, යන මේ ආදිය වේ.

**ක්වචි තතියා සත්තමීනන්ති ච වත්තතෙ.**

## 306. ඡට්ඨී ච-2-6-38.

**තතියා සත්තමීනමත්ථෙ ක්වචි ඡට්ඨී විභත්ති හොති.**

**යජස්ස කරණෙ-පුප්ඵස්ස බුද්ධං යජති, පුප්ඵෙන වා, ඝතස්ස අග්ගිං ජුහොති.**

**සුහිතත්ථයොගෙ-පත්තං ඔදනස්ස පූරෙත්වා, ඔදනෙනාති අත්ථො-ඉමමෙව කායං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති-පූරං හිරඤ්ඤසුවණ්ණස්ස-පූරති බාලො පාපස්ස.**

**තුල්‍යත්ථකිමලමාදියොගෙ-පිතුස්ස තුල්‍යො, පිතරා වා තුල්‍යො-මාතු සදිසො, මාතරා සදිසො වා-කිං තස්ස ච තුට්ඨස්ස, කිං තෙන තුට්ඨෙනාති අත්ථො-අලං තස්ස ච තුට්ඨස්ස**

---

ක්වචි, "ක්වචි දුතියා ඡට්ඨීනමත්ථෙ" යන සූත්‍රයෙන් "ක්වචි" යනු ද; තතියා සත්තමීනං ඉති ච, "තතියා සත්තමීනං" යන සූත්‍රයෙන් "තතියා සත්තමීනං" යනු ද; වත්තතෙ, මතු සූත්‍රයෙහි වැටේ.

ඡට්ඨී යන පද ය ච යනු පද යි.

"ඡට්ඨී ච" යන මේ සූත්‍රයෙහි ච ශබ්ද තෘතීයා සප්තමීග්‍රහණානුකර්ෂණය පිණිස යි.

තතියා සත්තමීනං අත්ථෙ, තෘතීයා විභක්ති සප්තමී විභක්ති දෙන්නාගේ අර්ථ කියයුතු කල්හි; ක්වචි ඡට්ඨී විභත්ති හොති, ලිඞ්ගයා කෙරෙන් පර ව කිසි විවක්ෂිත ස්ථානයෙක්හි ෂෂ්ඨී විභක්ති වන්නී යි.

තතියා සත්තමීනමත්ථෙ යනාදීන් සාමාන්‍යයෙන් කියන ලද අර්ථය ම විශේෂ හෙයින් දක්වනුවෝ යජස්ස කරණෙ යනාදි කීහු:—

යජස්ස, යජ-දෙවපූජායං යන ධාතුහුගේ යොගයක් ඇති කල්හි; කරණෙ, කරණ කාරක විෂයෙහි ෂෂ්ඨී යි; මෙහි යජ ග්‍රහණය යජනාර්ථ ධාතූන්ගේ ග්‍රහණයට උපලක්ෂණ ය. එහෙයින්

කියත් "ඝතස්ස අග්ගිං ජුහොති" යි. පුප්ඵස්ස, කුසුමය කරණ කොට ගෙන; බුද්ධං, සම්බුදුයා; යජති, පුදා; "පුප්ඵෙන" යන මිසකලොපාදාහරණයෙහි කරණෙ තතියා වන්නී යි. "පත්තං ඔදනෙන" යනාදියෙහි ද මෙසේ මැ යි. ඝතස්ස, ඝෘතය කරණ කොට ගෙන; අග්ගිං, ගිනි; ජුහොති, පුදා; 'ඝතෙන' යි තැනි.

සුහිතත්ථයොගෙ කරණෙ ඡට්ඨී යි යොදනු. සුහිතත්ථයොගෙ, තෘප්ත්‍යර්ථ ඇති ධාතූන්ගේ යොගයෙහි; කරණෙ, කරණ කාරක විෂයෙහි; ඡට්ඨී, ෂෂ්ඨී දක්වනු ලැබේ.

සුහිතො අත්ථො යෙසං තෙ සුහිතත්ථා තෙසං යොගො සුහිතත්ථයොගො, තස්මිං; තෘප්ත්‍යර්ථ යොගෙහි අත්ථො. ඔදනස්ස, ඔදනය කරණ කොට ගෙන; පත්තං, පාත්‍රය; පූරෙත්වා, පුරා; අදැයි යි යොදනු. නානප්පකාරස්ස අසුචිනො, අනෙක වූ ආකාර ඇති අශුචි කරණ කොට ගෙන; පූරං, පිරුණා වූ; ඉමමෙව කායං, චතුර්මහාභූතමය වූ මෙම පූති කාය ය; පච්චවෙක්ඛති, ඥානයෙන් නැවත බලා; 'නානප්පකාරෙන අසුචිනා' යි තැනි. හිරඤ්ඤසුවණ්ණස්ස, හිරණ්‍ය ස්වර්ණ දෙක කරණ කොට ගෙන; පූරං, පිරිණී; බාලො, අඥාන තෙම; පාපස්ස, පාපය කරණ කොට ගෙන; පූරති, පිරේ; "හිරඤ්ඤසුවණ්ණෙන පාපෙන" යි තැනි.

තුල්‍යත්ථකිමලමත්ථාදියොගෙ, තුල්‍යාර්ථ ඇති ශබ්ද ය කිං ශබ්ද ය අලමර්ථ (ප්‍රතිෂෙධාර්ථ) වාචි ශබ්ද ය යන මේ ආදීන්ගේ යොගයක් ඇති කල්හි ෂෂ්ඨී දක්වනු ලැබේ; පිතුස්ස, පියා හා; තුල්‍යො, සමාන යි; පිතරු තුල්‍යො වා, පිතරු තුල්‍යො කියා හෝ වේ; මාතු සදිසො යනාදිය ද මෙසේ මැ යි. තස්ස තුට්ඨස්ස, ඔහු සතුටුවූයෙන්; කිං ච, කවර ප්‍රයොජනයෙක් ද; තස්ස ච තුට්ඨස්ස, ඔහු සතුටුවූයෙනු දු; අලං, කම් නැත.

මාතු සදිසො යන මෙහි "උ සස්මිං සලොපො ච" යන සූත්‍රයෙන් උභය සලොප දෙක වේ; පිතරු තුල්‍යො, මාතරු සදිසො යනු "කත්තරි ච" යන මේ සූත්‍රයෙහි ච ශබ්දය හට විෂය යි. "කිං තස්ස ච තුට්ඨස්ස, අලං තස්ස ච තුට්ඨස්ස" යන මේ උදාහරණ සිලාකාදි සූත්‍රයෙහි අලමර්ථ ග්‍රහණයෙන් ම සිද්ධ ය, එතකුදුවත් කිමලමාදි යොගයක් ඇති කල්හි තෘතීයාර්ථයෙහි ෂෂ්ඨී දක් වන්නීය යි හඟවනු පිණිස මෙහි කියන ලද යි දතයුතු.

**කත්තරි * ක්තපච්චයයොගෙ-සොභනා කච්චායනස්ස කති, කච්චායනෙන වා-රඤ්ඤො සම්මතො, රඤ්ඤා වා-එවං රඤ්ඤො පූජිතො, රඤ්ඤො සක්කතො, රඤ්ඤො අපචිතො, රඤ්ඤො මානිතො, අමතං තෙසං භික්ඛවෙ අපරිභුත්තං යෙසං කායගතා සති අපරිභුත්තා ඉච්චාදි.**

**සත්තමියත්ථෙ කුසලාදියොගෙ-කුසලා නච්චගීතස්ස සික්ඛිතා චතුරිත්ථියො-කුසලො ත්වං රථස්ස අඞ්ගපච්චඞ්ගානං-කුසලො මග්ගස්ස-කුසලො අමග්ගස්ස-සන්ති හි භන්තෙ උළාරා යක්ඛා භගවතො පසන්නා-දිවසස්ස තික්ඛත්තුං, දිවසෙ තික්ඛත්තුං වා-මාසස්ස ද්වික්ඛත්තුං ඉච්චාදි.**

---

ක්තපච්චයයොගෙ, ක්තප්‍රත්‍යයාන්තයා සමග යොගයක් ඇති කල්හි; කත්තරි, කර්තෘ විෂයෙහි ෂෂ්ඨී කියනු ලැබේ; කච්චායනස්ස, කාත්‍යායනයා විසින්; කති, කරණය; සොභනා, සුන්දර යි; කාත්‍යායන ස්ථවිරයා විසින් විරචිත ශබ්දලක්ෂණය ප්‍රශස්තය යි සේ යි. "කච්චායනෙන" යනු "කත්තරි ච" යන සූත්‍රයට විෂය යි. මත්තෙහි "රඤ්ඤො" යනාදියෙහිද එසේ මැ යි. රඤ්ඤො, රජහු විසින්; සම්මතො, සම්මත කරන ලදි; "රඤ්ඤො පූජිතො -පෙ- අපරිභුත්තා" ඉති, රඤ්ඤො පූජිතො පෙ-අපරිභුත්තා යන; ආදි, මේ ආදිය ද; එවං, මෙසේ මැ යි; ක්තයොගයක් ඇති කල්හි කර්තෘවිෂයෙහි ෂෂ්ඨියගේ භාවාභාවය යථොක්ත උදාහරණ සේම ය යි සේ යි. අපචිතො, පුදන ලදි; මානිතො, බහුමාන කරන ලදි; භික්ඛවෙ, මහණෙනි; යෙසං, යම් කෙනෙකුන් විසින්; කායගතා සති, කාගියා සීතොම; අපරිභුත්තා, නොවළඳන ලද ද; තෙසං, ඔවුන් විසින්; අමතං, අමෘතය; අපරිභුත්තං, නො වළඳන ලදි; පෙහි යෙහි යයි යූ තැනි. ඉච්චාදි, යන මේ ආදිය යි.

සත්තමියත්ථෙ, සප්තම්‍යර්ථයෙහි; කුසලාදි යොගෙ, කුශල ප්‍රසන්නාදි ශබ්දයන් හා යොගයක් ඇති කල්හි ෂෂ්ඨී වන්නී යි; නච්චගීතස්ස, නෘත්‍යගීත විෂයෙහි; කුසලා, දක්ෂ වූ; සික්ඛිතා, සත්‍රි විධියෙහි හික්මුණා වූ; චතුර, චාතුර්‍ය විලාසයෙන් යුක්ත වූ; ඉත්ථියො, ප්‍රමදාවෝ; "කාමෙ තං රමයිස්සන්ති" යි යොදනු. නච්ච ගීතෙ යි තනි. රථස්ස, රථයාගේ; අඞ්ගපච්චඞ්ගානං, අවයව ප්‍රත්‍යවයව විෂයෙහි; ත්වං, තෝ; කුසලො, දක්ෂයෙහි; අඞ්ග පච්චඞ්ගෙසු යි තනි. මග්ගස්ස, මාර්ගයෙහි; කුසලො, ඡේකය;

---

* එත්ථ තිප්පච්චයස්සුත්තතා විය දිස්සන්ති යදි සො කත්තග්ගහණෙන ගය්හතෙ තස්සුදාහරණං තත්‍රාන්තරං නිද්දිසිතබ්බං.

**ක්වචි ඡට්ඨීති ච වත්තතෙ.**

## 307. දුතියා පඤ්චමීනඤ්ච-2-6-39.

**දුතියා පඤ්චමීනමත්ථෙ ච ක්වචි ඡට්ඨී විභත්ති හොති.**

**දුතියත්ථෙ තාමඤ්ඤ් කිත්තකයොගෙ-තස්ස භවන්ති වත්තා රො-සහසා කම්මස්ස කත්තාරො-අමතස්ස දාතා-භින්නානං සන්ධාතා-සහිතානං අනුප්පදාතා-ඛොධෙතා පජිය-කම්මස්ස කාරකො නත්ථි විපාකස්ස ච වෙදකො-අවිසංවාදකො ලොකස්ස-පාපානං අකරණං සුඛං-චතුන්නං මහාභූතානං උපාදාය පසාදෙ-අච්ඡරියො අරජකෙන වත්ථානං රාගො-අච්ඡරියො අගොපාලකෙන ගාවීනං දොහො.**

**තථා සරිච්ඡාදීනං කම්මණී-මාතු සරති, මාතරං සරති-න තෙසං කොචි සරති සත්තානං කම්මපච්චයා-පුත්තස්ස ඉච්ඡති, පුත්තමිච්ඡති.**

---

අමඟගස්ස, අමාංගීයෙහි; කුසලො, ප්‍රවීණ යි; මේ නිශ්ශරණයට මඟ ය මේ නොමඟය යි මාගීමාගී හැදින්වීමෙහි දක්‍ෂය යි සේ යි. මගෙග අමගෙග යි වක්‍තව්‍යස්ථානයෙහි මගගස්ස අමගගස්ස ය යි කියන ලදි. භතෙත, වහන්ස; භගවතො, භගවත්හු කෙරෙහි; පසන්නා, ප්‍රසන්න වූ; උළාරා, මහත් වූ; යක්ඛා, යක්‍ෂයෝ; සන්ති, ඇති; භගවති යි තනි. දිවසස්ස, දිවසයෙහි; තික්ඛත්තුං, තුන්වාර යක්; භුඤ්ජති යි යොදනු. දිවසෙ යනු "ඔකාසෙ සත්තමී" යන සූත්‍රයට විෂය යි; මාසස්ස, මාසයෙක්හි; ද්විකඛත්තුං, දෙවාරයක්; භුඤ්ජති යි යොදන්න; මාසෙ යී තනි.

ක්වචි ඡට්ඨීති ච, "ක්වචි දුතියා ඡට්ඨීනමත්ථෙ" යන සූත්‍රයෙන් ක්වචි යනු ද ඡට්ඨී යනු ද; වත්තතෙ, මතු සූත්‍රයෙහි වැටේ.

දුතියාපඤ්චමීනං යන පද ය ච යනු පද යි.

දුතියා ච පඤ්චමී ච දුතියා පඤ්චමියො, තාසං. මේ සූත්‍රයෙහි "ච" ශබ්ද ක්වචි ග්‍රහණාදීන්ගේ ආකර්‍ෂණය පිණිස යි.

දුතියාපඤ්චමීනං අත්ථෙ ච, ද්විතීයා විභක්ති පඤ්චමී විභක්ති දෙන්නාගේ අර්‍ථය ද්‍යොත්‍ය කල්හි ද; ක්වචි, කිසිතැනෙක්හි; ඡට්ඨී විභත්ති හොති, ෂෂ්ඨී විභක්ති වන්නී යි.

දුතියඤ්ච, ද්විතීයා විභක්තියගේ අර්ථ විෂයෙහි ෂෂ්ඨී දක්වනු ලැබේ; හෙ ද — කිතක යොගෙ කම්මණි, තු ණ්වු ආදි කෘත්ප්‍රත්‍යයාන්තයා හා යොගයක් ඇති කල්හි නිර්තීතියාදී කර්මකාරක විෂයෙහි ම වන්නී යි; තස්ස ච, ඔහට ද; වත්තාරො භවන්ති, කියන්නාහු වෙත්; තං ච වත්තාරො යි තනි. සහසා, අපරීක්ෂාව; කම්මස්ස කත්තාරො, කර්මය කරන්නාහු යි; කම්මං කත්තාරො යි තනි. අමතස්ස, අමෘතය; දාතා, දෙන්නේ යි; අමතං දාතා යි තනි. භින්නානං, බිඳුණාවුන්; සන්ධාතා, සමඟ කරන්නේ යි; භින්නෙන සන්ධාතා යි තනි. සහිතානං, සමඟයන්; අනුප්පදාතා, අනුබල දෙන්නේ යි; සහිතෙ අනුප්පදාතා යි තනි. පජාය, සත්ව ප්‍රජාව; බොධෙතා, අවබොධ කරවන්නේ යි; බොධෙතා පජං යි තනි. මේ තු ප්‍රත්‍යයාන්ත කෘත් යොගයෙහි කර්මෂෂ්ඨීයට උදාහරණ යි. කම්මස්ස, යොනිසොමනසකාරාදි වූ කුශලොත්පත්ති කාරණ සාමග්‍රියක් ඇති කල්හි ද අයොනිසොමනසකාරාදි වූ අකුශලොත්පත්තිප්‍රත්‍යය සමවායක් ඇති කල්හි ද උපදනා වූ කුශලාකුශලකර්මය; කාරකො, ඒ ඒ ප්‍රත්‍යය ව්‍යතිරික්ත වූ කරන එකෙක් ද; විපාකස්ස, ගති කාලාදි වූ ප්‍රත්‍යයසමවායයෙහි ඒ ඒ වස්ත්වාලම්බනාදි ප්‍රත්‍යය නිසා උපදනා වූ සුඛදුඃඛාදි වූ විපාකය; වෙදකො, අනුභව කරන්නෙක් ද; නත්ථි, පරමාර්ථ හෙයින් නැති; කම්මං කාරකො, විපාකං වෙදකො යි තනි. ලොකස්ස, ලොකයා අවිසංවාදකො, වංචා නො කරන්නේ යි; අවිසංවාදකො ලොකං යි තනි. මේ ණ්වු ප්‍රත්‍යයාන්ත කෘත් යොගයෙහි කර්මෂෂ්ඨීයට උදාහරණ යි. පාපානං අකරණං, පාපයන් නො කිරීම; සුඛං, සුඛයට කාරණ යි; පාපානි යි තනි, මේ යු ප්‍රත්‍යයාන්ත කෘත් යොගයෙහි කර්මෂෂ්ඨීයට උදාහරණ යි. චතුන්නං මහාභූතානං, පෘථිව්‍යාදි සතර මහාභූතයන්; උපාදාය, නිසා; පසාදෙ, චක්ෂුරාදි ප්‍රසාදරූපය වන්නේ යි; චත්තාරි මහාභූතානි උපාදාය යි තනි. මේ ත්වා ප්‍රත්‍යයාන්ත කෘත් යොගයෙහි කර්මෂෂ්ඨීයට උදාහරණ යි. අරජකෙන, නො රදනු විසින්; වත්ථානං රාගො, වස්ත්‍රයන් කෂායෙන් රැඳීම; අච්ඡරියො, ආශ්චර්‍ය්‍ය යි; වත්ථානි රාගො යි තනි. අගොපාලකෙන, නො ගොපල්ලා විසින්; ගාවීනං දොහො, දෙනුන්ගේ දෙවීම; අච්ඡරියො, ආශ්චර්‍ය්‍ය යි; ගාවියො දොහො යි තනි. මේ ණ ප්‍රත්‍යයාන්ත කෘත් යොගයෙහි කර්මෂෂ්ඨීයට උදාහරණ යි. මෙහි ද රාගො දොහො යන කිතකයන්ගේ යොගයක් ඇති කල්හි අරජක අගොපාලක දෙන්නාගේ කර්තෘ බැවින් ඒ ශබ්දයන් දෙන්නා කෙරෙන්

**කරොතිස්ස පතියතතෙ ච-පතියතනං අභිසංඛාරො-උද කස්ස පතිකුරුතෙ, උදකං පතිකුරුතෙ-කණ්ඩස්ස පතිකුරු තෙ, කණ්ඩං පතිකුරුතෙ.**

**පඤ්චමියත්ථෙ-පරිහාණි භයත්ථයොගෙ-අස්සවනතා ධම්ම ස්ස පරිහායන්ති-කිත්තුඛො අහං තස්ස සුඛස්ස භායාමි.**

**සබ්බෙ තසන්ති දණ්ඩස්ස සබ්බෙ භායන්ති මච්චුනො-භීතො චතුන්නං ආසිවිසානං ඉච්චාදි.**

---

"ඡට්ඨී ච" යන සූත්‍රයෙන් කර්තෘ කාරකයෙහි ද වසන්‍ර ගාවී යන මොවුන් දෙන්නා කර්ම බැවින් ඒ ශබ්දයන් දෙන්නා කෙරෙන් "තතියා පඤ්චමීනඤ්ච" යන සූත්‍රයෙන් කර්මකාරකයෙහි ද එකක්ෂණයෙහි ෂෂ්ඨීප්‍රසඞ්ගයක් ඇති කල්හි ඛචි ග්‍රහණ බලයෙන් අරජක අගොපාලක ශබ්දයන් දෙන්නා කෙරෙන් තෘ වෙයි දතයුතු.

සරිච්ඡාදීනං කම්මණි, 'සර-ගති චින්තාසු' 'ඉසු-ඉච්ඡා කන්තිසු'යනාදි ධාතූන්ගේ ක්‍රියාව්‍යාප්‍ය වූ කර්මකාරක විෂයෙහි ද; තථා, එසේම—කෘත් යොගයෙහි මෙන් ෂෂ්ඨී වන්නී යි; මෙහි ආදිශබ්දයෙන් දය-දානගතිරක්ඛණෙසු යනාදි ධාතූහු ගන්නා ලැබෙත්. එහෙයින් "තෙලස්ස දයති" යනාදි සිද්ධ යි. මාතු, මව; සරති, සිහි කෙරේ; 'මාතරං' යන්නෙහි ඛචිග්‍රහණාධිකාරයෙන් කර්මාර්ථයෙහි ද්විතීයා යි. මත්තෙහි 'පුත්තමිච්ඡති' යන්නෙහි ද මෙසේ මැ යි. කම්මපච්චයා, අකුශලකර්ම ප්‍රත්‍යයෙන්; තෙසං සත්තානං, ඒ ප්‍රෙතලොකයෙහි උපන් සත්ත්වයන්; කොචි, කිසි වෙක්; න සරති, සිහි නො කෙරේ; 'තෙ සත්තෙ න සරති' යි තති. පුත්තස්ස, පුත්‍රයා; ඉච්ඡති, කැමති වේ.

කරොතිස්ස, "කර-කරණෙ" යන ධාතුහුගේ ප්‍රයොගයක් ඇති කල්හි; පතියතනෙ ච, අභිසංස්කාරයක් ගම්‍යමාන කල්හි ද ෂෂ්ඨී වන්නී යි; පතියතනං, ප්‍රතියත්න නම්; අභිසංඛාරෙ, සකස් කිරීම යි; උදකස්ස, උදකය; පතිකුරුතෙ, සකස් කෙරේ; කණ්ඩස්ස, හී දණ්ඩ; පතිකුරුතෙ, සෘජු කෙරේ; "උදකං පති කුරුතෙ, කණ්ඩං පතිකුරුතෙ" යන දෙතන්හි පෙරසේම ද්විතීයා වේ.

පඤ්චමියත්ථෙ, පඤ්චමී විභක්තියගේ අර්ථවිෂයෙහි ෂෂ්ඨී දක්වනු ලැබේ; හෙ ද—පරිහානි භයත්ථ යොගෙ, පරිහාණ්‍යර්ථ භයාර්ථවාචි ශබ්දයන්ගේ යොගයක් ඇති කල්හි ම වන්නී යි;

**ඛචීති කිං? ගම්භීරඤ්ච කථං කත්තා-කාලෙන ධම්මිං කථං භාසිතා හොති-පරෙසං පුඤ්ඤානි අනුමොදිතා-බුජ්ඣිතා සච්චානි-කටං කාරකො-පසවො ඝාතුකො.**

**තථා න නිවඨාදිසු ච-සුඛකාමී විහාරං ගතො-රථං කතවා රථං කතාවී, කටං කත්වා, කටං කරොන්තො, කටං කාරාපෙන්තො, කටං කුරුමානො ඉච්චාදි.**

---

අස්සවනතා, නො ඇසීම හෙතු කොට ගෙන; මෙහි යකාර ලොපය යි. ධම්මස්ස පරිහායන්ති, ධර්මය කෙරෙන් පිරිහෙත්; ධම්මතො පරිහායන්ති යි තනි. අහං, මම; තස්ස සුඛස්ස, හේ සුඛයා කෙරෙන්; කිංනුබො භායාමි,කවර කාරණයෙකින් බම් ද; තතො සුඛතො භායාමි යි තනි.

සබ්බෙ, සිංහාදි ආජනීයයන් වර්ජිත කොට ඇති හැම දෙන ම; දණ්ඩස්ස, දණ්ඩනයෙන්; තසන්ති, භයට පැමිණෙත්; සබ්බෙ, හැම දෙන ම; මච්චුනො, මරණය කෙරෙන්; භායන්ති, භීතියට පැමිණෙත්;දණ්ඩතො තසන්ති,මච්චුතො භායන්ති යි තනි.

චතුන්නං ආසිවිසානං, චතුර්මහාභූත නමැති සතර ආශීවිෂයන් කෙරෙන්; භීතො, බියවූයේ යි; "භීතො චතුහි ආසිවිසෙහි" යි තනි.

ඛචි ඉති, අනුවෘත්ත වූ ඛචි යන මෙයින්; කිං, කවර ප්‍රයොජනයෙක් වේ ද? "ගම්භීරං කථං කත්තා" යනාදියෙහි කත්තා යනාදි තෘන් යොගයක් ඇති කල්හි දු අනුවෘත්ත ඛචිග්‍රහණ බලයෙන් ගම්භීරාය කථාය යනාදීන් කර්මාර්ථයෙහි ෂෂ්ඨී නොව ගම්භීරං කථං යනාදීන් ද්විතීයා ම වන්නී යි. ගම්භීරං ච කථං කත්තා, ප්‍රතීත්‍යසමුත්පාදාදීන් ප්‍රතිසංයුක්ත වූ ගම්භීර කථා කරන්නේ ද; කාලෙන, යුක්තප්‍රාප්ත කාලයෙහි; ධම්මිං කථං, ධර්මයෙන් යුක්ත වූ කථාවක්; භාසිතා හොති යි යොදනු. පරෙසං, මෙර මාගේ; පුඤ්ඤානි, පුණ්‍යකර්මයන්; අනුමොදිතා, අනුමෝදන් වන්නේ යි; සච්චානි, චතුස්සත්‍යයන්; බුජ්ඣිතා, දන්නේ යි; කටං, කලාලය; කාරකො, කරන්නේ යි; පසවො, චතුෂ්පාදයන්; ඝාතුකො, නසන්නේ යි.

**කස්මිං අත්ථෙ සත්තමී?**

## 308. ඔකාසෙ සත්තමී–2–6–32.

**කො ච ඔකාසො?**

## 309. යොධාරො තමොකාසං–2–6–8.

---

නිට්ඨාදිසු ච, නිෂ්ඨාදි ප්‍රත්‍යයන් යුක්ත කල්හි ද; තථා ත, එසේ ම ඛවිග්‍රහණ බලයෙන් කර්මාර්ථයෙහි ෂෂ්ඨී නො වන්නී යි; "ඛවීති කිං" යි බැවින් ම සිද්ධ කල්හි නැවත "තථා න නිට්ඨාදිසු" යි ප්‍රතිෂෙධ කෙළේ කුමැ යි ද යත්? අතිප්‍රසඞ්ග නිවාරණය පිණිස යි. ඉදින් එසේ ප්‍රතිෂෙධ නො කළ හොත් "කම්මණි කිතකයොගෙ" යි බැවින් නිෂ්ඨාදි කෘත් යොගයෙහි ද කිසි තැනෙක්හි කර්මාර්ථයෙහි ෂෂ්ඨියගේ ප්‍රසඞ්ගය වේ දෝ හෝ යි හැඟෙ යි. එහෙයින් ඒ අතිප්‍රසඞ්ග නිවෘත්තිය කරනුවෝ "න නිට්ඨාදිසු" යි ප්‍රතිෂෙධ කළහ යි දතයුතු.

නිට්ඨා ආදී යෙසං පච්චයානං තෙ නිට්ඨාදයො, තෙසු. නිට්ඨාති චෙත්ථ භූතෙත්ථ විහිතා ත තවන්තු තාවී පච්චයා ගහිතාති දට්ඨබ්බා. තෙසං හි නිට්ඨාති පරසමඤ්ඤා. ආදිසද්දෙන පන තබ්බාදයො මානන්තාදයො ච ගය්හන්ති. එත්ථ ච තබ්බාදයො යෙභුය්‍යෙන ගහෙතබ්බා. කත්ථචි තංයොගෙපි ඡට්ඨියා සම්භවතො, තෙනාහ "චතුන්නං මහාභූතානං උපාදාය පසාදො"ති. සුඛකාමී විහාරං ගතො යනාදි එහි උදාහරණ යි. මෙහි ගතො කත වා කතාවී යන නිෂ්ඨාප්‍රත්‍යයාන්තයන් හා ද කත්වා කාරෙන්තො කාරණො කුරුමානො යන තබ්බාන්තාදීන් හා ද යොගයක් ඇත් නු යි ඛවිග්‍රහණබලයෙන් විහාරං රථං කටං යි ද්විතීයා ම වත් මුත් විහාරස්ස රථස්ස කටස්ස යි ෂෂ්ඨී නො ම වන්නී යි. රථං, රථය; කතවා, කළේ යි; කතාවී, කෙළේ යි.

ෂෂ්ඨී වර්ණිතා යි.

දැන් සප්තමීවිභක්තියගේ අර්ථභෙද දක්වනු කැමති ව 'කස්මිං අත්ථෙ සත්තමී' යි පෘච්ඡා කොට ආධාරයෙහි සප්තමිය වේය යනාදීන් දක්වනු පිණිස "ඔකාසෙ සත්තමී" යි කී බැවින් අවකාශාර්ථාදි වශයෙන් විභාග කටැටි ව "කො ච ඔකාසො" යි ප්‍රශ්න කොට ආධාරියන්ති අස්මින්ති ආධාරො යනාදි කීහු.

ඔකාසෙ යන පදය සත්තමී යනු පද යි.

**ආධාරීයති අස්මින්ති ආධාරො අධිකරණං-කත්තු කම්මසම වෙතානං නිසජ්ජපචනාදි ක්‍රියානං පතිට්ඨානට්ඨෙන යො ආධාරො තං කාරකං ඔකාස සඤ්ඤං හොති.**

**කටෙ නිසීදති දෙවදත්තො-ථාලියං ඔදනං පචති-එත්ථ හි දෙවදත්ත තණ්ඩුලානං කත්තුකම්මානං ධාරණතො තංසම වෙතං ආසන පචන සංඛාතං කිරියං ධාරෙති නාම.**

**සො පනායමොකාසො චතුබ්බිධො ව්‍යාපිකො ඔපසිලෙසිකො සාමීපිකො වෙසයිකොති.**

---

කො ච ඔකාසො, ඒ ඔකාස නම් කවරේ ද යත්?

යො යන පද ය ආධාරො යන පද ය තං යන පද ය ඔකාසං යනු පද යි.

අස්මිං, මෙහි; ආධාරීයති ඉති, සංස්කෘත රූපාදිය අධොගති නිවාරකත්වාදි වශයෙන් ධරන ලැබේ නු යි; ආධාරො, ආධාර නම් වේ; මෙයින් ආධාර ශබ්දයාගේ අධිකරණ කාරකයෙහි අ ප්‍රත්‍යය යෙන් නිෂ්පත්ති දර්ශිත යි. ආධාර නම් කිම් ද යත්? අධිකරණං, ප්‍රතිෂ්ඨා යි; අධිකාරීයති නිසජ්ජ පචනාදිකං කිරියං නිප්ඵාදීයති එත්ථාති අධිකරණං ඔකාසො. කත්තුකම්මසමවෙතානං, කර්තෘ කර්ම දෙන්නා සහනිශ්‍රිත වූ; නිසජ්ජපචනාදික්‍රියානං, ආසන පචනාදි ක්‍රියාවන්ට; පතිට්ඨානට්ඨෙන යො ආධාරො, ප්‍රතිෂ්ඨා ස්වභාවයෙන් යම් අර්ථයෙක් ආධාර ද; තං කාරකං ඔකාස සඤ්ඤං හොති, (ඒ කාරකය අවකාශ සංඥක වේ.)

කටෙ නිසීදති දෙවදත්තො යනාදියෙහි ආසනාදි ක්‍රියාවන්ට නිශ්‍රය වූ දෙවදත්තාදි කර්තෘන්ගේ ද, ථාලියං ඔදනං පචති යනාදියෙහි පචනාදි ක්‍රියාවන්ට නිශ්‍රය වූ ඔදනාදි කර්මයන්ගේ ද ධාරණාදි හෙතු කොට යම් කටාදි ස්ථාල්‍යාදි අර්ථයෙක් තෙම ක්‍රියාව නිසා ආධාර භාවයෙන් කැමති වන ලද ද ඒ ක්‍රියා නිමිත්ත වූ ප්‍රතිෂ්ඨා භූත වස්තු ව තෙම අවකාශ සංඥ ඇත්තේය යි යී තනි. කටෙ නිසීදති දෙවදත්තො යනාදි එහි උදාහරණ යි. දෙවදත්තො, දෙවදත්ත තෙම; කටෙ, සළාලයෙහි; නිසීදති, හිඳී; මෙහි නිෂද්‍යක්‍රියාවට දෙවදත්තයා කර්තෘ ය, කටය

ඖපශ්ලෙෂිකාධාර යි. ථාලියං, සැළෙහි; ඔදනං, බත; පචති, පිසේ; යන මේ පචන ක්‍රියාවට සූදයා කර්තෘ ය, ස්ථාලිය ඖපශ්ලෙෂිකාධාරය යි. 'කටෙ නිසීදති දෙවදත්තො' යන මෙහි කටය දෙවදත්තයා ම ධර යි, 'ථාලියං ඔදනං පචති' යන මෙහි ස්ථාලිය තණ්ඩුලයා ම ධරන්නී ය. එසේ කල්හි ඒ කට ස්ථාලී දෙන්නාගේ ක්‍රියාව නිසා ආධාරභාවය කිසේ ද යන මේ අනුයොගය සිතා තබා "එත්ථ හි" යනාදි කීහු. එත්ථ හි, මේ උදාහරණද්වයෙහි; දෙවදත්ත තණ්ඩුලානං, දෙවදත්ත තණ්ඩුලසඞ්ඛාත වූ; කත්තුකම්මානං, කර්තෘකාරක කර්මකාරක දෙන්නාගේ; ධාරණතො, ධැරීම හෙතු කොට ගෙන; තංසමවෙතං, ඒ දෙවදත්ත තණ්ඩුල සඞ්ඛ්‍යාත වස්තූන් හා සම්බන්ධය ඇති; ආසන පචනසඞ්ඛාතං, ආසන ය පචන ය යි කියන ලද; කිරියං, ක්‍රියාව; ධාරෙති නාම, ධරන්නේ නම් වෙයි; කටය නිෂද්‍යාවට ආශ්‍රය වූ දෙවදත්තයා ධරන්නේ ඒ දෙවදත්තයා සම්බන්ධි වූ ආසනක්‍රියාව ධරන්නා නම් වෙයි, ස්ථාලි පචනයට ආශ්‍රය වූ තණ්ඩුලය ධරන්නී ඒ තණ්ඩුලයා සම්බන්ධි වූ විකෙලද ක්‍රියාව ධරන්නී නම් වන්නීය යි මෙසේ ක්‍රියාව නිසා ම මෙහි ආධාරත්වය සිද්ධ යි සේ යි. ඉදින් එසේ වීනම් කර්තෘ කර්ම දෙන්නාගේ ම ප්‍රධාන වශයෙන් ක්‍රියාධාරණය සම්භව වේ නු යි ඔවුන්ට අවකාශ සංඥාව වියයුතු නො වේ ද යත්? නො විය යුතු යි, කුමක් හෙයින් ද යත්? ප්‍රතිලබ්ධ නාම විශෙෂ ඇති බව හෙතු කොට ගෙන පරම්පරායෙනු දු ක්‍රියාධාරක වූ කටාදිය ම අවකාශ සංඥා ලබන්නේය යි දන්න. තෙසු දෙවදත්ත තණ්ඩුල සඞ්ඛාතෙසු කත්තුකම්මෙසු සමවෙතා සන්නිස්සිතා තං-සමවෙතා ක්‍රියා, තං. සො පනායමොකාසො, හේ මේ අවකාශ කාරකය වනාහි; ව්‍යාපිකො, ව්‍යාපිකාධාර ය, ඔපසිලෙසිකො, ඖපශ්ලෙෂිකාධාර ය; සාමීපිකො, සාමීපිකාධාර ය; වෙසයිකොති, විෂයාධාර යයි මෙසේ; චතුබ්බිධො, සතර වැදෑරුම් ඇත්තේ යි.

ව්‍යාපෙති ආධාරං පත්ථරිත්වා තිට්ඨතීති ව්‍යාපො-ආධෙය්‍යො සො එතස්ස අත්ථීති ව්‍යාපිකො, අථවා ව්‍යාපීයති ආධෙය්‍යෙන පත්ථරීයතීති ව්‍යාපො ආධාරො. ව්‍යාපො එව ව්‍යාපිකො. උපසිලෙසනං උපසිලෙසො ආධෙය්‍යෙන අල්ලීයනන්ති අත්ථො තමරහතීති ඔපසිලෙසිකො. උපසිලිස්සති අල්ලීයිත්වා තිට්ඨති එත්ථාති වා උපසිලෙසො සො එව ඔපසිලෙසිකො. සමීපෙ නියුත්තො සාමීපිකො. විසයො එව වෙසයිකො. ආධෙය්‍යස්ස උප්පත්ති පවත්තිට්ඨානං.

**තත්ථ ව්‍යාපිකො නාම යත්ථ සකලොපි ආධාරභූතො අත්ථො ආධෙය්‍යෙන පත්ථටො හොති යස්මිං ච ආධෙය්‍යභූතං කිඤ්චි ව්‍යාපිත්වා තිට්ඨති. තං යථා—**

**තිලෙසු තෙලං අත්ථි-ඛීරෙසු ජලං-දධිම්හි සප්පිති.**

**ඔපසිලෙසිකො නාම පච්චෙකසිද්ධානං භාවානං යත්ථ උපසිලෙසෙන උපගමො හොති යස්මිඤ්ච ආධෙය්‍යා උපසිලිස්සන්ති අල්ලීයිත්වා තිට්ඨති. තං යථා—**

**ආසනෙ නිසින්නො සඞ්ඝො-ථාලියං ඔදනං පචති-සරෙසු උදකමත්ථි-දූරෙ ඨිතො-සමීපෙ ඨිතොති.**

---

දැන් ඒ චතුර්විධාධාර යථාක්‍රමයෙන් විවෘත කොට දක්වනුවෝ කියත් "තත්ථ ව්‍යාපිකො" යනාදි. තත්ථ, ඒ ව්‍යාපිකාදි චතුර්විධාධාරයන් අතුරෙහි; යත්ථ, යම් විෂයෙක්හි; ආධාර භූතො, ආධාර වූ; සකලොපි අත්ථො, සියලු ම අර්ථය; ආධෙය්‍යෙන, ධැරිය යුතු අර්ථයා විසින්; පත්ථටො හොති, පැතිරෙන ලද්දේ වේ ද; යස්මිං ච, යම් ආධාරයෙක්හි ලා; ආධෙය්‍යභූතං කිඤ්චි, ධැරියයුතු කිසියම් වස්තුවෙක් තෙම; ව්‍යාපිත්වා තිට්ඨති, පැතිර සිටී ද; සො ව්‍යාපිකො නාම යි යොදනු.

තං යථා, හේ මෙසේ යි:—තිලෙසු තෙලං යනාදියෙහි යම් තිලාදි ආධාරයෙක් තෙම තෛලාදී ආධෙයයා විසින් හැම තැන ම පැතිරෙන ලද ද ඛීරෙසු ජලං යනාදියෙහි යම් ක්ෂීරාදි ආධාරයෙක් තෙම ජලාදි ආධෙයයා විසින් එකාදෙශව පැතිරෙන ලද ද හේ ව්‍යාප්‍යාධාර නම් වෙයි යී කති. තිලෙසු තෙලං අත්ථි, ඛීරෙසු ජලං අත්ථි, දධිම්හි සප්පි අත්ථි යි අත්ථි ශබ්ද වෙන වෙන ම සම්බන්ධ කරනු. තිලෙසු, තිලයන් කෙරෙහි සමවෙත වූ; තෙලං අත්ථි, තෛලය ඇති;මෙහි තෛලය ආධාරය අනවශෙෂස්ඵරණය කොට ඒ නිසා පවත්නේ යි. ඛීරෙසු ජලං යන මෙහි වනාහි ජලය තෙම තමාගේ පෘථක් සිද්ධ බව හෙතු කොට ගෙන ක්ෂීර නිශ්‍රිත නොවන බැවින් සංයොග වශයෙන් ඒ ක්ෂීරයෙහි එකාදෙශයෙක් පැතිර සිටිනේ යි. (දධියෙහි සර්පිෂ ද එසේ මැ යි.)

**සාමීපිකො නාම යත්‍ථ සමීපෙ සමීපි වොහාරං කත්‍වා තදා යත්‍තවුත්‍තිතාදීපනත්‍ථං ආධාරභාවො විකප්‍පීයති.**

**යථා-ගඞ්ගායං ඝොසො වසති-ගඞ්ගාය සමීපෙ වජො වසතීති අත්‍ථො.**

**භගවා සාවත්‍ථියං විහරති ජෙතවනෙ-සාවත්‍ථියා සමීපෙති අත්‍ථො.**

---

පච්චෙකසිද්ධානං භාවානං, වෙන වෙන නිෂ්පන්න වූ වස්තූන්ගේ; යත්‍ථ, යම් විෂයෙක්හි ලා; උපසිලෙසෙන උපගමො හොති, අන්‍යොන්‍ය සංයොග වශයෙන් එළඹීම වේද; යස්මිං, යම් ආධාරයෙක්හි ලා; ආධෙය්‍යො, ආධෙය තෙම; උපසිලිස්සති, උපසිලිස්සති යී සේ යි; අල්ලීයිත්‍වා තිට්ඨති ච, සංසක්තව සිටී ද; සො, හෙතෙම; ඔපසිලෙසිකො නාම, ඖපශ්ලෙෂිකාධාර නම් වේ; තං යථා, ඒ මෙසේ යි—

'ආසනෙ නිසින්නො සඞ්ඝො' යනාදියෙහි යම් ආසනාදි ආධාරයෙක්හි පෘථක් සිද්ධ වූ සඞ්ඝාදි ආධෙය තෙම සංයොග වශයෙන් උපසඞ්ක්‍රමණය කෙරේ ද, 'ථාලියං ඔදනං පචති' යනාදියෙහි යම් ස්ථාල්‍යාදි ආධාරයෙක්හි පෘථක් සිද්ධ වූ ඔදනාදි ආධෙය තෙම සංසක්ත ව පවතී ද හේ ඖපසිලෙසිකාධාර නමැ යි යි තනී. සඞ්ඝො, සඞ්ඝ තෙම; ආසනෙ, පීඨාදි ආසනයෙහි; නිසින්නො, උපශ්ලෙෂ වශයෙන් හුන්නේ යි; මේ ප්‍රත්‍යෙක සිද්ධ වූ ආසනය තෙම එසේම වූ සඞ්ඝ සඞ්ඛ්‍යාත ආධෙයයාගේ සංයොග වශයෙන් උපගමනයට ආධාර වන්නේ යි. ඝටෙසු, ඝටයන්හි; උදකං අත්‍ථි, දිය ඇති; දූරෙ ඨිතො සමීපෙ ඨිතො යන මෙහි දූරසමීපදෙශ ද එසේමැ යි. ථාලියං ඔදනං පචති යන මෙහි විසුං සිද්ධ වූ ස්ථාලි තොම එබඳු වූ ම ඔදනාඛ්‍ය වූ ආධෙය යාගේ අල්ලීයනයෙන් ආධාර වන්නී යි. 'ඝටෙසු උදකමත්‍ථි' යන මෙහි ඝටය ද එසේ මැ යි.

යත්‍ථ, යම් ප්‍රයොගයෙක්හි ලා; සමීපිවොහාරං සමීපෙ කත්‍වා, සමීපිහුගේ ව්‍යවහාරය සමීපයෙහි කොට; තදායත්තවුත්තිතාදීපනත්‍ථං, ආධෙයයාගේ ඒ සමීපිහු අයත් පැවතුම් ඇතිබව හඟවන

**වෙසයිකො නාම යත්‍ථ අඤ්ඤත්‍ථාභාවවසෙන දෙසන්තර වච්ඡෙදවසෙන වා ආධාරපරිකප්පො-තං යථා.**

**ආකාසෙ සකුණා චරන්ති-භූමිසු මනුස්සා-ජලෙසු මච්ඡා-පාදෙසු පතිතො-පාපස්මිං රමතී මනො-පසන්නො බුද්ධසාසනෙ-පඤ්ඤාය සාධු-විනයෙ නිපුණො-මාතරි සාධු-පිතරි නිපුණො ඉච්චාදි.**

---

පිණිස; ආධාරභාවො, ආධාරත්‍වය තෙම; විකප්පීයති, පරිකල්පනා කරනු ලැබේ ද; සාමීපිකො නාම, (හෙතෙම) සාමීපික නම් වේ.

'ගඞ්ගායං ඝොසො වසති' යනාදියෙහි යම් ගඞ්ගාදි භෙද ඇති සමීපි භූත වස්තුවක්හුගේ ව්‍යවහාරය තීරාදිභෙද ඇති සමීපභූත වස්තුයෙහි ආරූඪ කොට ඒ ගඞ්ගාදි සමීපිහු කෙරෙහි ඝොෂාදි ආධෙයයාගේ ප්‍රතිබද්ධ ප්‍රවෘත්ති ඇති බව ප්‍රකාශ කරනු පිණිස ආධාරභාවය උපචරිත වේ ද හේ ගඞ්ගාදි සාමීපිකාධාර නම් වෙයි යී තැනි. සමීපො අස්ස අත්‍ථීති සමීපී-(ගඞ්ගාදි)සමීපීනං වොහාරො සමීපිවොහාරො, ආයත්තා පටිබද්ධා වුත්ති ආයත්තවුත්ති, තස්සා භාවො ආයත්ත වුත්තිතා, තස්මිං ආයත්තවුත්තිතා තදායත්තවුත්තිතා, තාය දීපනං ඤාපනං තදායත්තවුත්තිතා දීපනං තස්ස අත්‍ථාය තදායත්තවුත්තිතා දීපනත්‍ථං. ගඞ්ගායං, ගඞ්ගාවට සමීප වූ තීරදෙශයෙහි; ඝොසො, ගොපලුරළ; වසති, වෙසේ; මෙහි ගඞ්ගා ශබ්දය පශුසඞ්ඝයාගේ ම ස්ථාන කොට ඇති බැවින් ඔවුන්ගේ තදායත්ත වෘත්තිභාවය හඟවනපිණිස ගඞ්ගාව්‍යවහාරය තත්සමීපයෙහි ආරූඪ කොට ගඞ්ගායං යී බැවින් ගඞ්ගා සමීපය කියත්.

භගවා, සර්‍වඥ තෙම; සාවත්‍ථියං, සැවැත්නුවරට සමීප වූ; ජෙතවනෙ, ජෙතවනොද්‍යානයෙහි; විහරති, සතර ඉරියව්වෙන් කල් යවන්නේ යි; මෙහි ශ්‍රාවස්ති ශබ්දය ද භගවත්හු ශ්‍රාවස්තිය ගොචර ග්‍රාමකොට ඇති බැවින් ඔහුගේ තදායත්ත වෘත්තිත්‍වය ප්‍රකාශ කරන පිණිස ශ්‍රාවස්ති ව්‍යවහාරය තත් සමීපයෙහි කොට සාවත්‍ථියං යී බැවින් ශ්‍රාවස්තිසමීපය කියා.

යත්‍ථ, යම් විෂයෙක්හි ලා; අඤ්ඤත්‍ථ, අභිප්‍රෙත දෙශකාල ද්‍රව්‍යාදීන් කෙරෙන් අතික් තැනෙක්හි; අභාවවසෙන,(ආධෙය වූ) සත්‍වයන්ගේ ද ද්‍රව්‍යාදීන්ගේ ද ප්‍රවෘත්ත්‍යභාව වශයෙන් හෝ;

දෙසන්තරවච්ඡෙදවසෙන වා, අන්‍යදෙශයාගේ නිවෘත්ති වශයෙන් හෝ; ආධාරපරිකප්පො, ආධාරයාගේ පරිකල්පනා වේ ද; සො, ඒ අන්‍යත්‍රාභාව සඞ්ඛ්‍යාත වූ ද දෙශාන්තරවච්ඡේද සඞ්ඛ්‍යාත වූ ද අර්ථය තෙම; වෙසයිකො නාම, විෂයාධාර නම් වේ.

'ආකාසෙ සකුණා චරන්ති' යනාදියෙහි සකුණාදීන්ගේ අන්‍ය දෙශාදියෙක්හි ප්‍රවෘත්ති සම්භවය නො වන පිණිස ද 'පාදෙසු පතිතො' යනාදියෙහි පුරුෂාදීන්ගේ පතනාදියට විෂය වූ අන්‍ය දෙශ නිවෘත්තිය පිණිස ද යම් ආකාශාදියක්හුගේ ආධාරභාවය පරිකල්පිත වේ ද හේ විෂයාධාර නමැ යි යු තැති—අඤ්ඤත්ථ අභවනං අඤ්ඤත්ථාභාවො, තස්ස වසෙන, දෙසන්තරස්ස අඤ්ඤ දෙසස්ස අවච්ඡෙදො නිවුත්ති දෙසන්තරවච්ඡෙදො, තස්ස වසෙන, ආධාරස්ස පරිකප්පො ආධාර පරිකප්පො. ආකාසෙ, නභොවිෂයෙහි; සකුණා, පක්ෂීහු; චරන්ති, හැසිරෙත්; භූමිසු, ජම්බුද්වීප තලාදි භූමිවිෂයෙහි; මනුස්සා, මිනිස්සු; චරන්ති, හැසිරෙත්; ජලෙසු, ජලවිෂයෙහි; මච්ඡා, මීනයෝ; චරන්ති, හැසිරෙත්; මේ හැම ශකුණ මනුෂ්‍ය මත්ස්‍යාදීන්ගේ පක්ෂප්‍රසාරණාදි වශයෙන් ගමනය අන්‍ය ස්ථානයෙක්හි අසම්භව නු යි අන්‍යත්‍රාභාව වශයෙන් ආධාර පරිකල්පනායෙහි උදාහරණ යි. පාදෙසු, පාදවිෂයෙහි; පතිතො, ප්‍රණාම වශයෙන් හිණි; මනො, සිත; පාපස්මිං, පාපවිෂයෙහි; රමති, ඇලෙන්නේ යි; බුද්ධසාසනෙ, බුද්ධශාසනයෙහි; පසන්නො, ප්‍රසන්න යි; 'පඤ්ඤාය සාධු' යනාදියෙහි ක්‍රියාපදයක් නැත ද "සබ්බේ ප්‍රථමාන්තා භවනක්‍රියයා යුජ්‍යන්තෙ" යන න්‍යාය හෙයින් ප්‍රථමාන්ත වූ සාධු ශබ්දාදිහු භවනක්‍රියාව හා සම්බන්ධ කට යුත්තාහු යි. එසේ ම සියලු පදාර්ථයෝ ආත්මප්‍රතිලාභ සමකාල යෙහි ම සත්තාව හා අවිනාවෘත්තිභ, සත්තා නමුදු භවනක්‍රියාවෙන් යුක්ත බව ය, හෙ ද කර්මාදි අවස්ථාන්තරයකට අප්‍රාප්ත වූ වස්තුස්ථස්වරූප මාත්‍රය ප්‍රකාශ කරන ප්‍රථමා විභක්තිය විසින් ගම්‍ය ය. එහෙයින් ප්‍රථමාන්තයෝ හැම දෙන ම භවනක්‍රියාවාචි පදයක් නැත ද භවනක්‍රියාව හා සම්බන්ධ කරනු ලැබෙත් නු යි පඤ්ඤාය සාධු භවති විනයෙ නිපුණො භවති යනාදීන් යෙදිය යුතු යි. පඤ්ඤාය, ප්‍රඥාවිෂයෙහි; සාධු, ප්‍රශස්ත වන්නේ යි; විනයෙ, විනය විෂයෙහි ම; නිපුණො, දක්ෂ වන්නේ යි; මාතරි, මව විෂයෙහි ම; සාධු, මනා වන්නේ යි; පිතරි, පියා විෂයෙහි ම; නිපුණො, පටිජග්ගනයට ඡෙකවන්නේ යි; මේ සියලු ප්‍රයොග පුරුෂාදීන්ගේ පතනාදිය අන්‍යස්ථානයෙක්හි නැති බැවින්

**සබ්බොපි චායමාධාරො පධානවසෙන පරිකප්පිතවසෙන වා ක්‍රියාය පතිට්ඨා භවතීති ඔකාසොත්‍වෙව වුත්තොති වෙදිතබ්බො-වුත්තම්පි චෙතං.**

**72** **“කිරියා කත්තුකම්මානං යත්‍ථ හොති පතිට්ඨිතා**
**ඔකාසොති පවුත්තො සො චතුධා ව්‍යාපිකාදිතො.**

**73** **ව්‍යාපිකො තිලඛීරාදි කටෙ ඔපසිලෙසිකො**
**සාමීපිකො තු ගඞ්ගාදි ආකාසො විසයො මතො”ති.**

---

දෙසන්තරාවච්ඡෙද වශයෙන් ආධාර පරිකල්පනායෙහි උදාහරණ සි. කිසිසේත් ‘ගඞ්ගායං ඝොසො’ යනාදියෙහි වජ්‍රදීන්ගේ ගඞ්ගාදියෙහි වාසාදියක් නැති හෙයින් ඒ ගඞ්ගාදීන්ගේ ද “ආකාසෙ කමලං” යනාදියෙහි කමලාදීන්ගේ ආකාසාදියෙහි විකසනාදියක් අසම්භව හෙයින් ආකාසාදීන්ගේ ද ‘කටෙ සෙතෙ දෙවදත්තො, ජලෙ චරන්ති මච්ඡා’ යනාදියෙහි දෙවදත්තාදි සන්නිශ්‍රිත ශයනාදි ක්‍රියාවට කටාදීන්ගේ මෙන් ක්‍රියාවට ප්‍රතිෂ්ඨාභාවය නැත එතකුදු වත් වෘද්ධ ලොකයාගේ ව්‍යවහාරය වශයෙන් ක්‍රියා ප්‍රතිෂ්ඨාභාවය ඇති බැවින් ඔවුන්ගේ ද අවකාශත්වය සිද්ධය යි දක්වනුවෝ “සබ්බොපි චායමාධාරො” යනාදි කීහු.

සබ්බොපි චායමාධාරො, ව්‍යාපිකාදි භෙද ඇති සියලු ම මේ ආධාර තෙම; පධානවසෙන, ‘කටෙ සෙතෙ දෙවදත්තො’ තිලෙසු තෙලං, භූමිසු මනුස්සා, යනාදියෙහි මුඛ්‍යයාගේ වශයෙන් හෝ; පරිකප්පිතවසෙන වා, ‘ගඞ්ගායං ඝොසො, සාවත්ථියං විහරති, ආකාසෙ කමලං, උදුම්බරෙ කුසුමං’ යනාදියෙහි පරිකල්පිතයාගේ වශයෙන් හෝ; ක්‍රියාය පතිට්ඨා භවතීති, කර්තෘස්ථ කර්මස්ථ ක්‍රියාවට පිහිට වේ නු යි; ඔකාසොති එව වුත්තොති, ආචාර්යයන් විසින් අවකාශ කාරකය යි ම කියන ලදු යි; වෙදිතබ්බො, දතයුතු යි; එතං,මේ අවකාශ කාරකයාගේ චතුර්විධත්වය;වුත්තං ච, කියන ලද මැ යි.

කත්තුකම්මානං කිරියා යත්‍ථ පතිට්ඨිතා හොති සො ව්‍යාපිකාදිතො චතුධා (භූතො අත්‍ථො) ඔකාසොති පවුත්තො යනු සම්බන්ධ යි. කත්තුකම්මානං, කර්තෘකර්මයන් නිශ්‍රිත බැවින් කර්තෘකර්ම දෙන්නා සම්බන්ධි වූ; කිරියා, නිෂද්‍ය පචනාදී වූ ක්‍රියා තොම;

**ඡට්ඨී සත්තමීති ච අධිකාරෙ.**

## 310. සාමිස්සරාධිපතිදායාදසක්ඛිපතිභූපසූත කුසලෙහි ච-2-6-33.

**සාමි ඉස්සර අධිපති දායාද සක්ඛිපතිභූ පසූත කුසල ඉච්චෙතෙහි යොගෙ ඡට්ඨී විභත්ති හොති සත්තමී ච.**

**උභයත්‍ථං වචනං-ගවං සාමි, ගොසු සාමී-ගවං ඉස්සරො, ගොසු ඉස්සරො-ගවං අධිපති, ගොසු අධිපති-ගවං දායාදො, ගොසු දායාදො-ගවං සක්ඛි, ගොසු සක්ඛි-ගවං පතිභූ, ගොසු පතිභූ-ගවං පසූතො, ගොසු පසූතො-ගවං කුසලො, ගොසු කුසලො.**

---

යත්‍ථ, යම් ආසන ස්ථාල්‍යාදියෙක්හි ලා; පතිට්ඨිතා හොති, ප්‍රතිෂ්ඨිත වන්නී ද; සො, හේ; ව්‍යාපිකාදිතො චතුධා භූතො අත්‍ථො, ව්‍යාපිකාදීන්ගේ භෙද හෙයින් සතර පරිච්ඡෙදකින් වූ අර්‍ථ තෙම; ඔකාසොති පවුච්චති, ආචාර්‍ය්‍යයන් විසින් "යොධාරො තමොකාසං" යන සූත්‍රයෙන් අවකාශය යි කියන ලදි, එහි දූ ව්‍යාපිකො, ආධෙයයා විසින් පැතිරෙන ලබන හෙයින් ව්‍යාපිකා ය යි කියන ලද ආධාර නම්; තිලබීරාදී, තිල ක්ෂීරාදි වස්තුව ය; ඔපසිලෙසිකො, පෘථක් සිද්ධ ද්‍රව්‍යයාගේ උපශ්ලෙෂයට අර්‍ථ හෙයින් ඖපශ්ලෙෂය යි කියන ලද ආධාර නම්; කටො, කළාලය; සාමීපිකො තු, වසනාදි ක්‍රියාව ධරන්නට සමර්ථ වූ තීරාදිය සමීප යෙහි නියුක්ත හෙයින් සාමීපිකය යි කියන ලද ආධාර නම්; ගඞ්ගාදි, ගඞ්ගාදිවස්තුවය; විසයො, චරණාදි ක්‍රියාවට ප්‍රවෘත්ති ස්ථාන හෙයින් වෛෂයිකය යි කියන ලද ආධාර නම්; ආකාසෙ මතො, ආකාශය යි දන්නාලදි. 'සාමීපිකො තු' යන මෙහි තු ශබ්ද පදපූරණයෙහි වැටේ.

ඡට්ඨී, "සාමිස්මිං ඡට්ඨී" යන සූත්‍රයෙන් "ඡට්ඨී" යනු ද; සත්තමීති ච, "ඔකාසෙ සත්තමී" යන සූත්‍රයෙන් "සත්තමී" යනු ද; අධිකාරෙ, වැටේ.

සාමිස්සරාධිපති-පෙ-කුසලෙහි ය ච ය යනු පද යි.

## 311. නිද්ධාරණෙ ච-2-6-34.

**නීහරිත්වා ධාරණං නිද්ධාරණං, ජාතිගුණක්‍රියානාමෙහි සමුදායතො එකදෙසස්ස පුථක්කරණං-තස්මිං නිද්ධාරණෙ ගම්‍යමානෙ තතො සමුදායවාචිලිඞ්ගම්හා ඡට්ඨී විභත්ති හොති සත්තමී ච.**

---

සාමී ච ඉස්සරො ච අධිපති ච දායාදො ච සක්ඛී ච පතිභූ ච පසූතො ච කුසලො ච සාමිස්සරාධිපතිදායාදසක්ඛිපතිභූපසූතකුසලා, තෙහි.

සාමී, සාමි ශබ්දය; ඉස්සර, ඉස්සර ශබ්දය; අධිපති, අධිපති ශබ්දය; දායාද, දායාද ශබ්දය; සක්ඛී, සක්ඛී ශබ්දය; පතිභූ, පතිභූ ශබ්දය; පසූත, පසූත ශබ්දය; කුසල ඉති, කුසල ශබ්දය යන; එතෙහි යොගෙ, මේ ශබ්දයන් හා සම්බන්ධයක් ඇති කල්හි; ඡට්ඨී විභත්ති හොති, (ලිඞ්ගයා කෙරෙන් පරව) ෂෂ්ඨී විභක්ති වන්නී ය; සත්තමී ච, සප්තමී විභක්ති ද වන්නී යි.

වචනං, මේ සාමිස්සරාදි සූත්‍රය තෙම; උභයත්ථං, ෂෂ්ඨී සප්තමී දෙන්නා ප්‍රයොජන කොට ඇත්තේ යි; ගවං සාමී ගොසු සාමී යන ෂෂ්ඨී සප්තමී සංඛ්‍යාත විභක්තීන් දෙන්නාගේ විධානය පිණිසය යි සේ යි. ඉදින් මේ සූත්‍රය ෂෂ්ඨී සප්තමී විධානය පිණිස නො වී නම් 'ගවං සාමී' යනාදීන් සම්බන්ධයෙහි ෂෂ්ඨී වන්නී යි. 'ගවං සාමී' යනාදි උදාහරණයෙහි 'ගවං' යි ගො ශබ්දයා කෙරෙන් පර වූ නං වචනය හට "තතො නම්මපතිම්හා" යනාදි සූත්‍රයෙහි ච ග්‍රහණයෙන් අමාදෙශ කොට "අවම්හි ච" යි අවාදෙශ කරන ලද කල්හි සිද්ධය යි දතයුතු. ගවං සාමී, ගොන්ගේ ස්වාමි යි; 'ගොසු සාමී' යන මෙහි ද අර්ථ හේ මැ යි. ගවං ඉස්සරො ගොසු ඉස්සරො යනාදියෙහි ද ෂෂ්ඨීසප්තමීන්ගේ අර්ථ සම යි. අධිපති, ප්‍රධාන යි; දායාදො, හිමි යි; සක්ඛී, සාක්ෂි යි; පතිභූ, ධනිකා ධමර්ණ දෙන්නා මධ්‍යයෙහි ඇපව සිටිනා පුරුෂ යි; පසූතො, ප්‍රසව කරන ලද්දේ යි.

නිද්ධාරණෙ යන පද ය ච යනු පද යි.

නීහරිත්වා, පහකොට; ධාරණං, උපධාරණය; නිද්ධාරණං, නිර්ධාරණ නම්. "නාමානං සමාසො" යන යොගවිභාගයට විෂය යි. හේ නිර්ධාරණ නම් කිම් ද යත්? ජාති, ක්ෂත්‍රියාදි ජාතිය;

**මනුස්සානං ඛත්තියො සූරතමො, මනුස්සෙසු ඛත්තියො සූරතමො–කණ්හා ගාවීනං සම්පන්නඛීරතමා, කණ්හා ගාවීසු සම්පන්නඛීරතමා–අද්ධිකානං ධාවන්තො සීඝතමො, අද්ධිකෙසු ධාවන්තො සීඝතමො–ආයස්මා ආනන්දො අරහතං අඤ්ඤතරො අහොසි, අරහන්තෙසු වා ඉච්චාදි.**

## 312. අනාදරෙ ච–2–6–36.

**අනාදරෙ ච ගම්‍යමානෙ භාවවතා ලිඞ්ගම්හා ඡට්ඨී විභත්ති හොති සත්තමී ච.**

**අකාමකානං මාතාපිතූනං රුදන්තානං පබ්බජි, මාතාපිතූසු රුදන්තෙසු පබ්බජි.**

**74 "ආකොටයන්තො සො නෙති සිවිරාජස්ස පෙක්ඛතො,**
**මිච්චු ගච්ඡති ආදාය පෙක්ඛමානෙ මහාජනෙ"**

---

ගුණ, කෘෂ්ණත්වාදි ගුණ ය; ක්‍රියා, ධාවනාදි ක්‍රියා ය; නාමෙහි, ව්‍යවහාරය පිණිස කරණ ලබන සඞ්කෙත ලක්ෂණ නාමය යන මොවුන් හෙතුකොට ගෙන; සමුදායතො, සමූහයා කෙරෙන්; එකදෙසස්ස, කිසිවක්හුගේ; පුථක්කරණං, වෙන් කිරීම ය; යස්මිං නිද්ධාරණත්ථෙ ගම්‍යමානෙ, ඒ නිර්ධාරණාර්ථය හැඟෙන කල්හි; තතො සමුදායවාචි ලිඞ්ගම්හා, හේ සමුදායවාචි ලිඞ්ගයා කෙරෙන් පර ව; ඡට්ඨී විභත්ති හොති සත්තමී ච. ෂෂ්ඨී විභක්ති හා සප්තමී ද වන්නීය; මේ සූත්‍රයෙහි ච ශබ්ද ප්‍රථමාර්ථයෙහි සප්තමිය පිණිස යි "ඉදමෙපිස්ස හොති සීලස්මිං" යනු එහි උදාහරණ යි.

මනුස්සානං, මනුෂ්‍යයන් අතුරෙහි; ඛත්තියො, ක්ෂත්‍රිය තෙම; සූරතමො, අතිශූර යි, මෙහි මනුෂ්‍ය සමුදායයාගේ එකදෙශභූත භූපති තෙම ක්ෂත්‍රිය ජාතිය හෙතු කොට ගෙන ඒ මනුෂ්‍ය සමුදායයා කෙරෙන් වෙන් කරනු ලැබේ, දෙවන උදාහරණයෙහි සප්තමී බව වෙනස යි. මත්තෙහි ද එසේ මැ යි. ගාවීනං, දෙනුන් අතුරෙහි; කණ්හා, කැළි දෙන් තොම; සම්පන්නඛීරතමා, අති මධුර වූ කිරි ඇත්තී යි; මෙහි ගාවීසමුදායයාගේ එකදෙශ වූ ධෙනු තොම කෘෂ්ණත්ව ගුණය හෙතු කොට ගෙන ඒ ගාවී

සමූහයා කෙරෙන් නිර්ධාරණය වන්නී සි. අද්ධිකානං, මාර්ගිකයන් අතුරෙහි; ධාවනෙතා, දුවන පුරුෂ තෙම; සීඝතමො, අතිශීඝ්‍ර සි; මෙහි පථිකජනසමුදායයාගේ එකදෙශ වූ ධාවත් පුරුෂ තෙම ධාවනක්‍රියාව හෙතු කොට ගෙන ඒ පථික සමූහයා කෙරෙන් වෙන් කරනු ලැබේ. තාම හෙයින් නිර්ධාරණ ඇත්මැ සි.

කීයේ මැනෝ:—

"යං හි ජාතිගුණක්‍රියා නාමෙහි සමුදායතො
පුථක්කරණ මෙතස්ස තං නිද්ධාරණමබ්‍රැවුං" සි.

"ආයස්මා ආනන්‍දො අරහතං අඤ්ඤතරො අහොසි" යනු එහි උදාහරණ සි.

අනාදරෙ යන පදය ච යනු පද සි.

ආදරණං ආදරො, න ආදරො අනාදරො, කිමෙතෙනාති එවං අවමඤ්ඤනාති වුත්තං හොති, තස්මිං අනාදරෙ ච සද්දෙ වුත්තඡට්ඨීසත්තමී ගහණානුකඩ්ඪනත්ථො. තත්ථ පයොජනං හෙට්ඨා වුත්තමෙව. අනාදරෙ ච ගම්‍යමානෙ, අනාදර ක්‍රියා විශෙෂයක් හැඟෙන කල්හි; භාවවතා ලිඞ්ගම්හා, රොදන ප්‍රෙක්ෂණාදි ක්‍රියායුක්ත ලිඞ්ගයා කෙරෙන් පර ව; ඡට්ඨී විභත්ති හොති සත්තමී ච. ෂෂ්ඨී විභක්ති හා සප්තමී ද වේ; භාවො එතස්ස අත්ථීති භාවවා, තතො භාවවතා. (අනාදරක්‍රියාය=පාලකානං රක්ඛකානං රොදනාදික්‍රියායුත්තම්හාති වුත්තං හොති)

අකාමකානං, මහණවීම නො කැමැත්තා වූ; රුදන්තානං, එහෙයින් ම කඳුළු වගුරුවන්නා වූ; මාතාපිතුන්නං, මවුපිය දෙන්නා කෙරෙහි අනාදර කොට; පබ්බජි, පැවිදි වී; මවුපියන් දෙන්නා හඬව හඬවා පැවිදිවීය සි සි තැති. මෙහි අනාදර නම් පැවිදිවීම ය. රොදනාදි ක්‍රියා එයට උපලක්ෂණ සි. දෙවන උදාහරණයෙහි අර්ථ හේ මැ සි.

සො, හේ බ්‍රාහමණ තෙම; පෙක්ඛතො, බලන්නා වූ; සිවිරාජස්ස, සිවිරට වැස්සන් දන ප්‍රියවචන අර්ථචර්‍යා සමානාත්මතාඛ්‍ය වූ සතර සංග්‍රහ වස්තුවෙන් අලවන හෙයින් සිවිරාජය යි කියන ලද විශ්වන්තර මහීපතිහු කෙරෙහි අනාදර කොට; ආ කො

# 313. කම්මකරණනිමිත්තත්ථේසු සත්තමී-2-6-40.

**කම්ම කරණ නිමිත්ත ඉච්චෙතෙස්වත්ථෙසු ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති.**

**කම්මත්ථෙ-භික්ඛුසු අභිවාදෙන්ති-මුද්ධනි චුම්බිත්වා-පුරිසස්ස බාහාසු ගහෙත්වා.**

---

ටයන්තො, පහරන්නේ; නෙති, (දරුවන්) ගෙන යේ; සිවිරජහු බල බලා සිටිය දී ජාලිය කෘෂ්ණජිනා නම් පුත්‍රදීතෘන් දෙන්නා පහරමින් ගෙන යෙසි සේ සි. මෙහි අනාදර නම් ආකොටනය කොට ගෙන යෑම ය, ප්‍රෙක්ෂණක්‍රියාව එයට උපලක්ෂණ සි. මච්චු, මෘත්‍යුරාජ තෙම; පෙක්ඛමානෙ මහාජනෙ, බලන්නා වූ මහ ජනයා කෙරෙහි අනාදර කොට; ආදාය ගච්ඡති, සත්ත්වයන් හැර ගෙන යේ; මහාජනයන් බල බලා සිටිය දී සත්ත්වයන් හැර ගෙන යෙසි යු හැනි. මෙහි අනාදර නම් ගෙන යාම ය, එයට ප්‍රෙක්ෂණ ක්‍රියාව උපලක්ෂණ වනනී සි.

කම්මකරණනිමිත්තත්ථේසු යන පද ය සත්තමී යනු පද සි.

කම්මඤ්ච කරණඤ්ච නිමිත්තඤ්ච කම්මකරණනිමිත්තානි තානි එව අත්ථා කම්මකරණනිමිත්තත්ථා, තෙසු.

කම්මකරණනිමිත්ත ඉති එතෙසු අත්ථෙසු, කර්ම කරණ නිමිත්ත යන මේ අර්ථයන් ද්‍යෝත්‍ය කල්හි; ලිඞ්ගම්හා, තදර්ථවාචි ලිඞ්ගයා කෙරෙන් පර ව; සත්තමී විභත්ති හොති, සප්තමී විභක්ති වන්නී ය.

කම්මත්ථෙ, කර්මාර්ථ විෂයෙහි සප්තමී දක්වනු ලැබේ; හෙ ද "තදනුපරොධෙන" යන පරිභාෂා සාමර්ථ්‍යයෙන් අභිවදි චුබි ගහ යන මෙ ධාතූන් හා සම්බන්ධයක් ඇති කල්හි මැ සි. "භික්ඛුසු අභිවාදෙන්ති" යනාදි එහි උදාහරණ සි. මෙහි "භික්ඛූ"සි වක්තව්‍ය ස්ථානයෙහි අභි පූර්ව වදි-අභිවාදනෙ යන ධාතුයොගයෙහි 'භික්ඛුසු' සි විය. "මුද්ධං" සි වක්තව්‍යස්ථානයෙහි "චුබි වදන සංයොගෙ" යන ධාතුයොගයෙහි 'මුද්ධනි' සි විය. 'බාහා' සි වක්තව්‍යස්ථානයෙහි "ගහ-උපාදානෙ" යන ධාතුයොගයෙහි "බාහාසු" සි වී.

**කරණත්ථෙ-නගා හත්ථෙසු පිණ්ඩාය චරන්ති-සමණා පත්තෙසු පිණ්ඩාය චරන්ති-පථෙසු ගච්ඡන්ති-සොපි මං අනුසාසෙය්‍ය සම්පටිච්ඡාමි මත්ථකෙ.**

**නිමිත්තත්ථෙ-දීපි චම්මෙසු හඤ්ඤතෙ-කුඤ්ජරෙ දන්තෙසු හඤ්ඤතෙ-අණුමත්තෙසු වජ්ජෙසු භයදස්සාවී-සම්පජානමුසාවාදෙ පාචිත්තියං-මුසාවාදනිමිත්තං මුසාවාදපච්චයාති අත්ථො.**

---

කරණත්ථෙ, කරණාර්ථ විෂයෙහි සප්තමී දක්වනු ලැබේ; හෙ ද එසේ ම භික්ෂාටනයක් ගම්‍යමාන කල්හි යි. නගා යනාදි එහි උදාහරණ යි. නගා, නිවටහු; හත්ථෙසු, හස්තද්වය කරණ කොට ගෙන; පිණ්ඩාය චරන්ති, පිඬු පිණිස හැසිරෙත්; 'හත්ථෙහි' යි තැනි. සමණා, භික්ෂූහු; පත්තෙසු, පාත්‍රයන් කරණ කොට ගෙන; පිණ්ඩාය චරන්ති, පිඬු පිණිස හැසිරෙත්; පථෙසු, මාර්ගයන් කරණ කොට ගෙන; ගච්ඡන්ති, යෙත්; 'පථෙහි' යි තැනි. සොපි, හේ ජාතියෙන් සප්ත වාර්ෂික සාමණේර ද; මං අනුසාසෙය්‍ය, මට අනුශාසනා කෙරේ නම්; මත්ථකෙ, මුදුන කරණ කොට ගෙන; සම්පටිච්ඡාමි, අනුශාසනාව පිළිගනිමි; 'මත්ථකෙන' යි තැනි.

නිමිත්තත්ථෙ, නිමිත්තාර්ථ විෂයෙහි සප්තමී දක්වනු ලැබේ; දීපි, දිවි තෙම; චම්මෙසු, චර්මයන් නිමිත්ත කොට ගෙන; හඤ්ඤතෙ, මරනු ලැබේ; "චම්මනිමිත්තං චම්මපච්චයා "හඤ්ඤතෙ" යි තැනි. කුඤ්ජරො, ඇත් තෙම; දන්තෙසු, දළ දෙක නිමිත්ත කොට ගෙන; හඤ්ඤතෙ, මරනු ලැබේ; 'දන්තනිමිත්තං දන්තපච්චයා' යි තැනි. අණුමත්තෙසු වජ්ජෙසු, අණු ප්‍රමාණ වූ වද්‍යයන් නිමිත්ත කොට ගෙන; භයදස්සාවී, බිය දක්නා සුලු යි; අණුමත්තවජ්ජනිමිත්තං අණුමත්තවජ්ජපච්චයා යි තැනි. සම්පජාන මුසාවාදෙ, සම්පජාන මෘෂාභාෂණය නිමිත්ත කොට ගෙන; පාචිත්තියං, පචිති නම් ආපත්ති වන්නී යි; මුසාවාදනිමිත්තං, මෘෂාවාදය නිමිත්ත කොට ගෙන; මුසාවාදපච්චයාති, මෘෂාවාදකාරණයෙන්ය යන; අත්ථො, අභිප්‍රාය යි.

**සත්තමීති අධිකාරෙ.**

## 314. සම්පදානෙ ච–2–6–41.

**සම්පදානත්ථෙ ච ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති.**

**සඞ්ඝෙ දින්නං මහප්ඵලං, සඞ්ඝෙ ගොතමි දෙහි, සඞ්ඝෙ තෙ දින්නෙ අහඤ්චෙව පූජිතො භවිස්සාමි.**

**75 යා පලාලමයං මාලං නාරී දත්වාන චෙතියෙ**
**අලත්ථ කඤ්චනමයං මාලං බොජ්ඣඞ්ගිකඤ්ච සා.**

---

සත්තමීති අධිකාරෙ, කම්මකරණනිමිත්තත්ථෙසු සත්තමීති සුත්තතො ඉතො පරං සත්තමිචෙවචාධිකාතබ්බාති අත්ථො.

සම්පදානෙ යන පද ය ච යනු පද යි.

සම්පදානත්ථෙ ච, සම්යක් ප්‍රදානාර්ථයක් ද්‍යෝත්‍ය කල්හි ද; ලිඞ්ගම්හා, ශබ්දයා කෙරෙන්; සත්තමී විභත්ති හොති. සප්තමී විභක්ති වන්නීය; මේ සූත්‍රයෙහි චශබ්ද සප්තමීවිෂය වූ සෙසු අර්ථ සමුච්චය කෙරේ. මත්තෙහි සූත්‍රද්වයෙහි ච ශබ්ද ද මෙසේ මැ යි. මේ සම්ප්‍රදානාර්ථයෙහි සප්තමී ද දානාර්ථ ධාතුයොගයක් ඇති කල්හි ම ය යි දතයුතු

සඞ්ඝෙ දින්නං, ආර්යසඞ්ඝයාට දෙන ලද දානය; මහප්ඵලං, විපුල වූ ඵල ඇත්තේ යි; ගොතමී, ගෞතමිය; සඞ්ඝෙ දෙහි, සඞ්ඝයාට දෙව; සඞ්ඝෙ දින්නෙ, සඞ්ඝයා හට දානය දෙන ලද කල්හි; අහඤ්චෙව පූජිතො භවිස්සාමි, මම ද පුදන ලද්දෑ නම් වෙමි; "සඞ්ඝස්ස" යි තැනි.

යා නාරී, යම් ස්ත්‍රියක් තොම; පලාලමයං මාලං, පිදුරෙන් කරන ලද මාලාව; චෙතියෙ දත්වාන, රුවන්වැලි මහසෑයට දී; ප්‍රසාද චිත්තයෙන් පුදා ය යි සේ යි. කඤ්චනමයං මාලං, සුවර්ණමය වූ උරච්ඡද මාලාවක්; අලත්ථ, (නැවත භවාන්තරයෙහි ජාතිය හා සමඟ) ලද ද; සා, හෝ තොමෝ; බොජ්ඣඞ්ගිකං ච අලත්ථ, එම කුශලකර්මය හෙතු කොට ගෙන සමෘති සම්බොධ්‍යඞ්ගාදී සප්ත බොධ්‍යඞ්ග මාලාව ද ලදු; චතුස්සතිපට්ඨානාදි භෙද ඇති සප්තත්‍රිංශත් බොධිපාක්ෂික ධර්මයට පැමිණියා යි සේ යි. 'චෙතියස්ස දත්වාන' යි තැනි.

## 315. පඤ්චම්‍යත්ථෙ ච–2–6–42.

**පඤ්චම්‍යත්ථෙ ච ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති.**

**කදලීසු ගජෙ රක්ඛන්ති.**

## 316. කාලභාවෙසු ච–2–6–43.

**කාලො නාම නිමෙස ඛණ ලව මුහුත්ත පුබ්බණ්හාදිකො–භාවො නාම කිරියා, සා චෙත්ථ කිරියන්තරූපලක්ඛණාව අධිප්පෙතා–තස්මිං කාලත්ථෙ ච භාවලක්ඛණෙ භාවත්ථෙ ච ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති.**

**කාලෙ–පුබ්බණ්හසමයෙ ගතො–සායණ්හසමයෙ ආගතො–අකාලෙ වස්සති තස්ස–කාලෙ තස්ස න වස්සති–ඵුස්සමාසම්හා තීසු මාසෙසු වෙසාඛමාසො. ඉතො සතසහස්සම්හි කප්පෙ උප්පජ්ජි චක්ඛුමා.**

**භාවෙන භාවලක්ඛණෙ–භික්ඛුසඞ්ඝෙසු භොජියමානෙසු ගතො–හුතෙසු ආගතො–ගොසු දුය්හමානාසු ගතො–දුද්ධාසු ආගතො–ජායමානෙ ඛො සාරිපුත්ත බොධිසත්තෙ අයං දස සහස්සී ලොකධාතු සංකම්පි සම්පකම්පි සම්පවෙධි.**

---

පඤ්චම්‍යත්ථෙ යන පද ය ච යනු පද යි.

පඤ්චම්‍යත්ථෙච, පඤ්චම්‍යර්ථයක් ද්‍යොත්‍යකල්හි ද; ලිඞ්ගම්හා, ශබ්දයා කෙරෙන්; සත්තමී විභත්ති හොති, සප්තමී විභක්ති වන්නී යි; මේ ද රක්‍ෂණාර්ථයොගයෙහි මැ යි.

කදලීසු, කෙහෙලින්; ගජෙ, ඇතුන්; රක්ඛන්ති, වළකත්; "කදලීහි රක්ඛන්ති" යි යී තැනි.

කාලභාවෙසු යන පද ය ච යනු පද යි.

කාලො ච භාවො ච කාලභාවා, තෙසු.

කාලො නාම, කාල නම්; නිමෙස ඛණලව මුහුත්ත පුබ්බණ්හාදිකො, නිමෙෂ ය ක්‍ෂණ ය ලව ය මුහූර්ත ය පූර්වාහ්ණය යනාදිය යි; මෙහි ලවග්‍රහණයෙන් ක්‍ෂණලවය ද මුහූර්තග්‍රහණයෙන් ක්‍ෂණමුහූර්තය ද ගන්නා ලද යි දතයුතු. ආදිශබ්දයෙන් වනාහි අපරාහ්ණ රාත්‍රිදිවාර්ධමාස වත්සරාදීහු සංගෘහීතයෝ යි.

නිමෙසනං නිමෙසො, නිමෙසො ච ඛණො ච ලවො ච මුහුත්තො ච පුබ්බණ්හඤ්ච නිමෙසඛණලවමුහුත්තපුබ්බණ්හානි, තානි ආදීනි යෙසං අපරණ්හාදීනං තෙ නිමෙස ඛණලව මුහුත්ත පුබ්බණ්හ දයො. එත්ථ ච නිමෙසො නාම නයනනිමීලනං, තං අච්ඡරාසඞ්ඛාතකාලෙන සමානං, ඛණාදයො පන අච්ඡරා කාලාදි වසෙන නියමිතා. වුත්තං හෙතං අභිධානප්පදීපිකායං–

"කාලොද්ධා සමයො වෙලා
තබ්බිසෙසා ඛණාදයො
ඛණො දසච්ඡරාකාලො
ඛණා දස ලයො භවෙ.

ලයා දස කඛණලයො
මුහුත්තො තෙ සියා දස
දස කඛණමුහුත්තො තෙ
දිවසො තු අහං දිනං.

භාවො නාම, භාව නම්; කිරියා, භොජනාදි ක්‍රියාව යි; සා ච, හෝ ද; එත්ථ, මේ සූත්‍රයෙහි ලා; කිරියන්තරූපලක්ඛණාව, ගමනාදි අන්‍යක්‍රියාවකට චිහ්න වූවාම; අධිප්පෙතා, කැමති වන ලද; භවනං භාවො, උපලක්ඛීයති අඞ්කීයති එතාය ක්‍රියන්තරන්ති උපලක්ඛණං, අභිඤ්ඤාණං, ක්‍රියන්තරස්ස උපලක්ඛණා ක්‍රියන්ත රූපලක්ඛණා. තස්මිං කාලත්ථෙ ච, නිමෙෂාදි භෙද කාලාර්ථ ඇති ඒ විෂයෙහි ද; භාවලක්ඛණෙ භාවත්ථෙ ච, අන්‍යක්‍රියාවකට උප ලක්‍ෂණ වූ ක්‍රියාර්ථ විෂයෙහි ද වැටෙන්නා වූ; ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති. භාවස්ස ලක්ඛණං භාවලක්ඛණං, තස්මිං.

කාලෙ, කාලාර්ථ විෂයෙහි සප්තමී ප්‍රයොග දක්වතු ලැබේ; පුබ්බණ්හසමයෙ, පූරෙභත්ත කාලයෙහි; ගතො, ගියේ යි; සායණ්හසමයෙ, සන්ධ්‍යා කාලයෙහි; ආගතො, ආ යි. මෙහි සමය ශබ්ද කාලපර්‍ය්‍යාය යි. තස්ස, ඒ අධාර්මික රජහුගේ දෙශයෙහි; අකාලෙ වස්සති, නො වස්නා කල්හි වැසි වස්නේ ය; තස්ස, ඒ අධාර්මික රජහුගේ දෙශයෙහි; කාලෙ න වස්සති, වස්නා කල්හි වැසි නො වස්නේ යි; ඵුස්සමාසම්හා, දුරුතුමසින් මත්තෙහි; තීසු මාසෙසු, මාඝ ඵාල්ගුණ චිත්‍ර යන මාස තුන ඉක්මුණු කල්හි; වෙසාඛමාසො, වෙසක්මස යි.

**76 පාසාණා සක්ඛරා චෙව කඨලා ඛාණුකණ්ටකා**
**සබ්බෙ මග්ගා විවජ්ජෙන්ති ගච්ඡන්තෙ ලොකනායකෙ.**

**ඉමස්මිං සති ඉදං හොති ඉච්චාදි.**

## 317. උපාධ්‍යධිකිස්සරවචනෙ-2-6-44.

---

ඉතො, මේ කපින් යට; සතසහස්සම්හි කප්පෙ, කප්ලක්ෂයකින් මත්තෙහි; චක්ඛුමා, සර්වඥ තෙම; උප්පජ්ජි, උපනි.

භාවෙන භාවලක්ඛණෙ, ක්‍රියාවෙන් අන්‍යක්‍රියාවක්හුගේ හැඳින්වීම ඇති කල්හි සප්තමී දක්වනු ලැබේ; භික්ඛුසඞ්ඝෙ, භික්ෂු සඞ්ඝයා; භොජියමානෙසු, වළඳවනු ලබන කල්හි; ගතො, ගියේ ය; මෙහි භික්ෂුසඞ්ඝයාගේ භොජනක්‍රියාව දෙවදත්තයාගේ ගමන ක්‍රියාවට උපලක්ෂණ නු යි භාවලක්ෂණයෙහි සප්තමී යි; භුත්තෙසු, භික්ෂුසඞ්ඝයා වළඳා නිමි කල්හි; ආගතො, ආ යි; මෙහි භොජන ක්‍රියාව ආගමනක්‍රියාවට උපලක්ෂණ යි; ගොසු, දෙනුන්, දුය්හමානාසු, දෝනා ලබන කල්හි; ගතො, ගියේ යි; මෙහි දොහනක්‍රියාවෙන් ගමනක්‍රියාව හැඳින්වියයුතු. දුද්ධාසු, දෝනා ලැබූ කල්හි; ආගතො, ආ යි; සාරිපුත්තො, ශාරීපුත්‍රය; බොධිසත්තෙ, (පශ්චිම භවික සර්වඥ)බොධිසත්ත්වයා; ජායමානෙ, මාතෘකුක්ෂියෙහි ප්‍රතිසන්ධිග්‍රහණය කරන කල්හි; අයං දසසහස්සී ලොකධාතු, මේ දසදහසක් ලොකධාතු තොම; සංකම්පි, උඩු බලා යන්නී කම්පා වුව; සම්පකම්පි, උඩු බලා ද යට බලා ද යන්නී කම්පා වුව; සම්පවෙධි, සතර දිගට යන්නී කම්පා වුව; මෙහි බොධිසත්ත්වයාගේ ජනනක්‍රියාව දශසහශ්‍රී ලොකධාතුවගෙ සඞ්කම්පනාදි ක්‍රියාවට උපලක්ෂණ යි.

ලොකනායකෙ, ලොකස්වාමි වූ තථාගතයා; ගච්ඡන්තෙ, යන කල්හි; පාසාණා, ගමනමාර්ගයෙහි වූ ගල් ද; සක්ඛරු චෙව, හකුරු ද; කඨලා, කැටකැබිලිති ද; ඛාණුකණ්ටකා, හුල්කටු ද යන; සබ්බෙ, මොහු හැම දෙන; මග්ගා විවජ්ජෙන්ති, මඟහරිත්; යන මඟින් පහවෙත යි සේ යි. මෙහි ලොකනායකයාගේ ගමන ක්‍රියායෙන් පාෂාණාදීන්ගේ වර්ජනක්‍රියාව හඳුන්වනු ලැබේ.

ඉමස්මිං සති, මේ අවිද්‍යාදිකාරණය ඇති කල්හි; ඉදං හොති, මේ සංස්කාරාදි ඵලය වේ; මෙහි අවිද්‍යාදීන්ගේ භවනක්‍රියාව සංස්කාරාදීන්ගේ සම්භවයට උපලක්ෂණ නු යි භාවයෙන් භාවලක්ෂණයෙහි සප්තම් යි.

උපාධි යන පද ය අධිකිස්සරවචනෙ යනු පද යි.

**ද්විපදමිදං-අධිකත්ථෙ ඉස්සරත්ථෙ ච වත්තමානෙහි උප අධි ඉච්චෙතෙහි යොගෙ අධිකිස්සරවචනෙ ගම්‍යමානෙ ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති.**

**අධිකවචනෙ-උපඛාරියං දොණො-ඛාරියා දොණො අධිකොති අත්ථො-තථා උපනික්ඛෙ කහාපණං-අධිදෙවෙසු බුද්ධො-සම්මුති උපපත්ති විසුද්ධිදෙව සඞ්ඛාතෙහි තිවිධෙහිපි දෙවෙහි සබ්බඤ්ඤු බුද්ධො අධිකොති අත්ථො.**

**ඉස්සරවචනෙ-අධිබ්‍රහ්මදත්තෙ පඤ්චාලා-බ්‍රහ්මදත්තිස්සරා පඤ්චාලාති අත්ථො.**

---

උපො ච අධි ච උපාධි, තෙහි උපාධි, අයං හි විභත්ති ලුත්ත නිද්දෙසො, තෙන උපාධීහීති අත්ථං වක්ඛති. අධිකො ච ඉස්සරො ච අධිකිස්සරා, වුච්චතෙති වචනං-අභිධෙය්‍යො-භගවාති වචනං සෙට්ඨන්ති ආදිසු විය. අධිකිස්සරසඞ්ඛාතං වචනං අධිකිස්සරවචනං, අධිකිස්සරත්ථොති අත්ථො. අථවා වචනන්ති උදීරණං අධිකිස්සරානං වචනං අධිකිස්සරවචනං, අධිකිස්සරාභිධානන්ති අත්ථො. තස්මිං අධිකිස්සරවචනෙ.

ද්විපදමිදන්ති-ඉදං සුත්තං උපාධීහි එකං පදං අධිකිස්සරවචනෙති එකං පදන්ති එවං ද්විපදන්ති අත්ථො.

අධිකත්ථෙ, අධිකාර්ථ විෂයෙහි ද; ඉස්සරත්ථෙ ච, ඊශ්වරාර්ථ විෂයෙහි ද; වත්තමානෙහි, ද්‍යොතක භාවයෙන් වැටෙන්නා වූ; උප අධි ඉති, උප අධි යන; එතෙහි යොගෙ, මේ උපසර්ගයන් හා සම්බන්ධයක් ඇති කල්හි; අධිකිස්සරවචනෙ ගම්‍යමානෙ, අධිකාර්ථ ඊශ්වරාර්ථ දෙක හැඟෙන කල්හි; නොහොත් අධිකාර්ථ ඊශ්වරාර්ථයන්ගේ අභිධානයක් හැඟෙන කල්හි; ලිඞ්ගම්හා සත්තමී විභත්ති හොති. අධිකාර්ථයෙහි වැටෙන උපශබ්දයා හා ද අධිකාර්ථ ඊශ්වරාර්ථ ද්වයෙහි වැටෙන අධිශබ්දයා හා ද සම්බන්ධයක් ඇති කල්හි උපාධි දෙන්නා යුක්ත ලිඞ්ගයා කෙරෙන් පරව අවධ්‍යර්ථ ස්වාම්‍යර්ථයෙහි සප්තමී විභක්ති වන්නීය යි සේ යි.

අධිකො අත්ථො අධිකත්ථො, ඉස්සරො අත්ථො ඉස්සරත්ථො, තස්මිං අධිකත්ථෙ ඉස්සරත්ථෙ, අධිකොති වෙත්ථ අතිරෙකො, ඉස්සරොති සාමි.

අධිකාවචනෙ, අධිකාර්ථ විෂයෙහි සප්තමී ප්‍රයොග දක්වනු ලැබේ; ඛාරියං, කිරියකට; උප, අධිකවූයේ; දොණො, ද්‍රොණ යෙකි; ඛාරියෙක් නම් කෙතෙක් ද යත්? සතරමිටෙක් කුඩුබ යෙක් නම් වෙයි, සතර කුඩුබයෙක් එක් ප්‍රසථයෙක් නම් වෙයි, සතර ප්‍රසථයෙක් එක් ආඪකයෙක් නම් වෙයි, සතර ආඪකයෙක් එක් ද්‍රොණයෙක් නම් වෙයි, සතර ද්‍රොණයෙක් එක් මාණිකා වෙක් නම් වෙයි, සතර මාණිකාවෙක් එක් ඛාරියෙක් නම් වෙයි. නික්ඛෙ, නිෂ්කයට; උප, අධිකවූයේ; කහාපණං, කාර්ෂාපණයෙකි; නිෂ්කය යි ද පසළොස් කළඳෙකි. දෙවෙසු, දෙවියන්ට; අධි, අධික වූයේ; බුද්ධො, සර්වඥ යි; සම්මුති උපපත්ති විසුද්ධි දෙව සඞ්ඛාතෙහි, සංවෘති දෙවයහ උත්පත්ති දෙවයහ විශුද්ධි දෙවයහ යි කියන ලද; ත්‍රිවිධෙහිපි දෙවෙහි, තුන්වැදෑරුම් ඇත්තා වූ ම දෙවියන් කෙරෙන්; සබ්බඤ්ඤූ බුද්ධොව, සර්වඥ වූ බුදුරජ තෙමේ ම; අධිකොති අත්‍ථො, ගුණයෙන් වැඩියේය යන අර්ථ යි; මෙහි සම්මුතිදෙවියෝ නම් ක්ෂත්‍රිය කුල සම්භූත රාජාදීහ. උත්පත්ති දෙවියෝ නම් චාතුර්මහාරාජිකාදි දෙවියහ. විසුද්ධි දෙවියෝ නම් අර්හත්හු යි. කීයේ මැතො–"සම්මුතිදෙවා නාම රාජා නො, උපපත්තිදෙවා නාම චාතුම්මහාරාජිකෙ උපාදාය තදුත්තරිං දෙවා, විසුද්ධිදෙවා නාම අරහන්තො ඛීණාසවා වුච්චන්ති" යි. අධිබ්‍රහ්මදත්තෙ, ඊශ්වර වූ බ්‍රහ්මදත්තයා සම්බන්ධි වූ; පඤ්චාලා, පඤ්චාල දෙශවාසීහු යි; බ්‍රහ්මදත්තිස්සරා, බ්‍රහ්මදත්තයා ඊශ්වර කොට ඇත්තා වූ; පඤ්චාලාති අත්‍ථො, පඤ්චාලජනපදවාසීහ යනු භාවාර්ථ යි. බ්‍රහ්මදත්තො ඉස්සරො එතෙසන්ති බ්‍රහ්මදත්තිස්සරා. මෙහි අධිශබ්ද ඊශ්වරාර්ථ ද්‍යොතකය, එහෙයින් ඊශ්වර වූ බ්‍රහ්ම දත්තයා ආයත්තයෝ කවුරුදෑ යි අපෙක්ෂා කළ කල්හි 'පඤ්චාල' යි අනුප්‍රයොග කරන ලදී. මේ උදාහරණයන් අතුරෙහි පූර්වොදා හරණත්‍රයෙහි අධිකාධිකී සම්බන්ධය ද්‍යොත්‍ය කල්හි ෂෂ්ඨී පත් තෙහි හේ වළකා අධිකාර්ථ ද්‍යොතක වූ උපාධි දෙන්නා හා යොගය හෙතු කොට ගෙන ද පශ්චිමොදාහරණයෙහි ස්වස්වාමි සම්බන්ධය ද්‍යොත්‍ය කල්හි ප්‍රාප්ත ෂෂ්ඨිය වළකා ඊශ්වරාර්ථ ද්‍යොතක වූ අධි ශබ්දයා හා සම්බන්ධය හෙතු කොට ගෙන ද මේ සූත්‍රයෙන් සප්තමී කරන ලදූ යි දතයුතු.

83.

## 318. මණ්ඩිතුස්සුක්කෙසු තතියා ච-2-6-45.

**මණ්ඩිත උස්සුක්ක ඉච්චෙතෙස්වත්ථෙසු ගම්‍යමානෙසු ලිඞ්ගම්හා තතියා විභත්ති හොති සත්තමී ච.**

**මණ්ඩිත සද්දො පනෙත්ථ පසන්නත්ථ වාචකො-උස්සුක්ක සද්දො සඊහත්ථො.**

**ඤාණෙන පසන්නො, ඤාණස්මිං පසන්නො-ඤාණෙන උස්සුක්කො, ඤාණස්මිං උස්සුක්කො; සප්පුරිසො.**

---

මණ්ඩිතුස්සුක්කෙසු යන පදය තතියා යන පදය ච යනු පද යි.

උස්සුක්කො එව උස්සුක්කො, මණ්ඩිතො ච උස්සුක්කො ච මණ්ඩිතුස්සුක්කා, තෙසු.

මණ්ඩිත, ප්‍රසන්නය; උස්සුක්ක ඉති, සව්‍යාපාරය යන; එතෙසු අත්ථෙසු, මෙ අර්ථයන් දෙන්නා; ගම්‍යමානෙසු, හැඟෙන කල්හි; ලිඞ්ගම්හා, ප්‍රසන්නාදි විෂයක ඥානාදි වාචීශබ්දයා කෙරෙන් පරව; තතියා විභත්ති හොති සත්තමී ච. තෘතීයා විභක්ති හා සප්තමී විභක්ති වන්නේ යි; චශබ්ද වනාහි සප්තමී සම්පිණ්ඩනය පිණිසය යි දන්න.

**එත්ථ**, මෙහි ලා; මණ්ඩිත සද්දො පන, මණ්ඩිත ශබ්දය වනාහි; පසන්නත්ථවාචකො, ප්‍රසන්නය යන අර්ථ වාචක ය; උස්සුක්ක සද්දො, උස්සුක්ක ශබ්දය තෙම; සඊහත්ථො, ව්‍යාපාර සහිතය යන අර්ථ ඇත්තේ යි; පසන්නොති අත්ථො පසන්නත්ථො, තස්ස වාචකො පසන්නත්ථ වාචකො. ඊහා වුච්චති උස්සහනං, සහ ඊහායාති සඊහො, සඊහොති අත්ථො යස්ස සො සඊහත්ථො.

සප්පුරිසො, සත්පුරුෂ තෙම; ඤාණෙන, ඥානවිෂයෙහි; පසන්නො, පහන් වේ; ද්විතීය උදාහරණයෙහි ද අර්ථ හේ මැ යි. (සප්පුරිසො, උත්තම පුරුෂ තෙම;) ඤාණෙන, ඥාන විෂයෙහි; උස්සුක්කො, උත්සාහ ඇති වේ; අනන්තරොදාහරණයෙහි ද අර්ථ

**77 කාරකං ඡබ්බිධං සඤ්ඤා වසා ඡබ්බීසතිවිධං**
**පභෙදා සත්තධා කම්මං කත්තා පඤ්චවිධො භවෙ.**

**78 කරණං දුවිධං හොති සම්පදානං තිධා මතං**
**අපාදානං පඤ්චවිධං ආධාරො තු චතුබ්බිධො.**

**විභත්තියො පන පච්චත්තවචනාදිවසෙන අට්ඨවිධා භවන්ති-යථාහ.**

**79 "පච්චත්තමුපයොගඤ්ච කරණං සම්පදානියං**
**නිස්සක්කසාමිවචනං භුම්මමාලපනට්ඨමං"න්ති.**

**ඉති රූපසිද්ධියං**
**කාරකකණ්ඩො තතියො.**

---

හේ මැ යි. මෙසේ ස්වරූප හෙයින් ද වචනාර්ථයන්ගේ ප්‍රභෙද හෙයින් ද හැම පරිද්දෙන්ම විභක්තීන්ගේ අර්ථයන් විභාග කොට දූන් හේ කර්මාදි අර්ථ භෙද සංග්‍රහය ශ්ලොකද්වයකින් **දක්වනුවෝ කියත්** 'කාරකං ඡබ්බිධං' යනාදි.

කාරකං, ක්‍රියාසිද්ධියට ඉවහල් වූ පදාර්ථය; සඤ්ඤාවසා, (කර්ම කර්තෘ කරණ සම්ප්‍රදාන අවධි ආධාර) යන සංඥා වශයෙන්: ඡබ්බිධං, සවැදෑරුම් ඇත්තේ වේ; පභෙදා, ඔවුන්ගේ ප්‍රභෙද වශයෙන්; ඡබ්බීසති විධං, සවිසිවැදෑරුම් ඇත්තේ වේ. එනම්:—කම්මං, කර්ම කාරකය; සත්තධා, (නිර්වර්ත්‍ය විකාර්‍ය ප්‍රාප්‍ය ප්‍රධාන අප්‍රධාන උක්ත අනුක්ත කර්මවශයෙන්) සත්වැදෑරුම් වෙයි; කත්තා, කර්තෘ කාරකය; පඤ්චවිධො භවෙ, (ශුද්ධකර්තෘ ය හෙතුකර්තෘ ය කර්ම කර්තෘ ය උක්තකර්තෘ ය අනුක්ත කර්තෘය යි) පඤ්චප්‍රකාරයක් ඇත්තේ වේ; කරණං, කරණකාරකය; දුවිධං හොති, (ආධ්‍යාත්මික කරණය බාහ්‍යකරණය යි) දෙවැදෑරුම් ඇත්තේ වෙයි;සම්පදානං, සම්ප්‍රදාන කාරකය; තිධා මතං,(අනිරාකරණ අනුමති අධ්‍යෙෂණ සම්ප්‍රදාන වශයෙන්) තුන් පරිද්දෙකින් දන්නා ලදි; අපාදානං, අපාදාන කාරකය; පඤ්චවිධං, (නිර්දිෂ්ට ක්‍රියාවිෂය ය උපාත්ත ක්‍රියාවිෂය ය අනුමෙය ක්‍රියාවිෂය ය චල ය අචල ය යි) පඤ්ච ප්‍රකාරයක් ඇත්තේ යි; ආධාරො තු, ආධාර කාරකය වනාහි; චතුබ්බිධො, (ව්‍යාපික ය ඖපශ්ලෙෂික ය සාමීපික ය විෂය යි) සතර වැදෑරුම් ඇත්තේ වේ; **මෙසෙයින් ෂට්කාරකය ප්‍රභෙද විසින් සවිසිවැදෑරුම් වන්නේය යි සේ යි.**

විභත්තියො පන, විභක්තීහු වනාහි; පච්චත්ත වචනාදිවසෙන, ප්‍රථමා වචනාදි වශයෙන්; අට්ඨවිධා භවන්ති, අටවැදෑරුම් ඇත්තෝ වෙත්.

පච්චත්තං, ප්‍රථමා වචනය; උපයොගං ච, ද්විතීයා වචනය; කරණං, තෘතීයා වචන ය; සම්පදානියං, සම්ප්‍රදාන වචන ය; නිස්සක්කසාමිවචනං, අවධිභූත වූ පඤ්චමී වචනය හා සම්බන්ධ භූත ෂ්ඨී වචන ය; භුම්මං, ආධාරභූත සප්තමී වචන ය; අට්ඨමං, අටවනු වූ; ආලපනන්ති, සම්බොධන වචනය යි; අෂ්ටවිධ වෙති. යථාහ, මහානිරුක්තිප්‍රකරණයෙහි කීයේ මැ යි.

රූපසිද්ධියං,මහාරූපසිද්ධි නම් ප්‍රකරණයෙහි; තතියො, තුන්වනු වූ;
කාරකකණ්ඩො, කාරකකාණ්ඩය;
ඉති, සමාප්ත යි.

# ශුද්ධිපත්‍රය.

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 1 | 14 | *යථාධිප්‍රෙත | යථාභිප්‍රෙත |
| 2 | 2 | විජයප්‍රභාත | විජයප්‍රභාණ |
| ,, | 26 | *දශීතය | දශීතය |
| 3 | 20 | යුගන්ධරෙ | යුගන්ධර |
| ,, | 21 | තිබුඩබෙතෙන | තිබුඩබෙතන |
| 4 | 17 | පඤ්ඤාභිසමය | පරිඤ්ඤාභිසමය |
| ,, | 24 | සුබුඩා එව | සුබුඩා |
| ,, | 27 | පටිසිඩතාය | අප්පටිවිඩතාය |
| ,, | 29 | තස්ස | තස්සා |
| 5 | 3 | පවත්තිඨානානි | {පවත්තිඨානානි<br>{බුඩබෙත්තානි |
| ,, | ,, | තිබුඩබෙත්තා | තිණ්ණ බුඩකෙඛත්තානි |
| ,, | 20 | නිරත්ථකතාදිතාය | නිරත්ථකතාය |
| ,, | 26 | අරියපුග්ගලානං | අරියමග්ගානං |
| ,, | 27 | පරියත්තිධම්මස්ස | න පරියත්තිධම්මො |
| 6 | 2 | තස්සත්ථසිඩි | තදත්ථසිඩි |
| 7 | 3 | වා පස්ස | පාවචනස්ස |
| ,, | 28 | පවත්තමානවචනං | පවුත්තවචනං |
| ,, | 32 | ප්‍රකරණයට | ප්‍රකරණය |
| 8 | 31 | තත්සමුදයරූප | තත්සමුදයරූප |
| 9 | 12 | අනාරම්භනීය | අනාරම්භණීය |
| ,, | 19 | විඥතස්වරූප | විඥතසඞ්ඛතස්වරූප |
| ,, | 25 | අපරියාපණ්ණ | අපරියාපන්න |
| 10 | 18 | නිරූපන | නිරූපණ |
| ,, | 24 | සුකලපක්ෂය | ශුකලපක්ෂය |
| 11 | 19 | නීලපටවො | නීලො (පටො) |
| ,, | ,, | රත්තපටවො | රත්තො (පටො) |
| 12 | 13 | චතුෂ්පදයන්හි | චතුෂ්පාදයන්හි |
| ,, | 26 | වෘත්තකරණය | වෘතකරණය |
| 13 | 8 | සූත්‍රයෙහි | සූත්‍රපාඨයෙහි |
| ,, | 12 | එතෙනාති | එතෙනාති වා |

* මේ ලකුණෙන් පොතේ කීපතැනක වැටීතිබෙන අපපාඨ අඳුන්වනු ලැබේ.

| පිට. | පෙළ. | අශුඬ. | ශුඬ. |
|---|---|---|---|
| 13 | 14 | යන න්‍යාය හෙයින් | යනු න්‍යාස හෙයින් |
| ,, | 17 | පදඤ්ඤෙවති | පදඤ්ඤෙව |
| 14 | 14 | සමවධානයෙන් | සන්නිධානයෙන් |
| ,, | 16 | එකමෙකම්පිත් | එකමෙකන්ති |
| ,, | 23 | නාමප්‍රඥප්තියගේ | නාමප්‍රඥප්තයන්ගේ |
| ,, | 25 | විපරිවෘත්තමාන | විපරිවර්තීමාන |
| 15 | 9 | වෙදනය | නිවෙදනය |
| ,, | 18 | සාමඤ්ඤ | සමඤ්ඤ |
| ,, | ,, | පඤ්ඤත්තියො | පඤ්ඤත්ති |
| 16 | 19 | පදත්ථවිපර්‍ය්‍යයෙහි | පදත්ථපර්‍ය්‍යායෙහි |
| 17 | 12 | ක්‍රමයන්ගේ සංසිද්ධිය | ක්‍රමයෙන් සිද්ධය යි |
| 18 | 2 | *තාලුකස්ථානය | තාලුස්ථානය |
| ,, | ,, | *සිරස්ථානය | ශිරඃස්ථානය |
| ,, | 3 | නාසිකා | නාසිකාවසෙන |
| 19 | 19 | කරතකලවෙයි | කරතලදැයි |
| ,, | 21 | සිරස්‍යාක්‍ෂරයන්ට | ශිරස්‍යාක්‍ෂරයන්ට |
| 20 | 27 | නිසත | නිශ්‍රය කරනු |
| ,, | 31 | පරංශ්‍රූයමානං | පරඃ ශ්‍රූයමාණඃ ශබ්දඃ |
| ,, | 34 | නානත්වයයි | නානාත්වයයි |
| 21 | 1 | ව්‍යඤ්ජනො | ව්‍යඤ්ජනෙහි |
| ,, | 31 | *උත්පටිපාටි | උත්පරිපාටි |
| ,, | ,, | අක්‍ෂරොත්පත්තිය | අක්‍ෂරොත්පත්තියගේ |
| ,, | 33 | ළකාරයාගේ | රකාරයාගේ |
| 22 | 27 | එකචත්තාලීසතො | එකත්තාලීසතො |
| 23 | 3 | උත්තමපරියායෙපිහි | උත්තමපරියායොපිහි |
| ,, | 8 | උසභඑව | උසභොඑව |
| ,, | 9 | නිසභසඞ්ඛාතො | වසභසඞ්ඛාතො |
| 24 | 12 | සප්‍රධානව | සවප්‍රධානව |
| ,, | 14 | කියා | කියා ද |
| ,, | 24 | සේ | සේ යි |
| 25 | 5 | බඣනං | බන්ධනං |
| ,, | 6 | ලඞ්ඝනං | ලඞ්ගනං |
| ,, | 11 | මාත්‍රයෙන් | මාත්‍රායෙන් |
| ,, | 16 | *මාත්‍රායෙළක් | මාත්‍රායෙළක් |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 25 | 19 | හ්‍රස්වයාගේයයි | හ්‍රස්වයහ යි |
| 27 | 18 | සමූහාර්ථයෙහි | විශබ්දයා කෙරෙන් සමූහාර්ථයෙහි |
| 29 | 2 | කකාරරාදීහු ද | කකාරාදීහු ද |
| 30 | 20 | අත්‍යර්ථයෙහි | අසත්‍යර්ථයෙහි |
| 31 | 32 | විශෙෂ | විශෙෂ ස්වර සාධාරණ |
| 33 | 3 | *පරවෛය්‍යාකරණ | පරවෛයාකරණ |
| 35 | 15 | මාතෘකස්ථානයෙහි | මාතෘකාස්ථානයෙහි |
| ,, | 23 | උදාහරණයෙහි | උදාහරණ සමුදායෙහි |
| 36 | 15 | *ප්‍රත්‍යඛ්‍යාත | ප්‍රත්‍යාඛ්‍යාත |
| 37 | 14 | ලැබිනි | ලැබිණි |
| ,, | 23 | අදශීණය | අදශීනය |
| 38 | 9 | වාග්‍රහණ | ග්‍රහණ |
| ,, | 20 | ලොප් වෙයි | ලොප් නො වෙයි |
| 39 | 8 | ලොකඅඞ්ග | ලොකාඞ්ග |
| ,, | 18 | සංස්ලිෂ්ට | ශලිෂ්ට |
| ,, | 28 | ශාඞ්කා | ශඞ්කා |
| ,, | 31 | සංඥාව්‍යඤ්ජන | ව්‍යඤ්ජන සංඥා |
| 40 | 4 | සාංකා | ශංකා |
| ,, | 7 | පැමිණීම | පැමිණවීම |
| ,, | 16 | කකාරස්ථ | කකාරාදිස්ථ |
| ,, | 26 | {උකාරයා කෙරෙන් තකාර පහවෙයි | {මේ සමාන වාක්‍ය 3 න් 1 ක් වැඩියි |
| ,, | 30 | නකාර | තකාර |
| ,, | 35 | වෙත් | වේ |
| 41 | 21 | *භික්ඛුණී | භික්ඛුනී |
| ,, | 34 | පරස්වර | පරස්වරලොප |
| ,, | 37 | සම්බුන්ධතෙ | සම්බධ්‍යතෙ |
| 42 | 2 | *විපරිනාමොති | විපරිණාමොති |
| ,, | 6 | සරෙ | "පරෙ" |
| ,, | 7 | *විශෙෂණභාවයෙන් | විශෙෂ්‍යභාවයෙන් |
| ,, | 18 | නොවන්නේ | නැත්තේ |
| 43 | 14 | යසසදනි | යසසිදනි |
| ,, | 26 | *වක්ෂ්‍යමාන | වක්ෂ්‍යමාණ |
| 44 | 12 | වවත්ථිතවිභාසායං | වවත්ථිතවිභාසාය |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 44 | 5 | ප්‍රවෘත්තිතා | ප්‍රවත්තිකා |
| ,, | ,, | විභාසා | විභාෂා |
| ,, | ,, | යතාදීහු | යතාදීන් |
| 45 | 6 | *උකාරභූතො | උවණ්ණභූතො |
| 46 | 27 | ප්‍රත්‍යාශකතීන් | ප්‍රත්‍යාසත්තීන් |
| ,, | 29 | කාණ්ඩෞෂසථානී | කාණ්ඩෞෂ්ඨසථානී |
| 47 | 32 | අධික වේද යත්? | අධික නො වේද යත්? |
| 49 | 14 | වූපසමො | වූපසමො |
| 50 | 11 | සඞ්ඝාටිපි | සඞ්ඝාටීපි |
| ,, | ,, | ජීවිතහෙතුපි | ජීවිතහෙතුපි |
| 51 | ,, | වේතුයි | වෙත්තුයි |
| ,, | 20 | පිණිස | ආචාදෙශය පිණිස |
| ,, | 22 | සය්‍යාදිසු ච පුබ්බත්තර<br>වචනෙ ආචාදෙසො | සාදිසෙසෙසු පුබ්බුත්තවච්<br>නෙසු ච අචාදෙසො |
| 52 | 9 | ආකාර | අකාර |
| 54 | 19 | බින්ද | බිඳ |
| ,, | 21 | වමොකාරුකාරාන්තං | ච්මොදුදන්තාන්තං |
| ,, | 24 | රු–සදෙද | රුසදෙද |
| ,, | 25 | ආනීයං | අනීයං |
| 55 | 7 | *මුත්තවාගී,අනුඩතො | මුත්තවාගී අනුඩතො |
| ,, | 8 | අක්ෂීති | අක්ෂීති |
| ,, | 12 | සූත්‍රයක් | සූත්‍රයක් හැර |
| 56 | 4 | තිසදෙද | සදෙද |
| ,, | 30 | උපසර්ගයන් | උපසර්ග නිපාතයන් |
| 57 | 6 | වෙනම | (අධිකයි) |
| ,, | ,, | ශබ්දයාට | තිශබ්දයාට |
| ,, | 11 | චකාරභාවයද | චකාරභාවයද |
| ,, | 12 | අනුවෘත්තිය | අනුවෘත්තියද |
| ,, | 15 | යකාරයහට | යකාරය සහිත<br>ති ශබ්දය හට |
| ,, | 17 | අයුක්තිය | අයුක්තය |
| ,, | ,, | චකාරයහට | ත්‍යකාරය හට |
| ,, | 12 | ඉකාරඅකාරද්‍යන්ත | අකාර ඔකාර යන |
| ,, | 26 | ත්‍යාසකාරයෝ<br>භාවය | ත්‍යාසකාරයන්ගේ<br>යවත්‍වාභාවය? |

| පිට. | පෙළ. | අශුඩ. | ශුඩ. |
|---|---|---|---|
| 58 | 10 | ස්වර රහිතය හට | ස්වර සහිතය හට් |
| ,, | 11 | සුනිරුත්තිමහි | සුනිරුත්තමහී |
| ,, | 32 | අනුකරණ පදයක්ම | අනුකාරණ පදබව |
| 59 | 28 | තෙම | (අධිකයි) |
| 60 | 21 | සමුච්චයං | සමුච්චයනං |
| 62 | 11 | අනුවෘත්තියෙහි | වෘත්තියෙහි |
| 65 | 8 | ආගාරෙ | අගාරෙ |
| 66 | 26 | ඛසංඥ ලසංඥ | ඛසංඥා ලසංඥා |
| ,, | 32 | "ඛලසඤ්ඤා" යි ව | "ඛලඤ්ඤා" යි |
| 67 | 7 | එත්ථ මහාවුත්තිනා යසාරාගමෙ රස්සත්තං | උසංඥාවිෂයෙහි මෙහි වාශබ්ද සාමර්ථ්‍යය නොගෙන මෙම සන්ධි විධියට මේ ක්‍රමාන්තරයකි |
| ,, | 10 | සඥාවෝ | සංඥාවෝ |
| ,, | 19 | ඛලසංඥාව | ඛලසංඥා දර්ශනය |
| ,, | 20 | (මෙහි පොත්) | (අධිකයි) |
| 68 | 10 | ඔහුදු | හුදු |
| ,, | 23 | අග්ගියාගාරෙ | (අධිකයි) |
| ,, | 24 | ප්‍රත්‍යුදාහරණයෙහි | උදාහරණවයෙහි |
| 70 | 10 | ක්‍ෂාත් ක්‍ෂාත් | සාක්‍ෂාත් |
| ,, | 11 | එළකොච | ගොව එළකොච් |
| 72 | 8 | පර හි හට | පර හට |
| 73 | 13 | අධිකාරය හට | ආකාරය හට |
| ,, | 15 | යථෙව-පෙ-ලොපි | (මේ වාක්‍යය අධිකයි) |
| 74 | 29 | පර | පරව |
| ,, | 30 | කල්හි | කල්හි වේ |
| 75 | 2 | ඌනාතිරේකත්වය | ඌනාතිරේකත්ව |
| ,, | 4 | අනුසරණය | අනුසුරුවීම |
| ,, | 7 | *අනුෂ්ටුභ් | අනුෂ්ටුප් |
| ,, | 11 | යථොක්තාක්ෂර | යථොක්තාක්ෂරසඞ්ඛ්‍යා |
| ,, | 15 | යෙනිධෙකාච්ච | යෙන ඉධෙකච්ච |
| ,, | 33 | උපසග්ග-පෙළ | (අධිකයි) |
| 76 | 24 | සන්ති | සන්තිං |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 76 | 30 | මහාවුත්තිං | මහාවුත්ති |
| 77 | 1 | බ්‍යඤ්ජනෙච-1-4-10 | "ඣවි ලොපං" 1-4-9 |
| ,, | 5 | යනුද මෙසේ මැ යි | යනු හා සමයි |
| ,, | 12 | යන උදාහරණයද | යනාදි උදාහරණ ද |
| ,, | 14 | අකාරය හට | ආකාරය හට |
| ,, | ,, 15 16 | යාවදත්ථං යනාදි<br>යෙහි-පෙ-ස-අත්ථ<br>පසුතො | පේළි දෙකක් පමණ<br>වූ මේ කොටස<br>අධිකයි |
| ,, | 17 | සම්මදක්ඛාතො | යාවදත්ථං |
| ,, | 18 | ශබ්දාදිනාමයා | නාමශබ්දයා |
| 78 | 7 | පුනධි | පුන ධි පාත |
| ,, | 18 | මෙහි ආදි උදා<br>හරණයි | මෙහි ආදිදෙක ශුද්ධ<br>ප්‍රත්‍යුදාහරණයි |
| ,, | 26 | යනාදීන් පදයා | යනාදි පදයා |
| 79 | 22 | ශබ්දයා | ශබ්දයන් |
| 81 | 8 | (ස්වරූපය) | (ස්වකීය රූපය) |
| ,, | 17 | දෙතැන්හි | දෙතැන්හි හා |
| 82 | 7 | 7 වෙනි පෙළේ<br>'ප්‍රකෘතිභාවය' කී<br>තැන සිට 10 වෙනි<br>පෙළේ 'අනිච්ච<br>සඞ්ඛා' යන තැන<br>දක්වා ශුද්ධිය. | ප්‍රකෘතිභාවය කිසි<br>තැනක නියමයෙන් ද<br>කිසිතැනක විකල්ප<br>යෙන් ද කිසිතැනක<br>අසම්භවයෙන්ද වෙයි-<br>එතෙකී විධියට උදා<br>හරණ-කතමාචානන්ද<br>අනිච්චසඞ්ඛා බුද්ධවීර<br>අත්ථු බුද්ධවීරත්ථු |
| ,, | 11 | සූත්‍රයාගේ | 'සරෙ' යන්නෙන් සූත්‍රයාගේ |
| ,, | 15 | චාතෙත්ථා | චාතෙට්ඨා |
| ,, | 27 | විභත්තිය අන්ත | විභත්තිය අන්තකොට<br>ඇත්තවුන්ගේ අන්ත<br>වූ ස්වරයෝ ද |
| 83 | 13 | අන්තො පදන්තො | අන්තා පදන්තා |
| 84 | 8 | හොති අය්‍යෙ යනු ද | (අධිකයි) |
| ,, | 23 | දෙවී | දෙවීති |
| 85 | 4 | අරහං | අරහා |
| ,, | 9 | විවෙස්සති | විජෙස්සති |
| ,, | 29 | නිපාතනයන්ගේ | නිපාතයන්ගේ |

| පිට. | පෙළ. | අශුඞ. | ශුඞ. |
|---|---|---|---|
| 85 | 30 | වාචො | වචො |
| ,, | 33 | බින්දේසි | බිදෙසි |
| 86 | 11 | ඉති | ඉතී |
| ,, | 19 | සබෙබව | සබ්බෙව |
| ,, | 21 | ත-එත් | තෙ එත් |
| ,, | ,, | සො එස | සමො එස? |
| 88 | 8 | මඞකු | මංකු |
| ,, | 14 | හොවාදි | හොවාදී |
| 90 | 3 | හවී | හාවි |
| 92 | 29 | සථානීයත්වය | සථානිත්වය |
| 94 | 21 | ආපජ්ජනි | ආපජ්ජනති |
| ,, | 30 | ආකාරයා කෙරෙන් | ආකාරයා කෙරෙන් ද |
| ,, | 32 | *හ්‍රසව | හ්‍රසවසවරය |
| 95 | 11 | { සතතසඥ<br>{ දෙසසසෘසා | { සතතසඥ, දෙසො ච<br>{ සො සො චාති |
| 96 | 17 | සම්ඥඥ සාම්ඥඥ | සමාඥ සම්ඥඥ |
| 97 | 11 | කියත ලද | කියනු ලැබේ |
| ,, | 13. 17 }<br>27. 32 } | අකාරය | ආකාරය |
| ,, | 16 | කස | කුස |
| ,, | 23 | සාම්ඥඥ | සම්ඥඥ |
| 98 | 12 | ගතිබුඞිමහි | ගතිවුඞිමහි |
| ,, | 13 | වය ගතිමහි | වය ගතිමහි |
| ,, | 14 | යනු | යනු ආකාරය හා |
| ,, | 16 | යනාදියෙහි | යනාදියෙහි ද |
| ,, | 27 | කෙරෙන් | කෙරෙහි |
| 99 | 17 | නියපාති | නීයපාති |
| ,, | 22 | නැවත | නැවත විත්ව |
| ,, | 25 | කෙරෙන් | කෙරෙහි |
| 100 | 8 | අන්‍ය වූ | සිඞ වූ |
| ,, | 9 | යනාදියෙහි | යනාදිය |
| ,, | 16 | ෂච්ශබ්දය | ඡශබ්දය |
| ,, | 20 | යනාදි | යනාදියෙහි |
| ,, | 23 | නකාරදීඝී | ඊකාරාදිදීඝී |
| ,, | 24 | නියපාති | නීයපාති |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 100 | 24 | අකාරවජ්ජිත | ආකාරවජ්ජිත |
| ,, | 28 | කෙරෙහි | කෙරෙන් වූ |
| 101 | 24 | යුත්තානං | යකාරයුත්තානං |
| ,, | 25 26 | කෙරෙන් ව්‍යතිරික්ත බ්‍යඤ්ජන කෙතකුන් නැති කල්හි ද | බ්‍යඤ්ජනත්වයෙන් ව්‍යතිරික්ත නොවන කල්හි ද (102. පිට.) |
| ,, | ,, | සිලා | ශිලා |
| 102 | 2. 24. 25. | නකාරන්තං | ණකාරන්තං |
| ,, | 18 | දක්වන්නා වූ | දක්වන්නාහු |
| ,, | 22 | සකාරුදෙශ | සකාරුදෙශ |
| ,, | 30 | ණ්‍ය | ණ්‍ය ථ්‍ය ධ්‍ය |
| ,, | 31 | ණ | ණ ථ ධ |
| 103 | 2 | සකාරයුක්ත | යකාරයුක්ත |
| ,, | 7 | සූත්‍රයෙහි නත් | සූත්‍රයෙන් |
| ,, | 17 | අනන්තඤ්චතං ආකාසඤ්චාති අනන්තාකාසං* | අනන්තො ච සො ආකාසො චාති අනන්තාකාසො |
| ,, | 20 | අනන්ත | අනන්ත |
| ,, | 32 | න පජ්ජහෙ | න පජහෙ |
| 105 | 4 | ප්‍රථමං | ප්‍රථම |
| ,, | 31 | නොවෙයි | නො කරන ලද්දේය |
| ,, | 35 | සතිපි | සතිපි සොසන්තෙන |
| 106 | 6 | සම්භූතො | සබ්භූතො |
| 109 | 17 | චරගතිචින්තායං | චර ගතිභක්ඛණෙසු |
| 112 | 14 | අවිකල්පයෙන් | අවිකල්ප හෙයින් |
| ,, | 15 | කුලූපගානං | කුලූපගාදීනං |
| ,, | ,, | නො කළ යි | නො කළහ යි |
| 116 | 13 | *පරමශීර්ණය | පරමශීර්ෂය |
| ,, | 22 | නබ්බිපරිතොපපදෙ | නබ්බිපරීතූපපදෙ |
| ,, | 29 | ච ශබ්ද | අචශබ්ද |
| ,, | 32 | *දශීර්ණ භගවණ | දශීත භගවත |
| 118 | 21 | සමාසයන් | සමාසාදීන් |
| ,, | 23 | සූත්‍රයෙහි පොසං ග්‍රහණයෙන් | සූත්‍රයෙන් හා එහි තෙසංග්‍රහණයෙන් |

| පිට. | පෙළ. | අශුඩ | ශුඩ. |
|---|---|---|---|
| 119 | 30 | බ්‍යඤ්ජනඞ් | බ්‍යඤ්ජනසඞ් |
| 120 | 22 | හැගේ | හැඟෙත් |
| 123 | 18 | ලිනො | ලීනො |
| 130 | 12 | ඉතිවදති | ඉතිවදතීසි |
| 131, 359 | 19, 8 | ප්‍රත්‍යය ශකතීන් | ප්‍රත්‍යාසත්තීන් |
| 140 | 10 | සඞ්සොධනා | සඞ්සොධන |
| 142 | 9 | නිරපෙක්ෂාව | නිරපෙක්ෂ වූ? |
| ,, | 11 | පාරමීයතෙති | පරිමීයතෙති |
| 145 | 8 | තෙපිටකං* | තිපිටකං |
| ,, | 15 | විනයපිටකං | පිටකං |
| 146 | 8 | විෂය වූ | අවිෂය වූ? |
| ,, | 20 | ශ්‍රොත | ශ්‍රොත්‍ර |
| 147 | 11 | භාසප | සාසප |
| ,, | 23 | බ්‍රෑහිතාවාති | බ්‍රෑහිතවාති |
| 149 | 29 | නදීශ්‍රොතය | නදීස්‍රොතස |
| 152 | 25 | ප්‍රතිෂෙධාධ | ප්‍රතිෂෙධො'ධි |
| 154 | 13 | අප්‍රසතු | අප්‍රස්තුත |
| 156 | 22, 24 | *අධ්‍යාසය | අධ්‍යාශය |
| ,, | 26 | *ඓස්වර්ය | ඓශ්වර්ය |
| ,, | 30 | වක්ත්‍රෑහුගේ | වක්තෘහුගේ |
| 158 | 21 | තැනද | තැනඳ |
| 159 | 18 | සූත්‍රයද | සූත්‍රයෙහි ද |
| 161, 244<br>245 | 32, 30,<br>10 | *ප්‍රතිශෙධ | ප්‍රතිෂෙධ |
| ,, | 25 | ඛවි | ඛව |
| 162 | 15 | සඹඛ | සඞ්ඛ |
| ,, | 18 | ප්‍රවෘත්ත | ප්‍රවෘත්ති |
| ,, | 25 | ආගත්විදං | ආගමත්විදං |
| 163 | 25 | වෘත්‍යභෙදය | වෘත්ත්‍යභෙදය |
| 164 | 28 | දතීත්තතයෝද | ඉදතීත්තතයෝද |
| ,, | 35 | ගුණක්‍රියාභි | ගුණක්‍රියාභිඃ |
| ,, | 36 | දෙසස්‍ය | දෙශස්‍ය |
| 165 | 20 | මෙකාසේසව | මෙකාසෙසව |
| 167 | 13 | ඒකාදෙශය | ඒකාශෙෂය |
| ,, | 14 | ආසංකා | ආසඞ්කා |

